තෝරාගත් කෘති 6 වැනි වෙළුමෙහි ලෙනින්ගේ පහත දැක්වෙන කෘති හා වෙනත් කෘතිද පළ වේ: ''රාජ්‍යය සහ විප්ලවය'', ''බොල්ෂෙවික්වරුන් බලය තමන් අතට ගත යුතුය'', ''මාක්ස්වාදය හා කැරලි ගසා නැගී සිටීම'', ''අර්බුදය මෝරා ගොස් ඇත'', ''බොල්ෂෙවික්වරුන්ට රාජ්‍ය බලය රැක ගත හැකිද?''

ලෙනින්



තෝරාගත් කෘති

5

# ලෙනින්

## තෝරාගත් කෘති

## වෙළුම් දෙළහ



### වෙළුම

### 5

විදේශයෙහි සිට එවූ ලියුම්

වර්තමාන විප්ලවයේදී නිර්ධන පංතියට පැවරෙන කර්තව්‍යයන්

අපගේ විප්ලවයේදී නිර්ධන පංතියට පැවරෙන කර්තව්‍යයන්

සම්මුති ගැන

ළඟ එන මහා විපත හා එයට විරුද්ධව සටන් කරන හැටි

ප්‍රගති ප්‍රකාශක මන්දිරය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013

සූචිකරණ දත්ත


කෘතිය: ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 5
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/උ. මු. අබයරත්න
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2014-09-22
ඩිජිටල් සංස්කරණයන්: V1:2014-09-22, V2:2019-05-29
පිටු ගණන: 376
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF



Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com


# ලෙනින්

## තෝරාගත් කෘති
### වෙළුම් දොළහ



## වෙළුම
## 5




මොස්කව්
ප්‍රගති ප්‍රකාශක මන්දිරය
1980

В. И. ЛЕНИН

ИЗБРАННЫЕ ПРОИЗВЕДЕНИЯ В 12 ТОМАХ

том 5

*На языке сингала*



සෝවියට් සංගමයේ මුද්‍රණය කරන ලදී

Л $\frac{10102—291}{014(01)—80}$ 807—80 0101020000

පටුන

# විදේශයෙහි සිට එවූ ලියුම්[1]

## ප්‍රථම ලියුම

### ප්‍රථම විප්ලවයේ ප්‍රථම අවධිය

අධිරාජ්‍යවාදී ලෝක යුද්ධයෙන් උද්ගතවන ප්‍රථම විප්ලවය ආරම්භ වී තිබේ. එම ප්‍රථම විප්ලවය, සත්‍ය වශයෙන්ම, අවසාන විප්ලවය වන්නේ නැත.

ස්විට්සර්ලන්තයට ඉතා මද වශයෙන් ලැබෙන ආරංචි අනුව බලන කල, මෙම ප්‍රථම විප්ලවයේ, එනම් 1917 මාර්තු 1 දින රුසියානු විප්ලවයේ, ප්‍රථම අවධිය අවසාන වී තිබේ. එම අවධිය, සත්‍ය වශයෙන්ම, අපගේ විප්ලවයේ අවසාන අවධිය වන්නේ නැත.

එවැනි ''ප්‍රාතිහාර්යයක්'' සිදු වූයේ කෙසේද? ශත වර්ෂ ගණනාවක් තිස්සේ පැවත ආ, එසේම 1905—1907 කාලයේ තුන් වර්ෂයක් මුළුල්ලේ පැවති දැවැන්ත හා දේශ ව්‍යාප්ත පංති සටන්වලදී සිදුවූ සියල්ලම මධ්‍යයේ බිඳ නොවැටී ආරක්ෂාවූ රාජාණ්ඩුවක්, විදේශයෙහි සිටින රුසියාවේ සියළුම නියෝජිතයන් වෙත මිල්යුකොව් යැවූ පූර්වානම්කාර විදුලි පුවතෙහි සඳහන් දින ගණනවූ, දින අටක් තුළ, බිඳ වැටුනේ කෙසේද?

ඉතිහාසයේ හෝ ස්වභාව ධර්මයේ ප්‍රාතිහාර්යයන් නොමැත. නමුත් ඉතිහාසයේ ඇතිවන සෑම හදිසි වෙනස් වීමකදීම, වැදගත් කරුණු රාශියකින් යුත් එහි සන්ධාරය අනාවරණය වෙයි. එසේම සටන් කරුවන් යොදා ගන්නා අනපේක්ෂිත හා විශේෂිත අරගල ආකෘති සහ බලවේග පෙළ ගැසීම්ද ඒකාබද්ධ වීමක් එයින් ජනිත වෙයි. විප්ලව සම්බන්ධයෙන්ද මේ සියල්ල අදාල වන්නේය. සාමාන්‍ය පුද්ගලයාගේ මනැසට මෙම සිදුවීම් බොහොමයක් ප්‍රාතිහාර්ය ස්වභාවයෙන් පෙනෙනු ඇත.

සාර්වාදී රාජාණ්ඩුව දින කීපයක් තුළ බිඳ වැටීම පිණිස, ලෝක — ඓතිහාසික වැදගත් කමින් යුත් සාධකයන් ගණනාවක් ඒකාබද්ධ වීම අවශ්‍ය විය. අපි අන් ප්‍රධාන සාධක ගැන සඳහන් කරමු.

1905—1907 දක්වා වූ තුන් වර්ෂය තුළ රුසියානු නිර්ධන පංතිය කළ පංති සටන් සහ පෑ විප්ලවීය ශක්තිය නිසා නොවී නම්, දෙවැනි විප්ල-

වයේ ප්‍රාථමික අවධිය දින කීපයකින් සම්පූර්ණ වීමේ අර්ථයෙන්, එම විප්ලවය මෙතරම් සීග්‍රයෙන් සිදුවීමට ඉඩක් නොතිබුණි. ප්‍රථම (1905) විප්ලවය විසින් හී වීටි ගැඹුරට වදින සේ පස සාන ලදී; පැරණි දුර්මත උදුරා දමන ලදී; දේශපාලන ජීවිතයට හා දේශපාලන අරගලයට සහභාගි වන සේ දශ ලක්ෂ ගණන් කම්කරුවන් හා කෝටි ගණන් ගොවි ජනතාව අවදි කරන ලදී; එකිනෙකාටත්, එමෙන්ම සමස්ත ලෝකයාටත්, රුසියානු සමාජයේ සියළුම පංතිද (සහ සියළුම ප්‍රධාන පක්ෂද), ඒවායේ අවශ්‍යතාවයන් හා බලවේගයන් පෙළ ගැසී තිබෙන සැබෑ ආකාරයද, ඒවායේ ක්ෂණික හා පරමාර්ථ අරමුණුද, අනාවරණය කරණ ලදී. ප්‍රථම විප්ලවයත්, ඊට අනුගාමී ප්‍රතිවිප්ලවීය (1907—1914) කාලයත් විසින් සාර්වාදී රාජාණ්ඩුවේ නියම හරය හෙළිදරව් කරන ලදී; එය එහි "උපරිම සීමාන්තයට" ගෙන යන ලදී; රාක්ෂයෙක් වැනි රස්පුටින්ගේ අධිපතිත්වයෙන් යුත් වූ සාර් කල්ලියේ කුණුවූ ස්වභාවය හා නීච කමද, නරුම ස්වභාවය හා දූෂණයද, හෙළිදරව් කරන ලදී. රොමානොව් පවුලේ, එනම් යුදෙව් වරුන්ගේ, කම්කරුවන්ගේ සහ විප්ලවවාදීන්ගේ ලෙයින් රුසියාව නැහැවූ ඒ යුදෙව් සංහාරකයන්ගේ, එමෙන්ම ඉඩම් දෙස්යාටින් දශ ලක්ෂ ගණන් හිමි කරගත්, තමන්ට සහ තමන්ගේ පංතියට ඇති "දේපල පිළිබඳ ශුද්ධ අයිතිය" රැක ගනු වස් ඕනෑම මෘග ක්‍රියාවක යෙදීමට සූදනම්, ඕනෑ තරම් ගණනක් පුරවැසියන් විනාශ කරන හා ඔවුන්ගේ බෙල්ල මිරිකා දමන ඕනෑම අපරාධයක් කිරීමට සූදනම්, ඒ "මුල් පෙළේ සාමි වරුන් වන, ඉඩම් හිමියන්ගේ ම්ලේච්ජකම් සියල්ලම එයින් හෙළිදරව් විය.

1905—1907 විප්ලවය හා 1907—1914 ප්‍රතිවිප්ලවය ඇති නොවී නම්, රුසියානු ජනතාවගේ සියළු පංතිවල සහ රුසියාවේ වෙසෙන ජාතීන්ගේ ඒ පැහැදිලි "ස්වාධිපත්‍යය" ද, 1917 පෙබරවාරි — මාර්තු විප්ලව දින අට තුළදී ප්‍රකටව පෙනුණු මෙම පංති අතර හා එමෙන්ම ඒවාත්, සාර්වාදී රාජාණ්ඩුවත් අතර සම්බන්ධකම් එසේ නිර්ණය වීමද, ඇති නොවන්නට තිබුණි. දින අටේ විප්ලවය "රඟ දක්වන" ලද්දේ දුසිම් ගණන් ලොකු හා කුඩා අත්හදා බැලීම් වලින් පසුව යයි අපට උපමා ශෛලියෙන් කිව හැකිය. "නළුවෝ" ඔවුන් එකිනෙකා හොඳින් ඇඳින ගෙන සිටියහ. ඔවුහු, ඔවුන්ට භාර කොටස්ද, ඔවුන්ට හිමි තැන්ද, ඔවුන්ගේ වටපිටාවද, වැඩි හෝ අඩු වැදගත් කමකින් යුත් සෑම උපනති මාත්‍රයක් සහ ක්‍රියාකාරිත්ව ක්‍රමයක්ම දක්වාවූ සියළුම විස්තර සහිතව, ඉතාමත් පැහැදිලි ලෙස දැන සිටියහ.

අප එසේ කියන්නේ, "මහා කැරැල්ල" යනුවෙන් ගුච්කොව්ලා හා මිල්යුකොව්ලා විසින් හෙළාදකින ලද, ප්‍රථම 1905 මහා විප්ලවය නිසා, දෙළොස් අවුරුද්දකින් පසුව, 1917 "බැබළෙන" සහ "කීර්තිමත්" විප්ලවයට මග පෑදුන හෙයිනි. ගුච්කොව්ලා සහ මිල්යුකොව්ලා එය "කීර්තිමත්" යයි ප්‍රකාශ කර තිබෙන්නේ එයින් (තාවකාලික වශයෙන්) ඔවුන් බලයට පත් කර තිබෙන බැවිනි. එහෙත්, ඒ සඳහා, එක් අතකින්, ලෝක ඉතිහාසයේ ගමන බෙහෙවින් වේගවත් කිරීමෙහි සමත්වූද, අනිත් අතින්, අසම සම උත්සන්නතාවයකින් යුත්, ලෝක ව්‍යාප්ත ආර්ථික, දේශපාලන, ජාතික හා ජාත්‍යන්තර අර්බුදයක් ජනිත කළ හැකිවූද මහා බලගතු හා සකල බලධාරී "වේදිකා පාලකයෙක්" අවශ්‍ය විය. දුගඳ හමන සහ ලේ තැවරුණු රොමානොව් රාජාණ්ඩුවේ කරත්තය, ඉතිහාසයේ හදිසි වෙනස් වීමක් ඇතිවන අවස්ථාවකදී එක පහරින් පෙරළා දැමිය හැකි වීම පිණිස, ලෝක ඉතිහාසය අසාමාන්‍ය තරමින් වේගවත් වීමට අමතරව, ඉතිහාසයේ ඉතාමත් හදිසි වෙනස්වීම් ඇතිවීමද අවශ්‍ය විය.

මෙම සකල බලධාරී "වේදිකා පාලකයා" වූයේ මෙම බලගතු වේග දායකයා වූයේ, අධිරාජ්‍යවාදී ලෝක යුද්ධය ය.

එය ලෝක යුද්ධයක් වන බවට දැන් සැකයක් නැත. එක්සත් ජනපදය හා චීනයත් අද එයට අර්ධ වශයෙන් සම්බන්ධ වී ඇති අතර, හෙට එයට සම්පූර්ණයෙන්ම සම්බන්ධ වනු ඇත.

මෙහි දෙපැත්තෙන්ම කෙරෙන්නේ අධිරාජ්‍යවාදී යුද්ධයක් වන බවද එසේම නිසැකය. මෙම සත්‍ය අමතක කර දැමිය හැක්කේ ධනපතියන්ට හා ඔවුන්ගේ වන්දි භට්ටයන් වන සමාජ-දේශප්‍රේමීන්ට හා සමාජ-ජාත්‍යෝන්මාදවාදීන්ට පමණකි. එසේ නැතහොත්, සාමාන්‍ය විචේචනාත්මක නිර්වචනයන් වෙනුවට, රුසියාවේ අපට සුපුරුදු දේශපාලන නම් යොදතොත්, එසේ කළ හැක්කේ, එක් අතකින් ගුච්කොව් හා ල්වොව්ලාටද, මීයුල්කොව් හා ෂින්ගරෙව්ලාටද අනිත් අතින් ග්වොස්දියෙව් හා පොත්‍රෙසව්ලාට, චහෙන්කෙලිලාට, කේරෙන්ස්කිලාට හා චහෙයිද්සේලාටද පමණකි. ජර්මන් ධනපති පංතිය සහ ඉංග්‍රීසි-ප්‍රංශ ධනපති පංතිය යන දෙකම මෙම යුද්ධය කරන්නේ, විදේශ රටවල් කොල්ල කෑමට හා කුඩා ජාතීන්ගේ ගෙල මිරිකා දැමීමටය; මූල්‍ය ලෝකාධිපත්‍යය ලබා ගැනීම සහ යටත් විජිත බෙදා ගැනීමට හා යළිත් බෙදා ගැනීමටය; එසේම විවිධ රටවල කම්කරුවන් නොමඟ යැවීම හා භේද කිරීම මගින්, ගරා හැලෙන ධනපති රාජ්‍ය බලය රැක ගැනීමටය.

නිර්ධන පංතිය ධනපති පංතියට විරුද්ධව කරන අරගලය, අධිරාජ්‍යවාදී යුද්ධය නිසා පෙර නොවූ විරූ තරම් මට්ටමක් දක්වා අතිශයින් වේගවත් වීම හා උත්සන්න වීම වාස්තවික වශයෙන් අනිවාරණීය ලෙස සිදුවිය යුත්තක්ම විය. එය සතුරු පංති අතර යුද්ධයක් බවට පරිවර්තනය වීම අනිවාර්යයෙන්ම සිදුවිය යුත්තක් විය.

1917 පෙබරවාරි — මාර්තු විප්ලවයෙන් මෙම පරිවර්තනය ආරම්භ

වී තිබේ. පළමුවෙන්ම, එහි ප්‍රථම අවධිය, බල වේගයන් දෙකක් විසින් සාර්වාදයට විරුද්ධව දෙන ලද ඒකාබද්ධ ප්‍රහාරයකින් සමලක්ෂිතය. එයින් එක් බල වේගයක්, මුළු ධනපති හා ඉඩම්හිමි රුසියාව සහ ඊට සම්බන්ධ අවිඥාත අනුගාමිකයින්ද, බ්‍රිතාන්‍ය හා ප්‍රංශ තානාපති වරුන් සහ ධනපතියන් වන එහි විඥාත නායකයන්ද වේ. අනිත් බල වේගය, සොල්දදුවන් හා ගොවිජන නියෝජිතයන් දිනා ගැනීමට පටන් ගෙන තිබෙන කම්කරු හා ගොවිජන නියෝජිත සෝවියට් සභා ය[2].

මෙම දේශපාලන කඳවුරු තුන, මෙම මූලික දේශපාලන බලවේග තුන, පහත සඳහන් පරිදි වේ. (1) වැඩවසම් ඉඩම් හිමියන්ගේ, පැරණි නිලධාරි පෙළැන්තියේ සහ යුද්ධ හමුද කුලයේ මූලිකත්වය දරන සාර් වාදී රාජාණ්ඩුව. (2) ධනපති හා ඉඩම්හිමි — ඔක්තෝබර්වාදී — කැඩෙට්වාදී[3] රුසියාව. සුළු ධනපති පංතිය ඔවුන් පිටු පස ඇදෙයි. (එම සුළු ධනපති පංතියේ ප්‍රධාන නියෝජිතයෝ වන කෙරෙන්ස්කි සහ චංහෙයිද්සෙ එයට අයත් වෙති). (3) කම්කරු නියෝජිත සෝවියට් සභාව. එය මුළු මහත් නිර්ධන පංතියමත්, ජනගහනයේ ඉතාමත් දුප්පත් මුළු ජනකායමත්, තමන්ට මිතුරු කර ගැනීමට උත්සාහ කරයි. විදේශයෙන් පුවත්පත් වලට ඉතාමත් සුළු වශයෙන් ලැබෙන තොරතුරුවලින් සෑනසී සිටීමට සිදුව සිටින මෙම ලිපිය ලියන ලියුම් කරු වැනි, සිදුවීම් ඇතිවන දර්ශන පථයෙන් එතරම් දුර බැහැර සිටින නිරීක්ෂකයෙකුට පවා පෙනී යන සේ, ''ප්‍රථම අවධියේ'' දින අට තුළදීම මෙම මූලික දේශපාලන බල වේග තුන සම්පූර්ණ වශයෙන් හා පැහැදිලි ලෙස එළි දක්නා ලදී.

නමුත්, මේ ගැන තවදුරටත් විස්තර කිරීමට පෙර, වැදගත් කම අතින් ප්‍රධාන සාධකයක් වන අධිරාජ්‍යවාදී ලෝක යුද්ධය ගැන මගේ ලිපියෙහි මිඩංගු කර ඇති කොටස වෙත ආපසු යා යුත්තෙමි.

යුද්ධකාරී මහ බලවත් රටවල්ද, ධනපතියන්ගේ යුද්ධකාරී කණ්ඩායම්ද, ධනපති ක්‍රමයේ ලොක්කන්ද, ධනපති වහල් ක්‍රමයේ වහල් හිමියන්ද ඔවුනොවුන් සමග එකට වෙළී සිටින සේ යදම් වලින් බැඳීම යුද්ධයෙන් සිදුවී ඇත. ඔවුන් එකම ලේ කැටියක් වී ඇත. ඉතිහාසයේ වර්තමාන අවස්ථාවෙහි සමාජ හා දේශපාලන ජීවිතය එබඳුය.

යුද්ධය ආරම්භ වීමෙන් පසු ධනපති පංතියේ පැත්තට පැන ගිය සමාජවාදීහූ, ජර්මනියේ දවීද්ලා සහ ෂෙයිදමාන්ලාද, රුසියාවේ ප්ලෙහානව්ලා, පොත්‍රෙසොව්ලා, ග්වොස්දියොව්ලා සහ සමාගමද, යන මේ සියළු දෙනාම, විප්ලවවාදීන්ගේ ''මායා මත'' වලට විරුද්ධව, බාසල් ප්‍රකාශනයේ[4] ''මායා මත'' වලට විරුද්ධව හා අධිරාජ්‍යවාදී යුද්ධය සිවිල් යුද්ධයක් බවට පරිවර්තනය කිරීම පිළිබඳ ''ව්‍යාජ සිහින'' වලට විරුද්ධව මහ හඬ නගමින් දීර්ඝ කාලයක් තිස්සේ ඝෝෂා කළහ. ඔවුහු, ධනපති



ක්‍රමය පෙන්වීයයි කියන ශක්තියේ, දුර්වාරණීයභාවය හා උපයෝජ්‍යතාවය ගැන සෑම ස්වරයකින්ම ගුණ වර්ණනා ගැයූහ. විවිධ රටවල කම්කරු පංතිය ''උපයෝජනය'' කර ගැනීමට, හීලෑ කර ගැනීමට, නොමග යැවීමට හා භේද කිරීමට ධනපතියනට ආධාර දුන්නේ ඔවුන්ය!

නමුත් ''හොඳටම සිනහ වන්නේ අන්තිමට සිනාසෙන තැනැත්තාය''. යුද්ධයෙන් උත්පාද කෙරෙන විප්ලවීය අර්බුදය වැඩි කලක් ප්‍රමාද කිරීමට ධනපති පංතියට නොහැකි වී තිබේ. එම අර්බුදය නොවැළැක්විය හැකි බලයක් පාමින් සියළුම රටවල් තුළ පැතිරී යයි. මෑතදී ජර්මනියට ගිය අයෙකු කියන ලෙසට, ''ඉතා දක්ෂ ලෙස සංවිධානය කර තිබෙන දුර්භික්ෂයෙන්'' පෙළෙමින් පවතින එරටින් පටන් ගන්නා එම අර්බුදය කෙළවර වන්නේ එංගලන්තයෙන් හා ප්‍රංශයෙනි. එම දෙරට තුළද දුර්භික්ෂයේ සේයාව මහත් සේ දක්නට ලැබෙන නමුත්, එය සංවිධානය කර තිබෙන්නේ ජර්මනියට වඩා ''දක්ෂකමින්'' බොහෝ අඩු ආකාරයෙනි.

විප්ලවීය අර්බුදය ප්‍රථමයෙන්ම රුසියාවෙන් ආරම්භ වීම ස්වාභාවික දෙයක් විය. අසංවිධාන තත්වය වඩාත්ම දරුණු වූයෙත්, නිර්ධන පංතිය (විශේෂ ගතිගුණ තිබීමක් නිසා නොව, 1905 වර්ෂයේ ජීවමාන සම්ප්‍රදයයන් නිසා) වඩාත්ම විප්ලවවාදී වූයේත් එහිය. රුසියාවට හා ඇගේ මිත්‍ර බලවතුන්ට අත්වූ පරාජය මාලාව නිසා මෙම අර්බුදය ඉක්මන් විය. එයින් ආණ්ඩුවේ සහ පැරණි පාලන ක්‍රමයේ පැරණි යන්ත්‍රය දෙදරුම් කෑවේය. ඊට විරුද්ධව ජනගහනයේ සියළුම පංතිවල කෝපය ඇවිස්සුණි. ඒ කෙරෙහි යුද්ධ හමුදවේ අප්‍රසාදය ඇති විය. එනිසා, අන්ත රාජ වංශිකයන් ගෙන් හා ඉතාමත් දූෂිත නිලධාරිවාදී කොටස්වලින් සමන්විත වූ පැරණි අණ දෙන නිලධාරි පිරිස් අතුරෙන් විශාල කොටසක් ඉවත ලන ලද අතර, ඒ වෙනුවට තරුණ, අළුත්, ප්‍රධාන වශයෙන් ධනපති රස්නචින්ට්සි[5] සුළු ධනපති පිරිස් පත් කරන ලදී. ධනපති පංතිය හමුවේ මුනින් වැටී බඩ ගාමින් හෝ කොන්ද පණ නොමැතිව, ''පරාජිතවාදය'' ගැන හඬමින් හා අඳෝනා නංවමින් සිටියවුනට දැන් සිදු වී තිබෙන්නේ, ඉතාමත් නොදියුණු හා ම්ලේච්ඡ සාර්වාදී රාජාණ්ඩුවේ පරාජයත්, විප්ලවවාදී ගිනි ජාලයේ ආරම්භයත් අතර ඓතිහාසික සම්බන්ධය පිළිබඳ සත්‍යයට මුහුණ පෑමටය.

යුද්ධයේ මුල් වකවානුවේදී අත් වූ පරාජය මාලාව පෙරළිය ඉක්මන් කළ ප්‍රතිෂේධාත්මක සාධකයක් වූ අතර, ඉංග්‍රිසි-ප්‍රංශ ප්‍රාග්ධනයත්, ඉංග්‍රිසි-ප්‍රංශ අධිරාජ්‍යවාදයත්, රුසියානු ඔක්තෝබර්වාදී-කැඩෙට් ප්‍රාග්ධනයත් අතර සම්බන්ධය මගින් නිකලායි රොමානොව්ට විරුද්ධව එක එල්ලේ කුමන්ත්‍රණයක් සංවිධානය කිරීම මෙම අර්බුදය ඉක්මන් කළ සාධකයක් විය.

ඉංග්‍රිසි-ප්‍රංශ පුවත්පත්, මෙම තත්වයේ ඉතාමත් වැදගත් අංගය

ගැන කරුණු වසං කරන අතර, ජර්මන් පුවත්පත් ද්වේෂ සහගත ලෙස ඒ ගැන අවධාරණය කරති. මෙයට හේතු පැහැදිලිය. නමුත් මාක්ස්වාදීන් වන අපි බුද්ධිමත් ලෙස සත්‍යයට මුහුණ දිය යුත්තෙමු. අධිරාජ්‍යවාදී යුද්ධකාරීන්ගේ ප්‍රථම කණ්ඩායම කියන පැණි රස කළ, නිල රාජ්‍යතන්ත්‍රික, අමාත්‍ය බොරු වලින් හෝ, අනිත් යුද්ධකාරි කණ්ඩායමට අයත්, ඔවුන්ගේ මූල්‍ය හා යුද්ධමය ප්‍රතිමල්ලයන්ගේ ඔච්චම් හා මඩ ගැසීම්වලින් හෝ අපි අවුලට පත් නො විය යුත්තෙමු. පෙබරවාරි — මාර්තු විප්ලවයේ සිදුවීම් ගත් මුළු ගමන් මාර්ගයෙන්ම පැහැදිලිව පෙනෙන්නේ, II වැනි නිකොලායි හා II වැනි විල්හෙල්ම් අතර "වෙනම" ගිවිසුම් හා වෙනම සාමයක් ඇතිවීම වළක්වනු පිණිස (එම අවසාන දෙය ඔහු ලවා කරවීමට අපි බලාපොරොත්තු වෙමු, ඒ සඳහා උත්සාහ දරන්නෙමු) ඉතා දීර්ඝ කාලයක් තිස්සේ ඉතාමත් බලවත් සේ ප්‍රයත්න දරමින් සිටි බ්‍රිතාන්‍ය හා ප්‍රංශ තානාපති කාර්යාල හා ඒවාට "සම්බන්ධ" අය, ඔක්තෝබර්වාදීන් හා කැඩෙට්වරු සමගද, හමුදපතියන්ගෙන් සහ යුද්ධ හමුදවලින් කොටසක් හා සාන්ත පීටර්ස්බර්ග් ආරක්ෂක බලකාය සමගද, එක්ව නිකොලායි රොමානොව් බලයෙන් පහ කිරීමේ ඒකාන්ත අරමුණ ඇතිව කුමන්ත්‍රණයක් සංවිධානය කළ බවය.

අපි මුළා නොවිය යුත්තෙමු. සමහර සංවිධායක කාරක සභා ආධාරකරුවන් හෝ මෙන්ෂෙවික් වරුන්[6] ලෙසට . ග්වොස්දියොව්-පොත්‍රෙසොව් ප්‍රතිපත්තියත්[7], ජාත්‍යන්තර ප්‍රතිපත්තියත් අතර පැද්දෙමින් සිටින හා නිතර නිතර සුළු ධනපති සමාදනවාදයට ඇද වැටෙන, එසේම කම්කරු පක්ෂය හා කැඩෙට්වරු අතර "එකඟත්වය" ත්, මුලින් කී පක්ෂය පසුකී අයට "ආධාර" කිරීමත්, ආදිය ගැන දත් හුවා දක්වීමට සූදානම්ව සිටින අය හෝ කරන වරදට අපි නොවැටිය යුත්තෙමු."ප්‍රධාන රණ ශූරයා" වන නිකොලායි රොමානොව් බලයෙන් නෙරපා දමා, ඒ වෙනුවට වඩාත් ශක්තිමත්, අළුත් හා වඩාත් කාර්ය ශූර රණ ශූරයන් එතැනට පත් කිරීම අරමුණු කරගෙන, ඉංග්‍රිසි-ප්‍රංශ අධිරාජ්‍යවාදීන් ගුච්කොව්ලා හා මිල්යුකෝව්ලා හා සමග කරන කුමන්ත්‍රණය සඟවා තැබීමට ඔවුහු උත්සාහ කරති. ඔවුන් එසේ කරන්නේ, ඔවුන් කට පාඩම් කරගෙන ඇති පැරණි (එහෙත්, කිසිසේත් මාක්ස්වාදී නොවන) දහම අනුවය.

මෙතරම් ඉක්මණින් හා මතුපිටින් පෙනෙන ලෙසට, මෙතරම් වෙනස්කම් ඇති කරන ආකාරයෙන් විප්ලවය සාර්ථක වීමට හේතු වූයේ, අන් කිසිවක් නොව, සම්පූර්ණයෙන්ම අසමරූප ප්‍රවාහයන්ද, සම්පූර්ණයෙන්ම විෂමජාතීය පංති උවමනාවන්ද, සම්පූර්ණයෙන්ම ප්‍රතිවිරුද්ධ දේශපාලන හා සමාජ ව්‍යායාමයන්ද, ඉතාමත් අභූතපූර්ව ඓතිහාසික තත්වයක ප්‍රතිඵලයක් වශයෙන්, ඉතාමත් උසස් "සංගත" ස්වභාවයකින් සංයෝජනය වී තිබීමය. මෙය සිදු වූයේ, එක් පැත්තකින්, අධිරාජ්‍යවාදී යුද්ධය නොනවත්වාම තවදුරටත් ගෙනයාම සඳහාද, යුද්ධය තව තවත් දරුණු ලෙස හා දරදඬු ලෙස කරගෙන යාම සඳහාද, ගුච්කොව්ලාට කොන්ස්තන්තිනෝපලයත්, ප්‍රංශ ධනපතියන්ට සිරියාවත්, බ්‍රිතාන්‍ය ධනපතියන්ට මෙසපොතේමියාවත් ලබා ගැනීම පිණිස රුසියානු කම්කරුවන් හා ගොවීන් තවත් දශ ලක්ෂ ගණනක් බිලි දීම සඳහාද, බලය අල්ලාගන්නා ලෙස මිල්යුකොව්, ගුච්කොව් සහ සමාගම පෙළඹවූ එංගලන්ත — ප්‍රංශ අධිරාජ්‍යවාදීන්ගේ කුමන්ත්‍රණයක් පවතින අතර, අනිත් පැත්තෙන්, පාන් සඳහා, සාමය සඳහා සහ සැබෑ නිදහස සඳහා ගෙන යන විප්ලවවාදී ස්වභාවයේවූ ගැඹුරු නිර්ධන පංතික හා පොදු ජන ව්‍යාපාරයක් (නගරවල හා ගම්වල ඉතාමත් දුප්පත් මුළු ජනතාවගේම ව්‍යාපාරයක්) තිබීම නිසාය.

රුසියාවේ විප්ලවවාදී නිර්ධන පංතිය, කැඩෙට් — ඔක්තෝබර්වාදී අධිරාජ්‍යවාදයට "ආධාරදීම" ගැන කථා කිරීම හුදෙක් මෝඩ කමක්ම වන්නේය. එම කැඩෙට් — ඔක්තෝබර්වාදී අධිරාජ්‍යවාදය ඉංග්‍රිසි මුදල් වලින් පැලැස්තර දමා සකසා ඇති අතර, එය සාර් අධිරාජ්‍යවාදය තරම්ම තුච්ජය. විප්ලවවාදී කම්කරුවෝ ඒ අපකීර්තිමත් සාර්වාදී රාජාණ්ඩුව විනාශ කරමින් සිටියහ. ඔවුහු දැනටමත් එය සැලකිය යුතු දුරකට විනාශ කර ඇත්තාහ. ඔවුන් එය සහමුලින්ම විනාශ කරනු ඇත. එක රජෙක් වෙනුවට, තවත් රජෙක්, වැඩි කොටම රොමානොව් කෙනෙක් පත් කිරීමට බ්‍යූකනන් ගුච්කොව්, මිල්යුකොව් සහ සමාගම ගෙනයන අරගලය, ඉතිහාසයේ කිසියම් කෙටි හා විශේෂ අවස්ථාවකදී කම්කරුවන්ට ආධාරයක් වීම හේතු කොට ගෙන කම්කරුවන් අතිශය ප්‍රීතියට හෝ පුදුමයට පත්වන්නේ හෝ නැත!

එම තත්වය ඇතිවූයේ ඒ ආකාරයටය. ඒ ආකාරයටම පමණකි. සත්‍යයට බිය නොවන, විප්ලවයේ සමාජ බල වේගයන් තුලනය වී ඇති ආකාරය බුද්ධිමත් ලෙස මැන බලන, පවතින සෑම තත්වයක් ගැනම, එහි වර්තමාන විශේෂත්වයන් අනුව පමණක් නොව, වඩාත් මූලික ගාමක කාරකයක් වන, රුසියාවේ හා ලෝකය මුළුල්ලේම නිර්ධන පංතිය හා ධනපති පංතිය අතර පවත්නා අවශ්‍යතා — සම්බන්ධකම් පිළිබඳ ස්ථාවරය අනුවද අගය කරන දේශපාලනඥයෙකුට පිළිගත හැකි අදහස එයය; එයම පමණකි.

මුළු රුසියාවේම කම්කරුවන් මෙන් පෙට්‍රොගෑඩ් කම්කරුවෝ සාර්වාදී රාජාණ්ඩුවට විරුද්ධව ආත්ම පරිත්‍යාගයෙන් සටන් කළහ. නිදහස සඳහා, ගොවීන්ට ඉඩම් සඳහා, සාමය සඳහා සහ අධිරාජ්‍යවාදී ඝාතනයට විරුද්ධව සටන් කළහ. එම ඝාතනය නොනවත්වා ගෙනයාම සහ උත්සන්න කිරීම සඳහා ඉංග්‍රිසි — ප්‍රංශ අධිරාජ්‍යවාදීහු රාජ්‍ය සභා

කුමන්ත්‍රණ ඇති කළහ; නිලධාරීන් හා ආරක්ෂක භටයන් සමග රහස් කුමන්ත්‍රණ කළහ; ගුච්කොව්ලා හා මිල්යුකොව්ලා උනන්දු කර, සම්පූර්ණයෙන්ම අළුත් ආණ්ඩුවක් අටවන ලදින්, නිර්ධන පංති අරගලය සාර්වාදයට විරුද්ධව එහි ප්‍රථම පහරවල් එල්ල කළ වහාම, එම ආණ්ඩුව ඇත්ත වශයෙන් බලය අල්වා ගත්තේය[8].

මෙම අළුත් ආණ්ඩුවේ ඇත්ත වශයෙන්ම වැදගත් තනතුරු, ඉතාමත් වැදගත්, තීරණාත්මක තනතුරු, එනම්, යුද්ධ හමුදාවේ හා නිලධාරි පෙළැන්තියේ තනතුරු පාලනය කරන්නේ, පසුගිය කාලයේ ස්තලිපින් අළුගෝසුවාට අනුබල දුන් ඔකතෝබවාදීන්ගේ සහ සාමකාමී ප්‍රතිසංස්කරන පක්ෂයේ[9] ල්වෝව් හා ගුච්කෝව් ය. මෙම ආණ්ඩුව තුළ මිල්යුකෝව් සහ වෙනත් කැඩෙට්වරු, අන් කිසිවකටත් වඩා සැරසිලි හා සංඥ පුවරු ස්වභාවයක් ගනිති. ඔවුන් එය තුළ සිටින්නේ හැඟීම් අවුස්සන සුලු දක්ෂ කථා පැවැත්වීමටය. තෘදවික්වර[10] කෙරෙන්ස්කි එහි තුළ සිටින්නේ කම්කරුවන් හා ගොවීන් රැවටීමට වාදනය කරනු ලබන බලලයිකාවක් ලෙසටය. මෙම ආණ්ඩුව අහම්බෙන් හමුවූ පුද්ගලයන්ගේ එකතුවක් නොවේ.

ඔවුහු රුසියාවේ බලයට පත්ව සිටින නව පංතියේ නියෝජිතයෝ වෙති; එනම්, දීර්ඝ කාලයක් තිස්සේ අපේ රට ආර්ථික වශයෙන් පාලනය කරමින් සිටි හා 1905-1907 විප්ලවය සමයේදීද, 1907-1914 ප්‍රති විප්ලවීය කාලසීමාවේදීද, අවසාන වශයෙන් හා විශේෂ සීඝ්‍රතාවයකින් 1914-1917 යුද්ධ කාලයේදීද, පළාත් පාලන මණ්ඩල, මහජන අධ්‍යාපනය, විවිධ වර්ගයේ සම්මේලන, දූමා සභාව,[11] යුද්ධ කර්මාන්ත කාරක සභා,[12] ආදිය අත්පත් කර ගනිමින්, තමන් ඉතා ඉක්මණින් දේශපාලන වශයෙන් සංවිධානය වූ ධනපති ඉඩම් හිමියන්ගේ නියෝජිතයෝ වෙති. 1917 වන විට මෙම නව පංතිය ''සම්පූර්ණයෙන්ම මෙන්'' බලයට පත්ව සිටියේය. එනිසා සාර්වාදය බිමට ඇද වැටී ධනපති පංතියට මග හෙළි වීම සඳහා අවශ්‍ය වූයේ ප්‍රථම පහරවල් පමණකි. නොඇදහිය හැකි තරම් ශක්තිය වැය කිරීමක් අවශ්‍ය කළ අධිරාජ්‍යවාදී යුද්ධය නිසා නොදියුණු රුසියාවේ සංවර්ධන ගමන කොතරම් වේගවත් වීද යත්, අපි ''එක පහරින්ම'' (එක පහරින්ම සේ පෙනෙන පරිදි) ඉතාලියේ හා එංගලන්තයේත්, ආසන්න වශයෙන් ප්‍රංශයේත් තත්වයට පැමිණියෙමු. අපි ''සභාග'', ''ජාතික'' (එනම්, අධිරාජ්‍යවාදී යුද්ධය දිගටම ගෙනයාම හා ජනතාව රැවටීම සඳහා) ''පාර්ලිමේන්තු'' ආණ්ඩුවක් ලබාගෙන සිටින්නෙමු.

වර්තමාන යුද්ධය හා සම්බන්ධයෙන් වූ කල මෙම ආණ්ඩුව ඩොලර් කෝටි ලක්ෂයේ ''එංගලන්තය සහ ප්‍රංශ'' ''සමාගමේ'' නියෝජිතයාය. මෙම ආණ්ඩුව සමග එක පෙළට සිටින සේ ප්‍රධාන, නිල නොවන, තවමත් සංවර්ධනය නොවූ සහ සංසන්දනීය වශයෙන් දුර්වල, කම්කරු ආණ්ඩුව උද්ගත වී ඇත. එයින් නිර්ධන පංතියේ හා නාගරික හා ග්‍රාමීය දුප්පත් මුළු ජනතාවගේම අවශ්‍යතාවයන් ප්‍රකාශ කෙරෙයි. මෙම කම්කරු ආණ්ඩුව නම්, සොල්දාදුවන් හා ගොවි ජනයා සමග, එසේම කෘෂිකාර්මික කම්කරුවන් සමග සම්බන්ධකම් ඇති කර ගැනීමට උත්සාහ කරන, පෙට්‍රොග්‍රෑඩ් කම්කරු නියෝජිත සෝවියට් සභාවය. සැබැවින්ම, එය ගොවි ජනතාවට වඩා, විශේෂයෙන්ම හා මූලික වශයෙන් කෘෂිකාර්මික කම්කරුවන් සමග සම්බන්ධකම් ඇති කර ගැනීමට උත්සාහ කරයි.

නියම දේශපාලන තත්වය එයයි. තිබිය හැකි එකම ශක්තිමත් පදනම වන, සැබෑ කරුණු මත මාක්ස්වාදී උපක්‍රම පදනම් කරනු සඳහා, හැකි වැඩිම වාස්තවික යථාතථ්‍යතාවයෙන් යුතුව, අපි එම දේශපාලන තත්වය විස්තර කිරීමට උත්සාහ ගත යුත්තෙමු.

සාර්වාදී රාජාණ්ඩුව පොඩි පට්ටම් කර තිබේ. එහෙත් එය අවසාන වශයෙන් විනාශ කර නැත.

අධිරාජ්‍යවාදී යුද්ධය ''අවසානයක් දක්වා'' කරගෙන යාමට අපේක්ෂා කරන සහ ඇත්ත වශයෙන්ම ''එංගලන්තය සහ ප්‍රංශය'' යන මූල්‍ය සමාගමේ ඒජන්තවරයා වන, ඔක්තෝබර්වාදී-කැඩෙට් ආණ්ඩුව වැටී ඇත්තේ, ස්වකීය බලය පවත්වාගෙන යාමට හැකි වන පරිදි, ජනතාවට උපරිම නිදහස් අයිතිවාසිකම් හා පහසුකම් දෙන බවට පොරොන්දු දීමට සිදුවන තත්වයටය.

කම්කරු නියෝජිත සෝවියට් සභාව කම්කරුවන්ගේ සංවිධානයකි. එය කම්කරු ආණ්ඩුවේ කලල ස්වරූපයයි. ජනගහනයේ දුප්පත් කොටස් වලට අයත් මුළු ජනකායගේම, එනම්, සාමය, පාන් සහ නිදහස සඳහා සටන් කරන ජනගහනයෙන් දහයෙන් නව කොටසකම අවශ්‍යතාවයන් එයින් නියෝජනය වන්නේය.

දැනට පැන නැගී ඇති තත්වය නිර්ණය කෙරෙන්නේ මෙම බල වේගයන් තුනෙහි සට්ටනය විසිනි. එය, විප්ලවයේ ප්‍රථම අවධියේ සිට දෙවැනි අවධියට පරිවර්තනය වීමේ තත්වයකි.

පළමු හා දෙවැනි බල වේගයන් අතර සතුරුතාවය ගැඹුරු එකක් නොවේ. එය තාවකාලිකය. එය හුදෙක්ම වර්තමාන වටපිටාවේ සිදුවීම් සම්බන්ධ වී ඇති ආකාරයේ, නැතහොත්, අධිරාජ්‍යවාදී යුද්ධයේ හදිසි වෙනස් වීම්වල ප්‍රතිපලයක්ය. කෙරෙන්ස්කිගේ වාචක සමූහාණ්ඩුවාදය බරපතල ලෙස සැලකිය නොහැකිය. එය රාජ්‍යපාලකයෙකුට තරම් නොවන හා වාස්තවික වශයෙන් දේශපාලන කපටිකමක් වන එකකි. එනිසා නව ආණ්ඩුව මුළුමනින්ම රාජාණ්ඩුවාදීය. සාර්වාදී රාජාණ්ඩුවට අවසාන පහර නොගසා සිටින නව ආණ්ඩුව, ඉඩම් හිමි රොමානොව් රාජ

වංශය සමග ජාවාරමක් කිරීමට දැනටමත් පටන්ගෙන තිබේ. වැඩ කරන ජනතාවට විරුද්ධව, ප්‍රාග්ධනයේ වරප්‍රසාද ආරක්ෂා කිරීම සඳහා, ඔක්තෝබර්වාදී — කැඩෙට් වර්ගයේ ධනපති පංතියට, නිලධාරි පෙළැන්තියේ සහ යුද්ධ හමුදාවේ මූලිකයා වශයෙන් කටයුතු කිරීමට රාජාණ්ඩුවක් අවශ්‍ය වී තිබේ.

සාර්වාදී ප්‍රතිගාමීත්වයට විරුද්ධව කරන අරගලයේ සාර්ථකත්වය තකා, කම්කරුවන් නව ආණ්ඩුවට ආධාර කළ යුතු යයි (පොත්‍රෙසොව්ලා, ග්වොස්දියොව්ලා සහ චිහෙන්කේලිද එසේම, ඉතාමත් අපැහැදිලි ලෙස වුවත්, චිහෙයිද්සේද මෙය කියන බව පෙනේ) කියනතැනැත්තේ, කම්කරු පංතියට ද්‍රෝහී වූවෙකි; නිර්ධන පංති ව්‍යාපාරයට, සාමයේ සහ නිදහසේ ව්‍යාපාරයට ද්‍රෝහී වූවෙකි. එසේවන්නේ ඉඳුරාම මෙම නව ආණ්ඩුවම, අධිරාජ්‍යවාදී ප්‍රාග්ධනයේ යුද්ධ හා මංකොල්ල ප්‍රතිපත්තියට දැනටමත් අත් පා බැඳුනු තත්වයට පත්ව ඇති හෙයිනි; රාජ වංශය සමග (ජනතාවගෙන් විමසීමකින් තොරව!) එකඟත්වයක් ඇති කර ගැනීමට එය දැනටමත් පටන් ගෙන ඇති හෙයිනි; සාර්වාදී රාජාණ්ඩුව යළිත් ප්‍රතිෂ්ඨාපනය කිරීමට, එය දැනටමත් කටයුතු කරන හෙයිනි; නව රජ පැටියා ලෙසට අපේක්ෂකත්වය භාර ගන්නා සේ එය දැනටමත් මිහයිල් රොමානොව්ගෙන් ඉල්ලා සිටින හෙයිනි; සිංහාසනයට රුකුල් දී එය නගා සිටුවීමටත්, නීත්‍යානුකූල රාජාණ්ඩුව (පැරණි නීතිය අනුව, නීත්‍යානුකූල ලෙස පාලනය කිරීම) වෙනුවට, බොනපාට්වාදී, ජනමත විමසන රාජාණ්ඩුවක් (වංචා සහගත ජනමත විමසීම් පිහිට කොට ගෙන පාලනය කිරීම) ආදේශ කිරීමට එය දැනටමත් කටයුතු කරන හෙයිනි.

නැත. සාර්වාදී රාජාණ්ඩුවට විරුද්ධව සැබෑ අරගලයක් ඇති වීමට නම්, හුදෙක් වචන වලින් පමණක් නොව, මිල්යුකොව් හා කෙරෙන්ස්කි දෙන වතුර පොරොන්දුවලින් පමණක් නොව, ඇත්ත වශයෙන්ම නිදහස සහතික වීමට නම්, කම්කරුවන් නව ආණ්ඩුවට ආධාර නොකළ යුතුය; ආණ්ඩුව කම්කරුවන්ට ආධාර කළ යුතුය! මන්ද යත්, නිදහසත් සාර්වාදය සම්පූර්ණයෙන්ම විනාශ කිරීමත් පිළිබඳ එකම සහතිකය තිබෙන්නේ, නිර්ධන පංතිය ආයුධ සන්නද්ධ කිරීම තුළත්, කම්කරු නියෝජිත සෝවියට් සභාවේ කාර්ය කොටස එහි අර්ථවත්කම හා බලය ශක්තිමත් කිරීම හා පුළුල් කිරීම තුළත් වන බැවිනි.

අන් සියල්ලම හුදු වදන් හරඹ හා මුසාවාදයන්ද, ලිබරල් හා උන්නතිකාමී කඳවුරේ දේශපාලනඥයන්ගේ ආත්ම රැවටිල්ලද, වංචාකාරී කපටිකම්ද වේ.

කම්කරුවන් ආයුධ සන්නද්ධ කිරීමට ආධාර කරනු. නැතහොත්, යටත්පිරිසෙයින් එයට බාධා කිරීමෙන් වත් වලකිනු. එවිට රුසියාවේ



නිදහස අනභිභවනීය වනු ඇත රාජාණ්ඩුව යළි ප්‍රතිෂ්ඨාපනය කළ නොහැකි වනු ඇත; සමූහාණ්ඩුව සුරක්ෂිත වනු ඇත.

නො එසේ නම් ගුච්කොව්ලා සහ මිල්යුකොව්ලා රාජාණ්ඩුව යළිත් ප්‍රතිෂ්ඨාපනය කරනු ඇත. ඔවුන් පොරොන්දුවූ "නිදහස් අයිතිවාසිකම්" එකක් හෝ, කිසිම කිසිවක් හෝ, නො දෙනු ඇත. ධනපති දේශපාලනඥයන් සියල්ලෝම, සෑම ධනපති විප්ලවයකදීම, ජනතාව "සැනසීමටත්", කම්කරුවන් රැවටීමටත් පොරොන්දු දුන්හ.

අපගේ විප්ලවය ධනපති විප්ලවයක් වන නිසා කම්කරුවන් ධනපති පංතියට ආධාර කළ යුතු යයි පොත්‍රෙසොව්ලා, ග්වොස්දියොව්ලා සහ චිහෙයිද්සේලා කියති. පසුගියද ප්ලෙහානොව් කීයේත් එයමය.

මාක්ස්වාදීන් වන අප මෙසේ කියමු: අපගේ විප්ලවය ධනපති විප්ලවයකි. එනිසා ධනපති දේශපාලනඥයන් කරන රැවටිල්ල ගැන ජනතාවට අවබෝධවන සේ කම්කරුවන් ජනතාවගේ ඇස් ඇරවිය යුතුය; වචන කෙරෙහි විශ්වාසයක් නොතබා, තමන්ගේම ශක්තිය කෙරෙහිද, තමන්ගේම සංවිධානය කෙරෙහිද, තමන්ගේම සමගිය කෙරෙහිද, තමන්ගේම ආයුධ කෙරෙහිද පමණක් විශ්වාසය තැබීමට ඔවුනට උගැන්විය යුතුය.

ඔක්තෝබර්වාදීන්ගේ සහ කැඩෙට්වරුන්ගේ, ගුච්කොව්ලාගේ සහ මිල්යුකොව්ලාගේ ආණ්ඩුව අවංක ලෙසම කැමති වුවත්, (ගුච්කොව් හා ල්වොව් අවංක යයි සිතිය හැක්කේ ළදරුවන්ට පමණකි) ජනතාවට සාමය වත්, පාන් වත්, නිදහස වත් දීමට පුළුවන් කමක් ඔවුනට නැත.

එය, යුද්ධ ආණ්ඩුවක් වන නිසා, අධිරාජ්‍යවාදී ඝාතනය නොනවත්වාම කරගෙන යාමේ ආණ්ඩුවක් වන නිසා, කොල්ල කෑමේ ආණ්ඩුවක් වන නිසා, එය අර්මේනියාව, ගැලීසියාව හා තුර්කිය කොල්ල කෑමත්, කොන්ස්තන්තිනෝපලය අල්ලා ගැනීමත්, පෝලන්තය, කුර්ලන්තය, ලිතුවේනියාව ආදිය නැවත දිනා ගැනීමත් සඳහා බලවත් ආශාවක් දක්වන නිසා, සාමය ලබා දීම එයට කළ නොහැකිය. එය ස්වකීය අත් පා ඉංග්‍රීසි — ප්‍රංශ ප්‍රාග්ධනයට බැඳුනු ආණ්ඩුවකි. රුසියානු ප්‍රාග්ධනය, හුදෙක්ම "එංගලන්තය හා ප්‍රංශය" නැමැති, රූබල් කෝටි — ප්‍රකෝටි ගණන් කපටි ලෙස මෙහෙයවන ලෝක ව්‍යාප්ත "සමාගමේ" ශාඛාවක් පමණකි.

එය ධනපති ආණ්ඩුවක් නිසා පාන් දීම එයට කළ නොහැකිය. එයට දිය හැකි හොඳම දෙය, ජර්මනියේ කර ඇති ලෙසට "දක්ෂ ලෙස සංවිධානය කළ දුර්භික්ෂය" වන්නේය. නමුත් ජනතාව දුර්භික්ෂය පිළි නොගනු ඇත. පාන් තිබෙන බවත්, එය ලබා ගත හැකි බවත්, එහෙත්, එය ලබා ගත හැක්කේ ප්‍රාග්ධනයේ හා ඉඩම් හිමි කමෙහි ශුද්ධත්වයට ගරු නොකරන ක්‍රමවලින් පමණක් බවත්, ඔවුන් ඉගෙන ගනු ඇත; සමහර විට ඉතා ඉක්මණින්ම ඔවුන් එය ඉගෙන ගනු ඇත.

එය ජනතාවට බිය වන ඉඩම්හිමි — ධනපති ආණ්ඩුවක් නිසා, එය දැනටමත් රොමානොව් රාජ වංශය සමග එකඟත්වයක් ඇති කර ගැනීමට පටන් ගෙන තිබෙන නිසා, නිදහස දීම එයට කළ නොහැක.

මෙම ආණ්ඩුව කෙරෙහි මේ අවස්ථාවේ අප දැක්විය යුතු ආකල්පය පිළිබඳ උපක්‍රමීය ප්‍රශ්න ගැන වෙනත් ලිපියකින් සලකා බලනු ලැබේ. විප්ලවයේ ප්‍රථම අවධියෙන් එහි දෙවැනි අවධිය දක්වා පරිවර්තනය වීමක් වන වර්තමාන තත්වයේ විශේෂතාවයන් ගැනද, මෙම අවස්ථාවේ සටන් පාඨය, ''දවසේ කර්තව්‍යය'' පහත සඳහන් පරිදි විය යුත්තේ මන්ද යන්න ගැනද එයින් පැහැදිලි කරන්නෙමු: කම්කරුවෙනි, සාර්වාදයට විරුද්ධව කරන ලද සිවිල් යුද්ධයේදී, ඔබ නිර්ධන පංති වීරත්වයේ, ජනතා වීරත්වයේ ප්‍රාතිහාර්යයන් පා ඇත්තෙහිය. විප්ලවයේ දෙවැනි අවධියේදී ඔබගේ ජයග්‍රහණය සඳහා මාර්ගය සකස් කරනු පිණිස, ඔබ සංවිධානයේ, නිර්ධන පංතිය හා මුළු ජනතාව සංවිධානය කිරීමේ, ප්‍රාතිහාර්යයන් පෑ යුතුය.

දැනට අපි, විප්ලවයේ මෙම අවධියේ පංති අරගලය සහ බල වේග තුලනය විශ්ලේෂණය කිරීමට සීමා වන නමුත්, මෙම ප්‍රශ්නය ඇසිය යුතුව ඇත්තෙමු: මෙම විප්ලවයේදී නිර්ධන පංතියේ මිතුරෝ කවරහුද?

එයට මිතුරෝ දෙදෙනෙක් සිටිති: ඉන් පළමුවැන්නා, අර්ධ නිර්ධන පංතිකයන් ගෙන් හා කුඩා ගොවිජනතාව ගෙන් කොටසකින් සැදි පුළුල් ජනතාවය. ඔවුහු සංඛ්‍යාවෙන් කෝටි ගණන් වන අතර රුසියාවේ ජනගහණයෙන් අති බහුතර කොටස වෙති. මෙම ජනතාවට, සාමය, පාන්, නිදහස හා ඉඩම් අත්‍යාවශ්‍යය. මෙම ජනකාය එක්තරා දුරකට ධනපති පංතියේ, විශේෂයෙන්ම සුළු ධනපති පංතියේ බලපෑමට යටත්ව සිටීම නොවැලැක්විය හැකිය. ධනපති පංතිය හා නිර්ධන පංතිය අතර එහා මෙහා වැනෙමින් සිටින මෙම ජන කොටස, එහි ජීවන තත්වයන් අනුව සුළු ධනපති පංතියට බොහෝ දුරට සමානය. යුද්ධයේ කෲරතර පාඩම් විසින් මෙම ජනකාය අනිවාරණීය වශයෙන්ම නිර්ධන පංතිය දෙසට තල්ලු කරනු හා නිර්ධන පංතිය අනුගමනය කරන ලෙස බලවත් ලෙස පොළඹවනු ලැබේ. ගුච්කොව්, ල්වොව්, මිල්යුකොව් සහ සහ සමාගම වඩාත් බලවත් ලෙස යුද්ධය කරගෙන ගිය තරමට එම පාඩම් වඩ වඩාත් කෲර වන්නේය. ප්‍රථමයෙන්ම හා අන් සියල්ලටම වඩා ප්‍රධාන වශයෙන්, මෙම ජනකායට කරුණු අවබෝධ කර දීම හා ඔවුන් සංවිධානය කිරීම සඳහා,නව පාලන ක්‍රමය යටතේ ඇති සාපේක්ෂ නිදහසෙන් හා කම්කරු නියෝජිතයන්ගේ සෝවියට් සභාවලින්, දැන් අපි ප්‍රයෝජන ගත යුත්තෙමු. අපගේ ඉතාමත් හදිසි කර්තව්‍යයන් අතුරෙන් එකක් වන්නේ ගොවිජන නියෝජිත සෝවියට් සභා සහ කෘෂිකාර්මික කම්කරු සෝවියට් සභා පිහිටුවීමය. මේ හා සම්බන්ධයෙන් වූ කල, කෘෂිකාර්මික කම්කරුවන්ගේ



සෝවියට් සභා වෙනම පිහිටුවා ගැනීමට ඔවුන් උනන්දු කිරීමට පමණක් නොව, දේපල නොමැති හා ඉතාමත් දුප්පත් ගොවීන් පොහොසත් ගොවීන්ගෙන් වෙන්ව, වෙනම සංවිධානය වන සේ යොමු කිරීමටද, ප්‍රයත්න දරන්නෙමු. වර්තමාන අවස්ථාවේදී ඉතාමත් අවශ්‍යව ඇති විශේෂ කර්තව්‍යයන් හා සංවිධාන ආකෘති ගැන ඊළඟ ලිපියෙන් සලකා බලමු.

රුසියානු නිර්ධන පංතියේ දෙවැනි මිතුරා, යුද්ධකාරී රටවල හා පොදු වශයෙන් සියළුම රටවල නිර්ධන පංතියය. මේ අවස්ථාවේදී මෙම මිතුරා බොහෝ දුරට යුද්ධයෙන් යට පත් වී සිටී. එමෙන්ම බොහොමයක්ම අවස්ථාවලදී යුරෝපීය සමාජ — ජාතෝන්මාදවාදීහු, එනම්, රුසියාවේ ප්ලෙහානොව්, ග්වොස්දියොව් සහ පොත්‍රෙසොව් වැනි ධනපති පංතියේ පැත්තට පැනගියවුහු, එම නිර්ධන පංතිය නමින් කථා කරති. නමුත් යුද්ධයේ සෑම මාසයක් පාසාම, නිර්ධන පංතිය ඔවුන්ගේ බලපෑමෙන් නිදහස් වීම, ප්‍රගතියෙන් ප්‍රගතියට පත්ව තිබේ. එසේම, මෙම ක්‍රියාදමය රුසියානු විප්ලවය නිසා අනිවාරණීය වශයෙන්ම මහත් සේ වේගවත් වනු ඇත.

නිර්ධන පංතිය මෙම මිතුරන් දෙදෙනාද සමග එක්ව, වර්තමාන පරිවර්තනීය තත්වයේ විශේෂතාවයන් උපයෝගී කර ගනිමින්, ගුච්කොව්, මිල්යුකොව් අර්ධ රාජාණ්ඩුව වෙනුවට සමූහාණ්ඩුවක් දිනාගැනීම සහ ඉඩම් හිමියන් පරදවා ගොවිජනතාව ලබන සම්පූර්ණ ජයග්‍රහණය දක්වා ප්‍රථමයෙන්ද, සමාජවාදය දක්වා ඊළඟටද, පෙරට යනු ඇත. යුද්ධයෙන් විඩාපත්ව සිටින ජනතාවට සාමය, පාන් හා නිදහස දීමට සමත් වන්නේ සමාජවාදය පමණකි.

එන්. ලෙනින්

1917 මාර්තු 7(20) දින ලියන ලදී.

ප්‍රථමයෙන් 1917 මාර්තු 21 සහ 22 දිනවල, ''ප්‍රව්ද'' අංක 14 සහ 15 හි සංක්ෂිප්ත ආකාරයෙන් පළ කරන ලදී.

ලෙනින්,එකතු කළ කෘති, හතර වැනි සංස්කරණය, වෙළුම 23 හි ප්‍රථම වරට සම්පූර්ණයෙන් පළ කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 1—22.

# වර්තමාන විප්ලවයේදී නිර්ධන පංතියට පැවරෙන කර්තව්‍යයන්

මා පෙට්‍රොගෑඩයට පැමිණියේ අප්‍රෙල් මස 3 වැනි දින රාත්‍රියේය. එනිසා අප්‍රෙල් 4 වැනි දින රැස්වීමේදී, විප්ලවවාදී නිර්ධන පංතියේ කර්තව්‍යයන් ගැන වාර්තාව මට ඉදිරිපත් කළ හැකිවූයේ මා වෙනුවෙන්ම පමණක් හා ප්‍රමාණවත් තරම් සූදනම් නොවීමේ අඩුපාඩුකම්වලට යටත්වය.

මට සහ අවංක ප්‍රතිපාක්ෂිකයන්ට කටයුතු පහසු වීම පිණිස මට කළ හැකි එකම දෙය වූයේ, මෙම ප්‍රවාද ලිඛිත වශයෙන් සකස් කිරීමය. මම ඒවා කියවා, ලේඛනය ට්සෙරතේලි සහෝදරයාට දුන්නෙමි. මම ඉතාමත් ලැසි ආකාරයෙන් ඒවා දෙවරක් කියෙව්වෙමි, ප්‍රථමයෙන් බොල්ෂෙවික් වරුන්ගේ රැස්වීමකද, ඊට පසුව බොල්ෂෙවික්වරු හා මෙන්ෂෙවික්වරු යන දෙපිරිසම සිටින රැස්වීමකද ඒවා කියෙව්වෙමි.

මම මගේ මෙම පෞද්ගලික ප්‍රවාද පළ කරන්නේ ඉතාමත් සංක්ෂිප්ත සටහන් පමණක් සහිතවය. වාර්තාව ඉදිරිපත් කිරීමේදී ඒවා ගැන ඉතාමත් විස්තර සහිත ලෙස කරුණු පැහැදිලි කරන ලදී.

## ප්‍රවාද

1. ල්වොව් සහ සමාගමේ නව ආණ්ඩුව ධනපති ස්වභාවයේ ආණ්ඩුවක් නිසා, එය යටතේ, රුසියාව විසින් කෙරෙන යුද්ධය නිසැක වශයෙන්ම කොල්ලකාරී යුද්ධයක්ම වන හෙයින්, අප යුද්ධය කෙරෙහි දක්වන ආකල්පයෙන් ''විප්ලවවාදී ආරක්ෂාවාදයට'' යම්තමින් හෝ ඉඩක් දීමට පුළුවන් කමක් නැත.

විප්ලවවාදී ආරක්ෂාවාදය ඇත්ත වශයෙන්ම සාධාරණ බව කියන විප්ලවවාදී යුද්ධයකට එකඟ වීමට, පංති විඥනය ඇති නිර්ධන පංතියට



හැකි වන්නේ මෙම කොන්දේසිවලට යටත්ව පමණකි: (අ) බලය නිර්ධන පංතියට හා නිර්ධන පංතිය සමග පෙරමුණු ගත වී සිටින ඉතාමත් දුප්පත් ගොවි ජනතා කොටස් අතට පත් විය යුතුය; (ආ) අල්ලා ගත් සියළුම රටවල් වචනයෙන් නොව ක්‍රියාවෙන් හැර දැමිය යුතුය; (ඇ) සියළුම ධනපති අවශ්‍යතාවයන් කෙරෙන් ඇත්ත වශයෙන්ම සම්පූර්ණයෙන්ම බිඳී වෙන් විය යුතුය.

රටවල් අල්ලා ගැනීමේ මාර්ගයක් වශයෙන් නොව, අවශ්‍යතාවයක් ලෙසට පමණක් යුද්ධය පිළිගෙන විප්ලවවාදී ආරක්ෂාවාදය කෙරෙහි පොදුවේ විශ්වාස තබන පුළුල් කොටස්වල අවංකභාවය ගැන සැකයක් නොමැති හෙයින්ද, ධනපති පංතිය විසින් ඔවුන් රවටනු ලබන හෙයින්ද, ඉතාමත් විස්තර සහිත ලෙස, අත් නොහැරම හා ඉවසීමෙන් යුතුව, ඔවුනට ඔවුන්ගේ වරද පැහැදිලි කර දීමත්, ප්‍රාග්ධනය හා අධිරාජ්‍යවාදී යුද්ධය අතර පවතින අභේද්‍ය සම්බන්ධය විස්තර කර දීමත්, ප්‍රාග්ධනය බලයෙන් පහ නොකර සහ සැබවින්ම ප්‍රජාතන්ත්‍රවාදී වූ සාමයකින් එනම් හිංසනය යොද ස්ථාපිත නොකරන සාමයකින්, යුද්ධය කිසිසේත් කෙළවර කළ නොහැකි බව ඔප්පු කිරීමත්, අවශ්‍ය වන්නේය.

මෙම අදහසට පක්ෂ ඉතාමත් පුළුල් ලෙස පැතිරී ගිය ප්‍රචාරක ව්‍යාපාරයක් යුද්ධ හමුද පෙරමුණෙහි සංවිධානය කළ යුතුය.

සහෝදරත්වය ගොඩ නැගීම.

2. රුසියාවේ වර්තමාන තත්වයේ විශේෂ අංග ලක්ෂණය වී තිබෙන්නේ, නිර්ධන පංතියේ පංති විඥනයේ හා සංවිධානාත්මක භාවයේ ඌනතාවය නිසා බලය ධනපති පංතිය අතට පත් කළ විප්ලවයේ ප්‍රථම අවධියේ සිට, බලය නිර්ධන පංතිය හා ඉතාමත් දුප්පත් ගොවි ජනතා කොටස් අතට පත් කළ යුතු, එහි දෙවැනි අවධියට රට සංක්‍රමණය වෙමින් තිබීමය.

එක් අතකින් නීතිමය වශයෙන් පිළිගත් උපරිම අයිතිවාසිකම් වලින්ද (ලෝකයේ යුද්ධකාරී රටවල් සියල්ලෙන්ම දැන් ඉතාමත් නිදහස් රට රුසියාවය), අනිත් අතින්, ජනතාව වෙත එල්ල කළ හිංසනයක් නොමැති වීමෙන්ද, අවසාන වශයෙන්, සමාජවාදයේ ඒ දරුණුම සතුරන් වන ධනපතියන්ගේ ආණ්ඩුව කෙරෙහි ජනතාව නොසිතා නොබලා තබන විශ්වාසයෙන්ද, මෙම පරිවර්තනයේ ස්වභාවය නිරූපනය වේ.

දේශපාලන ජීවිතයට අළුත පිබිදී එළඹුණු, පෙර නොවූ විරූ තරම් විශාල නිර්ධන පංතික ජනතා කොටස් අතර, පක්ෂ වැඩ කිරීමේ විශේෂ තත්වයන්ට ගැලපෙන සේ සකස්වීමේ හැකියා අපට තිබීම මෙම අමුතු තත්වය නිසා අවශ්‍ය වන්නේය.

3. තාවකාලික ආණ්ඩුවට ආධාර නොදිය යුතුය. එහි පොරොන්දු සියල්ලෙහිම, විශේෂයෙන්ම, අල්ලා ගත් රටවල් හැර දැමීම පිළිබඳ

පොරොන්දුවල අන්ත ව්‍යාජභාවය පැහැදිලි කළ යුතුය. ධනපතියන්ගේ ආණ්ඩුවක් වන මෙම ආණ්ඩුව, අධිරාජ්‍යවාදී ආණ්ඩුවක් නොවිය යුතු යයි කියන, මායා මත පතුරුවන ''ඉල්ලීම'' වෙනුවට, හෙළිදරව් කිරීම් කළ යුතුය.

4. කම්කරු නියෝජිත සෝවියට් සභා වැඩි කොටසකම අපගේ පක්ෂය අල්පතරය බවත්, පොදු ජන සමාජවාදීන්[14] හා සමාජවාදී — විප්ලවවාදීන්[15] පටන් සංවිධායක කාරක සභාව (චිහෙයිද්සේ ට්සෙරතෙලි ආදීන්), ස්තෙක්ලොව් ආදීන් දක්වා වන, ධනපති පංතියේ බලපෑමට යටත් වූ හා එම බලපෑම නිර්ධන පංතිය අතර පතුරුවන, සුළු ධනපති අවස්ථාවාදී කොටස් සියල්ලෙහිම පෙරමුණ හා සමග සසඳන කල එය තවමත් කුඩා අල්පතරයක් බවත්, පිළිගත යුත්තෙමු.

විප්ලවවාදී ආණ්ඩුවක එකම ආකෘතිය විය හැක්කේ කම්කරු නියෝජිත සෝවියට් සභා වන බව ජනතාවට පැහැදිලි කර දිය යුතුය. මෙම ආණ්ඩුව ධනපති පංතියේ බලපෑමට යටත්වන තාක් කල්, එම කොටස්වල උපක්‍රම වැරදි බව පෙන්වන පැහැදිලි කිරීමක් ඉවසිලිමත් ලෙස, ක්‍රමානුකූල ලෙස හා නොකඩවාම ඉදිරිපත් කිරීම, පොදු ජනතාවගේ ප්‍රායෝගික උවමනාවන්ට විශේෂයෙන්ම ගැලපෙන පැහැදිලි කිරීමක් ඉදිරිපත් කිරීම ඒ අනුව අපගේ කර්තව්‍යය වන්නේය.

අපි අල්පතරය වශයෙන් සිටින තාක් කල් අපි වැරදි විවේචනය කිරීමේ හා හෙළිදරව් කිරීමේ කටයුතු කරගෙන යන්නෙමු. ඒ අතරම, ජනතාවට ඔවුන්ගේ අත්දැකීම අනුව, ඔවුන්ගේ වැරදි ජය ගත හැකි වනු පිණිස, මුළු රාජ්‍ය බලයම කම්කරු සෝවියට් සභාවලට පවරාදීමේ අවශ්‍යතාවය ගැන අපිකියන්නෙමු.

5. පාර්ලිමේන්තු සමූහාණ්ඩුවක් නොව, රට මුළුල්ලේම සහ ඉහළ සිට පහල දක්වාම කම්කරු, කෘෂිකාර්මික ශ්‍රමකරු හා ගොවිජන නියෝජිත සෝවියට් සභා වලින් සමන්විත සමූහාණ්ඩුවකි. කම්කරු නියෝජිත සෝවියට් සභාවල සිට නැවත පාර්ලිමේන්තු සමූහාණ්ඩුවක් දක්වා යාම ප්‍රතික්‍රමණ පියවරක් වනු ඇත.

පොලිසිය, යුද්ධ හමුදාව සහ නිලධාරි පෙළැන්තිය අවලංගු කිරීම*.

සියළුම නිලධාරීන් තෝරා පත් කරනු ලබන අතර, ඕනෑම අවස්ථාවක ඔවුන් ඉවත් කිරීමට ඉඩ තිබේ. ඕනෑම නිලධාරියෙකු ලබන වැටුප් දක්ෂ කම්කරුවෙකු ලබන සාමාන්‍ය වැටුපට වැඩි නොවිය යුතුය.

---

* එනම් සථිර යුද්ධ හමුදාව වෙනුවට ජනතාව ආයුධ සන්නද්ධ කිරීම ආදේශ කිරීම.



6. කෘෂිකාර්මික වැඩ පිළිවෙළෙහි අවධාරණයේ බර කෘෂිකාර්මික ශ්‍රමකරු නියෝජිත සෝවියට් සභා කෙරෙහි යොමුවන සේ වෙනස් කිරීම.

සියළුම වතුකාර දේපල රාජසන්තක කිරීම.

රටේ සියළුම ඉඩම් ජනසතු කිරීම. ඉඩම් සම්බන්ධයෙන් සුදුසු පරිදි කටයුතු කිරීම සඳහා ඒවා කෘෂිකාර්මික ශ්‍රමකරු හා ගොවිජන නියෝජිතයන්ගේ සෝවියට් සභාවලට පැවරිය යුතු වේ. දුප්පත් ගොවිජන නියෝජිත සෝවියට් සභා වෙනම සංවිධානය කිරීම. කෘෂිකාර්මික ශ්‍රමකරු නියෝජිත සෝවියට් සභා පාලනය යටතේ සහ මහජනයාට මග පෙන්වීම සඳහා, සෑම විශාල වත්තකම (දෙස්යාටින් 100 සිට 300 දක්වා වන සහ ප්‍රාදේශීය හා වෙනත් තත්වයන්ට හා පළාත් පාලන මණ්ඩලවල තීරණවලට අනුකූල වන) ආදර්ශ ගොවිපලක් පිහිටුවීම.

7. රටේ තිබෙන සියළුම බැංකු එක බැංකුවක් වන සේ ඒකාබද්ධ කර, එය කම්කරු නියෝජිත සෝවියට් සභාවේ පාලනයට යටත් කිරීම.

8. සමාජවාදය ''ආරම්භ කිරීම'' අපගේ හදිසි කර්තව්‍යය නොවේ. අපගේ හදිසි කර්තව්‍යය වන්නේ සමාජ නිෂ්පාදනය සහ නිෂ්පාදිත භාණ්ඩ බෙදා හැරීම වහාම කම්කරු නියෝජිත සෝවියට් සභාවල පාලනය යටතට ගෙන ඒමය.

9. පක්ෂ කර්තව්‍යයන්:

අ) වහාම පක්ෂ සම්මේලනයක් රැස් කිරීම;

ආ) පක්ෂ වැඩ පිළිවෙළ වෙනස් කිරීම, ප්‍රධාන වශයෙන්:

1) අධිරාජ්‍යවාදය සහ අධිරාජ්‍යවාදී යුද්ධය ගැන;

2) රාජ්‍ය කෙරෙහි දක්වන ආකල්පය සහ ''කොමියුන රාජ්‍යයක්''* පිළිබඳ අපගේ ඉල්ලීම ගැන; වැඩ පිළිවෙළ වෙනස් කිරීම හා

3) අපගේ යල් පැන ගිය අවම වැඩ පිළිවෙළ වෙනස් කිරීම.

ඇ) පක්ෂයේ නම වෙනස් කිරීම.**

10. අළුත් ජාත්‍යන්තරයක්.

විප්ලවවාදී ජාත්‍යන්තරයක්, සමාජ — ජාතෝන්මාදවාදීන්ට විරුද්ධ හා ''මැද සිටින අයට''* විරුද්ධ ජාත්‍යන්තරයක් පිහිටුවීම සඳහා ක්‍රියාරම්භකත්වය ගෙන අපි කටයුතු කළ යුත්තෙමු.

---

* එනම්, පැරිස් කොමියුනය[16] මුල් ආදර්ශය කොටගත් රාජ්‍යයක්.

** ලෝකය මුළුල්ලේම ''සමාජ — ප්‍රජාතන්ත්‍රවාදයේ'' නිල නායකයන් (''ආරක්ෂාවාදීන්'' හා වැනෙන සුලු ''කෞට්ස්කිවාදීන්'') සමාජවාදය පාවාදී ධනපති පංතිය පැත්තට පැන ගොස් ඇති නිසා, ''සමාජ—ප්‍රජාතන්ත්‍රවාදය'' වෙනුවට කොමියුනිස්ට් පක්ෂය යනුවෙන් අප නම් තබා ගත යුත්තෙමු.

* ජාත්‍යන්තර සමාජ — ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ ''මැද සිටින අය'' වන්නේ ජාතෝන්මාදවාදීන් (-ආරක්ෂාවාදීන්) හා ජාත්‍යන්තරවාදීන්

අවංක ප්‍රතිපාක්ෂිකයන් සිටීමේ ''අවස්ථාව'' ගැන, දුර්ලභ විශේෂත්වයන් වශයෙන් සඳහන් කිරීමට මට සිදුවූයේ මන්ද යන්න පාඨකයාට අවබෝධ වනු පිණිස, ඉහත දැක්වුනු ප්‍රවාද, ගෝල්ඩන්බර්ග් මහතා ඉදිරිපත් කරන පහත සඳහන් විරෝධය සමග සසඳා බලන ලෙස ආරාධනා කරමි: ''විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රය මධ්‍යයේ'' ලෙනින් ''සිවිල් යුද්ධයේ ධජය සිටුවා ඇතැ'' යි ඔහු කීවේය. (උපුටා දක්වා ඇත්තේ ප්ලෙහානොව්ගේ ''යෙදින්ස්ත්ව''[17] අංක 5 කලාපයෙහිය).

මෙය මාණික්‍යයක් නොවේද?

මා ලියන්නේ, ප්‍රකාශ කරන්නේ හා විස්තර සහිතව පැහැදිලි කරන්නේ මෙසේය: ''විප්ලවවාදී ආරක්ෂාවාදයේ පොදු නියෝජිතයින්ගේ පුළුල් කොටස්වල අවංකභාවය ගැන සැකයක් නොමැති හෙයින්ද, ධනපති පංතිය විසින් ඔවුන් රවටනු ලබන හෙයින්ද, ඉතාමත් විස්තර සහිත ලෙස, අත් නොහැරම හා ඉවසීමෙන් යුතුව, ඔවුනට ඔවුන්ගේ වරද පැහැදිලි කර දීමත් ...''.

එහෙත්, තමන් සමාජ — ප්‍රජාතන්ත්‍රවාදීන් යයි කියාගන්නා, එසේම පුළුල් කොටස් හෝ ආරක්ෂාවාදයේ පොදු නියෝජිතයන් කෙරෙහි විශ්වාසය තබන්නන්ට අයත් නොවන, ධනපති මහත්වරු උපශාන්ත මුහුණක් පෙන්වමින් මගේ අදහස මෙසේ ඉදිරිපත් කරති: ''විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රය මධ්‍යයේ (!!) සිවිල් යුද්ධයේ'' (ඒ ගැන වචන මාත්‍රයක්වත් ප්‍රවාදවල හෝ මගේ කථාවෙහි හෝ නොවීය!) ''ධජය (!) සිටුවා ඇත (!)...''

මෙයින් අදහස් වන්නේ කුමක්ද? ''රුස්කයා වෝලිය''[18] පත්‍රයේ කෝලාහල අවුලුවන උද්ඝෝෂණයට වඩා මෙය වෙනස්වන්නේ මොන ආකාරයෙන්ද?

මා ලියන්නේ, ප්‍රකාශ කරන්නේ හා විස්තර සහිතව පැහැදිලි කරන්නේ මෙසේය: ''විප්ලවවාදී ආණ්ඩුවක එකම ආකෘතිය විය හැක්කේ කම්කරු නියෝජිත සෝවියට් සභා වන බව ජනතාවට පැහැදිලි කර දිය යුතුය. ඒ අනුව එම කොටස්වල උපක්‍රම වැරදි බව පෙන්වන පැහැදිලි කිරීමක් ඉවසිලිමත් ලෙස, ක්‍රමානුකූල ලෙස හා නොකඩවාම ඉදිරිපත් කිරීම, පොදු ජනතාවගේ ප්‍රායෝගික උවමනාවන්ට විශේෂයෙන්ම ගැලපෙන පැහැදිලි කිරීමක් ඉදිරිපත් කිරීම, අපගේ කර්තව්‍යය වන්නේය...''

---

අතර එහා මෙහා වැනෙමින් සිටීමේ උපනතියය. ජර්මනියේ කෞට්ස්කි සහ සමාගම, ප්‍රංශයේ ලොංගේ සහ සමාගම, රුසියාවේ චිහෙයිද්සේ සහ සමාගම, ඉතාලියේ තුරාටි සහ සමාගම, බ්‍රිතාන්‍යයේ මැක්ඩොනල්ඩ් සහ සමාගම යනාදීන් ඊට අයත් විය.



නමුත් එක්තරා වර්ගයක ප්‍රතිපාක්ෂිකයෝ ''විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රය මධ්‍යයේ සිවිල් යුද්ධය'' ඉල්ලා සිටීමක් ලෙසට මගේ අදහස් ඉදිරිපත් කරති.

ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවීම සඳහා ළඟ දිනයක්, නැතහොත් ඒ සඳහා කිසිම දිනයක් නියම නොකිරීම ගැන හා පොරොන්දු වලට පමණක් සීමා වී සිටීම ගැන, මම තාවකාලික ආණ්ඩුවට පහර දුන්නෙමි. කම්කරු සහ සොල්දදු සෝවියට් සභා නොමැතිව, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවීම හෝ එහි සාර්ථකත්වය හෝ සහතික නොවන බව කියමින් මම තර්ක කෙළෙමි.

එවිට මා ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවීමට විරුද්ධ වන්නේය යන අදහස මගේ කර පිට දමනු ලැබේ!!!

ප්‍රතිපාක්ෂිකයන්ගේ අවංකභාවය දුර්ලභ විශේෂතාවයක් ලෙස සැලකීමට මා දශක ගණන් කළ දේශපාලන අරගලයෙන් උගෙන ගෙන නොතිබුණේ නම්, මෙය ''විකාර දෙඩවිල්ලක්'' ලෙස විස්තර කිරීමට මා පෙළඹෙන්නට තිබිණි.

මගේ කථාව ''විකාර දෙඩවිල්ලක්'' යයි ප්ලෙහානොව් මහතා ඔහුගේ පත්‍රයෙන් කීවේය. බොහොම හොඳයි, ප්ලෙහානොව් මහතාණෙනි! නමුත් විවාදයෙහි දී ඔබ කොතරම් නම් නුහුරු කමක්, අදක්ෂ කමක් හා අඥාන කමක් දක්වන්නේදැයි බලන්න. මා පැය දෙකක් තිස්සේ විකාර කථාවක් කළේ නම්, සිය ගණනක් වූ සභාවේ සිටි අය එවැනි ''විකාර කථා'' ඉවසා සිටියේ කෙසේද? එපමණක් නොව එම ''විකාර කථාව'' ගැන විස්තර කිරීමට ඔබගේ පත්‍රයේ මුළු තීරුවක්ම මිඩංගු කර ඇත්තේ කෙසේද? නොගැලපෙන සුලුය, ඉතාමත් නොගැලපෙන සුලුය!

පැරිස් කොමියුනයේ අත් දැකීම්[19] ගැන හා නිර්ධන පංතියට අවශ්‍ය වන්නේ කුමණ වර්ගයේ රාජ්‍යයක්ද යන්න ගැන, 1871 දී, 1872 දී හා 1875 දී මාක්ස් හා එංගල්ස් කීයේ කුමක්ද යනු විස්තර කිරීමට, පැහැදිලි කිරීමට හා මතක් කිරීමට වඩා සෝෂා පැවැත්වීම, බැන වැදීම හා මොරදීම බොහෝ පහසු බව ඇත්තය.

හිටපු මාක්ස්වාදී ප්ලෙහානොව්, මාක්ස්වාදය ගැන මතක් කිරීමට උනන්දුවක් නොදක්වන බව පෙනේ.

ජර්මන් සමාජ — ප්‍රජාතන්ත්‍රවාදය ''දුගඳ හමන මළ සිරුරකැ'' යි 1914 අගෝස්තු 4 දින කී රෝසා ලුක්සෙම්බර්ග්ගේ වචන, මවිසින් උපුටා දක්වන ලදී. එවිට ප්ලෙහානොව්ලා, ගෝල්ඩන්බර්ග්ලා සහ සමාගම ''උරණ'' විය. ඒ කවුරු වෙනුවෙන්ද? ඔවුන් උරණ වන්නේ ජර්මන් ජාත්‍යෝන්මාදවාදීන් වෙනුවෙනි; ඔවුන් ජාත්‍යෝන්මාදවාදීන් යයි කියන ලද නිසාය!

මෙම අසරණ රුසියානු සමාජ — ජාතොන්මාදවාදීන්, එනම්, වචනයෙන් සමාජවාදීන් හා ක්‍රියාවෙන් ජාතොන්මාදවාදීන් වැටී සිටින්නේ අවුලකටය.

1917 අප්‍රේල් 4 හා 5 (17 හා 18) ලියන ලදී.

1917 අප්‍රේල් 7 දින ප්‍රව්ද අංක 26 හි පළ කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 113-118

# ද්විත්ව බලය

සෑම විප්ලවයකම මූලික ප්‍රශ්නය වන්නේ රාජ්‍ය බලය පිළිබඳ ප්‍රශ්නයය. මෙය වටහා නොගත හොත්, විප්ලවයට මග පෙන්වීම තබා, විප්ලවයට බුද්ධිමත් ලෙස සහභාගිවීමක් පවා සිදු විය නොහැක.

අපගේ විප්ලවයේ ඉතාමත් සුවිශේෂ අංග ලක්ෂණය, එයින් ද්විත්ව බලයක් ඇති වී තිබීමය. මෙම කරුණ මුලින්ම හා ප්‍රධාන වශයෙන්ම අවබෝධ කර ගත යුතුය. එය වටහා නොගත හොත් අපට ඉදිරියට යාමට නොහැකිය. පැරණි ''සූත්‍ර'', නිදර්ශනයක් ලෙසට බොල්ෂෙවික්වාදයේ සූත්‍ර, ඌන පූරණය කරන්නේ හා සංශෝධනය කරන්නේ කෙසේද යන්න අපි දැනගත යුත්තෙමු. එසේ කළ යුත්තේ, එම සූත්‍ර සමස්තයක් වශයෙන් නිවැරදි බව පෙනී ගොස් ඇති අතර, ඒවායේ නියත ඉටුවීම වෙනස් ආකාරයකින් සිදුවී ඇති බැවිනි. කිසිවෙක් කල් තබා ද්විත්ව බලයක් ගැන සිතුවේ හෝ කිසිවෙකුට ඒ ගැන සිතන්නට ඉඩක් තිබුණේ හෝ නැත.

මෙම ද්විත්ව බලය යනු කුමක්ද? ධනපති පංතියේ ආණ්ඩුව වන තාවකාලික ආණ්ඩුව සමග එක පෙළට සිටින සේ තවත් ආණ්ඩුවක් උද්ගත වී තිබේ. එය මේ දක්වා දුර්වල හා ළදරු තත්වයේ පවතින නමුත්, නිසැක වශයෙන්ම ආණ්ඩුවක් වන්නේය. එය ඇත්ත වශයෙන්ම පවතින අතර, වර්ධනය වන්නේය. එය නම් කම්කරු හා සොල්දාදු නියෝජිත සෝවියට් සභාය.

මෙම අනිත් ආණ්ඩුවේ පංති සංයුතිය කෙබඳුද? එය නිර්ධන පංතියෙන් හා (සොල්දාදු නිල ඇඳුම් ලාගත්) ගොවි ජනයාගෙන් සමන්විත වේ. මෙම ආණ්ඩුවේ දේශපාලන ස්වභාවය කුමක්ද? එය විප්ලවවාදී ආඥාදායකත්වයකි. එනම්, එය විප්ලවවාදී ලෙස අල්වා ගැනීම මත, ජනතාව පහළින් එක එල්ලේ පාන ක්‍රියාරම්භකත්වය පදනම් කරගත්, එමෙන්ම, මධ්‍යගත රාජ්‍ය බලයක් විසින් පනවන ලද නීතියක් මත පදනම්

නොවූ බලයකි. එය යුරෝපයේ හා ඇමෙරිකාවේ දියුණු රටවල තවමත් පවතින සුපුරුදු වර්ගයේ වන ධනපති ප්‍රජාතන්ත්‍රවාදී පාර්ලිමේන්තු සමූහාණ්ඩුවල සාමාන්‍ය වශයෙන් දක්නට ලැබෙන බලයට වඩා හාත් පසින්ම වෙනස් වර්ගයේ බලයකි. මෙම කාරණය බොහෝ විට නොසලකා හරිනු ලැබේ. ඒ ගැන ප්‍රමාණවත් තරම් සිතා බලනු නොලැබේ. එහෙත්, කාරණයෙහි ගැටළුව ඇත්තේද එහිය. මෙම බලය, 1871 පැරිස් කොමියුනය වර්ගයේම බලයකි. මෙම වර්ගයේ මූලික ස්වභාව ලක්ෂණ මෙසේය: 1) බලය ප්‍රභව වන්නේ කලින් සාකච්ඡා කරන ලද හා පාර්ලිමේන්තුවෙන් පනවන ලද නීතියකින් නොව, ජනතාව ඔවුන් වෙසෙන පෙදෙස්වල සිට පහළින් පාන ක්‍රියාරම්භකත්වයෙනි, ව්‍යවහාරික වදනක් යොදතොත්, කෙළින්ම අල්ලා ගැනීම තුලිනි; 2) ජනතාවගෙන් ඈත්ව පවතින හා ජනතාවට විරුද්ධව සිටුවා තිබෙන පොලිසිය හා යුද්ධ හමුදාව වෙනුවට මුළු ජනතාවම කෙළින්ම ආයුධ සන්නද්ධ කිරීම ආදේශ කිරීම. එවැනි බලයක් යටතේ රාජ්‍යයේ සාමය පවත්වා ගනු ලබන්නේ ආයුධ සන්නද්ධ කම්කරුවන්ම හා ගොවිජනතාවම විසිනි,3) නිල බලය වෙනුවට, නිලධාරි පෙළැන්තිය වෙනුවට, එක්කෝ ඍජු ජනතා පාලනය එසේම ක්‍රියාත්මක කරනු ලැබේ. එසේ නැතහොත් යටත් පිරිසෙයින් විශේෂ පාලනයක් යටතේ හෝ තබනු ලැබේ. නිලධාරීන් තෝරා පත් කරනු ලබන අතරම, ජනතාවගේ ප්‍රථම ඉල්ලීමෙන්ම ඔවුන් ඉවත් කිරීමට යටත් කරනු ලැබේ. ඔවුන් හුදු ඒජන්ත වරුන්ගේ තත්වයට හෙළනු ලැබේ. ධනපති පංතික ඉහළ වැටුප් ක්‍රමයක් අනුව පඩිනඩි ලබන ''රක්ෂා'' අත් කරගෙන සිටින වරප්‍රසාද හිමි කණ්ඩායමක තත්වයේ සිට ඔවුහු දක්ෂ කම්කරුවාගේ සාමාන්‍ය වැටුපට වඩා ගෙවීමක් නොලබන ''සේවාවේ'' විශේෂ ''අංශයක'' කම්කරුවන් බවට පත් වෙති.

තවද, රාජ්‍ය ආකෘතියක් වශයෙන් පැරිස් කොමියුනයේ හරය සංයුක්ත වන්නේ ඉඳුරාම මෙයින්ය. ප්ලෙහානව්ලාද (මාක්ස්වාදයට ද්‍රෝහි වූ ඒකාන්ත ජාතෝන්මාදවාදීන්), කෞට්ස්කිලාද (''මැද සිටින අය'', එනම්, ජාතෝන්මාදවාදය හා මාක්ස්වාදය අතර එහා මෙහා වැනෙන අය), සාමාන්‍ය වශයෙන් දැනට බලවතුන් වී සිටින ඒ සමාජ — ප්‍රජාතන්ත්‍රවාදීන්, සමාජවාදී — විප්ලවවාදීන් ආදී වූ සියළු දෙනාද, මෙම හරය අමතක කර ඇත, නැතහොත්, එය විකෘති කර ඇත.

හිස් වාක්‍ය ඛණ්ඩ, මඟ හැරීම් හා උපාමාරු යොද ගනිමින් ගැලවී යාමට ඔවුහු උත්සාහ දරති. විප්ලවය ගැන ඔවුන් එකිනෙකාට දහස් වාරයක් ප්‍රශංසා කරගන්නා නමුත්, ඔවුහු කම්කරු හා සොල්දදු නියෝජිත සෝවියට් සභා යනු මොනවාදැයි යන්න සලකා බැලීම ප්‍රතික්ෂේප කරති. සෝවියට් සභා පවතින තාක්, රුසියාවේ අපට පැරිස් කොමියුනය වර්ගයේ රාජ්‍යයක් තිබෙන බවට ඇස් පනා පිට පෙනෙන සත්‍ය පිළිගැනීම ඔවුහු ප්‍රතික්ෂේප කරති.

එය තවමත් ළදරු රාජ්‍ය බලයක් නිසා මම ''තාක්'' යන්න අවධාරණය කෙළෙමි. ධනපති තාවකාලික ආණ්ඩුව සමග කෙළින්ම එකඟත්වයක් ඇති කර ගැනීමෙන්ද, නියත පහසුකම් මාලාවක් දීමෙන්ද, එයම එහි බලතල ධනපති පංතියට යටත් කර ඇත; එසේම යටත් කරමින් සිටින්නේය.

ඒ මන්ද? එයට හේතුව චෙහෙයිද්සේ, ට්සෙරතේලි, ස්තෙක්ලොව් සමාගමට වැරදීමක් සිදුවීද්ම? එසේ සිතීම විකාරයකි. එසේ සිතන්නට හැක්කේ අමනයෙකුට පමණකි. මාක්ස්වාදියෙකුට එය කළ නොහැකිය. එසේ සිදුවීමට හේතු වී ඇත්තේ නිර්ධන පංතිකයන්ගේ සහ ගොවි ජනතාවගේ පංති විඥනය හා සංවිධානය ප්‍රමාණවත් නොවීමය. මා සඳහන් කළ නායකයන්ගේ වරද තිබෙන්නේ ඔවුන් දරන සුළු ධනපති ප්‍රතිෂ්ඨාව තුළය; කම්කරුවන්ගේ මනැස පෑදීම වෙනුවට එය අඳුරු කිරීම තුළය. සුළු ධනපති මායා මත දුරු කරනු වෙනුවට ඔවුහු ඒවා කාවද්දති. ජනතාව ධනපති බලපෑමෙන් නිදහස් කරනවා වෙනුවට, ඔවුහු එම බලපෑම ශක්තිමත් කරති.

තාවකාලික ආණ්ඩුව වහාම පෙරළා දැමිය යුතුද? යන ප්‍රශ්න ''සරල'' ලෙසට මතු කිරීමේදී අපගේ සහෝදරවරු එතරම් වැරදි කරන්නේ මන්ද යන්න මෙයින් පැහැදිලි විය යුතුය.

මගේ පිළිතුර මෙයයි: 1) එය කතිපයාධිපති, ධනපති ආණ්ඩුවක් වන නිසාද, ජනතාවගේ ආණ්ඩුවක් නොවන නිසාද, සාමය, පාන් හෝ සම්පූර්ණ නිදහස දීම එයට කළ නොහැකි නිසාද, එය පෙරළා දැමිය යුත්තේය. 2) එය බලයේ රඳවා තිබෙන්නේ කම්කරු නියෝජිත සෝවියට් සභාවල, පළමුවෙන්ම, ප්‍රධාන සෝවියට් සභාවේ, පෙත්‍රොගෑඩ් සෝවියට් සභාවේ ඍජු සහ වක්‍ර, විධිමත් හා සත්‍යමය එකඟතාවයක් විසින් වන නිසා, එය දැන්ම පෙරළා දැමිය නොහැකිය. 3) එය රැඳී පවත්නේ, දෙවැනි ආණ්ඩුව වන කම්කරු නියෝජිත සෝවියට් සභාවල ''ආධාරය'' මත වන නිසාද, කම්කරු හා ගොවි ජනතා බහුතරයෙහි අදහස් හා කැමැත්ත එක එල්ලේ පළ කරන ස්වභාවයෙන් පැවතිය හැකි එකම විප්ලවවාදී ආණ්ඩුව එම කම්කරු නියෝජිත සෝවියට් සභා නිසාද, පොදු වශයෙන් ගත් කල සාමාන්‍ය ආකාරයෙන් එය ''පෙරළා දැමිය'' නොහැකිය. කම්කරුවන්ගේ, කෘෂිකාර්මික ශ්‍රමකරුවන්ගේ, ගොවි ජනයාගේ හා සොල්දදුවන්ගේ නියෝජිත සෝවියට් සභාවලට වඩා උසස් හා ඊට වඩා හොඳ ආණ්ඩු ආකෘතියක්, මිනිස් වර්ගයා තවමත් පරිණාම කොට ගෙන නැත; අපි තවමත් එවැන්නක් ගැන නොදන්නෙමු.

පංති විඥනය ඇති කම්කරුවන් බලයක් බවට පත් වීමට නම්, ඔවුන්, ඔවුන්ගේ පැත්තට බහුතරය දිනාගත යුතුය. ජනතාවට විරුද්ධව හිංසනය නොයොදනු ලබන තාක් කල් බලය ලබා ගැනීමට වෙනත් මාර්ගයක් නොමැත. අපි බ්ලැන්කිවාදීන්[20] නොවෙමු. සුළු පිරිසක් විසින් බලය අල්ලා ගැනීමක් වෙනුවෙන් අපි පෙනී නොසිටිමු. අපි මාක්ස්වාදීන් වෙමු. අප පෙනී සිටින්නේ, සුළු ධනපති මත් ගතියට විරුද්ධවද ජාතෝන්මාදවාදයට — ආරක්ෂාවාදයට, වදන් හරඹයට හා ධනපති පංතිය කෙරෙන් යැපීමට විරුද්ධවද, නිර්ධන පංතියේ පංති අරගලයට පක්ෂවද වේ.

අපි නිර්ධන පංති කොමියුනිස්ට් පක්ෂයක් ඇති කරමු. බොල්ශෙවික්වාදයේ හොඳම අනුගාමිකයින් දැනටමත් එහි මූලිකාංගයන් ඇති කර තිබේ. නිර්ධන පංතික පංති කටයුතු සඳහා අප අපගේ පිරිස් එකතු කරමු. එවිට නිර්ධන පංතිකයන් අතුරෙන් හා ඉතාමත් දුප්පත් ගොවි ජනයින් අතුරෙන් තව තවත් විශාල සංඛ්‍යාවන් අප පැත්තට එක් රොක් වනු ඇත. එසේ වන්නේ, සැබෑ අත්දැකීම් විසින් ඒ ''සමාජ — ප්‍රජාතන්ත්‍රවාදීන්'' ගේ, චිහෙයිද්සේලාගේ, ට්සෙරතෙලිලාගේ, ස්තෙක්ලොව්ලාගේද, ''සමාජවාදී — විප්ලවවාදීන්'', ඊටත් වඩා ඇල්මැරුණු සුළු ධනපතියන්, ආදීවූ අනෙකුත් අයගේද, සුළු ධනපති මායා මත දිනෙන් දිනම සුනු විසුනු කෙරෙනු ඇති හෙයිනි.

ධනපති පංතිය කටයුතු කරන්නේ, නොඉබෙදූ, තනි බලය ධනපති පංතියට ලබා ගැනීම සඳහාය.

පංති විඥනය ඇති කම්කරුවන් කටයුතු කරන්නේ කම්කරු, කෘෂිකාර්මික ශ්‍රමකරු, ගොවිජන හා සොල්දදු නියෝජිත සෝවියට් සභාවලට නොබෙදූ තනි බලය ලබා ගැනීම සඳහාය. එනම්, අතිධාවනකාරී ක්‍රියා මගින් නොව, නිර්ධන පංති සිත් සතන් පිරිසිදු කිරීමෙන්, නිර්ධන පංතිකයන් ධනපති බලපෑමෙන් නිදහස් කර ගැනීම මගින් ලබා ගන්නා තනි බලය සඳහාය.

සුළු ධනපති පංතිකයෝ, එනම්, ''සමාජ — ප්‍රජාතන්ත්‍රවාදීහු'', ''සමාජවාදී — විප්ලවවාදීහු'' යනාදී පිරිස් එහා මෙහා වැනෙමින් සිටිති. එනිසා ඔවුහු මෙම පිරිසිදු කිරීමට හා නිදහස් කර ගැනීමට බාධා කාරී වෙති.

අපගේ කර්තව්‍යයන් නිර්ණය කරන පංති බලවේග පෙළ ගැසී ඇත්තේ මේ ලෙසටය.

''ප්‍රාව්ද අංක 28, 1917 අප්‍රේල් 9

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 145-148

# අපගේ විප්ලවයේදී නිර්ධන පංතියට පැවරෙන කර්තව්‍යයන්

## (නිර්ධන පංති පක්ෂය සඳහා කෙටුම්පත් වැඩ පිළිවෙළ)

**රුසියාව දැනට පසු කරමින් සිටින ඓතිහාසික අවස්ථාව කෙරෙහි පහත සඳහන් ස්වභාව ලක්ෂණ දක්නා ලබේ.**

### සිදුවී තිබෙන විප්ලවයෙහි පංති ස්වභාවය

**1. මුළු රාජ්‍ය යන්ත්‍රයම (යුද්ධ හමුදව, පොලිසිය හා නිලධාරි පෙළැන්තිය) පාලනය කළ වැඩවසම්වාදී ඉඩම් හිමියන් අතලොස්සක් පමණක් නියෝජනය කළ පැරණි සාර්වාදී බලය පෙරළා දමා, ඉවත් කර දමා ඇති නමුත්, එය සම්පූර්ණයෙන්ම විනාශ කර නැත. රාජාණ්ඩුව විධිමත් ලෙස විසුරුවා හැර නැත. රොමානොව් කල්ලිය කූට කුමන්ත්‍රණ කිරීමෙහි යෙදී සිටී. වැඩවසම්වාදී ගම් අධිපති පංතියට අයත් ඉඩම් සම්බන්ධයෙන් ඇති ඔවුන්ගේ හිමිකම අවලංගු කර නොමැත.**

**2. රුසියාවේ රාජ්‍ය බලය නව පංතියක් අතට, එනම්, ධනපතියන් හා ධනපතියන් බවට පත් ඉඩම් හිමියන් අතට පත්ව ඇත. මේ තාක් දුරට රුසියාවේ ධනපති — ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සම්පූර්ණ වී තිබේ.**

**බලයට පත්වීමෙන් පසුව ධනපති පංතිය, ප්‍රකට රාජාණ්ඩුවාදීන් සමග, එනම්, ලේ තැවරුණු නිකොලායිට හා 1906-1914 කාලයේ අලුගෝසුවා වූ ස්තලිපින්ට (කැඩෙට්වරුන්ට වඩා දකුණෙන් සිටි ගුච්කොව් හා වෙනත් දේශපාලනඥයන්ට) ඉතාමත් ප්‍රබල ලෙස ආධාර දීම නිසා අපකීර්තියට පත් රාජාණ්ඩුවාදීන් සමග පෙරමුණක් (සන්ධානයක්) ඇති කරගෙන තිබේ. ල්වොව් සහ සමාගමේ අළුත් ධනපති ආණ්ඩුව රුසියාවේ**

4. එනිසා, විදේශ ප්‍රතිපත්තිය පිළිබඳ ක්ෂේත්‍රයේදී, මෙම ආණ්ඩුව අල්ප මාත්‍ර හෝ විශ්වාසයට වුවද තරම් නොවේ. එපමණක්ද නොව, එය, සාමය සඳහා වූ ජනතා කැමැත්ත ප්‍රකාශයට පත් කළ යුතු යයිද, අල්ලාගෙන තිබෙන රටවල් අත්හැරිය යුතුයයිද, යනාදී වශයෙන් දිගටම ඉල්ලා සිටීමෙන් කෙරෙන්නේත්, ව්‍යවහාරයේදී හුදෙක්ම ජනතාව රැවටීමය; ඔවුන් තුළ ව්‍යාජ බලාපොරොත්තු ඇති කිරීමය; ඔවුන්ගේ මනැස පැහැදිලි වීමට බාධා කිරීමය. එසේ කිරීමෙහි අර්ථය වන්නේ, දැහැමි අපේක්ෂාවන් අනුව නොව, යුද්ධය කරන ආණ්ඩුවේ පංති ස්වභාවය අනුව, මෙම ආණ්ඩුවත්, රුසියාවේ, බ්‍රිතාන්‍යයේ, ප්‍රංශයේ යනාදී රටවල අධිරාජ්‍යවාදී මූල්‍ය ධනයත් අතර පවතින සම්බන්ධය අනුව, එම පංතිය අනුගමනය කරන නියම හා සත්‍යමය ප්‍රතිපත්තිය අනුව තීරණය වන, නියම සමාජ ස්වභාවය සහිත යුද්ධයකට ජනතාව වක්‍රෝක්තියෙන් එකඟ කරවීමය.

---

## ද්විත්ව බලයෙහි විශේෂ ස්වභාවය හා එහි පංති අර්ථය

5. අපගේ විප්ලවයේ ප්‍රධාන අංග ලක්ෂණය වන්නේත්, අනිවාර්යයෙන්ම ඉතාමත් කල්පනාකාරී ලෙස සලකා බැලිය යුතු අංග ලක්ෂණයක් වන්නේත්, විප්ලවයේ විජයග්‍රහණයෙන් පසු ප්‍රථම දිනවලදී උද්ගත වූ ද්විත්ව බලයය.

ද්විත්ව බලයක් පවතින බව පෙනෙන්නේ ආණ්ඩු දෙකක් පැවතීමෙනි: එයින් එකක්, ධනපති පංතියේ ප්‍රධාන, නියම හා සැබෑමය ආණ්ඩුව වන සියළුම බලධාරී ආයතන හිමි කර ගෙන සිටින ල්වොව් සහ සමාගමේ ''තාවකාලික ආණ්ඩුව'' ය. අනික අතිරේක සහ සමාන්තර ආණ්ඩුවකි. එය, රාජ්‍ය බල ආයතන කිසිවක් හිමි නැති, එහෙත්, පැහැදිලි ලෙසම හා විවාද රහිත ලෙසම ජනතා බහුතරයේ සහයෝගය මත, ආයුධ සන්නද්ධ කම්කරුවන්ගේ සහ සොල්දාදුවන්ගේ සහයෝගය මත රැඳී පවතින, පෙට්‍රොග්‍රෑඩ් කම්කරු සහ සොල්දාදු නියෝජිත සෝවියට් සභාවේ ස්වරූපය ගත් ''හැසිරවීමේ'' ආණ්ඩුවකි.

මෙම ද්විත්ව බලයේ පංති මූලය හා පංති අර්ථය පහත සඳහන් පරිදිය 1917 මාර්තු රුසියානු විප්ලවය මුළු සාර්වාදී රාජාණ්ඩුවම අතුගා දැමීමෙන් පමණක් හෝ, මුළු බලයම ධනපති පංතියට පවරා දීමෙන් පමණක් හෝ නොනැවතී, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ විප්ලවවාදී — ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වයට ආසන්න වන තෙක්ම ඒ දෙසට ගමන් කළේය. පෙට්‍රොග්‍රෑඩ් සහ අනෙකුත් ප්‍රාදේශීය සෝවියට් සභාවලින් සංයුක්ත වන්නේ එවැනි ආඥාදායකත්වයකි (එනම් නීතිය මත නොව, ආයුධ සන්නද්ධ පොදු ජනතා කොටස්වල ශක්තිය මත රැඳුනු බලයකි). එය නියත වශයෙන්ම ඉහත සඳහන් පංතිවල ආඥාදායකත්වයකි.

6. රුසියානු විප්ලවයේ ඉතාම වැදගත් දෙවැනි අංග ලක්ෂණය වන්නේ, සෑම කරුණකින්ම පෙනෙන පරිදි, ප්‍රාදේශීය සෝවියට් සභා වැඩි කොටසකම විශ්වාසය දිනාගෙන සිටින පෙට්‍රොග්‍රෑඩ් සොල්දාදු සහ කම්කරු නියෝජිත සෝවියට් සභාව, සිය කැමැත්තෙන්ම රාජ්‍ය බලය ධනපති පංතියට හා එහි තාවකාලික ආණ්ඩුවට පවරා දීමය; එම ආණ්ඩුවට ආධාර කිරීමේ එකඟත්වයට පැමිණ, එයට සිය කැමැත්තෙන්ම ප්‍රධානත්වය හිමිකර දීමය; එසේම තමන්ගේ කාර්ය කොටස ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවීම නිරීක්ෂකයෙකුගේ, නැතහොත්, පරීක්ෂකයෙකුගේ කාර්ය දක්වා සීමා කර ගැනීමය. (එහෙත් එය කැඳවීම සඳහා තාවකාලික ආණ්ඩුව තවමත් දිනයක්වත් ප්‍රකාශයට පත් කර නොමැත).

එබඳු ආකාරයකින් ඉතිහාසයේ පෙර නොදක්නා ලද විරූ මෙම මවිතකර අංග ලක්ෂණය නිසා, ආඥාදායකත්ව දෙකක් අන්තර්බද්ධ වීමට මාර්ගය සැලසින. ඒ දෙක නම්, ධනපති පංතියේ ආඥාදායකත්වය (ල්වොව් සහ සමාගමේ ආණ්ඩුව ආඥාදායකත්වයකි; එය නීතිය මත නොව, කලින් ප්‍රකාශිත ජනතා කැමැත්ත මත නොව, නිශ්චිත පංතියක් විසින් එනම්, ධනපති පංතිය විසින් බලහත්කාරයෙන් අල්ලා ගැනීම මත පදනම්වූ බලයකි) සහ නිර්ධන පංතියේ හා ගොවි ජනතාවගේ (කම්කරු හා සොල්දාදු නියෝජිතයන්ගේ සෝවියට් සභාව) ආඥාදායකත්වය ය.

එවැනි ''අන්තර් බද්ධ'' වීමක් දීර්ඝ කාලයක් තිසසේ පැවතිය නොහැකි බව පැහැදිලිය. රාජ්‍යයක් තුළ බල දෙකක් පැවතිය නොහැකිය. ඉන් එකක් ඉකුත් වීම වැළැක්විය නොහැකිය. එනිසා, සෝවියට් සභා පිටමං කර තැබීමට හා දුර්වල කිරීමටද, ඒවා අහෝසි කිරීමටද, ධනපති පංතියේ නොබෙදූ තනි බලය ස්ථාපිත කිරීමටද, මුළු රුසියානු ධනපති පංතියම, දැනටමත් සෑම තැනකදීම හා සෑම ආකාරයකින්ම, එහි මුළු ශක්තියම යොදා ප්‍රයත්න දරන්නේය.

ද්විත්ව බලයෙන් හුදෙක් ප්‍රකාශ වන්නේ විප්ලවයේ සංවර්ධනයේ පරිවර්තනීය අදියරකි. එය සාමාන්‍ය ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට වඩා ඔබ්බට ගිය නමුත්, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ ''පිරිසිදු'' ආඥාදායකත්වයක් දක්වා නොගිය අවස්ථාවකි.

එම පරිවර්තනීය හා අස්ථායි තත්වයේ පංති අර්ථය (හා පංති පැහැදිලි

4. එනිසා, විදේශ ප්‍රතිපත්තිය පිළිබඳ ක්ෂේත්‍රයේදී, මෙම ආණ්ඩුව අල්ප මාත්‍ර හෝ විශ්වාසයට වුවද තරම් නොවේ. එපමණක්ද නොව, එය, සාමය සඳහා වූ ජනතා කැමැත්ත ප්‍රකාශයට පත් කළ යුතු යයිද, අල්ලාගෙන තිබෙන රටවල් අත්හැරිය යුතුයයිද, යනාදී වශයෙන් දිගටම ඉල්ලා සිටීමෙන් කෙරෙන්නේත්, ව්‍යවහාරයේදී හුදෙක්ම ජනතාව රැවටීමය; ඔවුන් තුළ ව්‍යාජ බලාපොරොත්තු ඇති කිරීමය; ඔවුන්ගේ මනැස පැහැදිලි වීමට බාධා කිරීමය. එසේ කිරීමෙහි අර්ථය වන්නේ, දැහැමි අපේක්ෂාවන් අනුව නොව, යුද්ධය කරන ආණ්ඩුවේ පංති ස්වභාවය අනුව, මෙම ආණ්ඩුවත්, රුසියාවේ, බ්‍රිතාන්‍යයේ, ප්‍රංශයේ යනාදී රටවල අධිරාජ්‍යවාදී මූල්‍ය ධනයත් අතර පවතින සම්බන්ධය අනුව, එම පංතිය අනුගමනය කරන නියම හා සත්‍යමය ප්‍රතිපත්තිය අනුව තීරණය වන, නියම සමාජ ස්වභාවය සහිත යුද්ධයකට ජනතාව වක්‍රෝක්තියෙන් එකඟ කරවීමය.

---

## ද්විත්ව බලයෙහි විශේෂ ස්වභාවය හා එහි පංති අර්ථය

5. අපගේ විප්ලවයේ ප්‍රධාන අංග ලක්ෂණය වන්නේත්, අනිවාර්යයෙන්ම ඉතාමත් කල්පනාකාරී ලෙස සලකා බැලිය යුතු අංග ලක්ෂණයක් වන්නේත්, විප්ලවයේ විජයග්‍රහණයෙන් පසු ප්‍රථම දිනවලදී උද්ගත වූ ද්විත්ව බලයය.

ද්විත්ව බලයක් පවතින බව පෙනෙන්නේ ආණ්ඩු දෙකක් පැවතීමෙනි: එයින් එකක්, ධනපති පංතියේ ප්‍රධාන, නියම හා සැබෑමය ආණ්ඩුව වන සියළුම බලධාරී ආයතන හිමි කර ගෙන සිටින ල්වොව් සහ සමාගමේ ''තාවකාලික ආණ්ඩුව'' ය. අනික අතිරේක සහ සමාන්තර ආණ්ඩුවකි. එය, රාජ්‍ය බල ආයතන කිසිවක් හිමි නැති, එහෙත්, පැහැදිලි ලෙසම හා විවාද රහිත ලෙසම ජනතා බහුතරයේ සහයෝගය මත, ආයුධ සන්නද්ධ කම්කරුවන්ගේ සහ සොල්දාදුවන්ගේ සහයෝගය මත රැඳී පවතින, පෙට්‍රොග්‍රෑඩ් කම්කරු සහ සොල්දාදු නියෝජිත සෝවියට් සභාවේ ස්වරූපය ගත් ''හැසිරවීමේ'' ආණ්ඩුවකි.

මෙම ද්විත්ව බලයේ පංති මූලය හා පංති අර්ථය පහත සඳහන් පරිදිය: 1917 මාර්තු රුසියානු විප්ලවය මුළු සාර්වාදී රාජාණ්ඩුවම අතුගා දැමීමෙන් පමණක් හෝ, මුළු බලයම ධනපති පංතියට පවරා දීමෙන් පමණක් හෝ



නොනැවතී, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ විප්ලවවාදී — ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වයට ආසන්න වන තෙක්ම ඒ දෙසට ගමන් කළේය. පෙට්‍රොග්‍රෑඩ් සහ අනෙකුත් ප්‍රාදේශීය සෝවියට් සභාවලින් සංයුක්ත වන්නේ එවැනි ආඥාදායකත්වයකි (එනම් නීතිය මත නොව, ආයුධ සන්නද්ධ පොදු ජනතා කොටස්වල ශක්තිය මත රැඳුනු බලයකි). එය නියත වශයෙන්ම ඉහත සඳහන් පංතිවල ආඥාදායකත්වයකි.

6. රුසියානු විප්ලවයේ ඉතාම වැදගත් දෙවැනි අංග ලක්ෂණය වන්නේ, සෑම කරුණකින්ම පෙනෙන පරිදි, ප්‍රාදේශීය සෝවියට් සභා වැඩි කොටසකම විශ්වාසය දිනාගෙන සිටින පෙට්‍රොග්‍රෑඩ් සොල්දාදු සහ කම්කරු නියෝජිත සෝවියට් සභාව, සිය කැමැත්තෙන්ම රාජ්‍ය බලය ධනපති පංතියට හා එහි තාවකාලික ආණ්ඩුවට පවරා දීමය; එම ආණ්ඩුවට ආධාර කිරීමේ එකඟත්වයට පැමිණ, එයට සිය කැමැත්තෙන්ම ප්‍රධානත්වය හිමිකර දීමය; එසේම තමන්ගේ කාර්ය කොටස ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවීම නිරීක්ෂකයෙකුගේ, නැතහොත්, පරීක්ෂකයෙකුගේ කාර්ය දක්වා සීමා කර ගැනීමය. (එහෙත් එය කැඳවීම සඳහා තාවකාලික ආණ්ඩුව තවමත් දිනයක්වත් ප්‍රකාශයට පත් කර නොමැත).

එබඳු ආකාරයකින් ඉතිහාසයේ පෙර නොදක්නා ලද විරූ මෙම මවිතකර අංග ලක්ෂණය නිසා, ආඥාදායකත්ව දෙකක් අන්තර්බද්ධ වීමට මාර්ගය සැලසින. ඒ දෙක නම්, ධනපති පංතියේ ආඥාදායකත්වය (ල්වොව් සහ සමාගමේ ආණ්ඩුව ආඥාදායකත්වයකි; එය නීතිය මත නොව, කලින් ප්‍රකාශිත ජනතා කැමැත්ත මත නොව, නිශ්චිත පංතියක් විසින් එනම්, ධනපති පංතිය විසින් බලහත්කාරයෙන් අල්ලා ගැනීම මත පදනම්වූ බලයකි) සහ නිර්ධන පංතියේ හා ගොවි ජනතාවගේ (කම්කරු හා සොල්දාදු නියෝජිතයන්ගේ සෝවියට් සභාව) ආඥාදායකත්වය ය.

එවැනි ''අන්තර් බද්ධ'' වීමක් දීර්ඝ කාලයක් තිස්සේ පැවතිය නොහැකි බව පැහැදිලිය. රාජ්‍යයක් තුළ බල දෙකක් පැවතිය නොහැකිය. ඉන් එකක් ඉකුත් වීම වැළැක්විය නොහැකිය. එනිසා, සෝවියට් සභා පිටමං කර තැබීමට හා දුර්වල කිරීමටද, ඒවා අහෝසි කිරීමටද, ධනපති පංතියේ නොබෙදූ තනි බලය ස්ථාපිත කිරීමටද, මුළු රුසියානු ධනපති පංතියම, දැනටමත් සෑම තැනකදීම හා සෑම ආකාරයකින්ම, එහි මුළු ශක්තියම යොදා ප්‍රයත්න දරන්නේය.

ද්විත්ව බලයෙන් හුදෙක් ප්‍රකාශ වන්නේ විප්ලවයේ සංවර්ධනයේ පරිවර්තනීය අදියරකි. එය සාමාන්‍ය ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට වඩා ඔබ්බට ගිය නමුත්, නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ ''පිරිසිදු'' ආඥාදායකත්වයක් දක්වා නොගිය අවස්ථාවකි.

එම පරිවර්තනීය හා අස්ථායි තත්වයේ පංති අර්ථය (හා පංති පැහැදිලි

කිරීම) මෙසේය: සෑම විප්ලවවලදී මෙන්ම, අපගේ විප්ලවයේදීද, සාර්වාදයට විරුද්ධව අරගල කිරීම සඳහා ජනතාවගේ පැත්තෙන් ශ්‍රෙෂ්ඨ වීරත්වයක් හා ආත්ම පරිත්‍යාගයක් අවශ්‍ය විය. එයින් පෙර නොවූ විරූ තරම් සාමාන්‍ය පුරවැසි සංඛ්‍යාවන්ද එක් වරම ව්‍යාපාරයට ඇදී ආවේය.

විද්‍යාවේ සහ ප්‍රායෝගික දේශපාලනයේ දෘෂ්ටි කෝණයෙන් බලන කල, දේශපාලන ජීවිතයට හා රාජ්‍යය සංවිධාන කිරීමට ක්‍රියාශීලී ලෙස, ස්වාධීන ලෙස හා කාර්ය සාධක ලෙස සහභාගි වීමට පටන් ගත් ''සාමාන්‍ය පුරවැසියන්'' සංඛ්‍යාව අසාමාන්‍ය වේගයකින්, හදිසියෙන්ම හා එක් වරම වැඩි වී යාම සෑම නියම විප්ලවයකම ප්‍රධාන ලකුණුවලින් එකකි.

රුසියාවේ තත්වයද එයමය. මෙකල රුසියාව උතුරා හැලෙමින් පවතී. අවුරුදු දහයක් තිස්සේ දේශපාලන වශයෙන් නිහඬව සිටි සහ සාර්වාදයේ භයානක පීඩනයෙන්ද ඉඩම් හිමියන්ටත්, ධනපතියන්ටත්, කරන්නට සිදුවූ අමානුෂික මෙහෙවරෙන්ද පෑගී මිරිකී සිටි දශ ලක්ෂ ගණන් හා කෝටි ගණන් ජනයා ප්‍රබෝධ වී උද්යෝගයෙන් යුතුව දේශපාලනයට එළඹ සිටිති. තවද, මෙම දශ ලක්ෂ ගණන් හා කෝටි ගණන් ජනයා කවරහුද? ඉන් වැඩි කොටසක්, කුඩා දේපල හිමියන්, සුළු ධනපතියන්ය. එනම් ධනපතියන් හා වේතනකම්කරුවන් අතර, ඒ මැද, සිටින ජනයාය යුරෝපීය රටවල් සියල්ලම අතුරෙන් වඩාත්ම සුළු ධනපති රට රුසියාවය.

සියල්ලටම උඩින් යෝධ සුළු ධනපති රළ වේගයක් ගලා ගොස් ඇති අතර, ඒ අනුව සංඛ්‍යාවේ වැඩි බලය නිසා පමණක් නොව දෘෂ්ටිමය වශයෙන්ද, පංති විඥනය ඇති නිර්ධන පංතිය එයින් වැසී ගොස් තිබේ. එයින් අදහස් වන්නේ සුළු ධනපති දේශපාලන අදහස් ඉතා පුළුල් කම්කරු කොටස් අතරට බෝවී හා කාවැදී ඇති බවය.

නිර්ධන පංතිකයන් මෙන් නොව සුළු ධනපතියෝ (ඔවුන් සමාජ නිෂ්පාදනය තුළ දරන ස්ථානය අනුව) ස්වාමිවරුන් ලෙසට ජීවත්වන නිසාද, ධනපති පංතියේ අදහස් අනුගමනය කරන නිසාද, සැබෑ ජීවිතයේදී ඔවුහු ධනපති පංතියෙන් යැපෙති.

රුසියාවේ පොදු ජනතා කොටස් මෙම අවස්ථාවේ දරන දේශපාලන ස්වභාවය නිරූපනය වන්නේ ධනපතියන් කෙරෙහි, සාමයේ සහ සමාජවාදයේ පරම සතුරන් කෙරෙහි ඔවුන් තර්ක විරහිතව තබන විශ්වාසයෙනි. සියළුම යුරෝපීය රටවල් අතුරෙන් වඩාත්ම සුළු ධනපති වූ රටෙහි සමාජ හා ආර්ථික භූමියෙහි විප්ලවීය සීඝ්‍රතාවයකින් වැඩුනු ඵලය මෙයය. තාවකාලික ආණ්ඩුවත්, කම්කරු සහ සොල්දදු නියෝජිත සෝවියට් සභාවත් අතර ''එකඟත්වයට'' (මා සඳහන් කරන්නේ විධිමත් එකඟත්වයට වඩා, තර්ක විරහිත විශ්වාසයෙන් උද්භව වූ සත්‍යමය සහයෝගයද, අප්‍රකාශිත ගිවිසුමක්ද, බලය භාර දීමද ගැන බව අවධාරණය කරමි) හේතුවූ පංති පදනම මෙයය. එය ගුච්කොව්ලාට ලොකු කුට්ටියක්, නැතහොත්, නියම බලයද, සෝවියට් සභාවලට හුදෙක් පොරොන්දු ගෞරවය (තාවකාලිකව), බොරු වර්ණනා, වදන් මාලා, සහතිකවීම් සහ කෙරෙන්ස්කිලාගේ ආචාර කිරීම් පමණක්ද දෙන එකඟත්වයකි.

අනිත් පැත්තෙන් අපට දක්නට ලැබෙන්නේ රුසියාවේ නිර්ධන පංතියේ පමාණවත් නොවන සංඛ්‍යාත්මක ශක්තිය හා එහි ප්‍රමාණවත් නොවන පංති විඥනය සහ සංවිධානාත්මක භාවයය.

සමාජ — විප්ලවවාදීන් ඇතුළු සියළුම නරෝද්නික් පක්ෂ නිතරම සුළු ධනපති පංතික ව්‍යූහ. සංවිධායක කාරක සභාවේ (චහෙයිද්සේ, ට්සෙරතෙලි ආදීන්ගේ) පක්ෂයේ තත්වයද එයම වේ. පක්ෂවලට නොබැඳුනු (ස්තෙක්ලොව් හා වෙනත්) අයද, එසේම එම රළ වේගයට යට වී සිටිති, නැතහොත්, එයට විරුද්ධව නැගී සිටීමට නොහැකිව හෝ එසේත් නැතහොත්, ඒ සඳහා කාලයක් නොමැතිව සිටිති.

---

## ඉහත සඳහන් කරුණු අනුව නිගමනය වන උපක්‍රමවල විශේෂ ස්වභාවය

7. තනි පුද්ගලයන් හා එවැනි කරුණු ගැන නොව, වාස්තවික කරුණු, පොදු ජනතාව හා පංති ගැන සැලකිල්ලට ගතයුතු මාක්ස්වාදියා සඳහා වර්තමාන අවස්ථාවේදී අනුගමනය කළ යුතු උපක්‍රමවල විශේෂ ස්වභාවය නිර්ණය විය යුත්තේ ඉහත විස්තර කරන ලද සත්‍යමය තත්වයේ විශේෂ ස්වභාවය අනුවය.

ප්‍රථමයෙන්ම, (පෙට්‍රොග්‍රෑඩ්හි පැවැත්වුනු සමස්ත රුසියා දුම්රිය සේවක සම්මේලනයේ[22] ඊයේ රැස්වීම් වාරයේදී, අප පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ මගේ සහෝදර සභික තියොදොරවිච්, ඉතා උචිත සේ පැවසූ අන්දමට) ''විප්ලවවාදී — ප්‍රජාතන්ත්‍රවාදී වදන් මාලා නැමති පැණි වතුරට ඇඹුල හා තිත්ත එකතු කිරීම'' මෙම වර්තමාන තත්වයේ විශේෂතාවය නිසා අවශ්‍ය වේ. අපගේ කර්තව්‍යය විය යුත්තේ, සුළු ධනපති වන සමාජවාදී — විප්ලවවාදී සහ සමාජ — ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂවල වැරදි විවේචනය කිරීම හා පැහැදිලි කිරීමත්, විඥත ලෙස නිර්ධන පංතික වන කොමියුනිස්ට් පක්ෂයක මූලිකාංගයන් සකස් කිරීම හා ඒවා එකට පෑස්සීමත්, නිර්ධන පංතියට වැළඳී තිබෙන ''සාමාන්‍ය'' සුළු ධනපති මත්වීම සුව කිරීමත්ය.

මෙය ප්‍රචාරක කටයුත්තකට ''වඩා යමක් නොවන'' සේ පෙනුනත්, ඇත්ත වශයෙන්ම එය ඉතාමත් ප්‍රායෝගික විප්ලවවාදී කාර්යයකි. එසේ වන්නේ, බාහිර බාධක නිසා නොව, ධනපති පංතියේ හිංසනය නිසා නොව (ගුච්කොව් දැනට කර ඇත්තේ සොල්දදු පොදු ජනතාවට විරුද්ධව හිංසනය යෙදීමේ තර්ජනයක් කිරීම පමණකි), ජනතාවගේ තර්කයෙන් තොර විශ්වාසය නිසා, නැවතී සිටින තත්වයට පත්, වදන් මාලාවලින් උගුර හිර කරගත් තත්වයට පත්, කල් බලමින්'' සිටින, විප්ලවයක් ඉදිරියට නොයන හෙයිනි.

දැනට බලපවත්නා විප්ලවවාදී වදන් හරඹ සැණකෙළියෙන් අපට නිදහස් විය හැක්කේත්, නිර්ධන පංතිය සහ සාමාන්‍ය පොදු ජනතාව යන දෙකොටසම තුළ, නියම විඥනය හා එසේම ඔවුන්ගේ එඩිතර හා අධිෂ්ඨාන සහගත ක්‍රියාරම්භකත්වය ගම් පෙදෙස්වලද උත්තේජනය කළ හැක්කේත්, නිදහස, ප්‍රජාතන්ත්‍රය හා ජනතා ඉඩම් අයිතිය පිළිබඳ ප්‍රතිපත්ති ස්වාධීන ලෙස සාර්ථක කර ගැනීම, සංවර්ධනය කර ගැනීම හා තහවුරු කර ගැනීම සඳහා ඔවුන් යොමු කළ හැකි වන්නේත්, මෙම තර්ක විරහිත විශ්වාසය පරාජය කිරීමෙන් පමණකි. (තවද අප එය පරාජය කළ යුත්තේ දෘෂ්ටිමය වශයෙන්, සහෝදරාත්මක වටහා දීම තුළින් හා අත්දැකීම්වලින් ලැබෙන පාඩම් ගෙන හැර දැක්වීමෙන් පමණකි. එමගින් අපට එය ජයගත හැකිය).

8. ධනපති සහ ඉඩම් හිමි ආණ්ඩුවල ලෝක ව්‍යාප්ත අත් දැකීම්වලින් පරිණාම වී ඇති, ජනතාව යටත් කර තබා ගැනීමේ ක්‍රම දෙකක් වේ. ඉන් ප්‍රථම එක හිංසනය ය. මෙම අළුගෝසු ක්‍රියා මාර්ග මගින් උඩත් පිරිසෙයින් කළ හැකි දේ හා කළ නොහැකි දේ කුමක්ද යන්න, මහ පොල්ලේ නිකොලායි යන නමින් හැඳින්වුනු I වැනි නිකොලායි රොමානොව්ද, ලේ තැවරුනු II වැනි නිකොලායිද විසින් පෙන්නුම් කරන ලදී. නමුත් තවත් ක්‍රමයක් ඇත. එය වඩාත්ම හොඳින් දියුණු කර තිබෙන්නේ, පොදු ජනතාවගේ විප්ලවවාදී ව්‍යාපාර සහ මහා විප්ලව මාලාවකින් ''තමන්ගේ පාඩම උගත්'' බ්‍රිතාන්‍ය සහ ප්‍රංශ ධනපති පංතියය. එය නම්, රැවටීමේ, බොරු වර්ණනා කිරීමේ, අලංකාර වදන් මාලා ප්‍රකාශ කිරීමේ හා දශ ලක්ෂ ගණනින් පොරොන්දු දීමේද, අවශ්‍ය දේ තබා ගනිමින්, සුළු වාසි දීමේ සහ අත්‍යවශ්‍ය නොවන දේ සම්බන්ධයෙන් ඉඩ දීමේද ක්‍රමය ය.

රුසියාවේ වර්තමාන තත්වයේ විශේෂ අංග ලක්ෂණය වන්නේ, ප්‍රථම ක්‍රමයේ සිට දෙවැනි ක්‍රමය දක්වා, නැතහොත්, ජනතාව හිංසනයෙන් පීඩනයට පත් කිරීමේ සිට බොරු වර්ණනා කිරීම හා පොරොන්දු දීමෙන් ජනතාව රැවටීම දක්වා පරිවර්තනය වීම කැරකිල්ල සැදෙන තරම් වේගයකින් සිදුවීමයි. වස්කා නැමති බළලා ඇහුම්කන් දෙන නමුත් ඌ නොනවත්වාම අනුභව කරයි[23]. මිල්යුකොව්ලා සහ ගුච්කොව්ලා බලය අත්පත් කරගෙන සිටිති. ධනපතියන්ගේ ලාභ ආරක්ෂා කරන, එසේම, රුසියානු හා ඉංග්‍රීසි — ප්‍රංශ ප්‍රාග්ධනයේ යහපත පිණිස අධිරාජ්‍යවාදී යුද්ධයක් කරගෙන යන ඔවුහු, තර්ජනය කරන, දැනමුතුකම් දේශනා කරන, ආයාචනා කරන, යාඥා කරන, ඉල්ලුම් කරන හා ප්‍රකාශන කරන එහෙයිද්සේ, ටෙසෙරතෙලි හා ස්තෙක්ලොව් වැනි ''අරක්කැමියන්'' කරන කථාවලට පිළිතුරු වශයෙන්, පොරොන්දු දීමෙන්, වාග්චාතුර්යය දැක්වීමෙන් හා බරපතල වචන සහිත ප්‍රකාශන කිරීමෙන් ගැලවී යාමට උත්සාහ කරති.... . වස්කා නැමති බළලා ඇහුම්කන් දෙන මුත් ඌ නොනවත්වාම අනුභව කරයි.

නමුත් විශ්වාසය නිසා සිතා නොබැලීමත්, තර්කයෙන් තොර විශ්වාසයත් දිනෙන් දිනම ඉවත යනු ඇත. විශේෂයෙන්ම අත්දැකීම (ස්වකීය සමාජ හා ආර්ථික තත්වය) අනුව ධනපතියන් අවිශ්වාස කිරීමට උගෙනුම ලබන නිර්ධන පංතිකයන් හා දුප්පත් ගොවි ජනයා අතරෙන්, එය ඉවත් වනු ඇත.

ධනපති පංතිය කෙරෙහි විශ්වාසය තබන ලෙස සුළු ධනපති නායකයන් ජනතාවට උගැන්විය ''යුතුය''. ධනපති පංතිය අවිශ්වාස කරන ලෙස, නිර්ධන පංතිකයන් ජනතාවට උගැන්විය යුතුය.

---

## විප්ලවවාදී ආරක්ෂාවාදය සහ එහි පංති අර්ථය

9. ''සියළු දෙයක්ම පාහේ'' යට කරගෙන ගලා ගිය සුළු ධනපති පංතික රළ පහර එළි දුටු ඉතාමත් වැදගත් හා සිත් කාවදින ආකාරය, විප්ලවවාදී ආරක්ෂාවාදය බව සැලකිල්ලට ගත යුතුය. රුසියානු විප්ලවයේ තවදුර ප්‍රගතියට හා සාර්ථකත්වයට දරුණුතම සතුරා වන්නේ එයයි.

මෙම කාරණයෙහිදී වරද්දගත් හා එයින් ගැලවී ගත නොහැකි වූ අය, විප්ලවයට අහිමි වී යන්නෝය. නමුත් පොදු ජනතාව වරදට වැටෙන්නේ නායකයන්ට වඩා වෙනස් ආකාරයකිනි. එමෙන්ම ඔවුන් එයින් ගැලවෙන්නේද වෙනස් ආකාරයකිනි; වෙනත් සංවර්ධනයක් මගිනි; වෙනත් මාර්ගයකිනි.

විප්ලවවාදී ආරක්ෂාවාදය එක් අතකින්, ධනපති පංතිය විසින් පොදු ජනතාව රවටනු ලැබීමේ ප්‍රතිඵලයකි; ගොවි ජනතාව හා කම්කරුවන් කොටසක් අනුගමනය කරන විශ්වාසය නිසා සිතා නොබැලීමේ ප්‍රතිඵ-

ලයකි. අනිත් අතට, එය, රටවල් අල්ලා ගැනීම හා බැංකු ලාභ ගැන තරමක කැමැත්තක් දක්වන්නාවූද, මහ රුසියානුන් ලවා අන් ජාතීන්ට විරුද්ධව අළුගෝසු වැඩ කරවීමෙන් මහරුසියානු ජාතිකයන් දුර්මුඛ කළ සාර්වාදය ''ශුද්ධ වස්තුවක්'' කොට ආරක්ෂා කරන්නාවූද සුළු ධනපතියාගේ උවමනාවන් හා දෘෂ්ටි කෝණය ප්‍රකාශ කරන්නකි.

විප්ලවය සම්බන්ධයෙන් ජනතාවගේ ඇති උත්තම ආඩම්බරය ප්‍රයෝජනයට ගැනීමෙන්ද, විප්ලවයේ මෙම අවධියත්, රාජාණ්ඩුව වෙනුවට සමූහාණ්ඩුවකට සමීප ගුච්කොව් සහ මිල්යුකොව් ආණ්ඩුව ආදේශ කිරීමත් නිසා, රුසියාව හා සම්බන්ධයෙන් වූ කල යුද්ධයේ සමාජ හා දේශපාලන ස්වභාවය වෙනසකට පාත්‍රවූ බවක් මවා පෑමෙන්ද, ධනපති පංතිය ජනතාව රවටති. එසේම, කලක් ගත වන තෙක් ජනතාව එය විශ්වාස කළහ. ඔවුන් බොහෝ දුරට එය විශ්වාස කළේ, රුසියාවේ අනෙකුත් ජනතාවන්, එනම් මහ රුසියන් නොවන ජනතාවන්, මහ රුසියානුවන්ගේ දේපලක් හා පෞද්ගලික වස්තුවක් ලෙසට සැලකූ යුග — පැරණි දුර්මත නිසාය. අන්‍ය ජනතාවන් ''උරුමයෙන්'' මහ රුසියානුවන්ට අයත් දෙයක් හා ඔවුනට වඩා පහත් ජනයා ලෙසට සැලකීමට මහ රුසියානුන්ට උගැන්වූ සාර්වාදය විසින්, ඔවුන් කෙරෙහි මෙසේ ඇති කරන ලද විෂම දුර්මත ක්ෂණික ලෙස අතුරුදහන් නොවනු ඇත.

මෙහිදී අපෙන් අවශ්‍ය වන්නේ, යුද්ධයේ සමාජ හා දේශපාලන ස්වභාවය නිර්ණය වන්නේ කුමක් අනුවද යන්න පැහැදිලි කර දීමේ හැකියාවය. එය පුද්ගලයන් හෝ කණ්ඩායම්වල හෝ, ඒ තබා ජාතීන්ගේ හෝ ''හොඳ හිත'' අනුව නොව, යුද්ධය කරන පංතියේ තත්වයත්, යුද්ධය දක්වා ඉදිරියට මෙහෙයවුනු පංති ප්‍රතිපත්තියත් නවීන සමාජයේ අධිපතිත්වය දරන ප්‍රාග්ධනයේ බැඳීමුත්, ජාත්‍යන්තර ප්‍රාග්ධනයේ අධිරාජ්‍යවාදී ස්වභාවයත්, රුසියාව, එහි මූල්‍ය බැංකු හා රාජ්‍යතන්ත්‍රික කටයුතු සඳහා බ්‍රිතාන්‍ය, ප්‍රංශය ආදියෙන් යැපීමත්, අනුව සිදුවන්නක් බව පැහැදිලි කර දීමේ හැකියාවය. මෙය දක්ෂලෙස හා ජනතාවට වැටහෙන ආකාරයෙන් පැහැදිලි කිරීම පහසු නොවේ. වැරදි සිදු නොකර, එක වරම මෙය කිරීම අප කාහටත් නොහැකි වනු ඇත.

අපගේ ප්‍රචාරයෙහි අරමුණ, වඩාත් නිවැරදි ලෙසට කියතොත්, ඉන් පතුරවන පණිවුඩය මෙයම පමණක් විය යුතුය: විප්ලවවාදී ආරක්ෂාවාදයට අල්ප මාත්‍ර වශයෙන් හෝ ඉඩ දීම යුක්ති සහගත බව පෙන්වීමට මොන තරම් අලංකාර වදන් යොද ගත්තත් කුමන ''ප්‍රායෝගික'' කරුණු ඉදිරිපත් කළත්, එය සමාජවාදයට ද්‍රෝහි වීමකි, ජාත්‍යන්තරවාදය සම්පූර්ණයෙන්ම අත් හැර දැමීමකි.

''යුද්ධය භංග වේවා!'' යන සටන් පාඨය නිවැරදි බව සැබවි. නමුත්



වර්තමාන අවස්ථාවේ කර්තව්‍යයන්ගේ විශේෂ ස්වභාවය හා පුළුල් ජන සමූහයා වෙත වෙනත් ආකාරයකින් සමීප වීමේ අවශ්‍යතාවය සැලකිල්ලට ගැනීම එයින් ඉටු නොවේ. ''ඒ පැරණි කාලයේදී'' ''සාර් භංග වේවා!'' යන සටන් පාඨය කියමින් නිකම්ම හා කෙළින්ම ගම්බද පෙදෙස්වලට ගිය, හොඳක් කරන්නට ගොස් ගුටි කෑ, පළපුරුදුකම් අඩු, උද්ඝෝෂකයා මගේ සිහියට නංවන්නකි, ඉහත සටන් පාඨය. විප්ලවවාදී ආරක්ෂාවාදය ගැන පොදුවේ විශ්වාස කරන අය පෞද්ගලික අර්ථයෙන් නොව, පංති අර්ථයෙන් අවංක වෙති. නැතහොත්, රටවල් අල්ලා ගැනීමෙන් හා වෙනත් ජනතාවන් යටත් කර ගැනීමෙන් සත්‍යමය වශයෙන් කිසිම වාසියක් නොලබන පංති වලට (කම්කරුවන් සහ ගොවි දුප්පතුන්) ඔවුහු අයත් වෙති. ධනපති පංතිය හා එහි සහායක ''බුද්ධිමතුන්'' පිරිස ඊට වඩා සම්පූර්ණයෙන්ම වෙනස්ය. ප්‍රාග්ධනයේ පාලනය අත් නොහැර අල්ලා ගත් රටවල් හැර දැමිය නොහැකි බව ඔවුහු හොඳින්ම දනිති. එසේම අලංකාර වදන්, අසීමිත පොරොන්දු හා කෙළවරක් නැති සහතික වීම් මගින්, ඔවුහු කිසිම චකිතයක් නැතිව ජනතාව රවටති.

ආරක්ෂාවාදය ගැන විශ්වාස කරන පිරිසේ සාමාන්‍ය අය, එම කරුණු ගැන සිතන්නේ පොදු මිනිසා මෙන් සරල ලෙසටය: ''මට රටවල් අල්ලා ගැනීම් අවශ්‍ය නොවේ. නමුත් ජර්මානුවෝ මට ''එළවා පහර දෙති''. එනිසා මා ආරක්ෂා කරන්නේ යුක්ති සහගත සත් ව්‍යාපාරයක් මිස කිසිසේත්ම අධිරාජ්‍යවාදී අවශ්‍යතා විශේෂයක් නොවේ''. එය පෞද්ගලික කැමැත්ත පිළිබඳ ප්‍රශ්නයක් නොවන බවත්, පොදු ජන හා පංතිමය දේශපාලන සම්බන්ධකම් හා තත්වයන්ද, යුද්ධයත්, ප්‍රාග්ධනයේ අවශ්‍යතාවයන් හා ජාත්‍යන්තර බැංකු ජාලකය, යනාදියත්, අතර සම්බන්ධයද, පිළිබඳ ප්‍රශ්නයක් බව, එවැනි අයෙකුට නැවත නැවතත් පැහැදිලි කළ යුතුය. ආරක්ෂාවාදයට විරුද්ධව කරන අරගලය බරපතල අරගලයක් වන්නේත්, සාර්ථකත්වයේ බලාපොරොත්තු ගෙන දෙන අරගලයක් වන්නේත් එසේ කළ විට පමණකි. සමහර විට එම සාර්ථකත්වය සීඝ්‍ර නොවූවත්, කල් පවත්නා එකක් වනු ඇත.

---

## යුද්ධය කෙළවර කළ හැක්කේ කෙසේද?

10. ''සිතූ පමණින්'' යුද්ධය කෙළවර කළ හැකි නොවේ. යුද්ධකාරී එක පාර්ශවයක තීරණයෙන් එය කෙළවර කළ නොහැකිය. ආරක්ෂාවාදියෙක් වූ එක් සොල්දාදුවෙක් කී පරිදි, ''බයිනෝත්තු බිමට ඇනීමෙන්'' එය කෙළවර කළ හැකි නොවේ.

විවිධ රටවල සමාජවාදීන් අතර ''එකඟත්වයක්'' ඇති කර ගැනීමෙන්, සියළුම රටවල නිර්ධන පංතිකයන්ගේ ''සටන්'' මගින්, ජනතාවන්ගේ ''කැමැත්ත'' මගින් යනාදියෙන් යුද්ධය කෙළවර කළ නොහැකිය. ආරක්ෂාවාදී, අර්ධ ආරක්ෂාවාදී සහ අර්ධ ජාත්‍යන්තරවාදී පුවත්පත්වල පළ කෙරෙන ලිපි, නිමක් නැති යෝජනා ආයාචනා හා ප්‍රකාශනද පුරා විසිරී තිබෙන, එමෙන්ම, සොල්දදු සහ කම්කරු නියෝජිත සෝවියට් සභාවල යෝජනාවල අන්තර්ගතව ඇති එවැනි වදන් මාලා සියල්ලම, අන් කිසිවක් නොව, සුළු ධනපති පංතියේ අහිංසක හා දැහැමි අපේක්ෂාවන් පමණකි. ''සාමය සඳහා ජනතාවගේ කැමැත්ත දනගැනීම'' යන්න හා නිර්ධන පංතියේ විප්ලවවාදී සටන්වල අනුපිළිවෙළ (රුසියානු නිර්ධන පංතියේ ''වාරයෙන්'' පසුව ජර්මානුන්ගේ වාරයය) යන්න, ආදිය වැනි වදන් වලට වඩා හානිකර තවත් දෙයක් නොමැත. මේ හැම එකක්ම බ්ලාන්කිවාදය ය; සුරතල් සිහිනය; ''දේශපාලන ව්‍යාපාර ගෙනයාම'' පිළිබඳ ක්‍රීඩාවක්ය. නමුත්, යථාර්ථ වශයෙන් ගත් කල, එය වස්කා නැමති බළලාගේ කථාව නැවත ක්‍රියාත්මක කිරීමකි.

යුද්ධය කරනු ලබන්නේ කෑදර ධනපතියන්ගේ උවමනාවන් අනුව පමණක් වන නමුත්, එයින් ධනවත් වන්නේ ඔවුන් පමණක් වන නමුත්, එය ඔවුන්ගේ නපුරු සිත් වලින් පැන නගින ප්‍රතිඵලයක් නොවේ. යුද්ධය ලෝක ධනපති ක්‍රමයේ සහ එහි ප්‍රකෝටි ගණන් රැහැන්වල හා සම්බන්ධකම්වල සංවර්ධනයේ ප්‍රතිඵලයකි. ප්‍රාග්ධනයේ බලය පෙරළා දමා, වෙනත් පංතියකට, එනම්, නිර්ධන පංතියට බලය පවරන්නේ නැතිව, අධිරාජ්‍යවාදී යුද්ධයෙන් ගැලවී යාමට හා ප්‍රජාතන්ත්‍රවාදී, බල කිරීමෙන් තොර සාමයක් දිනා ගැනීමට කිසිසේත් නොහැකි වනු ඇත.

1917 පෙබරවාරි මාර්තු විප්ලවය, අධිරාජ්‍යවාදී යුද්ධය සිවිල් යුද්ධයක් බවට පරිවර්තනය කිරීමේ ආරම්භය විය. මෙම විප්ලවය යුද්ධය කෙළවර කිරීම වෙතට එල්ල කළ ප්‍රථම පියවර ගත්තේය. නමුත් ඒ සඳහා දෙවැනි පියවරක්ද ගත යුතුවේ. යුද්ධය කෙළවර කිරීම ඒකාන්ත වශයෙන් ඉටු වනු පිණිස රාජ්‍ය බලය නිර්ධන පංතිය අතට පත් කළ යුතුය. මෙය ලෝක ව්‍යාප්ත පරිමාණයෙන් ''පෙරමුණ බිඳ ගෙන'' ඉදිරියට යාමක, ධනපති අවශ්‍යතාවයන් පිළිබඳ පෙරමුණ බිඳගෙන යාමක, ආරම්භය වනු ඇත. මිනිස් වර්ගයා යුද්ධයේ මහා භයෙන් මුදා ගෙන, ඔවුනට සාමයේ ආශිර්වාදය ගෙන දීමට නිර්ධන පංතිය සමත් වන්නේ එය මෙම පෙරමුණ බිඳගෙන ඉදිරියට යාම කළොත් පමණකි.

කම්කරු හා සොල්දදු නියෝජිත සෝවියට් සභා ඇති කිරීමෙන්, රුසියානු විප්ලවය දැනටමත් එක එල්ලේම රුසියානු නිර්ධන පංතිය යොමු කර තිබෙන්නේ එසේ ධනපති ක්‍රමයේ ''පෙරමුණ බිඳගෙන'' ඉදිරියට යාමක් වෙතය.



## අපගේ විප්ලවයෙන් උද්ගතවන නව වර්ගයේ රාජ්‍යයක්

11. කම්කරු, සොල්දදු, ගොවිජන හා වෙනත් නියෝජිත සෝවියට් සභාවල පංති අර්ථය හා රුසියානු විප්ලවය විෂයෙහි ඒවා ඉටු කරන කාර්ය කොටස වැඩිදෙනාට පැහැදිලිවී නොමැත. ඒවා ගැන වටහා ගෙන නොමැති බව ඒ අර්ථයෙන් කිව හැකිය. ඒවායින් නව රාජ්‍ය ආකෘතියක්, නැතහොත්, වඩාත් නිවැරදි ලෙසට කියතොත්, නව වර්ගයක රාජ්‍යයක් බිහි වී ඇතැයි යන අර්ථයෙන්ද ඒ ගැන වටහා ගෙන නැත.

ඉතාමත් සර්ව සම්පූර්ණ, ඉතාමත් දියුණු වර්ගයේ ධනපති රාජ්‍යය, පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවය. එය යටතේ බලය පැවරී ඇත්තේ පාර්ලිමේන්තුවටය; රාජ්‍ය යන්ත්‍රය, එනම් පාලන අවයව හා ආයතන චිරාගත වර්ගයේ වන අතර, ස්ථිර යුද්ධ හමුදාවෙන්, පොලිසියෙන් හා ඉවත් කළ නොහැකි, වරප්‍රසාද සහිත හා ජනතාවට ඉහළින් සිටින නිලධාරි පෙළැන්තියෙන් එය සමන්විත වේ.

එසේ වුවද, දහනව වැනි ශතවර්ෂයාවසානයේ පටන් ඇතිවූ විප්ලවීය යුග විසින් වඩාත් උසස් වර්ගයේ ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයක් ඉදිරිපත් කරනු ලැබීය. සමහර අංශ අනුව බලන කල, එය, එංගල්ස් කී ලෙසට ''වචනයේ නියම අර්ථය අනුව තවදුරටත් රාජ්‍යයක් නොවන්නේය''.[24] එය නම් පැරිස් කොමියුනය වර්ගයේ රාජ්‍යය වේ. එම රාජ්‍ය යටතේ, ජනතාවගෙන් වෙන් වුනු ස්ථිර හමුදව හා පොලීසිය වෙනුවට කෙළින්ම ජනතාවම ආයුධ සන්නද්ධ කිරීම ආදේශ කරනු ලැබේ. පැරිස් කොමියුනයේ නියම හරය සංයුක්ත වූයේ ඉඳුරාම මෙම අංග ලක්ෂණයෙන්මය. ධනපති ලේඛකයන් අපවාදයට ලක් කළේද, වහාම සමාජවාදය ''ආරම්භ කිරීමට'' අපේක්ෂා කිරීමක් ලෙසට හා වෙනත් ආකාරයෙන්ද වැරදි අර්ථ කථනයන් ආරූඪ කිරීමට උපයෝගි කර ගත්තේද මෙයමය.

රුසියානු විප්ලවය 1905 දී හා 1917 දී නිර්මාණය කිරීමට පටන් ගත්තේ මෙම වර්ගයේ රාජ්‍යයකි. සමස්ත රුසියා ජනතා නියෝජිතයන්ගේ ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයක් ලෙසට එක්සත් වී ඇති, කම්කරු, සොල්දදු, ගොවිජන හා වෙනත් නියෝජිත සෝවියට් සභා ආදියෙන් සමන්විත එය මෙම අවස්ථාවේදී අප රටේ දැනටමත් සාර්ථක ලෙස ඉදිවෙමින් පවතී. එය ඉදි කරන්නේ ජාතියේ කෝටි ගණන් ජනතාවගේ ක්‍රියාරම්භකත්වයෙනි. කැඩෙට් මහාචාර්යවරු ඔවුන්ගේ පාර්ලිමේන්තු සමූහාණ්ඩුව සඳහා වූ කෙටුම්පත් ව්‍යවස්ථා පනත් සකස් කරන තෙක් හෝ, රාජ්‍ය පිළිබඳ මාක්ස්වාදී උගැන්වීම් විකෘති කරන ප්ලෙහානව් හා කෞට්ස්කි වැනි, සුළු ධනපති ''සමාජ — ප්‍රජාතන්ත්‍රවාදය'' වන්දනා-

යෙහි සුපුරුදු පරිදි යෙදෙන අති පණ්ඩිතයන් එම විකෘති කිරීම නවත්වන තෙක් හෝ, බලා නොසිටින එම ජනතාව, තමන් කැමති ආකාරයෙන්ම ප්‍රජාතන්ත්‍රවාදය නිර්මාණය කර ගනිති.

මාක්ස්වාදය අරාජිකවාදයට වඩා වෙනස්ය. එය සාමාන්‍ය වශයෙන් විප්ලවවාදී අවධියකදී රාජ්‍යයක් හා රාජ්‍ය බලය තිබීමේ අවශ්‍යතාවය විශේෂයෙන්ම ධනපති ක්‍රමයේ සිට සමාජවාදයට පරිවර්තනය වීමේ කාල පරිච්ඡේදයේදී එය තිබීමේ අවශ්‍යතාවය පිළිගන්නේය.

ප්ලෙහානව්, කෞට්ස්කි සහ සමාගමේ සුළු ධනපති, අවස්ථාවාදී ''සමාජ-ප්‍රජාතන්ත්‍රිකවාදයට'' ද වඩා මාක්ස්වාදය වෙනස්ය. ඒ අනුව, මෙම කාල පරිච්ඡේද දෙක තුළදී අවශ්‍ය වන්නේ සුපුරුදු පාර්ලිමේන්තුවාදී ධනපති සමූහාණ්ඩු වර්ගයේ රාජ්‍යයක් නොවන බවත්, පැරිස් කොමියුනය වර්ගයේ රාජ්‍යයක් බවත් එය පිළිගනියි.

පසු කී වර්ගයේ රාජ්‍යයත්, පැරණි රාජ්‍යයත් අතර ප්‍රධාන වෙනස්කම් පහත සඳහන් පරිදි වේ.

පීඩන යන්ත්‍රය, එනම්, යුද්ධ හමුදාව, පොලීසිය හා නිලධාරි පෙළැන්තිය නිරුපද්‍රිතව ආරක්ෂා වී තිබෙන නිසා පාර්ලිමේන්තු ධනපති සමූහාණ්ඩුවේ සිට (ඉතිහාසයෙන් ඔප්පු වී තිබෙන පරිදි) රාජාණ්ඩුවක් වෙත ආපසු යාම ඉතා පහසුය. කොමියුනය සහ කම්කරු, සොල්දාදු හා ගොවි නියෝජිතයින්ගේ සෝවියට් සභා එම යන්ත්‍රය සුනු විසුනු කර දමයි, ඉවත් කර දමයි.

පාර්ලිමේන්තුවාදී ධනපති සමූහාණ්ඩුව, පොදු ජනතාවගේ ස්වාධීන දේශපාලන ජීවිතයත්, රාජ්‍යයේ ජීවිතයත්, පහළ සිට ඉහළට ප්‍රජාතන්ත්‍රවාදී ලෙස සංවිධානය කිරීම සඳහා අවශ්‍යවන ඔවුන්ගේ ඍජු සහභාගීත්වයට බාධා කරයි.සෝවියට් සභා යටතේ සිදු වන්නේ එහි අනිත් පැත්තය.

පසු කී වර්ගයෙන් ප්‍රතිජනනය වන්නේ, පැරිස් කොමියුනය විසින් කරනු ලබන ලද හා ශ්‍රමකරුවන්ගේ ආර්ථික විමුක්තිය ලබාදීමට අන්තිමේදී සොයාගත් දේශපාලන ආකෘතිය''[25] ලෙස මාක්ස් විසින් විස්තර කරන ලද රාජ්‍ය වර්ගය ය.

රුසියානු ජනතාව තවමත් කොමියුනය ආරම්භ කිරීමට සුදුසු සූදනම් තත්වයට පත්ව නැතැයි අපට බොහෝ විට කියනු ලැබේ. ගොවි ජනයා විමුක්තිය ලැබීමට සුදුසු සූදනම් තත්වයකට පත්ව නැතැයි කී ප්‍රවේණි හිමියන්ගේ තර්කය වූයේත් එයමය. ආර්ථික යථාර්ථය තුළත්, ජනතා අති බහුතරයෙහි සිත් තුළත්, මැනවින් වැඩී මෝරා නොගිය ප්‍රතිසංස්කරණ කිසිවක් කොමියුනය, එනම්, කම්කරු සොල්දාදු හා ගොවි නියෝජිත සෝවියට් සභා විසින් ''ආරම්භ කරනු'' නොලැබේ. ඒවා එවැනි ප්‍රතිසංස්කරණ ආරම්භ කිරීමට'' බලාපොරොත්තු වන්නේද, ආරම්භ කළ යුත්තේද නැත. යුද්ධයෙන් ජනිත වන ආර්ථික බිඳ වැටීම හා අර්බුදය වඩාත් ගැඹුරු වූ තරමට, යුද්ධයෙන් මිනිස් වර්ගයාට සිදුවූ භයානක තුවාල සුව කිරීමට උපස්තම්භක වන ඉතාමත් අංග සම්පූර්ණ දේශපාලන ආකෘතිය තිබීමේ අවශ්‍යතාවය වඩාත් බලවත් වේ. රුසියානු ජනතාවගේ සංවිධාන පළපුරුද්ද අඩුවූ තරමට අප කළ යුත්තේ, ධනපති දේශපාලනඥයන් මගින් හා ''හොඳ තනතුරු අරක් ගෙන සිටින'' නිලධාරින් මගින් නොව ජනතාව මගින්ම කෙරෙන සංවිධානාත්මක සංවර්ධනය කරා වඩාත් අධිෂ්ඨාන සහගත ලෙස ඉදිරියට යාම ය.

අප ව්‍යාජ මාක්ස්වාදයේ, නැතහොත්, ප්ලෙහානව් සහ කෞට්ස්කි විසින් විකෘති කරන ලද මාක්ස්වාදයේ පැරණි දූර්මත වඩාත් ඉක්මනින් ඉවත දැමූ තරමටද, සෑම තැනෙකම හා අප්‍රමාදවම, කම්කරු හා ගොවිජන සෝවියට් සභා පිහිටුවීමට ජනතාවට ආධාර දීමට හා ජීවිතය සම්පූර්ණයෙන්ම ස්වකීය පාලනය යටතට ගැනීමට ඔවුනට ආධාර දීමට අප වඩාත් ක්‍රියාශීලී ලෙස කටයුතු කළ තරමටද, ල්වෝව් සහ සමාගම ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවීම ප්‍රමාද කළ තරමටද, (ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය මගින් හෝ එය කැඳවීම ප්‍රමාද කෙරේ නම්, ස්වාධීන ලෙස) කම්කරු හා ගොවි ජන නියෝජිත සෝවියට් සභා සමූහාණ්ඩුවට පක්ෂව තමන්ගේ තීරණය දීම, ජනතාවට වඩාත් පහසු වනු ඇත. ජනතාව විසින්ම කරනු ලබන සංවිධානමය සංවර්ධනයේ කටයුතු වලදී ප්‍රථමයෙන් වැරදි සිදුවීම නොවැලැක්විය හැකිය. නමුත් වැරදි කරමින් හෝ පෙරට යාම නම්, ල්වොව් විසින් කැඳවන ලද නීතිය පිළිබඳ මහාචාර්යවරු ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවීම සඳහාත්, පාර්ලිමේන්තුවාදී ධනපති සමූහාණ්ඩුව චිරස්ථායි කිරීම සඳහාත්, කම්කරු හා ගොවිජන නියෝජිත සෝවියට් සභාවල ගෙල හිර කර දැමීම සඳහාත්, ඔවුන්ගේ නීති කෙටුම්පත් කරන තෙක් බලා සිටිනවාට වඩා හොඳය.

අපි දක්ෂ ලෙස සංවිධානය වී අපගේ ප්‍රචාරයද දක්ෂ ලෙස කරගෙන යන්නෙමු නම්, නිර්ධන පංතිය පමණක් නොව ගොවි ජනතාවගෙන් දහයෙන් නව පංගුවක්මද, පොලිසිය නැවත ස්ථාපිත කිරීමට විරුද්ධ වනු ඇත; ඉවත් කළ නොහැකි හා වරප්‍රසාද හිමි නිලධාරි පෙළැන්තියටද, ජනතාවගෙන් වෙන්වූ යුද්ධ හමුදාවකටද විරුද්ධවනු ඇත. නව වර්ගයේ රාජ්‍යය නියෝජනය වන්නේ එයින් පමණකි.

12. පොලීසිය වෙනුවට ජනතා මිලීෂියා හමුදාවක් ආදේශ කිරීම මුළු විප්ලවයේම ගමන් මාර්ගය අනුව නිගමනය වන්නකි. ඒ අනුව, දැන් රුසියාවේ ප්‍රදේශ බොහොමයකම, එය ක්‍රියාත්මක කරනු ලැබේ. සුපුරුදු වර්ගයේ ධනපති විප්ලව අති බහුතරයක දීම, මෙම ප්‍රතිසංස්කරණය ඉතාමත් මන්දයුෂ්ක වූ බවත්, ධනපති පංතිය, එනම්, ඉතාමත් ප්‍රජාතන්ත්‍ර-

වාදී හා සමූහාණ්ඩුවාදී ධනපති පංතිය පවා, පැරණි, සාර්වාදී වර්ගයේ පොලීසිය, එනම්, ජනතාවගෙන් වෙන්වූ, ධනපති පංතියෙන් අණ ලබන හා සැම අතින්ම ජනතාව පීඩනයට පත් කළ හැකි පොලිසියක්, යළිත් ස්ථාපිත කළ බවත්, අපි ජනතාවට පැහැදිලි කළ යුත්තෙමු.

පොලීසිය යළිත් ස්ථාපිත කිරීම නැවැත්වීමට ඇත්තේ එක් මාර්ගයක් පමණකි. එය නම් ජනතා මිලීෂියා හමුදුවක් ඇති කර එය යුද්ධ හමුදුව සමග එකට පැස්සීමය (ස්ථිර යුද්ධ හමුදුව වෙනුවට මුළු ජනතාවම ආයුධ සන්නද්ධ කිරීම ආදේශ කිරීමය). වයස පසළොස හා හැටපහ අතර වන, ස්ත්‍රී පුරුෂ දෙපාර්ශවයේම සියළු දෙනාම, විශේෂයක් නොමැතිවම මෙම මිලීෂියා හමුදු සේවය කළ යුතුය. අස්ථිර වශයෙන් දක්වා ඇති මෙම වයස් සීමාවන්, එයට ලාබාල තරුණ පිරිස් හා මහළු අයද සහභාගි වන බව හඟවන්නක් සේ ගත හැකිය. ධනපතියන්ගේ කම්කරුවන්, සේවකයන්, ආදීන්, මිලීෂියා හමුදුවේ සේවය කරන දින සඳහා ධනපතියන් ඔවුන්ට වැටුප් ගෙවිය යුතුය. සාමාන්‍ය වශයෙන් දේශපාලන ජීවිතයේදී පමණක් නොව, දෛනික විශ්වීය පොදු සේවයේද ස්වාධීන කොටසක් ඉටු කරන තත්වයට කාන්තාවන් නොපැමිණවූවහොත්, සමාජවාදය තබා, පූර්ණ හා ස්ථාවර ප්‍රජාතන්ත්‍රවාදය ගැනවත් කථා කිරීමේ අර්ථයක් නොමැත. නාමික වශයෙන් නොව යථාර්ථ වශයෙන්ම, පිරිමින් හා සමග එක සමාන මට්ටමක සිටින සේ කාන්තාවන් ගෙන එන තෙක්,ගිලන්ව සිටින හා නිවෙස් රහිත දරුවන් රැක බලා ගැනීම, ආහාර පරීක්ෂණ කටයුතු යනාදිය වැනි ''පොලිස්'' කාර්යයන් කිසිසේත් සතුටුදායක ලෙස ඉටු නොකෙරෙනු ඇත.

විප්ලවය ආරක්ෂා කිරීම, තහවුරු කිරීම හා සංවර්ධනය කිරීම සඳහා නිර්ධන පංතිය ජනතාව හමුවේ තැබිය යුතු කාර්යයන් නම්, පොලීසිය යළිත් සථාපිත කිරීම වැළැක්වීම හා ජනතා මිලීෂියා හමුදුව සංවිධානය කිරීමේදී, මුළු මහත් ජනතාවගේම සංවිධානමය බලවේග එයට සහභාගි කරවා ගැනීම වේ.

---

## ගොවිජන වැඩ පිළිවෙළ සහ ජාතික වැඩ පිළිවෙළ

13. නුදුරු අනාගතයේදී රුසියානු ගම්බද පෙදෙස්වල බලගතු ගොවිජන විප්ලවයක් ඇති වේදැයි යන්න අපට මෙම අවස්ථාවේදී ස්ථිර වශයෙන් කිව නොහැකිය. ගොවි ජනයා අතර පංති භේදය කොතරම් ගැඹුරුද



යන්න අපට නිශ්චිත ලෙස කිව නොහැකිය. එම ජනතාව මෑත කාලයේදී, එක් අතකින් කෘෂිකාර්මික ශ්‍රමකරුවන්, වේතන කම්කරුවන් හා දුප්පත් ගොවීන් (''අර්ධ නිර්ධනයන්'') වශයෙන්ද, අනිත් අතින්, පොහොසත් හා මධ්‍යම ගොවීන් (ධනපතියන් හා සුළු ධනපතියන්) වශයෙන්ද, බෙදී යාමෙන්, එම භේදය වඩාත් බරපතල වී ඇති බව නිසැකය. එවැනි ප්‍රශ්න තීරණය වනු ඇත්තේ හා තීරණය කළ හැක්කේ අත් දැකීම අනුව පමණකි.

එසේ වුවද, වහාම ගොවිජන (ඉඩම්) වැඩ පිළිවෙළ ඉදිරිපත් කිරීම පමණක් නොව, රුසියාවේ ගොවිජන කෘෂිකාර්මික විප්ලවයට ආධාරකාරී වන හා වහාම දිනාගත හැකි ප්‍රායෝගික පියවරයන් ඉදිරිපත් කිරීමද, නිර්ධන පංතියේ පක්ෂය වන අපගේ පැහැර හැරිය නොහැකි යුතුකමක් වන බවට සැක නැත.

සියළුම ඉඩම් ජනසතු කළ යුතු යයි, එනම් රාජ්‍ය තුළ තිබෙන සියළුම ඉඩම් මධ්‍යම රාජ්‍ය බලයට අයත් දේපල විය යුතු යයි,අපි ඉල්ලිය යුත්තෙමු. නැවත පදිංචි කරවීම සඳහා යොදු ගන්නා ඉඩම් ප්‍රමාණය නියම කිරීමත්, වන සංරක්ෂණය, ඉඩම් සංවර්ධනය, යනාදිය සඳහා නීති පැනවීමත්, ඉඩම් හිමියා වන රජය සහ බදු කරු වන ගොවියා අතරට අතරමැදියන් පැමිණීම සම්පූර්ණයෙන්ම තහනම් කිරීමත් (ඉඩම් අතුරු බදු දීම තහනම් කිරීම), එම බලය විසින් කළ යුතුය. එසේ වුවද, ඉඩම් පරිහරණය ඉඩම් හිමිකම හා බුත්තිය කෙරෙහි බලපාන ප්‍රාදේශීය රෙගුලාසි පිළිබඳ තීරණ ගැනීම කිසි කලෙකත් නිලධාරිවාදීන් හා තනතුරුධාරීන් අතට පත් නොකළ යුතුය. එය සම්පූර්ණයෙන්ම පළාත් බද හා අදාල ප්‍රදේශවල ගොවිජන නියෝජිත සෝවියට් සභාවලට පැවරිය යුතුය.

ශස්‍ය නිෂ්පාදන ශිල්ප වැඩි දියුණු කිරීම සහ අස්වැන්න වැඩි කිරීම පිණිසද, මහජන පාලනය යටතේ මහා පරිමාණ වගා කටයුතු අර්ථවත් ලෙස සංවර්ධනය කිරීම පිණිසද, රාජ්‍ය සන්තක කරන ලද සැම වතුකාර දේපලක්ම කෘෂිකාර්මික ශ්‍රම කරු නියෝජිත සෝවියට් සභාවල පාලනයට යටත් විශාල ආදර්ශ ගොවි පලක් බවට පරිවර්තනය කිරීම සාර්ථක කර ගැනීම සඳහාද, අපි ගොවි කාරක සභා තුළ අරගල කළ යුත්තෙමු.

සමාජවාදී — විප්ලවවාදීන් අතර බල පවත්නා සුළු ධනපති වදන් හරඹයට සහ ප්‍රතිපත්තියට, විශේෂයෙන්ම, ''යැපීම්'' තත්වයන් හෝ ''ශ්‍රම'' තත්වයන්, ''ඉඩම් සමාජ සන්තක කිරීම'', ආදිය ගැන කරන නිෂ්ඵල කථාවලට පිළිතුරු වශයෙන්, නිර්ධන පංති පක්ෂය කළ යුත්තකි, මිනිස් වර්ගයාට දුප්පත් කමෙන් හා පීඩනයෙන් විමුක්තිය ලබා දීම වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනය යටතේ කෙරෙන කුඩා පරිමාණ ගොවිතැන මගින් කළ නොහැකි බව පැහැදිලි කිරීම.

ගොවිජන නියෝජිත සෝවියට් සභා අවශ්‍යයෙන්ම එක්වරම බෙදීමක් නොකර, කෘෂිකාර්මික ශ්‍රමකරු නියෝජිතයන්ගෙන් සමන්විත සෝවියට් සභා වෙනමද, දුප්පත් (අර්ධ නිර්ධන) ගොවිජන නියෝජිතයන්ගෙන් සමන්විත සෝවියට් සභා වෙනමද සංවිධානය කිරීමේ හෝ, එසේ නැතහොත්, යටත්පිරිසෙයින්, පොදු ගොවිජන නියෝජිත සෝවියට් සභා තුළම වන විශේෂ කණ්ඩායම් හෝ පක්ෂ ආකාරයෙන්, මෙම පංති තත්වය ඇති නියෝජිතයන්ගේ සාකච්ඡා සභා නිතිපතා වෙනම පැවැත්වීමේ හෝ අවශ්‍යතාවය පැහැදිලි කිරීම නිර්ධන පංති පක්ෂය විසින් කළ යුතු වේ. එසේ නොකළහොත්, හුදෙක්ම ධනපතියන් වර්ගයක් වන පොහොසත් ගොවියන් විසින් දේපල නැති ගොවීන් රවටනු ලැබීම පිණිස, නරෝද්නික් වරුන්[26] පොදු වශයෙන් ගොවි ජනතාව ගැන කියන පැණි රස කළ සුළු ධනපති පංතික කථා පලිහක් මෙන් ඔවුනට ප්‍රයෝජනවත් වනු ඇත.

ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවන තෙක් වතුකාර දේපල අල්ලා නොගන්නා ලෙස හා ගොවිජන ප්‍රතිසංස්කරණය ආරම්භ නොකරන ලෙස ගොවි ජනතාවට උපදෙස් දෙන බොහෝ සමාජවාදී — විප්ලවවාදීන් සහ කම්කරු සහ සොල්දදු නියෝජිත සභා කරන හුදෙක්ම නිලධාරිවාදී දේශනයන්ට පිළිතුරු වශයෙන් නිර්ධන පංතියේ පක්ෂය කළ යුත්තේ ප්‍රදේශවල ගොවිජන නියෝජිතයින්ගේ තීරණ අනුව, ගොවිජනයා විසින්ම අප්‍රමාදව ගොවිජන ප්‍රතිසංස්කරණ ක්‍රියාත්මක කරන ලෙසටත්, වහාම වතුකාර දේපල රාජසන්තක කරන ලෙසටත්, ඔවුන් උනන්දු කරවීමය.

ඒ අතරම පෙරමුණේ සිටින සොල්දදුවන් සඳහා, සහ නගර සඳහා, අහාර නිෂ්පාදනය වැඩි කිරීමේ අවශ්‍යතාවය ගැනත්, ඇති කරන සතුන්, උපකරණ, යන්ත්‍ර, ගොඩනැගිලි ආදියට මොනයම් හෝ අලාභ හානියක් කිරීම කිසිසේත්ම පිළිගත නොහැකි බවත්, අවධාරණය කිරීම වැදගත් වන්නේය.

14. ජාතික ප්‍රශ්නය සම්බන්ධයෙන්වූ කල නිර්ධන පංති පක්ෂය ප්‍රථමයෙන්ම යෝජනා කළ යුත්තේ, සාර්වාදය විසින් පීඩාවට පත්කරන ලද, නැතහොත්, රාජ්‍යයට බලෙන් ඈඳන ලද හෝ එහි සීමාවන් තුළ බලෙන් රඳවන ලද, එනම්, බලෙන් අල්ලාගනු ලැබූ රටවල ජාතීන්ට හා ජනතාවන්ට සම්පූර්ණ නිදහස දීම හා රුසියාවෙන් වෙන්වීමේ හිමිකම ප්‍රකාශයට පත් කිරීම හා එය වහාම ක්‍රියාත්මක කිරීමය.

අල්ලාගත් රටවල් හැර දැමීම ගැන කරන නිවේදන, කථා හා ප්‍රකාශන සමග අතිනත් ගෙන වහාම වෙන්වී ඉවත් වීමේ නිදහසද ව්‍යවහාරයෙන් ක්‍රියාත්මක නොකෙරේ නම්, ඒ සියල්ලම හුදෙක් ජනතාව මුළා කිරීමේ ධනපති රැවටිලි පමණක් වේ. නැතහොත්, ඒවා දූහැමි සුළු ධනේශ්වර ප්‍රාර්ථනාවන් පමණක් වේ.



හැකි තරම් විශාල රාජ්‍යයක් ඇති කිරීම වැඩ කරන ජනතාවගේ වාසියට හේතුවන නිසා, එසේ කිරීමට නිර්ධන පංති පක්ෂය උත්සහ කරයි. ජාතීන් සමීප ලෙස එකිනෙක වෙත ළඟා කර ගැනීමට හා ඒවා තවදුරටත් එකට පෑහෙන සේ කටයුතු කිරීමට එය උත්සාහ කරයි. නමුත් එය මෙම අරමුණ ඉටු කර ගැනීමට අපේක්ෂා කරන්නේ හිංසනයෙන් නොව, සියළුම ජාතීන්ගේ කම්කරුවන්ගේ හා වැඩ කරන ජනතාවන්ගේ නිදහස් හා සහෝදරාත්මක එක්සත් වීමක් මගින් පමණකි.

රුසියානු සමූහාණ්ඩුව වඩාත් ප්‍රජාතන්ත්‍රවාදී වූ තරමට, එය වඩාත් සාර්ථක ලෙස කම්කරු හා ගොවිජන නියෝජිත සෝවියට් සභා සමූහාණ්ඩුවක් ලෙස සංවිධානය වූ තරමට, එවැනි සමූහාණ්ඩුවක් වෙතට සියළුම ජාතීන්ගේ වැඩ කරන ජනතාව ඇදී එන ස්වේච්ඡා ආකර්ෂණ ශක්තිය වඩාත් බලවත් වනු ඇත.

විප්ලවවාදී නිර්ධන පංතියේ වැඩ පිළිවෙළ වන්නේ, වෙන් වී ඉවත් වීමේ සම්පූර්ණ නිදහස දීමත්, පුළුල්තම ප්‍රාදේශීය (සහ ජාතික) ස්වතන්ත්‍රතාවය දීමත්, සුළු ජාතීන්ගේ අයිතිවාසිකම් විස්තර සහිත ලෙස සහතික කිරීමත්ය.

---

## බැංකු සහ ධනපති සම්මේල ජනසතු කිරීම

15. ජනගහනයෙන් අති බහුතරය සමාජවාදී විප්ලවය කිරීමේ අවශ්‍යතාවය පිළිගන්නා තත්වයට පැමිණ නැති කුඩා ගොවීන්ගේ රටක සමාජවාදය "ආරම්භ කිරීමේ" අරමුණ ක්‍රියාත්මක කිරීම, තම කර්තව්‍යය ලෙසට නියම කර ගැනීම,නිර්ධන පංති පක්ෂයට කිසිසේත් කළ නොහැක්කකි.

නමුත් ඉතාමත් කාලෝචිත වන සේ මෝරා විත් තිබෙන හදිසි විප්ලවීය පියවරයන් කල්දැමීම සාධාරණ බව පෙන්වීමේ ප්‍රතිපත්තියක්, ඉහත සඳහන් සත්‍යයෙන් නිගමනය කර ගත හැකි වන්නේ, "මාක්ස්වාදී වැනි" උගුල් වදන්වලට මුවා වී සිටින ධනපති විතණ්ඩවාදීන්ට පමණකි. යුද්ධය කාලයේදී ධනපති රාජ්‍යයන් ගණනාවක්ම විසින් බොහෝ අවස්ථාවල එම හදිසි පියවරයන් ගන්නා ලදී. ළඟදී ආර්ථිකය තුළ ඇතිවන්නට යන සම්පූර්ණ අසංවිධානාත්මකභාවයටත්, ඇතිවන්නට යන සාගතයටත් විරුද්ධව සටන් කිරීම සඳහා එම පියවර ගැනීම අතිශයින්ම අවශ්‍ය වන්නේය.

සියළුම ඉඩම්, බැංකු හා ධනපති සම්මේල ජනසතු කිරීම හෝ, යටත් පිරිසෙයින් ඒවා විභාම කම්කරු ආදීවූ නියෝජිත සෝවියට් සභාවල පාලනයට යටත් කිරීම හෝ ක්‍රියාත්මක කරන සේ බල කළ යුතු සේම, හැකි සෑම අවස්ථාවකම විප්ලවවාදී ආකාරයෙන් එසේ කළ යුතුය. එම පියවරයන්ගෙන් සමාජවාදී ක්‍රමය ''ආරම්භ කිරීමක්'' කිසිසේත්ම සංයුක්ත නොවන අතර, ඒවායින් නියෝජනය වන්නේ සමාජවාදී ක්‍රමය කරා පියවර නැගීමක් පමණකි. ආර්ථික වශයෙන් ඉතාමත් ශක්‍යතා පූර්ණ එවැනි පියවර නොගෙන යුද්ධයෙන් සිදුවූ තුවාල සුව කිරීම හා ඇතිවීමට යන බිඳ වැටීම වැළැක්වීම කිසිසේත් කළ නොහැකිය. එනිසා, යුද්ධයෙන්, විශේෂයෙන්ම නින්දිත ලෙස, පොහොසත් වන ධනපතියන්ගේ හා බැංකුකරුවන්ගේ අති දැවැන්ත ලාභවලට අත තැබීමට විප්ලවවාදී නිර්ධනපංතියේ පක්ෂය කිසි කලෙකත් නොපැකිලෙනු ඇත.

---

## සමාජවාදී ජාත්‍යන්තරය තුළ තත්වය

16. රුසියාවේ කම්කරු පංතියේ ජාත්‍යන්තර වගකීම් ඉඳුරාම මෙම අවස්ථාවේදීම විශේෂයෙන් බලවත් ලෙස පෙරමුණට එමින් පවතී.

මෙම කාලයේදී තමන් ජාත්‍යන්තරවාදීන් වන බවට නොදිවුරා සිටින්නේ කම්මැළි අය පමණකි. ජාතෝන්මාදවාදී ආරක්ෂාවාදීන් පවා, ප්ලෙහානව් හා පොත්‍රෙසව් පවා, කෙරෙන්ස්කි පවා තමන් ජාත්‍යන්තරවාදීන් බව කියති. එනිසා ක්‍රියාවෙන් ජාත්‍යන්තරවාදය හා වචනයෙන් ජාත්‍යන්තරවාදය එකිනෙකට ප්‍රතිවිරුද්ධ බව පැහැදිලි ලෙස, නියත ලෙස හා ඒකාන්ත ලෙස දක්වීම නිර්ධන පංති පක්ෂයේ ඉතාමත් හදිසි යුතුකම වන්නේය.

සකල දේශවාසී කම්කරුවන් වෙත කරන හුදු ආයාචනාද, ජාත්‍යන්තරවාදයට කැපවන බවට දෙන පුහු පොරොන්දුද, විවිධ යුද්ධකාරී රටවල නිර්ධන පංතියේ සටන් සඳහා ''අනු පිළිවෙළක්'' නියම කිරීමට දරන ඍජු හෝ වක්‍ර ප්‍රයත්නයන්ද, විප්ලවීය අරගලය ගැනවූ ප්‍රශ්නය හා සම්බන්ධයෙන් යුද්ධකාරී රටවල සමාජවාදීන් අතර ''එකඟත්වයන්'' ඇති කර ගැනීමට දරන අමාරුපාන උත්සාහයන්ද, සාම ව්‍යාපාරයක් උදෙසා සමාජවාදී සම්මේලන කැඳවීමට කරන්නාවූ මහත් කලබැගැනියද, යනාදී අදහස්වල ප්‍රයත්නවල හා සැලසුම්වල කතුවරු කොතරම් අවංක වුවත්,



ඒවායේ වාස්තවික අර්ථය අනුව බලන කල, ඒ සියල්ලම, ජාතෝන්මාදවාදීන් විසින් ජනතාව රවටනු ලබන බව වසංකර තැබීම සඳහා පමණක් ප්‍රයෝජනවත් වන, හුදු වදන් හරඹයක් පමණක් හෝ, එසේ නැතහොත්, ඒවා ඉතාමත් යහපත් අර්ථයෙන් සලකා ගත් විට, අහිංසක හා දැහැමි අපේක්ෂාවන් පමණක් හෝ වන්නේය. පාර්ලිමේන්තු ඇස් බැන්දුම් ක්‍රම ක්‍රියාත්මක කිරීමේ ඉතාමත් දක්ෂයන් හා නිපුණත්වය ලැබූවන් වන ප්‍රංශ සමාජ — ජාතෝන්මාදවාදීන්, විශ්වාස කළ නොහැකි තරම් ලජ්ජා විරහිත ලෙස සමාජවාදයට හා ජාත්‍යන්තරයට ද්‍රෝහී වීමත් සමග එක්වරම උද්ධච්ච හා රැව්දෙන සමාදනවාදී සහ ජාත්‍යන්තරවාදී වදන් මාලා නද දීමත්, අධිරාජ්‍යවාදී යුද්ධය කරගෙන යන ආණ්ඩුවේ තනතුරු පිළිගැනීමත්, යුද්ධ වියදම් සඳහා මුදල් වෙන් කිරීම හෝ ණය දීම සඳහා (එහෙයිද්සේ, ස්කොබිලෙව්, ටසෙරතෙලි සහ ස්තෙක්ලෝව් මෙන්) කැමැත්ත දීමත්, තමන්ගේ රටවල විප්ලවීය අරගලයට විරුද්ධත්වය දැක්වීමත්, යනාදිය සම්බන්ධයෙන් වාර්තා බිඳ හෙළුයේ මීට බොහෝ කලකට පෙරය.

අධිරාජ්‍යවාදී ලෝක යුද්ධයෙන් යෙදී ඇති තත්වයෙහි තිරිසන් හා දරුණු ස්වභාවය යහපත් ජනයාට බොහෝවිට අමතක වන්නේය. මෙම තත්වය විසින් වදන් මාලා නොඉවසනු ලැබේ. එය අහිංසක දැහැමි අපේක්ෂාවන්ට උසුළු විසුළු කරන්නේය.

ජාත්‍යන්තරවාදයෙහි වර්ග කීපයක් නොමැත. එහි ඇත්තේ එකම වර්ගයක් පමණකි. එම ජාත්‍යන්තරවාදය නම්, අයෙක් තමන්ගේම රටෙහි විප්ලවවාදී ව්‍යාපාරය හා විප්ලවවාදී අරගලය සංවර්ධනය කිරීම් සඳහා සහ කිසිම විශේෂයක් නැතිව සෑම රටකම එවැනිම අරගලයකට, එම ක්‍රියා මාර්ගයට හා එයට පමණක්ම (ප්‍රචාරය පක්ෂපාතිත්වය හා ද්‍රව්‍යමය ආධාර මගින්) උදව් දීමය.

අන් සියල්ලක්ම රැවටීම හා මැනිලොව්වාදය[27] වන්නේය.

යුද්ධයේ අවුරුදු දෙකක් පමණ කාලය තුළදී සෑම රටකම සමාජවාදී සහ කම්කරු පංති ව්‍යාපාරය තුළ උපනති තුනක් පරිණාම වී ඇත. මෙම උපනති තුනෙහි පැවැත්ම යථාර්ථ ලෙස පිළිගැනීම, ඒවා විශ්ලේෂණය කිරීම හා ඉන් සැබවින්ම ජාත්‍යන්තරවාදී වන උපනතියට පක්ෂව නිරතුරුව සටන් කිරීම ප්‍රතික්ෂේප කරන අයෙක් වේනම්, හේ බෙලහීනත්වයට, අසරණභාවයට හා වරදට වැටීමට ඉරණම් වූවෙකි.

එම ප්‍රවණතාවයන් තුන මෙසේය:

1) සමාජ-ජාතෝන්මාදවාදීන්. ඔවුහු වචනයෙන් සමාජවාදීන් හා ක්‍රියාවෙන් ජාතෝන්මාදවාදීන් වන, අධිරාජ්‍යවාදී යුද්ධයකදී ''පීතෘභූමිය ආරක්ෂා කිරීම'' (අන් සියල්ලටම වඩා වර්තමාන අධිරාජ්‍යවාදී යුද්ධයේදී එසේ කිරීම) පිළිගන්නා, අය වෙති.

මොවුහු අපගේ පංති සතුරන් වෙති. ඔවුන් ධනපති පංතියේ පැත්තට ගොස් ඇත.

සියළුම රටවල නිල සමාජ — ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂවල නිල නායකයන් ගෙන් බහුතරය මොවුහු වෙති. රුසියාවේ ප්ලෙහානව් සහ සමාගමද, ජර්මනියේ ෂෙයිඩමාන්ලාද, ප්‍රංශයේ රෙනොදෙල්, ගෙද් හා සම්බාද, ඉතාලියේ බිසෝලාති සහ සමාගමද, බ්‍රිතාන්‍යයේ හින්ඩමාන්, ෆේබියන්වරු[28] ("කම්කරු පක්ෂයේ"[29] නායකයන්) ද, ස්වීඩනයේ බ්‍රාන්ටිං සහ සමාගමද, ඕලන්දයේ ත්‍රොයෙල්ස්ත්‍රා සහ ඔහුගේ පක්ෂයද, ඩෙන්මාර්කයේ ස්ටෞනිං හා ඔහුගේ පක්ෂයද, ඇමෙරිකාවේ වික්ටර් බර්ගර් සහ වෙනත් "පීතෘ භූමියේ ආරක්ෂකයන්" ද යනාදීහු එම ගණයට අයත් වෙති.

2) දෙවැනි උපනතිය "මැද පිරිස" ලෙසට හැඳින්වේ. සමාජ — ජාතොයාන්මාදවාදීන් හා නියම ජාත්‍යන්තරවාදීන් අතර එහා මෙහා වැනෙමින් සිටින අය මෙම උපනතියට අයත්ය.

තමන් මාක්ස්වාදීන් හා ජාත්‍යන්තරවාදීන් වන බවද, සාමයට පක්ෂවන බවද, තමන්ගේ ආණ්ඩුවලට නොයෙක් ආකාරයේ "බලපෑම්" කිරීමට පක්ෂ බවද, "සාමය සඳහා ජනතාවගේ කැමැත්ත සොයා දැනගත යුතු" යයි තමන්ගේම ආණ්ඩුවෙන් හැම ආකාරයකින්ම ඉල්ලීමට පක්ෂ බවද, නොයෙක් මාදිලියේ සාම ව්‍යාපාරවලට හා රටවල් අල්ලා ගැනීමෙන් තොර සාමයකට පක්ෂ බවද, යනාදිය මෙන්ම සමාජ-ජාතොයාන්මාදවාදීන් සමග සාමයට පක්ෂ බවද, ඔවුහු දිවරා ප්‍රකාශ කරති. "මැද පිරිස සමගියට" පක්ෂය; මැද පිරිස භේදයට විරුද්ධයි.

"මැද පිරිස" සිටින්නේ පැණි රස කළ සුළු ධනපති වදන් මාලා රාජ්‍යයෙහිය. ඔවුන්ගේ ජාත්‍යන්තරවාදය වචනයෙන් පමණකි. ක්‍රියාවෙන් ඔවුහු බියගුළු අවස්ථාවාදීන් වන අතර සමාජ-ජාතොයාන්මාදවාදීන්ට යටහත් පහත්කම් දක්වති.

මෙහිදී වැදගත් කාරණය වන්නේ, තමන්ගේම ආණ්ඩුවට විරුද්ධව විප්ලවයක් කිරීමේ අවශ්‍යතාවය ගැන "මැදපිරිසට" අවබෝධයක් නොමැති වීමය. ඔවුන් විප්ලවය ගැන දේශනා කරන්නේ නැත. ඔවුන් ඉත සිතින් විප්ලවීය අරගලයක් කරන්නේ නැත. තවද, එවැනි අරගලයක් නොකර මග හැරීම පිණිස ඔවුහු ඉතාමත් නිසරු අන්ත — "මාක්ස්වාදී" රාවයක් නංවන නිදහසට කරුණු ඉදිරිපත් කරති.

සමාජ-ජාතොයාන්මාදවාදීහු අපගේ පංති සතුරන් වෙති. ඔවුහු කම්කරු ව්‍යාපාරය තුළ සිටින ධනපතියන් වෙති. ඔවුන් නියෝජනය කරන්නේ වාස්තවික වශයෙන් ධනපති පංතිය විසින් (වඩා හොඳ වැටුප්, තනතුරු හා නම්බුනාම ආදිය මගින්) අල්ලසට ගනු ලැබූ හා කුඩා සහ දුර්වල



ජාතීන් කොල්ල කෑමටත්, ධනපතියන් කොල්ලකාගත් වස්තුව බෙදා ගැනීම සඳහා යුද්ධ කිරීමටත්, තමන්ගේ ධනපති පංතියට උදව් කරන කම්කරු ස්ථරයන් හෝ කණ්ඩායමය.

"මැද පිරිස" සමන්විත වන්නේ, නීත්‍යානුකූල භාවය නැමති පිළිකා රෝගයෙන් ඔද බිඳගත්, පාර්ලිමේන්තු වතාවරණයෙන් දූෂිත බවට පත්, යනාදිවූ, පැරණි පුරුදුකම් වන්දනයෙහි යෙදෙන්නන්ද, සැප පහසු තනතුරු හා මෘදු රැකියාවලට හුරු වූ නිලධාරිවාදීන්ද ආදීන්ගෙනි. ඓතිහාසික හා ආර්ථික වශයෙන් කියතොත්, ඔවුන් අමුතු ස්ථරයන් වශයෙන් ගත නොහැකිය. ඔවුන් නියෝජනය කරන්නේ කම්කරු පංති ව්‍යාපාරයේ ගතවූ අවධියේ සිට, එනම්, විශාල හා ඉතා විශාල පරිමාණයෙන්,සීරුවෙන්, එක දිගටම හා ක්‍රමානුකූලව සංවිධානාත්මක වැඩ කිරීම පිළබඳ, නැතිවම බැරි කලාව හා සම්බන්ධයෙන්, විශේෂයෙන්ම, නිර්ධන පංතියට බොහෝ අගනා දේ ලබා දුන්, 1871 හා 1914 දක්වා වූ අදියරෙහි සිට, අධිරාජ්‍යවාදී යුද්ධය ඇවිලීමත් සමග වාස්තවික වශයෙන් අත්‍යාවශ්‍ය වූ සහ සාමාජ විප්ලවයේ යුගය ආරම්භ කළ, නව අදියර කරා පරිවර්තනය වීමක් පමණකි.

"මැද පිරිසෙහි" ප්‍රධාන නායකයා හා ප්‍රචාරකයා කාල් කෞට්ස්කිය. දෙවැනි ජාත්‍යන්තරයේ (1889-1914) ඉතාමත් ප්‍රමුඛතම අධිකාරයක් සහිතව සිටි ඔහු 1914 අගෝස්තු මාසයේ පටන් මාක්ස්වාදියෙකු වශයෙන් අන්ත බංකොලොත්භාවයේ ආදර්ශයක්ද, පෙර නෑසූ තරම් කොන්ද පණ නැති භාවයේ සහ කාලකණ්ණි වපලත්වයේ හා ද්‍රෝහීභාවයේ ප්‍රතිමූර්තියක්ද විය. "මැද පිරිසේ" ප්‍රවණතාවයට කෞට්ස්කි, හාසේ, ලෙදෙබූර් සහ රීක්ස්ටාග් පාර්ලිමේන්තුවේ ඊනියා කම්කරු හෝ ශ්‍රමකරු කණ්ඩායම[30] ද අයතිය. ප්‍රංශයේ ලොන්ගේ, ප්‍රෙස්මාන් සහ පොදු වශයෙන් ඊනියා සුළු පිරිස්[31] (මෙන්ෂෙවික්වරු) ද, බ්‍රිතාන්‍යයේ (පිලිප් ස්නෝඩන්, රැම්සේ මැක්ඩොනල්ඩ් හා ස්වාධීන කම්කරු පක්ෂයේ[32] වෙනත් නායකයන් බොහෝ දෙනෙක්ද, බ්‍රිතාන්‍ය සමාජවාදී පක්ෂයේ[33] නායකයන් සමහර දෙනෙක්ද, එක්සත් ජනපදයේ මොරිස් හිල්කිට් සහ තවත් බොහෝ දෙනෙක්ද, ඉතාලියේ තුරාටි, ත්‍රෙවෙස්, මොදිල්‍යානි සහ වෙනත් අයද, ස්විට්සර්ලන්තයේ රොබට් ග්‍රිම් හා වෙනත් අයද, අවුස්ත්‍රියාවේ වික්ටර් ඇඩ්ලර් සහ සමාගමද, රුසියාවේ සංවිධායක කාරක සභාවේ පක්ෂයද, අක්සෙල්රොද්, මාර්තව්, චිහෙයිද්සේ, ට්සෙරතෙලි හා වෙනත් අයද, යනාදීන්, එම ප්‍රවණතාවයට අයත්ය.

ස්වාභාවික වශයෙන්ම, සමහර විට පුද්ගලයන් ඔවුන් නොදැනුවත්වම පාගේ සමාජ-ජාතොයාන්මාදවාදී ප්‍රතිෂ්ඨාවේ සිට "මැද පිරිස" දක්වාද පාවී යන අවස්ථා ඇත. එසේම එහි ප්‍රතිලෝමයද සිදුවන්නේය. පුද්ගලයන් පංතියකින් පංතියකට නිදහස් ලෙස මාරුවී යාමට ඉඩ ඇති නමුත් පංති

පැහැදිලි ලෙස වෙන් වී පවතින බව සෑම මාක්ස්වාදියෙක්ම දන්නා කරුණකි. එසේම, පුද්ගලයන් එක් උපනතියක සිට තවත් එකකට නිදහස් ලෙස මාරුවී ගියත්, උපනති ඒකාබද්ධ කිරීමට කොතරම් ප්‍රයත්න දැරුවත්, දේශපාලන ජීවිතයේ උපනති පැහැදිලිව එකිනෙකෙන් වෙන්ව පවතී.

3) තුන් වැනි උපනතිය වූයේ නියම ජාත්‍යන්තරවාදීන්ය. ''ට්සිමර්වෝල්ඩ් වාමාංශයෙන්''[34] ඔවුන් නියෝජනය විය. (මෙම උපනතියේ ආරම්භය ගැන පාඨකයාටම වටහාගත හැකිවනු පිණිස, එහි 1915 සැප්තැම්බර් ප්‍රකාශනය වෙනම අතිරේකයක් වශයෙන් අපි යළි පළකරන්නෙමු).

සමාජ ජාතෝන්මාදවාදයෙන් හා ''මැද පිරිස්'' වාදයෙන් යන දෙකෙන්ම එය බිඳී වෙන්වූ බව පෙන්වන කැපී පෙනෙන අංග ලක්ෂණය වූයේ, එය තමන්ගේ අධිරාජ්‍යවාදී ආණ්ඩුවට හා තමන්ගේ ධනපති පංතියට විරුද්ධව ගෙන ගිය නිර්භීත විප්ලවවාදී අරගලයයි. එහි ප්‍රතිපත්තිය වන්නේ, ''අපගේ ප්‍රධාන සතුරා ඇත්තේ ස්වදේශයෙහිය'' යනුයි. එය සමාජ-සමාදනවාදී (සමාජ-සමාදනවාදියෙක් යනුවෙන් අදහස් කරන්නේ වචනයෙන් සමාජවාදියෙක් හා ක්‍රියාවෙන් ධනපති සමාදනවාදියෙක් වන අයෙකි; ප්‍රාග්ධනයේ ආධිපත්‍යය පෙරළා නොදමා ඇති කරන සදාකාලික සාමයක් ගැන ධනපති සමාදනවාදීහු සිහින මවති) වදන් මාලාවලට විරුද්ධවද, වර්තමාන යුද්ධය හා සම්බන්ධයෙන් නිර්ධන පංති විප්ලවීය අරගලයක් හා නිර්ධන පංති සමාජවාදී විප්ලවයක් කිරීමේ හැකියාව, නිවැරදි කම හා කල්යල් සුදුසු කම ප්‍රතික්ෂේප කිරීමට යොදා ගන්නා ශඨප්‍රයෝගවලට විරුද්ධවද, නිර්දය අරගලයක් කරන්නේය.

ජර්මනියේ මෙම උපනතියෙහි ඉතාමත් විශිෂ්ට නියෝජිතයා වන්නේ කාල් ලීබ්නෙෂ්ට් අයත් වන ස්පාර්ටකස් කණ්ඩායම, නැතහොත් ජාත්‍යන්තර කණ්ඩායම[35] ය. මෙම උපනතියේ සහ නව, එමෙන්ම නියම නිර්ධන පංති ජාත්‍යන්තරවාදයේ ඉතාමත් කීර්තිමත් නියෝජිතයා කාල් ලීබ්නෙෂ්ට්ය.

ජර්මනියේ කම්කරුවන් හා සොල්දාදුවන් අමතා හඬ නැගූ කාල් ලීබ්නෙෂ්ට්, ඔවුන්ගේ තුවක්කු ඔවුන්ගේම ආණ්ඩුවට විරුද්ධව එල්ල කරන ලෙස කීවේය. කාල් ලීබ්නෙෂ්ට් එසේ කළේ විවෘත ලෙසය. ඒ (රීක්ස්ටාග්) පාර්ලිමේන්තුවේ වේදිකාවෙනි. නීති විරෝධී ලෙස මුද්‍රණය කරන ලද ''ආණ්ඩුව හංගවේවා'' යයි ප්‍රකාශ කරන පත්‍රිකාද රැගෙන, ඔහු බර්ලිනයේ විශාලතම චතුරශ්‍රයන් ගෙන් එකක් වන, පොට්ස්ඩෑම් චතුරශ්‍රයේ පෙළපාලියකට ගියේය. ඔහු සිරභාරයට ගෙන බරපතල වැඩ ඇතිව දඬු ගෙට යවන ලදී. යුද්ධ විරෝධී කටයුතු කිරීම නිසා දහස් ගණනින් නොවේ නම් සියගණනින් බන්ධනාගාර ගතවූ වෙනත් සැබෑ



ජර්මන් සමාජවාදීන් මෙන් ඔහුද, දැන් ජර්මන් අපරාධකරුවන්ගේ සිරගෙයක ඔහුගේ සිර දඬුවම විඳිමින් සිටින්නේය.

කාල් ලීබ්නෙෂ්ට් ඔහුගේ කථා හා ලිපි මගින් ඔහුගේම ප්ලෙහානව්ලාට, පොත්‍රෙසොව්ලාට (ෂෙයිඩමාන්ලාට, ලේගීන්ලාට, දවීද්ලා සහ සමාගමට) පමණක් නොව, ඔහුගේම මැද පිරිස්වලටද, ඔහුගේම චිහෙයිද්සේලාට සහ ට්සෙරතෙලිලාටද (කෞට්ස්කි, හාසේ, ලෙදෙබූර් සහ සමාගමට) ද යානු කම්පා විරහිත ලෙස පහර දුන්නේය.

හාරසිය දහයක් මන්ත්‍රීවරුන් අතුරෙන් දෙදෙනෙක් වූ කාල් ලීබ්නෙෂ්ට් හා ඔහුගේ මිත්‍ර ඔත්තෝ රූල්, විනය උල්ලංඝනය කරමින් ''මැද පිරිස්'' හා ජාතෝන්මාදවාදීන් අතර ''සමගිය'' විනාශ කරමින්, ඔවුන් සියලු දෙනාටම විරුද්ධ වූහ. සමාජවාදය, නිර්ධන පංති විප්ලවය නියෝජනය කරන්නේ ලීබ්නෙෂ්ට් පමණක් මය. ස්පාර්ටකස් කණ්ඩායමේ සාමාජිකාවක් හා නායකයන් අතුරෙන් කෙනෙක් වූ) රෝසා ලුක්සෙම්බුර්ග්ගේ වචන වලින් කියතොත්, ජර්මන් ප්‍රජාතන්ත්‍රවාදයේ අන් සියළු කොටස්ම ''දුගඳ හමන මළ කුණකි''.

කම්කරු දේශපාලනය[36] නැමති බ්‍රෙමන් පත්‍රයේ කණ්ඩායම ජර්මනියේ ඇති තවත් නියම ජාත්‍යන්තරවාදී කණ්ඩායමකි.

ක්‍රියාවෙන් ජාත්‍යන්තරවාදයට ආසන්නතම පිරිස් මෙසේය: ප්‍රංශයේ ලෝරියෝ සහ ඔහුගේ මිතුරන් (බූර්දිරොන් සහ මේර්හෙයිම් සමාජ — සමාදනවාදයට ලිස්සා වැටී ඇත) හා එසේම ජිනීවාහි ''හෙට''[37] නැමති පත්‍රය පළ කරන ප්‍රංශ ජාතික අන්රි ගිල්බො ද, එම ගණයට අයත්ය. බ්‍රිතාන්‍යයේ වෘත්තීය සමිතිවාදියා[38] නැමති ප්‍රවෘත්ති පත්‍රයත් බ්‍රිතාන්‍ය සමාජවාදී පක්ෂයේ සහ ස්වාධීන කම්කරු පක්ෂයේ සාමාජිකයන් (නිදර්ශනයක් වශයෙන්, සමාජවාදයට ද්‍රෝහී වූ නායකයන්ගෙන් වෙන් වන ලෙස විවෘතව හඬ නැගූ විලියම්ස්) රොසල් සමහර දෙනෙකුත්, යුද්ධයට විරුද්ධව සටනක් කිරීම නිසා බ්‍රිතාන්‍ය ධනපති ආණ්ඩුව විසින් බරපතල වැඩ ඇතිව සිරගත කරන ලද මැක්ලීන් නැමති ස්කොට් ජාතික පාඨශාලාචාර්යවරයාත්, එම වරදම කිරීම නිසා සිර ගෙවල සිටින සිය ගණන් බ්‍රිතාන්‍ය සමාජවාදීනුත්, ඊට අයත්ය. ක්‍රියාවෙන් ජාත්‍යන්තරවාදීන් වන්නේ ඔවුන්ම පමණකි. එක්සත් ජනපදයේ ''සමාජවාදී කම්කරු පක්ෂය'' හා අවස්ථාවාදී සමාජවාදී පක්ෂය[39] තුළ සිටින නමුත්, 1917 ජනවාරි මස පටන් ''ජාත්‍යන්තරවාදියා''[40] නැමති සඟරාව පළ කිරීමට පටන් ගත් අයද, ඕලන්දයේ ද ත්‍රියුන් නැමති පත්‍රය පළ කරන '' ත්‍රියුන්වාදීන්'' ගේ පක්ෂය (ට්සිමර්වෝල්ඩ්හිදී මැදපිරිසට අයත් වූ නමුත් දැන් අපගේ පිරිසට එකතු වී සිටින පනෙකුක් හර්මන් ගෝර්ටර්, වයින්කූප් සහ හෙන්රියටා රොනල්ඩ් හොල්ස්ට්)[42] ද, ''සිමර්වෝල්ඩ් වාමාංශය'' සංවිධානය

කිරීම සඳහා සිමර්වෝල්ඩ්හිදී පෞද්ගලිකව ක්‍රියාශීලී ලෙස කටයුතු කළ, එසේම යුද්ධයට විරුද්ධව විප්ලවවාදී ලෙස සටන් කිරීම නිසා දැනට සිරගතව සිටින ස්වීඩනයේ ලින්ඩ්හාගන්, ටූර්නෙර්මන්, කාර්ල්-සොන්, ස්ත්‍රොම් සහ හෝග්ලන්ඩ් යන, අයගේ නායකත්වයෙන් යුත් යෞවනයන්ගේ පක්ෂය, නැතහොත්, වාමාංශය[43] ද, ඩෙන්මාර්කයේ ඇමති තැන්පත් ස්ටෞනිංගේ නායකත්වයෙන් යුත්, දැනට ඉඳුරාම ධනපති පංතික වන "සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී" පක්ෂයෙන් දැන් ඉවත් වී සිටින, ත්‍රියර් හා ඔහුගේ මිතුරන් ද, බුල්ගේරියාවේ "තෙස්නායාකි[44]" ද, ඉතාලියේ ආසන්නතම ලෙස ගිණිය හැකි පක්ෂයේ ලේකම් කොන්ස්තන්තිනෝ ලසාරි සහ "ඉදිරියට"[45] නැමති ප්‍රධාන නිල පත්‍රයේ කතුවර සෙරාති ද, පෝලන්තයේ "ප්‍රදේශීය විධායකය" යටතේ එක්සත් වී සිටින සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ නායකත්වය දරන රදෙක්, හනෙට්ස්කි සහ වෙනත් අය සහ "ප්‍රධාන විධායකය"[46] යටතේ එක්සත් වී සිටින සමාජ-ප්‍රජාතන්-ත්‍රවාදීන්ගේ නායකත්වය දරන රෝසා ලුක්සෙම්බුර්ග්, තිෂ්කා සහ වෙනත් අයද, ස්විට්සර්ලන්තයේ වාමාංශයට අයත්, තමන්ගේම රටෙහි සමාජ — ජාතෝන්මාදවාදීන්ට හා "මැද පිරිසට" විරුද්ධව සටන් කිරීම පිණිස (1917 ජනවාරි) ජනමත විමසීම" සඳහා තර්කය සකස් කළාවූත්, 1917 පෙබරවාරි 11 දින තොස්හි පවත්වන ලද සූරිච් කැන්ටන ප්‍රදේශවල සමාජවාදී සම්මේලනයේදී යුද්ධයට විරුද්ධව සසංගත ලෙස විප්ලවවාදී වන යෝජනාවක්[47] ඉදිරිපත් කළාවූත්, අයද, ඕස්ත්‍රියාවේ දරුණු ප්‍රතිගාමී ආණ්ඩුව විසින් දැනට වසා දමා ඇති ජිනීවාහි "කාල් මාක්ස්" සමාජය මගින් සමහර කටයුතු කළ හා ඇමතිවරයෙකුට වෙඩි තැබීමේ වීර,එහෙත් නුනුවණ ක්‍රියාව නිසා එම ආණ්ඩුව විසින් ජීවිතය විනාශ කරනු ලැබීමට පාත්‍රව සිටින ඇඩ්ලර්ගේ තරුණ වාමාංශික මිත්‍රයන්ද, යනාදීන් එම පිරිසට අයත් වෙති.

එය මති මාත්‍ර පිළිබඳ ප්‍රශ්නයක් නොවේ. මති මාත්‍ර ඇත්තෙන්ම වාමාංශිකයන් අතරද ඇත. එය උපනතිය පිළිබඳ ප්‍රශ්නයකි. භයානක අධිරාජ්‍යවාදී යුද්ධයක් පවතිද්දී ක්‍රියාවෙන් ජාත්‍යන්තරවාදියෙක් වීම පහසු නොවේ. කාරණය එයයි. එවැනි අය ඇත්තේ ස්වල්ප දෙනෙකි. නමුත්, සමාජවාදයේ අනාගතය රැඳී පවතින්නේ එවැනි අයම මත පමණකි. ජනතාව දූෂණයට පත් කරන්නන් නොව, ජනතාවගේ නායකයන් වන්නේ ඔවුන් පමණකි.

සමාජ — ප්‍රජාතන්ත්‍රවාදීන් හා පොදු වශයෙන් සමාජවාදීන් අතර සිටින ප්‍රතිසංස්කරණවාදීන් සහ විප්ලවවාදීන් අතර අසමාන කම්, අධිරා-ජ්‍යවාදී යුද්ධයේ තත්වය යටතේ වෙනසකට පාත්‍රවීම වාස්තවික වශයෙන් අනිවාර්ය දෙයකි. ධනපති ආණ්ඩු සාමයක් ඇතිකරගත යුතුයයිද, "සාමය සඳහා ජනතාවගේ කැමැත්ත සොයා දැනගත යුතු" යයිද ආදී වශයෙන් ඉල්ලීමට පමණක් සීමා වී සිටින අය ඇත්ත වශයෙන්ම ප්‍රතිසංස්කරණ දක්වා ඇද වැටෙමින් සිටිති. එසේ වන්නේ වාස්තවික වශයෙන් යුද්ධ පිළිබඳ ප්‍රශ්නය විසඳීම විප්ලවවාදී මාර්ගයකින් පමණක් කළහැක්කක් වන හෙයිනි.

නිර්ධන පංතියේ විප්ලවයකින් හැර, ප්‍රජාතන්ත්‍රවාදී ස්වභාවයෙන් හා බල කිරීමෙන් තොරව, සාමයකින් යුද්ධය කෙළවර කිරීමේ හෝ යුද්ධයේ මහා ධනස්කන්ධයක් රැස් කරගත් ධනපතියනට පොලී වශයෙන් ප්‍රකෝටි ගණන් මුදල් ගෙවීමේ බරෙන් ජනතාව නිදහස් කිරීමේ හෝ වෙනත් මාර්ගයක් නොමැත.

ඉතාමත් විවිධාකාර ප්‍රතිසංස්කරණයන් කරන ලෙස ධනපති ආණ්ඩු-වලින් ඉල්විය හැකිය. එසේම, ඉල්විය යුතුය. එහෙත්, අධිරාජ්‍යවාදී ප්‍රාග්ධනයේ දහස් ගණන් රැහැන්වලින් බැඳී සිටින ජනතාව හා පංති එම රැහැන් බිඳ දැමිය යුතුයයි ඉල්ලීම යමෙකුට මනිලොව්වාදය හා ප්‍රතිසංස්-කරණවාදය දක්වා පහත නොවැටී කළ හැකි නොවේ. තවද එම බැඳීම් බිඳ දමතොත් මිස, යුද්ධය ගැන හා යුද්ධයට විරුද්ධව කරන සියළු කථා නිෂ්ඵල හා රැවටිලිකාර නන්දෙඩවිලි වන්නේය.

"කෞට්ස්කිවාදීහු" හා "මැද පිරිස" වචනයෙන් විප්ලවවාදීන් හා ක්‍රියාවෙන් ප්‍රතිසංස්කරණවාදීන් වෙති. ඔවුහු වචනයෙන් ජාත්‍යන්තරවාදීන් හා ක්‍රියාවෙන් සමාජ — ජාතෝන්මාදවාදීන්ගේ සහායකයන් වෙති.

---

## ටිසිමර්වෝල්ඩ් ජාත්‍යන්තරය බිඳ වැටීම.
## — තුන්වැනි ජාත්‍යන්තරයක් පිහිටුවීමේ අවශ්‍යතාවය

17. ආරම්භයේ පටන්ම ටිසිමර්වෝල්ඩ් ජාත්‍යන්තරය වැනෙනසුලු, 'කෞට්ස්කිවාදී", "මැදපිරිස්වාදී" ප්‍රතිෂ්ඨාවක් ගත් හෙයින්, වහාම එය සමග සම්බන්ධකම් අත් හැරීමට ටිසිමර්වෝල්ඩ් වාමාංශයට සිදුවිය. එසේම අන් කොටස් කෙරෙන් ඉවත් වීමටත්, තමන්ගේම ප්‍රකාශනය නිකුත් කිරීමටත් (රුසියන්, ජර්මන් හා ප්‍රංශ භාෂාවලින් ස්විට්සර්ලන්තයේ පළ විය) එයට සිදු විය.

ටිසිමර්වෝල්ඩ් ජාත්‍යන්තරයේ ප්‍රධාන දුර්වලකම වූයේත්, එය බිඳ වැටීමට (දේශපාලන හා දෘෂ්ටිමය වශයෙන් එය දැනටමත් බිඳ වැටී

ඇත) හේතු වූයේත් සමාජ-ජාත්‍යෝන්මාදවාදයෙන් සහ (ඕලන්දයේ) හාග් හි වන්දර්වෙල්දෙගේ හා හුයිස්මාන්ලාගේ නායකත්වයෙන් යුත් සමාජ — ජාත්‍යෝන්මාදවාදී ජාත්‍යන්තරයෙන්, යනාදියෙන් සම්පූර්ණයෙන්ම බිඳී වෙන්වීම වැනි තීරණාත්මක ප්‍රායෝගික වැදගත් කමකින් යුත්, එතරම් අති භාරදූර ප්‍රශ්නයකදී, එය දක්වූ වැනෙන සුලුභාවය හා අතීරණය ය.

ටිසිමර්වෝල්ඩ් බහුතරය කෞට්ස්කිවාදීන් මිස අන් කවුරුන් හෝ නොවන බව තවම රුසියාව තුළ ප්‍රකට වී නොමැත. එහෙත් මූලික කාරණාව එය යි. එය අමතක කළ නොහැකි අතර, දැන් බටහිර යුරෝපයේ පොදු වශයෙන් ප්‍රකටවී තිබේ. මැද පිරිස, නැතහොත්, ''කෞට්ස්කිවාදය'' ද, ටිසිමර්වෝල්ඩ් බහුතරය ද, දෙකක් නොව, ඒකාන්ත වශයෙන් එකක්ම බව පුවත්පත් මගින් පිළිගැනීමට, ඒ අන්ත ජර්මන් සමාජ — ජාත්‍යෝන්මාදවාදියා වන, අන්ත ජාත්‍යෝන්මාදවාදී ''හෙම්නිට්ස් පත්‍රයේ'' කතුවර හා පාර්වුස් ගේ අන්ත ජාත්‍යෝන්මාදවාදී ''සන්ටාව''[48] සඟරාවට ලිපි සපයන්නෙකු වන (''සමාජ — ප්‍රජාතන්ත්‍රවාදියෙක්ද වන හා සමාජ — ප්‍රජාතන්ත්‍රවාදයේ ''සමගියේ'' උත්සුක්ත පක්ෂවාදියෙක් වන) හෙයිල්මාන්ට සිදුවිය.

1916 අවසානය හා 1917 ආරම්භය වන විට මෙම කරුණ නිශ්චිත ලෙසට තහවුරු වී තිබුණි. සමාජ — සමාදනවාදය කීන්තාල් ප්‍රකාශනය[49] මගින් හෙළා දකින ලද නමුත්, මුළු ටිසිමර්වෝල්ඩ් දක්ශිණාංශයම, මුළු ටිසිමර්වෝල්ඩ් බහුතරයම, සමාජ — සමාදනවාදයට ගිලා බැස්සේය. කෞට්ස්කි සහ සමාගම 1917 ජනවාරි සහ පෙබරවාරි මාසවල කළ ප්‍රකාශ මාලාවක් මගින්ද, ප්‍රංශයේ බුර්දිරොන් සහ මේර්හෙයම් සමාජ-ජාත්‍යෝන්මාදවාදීන් සමග ඒකමතික වෙමින් සමාජවාදී පක්ෂයේ (1916 දෙසැම්බර්) සමාදනවාදී යෝජනාවලට[50] "confédération Générale du Travail සංවිධානයේ (ප්‍රංශ ජාතික වෘත්තීය සමිති සංවිධානයේ 1916 දෙසැම්බර් මාසයේම) එම යෝජනාවලට ඡන්දය දීමෙන්ද, එම තත්වයට වැටුනහ. ඉතාලියේ මුළු පක්ෂයම සමාජ-සමාදනවාදී ප්‍රතිඡ්ඨාවක් ගැනීමෙන්, එරටේ තුරාටි සහ සමාගමද එම තත්වයට වැටුනු අතර, තුරාටි පෞද්ගලිකව, 1917 දෙසැම්බර් 17 දින කළ කථාවකදී අධිරාජ්‍යවාදී යුද්ධයට සුදු හුණු ගාන ජාතිකවාදී වදන් මාලා කරා ''ලිස්සා'' ගියේය. (එය අහම්බෙන් සිදුවූවක් නම් නොවේ).

ටිසිමර්වෝල්ඩ් සහ කීන්තාල් සම්මේලනවල සභාපති වූ රොබට් ග්‍රිම් 1917 ජනවාරියේදී, ක්‍රියාවෙන් ජාත්‍යන්තරවාදී වූවන්ට විරුද්ධව, ඔහුගේම පක්ෂයේ සමාජ-ජාත්‍යෝන්මාදවාදීන් (ග්‍රෙයිලිහ්, ප්ලූහර්, ගුස්තාව් මියුලර් හා වෙනත් අය) සමග එක්විය.



විවිධ රටවලින් පැමිණි ටිසිමර්වෝල්ඩ්වාදීන් ගේ සහභාගිත්වයෙන් 1917 ජනවාරියේදී හා පෙබරවාරියේදී පවත්වන ලද සාකච්ඡා සභාවලදී, රටවල් ගණනාවකම වාම ජාත්‍යන්තරවාදීහු, ටිසිමර්වෝල්ඩ් බහුතරයේ මෙම දිව දෙකේ හා මූණු දෙකේ හැසිරීම පිළිබඳ කලංකය විධිමත් ලෙස පෙන්වා දුන්හ. ජාත්‍යන්තර තරුණ සංවිධානයේ ලේකම් සහ ''තරුණයින්ගේ ජාත්‍යන්තරය''[51] නැමති විශිෂ්ට ජාත්‍යන්තරවාදී පත්‍රයේ කර්තෘ තැන්පත් මියුන්ට්සෙන්බර්ග් ද, අපගේ පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ නියෝජිත සිනොවියෙව්ද, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ (ප්‍රාදේශීය විධායකයේ) කේ. රදෙක්ද, ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් සහ ස්පාර්ටකස් කණ්ඩායමේ සාමාජිකයෙක් වන හාර්ෂ්ටෙයින්ද ඒ ගැන පෙනවා දුන්හ.

රුසියානු නිර්ධන පංතියට බොහෝ දේ ලැබී ඇත. රුසියාවේ තරම් විප්ලවවාදී ශක්තියක් ඇති කරගැනීමට ලෝකයේ වෙනත් කිසිම තැනක කම්කරු පංතිය සමත් වී නැත. නමුත් යමෙකුට බොහෝ දේ දෙනු ලැබේද, ඔහුගෙන් බොහෝ දේ අපේක්ෂා කරනුද ලැබේ.

ටිසිමර්වෝල්ඩ් මඩ වගුර තවදුරටත් තිබෙන්නට හැරිය නොහැකිය. ටිසිමර්වෝල්ඩ් ''කෞට්ස්කිවාදීන්'' සතුටු කිරීම සඳහා ප්ලෙහානොව්ලාගේ ෂෙයිඩමාන්ලාගේ ජාත්‍යෝන්මාදවාදී ජාත්‍යන්තරය සමග වන අර්ධ සන්ධානය අපි තවදුරටත් පවත්වා නොගත යුත්තෙමු. අපි වහාම මෙම ජාත්‍යන්තරයෙන් වෙන් වී ඉවත්විය යුත්තෙමු. අප ටිසිමර්වෝල්ඩ්හි සිටිය යුත්තේ ප්‍රවෘත්ති කටයුතු සඳහා පමණකි.

තවත් ප්‍රමාද නොවී, දැන්ම, නව, විප්ලවවාදී නිර්ධන පංතික ජාත්‍යන්තරය ආරම්භ කළයුත්තේ අපි වෙමු. නැතහොත් වඩාත් නිවැරදි ලෙසට කියතොත්, මෙම නව ජාත්‍යන්තරය දැනටමත් ස්ථාපිතව හා ක්‍රියාත්මකව පවතින බව ප්‍රසිද්ධියේ පිළිගැනීමට අපි බිය නොවිය යුත්තෙමු.

මෙය මා ඉහත නිශ්චිත වශයෙන් නම් කළ ''ක්‍රියාවෙන් ජාත්‍යන්තරවාදීන්'' වූ අයගේ ජාත්‍යන්තරය වේ. විප්ලවවාදීන්ගේ සහ ජාත්‍යන්තරවාදී පොදු ජනයාගේ නියෝජිතයන් වන්නේ ඔවුන්ය — ඔවුන්ම පමණකි. ඔවුහු ජනතා දූෂකයින් නොවෙති.

එම වර්ගයේ සමාජවාදීන්ගේ සංඛ්‍යාව ස්වල්ප යයි සිතෙන්නේ නම්, 1917 පෙබරවාරි මාර්තු විප්ලවයේ පූර්වාසන්න කාලයේදී ඇත්ත වශයෙන් පංති විඥනය ඇති කම්කරුවන් රුසක් සිටියේද යන ප්‍රශ්නය තමන්ගෙන් අසා ගන්නා ලෙස රුසියාවේ සෑම කම්කරුවෙකුටම කියනු කැමැත්තෙමු.

එය සංඛ්‍යාව පිළිබඳ ප්‍රශ්නයක් නොව, නියම විප්ලවවාදී නිර්ධන පංතියේ අදහස් හා ප්‍රතිපත්ති නිවැරදි ලෙස ප්‍රකාශ කිරීම පිළිබඳ ප්‍රශ්නයකි.

අවශ්‍ය වන්නේ ජාත්‍යන්තරවාදය ගැන ''ප්‍රකාශන කිරීම'' නොව, ඉතාමත් දුෂ්කර තත්වයන් යටතේ වුවද ක්‍රියාවෙන් ජාත්‍යන්තරවාදියෙක් වීමය.

එකඟතාවයන් හා ජාත්‍යන්තර සම්මේලන ගැන විශ්වාස තැබීමෙන් අපි අපම රවටා නොගත යුත්තෙමු. අධිරාජ්‍යවාදී යුද්ධය පවත්නා තාක් කල්, ජාත්‍යන්තර සබඳතාවයන් අධිරාජ්‍යවාදී ධනපති පංතියේ යුද්ධමය ආඥාදායකත්වයේ දඬු අඬුවට හසුවී පවතී. කම්කරු නියෝජිත සෝවියට් සභාවක සමාන්තර ආණ්ඩුවක් තිබීම ඉවසීමට සිදුව සිටින, ''සමූහාණ්ඩු-වාදී'' මිල්යුකොව් විසින් පවා, ජාත්‍යන්තරවාදියෙක් වන, එමෙන්ම, ටිසිමර්වෝල්ඩ් සහ කීන්කාල් සම්මේලනවලට සහභාගි වූවෙක් වන, ස්විට්සර්ලන්ත ලේකම් ෆ්‍රිට්ස් ප්ලටන් නැමති සමාජවාදියා රුසියානු කතක් සමග විවාහව සිටි අතර හේ ඔහුගේ බිරිඳගේ නෑදෑයින් හමුවීමට එමින් සිටියේ වී නමුත්, එසේම, ඔහු රිගාහි දී 1905 විප්ලවයට සහභාගි වී එනිසා රුසියානු සිර අඩස්සියේ තබන ලදුව, එයින් නිදහස් වීම සඳහා සාර්වාදී ආණ්ඩුවට තබා ඇති ඇපයක් ආපසු ලබා ගැනීමට අදහස් කළේ වී නමුත්, 1917 අප්‍රේල් මාසයේදී ඒ සඳහා රුසියාවට ඇතුළු වීමට ඉඩ නොදෙන ලද්දේ නම්, එම''සමූහාණ්ඩුවාදී'' මිල්යුකොව්ට, 1917 අප්‍රේල් මාසයේදී, එවැනි දෙයක් රුසියාවේදී කළ හැකි වී නම්, රටවල් අල්ලා ගැනීමෙන් තොර සාමය සම්බන්ධයෙන් ධනපති පංතිය දෙන පොරොන්දු හා ඔවුන් සහතික වෙමින් කියන කථාද, වදන් මාලාද, කොතරම් අගය කළ හැකිද යන්න කෙනෙකුට සිතා ගත හැකිය.

තවද, බ්‍රිතාන්‍ය ආණ්ඩුව විසින් ට්‍රොට්ස්කි අත් අඩංගුවට ගැනීම? එසේම මාර්තව්ට ස්විට්සර්ලන්තයෙන් පිටවීමට අවසර නොදීම හා ට්‍රොට්ස්කිගේ ඉරණම ඔහුටත් ගෙන එනු සඳහා බ්‍රිතාන්‍යට යන සේ ඔහුද පෙළඹවීමට දරන ප්‍රයත්න?

අපි මුළාවට නොවැටිය යුත්තෙමු. අපි අපම රවටානොගත යුත්තෙමු.

ජාත්‍යන්තරවාදයට පක්ෂපාත සමාජවාදීන්ට ස්ටොක්හෝම් සිට පවා මෙහි ඒමට හෝ ඔවුන්ගේ ලියුම් වුවද එවීමට හෝ ඉඩ දෙනු නොලැබේ. ඒ සඳහා සහසු කම් කොතෙක් ඇතත්, එනම් කෲර හමුද පාලනයක් ඇතත්, එම අවකාශය දෙනු නොලැබේ. එනිසා, ජාත්‍යන්තර සම්මේලන හෝ සාකච්ඡා සභා පවත්වන තෙක්'' බලා සිටීම'' ජාත්‍යන්තරවාදය පාවා දීමක් වනු ඇත.

අපගේ පක්ෂය ''බලා නොසිට'' තුන්වැනි ජාත්‍යන්තරය පිහිටුවිය යුතුය. බ්‍රිතාන්‍යයේ සහ ජර්මනියේ සිරගත කර සිටින සිය ගණන් සමාජවාදීන් එවිට සැනසුම් සුසුම් හෙලනු ඇත. එවිට ඒ අධමයා හා චෞරවයා වන විල්හෙල්ම් බිය වද්දන වැඩ වර්ජන හා පෙළපාළි පවත්වන දහස් සංඛ්‍යාත ජර්මන් කම්කරුවෝ, අපගේ තීරණය ගැන, අප කාල් ලිබ්-



නෙහ්ට් කෙරෙහි, ඔහු කෙරෙහිම පමණක්, තබන සහෝදරාත්මක විශ්වා-සය ගැන, දැන් පවා ''විප්ලවවාදී ආරක්ෂාවාදයට'' විරුද්ධව සටන් කිරීමට අප ගෙන ඇති තීරණය ගැන, නීති විරෝධි පත්‍රිකා මගින් දැන ගනිති.

යමෙකුට බොහෝ දේ දෙනු ලැබේද, ඔහුගෙන් බොහෝ දේ අපේ-ක්ෂා කරනු ද ලැබේ. ලෝකයේ වෙනත් කිසිම රටක දැන් රුසියාව තරම් නිදහස් නැත. ධනපති පංතියට හෝ ධනපති ''විප්ලවවාදී ආරක්ෂාවාදයට'' අධාර ලබා දීමට නොව, නිර්භීත, අවංක, නිර්ධන පංතික ලීබ්නෙහ්ට් මාර්ගයකින් තුන්වැනි ජාත්‍යන්තරය පිහිටුවීමට, සමාජ-ජාත්‍යෝන්මාද-වාදී ද්‍රෝහීන්ට හා චපල ''මැද පිරිසට'' ලිහිලෙන් තොර සතුරුතාවයක් දක්වන ජාත්‍යන්තරයක් පිහිටුවීමට, අපි මෙම නිදහසෙන් ප්‍රයෝජන ගනිමු.

18. ඉහත සඳහන් කරන ලද කරුණුවලින් පසුව, රුසියාවේ සමාජ ප්‍රජාතන්ත්‍රවාදීන් ඒකාබද්ධ කිරීම කළ නොහැකි බව පැහැදිලි කිරීමට වචන රැසක් මිඩංගු කිරීමට සිදු නොවේ.

සංවිධායක කාරක සභාවේ පක්ෂය සමග, නැතහොත්, කම්කරු නියෝජිත සෝවියට් සභාවේ විධායක කාරක සභාවේදී ණය මුදල සඳහා ඡන්දය දුන්[52] සහ ''ආරක්ෂාවාදය'' දක්වා ගිලා බැස සිටින, ''රබෝචිය ගසියෙත''[53] පත්‍රයේ පොත්‍රෙසොව් සමග එක පෙරමුණකට ඒම ඉවසන්-නාවූ, චෙහෙයිද්සෙ සහ ට්සෙරතෙලි සමග ඒකාබද්ධ වීමක් ගැන මොහො-තක් හෝ සිතනවාට වඩා, ලීයබ්නෙහ්ට් වැනි එකම මිතුරෙක් පමණක් ඇතිව සිටීම යහපති. එවිට එහි අර්ථය නිර්ධන පංතිය සමග සිටීම වනු ඇත.

නැසුනවුන්ට ඔවුනගේ මළවුන් වැළලීමට ඉඩ හරිමු.

වැනෙනවුන්ට උදව් කිරීමට අපේක්ෂා කරන අයෙක් වේනම්, ප්‍රථම-යෙන් ඔහු නොවැනී සිටිය යුතුය.

---

## අපගේ පක්ෂයේ නම කුමක් විය යුතුද? විද්‍යානුකූල වශයෙන් නිවැරදි සහ දේශපාලන වශයෙන් නිර්ධන පංතියේ මනැස පැහැදිලි කිරීමට ආධාරකාරී වන නම කුමක්ද?

19. මම දැන් අවසාන කාරණය ගැන, එනම් අපගේ පක්ෂයේ නම පිළිබඳ කාරණය ගැන සඳහන් කරන්නෙමි. මාක්ස් හා එංගල්ස් ඔවුන්

හඳුන්වාගත් ලෙසට, අපි අපගේ පක්ෂය කොමියුනිස්ට් පක්ෂය යනුවෙන් නම් කළ යුත්තෙමු.

අප මාක්ස්වාදීන් බවත්, අප අපගේ පදනම කොට ගත්තේ ''කොමියුනිස්ට් ප්‍රකාශනය'' බවත් අපි නැවතත් කිව යුත්තෙමු. ප්‍රධාන කරුණු දෙකක් හා සම්බන්ධයෙන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු කොමියුනිස්ට් ප්‍රකාශනය විකෘති කර හා එයට ද්‍රෝහී වී ඇත. එම කරුණු මෙසේය: 1) වැඩ කරන ජනතාවට රටක් නැත: අධිරාජ්‍යවාදී යුද්ධයකදී ''පිතෘභූමිය ආරක්ෂා කිරීම යනු සමාජවාදය පාවා දීමකි; 2) දෙවැනි ජාත්‍යන්තරය රාජ්‍යය ගැන වූ මාක්ස්වාදී උගැන්වීම් විකෘති කර ඇත.

''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය'' යන්න විද්‍යාත්මක වශයෙන් සදොස්ය. මාක්ස් ඒ බව නිතර පෙන්වා දී ඇත. විශේෂයෙන්ම 1875 ''ගෝතා වැඩ පිළිවෙළ'' මගින් ඔහු ඒ බව පෙන්වා දී ඇත. එංගල්ස් වඩාත් ජනප්‍රිය ආකාරයකින් 1894 දී[54] එය ස්ථිර කළේය. ධනපති ක්‍රමයේ සිට මිනිස් වර්ගයාට එක එල්ලේ සංක්‍රමණය විය හැක්කේ සමාජවාදයට, එනම්, නිෂ්පාදන මාර්ග සමාජමය වශයෙන් හිමි කර ගැනීම හා එක් එක් පුද්ගලයා කරන වැඩ ප්‍රමාණය අනුව නිෂ්පාදිත භාණ්ඩ බෙදා හැරීම දක්වා පමණකි. අපගේ පක්ෂය තවත් දුර ඉදිරිය බලයි: සමාජවාදී ක්‍රමය අනිවාර්ය වශයෙන් ක්‍රමානුකූල ලෙස කොමියුනිස්ට් ක්‍රමය වන සේ පරිණාම විය යුතුය: එම කොමියුනිස්ට් ක්‍රමයේ ධජයෙහි ලියා ඇත්තේ, ''සෑම කෙනෙකු ගෙන්ම ඔහුගේ හැකියාව අනුව, සෑම කෙනෙකුටම ඔහුගේ අවශ්‍යතා අනුව'' යනුයි.

මගේ ප්‍රථම තර්කය එයයි.

දෙවැන්න මෙසේය: අප පක්ෂයේ නාමෙහි (සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී) දෙවැනි කොටසද විද්‍යාත්මක වශයෙන් වැරදිය. ප්‍රජාතන්ත්‍රවාදය යනු රාජ්‍ය ආකෘතියක් වන අතර, මාක්ස්වාදීන් වන අපි සෑම වර්ගයකම රාජ්‍යයන්ට විරුද්ධ වන්නෙමු.

දෙවැනි ජාත්‍යන්තරයේ (1889-1914) නායකයන් වන ප්ලෙඛානව්, කෞට්ස්කි හා එවැනි අය මාක්ස්වාදය පිරිහෙළා, එය විකෘති කර ඇත.

මාක්ස්වාදය අරාජිකවාදයට වඩා වෙනස් වන්නේය. එය සමාජවාදය දක්වා පරිවර්තනය වීම සඳහා රාජ්‍යයක අවශ්‍යතාවය පිළිගනියි. නමුත් අප අවශ්‍යයයි කියන්නේ, සුපුරුදු පාර්ලිමේන්තුවාදී ධනපති ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩු වර්ගයේ රාජ්‍යයක් නොව (අප කෞට්ස්කි සහ සමාගමෙන් වෙනස් වන්නේ මෙහිදීය) 1871 පැරිස් කොමියුනය සහ 1905 හා 1917 කම්කරු නියෝජිත සෝවියට් සභා වැනි රාජ්‍යයකි.

මගේ තුන්වැනි තර්කය: ජීවමාන යථාර්ථය වන විප්ලවය, දැනටමත්, දුර්වල හා කලල ස්වරූපයෙන් වුවද නියත වශයෙන්, මෙම නව වර්ගයටම



අයත් වන ''රාජ්‍යය'' ඇත්ත වශයෙන්ම අප රටේ ස්ථාපිත කර තිබේ; වචනයේ පරිසමාප්ත අර්ථයෙන්ම එය රාජ්‍යයක් නොවූවත්, එය ඇති කර තිබේ.

මෙය දැනටමත් ජනතාවගේ ප්‍රායෝගික ක්‍රියාකාරිත්වය පිළිබඳ ප්‍රශ්නයකි. දැන් එය හුදෙක් නායකයන්ගේ න්‍යාය හා සම්බන්ධ ප්‍රශ්නයක් පමණක් නොවේ.

වචනයේ නියම අර්ථය අනුව රාජ්‍යය යනු ජනතාවගෙන් ඈත්ව සිටින, ආයුධ සන්නද්ධ භට කණ්ඩායම් විසින්, ජනතාව ඔවුන්ගේ ආධිපත්‍යයට යටත් කරනු ලැබීමය.

අපටද, ආයුධ සන්නද්ධ භට කණ්ඩායම් අවශ්‍ය නිසාද, අපටද දැඩිතම සපිළිවෙළ අවශ්‍ය නිසාද, සාර්වාදී, නැතහොත්, ගුච්කොව් — ධනපති ප්‍රතිවිප්ලවයක් කිරීමට දරන සෑම ප්‍රයත්නයක්ම බලහත්කාරය යොදා නිර්දය ලෙස මර්දනය කළ යුතු නිසාද, අපගේ නැගී එන නව රාජ්‍යය ද, රාජ්‍යයක්ම වන්නේය.

නමුත් අපගේ නැගී එන රාජ්‍යය තවදුරටත් වචනයේ නියම අර්ථයට ගැලපෙන රාජ්‍යයක් නොවේ. එසේ කියන්නේ, රුසියාවේ සමහර පෙදෙස්වල මෙම ආයුධ සන්නද්ධ භට කණ්ඩායම් යනු ජනතාවම, මුළු ජනතාවම වන හෙයිනි; එම භට කණ්ඩායම් සමන්විත වන්නේ ජනතාවට ඉහළින් සිටුවා ඇති, ජනතාවගෙන් ඈත් වූ, වරප්‍රසාද ලත් හා ප්‍රායෝගික සෑම කරුණක්ම පාහේ අනුව ඉවත් කළ නොහැකි, යම් යම් පුද්ගලයන්ගෙන් නොවන හෙයිනි.

අප බැලිය යුත්තේ ඉදිරිය දෙසය. පැරණි රාජාණ්ඩුවාදී පාලන ආයතන වන පොලිසියේ, යුද්ධ හමුදාවේ සහ නිලධාරි පෙළැන්තියේ ආධාරය ඇතිව තහවුරු වූ සුපුරුදු වර්ගයේ ධනපති ප්‍රජාතන්ත්‍රය දෙස, ආපසු නොවේ.

අප බලාපොරොත්තු සහගත ලෙස බැලිය යුත්තේ නැගී එන නව ප්‍රජාතන්ත්‍රය දෙසය. දැනටමත් එහි ප්‍රජාතන්ත්‍රය කෙළවර වෙමින් පවතී. අප එසේ කියන්නේ, ප්‍රජාතන්ත්‍රය යන්නෙන් ජනතාවගේ ආධිපත්‍යය අදහස් කෙරෙන අතර, තම ආධිපත්‍යයට තමන්ම යටත් කිරීම ආයුධ සන්නද්ධ ජනතාවට කළ නොහැකි හෙයිනි.

කොමියුනිස්ට් පක්ෂයට ගලපන ලද, කල ප්‍රජාතන්ත්‍රය යන වචනය විද්‍යාත්මක වශයෙන් වැරදි වනවා පමණක් නොව, එය දැන්, 1917 මාර්තුවෙන් පසුව, විප්ලවකාරී ජනතාව නිර්භීත ලෙස, නිදහස් ලෙස හා ස්වයං ක්‍රියාරම්භකත්වයෙන් අළුත් දේ ගොඩ නැගීමෙන් වලක්වන, එනම්, රාජ්‍යයේ එකම තනි බලය වශයෙන් හා සෑම ආකාරයකම රාජ්‍යය ''හැකිළී යාමේ'' පණිවුඩය ගෙන එන දූතයා වශයෙන්, කම්කරු, ගොවිජන හා

වෙනත් සියළුම නියෝජිත සෝවියට් සහා ගොඩ නැගීමෙන් ඔවුන් වලක් වන, ඔවුන්ගේ ඇස් වටා බඳින ලද ආවරණයක් බවටද, පත් වී තිබේ.

මගේ හතර වැනි තර්කය: ජාත්‍යන්තර වශයෙන් සමාජවාදය අත්කරගෙන ඇති නියම තත්වයද අපි සැලකිල්ලට ගත යුත්තෙමු.

දැන් පවතින්නේ 1871 සිට 1914 දක්වා පැවති තත්වය නොවේ. ඒ කාලයේදී මාක්ස් හා එංගල්ස් දැන දැනම වැරදි සහගත,අවස්ථාවාදී ''සමාජ-ප්‍රජාතන්ත්‍රය'' යන පාඨය ඉවසා සිටියහ. ඔවුන් එසේ කළේ පැරිස් කොමියුනයේ පරාජයෙන් පසුව, ඒ ඒ කාලයේ ඉතිහාසය අනුව කාලෝචිත කර්තව්‍ය වූයේ, අසීස්‍ර සංවිධානාත්මක හා අධ්‍යාපනික වැඩ කටයුතු වූ හෙයිනි. ඒ හැර වෙනත් කළ හැකි දෙයක් නොවීය. අරාජිකවාදීහු න්‍යායික වශයෙන් පමණක් නොව දේශපාලන වශයෙන්ද (දැන් මෙන්ම) එකල සම්පූර්ණයෙන්ම සාවද්‍ය වූහ. ලෝක තත්වය වටහා ගත නොහැකි වූ, එනම්, අධිරාජ්‍යවාදී ලාභ වලින් දූෂිත බ්‍රිතාන්‍ය කම්කරුවන්ද පැරිස් කොමියුනයේ පරාජයද, මෑත (1871) ජර්මනියේ ඇතිවූ ධනපති ජාතික ව්‍යාපාරයේ ජයග්‍රහණයද, අර්ධ වැඩ වසම් රුසියාවේ කාලාන්තර නිද්‍රාවද ගැන වටහා ගත නොහැකිවූ ඔවුහු, ඒ කාලයේ ස්වභාවය වැරදි ලෙස වටහා ගත්හ.

මාක්ස් හා එංගල්ස් එම කාලය ගැන නිවැරදි අදහස් දැරූහ. ඔවුහු ජාත්‍යන්තර තත්වය වටහාගෙන සිටියහ. සමාජ විප්ලවයට සමීප වීම අසීස්‍ර විය යුතු බව ඔවුහු දැන සිටියහ.

එලෙසින්ම අපිද, නව යුගයේ විශේෂ අංගලක්ෂණ හා කර්තව්‍යයන් වටහාගත යුත්තෙමු. ''මම මකර දළ වගා කොට අස්වැන්න වශයෙන් මැක්කන් නෙළා ගතිමි''[55] යි යනුවෙන් මාක්ස් සඳහන් කළ නිවට මාක්ස්වාදීන් අනුකරණය කිරීම අපි නොකළ යුත්තෙමු.

අධිරාජ්‍යවාදය දක්වා වර්ධනය වූනු ධනපති ක්‍රමයේ අනිවාරණීයත්වයෙන් අධිරාජ්‍යවාදී යුද්ධය ඇති විය. යුද්ධය විසින් මිනිස් වර්ගයා ප්‍රපාතයක් ආසන්නයට, එනම්, ශිෂ්ටාචාරයේ විනාශය, නැතහොත් තවත් කෝටි ගණන් මිනිසුන් ම්ලේච්ඡත්වයට පත්වීම හා විනාශ වීම ආසන්නයට පමුණුවනු ලැබ තිබේ.

මෙයින් ගැලවී යා හැකි එකම මාර්ගය නිර්ධන පංතික විප්ලවය ය.

එවැනි විප්ලවයක් ආරම්භ වෙමින් පවතින අවස්ථාවේම, එය එහි ප්‍රථම අනුමාන පියවරයන් ගනිමින් සිටින, අඳුරේ තබන පියවරයන්, එනම්, ධනපති පංතිය කෙරෙහි පමණට වැඩි විශ්වාසයක් තබන බව පෙන්වන පියවරයන් ගනිමින් සිටින අවස්ථාවේම, හරියටම එම අවස්ථාවේම, ''සමාජ ප්‍රජාතන්ත්‍රවාදී'' නායකයන්ගෙන්, ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී'' පාර්ලිමේන්තු මන්ත්‍රීවරුන්ගෙන්, ජනතාව කෙරෙහි නියත වශයෙන්ම බලපාන ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී'' පුවත්පත් වලින් බහුතරය (එය සැබෑවකි, සත්‍ය කරුණ එයයි) සමාජවාදය හැර දමා ගොස් ඇත; සමාජවාදය පාවා දී ඇත; ''ඔවුන්ගේ'' ජාතික ධනපති පංතියේ පැත්තට ගොස් ඇත.

මෙම නායකයන් විසින් ජනතාව අවුලට පත්කර, නොමග යවන සහ රවටන ලදී.

එනිසා දෙවැනි ජාත්‍යන්තරය තරමටම කුණුවී ගොස් තිබෙන, යල් පැන ගිය පක්ෂ නාමය අපි තව දුරටත් තබා ගන්නෙමු නම්, අපිද එම රැවටීමට ආධාර අනුබල දෙන්නෝ වෙමු!

කම්කරුවන් ''බොහෝ''දෙනෙක් සමාජ-ප්‍රජාතන්ත්‍රය වටහා ගන්නේ අවංක ආකාරයකින් යයි පිළිගත හැකිය. එහෙත් වාස්තවික දෙය මනෝමූල දෙයින් වෙන්කර ගන්නේ කෙසේද යන්න වටහා ගැනීමට කාලය එළඹ තිබේ.

මනෝමූල වශයෙන්, එවැනි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරුවෝ නිර්ධන පංතිකයන්ගේ ඉතාමත් හිතවත් නායකයන් වෙති.

එසේ වුවද, වාස්තවික ලෝක තත්වය අනුව බලන කල, අපගේ පක්ෂයේ පැරණි නම ජනතාව රැවටීම හා ඉදිරි ගමනට බාධා කිරීම පහසු කරන්නකි. එසේ වන්නේ, පියවරක් පියවරක් පාසා, සෑම පත්‍රයකම හා සෑම පාර්ලිමේන්තු කණ්ඩායමකම නායකයන් සිටින බවත්, නැතහොත්, බොහෝ ඈතට විහිදෙන සේ හඬ පතුරුවන හා ඉතාමත් කැපී පෙනෙන සේ කටයුතු කරන, එහෙත්, ඒ සියළු දෙනාම ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් විය හැකි අය මෙන්ම, ඒ සියළු දෙනාම සමාජවාදය පාවා දෙන්නන් හා සමාජ-ජාත්‍යෝන්මාදවාදය සමග සමගි වීමට පක්ෂ අය බවත්, ඔවුන් සියළු දෙනාම ගෙවීම සඳහා ඉදිරිපත් කරන්නේ ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය'' විසින් නිකුත් කරන ලද පරණ නෝට්ටු බවත්, පොදු ජනතාවට පෙනෙන හෙයිනි...

මෙම අදහසට විරුද්ධව ඉදිරිපත් කළ හැකි තර්ක මොනවාද? ''...අප අරාජික කොමියුනිස්ට්වාදීන් සමග එකට පටලවා ගනු ඇතැයි...'' කියනු ලැබේ...

සමාජ-ජාතිකවාදීන්, සමාජ ලිබරල්වාදීන් හෝ, එසේ නැතහොත්, ප්‍රංශ සමූහාණ්ඩුවේ ප්‍රධානතම ධනපති පක්ෂය හා ජනතාව ධනපති රැවටිල්ලට හසු කිරීමෙහි වඩාත් දක්ෂ වන උන්නතිකාමී — සමාජවාදීන් සමග අප එකට පටලවා ගනු ඇතැයි යන්න ගැන අප බිය නොවන්නේ මින්ද? ''...ජනතාවට එයට පුරුදු වී ඇතැයිද, කම්කරුවෝ ඔවුන්ගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයට ''ඇළුම් කරතියිද...'' අපට කියනු ලැබේ.

ඉදිරිපත් කෙරෙන එකම තර්කය එය පමණකි. නමුත් එය, මාක්ස්වාදී විද්‍යාවත්, අනාගත විප්ලවයේ කර්තව්‍යයනුත්, ලෝක සමාජවාදයේ වාස්තවික තත්වයත්, දෙවැනි ජාත්‍යන්තරයේ නින්දා සහගත බිඳ වැටීමත්,

නිර්ධන පංතිකයන් වට කර ගෙන සිටින ''සමාජවාදීන් විය හැකි'' එවුන් රංචු විසින් ප්‍රායෝගික ව්‍යාපාරයට කරන ලද හානියත්, අමතක කරන තර්කයකි.

එය සිරිත්වාදයේ තර්කයකි. අලස කමේ තර්කයකි. නිශ්චලනයේ තර්කයකි.

නමුත් අපි ලෝකය නැවත ගොඩ නැගීමට ඉටා ගෙන සිටිමු. දශ කෝටිගණන් ජනතාව ආකර්ශණය කර ගත් හා කෝටි, ප්‍රකෝටි ගණන් ප්‍රාග්ධනයේ අවශ්‍යතාවයන් සමග පැටලී තිබෙන, මිනිස් ඉතිහාසයේ ශ්‍රෙෂ්ඨතම නිර්ධන පංති විප්ලවය නොසිදු වුවහොත් සැබෑ ප්‍රජාතන්ත්‍රවාදී සාමයකින් කෙළවර විය නොහැකි යුද්ධයක් වන, අධිරාජ්‍යවාදී යුද්ධය කෙළවර කිරීමට අපි ඉටා ගෙන සිටිමු.

එහෙත් අපි අපටම බිය වී සිටිමු. අපගේ ''ආදරණීය පැරණි'' කුණු තැවරුණු කමිසය ඉවත දැමීමට අපි පසුබට වෙමුද...

නමුත් කිළුටු කමිසය ඉවත ලා පිරිසිදු ඇඳුම් ඇඳ ගැනීමට කාලය පැමිණ තිබේ.

පෙට්‍රොග්‍රෑඩ්. 1917 අප්‍රෙල් 10.

## පසුවදන

ආර්ථිකය පොදු වශයෙන් අවුල් වී යාම සහ සාන්ත පීටර්ස්බර්ග් මුද්‍රණාලවල අකාර්යක්ෂමතාවය නිසා මගේ පොත කල් ඉක්මවූ වැනි තත්වයට පත්ව තිබේ. පොත ලියන ලද්දේ 1917 අප්‍රෙල් 10 වැනි දිනය. අද මැයි 28 දය. එහෙත් තවමත් පොත පළවී නොමැත.

එය ලියන ලද්දේ අපගේ පක්ෂය වන බොල්ෂෙවික්වරුන්ගේ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ සමස්ත රුසියා සාකච්ඡා සභාවට පෙර මගේ අදහස් ප්‍රචාරය කිරීම සඳහා, කෙටුම්පත් වැඩ පිළිවෙළක් වශයෙනි. පොතෙහි පිටපත් කීපයක් යතුරු ලියනය කොට, සාකච්ඡා සභාවට පෙර හා එය අතර තුර, අපගේ සාමාජිකයන් අතට පත් කරන ලදින්, එයින් කාර්යය අර්ධ වශයෙන් ඉටුවිය. නමුත් සාකච්ඡා සභාව 1917 අප්‍රෙල් 24 සිට 29 දක්වා[56] පැවැත්වුනු අතර, එහි යෝජනා මීට බොහෝ ඉහතදී පළ කර ඇත. (''සොල්දත්ස්කයා ප්‍රාව්ද''[57] අංක 13 බලන්න). එම යෝජනාවල මුල් කෙටුම්පත වශයෙන් මගේ පොත ප්‍රයෝජනවත් වූ බව සුපරික්ෂාකාරී පාඨකයාට පෙනී යනු ඇත.

පොත එම යෝජනාවලට සම්බන්ධ නිසාද, එයින් එම යෝජනා පැහැදිලි කෙරෙන නිසාද, එය තවදුරටත් කිසියම් තරමකින් ප්‍රයෝජනවත් වනු ඇතැයි යන අදහස ප්‍රකාශ කිරීම හා මෙහිදී කරුණු දෙකක් ගැන විස්තර කිරීම, මවිසින් කළ යුතුව තිබේ.

අප ට්සිමර්වෝල්ඩ්හි සිටිය යුත්තේ ප්‍රවෘත්ති කටයුතු සඳහා පමණකියි 27 වැනි පිටුවේ මා සඳහන් කර ඇත.* මෙම කරුණ සම්බන්ධයෙන් සාකච්ඡා සභාව එකඟත්වයක් නොදැක්විය. එනිසා ජාත්‍යන්තරය පිළිබඳ යෝජනාවට විරුද්ධව ඡන්දය දීමට මට සිදුවිය. මෙහිදී සාකච්ඡා සභාවට

* මෙහි 61 පිටුව. — සංස්කාරක

වැරදීමක් සිදුවූ බවත්, සිදුවීම් විසින් ගන්නා ලද මාර්ගය අනුව කල් නොයවාම එය නිවරද කෙරෙනු ඇති බවත් දැන් පැහැදිලිය. (අපගේ කැමැත්තට පටා පටහැනිව) ටිසිමර්වෝල්ඩ් එකතුව තුළ රැඳී සිටීමෙන් අප කරන්නේ තුන්වැනි ජාත්‍යන්තරය පිහිටුවීම ප්‍රමාද කිරීමට ආධාර කිරීම පමණකි. එසේ කිරීමෙන්, දෘෂ්ටිමය හා දේශපාලන වශයෙන් මියගිය ටිසිමර්වෝල්ඩ් එකතුවෙහි දිරාගිය කුණුරොඩුවලට යටවීමෙන් අප කරන්නේ, තුන්වැනි ජාත්‍යන්තරය පිහිටුවීමට අනියමින් බාධා කිරීමකි.

සමස්ත ලෝකයේම කම්කරු පංති පක්ෂ ඉදිරියේ අප දරන තත්වය අනුව, අප්‍රමාදව තුන්වැනි ජාත්‍යන්තරයක් පිහිටුවීම අපගේ යුතුකම වන්නේය. අද එය ඉටු කිරීමට අප හැර වෙනත් පක්ෂයක් නොමැත. ප්‍රමාදයෙන් සිදුවිය හැක්කේ හානියක් පමණකි. අපි ප්‍රවෘත්ති කටයුතු සඳහා පමණක් ටිසිමර්වෝල්ඩ්හි රැඳී සිටිමු නම්, නව ජාත්‍යන්තරයක් පිහිටුවීම සඳහා අපගේ අත් නිදහස් වී පවතිනු ඇත. (එසේම, ඒ අතරම ටිසිමර්වෝල්ඩ් සම්බන්ධය උපයෝගි කර ගැනීමට සුදුසු වාතාවරණයක් සැලසේ නම් එසේ කිරීමටද හැකි වනු ඇත).

සාකච්ඡා සභාව විසින් කරන ලද වරදට ස්තූතිවන්නට අපි දැන් යටත් පිරිසෙයින් 1917 ජූලි 5 දින තෙක්වත් (ටිසිමර්වෝල්ඩ් සාකච්ඡා සභාව සඳහා නියම කර ඇති දිනය එයයි. මෙම දිනය මෙතැනට ගැලපෙන්නේ එම සභාව නැවත වරක් කල් නොදැමුවහොත් පමණකි! දැනටමත් එය වරක් කල් දමා තිබේ[58]...) අකර්මණ්‍යව සිටිය යුතුව ඇත.

එසේ වුවද, සාකච්ඡා සභාවට පසුව පවත්වන ලද අප පක්ෂයේ මධ්‍යම කාරක සභාව ඒකමතිකව අනුමත කළ හා මැයි 12 දින ''ප්‍රාව්ද'' අංක 55 හි[59] පළ කරන ලද තීරණය වරද නිවරද කිරීම දක්වා අඩ දුරක් ගොස් ඇත. ඔවුන් ඇමතිවරු සමග සාකච්ඡා කිරීමට තීරණය කරතොත්, අප ටිසිමර්වෝල්ඩ් එකතුවෙන් පිටවී ආ යුතු යයි මධ්‍යම කාරක සභාව තීරණය කර තිබේ. අප වාමාංශයේ (''තුන්වැනි උපනතිය'', ''ක්‍රියාවෙන් ජාත්‍යන්තරවාදීන්'' ගේ — ඉහත පිටු 23—25*) ප්‍රථම ජාත්‍යන්තර සාකච්ඡා සභාව කැඳවූ වහාම වරදෙහි ඉතිරි අර්ධය ඉක්මණින් නිවරද කෙරෙනු ඇතැයි යන විශ්වාසය මම ප්‍රකාශ කරමි.

මා සඳහන් කළ යුතු දෙවැනි කාරණය 1917 මැයි 6 දින ''සභාග අමාත්‍ය මණ්ඩලය''[60] පිහිටුවීමය. මෙම කාරණය හා සම්බන්ධයෙන් වූ කල පොත විශේෂයෙන්ම කල් ඉක්මවූ බව පෙනී යා හැක.

---

* මෙහි පිටු 57—59 බලන්න. — සංස්කාරක



නමුත් සියළු කරුණු අතුරෙන් මෙය සම්බන්ධයෙන් නම් පොත කල් ඉක්මවා නැත. එය සම්පූර්ණයෙන්ම පංති විග්‍රහය පදනම් කර ගත් කරුණකි. ධනපති ඇමතිවරු දහ දෙනාට ඇප වශයෙන් ඇමතිවරුන් හය දෙනෙක් දුන් මෙන්ෂෙවික්වරු හා නරෝද්නික්වරු, එම පංති විග්‍රහයට බොහෝ සේ බිය වෙති. පොත කල් ඉක්මවූවක් නොවන්නේ එය පංති විග්‍රහය මත පදනම් කර ඇති හෙයිනි. ටිසෙරතෙලි, චෙර්නොව් සහ සමාගම ඇමති මඩුල්ලට එකතු වීමෙන් කළ එකම වෙනස පෙට්‍රොගෑඩ් සෝවියට් සභාව සහ ධනපති ආණ්ඩුව අතර එකඟත්වයක් ආකාරයේවූ නොවැදගත් එකකි. මා සඳහන් කරන්නේ විධිමත් එකඟත්වයට වඩා... සත්‍යමය සහයෝගය ගැන බව (8 වැනි පිටුවෙහි)* මා උවමනාවෙන්ම අවධාරණය කර ඇති බව මෙහිලා සඳහන් කරන්නෙමි.

ටිසෙරතෙලි, චෙර්නොව් සහ සමාගම ධනපතියන්ගේ ඇපකරුවන් හැර වෙන කවුරුන් හෝ නොවන බවත්, ''අළුත් කළ'' ආණ්ඩුව, විදේශීය හෝ දේශීය හෝ ප්‍රතිපත්ති සම්බන්ධයෙන් එය දී ඇති රාශියක් පොරොන්දු වලින් එකක්වත් ඉටු කිරීමට කැමැත්තක් හෝ හැකියාවක් නොමැතිව සිටින බවත්, ගත වන දිනක් දිනක් පාසා වඩ වඩාත් පැහැදිලි වේ. ධනපතියන් ගේ සහායකයන් බවටත්, ඇත්ත වශයෙන් විප්ලවයේ ගෙල මිරිකන අය බවටත් පත්වීමෙන්, චෙර්නොව්, ටිසෙරතෙලි සහ සමාගම දේශපාලන වශයෙන් සිය දිවි නසා ගත්හ. කෙරෙන්ස්කි ජනතාවට විරුද්ධව බලහත්කාරය යෙදීමට තරම් පහත් තත්වයට පත් විය (පොතේ 9 වැනි පිටුව බලන්න. ''ගුච්කොව් දැනට කර ඇත්තේ පොදු ජනතාවට විරුද්ධව හිංසනය යෙදීමේ තර්ජනය කිරීම පමණක්''** වන නමුත්, කෙරෙන්ස්කිට එම තර්ජන ක්‍රියාත්මක කිරීමට සිදුවිය[61]. චෙර්නොව්, ටිසෙරතෙලි සහ සමාගම තමන්ද, තමන්ගේ පක්ෂද, මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී — විප්ලවවාදීන්ද, දේශපාලන වශයෙන් නසා ගෙන ඇත. දින ගෙවී යත්ම ජනතාවට මෙය වඩ වඩාත් පැහිදිලි වනු ඇත.

සභාග ඇමති මණ්ඩලය යනු, මගේ පොතෙහි සංක්ෂේපයෙන් විග්‍රහ කර තිබෙන, අපගේ විප්ලවයේ මූලික පංති ප්‍රතිවිරෝධතා අතුරෙන් මඳ කලක් පවතින, එක් අවස්ථාවක් පමණකි. දිගු කලක් මෙම තත්වය පැවතිය නොහැකිය. එක්කෝ පෙරමුණ මුළුල්ලෙන්ම අපි ප්‍රති විප්ලවය වෙත ආපසු යා යුත්තෙමු, නැතහොත්, වෙනත් පංතිවලට බලය පැවරීම

---

* මෙම වෙළුමෙහි 38 පිටු බලන්න. — සංස්කාරක

** මෙම වෙළුමේ පිටු 40 බලන්න. — සංස්කාරක

සඳහා පෙරට යා යුත්තෙමු. අධිරාජ්‍යවාදී යුද්ධය කෙරෙමින් පවතින විප්ලව අවස්ථාවකදී, අපට නිශ්චලව සිටිය නොහැකිය.

එන්. ලෙනින්

සාන්ත-පීටර්ස්බර්ග්. 1917 මැයි 28.

අප්‍රේල් 10(23) දින ලියන ලදී; පසු වදන 1917 මැයි 28 (ජූනි 10) දින ලියන ලදී.

ප්‍රථමයෙන් පොතක් වශයෙන්, පෙට්‍රොගෑඩ් ''ප්‍රිබොයි'' ප්‍රකාශකයන් විසින් පළ කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 149-186.

# රු.ස.ප්‍ර.ක.(බො.)ප. හත්වැනි (අප්‍රියෙල්) සමස්ත රුසියා සාකච්ඡා සභාව

## 1917 අප්‍රියෙල් 24-29 (මැයි 7-12)

1

### සාකච්ඡා සභාව ආරම්භ කරමින් කළ කථාව
### අප්‍රියෙල් 24 (මැයි 7)

සහෝදරවරුනි, අප මෙහි රැස්ව සිටින්නේ, රුසියානු විප්ලවය සිදුවන හා ලෝක විප්ලවයක් සංවර්ධනය වන තත්වයන් යටතේ නිර්ධන පංති පක්ෂය පවත්වන ප්‍රථම සාකච්ඡා සභාව ලෙසටය. ලෝක යුද්ධය අනිවාර්‍ය්‍ය වශයෙන්ම විප්ලවයට මග පාදන බවට, විද්‍යාත්මක සමාජවාදයේ නිර්මාතෘවරයන් සහතික කර කී කාරණයත්, බාසල් සම්මේලනයට රැස්වූ සමාජවාදීන් ඒකමතිකව පළ කළ අනාවැකියත්, සෑම තැනෙකම සැබෑවන කාලය ළඟා වෙමින් පවතී.

විවිධ රටවල නිර්ධන පංති ව්‍යාපාර ගැන අධ්‍යයනය කර සමාජ විප්ලවයකට ඇති ඉඩ කඩ ගැන 19 වැනි ශත වර්ශයේදී විග්‍රහ කර බැලූ මාක්ස් හා එංගල්ස්, මෙම රටවල ඓතිහාසික වශයෙන් හැඩ ගැසුනු ජාතික අංග ලක්ෂණවලට අනුපාතික වන සහ අනුකූල වන සේ එම රටවල් අතර සාමාන්‍ය වශයෙන් කාර්ය කොටස් බෙදී යන බව නැවත නැවතත් කීහ. ඔවුහු ඔවුන්ගේ අදහස සංක්ෂේප වශයෙන් දැක්වූයේ මෙසේය: ප්‍රංශ කම්කරුවා ආරම්භ කරනු ඇත: ජර්මන් කම්කරුවා එය නිම කරනු ඇත.

විප්ලවය ආරම්භ කිරීමේ මහා ගෞරවය රුසියානු නිර්ධන පංතියට ලැබී ඇත. නමුත්, තමන්ගේ ව්‍යාපාරය සහ විප්ලවය, ලෝක විප්ලවීය නිර්ධන පංතික ව්‍යාපාරයේ කොටසක් පමණක් බව, රුසියානු නිර්ධන පංතිය අමතක නොකළ යුතුය. නිදර්ශනයක් වශයෙන් ගතවන දිනක් දිනක් පාසා, ජර්මනියේ එම ව්‍යාපරයේ ගති බලය වර්ධනය වෙමින් පවතී. අපට අපගේ කර්තව්‍යයන් ගැන තේරුම් කළ හැක්කේ මෙම දෘෂ්ටි කෝණයෙන් පමණකි.

සමස්ත රුසියා සාකච්ඡා සභාව මෙයින් ආරම්භ වන බව ප්‍රකාශ

කරමි. සභාපති මණ්ඩලයට පත් කළ යුතු ඔබගේ අපේක්ෂකයන්ගේ නම් යෝජනා කරන මෙන් ඉල්ලමි.

1917 මැයි 12)අප්‍රේල් 29) දින ''සොට්සල් ඩිමොක්‍රට්'' අංක 43 හි කෙටි වාර්තාවක් පළවිය.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 341.

ප්‍රථම වරට සම්පූර්ණ වශයෙන් එන්. ලෙනින් (වී. උල්යානොව්) කෘති වෙළුම XIV දෙවැනි කොටසෙහි පළ කරන ලදී.

## 2

## වර්තමාන තත්වය ගැන වාර්තාව
## අප්‍රියෙල් 24 (මැයි 7)

### රැස්වීමේ වාර්තාවෙනි

සහෝදර වරුනි, වර්තමාන තත්වය ගැන අගය කිරීමේදී, මට කථා කිරීමට සිදු වී තිබෙන්නේ ඉතාමත් පුළුල් මාතෘකාවක් ගැනය. මගේ අදහසේ හැටියට එය කොටස් තුනකට බෙදෙන්නේය. ඒ මෙසේය: පළමුවෙන්, මෙහි, එනම්, රුසියාවේ පවතින නියම දේශපාලන තත්වය තක්සේරු කිරීම, ආණ්ඩුව කෙරෙහි අප දක්වන ආකල්පය හා ඇති වී තිබෙන ද්විත්ව බලය; දෙවැනිව, යුද්ධය කෙරෙහි අප දක්වන ආකල්පය; තුන්වැනිව, ලෝකයේ කම්කරුවන් සමාජවාදී විප්ලවයක් සමග මුහුණට මුහුණ ලා සිටින තැනට ගෙන ආ තත්වයක් වන, කම්කරු පංති ව්‍යාපාරයේ ජාත්‍යන්තර පසුබිම, යනුවෙනි.

සමහර කරුණු හා සම්බන්ධයෙන් මා සඳහන් කළ යුතුව ඇත්තේ කෙටියෙන් පමණක් බව අදහස් කරමි. ඊට අමතරව, මෙම ප්‍රශ්න සියල්ලම අලලා ඔබ වෙත කෙටුම්පත් යෝජනාවක් ඉදිරිපත් කිරීමටද මම බලාපොරොත්තු වෙමි. නමුත්, අවශ්‍ය පහසුකම් ලබා ගැනීමේ අති දුෂ්කරතාවය සහ මෙම පෙට්‍රොග්‍රෑඩයේ ඇති වී තිබෙන දේශපාලන අර්බුදයද නිසා, අපට යෝජනාව ගැන සාකච්ඡා පැවැත්වීමට හෝ එය කල් ඇතිව ප්‍රදේශවල සහෝදරවරුන් වෙත යැවීමට හෝ නොහැකිවිය. මා යෝජනාව



ඉදිරිපත් කරන්නේ එම අඩුපාඩු කම් වලට යටත්වය. එනිසා මෙවා, කාරක සභාවේ වැඩ පහසු කිරීම සඳහාත්, එහි කටයුතු ඉතාමත් අවශ්‍ය ප්‍රශ්න අතුරෙන් කීපයක් කෙරෙහි ඉලක්ක කිරීම සඳහාත්, ඉදිරිපත් කරන ප්‍රාථමික කෙටුම්පත් පමණක් වන බව නැවතත් ප්‍රකාශ කරමි.

මම මුල් ප්‍රශ්නයෙන් පටන් ගන්නෙමි. මගේ මතකය නිවැරදි නම්, පෙට්‍රොග්‍රෑඩ් නාගරික සාකච්ඡා සභාව[42] අනුමත කළ එම යෝජනාවම මොස්කව් සාකච්ඡා සභාවද අනුමත කළේය. (බාධා කිරීමක්: ''සංශෝධන සහිතව'') මා සංශෝධන දැක නැත. එනිසා ඒ ගැන අදහසක් ප්‍රකාශ කළ නොහැකිය. නමුත් පෙට්‍රොග්‍රෑඩ් යෝජනාව ''ප්‍රාව්ද'' පත්‍රයේ පළ කර තිබුණ හෙයින්, කිසිවෙක් විරුද්ධත්වය නොදක්වන්නේ නම්, එම යෝජනාව ගැන මෙහි සිටින සියළු දෙනාම දන්නා බව සිතා ගනිමි. මෙය කෙටුම්පත් යෝජනාවක් වශයෙන් මෙම සමස්ත රුසියා සම්මේලනයට ඉදිරිපත් කරන්නෙමි.

පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාව පාලනය කරන සුළු ධනපති පෙරමුණේ පක්ෂ බොහොමයක්, ඔවුන්ගේ ප්‍රතිපත්තිය සමග අසමාන වන අපගේ ප්‍රතිපත්තිය, සුපරීක්ෂාකාරිත්වයෙන් තොර එකකැයි කියති. අන් කිසිවකටත් වඩා අපගේ ප්‍රතිපත්තියෙහි ඇති වෙනස වන්නේ, වර්තමාන සිද්ධි ගැන නියම පංතිමය විග්‍රහයක් කළ යුතු යයි කියන ඉල්ලීම එහි අඩංගු වීමය. එය ප්‍රථම වෙනසය. සුළු ධනපති කඳවුරේ ප්‍රධාන වරද වන්නේ, ආණ්ඩුවේ පංති ස්වභාවය ගැන සත්‍යය ජනතාවගෙන් වසං කිරීමට එය විසින් හිස් වදන් මාලා යොද ගනු ලැබීමය.

මොස්කව් සහෝදරවරුන්ට සංශෝධන කිසිවක් ඉදිරිපත් කිරීමට ඇති නම්, දැන් එසේ කිරීමට හැකිය.

(තාවකාලික ආණ්ඩුවට දක්වන ආකල්පය ගැන පෙට්‍රොගෑඩ් නගරයේ සාකච්ඡා සභා යෝජනාව කියවයි.)

''1) තාවකාලික ආණ්ඩුවේ පංති ස්වභාවය අනුව එය ඉඩම් හිමි හා ධනපති පංතික ආධිපත්‍යයේ අවයවයක් වන බවද;

''2) තාවකාලික ආණ්ඩුව සහ එය නියෝජනය කරන පංති, රුසියානු සහ ඉංග්‍රීසි ප්‍රංශ අධිරාජ්‍යවාදය සමග ආර්ථික හා දේශපාලනමය වශයෙන් නොසිඳිය හැකි බැම්වලින් බැඳී සිටින බවද;

''3) තාවකාලික ආණ්ඩුව එහි ප්‍රකාශිත වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කරන්නේ අර්ධ වශයෙන් පමණක් බවද, එසේ කරන්නේද, විප්ලවවාදී නිර්ධන පංතියේ හා යම් තරමක් දුරට සුළු ධනපති පංතියේත්, බල පෑම යටතේ පමණක් බවද;

''4) දැන් සංවිධානය කරනු ලබමින් පවතින ධනපති පංතික හා ඉඩම් හිමි ප්‍රතිවිප්ලවයේ බලවේගයන්, තාවකාලික ආණ්ඩුව සෙවනේ සිටිමින් හා පැහැදිලිවම එහි අනුදැනුම ඇතිව දැනටමත් විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රයට විරුද්ධව ප්‍රහාරයක් අරඹා ඇති බවද;

''5) තාවකාලික ආණ්ඩුව කරන්නේ, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය තෝරා පත් කිරීමට දින නියම කිරීම මඟ හැරීමත්, සමස්තයක් වශයෙන් ජනතාව ආයුධ සන්නද්ධ කිරීම වැලැක්වීමත්, සියළුම ඉඩම් ජනතාවට පවරා දීමට විරුද්ධ වීමත්, ඉඩම් හිමි ක්‍රමයෙන් ගොවිජන ප්‍රශ්නය විසඳීම ඉඩම් විෂයෙහි ස්ථාපිත කිරීමත්, පැය අටේ වැඩ දිනය ක්‍රියාත්මක කිරීමට බාධා කිරීමත්, යුද්ධ හමුදාව තුළ (ගුච්කොව් සහ සමාගම විසින්) ප්‍රතිවිප්ලවවාදී ප්‍රචාර ගෙනයාමට විරුද්ධ නොවීමත්, සොල්දාදුවන්ට විරුද්ධව උසස් නිලධාරින් එක් රැස් කිරීමත්, යනාදිය බවද;'

තාවකාලික ආණ්ඩුවේ පංති ස්වභාවය පැහැදිලි කරන යෝජනාවේ පළමු කොටස මම කියෙව්වෙමි. මොස්කව් සහෝදරවරුන්ගේ යෝජනාවේ වැකිය අනුව පමණක් බලන කල, එයත් මෙම යෝජනාවත් අතර කිසිම වැදගත් වෙනසක් නොමැති තරම්ය. නමුත් ආණ්ඩුව පොදු වශයෙන් ප්‍රති විප්ලවවාදී ආණ්ඩුවක් ලෙසට විස්තර කිරීම, වැරදි යයි මම අදහස් කරමි. අපි පොදු වශයෙන් කථා කරන්නෙමු නම්, අප අදහස් කරන්නේ කුමණ විප්ලවය ගැනදැයි යන්න නිශ්චිත වශයෙන් දක්විය යුතුය. ධනපති විප්ලවය දැනට සම්පූර්ණ කර තිබෙන නිසා එම විප්ලවය සම්බන්ධයෙන් නම් මෙය කිව නොහැකිය. නිර්ධන පංතික හා ගොවි ජන විප්ලවය හා සම්බන්ධයෙන් වූ කල එවැනි ප්‍රකාශයක් කිරීමට කාලය තවම පැමිණ නැත. එසේ කියන්නේ, ගොවිජනතාව අවශ්‍යයෙන්ම ධනපති පංතියට වඩා දුර යත්දැයි යන්න ගැන අපට ස්ථිරව කිව නොහැකි හෙයිනි. විශේෂයෙන්ම මෙම අවස්ථාවේදී, ගොවි ජනතාව අධිරාජ්‍යවාදය හා ආරක්ෂාවාදය පැත්තට හැරී සිටින, එනම් යුද්ධයට ආධාර දෙන අවස්ථාවේදී, ඔවුන් කෙරෙහි විශ්වාසය පළ කිරීම නුවණට හුරු නැතැයි මම අදහස් කරමි. මෙම අවස්ථාවේදී ගොවි ජනයා කැඩෙට්වරු සමග ගිවිසුම් ගණනාවකට එළඹ සිටිති. මොස්කව් යෝජනාවේ ඇති මෙම වගන්තිය දේශපාලන වශයෙන් වැරදි යයි මා අදහස් කරන්නේ එහෙයිනි. ගොවි ජනතාව ධනපති පංතියට වඩා දුර යායුතු යයි අපි අපේක්ෂා කරමු. ඔවුන් ඉඩම් හිමියන්ගෙන් ඉඩම් අත් පත් කරගත යුතු යයි අපි අදහස් කරමු. නමුත් අනාගතයේදී ඔවුන් කරනු ඇත්තේ කුමක්දැයි යන්න ගැන නිශ්චිත කිසිවක් අපට කිව නොහැකිය.

අපි ඉතා සුපරීක්ෂාකාරී ලෙස ''විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රය'' යන වචන මග හරින්නෙමු. ආණ්ඩුව විසින් කෙරෙන පහර දීමක් වුවහොත් අපට



ඒවා උපයෝගී කරගත හැකිය. නමුත්, මෙම වියවුලට සම්බන්ධ වී ඇති පංති වෙන් කර හඳුනා ගැනීම ඉතා දුෂ්කර නිසා, මෙම අවස්ථාවේදී එම වචන ඉතාමත් මුළා කාරීය. අපගේ කර්තව්‍යය වී තිබෙන්නේ පසු පස්සේ ඇදී යන අය නිදහස් කර ගැනීමය. අපට සෝවියට් සභා වැදගත් වන්නේ ආකෘතියක් ලෙසට නොවේ. අපට වැදගත් වන්නේ ඒවායින් නියෝජනය කෙරෙන පංති මොනවාද යන්නය. එනිසා, නිර්ධන පංතියේ විඥනය විකාශ කිරීම පිණිස අප කළ යුතු දැ බොහෝය...

(නැවතත් යෝජනාව කියවයි)

''6) ඒ අතරම, දැන් පැහැදිලි ලෙසම කම්කරු හා සොල්දාදු, එනම්, ගොවිජන, බහුතරය එක්සත් කරන පෙට්‍රොග්‍රෑඩ් කම්කරු හා සොල්දාද නියෝජිත සෝවියට් සභාවේ විශ්වාසය හා තරමක් දුරට එකඟත්වය කෙරෙහි මෙම ආණ්ඩුව දැනට බලාපොරොත්තු රඳවන බවද;

''7) දේශීය හා විදේශීය යන ප්‍රතිපත්ති දෙකම විෂයෙහි තාවකාලික ආණ්ඩුව ගන්නා සෑම පියවරක්ම මගින්, නගරයේ හා ගම්වල සිටින නිර්ධන පංතිකයන්ට හා අර්ධ නිර්ධන පංතිකයන්ට පමණක් නොව, පුළුල් සුළු ධනපති පංතික කොටස්වලටද එම ආණ්ඩුවේ ස්වභාවය පැහැදිලි වන පරිදි ඔවුන්ගේ ඇස් නොවැලැක්විය හැකි සේ පැදෙනු ඇති බවද, සැලකිල්ලට ගනිමින්, සාකච්ඡා සභාව මෙසේ තීරණය කරයි:

''1) කම්කරු සහ සොල්දාදු සෝවියට් සභාවලට හෝ ජනතාවගේ කැමැත්ත එක එල්ලේම ප්‍රකාශ කරන වෙනත් මණ්ඩලවලට හෝ මුළු රාජ්‍ය බලයම පැවරීම සහතික කරනු සඳහා, නිර්ධන පංතික පංති විඥනය විකාශ කිරීම පිණිස සහ සුළු ධනපති පංතියේ චපලකම්වලට විරුද්ධව නාගරික හා ග්‍රාමීය නිර්ධන පංතිකයන් එක්සත් කිරීම සඳහා, දිගින් දිගටම වැඩ කළ යුතු අතර, මුළු විප්ලවීය ජනතාවගේම නියම ඉදිරිගමන සහතික කළ හැක්කේ මෙම ස්වභාවයේ වැඩ කිරීමෙන් බව සැලකිල්ලට ගත යුතුය.

''2) මේ අනුව, කම්කරු හා සොල්දාදු නියෝජිත සෝවියට් සභා තුළ බහුවිධ ලෙස ක්‍රියාකාරී වීමද, සෝවියට් සභා සංඛ්‍යාව වැඩි කිරීම හා ඒවායේ බලය තහවුරු කිරීම අරමුණු කර ගෙන කටයුතු කිරීමද, සෝවියට් සභා තුළ සිටින අප පක්ෂයේ නිර්ධන පංතික, ජාත්‍යන්තරවාදී කණ්ඩායම් එකට පැස්සීමද, අවශ්‍ය වන්නේය.

''3) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ධජය පෙරටු කොට ගෙන, විප්ලවවාදී ව්‍යාපාරයේ නව රැල්ල මෙහෙයවීමට හැකි වනු පිණිස, අප අපගේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී බලවේගයන් වඩාත් සාර්ථක ලෙස සංවිධානය කළ යුතුය''.

ප්‍රධාන වශයෙන් ගත් කල අපගේ ප්‍රතිපත්තිය එසේය. මුළු සුළු ධනපති පංතියම දැන් වැණෙමින් සිටින අතර, විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රය ගැන කියන පුහු වදණෙන් එම වැනෙනසුලු බව ආවරණය කර වසං කිරීමට ඔවුහු උත්සාහ කරති. මෙම වැනෙනසුලු කම නිර්ධන පංති ක්‍රියාමාර්ගයට ප්‍රතිවිරුද්ධ බව අපි පෙන්වා දිය යුත්තෙමු. නිසි කලට පෙර කරන සටන් මගින් නිර්ධන පංති ක්‍රියාමාර්ගය කඩාකප්පල් කිරීමට ප්‍රතිවිප්ලවවාදීහු බලාපොරොත්තු වෙති. අපගේ කර්තව්‍යය වන්නේ සෝවියට් සභා සංඛ්‍යාව වැඩි කිරීම, ඒවා තව තවත් ශක්තිමත් කිරීම සහ අපගේ පක්ෂයේ සමගිය තහවුරු කිරීමය.

මොස්කව් සහෝදරවරු, පාලනය සඳහා කරන ඉල්ලීමද තුන්වැනි කරුණට එකතු කර ඇත. මෙම පාලනය නියෝජනය කරනු ලබන්නේ චෙහෙයිද්සේ, ස්තෙක්ලොව්, ට්සෙරතෙලි සහ සුළු ධනපති පෙරමුණේ වෙනත් නායකයන්ද විසිනි. බලය නොමැති තැන පාලනය යනු හිස් වදනක් පමණකි. මට බ්‍රිතාන්‍යය පාලනය කළ හැකිද? ඇය පාලනය කිරීමට නම්, ඇගේ නැව් හමුදාව අල්වා ගත යුතුය. නූගත් කම්කරුවන් හා සොල්දාදුවන් බොළඳ ලෙස හා අවිඥත ලෙස පාලනය ගැන විශ්වාසයක් ඇති කර ගැනීම ගැන මට වටහා ගත හැකිය. නමුත් එවැනි විශ්වාසයක් ඇති කර ගැනීම පංති අරගලයේ මූලික ප්‍රතිපත්තිවලින් පිට පැනීමක් බව වටහා ගැනීමට, ඔබ කළ යුත්තේ පාලනයේ මූලික අංග ගැන කල්පනා කිරීම පමණකි. පාලනය යනු කුමක්ද? මා ඒ සඳහා ලියවිල්ලක් හෝ යෝජනාවක් ලියුව හොත් ඔවුන් ඊට ප්‍රති යෝජනාවක් ලියනු ඇත. පාලනය කිරීම සඳහා බලය තිබීම අවශ්‍ය වන්නේය. සුළු ධනපති පංති පෙරමුණේ පුළුල් ජනතාවන්ට මෙය නොවැටහේ නම් ඔවුනට එය පැහැදිලි කර දීමට තරම් අපට ඉවසීමක් තිබිය යුතුය. නමුත්, කුමණ තත්වයක් වුවත් අප ඔවුනට බොරුවක් නොකිව යුතුය. එසේ වුවද, පාලන ගැන කථා කිරීමෙන් මා මෙම මූලික කොන්දේසිය යටපත් කරන්නේ නම්, මා බොරුවක් කීමේ වරදට හසුවන අතර, මම එයින් ධනපතියන්ගේ හා අධිරාජ්‍යවාදීන්ගේ උවමනාවද ඉටු කරන්නේ වෙමි. ''ඔබේ පාලනය කරගෙන යන සේ ඔබට ආරාධනා කරමු. නමුත් තුවක්කු අප අතේ තබා ගන්නෙමු. ඔබ පාලනය කර සතුටුවන්න''. ඔවුහු එසේ කියති. ජනතාවගේ ඉල්ලීම ජනතාවට නොදී එය දැනට ප්‍රතික්ෂේප කළ නොහැකි බව ඔවුහු දනිති. බලය විරහිත පාලනය යනු, රුසියානු විප්ලවයට බාධා කාරී වන, හිස් සුළු ධනපති පංතික වදනක් පමණකි. මොස්කව් සහෝදරවරුන්ගේ තුන්වැනි කාරණයට මා විරුද්ධ වන්නේ ඒ නිසාය.

බල දෙකක් මෙසේ අමුතු ස්වභාවයකින් අන්තර්බද්ධ වීම ගැන කිව යුත්තේ, එහි ඇති තාවකාලික ආණ්ඩුව, තමන්ට ශක්තිය නැති බව දැන



ගෙන, තුවක්කු, සොල්දාදුවන් සහ ආයුධ සන්නද්ධ ජනතාව නොමැති බව දැනගෙන සෝවියට් සභාවලට හේත්තු වන අතර, සෝවියට් සභා පොරොන්දු කෙරෙහි විශ්වාසය තබමින් එම පොරොන්දු පිළිගන්නා බවය. ඔබ මෙම ක්‍රීඩාවෙහි යෙදීමට ලොල් වේ නම්, ඔබ විනාශයට කැප වූවෙක් වන්නෙහිය. අපගේ කර්තව්‍යය වන්නේ මෙම ක්‍රීඩාවෙන් ඉවත් වී සිටීමය. මෙම ප්‍රතිපත්තියේ අඥාන කම ගැන නිර්ධන පංතියට පැහැදිලි කර දීමේ අපේ කටයුතු අපි කරගෙන යන්නෙමු. එවිට අපගේ ප්‍රතිෂ්ඨාව නිවැරදි බව, ඇති වන සිදුවීම් අනුව, පියවරක් පියවරක් පාසා ඔප්පු වනු ඇත. අපි මේ දක්වාම අල්පතර පිරිස වූයෙමු. පොදු ජනතාව තවමත් අප කෙරෙහි විශ්වාසය තබා නැත. අපට ඉවසා සිටිය හැක. ආණ්ඩුව එහි මුහුණ පෙන්වූ කල පොදු ජනතාව අපගේ පැත්ත ගන්නවා ඇත. ආණ්ඩුවේ වැනෙනසුලු ස්වභාවය නිසා ඔවුන් එයින් ඈත් වී අපගේ පැත්තට හැරී එනු ඇත. එවිට, බලවේග තුලනය සැලකිල්ලට ගනිමින් අපි මෙසේ කියන්නෙමු: අපගේ කාලය පැමිණ තිබේ.

දැන් මා යුද්ධය හා සම්බන්ධ ප්‍රශ්නය ගැන සඳහන් කරන්නෙමි. ණය මුදලට විරුද්ධව අප ඉදිරිපත් වූ අවස්ථාවේදී, මෙම ප්‍රශ්නය නිසා ඇත්ත වශයෙන්ම අප අතර සමගියක් ඇති විය. ණය මුදලට දක්වන ලද ආකල්පයෙන්, දේශපාලන බලවේග තුලනය කෙබඳුද යනු ක්ෂණික ලෙස හා පැහැදිලි ලෙස පෙනී ගියේය. ''රෙච්[63] කියන ලෙසට ''යෙදින්ස්ත්වෝ'' හැර අන් සියල්ලෝම අස්ථිර ගතියක් පාති. සුළු ධනපති පංතිය යම් යම් සීමාවලට යටත්ව ණය මුදලට පක්ෂය. ධනපති පංතිය මූණ ඇඹුල් කර ගෙන යෝජනාව සාක්කුවේ ලා ගනියි. අනතුරුව, මඳ සිනහවක් පා එය මෙසේ කියයි. ''ඔබ කථා කිරීම මැනවි. ක්‍රියා කිරීම අපි බාර ගන්නෙමු''. ණය මුදලට ඡන්දය දෙන සියල්ලෝම සමාජ-ජාත්‍යොන්මාදවාදීන් බව ලොව මුළුල්ලේම ප්‍රකටය.

මම දැන් යුද්ධය ගැන යෝජනාව කියවන්නෙමි. එය කොටස් තුනකින් යුක්තය: ඒවා මෙසේය: 1) පංති අර්ථය අනුව යුද්ධයේ ස්වභාව ලක්ෂණ නිරූපනය කිරීම; 2) වෙනත් කිසිම රටක නොදක්නා ලද පොදු ජනතාවගේ විප්ලවවාදී ආරක්ෂාවාදය; 3) යුද්ධය කෙළවර කළ යුතු ආකාරය.

මාද ඇතුළු අප බොහෝ දෙනෙකුට ජනතාව ඇමතීමට, විශේෂයෙන්ම සොල්දාදුවන් ඇමතීමට අවස්ථාව ලැබුණි. ඔවුනට කරුණු සියල්ලම පංති දෘෂ්ටි කෝනයෙන් විස්තර කර දුන් පසු, ඔවුනට ඉතාමත් අපැහැදිලි එක කරුණක් ඇති බවත්, එය නම්, අප යුද්ධය කෙළවර කිරීමට බලාපොරොත්තු වන්නේ කෙසේද, එය නැවැත්විය හැකි යයි අප කල්පනා කරන්නේ කෙසේද, යන්න බවත්, මට හැඟේ. පොදු ජනතාව වැරදි අවබෝධයන් ජාලයක පැටලී සිටිති. අපගේ ස්ථාවරය ගැන කිසිවක්

නොදන්නා තත්වයක් ඔවුනතර ඇත. මෙම කාරණය සම්බන්ධයෙන් අප-ගේ අදහස් ඉතාමත් පැහැදිලි ලෙස ප්‍රකාශ කිරීම අවශ්‍ය වන්නේ එහෙයිනි.

(කෙටුම්පත් යෝජනාව කියවයි).

වර්තමාන යුද්ධය කරන බලවත් රටවල් කණ්ඩායම් දෙකේම පැත්-තෙන් එය අධිරාජ්‍යවාදී යුද්ධයකි. එනම්, එය ලෝකාධිපත්‍යය සඳහා, ධනපතියන් කොල්ලකාගත් වස්තුව බෙදා ගැනීම සඳහා, මූල්‍ය ප්‍රාග්ධනයට හා බැංකු ප්‍රාග්ධනයට ලාභ ගෙන දෙන වෙළෙඳ පොළවල් අත් කරගනු සඳහා සහ වඩාත් දුර්වල ජාතීන් යටත් කරගනු සඳහා, ධනපතියන් කරන යුද්ධයකි.

''රුසියාව හා සම්බන්ධයෙන් වූ කල, දෙවැනි නිකොලායිට හිමිව තිබූ රාජ්‍ය බලය ගුච්කොව්ගේ හා වෙනත් අයගේ ආණ්ඩුවට, එනම්, ඉඩම් හිමියන්ගේ හා ධනපතියන්ගේ ආණ්ඩුවට මාරු කිරීමෙන් යුද්ධයේ පංති ස්වභාවය හා අර්ථය වෙනස් වූයේ හෝ වෙනස් වන්නේ හෝ නැත.

''හිටපු සාර් වන දෙවැනි නිකොලායි, බ්‍රිතාන්‍ය ප්‍රංශය ආදී වූ ධනපති ආණ්ඩු සමග ඇති කරගත් රහස් ගිවිසුම් ප්‍රසිද්ධ කිරීමට ආණ්ඩුව අකැමැති වූ විට පමණක් නොව, එය එම ගිවිසුම් ස්ථිර කළ විටද, නව ආණ්ඩුවද කරන්නේ ඒ අධිරාජ්‍යවාදී යුද්ධයම වන බවත්, එනම් රටවල් අල්ලා ගැනීම සඳහා වූ ආක්‍රමණකාරී යුද්ධයම බවත්, සක්සුදක් සේ පෙනී ගියේය. මෙය කරන ලද්දේ ජනතාවගේ කැමැත්ත විමසීමකින් තොරවය. එපමණක් නොව, සාර් ඇති කරගෙන තිබුණේ චීනය, පර්සියාව, තුර්කිය, ඕස්ත්‍රියාව යනාදී රටවල් නිදහසේ කොල්ල කෑමට රුසියානු ධනපතියන්ට ඉඩ සලසා දෙන රහස් අති දුෂ්ට ගිවිසුම් බව සුප්‍රකටව තිබුණ නිසා, එය කරන ලද්දේ ජනතාව රැවටීමේ ඒකාන්ත අරමුණ ඇතිව බවද පෙනේ.

''මේ නිසා සම්පූර්ණයෙන්ම ජාත්‍යන්තරවාදය කෙරෙන්, එනම් සියළුම රටවල කම්කරුවන් ප්‍රාග්ධනයේ බන්ධනයට විරුද්ධව කරන ඔවුන්ගේ අරගලයේ සහෝදරාත්මක සහයෝගිතාවය කෙරෙන් බිඳී වෙන්වීමට නොකැමති කිසියම් නිර්ධන පංතික පක්ෂයක් වේ නම්, එය වර්තමාන යුද්ධයටත්, වර්තමාන ආණ්ඩුවටත්, එහි ණය මුදල් මොන තරම් සිත් ගන්නා වචනවලින් විස්තර කර තිබුණත්, ඒවාටත් ආධාර නොදිය යුතුය.

අල්ලාගත් රටවල් හැර දමන බවට, එනම්, විදේශ රටවල් අල්ලා ගැනීම හෝ කිසිම ජාතියක් බලෙන් රුසියාව තුළ රඳවා ගැනීම නොකරන බවට, වර්තමාන ආණ්ඩුව දෙන පොරොන්දු කෙරෙහි කිසිම විශ්වාසයක් තැබිය නොහැකිය. ඊට කරුණු මෙසේය. ප්‍රථම වශයෙන්ම, රුසියානු



හා ඉංග්‍රීසි-ප්‍රංශ ධනපතියන් දහස් සංඛ්‍යාත රැහැන්වලින් එකට වෙළී ඇත. ඔවුහු ප්‍රාග්ධනයේ අයිතිවාසිකම් ආරක්ෂා කිරීමට නොවැලැක්විය හැකි ලෙසට බැඳී සිටිති. ධනපතියන් වී සිටීම අත් නොහැර, එනම්, ණය මුදල්, වාසි අත් කර ගැනීම, යුද්ධ කර්මාන්ත ආදිය සඳහා ආයෝජනය කරන ලද සිය කෝටි ගණන් ධනයෙන් ලැබෙන ලාභ අත් නොහැර, ඔවුන් මෙම යුද්ධයේදී අල්ලා ගත් රටවල් හැර දැමීම ඔවුනට කළ නොහැකිය. දෙවැනිව, අල්ලා ගත් රටවල් හැර දමන බව ජනතාව නොමඟ යැවීම පිණිස පළමුවෙන් ප්‍රකාශ කළ නව ආණ්ඩුව, පසුව ඒවා අත් හැරීමට අදහසක් නොමැති බව (1917 අප්‍රේල් 9, මොස්කව්) මිල්යුකොව් මගින් ප්‍රකාශ කර ඇත. අවසාන වශයෙන්, ඇමතිවර කෙරෙන්ස්කිගේ සහයෝ-ගය ලබන ප්‍රවෘත්ති පත්‍රයක් වන දියල නරෝද හෙළිදරව් කර තිබෙන පරිදි, අල්ලාගත් රටවල් අත් හැරීම ගැන ප්‍රකාශයක්වත් මිල්යුකොව් වෙනත් රටවලට යවා නැත.

''එනිසා ධනපතියන්ගේ පුහු පොරොන්දු ගැන ජනතාවට අනතුරු හඟවන මෙම සාකච්ඡා සභාව, අල්ලාගත් රටවල් වාචික ලෙස හැර දැමීමත්, අල්ලා ගත් රටවල් ක්‍රියාත්මක ලෙස හැර දැමීමත්, එනම්, කොල්ලකාරී රහස් ගිවිසුම් සහ විදේශ ප්‍රතිපත්ති අණ පනත් සියල්ලම වහාම ප්‍රසිද්ධ කිරීමට සහ අපගේ ජනතාවට නින්දවක් වන දෙවැනි නිකොලායි සාර්ගේ ප්‍රතිපත්තියම ගෙනයන ධනපති පංතිය විසින් පීඩනය කරනු ලබන, රුසියාවට බැඳ තබනු ලබන, නැතහොත් යටත් කොට තබනු ලබන සියළුම ජනතාවන් සම්පූර්ණයෙන්ම නිදහස් කිරීමට වහාම පියවර ගැනීමත්, අතර වෙනස පැහැදිලි ලෙස පෙන්නුම් කිරීම අවශ්‍ය බව ප්‍රකාශ කරයි''.

යෝජනාවේ මෙම කොටසේ දෙවැනි අර්ධයෙහි ආණ්ඩුව දුන් පොරොන්දු ගැන සඳහන් වී ඇත. මාක්ස්වාදියෙකුට සමහරවිට, මෙම කොටස වැඩි මනත් දෙයක් විය හැකිය. එසේ වුවද ජනතාවට එය වැදගත්ය. අප ඒ පොරොන්දු කෙරෙහි විශ්වාසය නොතැබීමටත්, අප ආණ්ඩුව ගැන විශ්වාසයක් නොතැබීමටත් හේතු වන කරුණු එකතු කළ යුතු වන්නේ එහෙයිනි. වර්තමාන ආණ්ඩුව එහි අධිරාජ්‍යවාදී ප්‍රතිපත්ති අත් හරින බවට දෙන පොරොන්දු විශ්වාස නොකළ යුතුය. මේ සම්බන්ධයෙන් අපගේ ප්‍රතිපත්තිය විය යුත්තේ, ගිවිසුම් ප්‍රසිද්ධ කරන ලෙස ආණ්ඩුවෙන් ඉල්ලීම නොවේ. එය නිශ්ඵල බලාපොරොත්තුවක් වනු ඇත. මෙය ධනපති ආණ්ඩුවකින් ඉල්ලීම, හරියටම වාණිජ වංචාවක් හෙළිදරව් කරන ලෙස එයින් ඉල්ලීම වැනිය. අල්ලාගත් රටවල් හා වන්දි ගැනීම් අත් හැර දැමිය යුතු යයි අප කියන විට, එය කළ හැක්කේ කෙසේද යන්න ගැනත් පෙන්නුම් කළ යුතුය. එය කළ හැකි වන්නේ කාටද යන ප්‍රශ්නය අපෙන් අසතොත්

අපගේ පිළිතුර වන්නේ, මෙම පියවර, එහි ස්වභාවයම අනුව, විප්ලවවාදී වන හෙයින්, එය ක්‍රියාත්මක කළ හැක්කේ විප්ලවවාදී නිර්ධන පංතියට පමණක් බවය. එසේ නැතහොත්, මෙම පොරොන්දු, ජනතාව නාස් ලනු වලින් බැඳ තැබීමට ධනපතියන් විසින් උපයෝගී කරගනු ලබන පුහු ප්‍රතිඥවන් හා අපේක්ෂාවන් පමණක් වනු ඇත.

(තවදුරටත් කෙටුම්පත් යෝජනාව කියවයි.)

"දැනට රුසියාවේ නරෝද්නික් පක්ෂ (පොදුජන සමාජවාදීන්, තෘදවික්වරු, සමාජවාදී-විප්ලවවාදීන්) සියල්ලම පාහේද, මෙන්ෂෙවික් සමාජ ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ (සංවිධායක කාරක සභාව, චහෙයිද්සේ, වසෙරතෙලි ආදීන්) අවස්ථාවාදී පක්ෂයද, පක්ෂවලට අයත් නොවන විප්ලවවාදීන් බහුතරයද, විනිවිද ගොස් ඇති "විප්ලවවාදී ආරක්ෂාවාදය" පංති අර්ථය අනුව පිළිබිඹු කරන්නේ, ධනපතියන් මෙන්ම, දුර්වල ජනයින් පීඩනයට පත් කිරීමෙන් ලාභ ලබන සුළු ධනපතියන්ගේ, කුඩා දේපල හිමියන්ගේ හා පොහොසත් ගොවීන්ගේ අවශ්‍යතාවයන් හා දෘෂ්ටියය. අනිත් අතට, රහස් ගිවිසුම් ප්‍රසිද්ධ කරනු වෙනුවට කපටි කථා කියන ධනපතියන් විසින් පොදු ජනතාව රවටනු ලැබීමේ ප්‍රතිඵලයකි.

"විප්ලවවාදී ආරක්ෂාවාදී" විශාල පොදුජන කොටස අවංක බව පිළිගත යුතුය. ඔවුහු ඇත්ත වශයෙන්ම රටවල් අල්ලා ගැනීමටත්, රටවල් යටත් කිරීමටත්, දුර්වල ජනතාවන් පීඩනයට පත් කිරීමටත් විරුද්ධයහ. ඔවුන් ඇත්ත වශයෙන්ම කටයුතු කරන්නේ සියළුම යුද්ධකාරී රටවල් අතර ප්‍රජාතන්ත්‍රවාදී සහ බලහත්කාරයෙන් තොර සාමයක් ඇතිවනු දැකීම සඳහාය. නාගරික හා ග්‍රාමීය නිර්ධන පංතිකයන්ගේ සහ අර්ධ නිර්ධන පංතිකයන්ගේ (එනම්, ධනපතියන්ට තම ශ්‍රම ශක්තිය විකිණීමෙන් සම්පූර්ණ වශයෙන් හෝ අර්ධ වශයෙන් තමන්ගේ ජීවනෝපාය උපයා ගන්නා ජනතාව) පංති තත්වය අනුව, මෙම පංති ධනපතියන්ගේ ලාභ පිළිබඳ අවශ්‍යතාවයන් නොමැති පිරිසක් වන හෙයින් මෙය පිළිගත යුතුය.

"එනිසා, 'විප්ලවවාදී ආරක්ෂාවාදයට' කිසිම ඉඩක් නොදියහැකි බව හා ඊට දෙන සෑම ඉඩකින්ම අදහස් වන්නේ අන්තර්ජාතිකවාදයෙන් හා සමාජවාදයෙන් සම්පූර්ණයෙන්ම බිඳී වෙන්වීම හා සමාන තත්වයක් බව පිළිගන්නා අතරම, රුසියානු ධනපතියන් හා ඔවුන්ගේ තාවකාලික ආණ්ඩුව ජනතාවට විරුද්ධව හිංසනය යෙදවීමේ තර්ජනවලට පමණක් (නිදසුනක් වශයෙන් හිතුවක්කාර ලෙස උසස් නිලධාරීන් තෙරපා දැමීම සම්බන්ධයෙන් සොල්දාදුවන්ට දඬුවම් දෙන බවට ගුච්කොව් නිකුත් කළ,



අවාසනාවන්ත සුප්‍රසිද්ධ ආඥවට) සීමා වන තාක් කල්, නිදහස් ලෙස සංවිධාන වෙමින් පවතින හා නිදහස් ලෙස සියළු රජයේ නිලධාරීන් තෝරා පත් කරන හා අස් කරන, කම්කරු, සොල්දාදු, ගොවිජන, කෘෂිකාර්මික ශ්‍රමකරු හා වෙනත් නියෝජිත සෝවියට් සභාවලට විරුද්ධව ධනපතියන්ගේ හිංසනය යෙදවීමට පටන් නොගන්නා තාක් කල් අප පක්ෂය හිංසනයෙන් වැළකී සිටීම දේශනා කරන බව සාකච්ඡා සභාව ප්‍රකාශ කරයි. සහෝදරාත්මක ලෙස කරුණු පහදා දීමේද, සීඝ්‍රයෙන් යුද්ධය කෙළවර කිරීමට වර්තමාන රුසියාවේ ඇති ප්‍රධාන බාධකය වන්නේ සාමයේ හා සමාජවාදයේ පරම සතුරන් වන ධනපතියන්ගේ ආණ්ඩුව කෙරෙහි පුළුල් ජනතාව දක්වන තර්කයෙන් තොරව විශ්වාසය තැබීමේ ආකල්පය යන සත්‍යය අවබෝධ කර දීමේද, ක්‍රමයෙන් පමණක් අප පක්ෂය 'විප්ලවවාදී ආරක්ෂාවාදය' පිළිබඳ බරපතල හා භයානක වරදට විරුද්ධව සටන් කරනු ඇත".

සුළු ධනපතියන්ගෙන් සමහරෙක් මෙම ප්‍රතිපත්තිය ගැන කැමැත්තක් දක්වති. ඒ ගැන සැකයක් තිබිය නොහැකිය. එබැවින් වර්තමාන අවස්ථාවේදී නිර්ධන පංතියේ හා ගොවි ජනතාවගේ උවමනාවන් එකට ගැලපෙන්නේ යයි නිර්ධන පංති පක්ෂය සලකන්නේ නම් එය වරදක් වේ. අපි ගොවි ජනතාව අපගේ පැත්තට දිනා ගැනීමට සටන් කරන්නෙමු. නමුත් ඔවුහු විඥත ලෙසටම එක්තරා ප්‍රමාණයකට ධනපතියන්ගේ පැත්ත ගෙන සිටිති.

පංතියක් වශයෙන් නිර්ධන පංතිය හා අර්ධ නිර්ධන පංතිය යුද්ධය ගැන උවමනාවක් නොදරන බවට ස්වල්ප හෝ සැකයක් නොමැත. ඔවුහු රැවටීමේ සම්ප්‍රදායෙහි බලපෑමට හසු වෙති. ඔවුනට තවමත් දේශපාලන අත් දැකීම් නොමැත. එනිසා අපගේ කර්තව්‍යය වන්නේ ඉවසිලිමත් ලෙස ඔවුනට කරුණු පැහැදිලි කර දීමය. අපි ප්‍රතිපත්තිය පිළිබඳ කරුණුවලදී ඔවුනට ඉඩක් නොදෙමු. නමුත් ඔවුන් සමාජ-ජාත්‍යෝන්මාදවාදීන් ලෙසට සැලකීම අපට කළ නොහැකිය. ජනගහනයේ මෙම කොටස කිසි කලෙකත් සමාජවාදීහු නොවූහ. අල්ප වශයෙන් හෝ සමාජවාදය ගැන අදහසක්වත් ඔවුනට නැත. එම ජන කොටස අවදියෙන් දේශපාලන ජීවිතයට සහභාගි වීමට පටන් ගත්තේ ඉතා මෑතදීය. එසේ වුවද එහි පංති විඥනය ඉතාම සීඝ්‍ර ලෙස වර්ධනය වෙමින් හා පුළුල් වෙමින් පවතී. අපගේ අදහස් එම ජනතාවට වටහාදීමට අපට හැකි විය යුතුය. විශේෂයෙන්ම ඉතා මෑතක් වන තුරු නීති විරෝධී ලෙස කටයුතු කළ පක්ෂයකට, මෙය අන් සියල්ලටම වඩා දුෂ්කර කර්තව්‍යයක් වන්නේය.

සමහර දෙනෙකුට මෙසේ ඇසිය හැකිය: අප අපගේ ප්‍රතිපත්ති වෙනස් කර තිබෙනවා නොවේද? අපි අධිරාජ්‍යවාදී යුද්ධය සිවිල් යුද්ධයකට

පරිවර්තනය කරනු සඳහා ප්‍රචාරය කෙළෙමු. දැන් අපි ඊට වෙනස් ආකාරයකින් කථා කරන්නෙමු. නමුත් රුසියාවේ ප්‍රථම සිවිල් යුද්ධය අවසානයට පත්ව ඇත. අපි දැන් දෙවැනි යුද්ධය කරා පෙරට යමින් සිටින්නෙමු. එය අධිරාජ්‍යවාදය හා ආයුධ සන්නද්ධ ජනතාව අතර සිවිල් යුද්ධය ය. ආයුධ සන්නද්ධ බලය සොල්දාදුවන් අතේ තිබෙන තාක් කල්, මිල්යුකොව් හා ගුච්කොව් තවමත් හිංසනය ක්‍රියාත්මක කර නොමැති තාක් කල්, අප හා සම්බන්ධයෙන් වූ කල, මෙම පරිවර්තනීය කාල සීමාවේදී, මෙම සිවිල් යුද්ධය සාමකාමී, දිග්ගැස්සුනු හා ඉවසිලිමත් ලෙසට කරන පංති ප්‍රචාරක කටයුතු බවට හැරෙන්නේය. සිවිල් යුද්ධය අවශ්‍ය බව ජනතාවට වැටහී යන්නට පෙර එය ගැන කථා කිරීම, නිසැක වශයෙන්ම බ්ලැන්කිවාදයට වැටීමක් වන්නේය. අපි සිවිල් යුද්ධයට පක්ෂ වෙමු. නමුත් ඒ දේශපාලන විඥනය ඇති පංතියක් විසින් කරනු ලබන සිවිල් යුද්ධයකටය. ජනතාව විසින් පීඩකයෙක් ලෙසට හඳුනා ගනු ලැබූ අය පරාජය කළ හැකිය. දැනට රුසියාවේ පීඩකයන් නොමැත. තුවක්කු හා රයිපල් තිබෙන්නේ ධනපතියන් අතේ නොව සොල්දාදුවන් අතෙහිය. ධනපතියන් දැන් ඔවුනට අවශ්‍ය දේ ලබා ගන්නේ බලහත්කාරය යෙදීමෙන් නොව, රැවටීම උපයෝගි කර ගැනීමෙනි. එනිසා දැන් හිංසනය ගැන කථා කිරීම අර්ථ විරහිතය. අයෙක් මාක්ස්වාදී දෘෂ්ටිය පිළිපැදීමට සමත් විය යුතුය. අධිරාජ්‍යවාදී යුද්ධය සිවිල් යුද්ධය බවට පරිවර්තනය කිරීම මනෝමූල කොන්දේසි මත නොව වාස්තවික කොන්දේසි මත පදනම් විය යුතු බව එම දෘෂ්ටියෙන් කියවෙයි. දැනට අපි එම සටන් පාඨය ඉවත් කර ගනිමු. එහෙත් ඒ දැනට පමණකි. දැන් අවි ආයුධ අත් කර ගෙන සිටින්නේ සොල්දාදුවන් හා කම්කරුවන් මිස ධනපතියන් නොවේ. ආණ්ඩුව යුද්ධය ආරම්භ කර නොමැති තාක් කල්, අපගේ ප්‍රචාරය සාමකාමී වන්නේය.

විපලවීය සටන් කරා යොමුවූ නුවණට හුරු නැති ප්‍රථම පියවර අප විසින් ගනු ලැබෙනු දැකීමට ආණ්ඩුව සතුටු වනු ඇත. එසේ වන්නේ අප එසේ කිරීම ආණ්ඩුවේ වාසියට හේතු වන බැවිනි. අප පක්ෂය සාමකාමී පෙළපාලි සඳහා සටන් පාඨය ඉදිරිපත් කර තිබීම නිසා එය දැඩි කෝපයට පත්ව ඇත. අපි අල්ප මාත්‍ර වශයෙන් හෝ අපගේ ප්‍රතිපත්ති, දැනට කල් බැලීමේ යෙදී සිටින සුළු ධනපති පංතියට යටත් නොකළ යුත්තෙමු. සංවිධානය අවශ්‍ය තැන, මනෝමූල අභිලාෂයන් පදනම් කරගෙන නිර්ධන පංති පක්ෂය එහි උපක්‍රම සකස් කර ගන්නේ නම්, එය අන්තරාදායක වරදක් වනු ඇත. බහුතරය අප සමග යයි අපට කිව නොහැකිය. වර්තමාන තත්වය යටතේ අපට අවශ්‍ය වන්නේ ප්‍රවේසම, ප්‍රවේසම හා ප්‍රවේසම වේ. නිර්ධන පංතික උපක්‍රම මනෝමූල අභිලාෂයන් මත පදනම් කිරීම යනු එය පරාජයට බිලි දීමකි.



තුන්වැනි කරුණ යටතේ යුද්ධය කෙළවර කරන්නේ කෙසේද යන ප්‍රශ්නය ගැන සඳහන් වේ. මේ ගැන මාක්ස්වාදී ස්ථාවරය සුප්‍රකටය. නමුත් ප්‍රශ්නය වී තිබෙන්නේ හැකි තරම් උපරිම පැහැදිලි තාවයකින් යුතුව මෙය පොදු ජනතාවට වටහා දෙන්නේ කෙසේද යන්නය. අපි සමාදානවාදීන් නොවෙමු. එබැවින්, විප්ලවවාදී යුද්ධය ප්‍රතික්ෂේප කිරීමට අපට පුළුවන් කමක් නැත. විප්ලවවාදී යුද්ධයක් ධනපති යුද්ධයකින් වෙනස් වන්නේ කෙසේද? එම වෙනස අන් සියල්ලටම වඩා පංති වෙනසකි: යුද්ධය උවමනා වී තිබෙන්නේ කුමණ පංතියටද? උවමනාව ඇති පංතිය එම යුද්ධයේදී අනුගමනය කරන ප්‍රතිපත්තිය කුමක්ද?.. ජනතාව අමතන විට අපි ඔවුන්ගේ ප්‍රශ්නවලට නිශ්චිත පිළිතුරු දිය යුත්තෙමු. ඒ අනුව ප්‍රථම ප්‍රශ්නය වන්නේ විප්ලවවාදී යුද්ධයක් ධනපති යුද්ධයකින් වෙන් කොට හඳුනා ගන්නේ කෙසේද යන්නය. පොදු සාමාන්‍ය මිනිසා මෙම වෙනස වටහා ගෙන නැත. එය පංති වෙනස පිළිබඳ කරුණක් බව ඔහු නොදන්නේය. අපි න්‍යායට පමණක් සීමා වී නොසිට, අප සැබවින්ම විප්ලවවාදී යුද්ධයක් කරන්නේ නිර්ධන පංතිය බලයට පත්වී සිටින විට බව ව්‍යවහාරයෙන් පෙන්නුම් කළ යුත්තෙමු. ප්‍රශ්නය මේ ආකාරයෙන් ඉදිරිපත් කිරීමෙන්, මෙම යුද්ධය කුමක් සම්බන්ධයෙන්ද සහ එය කරන්නේ කවුද යන ප්‍රශ්නයට අපි අතාමත් පැහැදිලි පිළිතුරක් දෙන බව අදහස් කරමු.

යුද්ධකාරී රටවල සොල්දාදුවන් වෙත කරන ආයාචනයක කෙටුම්පතක් "ප්‍රාව්ද" පත්‍රයෙහි පළ කර තිබේ. යුද පෙරමුණෙහිදී සහෝදරත්වය පෑම සිදුවන බවට අපවෙත ආරංචි ලැබී ඇත. නමුත් මෙම සහෝදරත්වය පෑම තවමත් දේශපාලන වශයෙන් අර්ධ සාංසිද්ධික ලෙස කෙරෙන්නකි. පැහැදිලි දේශපාලන අදහසක් නොතිබීම එයට අඩුවක් වී තිබේ. ක්‍රියාකාරිත්වය පහළින් මතු විය යුතු බව සොල්දාදුවන්ට සහජාසයෙන් මෙන් දැනෙන්නට පටන්ගෙන තිබේ. විප්ලවවාදී සිතක් ඇති මෙම ජනයින්ගේ පංති සහජාසය, මෙය එකම නිවැරදි මාර්ගය බව ඔවුනට හඟවා තිබේ. එසේ වුවද, විප්ලවයක් කිරීම සඳහා මෙය ප්‍රමාණවත් පිළිතුරක් නොවේ. අපි පැහැදිලි පිළිතුරක් දිය යුත්තෙමු. මෙම යුද්ධය කෙළවරක් කිරීම සඳහා, බලය විප්ලවවාදී පංතිය අතට පත් විය යුතුය. යුද්ධකාරී රටවල් සියල්ලෙහිම සොල්දාදුවන් වෙත මෙම සාකච්ඡා සභාව නමින් නිකුත් කිරීම සඳහා ආයාචනයක් සකස් කර, එය අදාල භාෂා සියල්ලෙන්ම ප්‍රසිද්ධ කළ යුතු යයි මම යෝජනා කරමි. සහභාගි වන සාකච්ඡාකරුවන්ගෙන් අඩක් අධිරාජ්‍යවාදී රටවල රහස්‍ය හෝ විවෘත ඒජන්තවරුන්ගෙන් සමන්විත වන සාම සාකච්ඡා සභා ගැන පට්ටා ගසනු ලබන වදන් මාලා වෙනුවට, අපි මෙම ප්‍රකාශය නිකුත් කරන්නෙමු නම්, එම සාකච්ඡා සභාවලට වඩා දහස් වරක් වෙගයෙන් අපට එයින් අපගේ අරමුණ ඉටු කර ගත හැකි

වනු ඇත. කිසිම කටයුත්තකදී වුවද ජර්මානු ජ්ලෙභානව්ලා සමග එක්ව කටයුතු කිරීම අපි ප්‍රතික්ෂේප කරමු. අප ජර්මනිය ඔස්සේ ගමන් කරමින් සිටියදී, මෙම මහත්වරු, සමාජ-ජාත්‍යෝන්මාදවාදීහු, ජර්මන් ජ්ලෙභාන-ව්ලා අපගේ රථයට නැගීමට උත්සාහ කළහ. නමුත, ඔවුන් එකෙකුටවත් ඊට ගොඩවීමට ඉඩ නොදෙන බවත්, ඔවුන් එකෙක් හෝ එයට ගොඩ වුවහොත්, ලොකු රණ්ඩුවකින් තොරව ඉන් පිටවීමට ඔවුනට ඉඩ නොලැ-බෙන බවත් අපි කීවෙමු. අප හමුවීමට ඒමට කාල් ලීබ්නෙහ්ට් වැනි පුරුෂයෙකුට අවසර දෙන ලද්දේ නම්, ඒකාන්ත වශයෙන්ම අපට ඔහු සමග කරුණු සාකච්ඡා කිරීමට තිබුණි. යුද්ධය අවසන් කරන්නේ කෙසේද යන ප්‍රශ්නයට පිළිතුරක් දෙමින්, අප ලෝකයේ සියළුම රටවල වැඩ කරන ජනතාවන් වෙත අපගේ ආයාචනය නිකුත් කළ විට, එසේම සොල්දාදුවන් යුද්ධයෙන් බැහැර වන දේශපාලන මාර්ගය පෙන්වන අපගේ පිළිතුර කියවූ විට, සහෝදරත්වය පෑම යෝධ පියවරයන් තබා ඉදිරියට යනු ඇත. සහෝදරත්වය පෑම, යුද්ධයට විරුද්ධව සහජාසමය ලෙස සිදුවන සිත් පෙරළීමක තත්වයේ සිට යුද්ධයෙන් බැහැර වන්නේ කෙසේද යන්න පැහැදිලි ලෙස දේශපාලන වශයෙන් වටහා ගැනීමක් වන තත්වය දක්වා ඉහළට නැංවීම පිණිස මෙම කටයුත්ත කළ යුතුය.

මම දැන් තුන්වැනි ප්‍රශ්නයට යන්නෙමි. එය නම් ජාත්‍යන්තර කම්කරු පංති ව්‍යාපාරයේ තත්වයත්, ජාත්‍යන්තර ධනපති ක්‍රමයේ තත්වයත් සැල-කිල්ලට ගනිමින් දැනට පවත්නා ජාත්‍යන්තර තත්වය විශ්ලේෂණ කිරීම පිළිබඳ ප්‍රශ්නයයි. ධනපති රටවල් සියල්ලම සමීප ලෙස එකට බැඳී තිබෙන නිසා, මාක්ස්වාදයේ දෘෂ්ටිකෝණය අනුව බලන කල, අධිරා-ජ්‍යවාදය ගැන සාකච්ඡා කිරීමේදී අයෙක් එක් රටක තත්වයන්ට පමණක් සීමාවීම අඥාන කමකි. දැන් යුද්ධය පවතින කාලයේදී, ධනපති රටවල මෙම බැඳීම අපරිමිත පමණින් වර්ධනය වී තිබේ. මුළු මිනිස් වර්ගයාම එකට පැටලුණු, ලේ වැහෙන සිරුරු ගොඩක් බවට පත්වී ඇති අතර, එකම ජාතියකටවත් එයින් මිදීමට බැරි තත්වයක් පවතී. අඩු හා වැඩි පමණින් දියුණු රටවල් ඇති නමුත්, මෙම යුද්ධය ඒ සියල්ලම රැසක් රැහැන් වලින් කොතරම් තදින් එකට බැඳ තිබේද යත්, එයින් එකම රටක-ටවත්, තනිවම කටයුතු කරමින් එම පටලැවිල්ලෙන් මිදී යාම ගැන සිතන්-නටවත් නොහැකිය.

කම්කරු හා සොල්දාදු නියෝජිත සභා, බලය හිමි ආයතන බවට පත් විය යුතු යයි අපි සියළු දෙනාම එකඟ වෙමු. නමුත් ඒවා අතට බලය පත් වුවහොත්, නිර්ධන පංතිකයන් හා අර්ධ නිර්ධන පංතිකයන් අතට බලය ලැබුනහොත්, ඔවුහු කුමක් කිරීමෙහි සමත් වෙතිද? එවිට ඔවුන් කළ යුත්තේ කුමක්ද? මෙය සංකීර්ණ සහ දුෂ්කර තත්වයකි. බලය පැවරීම



ගැන කථා කිරීමේදී එක් අන්තරායක් ගැන සඳහන් කළ යුතුය. එම කරුණ මීට ඉහත විප්ලවවාලදී විශාල කාර්ය කොටසක් කළ එකකි. එය නම්, බලය දිනා ගැනීමෙන් පසුව එය යොදා කරන්නේ කුමක්ද යන්න විප්ලව-වාදී පංතිය නොදන සිටීමේ අන්තරාවය. ඉඳුරාම මෙම හේතුවම නිසා අසාර්ථක වූ විප්ලව පිළිබඳ නිදර්ශන අපට විප්ලව ඉතිහාසයෙන් සැපයෙ-න්නේය. ස්වකීය ජාලක සංවිධානයෙන් මුළු රුසියාවම වසා සිටින කම්කරු සොල්දාදු නියෝජිත සෝවියට් සභා දැන් විප්ලවයේ මධ්‍ය ලක්ෂය හිමි කර ගෙන සිටී: එසේ වුවද, අපි ඒවා ගැන සෑහෙන තරම් අධ්‍යයනය කර හෝ ඒවා ගැන අවබෝධ කර ගෙන හෝ නොමැති බව මම අදහස් කරමි. එවැනි රාජ්‍ය බලයක් සෑහෙන කාලයක් තිස්සේ ක්‍රියාත්මක වීම ලෝකයේ මෙතෙක් සිදු වී නැත. නමුත් ලෝකයේ ශ්‍රමකරු ව්‍යාපාරය එම රාජ්‍ය බලය වෙත ළඟා වෙමින් සිටියේය. මෙය පැරිස් කොමියුනය වර්ගයේ රාජ්‍යයක් වනු ඇත. එවැනි බලයක් ආඥාදායකත්වය මත රැඳී පවතින්නකි. එය නීතිය මත නොව, වැඩි දෙනා විධිමත් ලෙස ප්‍රකාශ කළ කැමැත්ත මත නොව, සෘජු, විවෘත බලහත්කාරය මත රැඳී පවතින්නකි. බලහත්කා-රය බලයේ උපකරණයකි. සෝවියට් සභා මෙම බලය ක්‍රියාත්මක කරනු ඇත්තේ කෙසේද? ඒවා පොලිසිය මගින් ආණ්ඩු කිරීමේ පැරණි ක්‍රමය වෙත ආපසු යනු ඇද්ද? ඒවා පැරණි බලධාරී අවයව මගින්ම ආණ්ඩු කරනු ඇද්ද? මගේ අදහසේ හැටියට ඒවාට එසේ කළ නොහැකිය. කුමණ හෝ තත්වයක් යටතේ වුවද, ධනපති නොවන රාජ්‍යයක් නිර්මාණය කිරීමේ ක්ෂණික කර්තව්‍යයට මුහුණ දීමට සෝවියට් සභාවලට සිදු වේ. බොල්ෂෙවික්වරුන් අතරදී, මම මෙම රාජ්‍යය, පැරිස් කොමියුනයේ රාජ්‍යය හා සමාන කර ඇත්තෙමි. මා එසේ කළේ, පැරිස් කොමියුනය පැරණි පරිපාලන අවයව විනාශ කර දමා, ඒ වෙනුවට එක එල්ලේම කම්කරුවන්-ගේ ආයතන වූ, සම්පූර්ණයෙන්ම අළුත් අවයව ආදේශ කළ අර්ථයෙනි. ධනපතියන් ඉතාමත් බිය ගන්නා වචනයක් යෙදීම ගැන දැන් මට චෝදනා කරනු ලැබේ. එම චෝදකයන් එය ගෙන හැර දක්වන්නේ වහාම සමාජ-වාදය ක්‍රියාත්මක කිරීමේ අභිලාෂයක් ලෙසටය. එසේ වුවද, මා එම වචනය යොදා ඇත්තේ පැරණි අවයව වෙනුවට අළුත් නිර්ධන පංතික අවයව ආදේශ කිරීමේ අර්ථයෙන් පමණකි. මාක්ස්, මෙය තුළින් මුළු ලෝකයේම නිර්ධන පංති ව්‍යාපාරයේ ඉතාමත්ම විශාල ඉදිරි ගමන දුටුවේය.[65] ප්‍රථම වශයෙන්, අප අන් රටවල් සියල්ලම සමග දැන් එකට බැඳී සිටින නිසා සහ අපට එම බැමි මුදගත නොහැකි නිසා, නිර්ධන පංතියේ සමාජ කර්තව්‍යයන් අපට ප්‍රායෝගික වශයෙන් බෙහෙවින් වැදගත් වේ. නිර්ධන පංතිය එක්-කෝ සමස්තයක් ලෙසට නිදහස් වනු ඇත. එසේ නැතහොත්, එය මැඩලීමට යටවනු ඇත. දෙවැනිව, කම්කරු හා සොල්දාදු නියෝජිත සෝවියට්

සභා පවතින යථාර්ථයක් බවට පත්ව ඇති හෙයින් එම කටයුතු වැදගත් වේ. ඒවා මුළු රුසියාවේම පැතිරී තිබෙන බවටත්, ඊට වඩා වෙනත් බලයක් තිබිය නොහැකි බවටත් සැකයක් නැත. එය එසේ නම්, ඒවාට එම බලයෙන් ගත හැකි ප්‍රයෝජනය ගැන අප පැහැදිලි අදහසක් ඇති කර ගත යුතුය. සමහරු කියන්නේ, එය ප්‍රංශයේ සහ ඇමෙරිකාවේ ඇති වර්ගයේම බලයක් බවය. නමුත් ඒ හා සමාන කිසිවක් සෝවියට් සභා තුළ නැත. එවැනි සෘජු බලයක් එහි නොපවතී.

වර්තමාන තත්වය ගැන යෝජනාව කොටස් තුනකින් යුක්තය. ඉන් ප්‍රථම කොටසින්, අධිරාජ්‍යවාදී යුද්ධය නිසා ඇති වී තිබෙන වාස්තවික තත්වයත්, ලෝක ධනපති ක්‍රමය පත්ව ඇති තත්වයත්, විස්තර කෙරේ. දෙවැනි කොටසෙහි ජාත්‍යන්තර නිර්ධන පංති ව්‍යාපාරයේ තත්වය ගැන සඳහන්ව ඇත. රුසියානු කම්කරු පංතිය අතට බලය ලැබුණු පසු එයට මුහුණ පෑමට සිදුවන කර්තව්‍යයන් ගැන තුන්වැනි කොටසෙහි සඳහන්ය. යුද්ධ කාලය තුළදී ඊට පෙර කාලයටත් වඩා ධනපති ක්‍රමය සංවර්ධනය වී ඇතැයි යන නිගමනය මම පළමු කොටසින් ඉදිරිපත් කරන්නෙමි. එය දැනටමත් මුළු නිෂ්පාදන ක්ෂේත්‍රයන්ම අත්පත් කරගෙන තිබේ. අවුරුදු විසිහතකට පෙර, 1891 දී, ජර්මානුන් ඔවුන්ගේ එර්පුට් වැඩ පිළිවෙළ[66] අනුමත කළ අවස්ථාවේදී, එංගල්ස් කීවේ, ධනපති ක්‍රමය සැලැස්මක් නැති නිෂ්පාදන ක්‍රමයක් ලෙස අයෙකුට දිගටම විස්තර කිරීමට නුපුළුවන් බවය.[67] එය දැන් කල් ඉක්ම ගිය කියමනකි. සංගත ව්‍යාපාර පවතින කල සැලැස්මක් නොමැති තත්වය තවදුරටත් පැවතිය නොහැකිය. විශේෂයෙන්ම විසි වැනි ශත වර්ෂයේදී ධනපති ක්‍රමය යෝධ පියවරයන් ඉදිරියට තබා ඇත. එසේම අවුරුදු විසිපහක කාලයකින් සිදුවූවාට වැඩි සංවර්ධනයක් යුද්ධය නිසා ඇති වී තිබේ. බ්‍රිතාන්‍යයේ හා එමෙන්ම ජර්මනියේද, රජය මගින් කර්මාන්ත පාලනය කිරීම ප්‍රගතියට පත්ව ඇත. ඒකාධිකාරය, පොදු වශයෙන් රාජ්‍ය ඒකාධිකාරය සේ පරිණාම වී ඇත. යුද්ධය නිසා ධනපති සංවර්ධනය වේගවත් වූ බවත්, එය ධනපති ක්‍රමයේ සිට අධිරාජ්‍යවාදය දක්වාද, ඒකාධිකාරයේ සිට රජය මගින් පාලනය කිරීම දක්වාද, ඉදිරියට ගිය බවත්, පවත්නා වාස්තවික තත්වයෙන් පෙනී ගොස් තිබේ. මේ සියල්ලම නිසා සමාජවාදය වඩාත් නුදුරු වී ඇති අතර ඒ සඳහා අවශ්‍ය වාස්තවික කොන්දේසි නිර්මානය වී තිබේ. යුද්ධයේ ප්‍රතිඵලයක් වශයෙන් සමාජවාදය තවත් මෑත් වී ඇත.

යුද්ධයට පෙර බ්‍රිතාන්‍යය ලෝකයේ අන් සියළුම රටවලට වඩා විශාල නිදහසක් භුක්ති වින්දේය. කැඩෙට් වර්ගයේ දේශපාලනඥයෝ මෙම කරුණ නිතරම මහත් සේ අවධාරණය කළහ. එහි විප්ලවවාදී ව්‍යාපාරයක් නොතිබුන නිසා නිදහස තිබුණේය. යුද්ධය, ක්ෂණික වෙනස් වීමක් විය. දශක ගණනක් තිස්සේ සමාජවාදී පුවත්පත්වල නිදහස සීමා කිරීමට ප්‍රයත්න නොදරන ලද රටක, එක් වරම, නියම සාර්වාදී ස්වරූපයේ පුවත් පාලනයක් ඇති කරන ලදී: එසේම සෑම සිර ගෙයක්ම සමාජවාදීන්ගෙන් පුරවන ලදී. බලහත්කාරය උපයෝගි කර නොගෙන ජනතාව පාලනය කිරීමට, එහි ධනපතියන් ශත වර්ෂ ගණන් තිස්සේ පුරුදු පුහුණුව සිටි අතර ඔවුන් බලහත්කාරයේ පිහිට පතා ඇත්නම්, එයින් පෙනෙන්නේ විප්ලවවාදී ව්‍යාපාරය වර්ධනය වන බවත්, ඔවුනට බලහත්කාරය නොමැතිව කටයුතු කිරීමට බැරි බවත්, ඔවුන් අදහස් කරන බවයි. ලීබ්නෙහ්ට් පොදු ජනතාව නියෝජනය කරන බව අපි කීවෙමු. ජර්මන් ප්ලෙහානව්ලා සියයක් පමණ දෙනා සමග සසඳන කල ඔහු තනි පුද්ගලයෙක් වුවත්, අපගේ අදහස මනෝරාජික මුළාවක් යයි අපට කියන ලද නමුත්, අපි එසේ කීවෙමු. එසේ වුවත්, ලීබ්නෙහ්ට්ට පොදු ජනතාව දක්වන සහයෝගය ප්‍රතික්ෂේප කළ නොහැකි යථාර්ථයක් බව විදේශයෙහි කම්කරුවන්ගේ රැස්වීම්වලට එක් වරක් හෝ සහභාගි වූ ඕනෑම කෙනෙක් දන්නේය. මහජනතාවට මුහුණ දීමේදී ඔහුගේ පරම සතුරන්ට පවා උපක්‍රමවල පිහිට සෙවීමට සිදුවිය. ඒ අනුව ඔවුහු ඔහුගේ ආධාර කරුවන් වන බව නොහැඟවූවෝ නම්, ඔහුට විරුද්ධව ඉදිරිපත් වීමට තරම් නිර්භීත කමක්ද ඔවුනටනොවීය. දැන් කටයුතු තවත් දුර ඉදිරියට ගොස් ඇත. දැන් වැඩ වර්ජන හ යුද්ධ පෙරමුණේ සහෝදරත්වය පෑම අපට දක්නට ලැබේ. මේ සම්බන්ධයෙන් අනාවැකි පළ කිරීමට උත්සාහ කිරීම වරදක් වනු ඇත. නමුත්, ජර්මන් යුද්ධ හමුදව තුළ ජාත්‍යන්තරයට දක්වනු ලබන සහයෝගයේ වර්ධනයත්, එය තුළ විප්ලවවාදී කැළඹිලි ආරම්භ වීමත්, යන කරුණ සැලකිල්ලට නොගෙන සිටීමට අපට බැරිය. මෙය ජර්මනියේ විප්ලවය නැගී එන බව කියන සාධකයකි.

එසේ නම්, විප්ලවවාදී නිර්ධන පංතියේ කර්තව්‍යයන් මොනවාද? සියළුම සමාජවාදීන්ගේ තර්කවල ඇති ප්‍රධාන දුර්වල කම, ප්‍රධාන වරද නම්, මෙය සමාජවාදයට පරිවර්තනය වීම පිළිබඳ ප්‍රශ්නය ලෙසට පමණට වඩා පොදු ස්වභාවයෙන් ඉදිරිපත් කිරීමය. නමුත් අප කථා කළ යුත්තේ, නිශ්චිත පියවරයන් හා කටයුතු ගැනය. ඉන් සමහරක් සඳහා සුදුසු කාලය පැමිණ ඇත; තවත් සමහරක් සඳහා කාලය පැමිණ නැත. අපි දැන් පරිවර්තනීය අවධියක සිටිමු. අපි, පැහැදිලි වශයෙන්ම, ධනපති රාජ්‍යවල ආකෘතිවලට වඩා වෙනස් ආකෘති ඉදිරියට දමා ඇත්තෙමු. කම්කරු සහ සොල්දදු නියෝජිත සෝවියට් සභා වෙනත් කිසිම රටක නොපැවති හා නොපවතින රාජ්‍ය ආකෘතියකි. සමාජවාදය කරා යොමුවූ සහ සමාජවාදී සමාජයක ආරම්භයේදී අනිවාරණීය වශයෙන් ගත යුතු වන ප්‍රථම පියවරයන්, මෙම ආකෘතියෙන් නියෝජනය කෙරෙන්නේය. මෙය තීරණාත්මක වැද-

ගත්කමක් දරන කරුණකි. රුසියානු විප්ලවය විසින් සෝවියට් සභා නිර්මාණය කරන ලදී. ලෝකයේ කිසිම ධනපති රටකට එවැනි රාජ්‍ය ආයතන ඇත්තේ හෝ තිබිය හැක්කේ හෝ නැත. මෙයට වඩා වෙනස්, වෙනත් රාජ්‍ය බලයක් සහිතව සමාජවාදී විප්ලවය ක්‍රියාත්මක විය නොහැකිය. සෝවියට් සභා බලය අත්පත් කරගත යුතුය; ඒ සාමාන්‍ය ධනපති සමූහාණ්ඩුවක් ගොඩ නැගීම සඳහා කෙළින්ම සමාජවාදයට පරිවර්තනය වීමක් ක්‍රියාත්මක කිරීම සඳහා හෝ නොවේ. එය සිදුවිය නොහැක්කකි. එසේ නම් බලය අත්පත් කර ගැනීමේ අරමුණ කුමක්ද? මෙම පරිවර්තනය කරා ඉලක්ක කළ ප්‍රථම පියවරයන්, එනම් ගත හැකි හා ගත යුතු පියවරයන් සඳහා සෝවියට් සභා බලය අත්පත් කරගත යුතුය. මේ හා සම්බන්ධයෙන් වූ කල, ප්‍රධානම සතුරා වන්නේ බියසුලු කමය. අප්‍රමාදව මෙම පියවරයන් ගන්නා ලෙසට ජනතාව උනන්දු කළ යුතුය. නොඑසේ නම්, සෝවියට් සභාවල බලය අර්ථ විරහිත වනු ඇත; ජනතාවට එයින් කිසි යහපතක් නොවනු ඇත.

අපගේ මාක්ස්වාදී අවබෝධයට පටහැනිව නොයා, අපට ජනතාව වෙත යෝජනා කළ හැකි පියවරයන් මොනවාද යන ප්‍රශ්නයට පිළිතුරු දීමට මම දැන් උත්සාහ කරමි.

කම්කරු හා ගොවි නියෝජිතයන්ගේ සෝවියට් සභාවලට රාජ්‍ය බලය ලබාගත යුත්තේ මන්ද?

සෝවියට් සභා ක්‍රියාත්මක කළ යුතු ප්‍රථම පියවර ඉඩම් ජනසතු කිරීමය. ජනයා සියළු දෙනාම ඉඩම් ජනසතුව ගැන කථා කරති. එය ඉතාමත් මනෝරාජික පියවරක් බව සමහරු කියති. එසේ වුවද, සියළු දෙනාම එය පිළිගනිති. එයට හේතුව රුසියාවේ ඉඩම් හිමිකම ඉතාමත් සංකීර්ණ වන නිසා, එය නිරවුල් කර ගැනීමේ එකම මාර්ගය, ඉඩම් බෙදු තබන මායිම් රේඛාවන් සියල්ලම ඉවත් කොට, ඉඩම් රජයේ දේපල බවට පත් කිරීම වීමයි. ඉඩම් පිළිබඳ පෞද්ගලික හිමිකම අවලංගු කළ යුතුය. ජනතාවගෙන් බහුතරය එයට පක්ෂ නිසා අප හමුවේ ඇති කර්තව්‍යය එයයි. එය සාර්ථක කර ගැනීම සඳහා අපට සෝවියට් සභා අවශ්‍යය. පැරණි ආණ්ඩුවේ නිලධාරීන්ගේ ආධාරයෙන් මෙම පියවර ක්‍රියාත්මක කළ හැකි නොවේ.

ගත යුතු දෙවැනි පියවර ගැන මීළඟට සලකා බලමු. අපට සමාජවාදය ''ආරම්භ කිරීමට'' පක්ෂ විය නොහැකිය. එය අන්ත මෝඩ කමක් වනු ඇත. අපි සමාජවාදය දේශනා කළ යුත්තෙමු. රුසියාවේ ජනගහනයෙන් බහුතරය ගොවිජනයා, එනම් කුඩා ගොවීන් වෙති. ඔවුනට සමාජවාදය ගැන අවබෝධයක් තිබිය නොහැකිය. නමුත්, ඔවුන්ගේ ගොවි කටයුතු වැඩි දියුණු කර ගනු පිණිස සෑම ගමකම බැංකුවක් බැගින් පිහිටුවීම ගැන



ඔවුනගේ විරුද්ධත්වයක් තිබිය හැකිද? ඊට විරුද්ධව කිසිවක් කීමට ඔවුනට නොහැකි වනු ඇත. අපගේ ප්‍රචාරක කටයුතුවලදී මෙම ප්‍රයෝගික පියවරයන් ගැන ගොවි ජනතාවට දැනගන්නට ලැබෙන්නට සලස්වා, ඒවා අවශ්‍ය පියවරයන් බව ඔවුනට අවබෝධ කිරීමටද කටයුතු කළ යුතුය.

සීනි සම්මේලය සම්පූර්ණයෙන්ම වෙනත් දෙයකි. එය පැහැදිලි යථාර්ථයකි. මෙහිදී අපගේ යෝජනාව ඍජු හා ප්‍රායෝගික එකක් විය යුතුය. දැනටමත් සම්පූර්ණ වශයෙන් සංවර්ධනය වී තිබෙන මෙම සම්මේල රජයට පවරා ගත යුතුය. සෝවියට් සභා, බලය අත්පත් කර ගැනීමට අපේක්ෂා කරන්නේ නම්, ඒ එවැනි අරමුණු ඉටු කර ගැනීම සඳහා පමණකි. ඒවා බලය අත්පත් කර ගැනීමට හේතුවන වෙනත් කරුණක් නොමැත. තිබෙන විකල්පය මෙසේය: එක්කෝ තවදුරටත් සංවර්ධනය විය යුතුය; නැතහොත් පැරිස් කොමියුනයේදී සිදුවුන මෙන් නින්දා අපහාස විඳ නැසී යා යුතුය. අවශ්‍ය ධනපති සමූහාණ්ඩුවක් නම්, එය ඇත්ත වශයෙන්ම කැඩෙට්වරුන්ටද කළ හැකිය.

මගේ සිත තදින්ම ඇදී ගිය කථාවක් ගැන සඳහන් කර මගේ කථාව අවසන් කරන්නෙමි. ගල් අඟුරු ආකර කම්කරුවෙක් ඉතා අගනා කථාවක් කරනවා මම අසා සිටියෙමි. පොත් ගුලු ස්වභාවයේ වචන එකක්වත් පාවිච්චි නොකර කථා කළ ඔහු, ඔවුන් විප්ලවය කළ හැටි කීවේය. තමන්ට සභාපති කෙනෙක් සිටිය යුතුද නැද්ද යන්න ගැන එම කම්කරුවෝ සැළකිල්ලක් නොදැක්වූහ. ඔවුහු ආකරය අල්ලා ගත්හ. ඔවුන්ට වැදගත් ප්‍රශ්නය වූයේ නිෂ්පාදනයට බාධාවක් නොවන ලෙසට කේබල් කම්බි ආරක්ෂා කර ගන්නේ කෙසේද යන්නය. ඊළඟට මතුවූයේ හිඟව තිබූ පාන් පිළිබඳ ප්‍රශ්නයයි. පාන් ලබා ගැනීමේ ක්‍රමයක් ගැන ඔවුහු එකඟත්වයට පැමිණියහ. අන්න එය විප්ලවය සඳහා නියම වැඩ පිළිවෙළකි. එය පොත් වලින් උපුටා ගත් එකක් නොවේ. එය සැබවින්ම ප්‍රාදේශීය වශයෙන් බලය අල්වා ගැනීමකි.

පෙට්‍රොග්‍රෑඩයේ තරම් හොඳින් ධනපති පංතිය තහවුරු වූ වෙනත් තැනක් නැත. මෙහි ධනපතියෝ බලය හිමිකරගෙන සිටිති. නමුත් රට මුළුල්ලේම සිටින ගොවි ජනයා,සමාජවාදීකර්තව්‍යයන් කිසිවක් අනුගමනය නොකර, හුදෙක්ම ප්‍රායෝගික වන පියවරයන් ක්‍රියාත්මක කරති. විප්ලවයේ නියම මග සලකුණු කෙරෙන්නේ විප්ලවවාදී ව්‍යාපාරයේ මෙම වැඩ පිළිවෙළෙන් පමණකැයි මම අදහස් කරමි. ඉතාමත් ප්‍රවේසම් සහිත ලෙස හා සුපරීක්ෂාකාරී ලෙස මෙම පියවරයන් ආරම්භ කිරීමට අපි පක්ෂවෙමු. නමුත් ක්‍රියාත්මක කළ යුතු පියවරයන් එමපණක් නොවේ. ඒ අප ඉදිරියට යාමට ගත යුතු මාර්ගය පමණකි. ගැලවීමේ වෙනත් මාර්ගයක් නොමැත. මෙය නොකරන්නේ නම් සෝවියට් සභා බිඳ දැමීමට හැකිවනු ඇත. එවිට

ඒවා නින්ද අපහාස විඳ නැසී යනු ඇත. නමුත්, විප්ලවවාදී නිර්ධන පංතිය සත්‍ය වශයෙන්ම බලය අත්පත් කර ගන්නේ නම්, ඒ ඉදිරියට යාම සඳහා පමණක්ම වන්නේය. ඉදිරියට යාමට නම්, අප යුද්ධයෙන් බැහැර වීමට නිශ්චිත පියවර ගත යුතුය. වචනවලින් පමණක් එය ඉටු නොවේ. මෙම පියවරයන් සම්පූර්ණයෙන් සාර්ථක විය හැක්කේ ලෝක විප්ලවයක් මගින් පමණකි; එනම්, විප්ලවය විසින් යුද්ධය මරා දමනු ලැබුවහොත්, මුළු ලෝකයේම කම්කරුවන් විප්ලවයට ආධාර කළහොත් පමණකි. එනිසා, එකම ප්‍රායෝගික පියවර හා ගැලවීමේ මාර්ගය වන්නේ බලය අල්ලා ගැනීමය.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 342-358

1921 දී, එන්. ලෙනින් (වී උල්යානොව්) කෘති, වෙළුම 14, දෙවැනි කොටසෙහිය.

3

## වර්තමාන තත්වය පිළිබඳ වාර්තාව ගැන විවාදය අවසන් කරමින් කළ කථාව

### අප්‍රියෙල් 24 (මැයි 7)

කාමෙනෙව් සහෝදරයා ඉක්මණින්ම අතිධාවනකාරිත්වය ගැන කථාවෙහි එල්බ ගත්තේය. ඒ ගැන කරුණු විස්තර කළ යුත්තේය. ''තාවකාලික ආණ්ඩුව භංග වේවා'' යන සටන් පාඨයට විරුද්ධ වීමේදී අප වැනෙනසුලු ගතියක් පෑ බවක් කාමෙනෙව් සහෝදරයා විශ්වාස කරයි. ඔහු සහතික වෙමින් ඒ බව කියයි. මම ඔහු සමග එකඟ වෙමි. ඇත්ත වශයෙන්ම විප්ලවවාදී ප්‍රතිපත්තියෙන් බැහැරට වැනී යාම සිදු වී ඇත. එනිසා එසේ නොවීමට වග බලා ගත යුතුය. කාමෙනෙව් සහෝදරයා අප සමග එකඟ වීමෙන් ඔහුගේ ස්ථාවරය වෙනස් කර තිබෙන නිසා ඔහු සමග ඇති අපගේ මත වෙනස්කම් බොහෝ විශාල ඒවා විය නොහැකි යයි මම අදහස් කරමි. අපගේ අතිධාවන කාරිත්වය සංයුක්ත වූයේ කුමකින්ද? එය සංයුක්ත වූයේ බලහත්කාරී පියවරයන් යොදා ගැනීමට දරන ලද ප්‍රයත්නයෙනි. එම අපහසු අවස්ථාවේදී පොදු ජනතාව කොතරම් දුරට අප පැත්තට නැමී සිටියේද යන්න අපි නොදැන සිටියෙමු. ජනතාව අප පැත්තට බලවත් ලෙස එක්ව සිටියේ නම්, වෙනත් ආකාරයක සිදුවීම් ඇතිවන්නට තිබුණි. අප ඉදිරිපත් කළේ සාමකාමී පෙළපාලි සඳහා සටන් පාඨයය. නමුත් පෙට්‍රොග්‍රෑඩ් කාරක සභාවේ සහෝදරවරු පිරිසක් වෙනත් සටන් පාඨයක් නිකුත් කළහ. අපි එය අවලංගු කෙළෙමු. නමුත් ජනතාව පෙට්‍රොගෑඩ් කාරක සභාවේ සටන් පාඨය අනුව කටයුතු කිරීම වැළැක්වීමට තරම් කඩිනම් වීමට අපට නොහැකි විය. ''තාවකාලික ආණ්ඩුව භංගවේවා'' යන සටන් පාඨය අතිධාවන කාරී බවත්, ආණ්ඩුව මේ අවස්ථාවේ පෙරළා දැමිය නොහැකි බවත් අපි කියමු. අප සාමකාමී පෙළපාලි සඳහා සටන් පාඨය ඉදිරිපත් කර ඇත්තේ එනිසාය. අපට අවශ්‍ය වූයේ සාමකාමී ලෙස සතුරාගේ බලවේග ගැන තතු සොයා බැලීමට පමණකි. සටනට එළඹීමට අපි අපේක්ෂා නොකෙළෙමු. නමුත් පෙට්‍රොග්‍රෑඩ් කාරක සභාව පමණට වඩා මඳක් වමට හැරුණේය; මෙම අවස්ථාවේදී එය ඒකාන්ත වශයෙන්ම බරපතල අපරාධයක් විය. අපගේ සංවිධාන යන්ත්‍රය දුර්වල බව ඔප්පු විය. සමහර දෙනා අපගේ තීරණ ක්‍රියාත්මක නොකිරීමෙන් ඒ බව පෙනිණි. ''කම්කරු සහ සොල්දදු නියෝජිත සෝවියට් සභාවලට ජයවේවා'' යන නිවැරදි සටන් පාඨය සමග එකට වැරදි ''තාවකාලික ආණ්ඩුව භංග වේවා'' යන සටන් පාඨයද දක්නා ලදී. සටන අවස්ථාවේදී පමණ ඉක්මවා මඳ වශයෙන් වමට හැරීම'' වරදක් විය. අපි මෙය බරපතල අපරාධයක් ලෙසට, අසංවිධාන කිරීමක් ලෙසට සලකමු. එවැනි ක්‍රියාවකට අපි උවමනාවෙන්ම ඉඩ දුන්නෙමු නම්, අපි එක මොහොතක්වත් මධ්‍යම කාරක සභාවෙහි රැඳී නොසිටින්නෙමු. එය සිදුවූයේ අපගේ සංවිධාන යන්ත්‍රයේ දුර්වලකම් නිසාය. එය ඇත්තකි. අපගේ සංවිධානයෙහි දුර්වලකම් තිබුණි. අපි අපගේ සංවිධානය උසස් කිරීම පිළිබඳ ප්‍රශ්නය මතු කර ඇත්තෙමු.

මෙන්ෂෙවික්වරු සහ සමාගම ඔවුන්ට හැකි සියළු ශක්තිය යොදා ''අතිධාවනකාරිත්වය'' යන වචනය හඬවති. නමුත් දැන් කවුරුන්ටත් වඩා සංවිධානයක් හෝ ප්‍රතිපත්තියක් හෝ නැත්තේ ඔවුන්ටය. අපට සංවිධානයක් හා ප්‍රතිපත්තියක් යන දෙකම ඇත.

ඒ අවස්ථාවේදී ධනපති පංතිය එහි බලවේගයන් සියල්ලම සූදානම් කළේය. මැද බලවේගයන් සැඟවුන අතර, අපි සාමකාමී පෙළපාලියක් සංවිධානය කළෙමු. දේශපාලන ක්‍රියාමාර්ගයක් ඇති එකම පිරිස අප විය. අප අතින් වරදක් සිදුවීද? එසේය. වරදක් සිදුවිය. කිසි කලෙකත් වරදින්නේ නැත්තේ කිසිවක් නොකරන අයට පමණකි. සර්ව සම්පූර්ණ ලෙස සංවිධානය කිරීම දුෂ්කර කාර්යයකි.

මීළඟට පාලනය ගැන ප්‍රශ්නය වෙත යමු.

පාලනය පිළිබඳ ප්‍රශ්නයේදී හැර අන් කරුණුවලදී අපි කාමෙනෙව් සහෝදරයා සමග එකඟ වෙමු. ඔහු පාලනය දේශපාලන ක්‍රියාවක් සේ

සලකයි. එසේ වුවද, මනෝමූල වශයෙන් නම්, චිහෙයීද්ඉ්ය සහ වෙනත් අයට වඩා හොඳට ඔහුට මෙම වචනය වැටහෙන්නේය. අපි පාලනය අවශ්‍ය බව පිළිනොගන්නෙමු. අප තනි වී සිටින බව සමහරු අපට කියති. කොමියුනිස්ට්වාදය ගැන භයානක වචන රැසක් දෙඩීමෙන්, ධනපතියන් ක්ලාන්ත වන තරමට අප ඔවුන් බිය ගන්වා ඇතැයි කියනු ලැබේ. එය සැබෑවක් විය හැක! නමුත් අප තනි වූයේ එනිසා නොවේ. අපගේ තනි වීමට හේතුවූයේ ණය මුදල පිළිබඳ ප්‍රශ්නය ය. අප අල්පතරයක තත්වයට පත්වූයේ මෙම ප්‍රශ්නයේදීය. සැබෑය. අපි අල්පතරය වෙමු. නමුත් එහි ඇති වරද කුමක්ද? ජාත්‍යෝන්මාදවාදය පැතිරීගිය උමතුවක් වී පවතින කල අල්පතරයට අයත් වීම යනු සමාජවාදියෙකු වීමය. එසේ කල බහුතරයට අයත් වීම යනු ජාත්‍යෝන්මාදවාදියෙකු වීමය. මේ අවස්ථාවේදී, මිල්යුකොව්ද සමග එක්වන ගොවියා ණය මුදල මාර්ගයෙන් සමාජවාදයට පහර දෙයි. ගොවියා මිල්යුකොව් හා ගුච්කොව් අනුව යයි. මෙය සත්‍යයකි. ගොවි ජනයාගේ ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ආඥාදායකත්වය යනු පරණ සූත්‍රයකි.

ගොවි ජනතාව විප්ලවයට ඇද ගැනීමට අපි අපේක්ෂා කරමු නම්, නිර්ධන පංතිය එම ජනතාවගෙන් වෙන් කොට වෙනම නිර්ධන පංති පාර්ශවයක් වශයෙන් තබා ගත යුත්තෙමු. එසේ කළ යුත්තේ ගොවි ජනතාව ජාත්‍යෝන්මාදවාදී වන හෙයිනි. ගොවියා දූන් ආකර්ෂනය කිරීම යනු මිල්යුකොව්ගේ අනුකම්පාවට යට වීමක් වන්නේය.

තාවකාලික ආණ්ඩුව බලයෙන් පහ කළ යුතු නමුත්, එය දූන් හෝ සුපුරුදු ක්‍රමයෙන් හෝ කළ යුත්තක් නොවේ. අපි කාමෙනෙව් සහෝදරයා සමග එකඟ වෙමු. එහෙත් අපි කරුණු පැහැදිලි කළ යුත්තෙමු. කාමෙනෙව් සහෝදරයා පුන පුනා එම වචනය කී නමුත් අපට කළ හැක්කේ මෙ පමණකි.

සමාජවාදය වඩාත් කාර්මික වශයෙන් දියුණු වෙනත් රටවලින් ආයුතු යයි රීකොව් සහෝදරයා කියයි. නමුත් එය එසේ නොවේ. එය පටන් ගන්නේ කවුද, කෙළවර කරන්නේ කවුද යන්න කිසිවෙකුට කිව නොහැකි. එය මාක්ස්වාදය නොව, මාක්ස්වාදය විහිළුවට ලක් කිරීමකි.

ප්‍රංශය එය ආරම්භ කරනු ඇති බවත් ජර්මනිය අවසන් කරනු ඇති බවත් මාක්ස් කීවේය. නමුත්, අන් කිසිවෙකුටත් වඩා ප්‍රගතියක් රුසියානු නිර්ධන පංතිය ලබා ගෙන ඇත.

අපි ''සාර් එපා. නිර්ධන පංති ආඥාදායකත්වයක් අවශ්‍යය'' යනුවෙන් කීවෙමු නම්, එහි අර්ථය සුළු ධනපති පංතියට උඩින් පැන යාමක් වන්නට තිබුණි. නමුත් අප කියන්නේ සෝවියට් සභා මගින් විප්ලවයට උදව් කරනු, යන්නය. අපි ප්‍රතිසංස්කරණවාදය දක්වා පහත නොවැටිය යුත්තෙමු.



අප සටන් කරන්නේ පරාජය වීමට නොව, ජය ගැනීමටය. තත්වය ඉතාමත් නරක වුවත්, යටත් පිරිසෙයින් අර්ධ සාර්ථකත්වයක්වත් අපි අපේක්ෂා කරන්නෙමු. අප පරාජය වුවත්, අපි අර්ධ සාර්ථකත්වයක් අත් කර ගන්නෙමු. අපි ප්‍රතිසංස්කරණ දිනා ගන්නෙමු. ප්‍රතිසංස්කරන පංති අරගලයේ උපකරණයකි.

තවද, ධනපති ක්‍රමයේ සිට සමාජවාදයට පරිවර්තනය වීමේ කාලසීමාවක් නැතැයිද රීකොව් සහෝදරයා කියන්නේය. එය එසේ නොවේ. එය මාක්ස්වාදයෙන් බිඳී වෙන් වී යාමකි.

අප සලකුණු කර තිබෙන ක්‍රියාමාර්ගය නිවැරදිය. එසේම, ඒ පෙට්‍රොග්‍රෑඩ් කාරක සභා පුද්ගලයන් මෙන් මධ්‍යම කාරක සභාවට අකීකරු වන අය නැති තත්වයේ සංවිධානයක් ඇති කර ගැනීමට අපි සෑම ප්‍රයත්නයක්ම දරන්නෙමු. අපි විය යුතු ලෙසටම සැබෑ පක්ෂයක් සමග වැඩෙමින් සිටිමු.

ප්‍රථමයෙන් පළ කරන ලද්දේ 1921 දී, එන්. ලෙනින් (වී. උල්යානොව්) කෘති, වෙළුම 14, දෙවැනි කොටසෙහිය.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 361-363.

## යුද්ධය පිළිබඳ යෝජනාව පක්ෂව කළ කථාව
## අප්‍රියෙල් 27 (මැයි 10)

### 4

### රුස්වීමේ වාර්තාවෙන්

සහෝදරවරුනි, යුද්ධය පිළිබඳ ප්‍රථම කෙටුම්පත් යෝජනාව මවිසින් නගර සාකච්ඡා සභාවේදී කියවන ලදී. පෙට්‍රොග්‍රෑඩයේ අපගේ සියළුම සහෝදරවරුන්ගේ අවධානය හා ශක්තිය උරාගත් අර්බුදය නිසා අපට එම කෙටුම්පත සංශෝධනය කිරීමට නොලැබිණ. නමුත්, ඊයේ පටන් එය සම්බන්ධයෙන් කටයුතු කරන කාරක සභාව සතුටුදායක ප්‍රගතියක් දක්වා ඇත. කෙටුම්පත වෙනස් කර, බොහෝ දුරට කෙටි කර, අපට පෙනෙන ලෙසට එය වැඩි දියුණු කර තිබේ.

යෝජනාව සකස් වී ඇති ආකාරය පිළිබඳව මම වචන ස්වල්පයක් කීමට කැමැත්තෙමි. එය කොටස් තුනකින් සමන්විතය. ඉන් ප්‍රථම කොටස යුද්ධය පිළිබඳ පංති විග්‍රහයක් කිරීම සඳහා වෙන් වී තිබේ. තාවකාලික ආණ්ඩුව දෙන පොරොන්දු ගැන කිසියම් හෝ විශ්වාසයක් තැබීමට විරුද්ධව

හා එසේම එම ආණ්ඩුවට ආධාර දීමට විරුද්ධව අප අනතුරු හඟවන්නේ මන්ද යනු පැහැදිලි කරන ප්‍රතිපත්ති ප්‍රකාශයක් එහි අන්තර්ගතය. ඉතාමත් පුළුල් පොදු ජන ව්‍යාපාරයක් ලෙසට, ජාතියේ අති බහුතර කොටසට විරුද්ධව දැනට එක්සත් වී පවතින විප්ලවවාදී ආරක්ෂාවාදය පිළිබඳ ප්‍රශ්නය ගැන යෝජනාවේ දෙවැනි කොටසෙහි සඳහන් වෙයි. මෙම විප්ලවවාදී ආරක්ෂාවාදයේ පංති අර්ථය හා එහි හරයද, නියම පංති බල තුලනයද, පැහැදිලි කිරීම සහ මෙම ප්‍රවණතාවයෙන් මිදීමේ මාර්ගයක් සෙවීම අපගේ කර්තව්‍යය වන්නේය. යෝජනාවේ තුන්වැනි කොටසෙන් යුද්ධය කෙළවර කරන ආකාරය පිළිබඳ ප්‍රශ්නය ගැන කියවේ. අපගේ ව්‍යාපාරයට අති ප්‍රධාන සේ වැදගත් වන මෙම ප්‍රායෝගික ප්‍රශ්නයට සවිස්තර පිළිතුරක් දීම අවශ්‍ය විය. මෙම අවශ්‍යතාවය සතුටුදයක ලෙස ඉටු කිරීමෙහි අප සමත් වී යයි විශ්වාස කරමු. ප්‍රාව්දා පත්‍රයෙහි ලිපිවලින් සහ ප්‍රාදේශීය පුවත් පත්වල (තැපැල් සේවය අවුල් වී යාම නිසා, එම පසුකී පත්‍ර අපට ලැබෙන්නේ ඉතා කලාතුරකිනි. එනිසා ඒවා මධ්‍යම කාරක සභාවට ලබා ගැනීම සඳහා පහසු කම් ඇති සෑම අවස්ථාවකින්ම ප්‍රයෝජන ගැනීම සිදුවී තිබේ) පළවන විශාල සංඛ්‍යාවක් ලිපිවලින්, යුද්ධය හා ණය මුදල සම්බන්ධයෙන් දක්වෙන්නේ ප්‍රතිෂේධාත්මක ආකල්පයකි. ණය මුදලට විරුද්ධව ඡන්දය දීම නිසා, අප විප්ලවවාදී ආරක්ෂාවාදය කෙරෙහි දක්වන ආකල්පය පිළිබඳ ප්‍රශ්නය නිරවුල් වූ බව මම අදහස් කරමි. මේ ගැන වැඩි විස්තර කිරීමට ඉඩක් නැතැයි මම සිතමි.

''යුද්ධකාරී බලවත් රටවල් කණ්ඩායම් දෙකෙහිම පැතිවලින් බලන කල වර්තමාන යුද්ධය අධිරාජ්‍යවාදී යුද්ධයකි; එනම් ලෝකාධිපත්‍යයෙන් ලබාගත් ලාභ බෙද ගැනීමත්, මූල්‍ය (බැංකු) ප්‍රාග්ධනය සඳහා අවශ්‍ය වෙළෙඳ පොළවල් අත්කර ගැනීමත්, වඩාත් දුර්වල ජාතීන් යටත් කර ගැනීමත්, යනාදිය සඳහා ධනපතියන් කරන යුද්ධයකි''.

ප්‍රාථමික හා මූලික ප්‍රශ්නය වන්නේ යුද්ධයේ අර්ථය කුමක්ද යනුයි. එය ධනපතීන් හා සමාජ-ජාත්‍යෝන්මාදවාදීන් විසින් සුපරීක්ෂාකාරී ලෙස මඟහරිනු ලබන සාමාන්‍ය සහ දේශපාලන ස්වභාවයක් ඇති, විවාදයට තුඩු දෙන ප්‍රශ්නයකි. පහත සඳහන් කරුණුද එකතු කර, අප මෙම ප්‍රශ්නය ප්‍රථමයෙන්ම ඉදිරිපත් කළ යුතු වන්නේ එහෙයිනි.

යුද්ධය දිනක් දිනක් පාසාම මූල්‍ය හා කාර්මික ධනපති පංතිය පොහොසත් කරන අතර සියළුම යුද්ධකාරී රටවල හා මධ්‍යස්ථ රටවල නිර්ධන පංතිය සහ ගොවිජනතාව දුප්පත් කර ඔවුන්ගේ ශක්තියද ක්ෂය කරන්නේය. ඊට අමතරව, යුද්ධය දිග්ගැස්සීම නිසා රුසියාවේ විප්ලවයේ ජයග්‍රහණයන්ට හා එහි තවදුර සංවර්ධනයට ඉතා බරපතල තර්ජනයක්ද වන්නේය.



''රුසියාවේ රාජ්‍ය බලය තාවකාලික ආණ්ඩුවට, එනම්, ඉඩම් හිමියන්ගේ හා ධනපතියන්ගේ ආණ්ඩුවකට අත්වීම නිසා, රුසියාව හා සම්බන්ධයෙන් වූ කල, යුද්ධයේ ස්වභාවය හා අර්ථය වෙනස්වීමක් නොසිදුවිය. එවැන්නක් සිදුවිය හැකිද නොවීය.''

මා දැන් ඔබට කියවූ වචන අපගේ සියළුම ප්‍රචාරක හා උද්ඝෝෂණ කටයුතුවලදී බෙහෙවින් වැදගත් වන්නේය. දැන් යුද්ධයේ පංති ස්වභාවය වෙනස් වී තිබේද? එය වෙනස් විය හැකිද? මෙයට අප පිළිතුරු දෙන්නේ, ඉඩම් හිමියන් හා ධනපතියන් අතට, එනම්, යුද්ධය ඇති කිරීමට උපාමාරු යෙදූ එම ආණ්ඩුවටම බලය ලැබී ඇතැයි යන යථාර්ථය පදනම් කරගෙනය. යුද්ධයේ ස්වභාවය ඉතාමත් පැහැදිලි ලෙස හෙළිදරව් කරන සත්‍ය කරුණු වෙතට අපි ඊළඟට යන්නෙමු. නිශ්චිත පංති විසින් දශක ගණන් තිස්සේ ගෙන යන ලද මුළු ප්‍රතිපත්තියෙන්ම ප්‍රකාශිත වන පංති ස්වභාවය එකකි. යුද්ධය කෙරෙහි පැහැදිලිව දක්නට ලැබෙන පංති ස්වභාවය තවත් එකකි.

''සාර් දෙවැනි නිකොලායි සහ බ්‍රිතාන්‍යය, ප්‍රංශය යනාදී රටවල ධනපති ආණ්ඩු අතර ඇතිකරගත් රහස් ගිවිසුම් ප්‍රසිද්ධ කිරීමට කටයුතු නොකළ විට පමණක් නොව, චීනය, පර්සියාව, තුර්කිය, ඕස්ත්‍රියාව, යනාදී රටවල් නිදහස් ලෙස කොල්ලකෑමට රුසියානු ධනපතියනට ඉඩ සලසන බවට පොරොන්දු දෙන රහස් ගිවිසුම් විධිමත් ලෙස හා ජාතියේ කැමැත්තද නොවිමසාම ස්ථිර කළ විට, මෙම කරුණ සක් සුදක් සේ පෙනී ගියේය. මෙම ගිවිසුම් රුසියානු ජනතාවගෙන් සඟවා තැබීමෙන්, යුද්ධයේ ස්වභාවය ගැන එම ජනතාවට දැනගන්නට නොදී ඔවුන් රවටනු ලැබේ''.

යුද්ධයේ ස්වභාවය විශේෂයෙන්ම සිත් කාවදින ලෙස ඔප්පු කරන එක සාධකයක් අප විසින් පෙන්වනු ලබන බව මේ අනුව මම නැවතත් අවධාරණය කරමි. ගිවිසුම් කිසිවක් නොමැතිවම ධනපතියන්ගේ කණ්ඩායම්වලට බොහෝ විට එකඟත්වයට පැමිණීමට පුළුවන් හෙයින්, ගිවිසුම් නොතිබුනත් යුද්ධයේ ස්වභාවය වෙනස් වන්නේ නැත. නමුත් ගිවිසුම් පවතින ,තර ඒවායින් අදහස් කරන කරුණුද පැහැදිලිය. අපගේ උද්ඝෝෂකයින්ගේ හා ප්‍රචාරකයින්ගේ වැඩ කටයුතු එකට ගැලපීම සඳහා මෙම කරුණ විශේෂයෙන් අවධාරණය කළ යුතු යයි අපි අදහස් කරමු. එනිසා එය විශේෂ කරුණක් ලෙසට සඳහන් කෙළෙමු. මෙම කරුණට ජනතාවගේ අවධානය යොමු කරනු ලැබේ. යොමු කළ යුතුය. එම ගිවිසුම් ඇති කරගන්නා ලද්දේ බලයෙන් පහකරන ලද සාර් විසින් නිසා විශේෂයෙන්ම එසේ කළ යුතුය. වර්තමාන ආණ්ඩු යුද්ධය කරන්නේ, පැරණි ආණ්ඩු අතර ඇති කරගත් ගිවිසුම් අනුව බව ජනතාවට අවබෝධ වීමට සැලැස්විය යුතුය. එසේ කළ විට, ධනපති අවශ්‍යතාවයන් හා ජනතා

කැමැත්ත අතර ප්‍රතිවිරෝධය ඉතාමත් සිත් කාවදින ලෙස කැපී පෙනෙනු ඇතැයි මම අදහස් කරමි. මෙම ප්‍රතිවිරෝධතාවයන් හෙළිදරව් කිරීම, ඒ වෙත ජනතාවගේ අවධානය යොමු කිරීම, පොදු ජනතාවගේ පංති විඥනය වෙත කරන ආයාචනා මගින් ඒවා විස්තර කර දීම, ප්‍රචාරකයන්ට භාර කටයුත්තකි. අනිකුත් රටවල් කොල්ලකෑමෙන් ධනපතියන්ට අති මහත් ලාභ ලබා දීමේ බලාපොරොත්තුව එම ගිවිසුම්වල අන්තර්ගතය. ඒ ගැන සැකයක් ඇති කර ගැනීමට එම ගිවිසුම්වල සත්ධාරයෙන් ඉඩක් නොලැබේ. ඒවා නිතරම රහසිගතව තබාගනු ලබන්නේ එනිසාය. විවෘත විදේශ ප්‍රතිපත්තියක් අනුගමනය කරන එකද සමූහාණ්ඩුවක් හෝ ලෝකයේ නොමැත. ධනපති ක්‍රමය පවතින තාක් කල් ධනපතියන් ඔවුන්ගේ ලෙජර් ගිණුම් විවෘතයේ පෙන්වනු ඇතැයි සිතීම මෝඩ කමකි. නිෂ්පාදන මාර්ග පෞද්ගලික හිමිකම යටතේ පවතින විට, කොටස් හා මූල්‍ය කටයුතුද පෞද්ගලික හිමිකම යටතේ තිබීම නොවළැකවිය හැකිය. සමකාලීන රාජ්‍ය තන්ත්‍රික කටයුතුවල මුල් ගල මූල්‍ය කටයුතු වන්නේය. එම කටයුතු දුර්වල ජාතීන් කොල්ලකෑමකට හා ඒවායේ ගෙල මිරිකීමකට සමානය. යුද්ධය ගැන අගය කිරීමේදී මෙම මූලික කරුණු පදනම් කොට ගෙන එසේ කළ යුතු යයි අපි විශ්වාස කරමු. මෙම මුල් කරුණු අනුව අපි මෙසේ නිගමනය කරමු.

''ජාත්‍යන්තරවාදයෙන්, එනම්, සියළුම රටවල කම්කරුවන් ප්‍රාග්ධනයේ බන්ධනවලට විරුද්ධව කරන ඔවුන්ගේ අරගලයේදී දක්වන සහෝදරාත්මක සහයෝගිතාවයෙන් සම්පූර්ණයෙන්ම බිඳී වෙන්වීමට නොකැමති කිසිම නිර්ධන පංති පක්ෂයකට, වර්තමාන යුද්ධයට හෝ වර්තමාන ආණ්ඩුවට හෝ,එසේ නැතහොත්, එහි ණය මුදල්වලට ආධාර දීම, මෙම හේතුව නිසා කළ නොහැකි වේ''.

අපගේ ප්‍රධාන හා මූලික නිගමනය එයයි. වෙනත් පක්ෂ සමාජවාදී වන බවට ඒවා කොතරම් අයිතිවාසිකම් කීවත්, අප එම පක්ෂවලින් වෙන් කරන අපගේ උපක්‍රම සියල්ලම නිර්ණය වන්නේ ඒ අනුවය. අපි සියළු දෙනාම මෙය නොබිඳිය හැකි ප්‍රස්තුතයක් ලෙසට පිළිගනිමු. අප අන් සියළුම පක්ෂ කෙරෙහි දක්වන ආකල්පය පූර්වනිගමනය කෙරෙන්නේ එයිනි.

ඊළඟ කරුණ අපගේ ආණ්ඩුව විසින් ඉතා පුළුල් ලෙස පොරොන්දු දීම් උපයෝගී කර ගැනීම් සම්බන්ධයෙනි. සෝවියට් සභා අවුලට පත් කළ, එමෙන්ම ජනතාවගේ ඉවසීම ඉක්මවමින් තිබෙන මෙම පොරොන්දු, සෝවියට් සභා ගෙන යන දිග්ගැස්සුණු ව්‍යාපාරයට විෂය කරුණු වී තිබේ. එනිසා පංති සම්බන්ධකම් ගැනවූ අපගේ හුදෙක්ම වාස්තවික විශ්ලේෂණයට අමතරව, මෙම මූලික කරුණු ගැනද විශ්ලේෂණයක් එකතු කිරීමට අපි බලාපොරොත්තු වෙමු. තනිකර එම පොරොන්දු පමණක් ගත් කල,



ඒවා මාක්ස්වාදියෙකුට වැදගත් නොවන නමුත්, ඒවා ජනතාවට බොහෝ වැදගත්ය; දේශපාලනයේදී ඒවා ඊටත් වඩා වැදගත් වේ. පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාව මෙම පොරොන්දුවලින් හිස අවුල් කර ගෙන ඇති අතර, ඒවාට එහි සහයෝගය දීමෙන් එම පොරොන්දුවලට අගයක් එකතු කර තිබේ. මෙම කරුණ සම්බන්ධයෙන් අප පහත සඳහන් ප්‍රකාශය කරන්නේ එනිසාය.

''අල්ලා ගත් රටවල් හැර දමන බවට, එනම්, විදේශ රටවල් අල්ලා ගැනීම හෝ කිසිම ජාතියක් බලෙන් රුසියාව තුළ රඳවා ගැනීම හෝ නොකරන බවට වර්තමාන ආණ්ඩුව දෙන පොරොන්දු කෙරෙහි කිසිම විශ්වාසයක් තැබිය නොහැකිය''.

''අල්ලා ගැනීම'' විදේශ වචනයකි. අපි එයට ඉතාමත් නිවැරදි දේශපාලන නිර්වචනයක් දෙන්නෙමු. එවැනි නිර්වචනයක් දීම කැඩෙට්වරුන්ට හෝ සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂවලට (නරෝද්නික්වරුන්ට හා මෙන්ෂෙවික්වරුන්ට) හෝ කළ නොහැක්කකි. මෙතරම් අර්ථ විරහිත ලෙස හා නොසැලකිල්ලෙන් පාවිච්චි කරන ලද වෙනත් වචනයක් නොමැත.

''ප්‍රථම වශයෙන්ම, බැංකු ප්‍රාග්ධනයේ දහස් සංඛ්‍යාත රැහැන්වලින් ධනපතියන් එකට වෙළී සිටින නිසා, ණය මුදල්, වාසි අත්පත් කර ගැනීම, යුද්ධ කර්මාන්ත, ආදිය සඳහා ආයෝජනය කරන ලද සිය කෝටි ගණන් ධනයෙන් ලැබෙන ලාභ අත් නොහැර, ඔවුන් අල්ලා ගත් රටවල් මෙම යුද්ධයේදී අත්හැර දැමීම ඔවුනට කළ නොහැකිය. දෙවැනිව, අල්ලාගත් රටවල් හැර දමන බව ජනතාව නොමග යවනු පිණිස පළමුවෙන් ප්‍රකාශ කළ නව ආණ්ඩුව, ඒවා අත්හැරීමට අදහසක් නොමැති බව පසුව (1917 අප්‍රේල් 9, මොස්කව්) මිල්යුකොව් මගින් ප්‍රකාශ කර, අප්‍රේල් 18 දින නිකුත් කළ සටහනෙන් හා අප්‍රේල් 22 දින නිකුත් කළ ඒ පිළිබඳ පැහැදිලි කිරීමෙන්, එය ව්‍යාප්තවාදී ප්‍රතිපත්තිය ස්ථිර කර ඇත.

''එනිසා ධනපතියන්ගේ පුහු පොරොන්දු ගැන ජනතාවට අනතුරු හඟවන මෙම සාකච්ඡා සභාව, අල්ලා ගත් රටවල් වාචක ලෙස හැර දැමීමත්, අල්ලා ගත් රටවල් ක්‍රියාත්මක ලෙස හැර දැමීමත්, එනම් කොල්ලකාරී රහස් ගිවිසුම් සියල්ලම ප්‍රසිද්ධ කිරීම හා අවලංගු කිරීම සහ එසේම, තමන් නිදහස් රාජ්‍යයක් වීමට කැමතිද නැතහොත් වෙනත් රාජ්‍යයක කොටසක් වීමට කැමතිද යන්න නිදහස් ඡන්දයෙන් තීරණය කිරීමේ අයිතිය වහාම සියළුම ජාතීන්ට දීමත් අතර වෙනස පැහැදිලි ලෙස පෙන්නුම් කිරීම අවශ්‍ය බව ප්‍රකාශ කරයි''.

මෙය සඳහන් කිරීම අවශ්‍ය යයි අප අදහස් කරන්නේ, සාම කොන්දේසි ගැන කරන සාකච්ඡා සියල්ලෙහිම මූලික ප්‍රශ්නය රටවල් අල්ලා

ගැනීමෙන් තොර සාමයක් පිළිබඳ ප්‍රශ්නය වන හෙයිනි. ඉදිරිපත් වන විකල්පය සාමය බවත්, රටවල් අල්ලා ගැනීම සහිත සාමය සියළුම රටවලට ව්‍යසනයක් බවත් සියළුම පාර්ශව පිළිගනිති. සාමය පිළිබඳ ප්‍රශ්නය දේශපාලන නිදහස පවතින ඕනෑම රටක ජනතාව හමුවේ තැබීමේදී එය ඉදිරිපත් කළ හැක්කේ රටවල් අල්ලා ගැනීමෙන් තොර සාමයක් ලෙසට මිස අන් ආකාරයකින් නොවේ. එනිසා රටවල් අල්ලා ගැනීමෙන් තොර සාමයට පක්ෂව ප්‍රකාශයන් කිරීමට සිදුවේ. එම තත්වය යටතේ කළ හැක්කේ, අල්ලා ගැනීම යන්නෙහි තේරුම හකුලා දැක්වීමෙන් හෝ ප්‍රශ්නය සම්පූර්ණයෙන්ම මහ හැරීමෙන් හෝ බොරු දෙසා බෑම පමණකි. නිදර්ශනයක් වශයෙන් කුර්ලන්තය ආපසු දීම අල්ලා ගත් රටවල් හැර දැමීමක් බවට ''රෙච්'' ඝෝෂාවක් කරයි. මා කම්කරු සහ සොල්දදු සෝවියට් සභාවට කථාවක් කරමින් සිටියදී පහත සඳහන් ප්‍රශ්නය සහිත කඩදසි කැබැල්ලක් සොල්දදුවෙකු විසින් මා අත තබන ලදී: ''කුර්ලන්තය ආපසු දිනා ගැනීමට අප සටන් කල යුතුව ඇත. තුර්ලන්තය ආපසු දිනා ගැනීමෙන් අදහස් වන්නේ අයෙක් රටවල් අල්ලා ගැනීමට පක්ෂ වන බවක්ද?'' එසේය, යනුවෙන් මට එයට පිළිතුරු දීමට සිදුවිය. ජර්මනිය කුර්ලන්තය අල්ලා ගන්නවාට අපි විරුද්ධ වෙමු. එසේම රුසියාව බලහත්කාරයෙන් කුර්ලන්තය අල්ලා ගෙන සිටීමටද අපි විරුද්ධ වෙමු. නිදසුනක් ලෙසට පෝලන්තයට නිදහස දීම ප්‍රකාශයට පත් කරමින් අපගේ ආණ්ඩුව ප්‍රකාශනයක් නිකුත් කර ඇත. අර්ථ විරහිත වදන් මාලාවලින් පිරී ඉතිරෙන එම ප්‍රකාශනය, පෝලන්තය රුසියාව සමග නිදහස් යුද්ධ සන්ධානයක් ඇති කර ගත යුතු බව කියයි. මුළු සත්‍යම මෙම වචන තුන තුළ අන්තර්ගතය. කුඩා පෝලන්තය අති විශාල රුසියාව සමග ඇති කරගන්නා නිදහස් යුද්ධ සන්ධානයක් යනු, ඇත්ත වශයෙන්ම පෝලන්තය යුද්ධමය වශයෙන් සම්පූර්ණයෙන්ම යටත්වීමකි. පෝලන්තයට දේශපාලන නිදහස දෙන්නට පුළුවන. නමුත්,ඇගේ දේශ සීමා යුද්ධ සන්ධානය විසින් තීරණය වනු ඇත.

කලින් කුර්ලන්තයෙන් හා පෝලන්තයෙන් අල්ලා ගෙන තිබුණු ප්‍රදේශ තබා ගැනීම සඳහා රුසියානු ධනපතියන්ගේ අයිතිය වෙනුවෙන් අපි සටන් කරන්නෙමු නම්, එවිට කුර්ලන්තය කොල්ලකෑමට ජර්මානු ධනපතියන්ට අයිතියක් තිබේ. ඔවුනට මෙසේ තර්ක කළ හැකිය: අපි එක්ව පෝලන්තය මංකොල්ලකෑවෙමු. දහ අට වැනි ශතවර්ෂයාවසානයේදී අපි පෝලන්තය කැබලිවලට ඉරා ගන්නට පටන් ගත් කල ප්රුසියාව ඉතා කුඩා හා දුර්වල රටක්ව පැවති අතර, රුසියාව යෝධ රටක් විය. එනිසා රුසියාව වැඩියෙන් උදුරා ගත්තාය. දැන් අප වැඩී ගොස් ඇත. එනිසා දැන් අපගේ අපේක්ෂාව ලොකු කොටසක් කඩා ගැනීම බව ඔබට දන්වනු කැමැත්තෙමු. මෙම ධනපති තර්කයට විරුද්ධව කිව හැකි කිසිවක් නොමැත. 1863 දී රුසියාව හා සමග සසඳන විට ජපානය හුදෙක්ම ගණන් ගත නොහැකි තත්වයක පැවතියේය. නමුත් 1905 දී ජපානය රුසියාවට හොඳටම තැළුවේය.[69] 1863 සිට 1873 දක්වා කාලයේදී බ්‍රිතාන්‍යය සමග සසඳන විට, ජර්මනිය ගණන් ගත නොහැකි තත්වයක විය. නමුත් දැන්, ජර්මනිය බ්‍රිතාන්‍යයට වඩා ශක්තිමත්ය. ජර්මනියට මෙසේ තර්ක කළ හැකිය: කුර්ලන්තය අපෙන් උදුරාගන්නා විට අපි දුර්වලව සිටියෙමු. නමුත් දැන් අපි ඔබට වඩා ශක්තිමත්ව සිටිමු. එනිසා අපි එය ආපසු ගන්නට කැමති වෙමු. අල්ලාගත් රටවල් හැර නොදැමීම යනු, වඩාත් දුර්වල රටවල් ජය ගැනීම පිණිස කෙළවරක් නොමැතිව යුද්ධ කිරීම සාධාරණ බවක් පෙන්වීමකි. අල්ලා ගත් රටවල් හැර දැමීමෙන් අදහස් වන්නේ වෙනම ජීවත් වීමට හෝ වෙනත් ජාතීන් සමග ජීවත් වීමට හෝ තම කැමැත්ත අනුව තීරණය කර ගැනීමේ අවස්ථාව සෑම ජාතියකටම දීමය. මෙම අරමුණ ඉටු කර ගැනීමට නම් යුද්ධ හමුදා ඉවත් කර ගත යුතුය. අල්ලා ගත් රටවල් හා සම්බන්ධ ප්‍රශ්නය ගැන මඳ වශයෙන් හෝ පැකිළීමක් දැක්වීම යනු කෙළවරක් නොමැති යුද්ධවලට සාධාරණත්වයක් දීමය. එනිසා මෙම ප්‍රශ්නය ගැන පැකිළීමකට ඉඩ දීම අපට කළ නොහැකිය. අල්ලාගත් රටවල් හා සම්බන්ධයෙන් අප දෙන පිළිතුර වන්නේ ස්වකීය තීරණ ගැනීමේ නිදහස ජාතීන්ට තිබිය යුතුය යනුයි. මෙම දේශපාලන නිදහස හා සමග එක පෙළට සිටින සේ අපි ආර්ථික නිදහස ඇති කර ගන්නේ කෙසේද? මෙය සාර්ථක කර ගැනීම සඳහා බලය නිර්ධන පංතිය අතට පත් විය යුතුය; එසේම ඒ සඳහා ප්‍රාග්ධනයේ වියගස පෙරළා දැමිය යුතුය.

දැන් මම යෝජනාවේ දෙවෙනි කොටස වෙත යමි.

''දැන් රුසියාවේ නරෝද්නික් පක්ෂ (පොදු ජන සමාජවාදීන්, තෘදවික්වරු, සමාජවාදී-විප්ලවවාදීන්) සියල්ලම පාහේද, මෙන්ෂෙවික් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ (සංවිධායක කාරක සභාව, චහෙයිද්සේ, ට්සෙරතෙලි, ආදීන්) අවස්ථාවාදී පක්ෂයද, පක්ෂවලට අයත් නොවන විප්ලවවාදීන් බහුතරයද, විනිවිද ගොස් ඇති ඊනියා 'විප්ලවවාදී ආරක්ෂාවාදය' පංති අර්ථය අනුව පිළිබිඹු කරන්නේ, එක් අතකින් ධනපතියන් මෙන්ම, දුර්වල ජනයින් පීඩනයට පත් කිරීමෙන් ලාභ ලබන පොහොසත් ගොවීන්ගේ හා කුඩා දේපල හිමියන්ගෙන් කොටසක අවශ්‍යතාවයන් හා දෘෂ්ටියය. අනිත් අතට විප්ලවවාදී ආරක්ෂාවාදය යනු ස්වකීය පංති තත්වය අනුව ධනපතියන්ගේ ලාභ හා අධිරාජ්‍යවාදී යුද්ධය ගැන උවමනාවක් නොමැතිව සිටින නාගරික හා ගම්බද නිර්ධන පංතිකයන් හා අර්ධ නිර්ධන පංතිකයන් අතුරෙන් කොටසක් ධනපතියන් විසින් රවටනු ලැබීමේ ප්‍රතිඵලයකි''.

ඒ අනුව මෙහිදී අපගේ කර්තව්‍යය වන්නේ, මෙම ආරක්ෂාවාදී

මනෝභාවය උද්ගත විය හැක්කේ කුමණ සමාජ කොටසෙන්ද යන්න නිගමනය කිරීමය. රුසියාව ලෝකයේ වැඩියෙන්ම සුළු ධනපති පංතික රටය. එසේම සුළු ධනපති පංතියේ ඉහළ කොටස, යුද්ධය දිගටම පවත්වාගෙන යාම ගැන සෘජු උවමනාවක් ඇතිව සිටියි. අනිත් අතට, නිර්ධන පංතික හා අර්ධ නිර්ධන පංතික සමූහයා බැංකු ප්‍රාග්ධනයෙන් ලාභ නොලබන නිසා රටවල් අල්ලා ගැනීමේ උවමනාවක් ඔවුනට නැත. එසේ නම්, මෙම පංති විප්ලවවාදී ආරක්ෂාවාදයේ ප්‍රතිෂ්ඨාව පිළිගන්නා තත්වයට පත්වූයේ කෙසේද? විප්ලවවාදී ආරක්ෂාවාදය කෙරෙහි ඔවුන් දක්වන ආකල්පය ධනපති දෘෂ්ටියේ බලපෑමෙහි ප්‍රතිඵලයකි. එම බලපෑම ගැන යෝජනාවෙහි විස්තර කර තිබෙන්නේ ''රවටනු ලැබීම'' යනුවෙනි. ඔවුහු ධනපතියන්ගේ උවමනාවත්, රටේ අවශ්‍යතාවයත් අතර වෙනස වටහා ගැනීමට අසමත්ව සිටිති: එනිසා අපි මෙසේ තීරණය කරමු.

''විප්ලවවාදී ආරක්ෂාවාදයට කිසිම සහනයක් දිය නොහැකි බවත්, ඊට දෙන සෑම සහනයකින්ම අදහස් වන්නේ අන්තර්ජාතිකවාදයෙන් හා සමාජවාදයෙන් සම්පූර්ණයෙන්ම බිඳී වෙන්වීමක් හා සමාන තත්වයක් බවත්, සාකච්ඡා සභාව පිළිගනියි. පුළුල් ජනතාව අතර පවතින ආරක්ෂාවාදය පිළිබඳ ප්‍රවණතාවයන් සම්බන්ධයෙන් වූකල, වර්තමාන අවස්ථාවේදී ධනපතියන්ගේ ආණ්ඩුව කෙරෙහි තර්කයෙන් තොරව විශ්වාසය තැබීමේ ආකල්පය, යුද්ධය සීඝ්‍ර ලෙස කෙළවර කිරීමට බාධාකාරී වන ප්‍රධාන සාධකයන්ගෙන් එකක්ය යන සත්‍යය, නොකඩවාම පැහැදිලි කිරීම මගින් අපගේ පක්ෂය මෙම ප්‍රවණතාවයන්ට විරුද්ධව සටන් කරනු ඇත''.

රුසියාව අනිකුත් බටහිර ධනපති රටවලින් හා සියළුම ධනපති සමූහාණ්ඩුවලින් තියුණු ලෙස වෙන්කර පෙන්වන විශේෂ අංගලක්ෂණය ඉහත අවසාන වචන වලින් ප්‍රකාශ වේ. එසේ කියන්නේ, යුද්ධය දිග්ගැස්සීමට හේතුවන සේ එරටවල බල පවත්නා ප්‍රධාන සාධකය, කරුණු නොදත් ජනතාවගේ විශ්වාස තැබීමේ ගතිය යයි කිව නොහැකි බැවිනි. සමූහාණ්ඩුවේ නීතිය ''ජනතාවගේ කැමැත්ත'' මත රැඳී පවතින හෙයින්, සමූහාණ්ඩුව ප්‍රජාතන්ත්‍රීය වූ තරමට, එහි විනය වඩාත් ශක්තිමත් වේ. රුසියාවේ විප්ලවය හේතු කොට ගෙන එහි එවැනි විනයක් නොමැත. පොදු ජනතාව තමන් කැමති ලෙසට සෝවියට් සභාවලට නියෝජිතයන් තෝරා පත් කරති. එවැනි දෙයක් ලෝකයේ වෙනත් කිසිම තැනක නොපවතී. නමුත් පොදු ජනතාව තර්කයෙන් තොරව විශ්වාස ගනිති. එනිසා අරගලයේ අරමුණු ඉටු කර ගැනීම සඳහා ඔවුන් උපයෝගි කරගනු ලැබේ. ඒ සම්බන්ධයෙන් මෙතෙක් අපට කළ හැක්කේ කරුණු පැහැදිලි කිරීම පමණකි. විප්ලවයේ හදිසි කර්තව්‍යයන් හා සටන් ක්‍රම ගැන කරුණු



අපගේ පැහැදිලි කිරීම්වල අඩංගු විය යුතුය. ජනතාව නිදහස්ව සිටින විට, පොදු ජනයාට කරුණු පැහැදිලි කර දීමකින් තොරව, සුළු පිරිසක් නමින් කටයුතු කිරීමට දරන ඕනෑම ප්‍රයත්නයක් අර්ථ විරහිත බලන්කිවාදය හා අතිධාවනකාරිත්වය වනු ඇත. නිර්ධන පංතියේ පංති අරගලයේ ජයග්‍රහණය සඳහා ශක්තිමත් පදනමක් දැමීම අපට කළ හැක්කේ ජනතාව දිනාගත හැකිනම්, ඔවුන් අප පැත්තට දිනා ගැනීමෙන් පමණකි.

දැන් මම යෝජනාවේ තුන්වැනි කාරණය වෙත යොමු වෙමි.

''සියළුම ප්‍රශ්න අතුරෙන් වඩාත්ම වැදගත්වන, ධනපති යුද්ධය හැකි තරම් ඉක්මණින් කෙළවර කරන්නේ කෙසේද යන්න, එනම්, බලකිරීමේ සාමයකින් නොව, සැබවින්ම ප්‍රජාතන්ත්‍රවාදී සාමයකින් එය කෙළවර කරන්නේ කෙසේද යන්න ගැන සාකච්ඡා සභාව මෙසේ ප්‍රකාශ කරයි:

''එක පාර්ශවයක පමණක් යුද්ධ භටයන් යුද්ධ කිරීමට ප්‍රතික්ෂේප කිරීමෙන්, නැතහොත්, එක යුද්ධකාරී රටක් පමණක් සරල ලෙස සතුරු ක්‍රියා නැවැත්වීමෙන් යුද්ධය කෙළවර කළ නොහැකිය''.

අප කියන්නේ මේ ආකාරයෙන් යුද්ධය කෙළවර කිරීමක් ගැන යයි, තම ප්‍රතිපාක්ෂිකයන්ගේ අදහස් විකෘති කිරීමෙන් පහසු ජයක් ලැබීමට අපේක්ෂා කරන අය පුන පුනා කියති. එය වනාහි, ඒක පාක්ෂික ලෙස යුද්ධ කිරීම ප්‍රතික්ෂේප කිරීමෙන් යුද්ධ කෙළවර කළ හැකිය යන විකාර අදහස අප පිට දමන, ධනපතියන් අනුගමනය කරන සුපුරුදු ක්‍රමයකි. ''ඔබේ බයිනෝත්තුව බිම ඇනීමෙන් යුද්ධය කෙළවර කළ නොහැකිය'' යි ඔවුහු කියති. මෙම වචන උපුටා ගන්නා ලද්දේ නියම විප්ලවවාදී ආරක්ෂාවාදියෙක් වන සොල්දදුවෙකුගෙනි. මෙහි ඇති තර්කයක් නැතැයි මම කියමි. බලයට පත්ව සිටින පංති වෙනස් නොකර යුද්ධය කෙළවර කළ හැකිය යනු, අරාජිකවාදී අදහසකි. එක්කෝ මෙය අරාජිකවාදී අදහසකි. එසේ නම් එහි අර්ථයක්, නැතහොත්, රාජ්‍යමය වැදගත් කමක් නොමැත. නොඑසේ නම්, එය දේශපාලනය හා පීඩක පංතිය අතර ඇති සම්බන්ධය සැලකිල්ලට ගැනීමට සම්පූර්ණයෙන්ම අසමත් වන නොපැහැදිලි සමාදනවාදී අදහසකි. යුද්ධය නපුරකි; සාමය ආශිර්වාදයකි... ඇත්ත වශයෙන්ම මෙම අදහස ජනතාවට පැහැදිලි කළ යුතුය. එය ජනප්‍රිය කළ යුතුය. අපගේ යෝජනා සියල්ලම ලියනු ලබන්නේ නායක පක්ෂ සහෝදරවරු සඳහා, මාක්ස්වාදීන් සඳහා වන බවත්, ඒවා පොදු ජනතාවගේ කියවීම සඳහා සකස් වී නොමැති බවත් මෙහි ලා සඳහන් කළ යුතුය. නමුත් ඒවා එක්සත්කාරී සහ මාර්ග දේශක ප්‍රතිපත්ති වශයෙන් සෑම ප්‍රචාරකයෙකුටම සහ උද්ඝෝෂකයෙකුටම ප්‍රයෝජනවත් විය යුතුය. මෙම අවශ්‍යතාවය ඉටු කිරීම සඳහා යෝජනාවට තවත් ඡේදයක් එකතු කරන ලදී:

''අප ජර්මනිය සමග වෙනම සාමයක් ඇති කර ගැනීමට පක්ෂ යයි

කියමින් ධනපතියන් අප පක්ෂයට එරෙහිව ප්‍රචාරය කරන පහත් අපවාදයට් අපගේ විරුද්ධත්වය දක්වන බව සාකච්ඡා සභාව නැවතත් ප්‍රකාශ කරයි. ජර්මන් ධනපතියන්ද, රුසියානු, බ්‍රිතාන්‍ය, ප්‍රංශ සහ වෙනත් ධනපතියන් මෙන්ම කොල්ලකාරී බවත්, විල්හෙල්ම් අධිරාජයාද, දෙවැනි නිකොලායි හෝ බ්‍රිතාන්‍යයේ, ඉතාලියේ, රුමේනියාවේ හා වෙනත් රටවල රජවරුන් හෝ මෙන්ම ඔටුනු පලන් වෞරවයෙක් බවත් අපි අදහස් කරමු''.

මෙම කරුණ සම්බන්ධයෙන් කාරක සභාව තුළ සමහර අසමඨයන් තිබුණි. මෙම කොටසේ අප යොදන භාෂාව අසංවර යයි සමහරු කී අතර, බ්‍රිතාන්‍ය, ඉතාලි සහ රුමේනියානු රජවරු මෙහි සඳහන් කිරීමේ ගෞරවයට නුසුදුස්සන් බව තවත් අය කීහ. එසේ වුවද, විස්තර සහිත ලෙස සාකච්ඡා කිරීමෙන් පසුව, අප සියළු දෙනාගේම එකඟත්වය වූයේ, අපට විරුද්ධව ''බිර්ෂෙව්කා''[70] තරමක් අශික්ෂිත ලෙසද, ''රෙච්'' වඩාත් ගුප්තාර්ථයෙන්ද, ''යෙදින්ස්ත්වෝ'' එක එල්ලේම කරන චෝදනා මගින්ද, පැතිරවීමට උත්සාහ කරන ලද අපවාදවලට පිළිතුරු දීම අපගේ වර්තමාන අරමුණ වන හෙයින්, මෙවැනි ප්‍රශ්නවලදී පුළුල් ජනතා කොටස් ගැන සලකා, මෙම අදහස් සම්බන්ධයෙන් කරන විවේචන ඉතාමත් තියුණු හා කාවදින ලෙස කළ යුතු බවය. විල්හෙල්ම් වෞරවයෙක් ලෙසට සලකන්නේ නම්, ඔහු බලයෙන් පහ කිරීමට අප උදව් නොදෙන්නේ මන්දැයි අපෙන් ඇසූ විටෙක, අනික් අයද වෞරවයන් වන බවත්, ඔවුනටද විරුද්ධව සටන් කළ යුතු බවත්, අයෙක් ඉතාලියේ හා රුමේනියාවේ රජවරු අමතක නොකළ යුතු බවත්, අපගේ මිතුරන් අතර එවැනි වෞරවයන් සිටින බවත් කීමෙන් පිළිතුරු දීමට අපට පුළුවන. මෙම ඡේද දෙකෙන් අදහස් කරන්නේ, කල කෝලාහල සහ දබර ඇවිලවීමට තුඩු දෙන අපවාදවලට පිළිතුරු දීමය. එබැවින් යුද්ධය හමාර කළ යුත්තේ කෙසේද යන බරපතල ප්‍රායෝගික ප්‍රශ්නය වෙත අපි දැන් යොමු විය යුත්තෙමු.

''යුද්ධ කරනු ලබන්නේ ආණ්ඩු විසින් යයිද, යුද්ධ නිරතුරුවම නිශ්චිත පංතිවල ප්‍රතිපත්ති සමග වෙන් නොකළ හැකි සේ තදින් බැඳී ඇතැයිද, යුද්ධය ප්‍රජාතන්ත්‍රවාදී සාමයකින් කෙළවර කළ හැක්කේ යුද්ධකාරී රටවල් කීපයක හෝ මුළු රාජ්‍ය බලයම, පීඩාකාරී ප්‍රාග්ධනයේ පාලනය කෙළවර කර දැමීමෙහි සමත් නිර්ධන සහ අර්ධ නිර්ධන පංතිය අතට පත්වුවහොත් පමණක් යයිද, යන සත්‍යය ඉවසිලිමත් ලෙස එහෙත් අත් නොහැරම ජනතාවට විස්තර කර දීම පිණිස අපගේ පක්ෂය කටයුතු කරනු ඇත''.

ධනපතියන් කරන යුද්ධ ධනපති අවශ්‍යතාවයන් සමග එකට බැඳී පවතින්නේය යන වැනි සත්‍යයන් මාක්ස්වාදියෙකුට පරම සත්‍යයන් වේ. මාක්ස්වාදියෙක් ඒ ගැන විස්තර සෙවීම අවශ්‍ය නොවේ. නමුත් පොදු ජනතාව හා සම්බන්ධයෙන් වූ කල, මෙම සත්‍යය සරල ලෙස හා නුහුරු



වචන නොයොදා පැහැදිලි කර දීමේ හැකියාව දක්ෂ උද්ඝෝෂකයන් හා ප්‍රචාරකයන් සතු විය යුතුය. නුහුරු වචන නොයොදා යනුවෙන් සඳහන් කළේ, අපගේ සාකච්ඡා බොහෝ විට හිස් හා නිරර්ථක දබරවල තත්වයට පහත වැටෙන හෙයිනි. යෝජනාවේ හැම කොටසකින්ම අප උත්සාහ දරා ඇත්තේ ඉහත සඳහන් සත්‍යය පැහැදිලි කර දීමටය. යුද්ධය කරනු ලබන්නේ කුමක් හා සම්බන්ධයෙන්දැයි වටහා ගැනීමට, එයින් වාසි ලබන්නේ කවුද යන ප්‍රශ්නය ඔබ ඇසිය යුතු බව අපි කියමු. යුද්ධය හමාර කරන්නේ කෙසේද යන්න වටහා ගනු පිණිස එයින් වාසි නොලබන්නේ කුමණ පංතිද යන ප්‍රශ්නය ඔබ ඇසිය යතු යයි අපි කියමු. මෙහි ඇති සම්බන්ධය පැහැදිලිය. එනිසා අපි මෙසේ තීරණය කරමු:

''විප්ලවවාදී පංතිය රුසියාවේ රාජ්‍ය බලය අත්පත් කර ගැනීමෙන් පසු, ධනපතියන්ගේ ආර්ථික පාලනය විනාශ කිරීමට හේතුවන පියවර මාලාවක්ද, එසේම, ඔවුන් දේශපාලන වශයෙන් අහිංසක තත්වයට හෙළන පියවරයන්ද ගෙන, රටවල් අල්ලා ගැනීම සෑම ආකාරයෙන්ම හා සම්පූර්ණයෙන්ම හැර දැමීමේ පදනමක් මත ප්‍රජාතන්ත්‍රවාදී සාමයක් ඇති කිරීම සඳහා යෝජනා,වහාම හා අවංක ලෙස, සියළුම ජාතීන් වෙත ඉදිරිපත් කරනු ඇත''.

අප විප්ලවවාදී පංතියේ නාමයෙන් කථා කළ විට, මෙසේ ඇසීමේ අයිතිය ජනතාවට ඇත: ඉතින් ඔබ කුමක් කරන්නෙහිද? ඔවුන් වෙනුවෙන් යුද්ධය කෙළවර කිරීමට ඔබ කරන්නේ කුමක්ද? මෙය අනිවාරණීය ලෙස මතුවන ප්‍රශ්නයකි. ජනතාව ඔවුන්ගේ නියෝජිතයන් ලෙස දැන අප පත් කර ගනිති. එනිසා අපි එයට නියත පිළිතුරක් දිය යුත්තෙමු. විප්ලවවාදී පංතිය බලය අත් කර ගැනීමෙන් පසුව ධනපතියන්ගේ පාලනය දුර්වල කිරීමට කටයුතු කර, ඊළඟට සියළුම ජාතීන් වෙත මනාව විස්තර කළ සාම කොන්දේසි ඉදිරිපත් කරනු ඇත. ධනපතියන්ගේ පාලනය දුර්වල නොකළහොත් අපට ලබා ගත හැකි වන්නේ කඩදාසි කැබලි පමණකි. වන මෙය සාර්ථක කළ හැකිකේ, නැතහොත් ප්‍රතිපත්තියෙහි මෙම වෙනස ඇති කළ හැක්කේ ජයග්‍රාහී පංතියකට පමණකි.

මම නැවතත් මෙසේ කියමි: නූගත් පොදු ජනතාවට මෙම සත්‍යය අවබෝධ කර දීම පිණිස මෙම ප්‍රශ්නය ඔවුන් වෙත ඉදිරිපත් කිරීමට උපකාර වන සම්බන්ධකම් තිබීම වහාම අපට අවශ්‍යය. යුද්ධය ගැන ලියවුනු පොදු ජන සාහිත්‍යයෙහි වරදත්, ව්‍යාජත්වයත් ඇත්තේ මෙම ප්‍රශ්නය මග හැරීම තුළය. මෙම ප්‍රශ්නය නොසළකා හරින එම සාහිත්‍යය, පංති අරගලයක් නොතිබුණු බවක්ද, එක් රටක් අනිකට පහර දෙන තෙක් දෙරට සමාදානයෙන් ජීවත් වූ බවක්ද, පහර ලැබූ රට ආත්ම ආරක්ෂාව සඳහා සටන් කරමින් සිටි බවක්ද පෙන්වන ලෙසට විෂය කරුණ ඉදිරිපත් කරයි.

මෙය අල්ප මාත්‍ර වශයෙන් හෝ වාස්තවික සත්‍යයක් නොමැති පහත් තර්කයක් වන අතර, උගත් ජනයා විසින් උවමනාවෙන්ම ජනතාව රැවටීමක්ද වන්නේය. අපි මෙම ප්‍රශ්නය වෙත නිසි ලෙස ළඟා වෙමු නම්, ඕනෑම කෙනෙකුට මෙම වැදගත් කාරණය වටහා ගත හැකිය. එසේ කියන්නේ පාලක පංතිවල උවමනාවන් එක් දෙයකුත්, පීඩිත පංතිවල උවමනාවන් තවත් දෙයකුත් වන හෙයිනි.

විප්ලවවාදී පංතිය බලය අත්පත් කරගතහොත්, සිදුවනු ඇත්තේ කුමක්ද?

"එවැනි පියවර ගැනීමත් එසේ අවංක සාම යෝජනාවක් ඉදිරිපත් කිරීමත් නිසා, යුද්ධකාරී රටවල කම්කරුවන් තුළ සම්පූර්ණ අන්‍යොන්‍ය විශ්වාසයක් උද්ගත වනු ඇත..."

එවැනි විශ්වාසයක් දැන් ඇති විය නොහැක. ප්‍රකාශනවල වචනවලින් එය නිර්මාණය නොවේ. මිනිසාට කථාව දී තිබෙන්නේ ඔහුට ඔහුගේ සිතුම් වසං කර ගත හැකි වීම පිණිස යයි වරක් දර්ශනිකයෙක් කී අතර තානාපති නිලධාරීන් නිතරම මෙසේ කියති: "සාකච්ඡා පවත්වන්නේ ජනතාව රැවටීමටය". ධනපතියන් පමණක් නොව සමාජවාදීන්ද මේ ආකාරයට තර්ක කරති. බෝර්ග්බියර්ග් කැඳවන සාකච්ඡාවට මෙය විශේෂයෙන්ම අදාල වන්නේය.

"ඒ අනුව, යෝජනා කෙරෙන සාමයට ප්‍රතිරෝධය පාන අධිරාජ්‍යවාදී ආණ්ඩු වෙතොත්, ඒවාට විරුද්ධව නිර්ධන පංතිය කැරළි ගසමින් නැගී සිටින අවස්ථා අනිවාරණීය වශයෙන්ම උද වනු ඇත."

ධනපති ආණ්ඩුව "අපි රටවල් අල්ලා ගැනීමෙන් තොර සාමයට පක්ෂ වෙමු" යි කියන විට කිසිවෙක් එය විශ්වාස නොකරයි. කිසිම දෙයක් වෙනස් වී නැති බව කියන පීඩිත පංති සහජාසය පොදු ජනතාවට ඇත. එක් රටක ප්‍රතිපත්තිය ඇත්ත වශයෙන් වෙනස් වුවහොත් පමණක් ඉන් විශ්වාසයක් උද්ගතව, කැරළි ගසමින් නැගී සිටීමේ ප්‍රයත්නයන් දරනු ලැබෙනු ඇත. අප දැන් "නැගී සිටීම" ගැන කථා කරන්නේ සියළුම රටවල් ගැන සාකච්ඡා කෙරෙන හෙයිනි. "එක රටක විප්ලවයක් සිදුවී ඇත; දැන් ජර්මනියේ එය සිදුවිය යුතුය" යන කීම වැරදි තර්කයකි. අනු පිළිවෙළක් සකස් කිරීමේ ප්‍රවණතාවයක් ඇතත්, එය නොකළ හැක්කකි. අපි 1905 විප්ලවය කෙළෙමු. එම විප්ලවය ලෝකය මුළුල්ලේම විප්ලවවාදී අදහස් ජනිත කළ හැටි අපි ඇසුවෙමු, නැතහොත්, දුටුවෙමු. මෙය මාක්ස් නිතර නිතර සඳහන් කළ කරුණකි. විප්ලව ඇඟිය හැකි නොවේ. ඒවා වාරය අනුව සිදු කළ හැකි නොවේ. ඇණවුමක් අනුව විප්ලවයක් කළ නොහැකිය. එය විකාශ වන්නකි. ඉහත සඳහන් වැනි බොරු හපන්කම් පෙන්වීම දැන් නිතර රුසියාවේ දක්නට ලැබෙන්නකි. ජනතාවට මෙසේ කියනු ලැබේ: රුසියාවේ ඔබ විප්ලවයක් කර තිබේ; දැන් ජර්මන්වරුන්ගේ වාරයය. වාස්තවික තත්වයන් වෙනස් වුවහොත්, එවිට නැගී සිටීමක් ඇතිවීම අනිවාරණීය වන්නේය. නමුත් එය කාගේ වාරයද, එය සිදුවන්නේ කෙදිනකද, එය කොතරම් දුරට සාර්ථකවේද යන්න අපි නොදනිමු. අපෙන් මෙසේ අසනු ලැබේ: විප්ලවවාදී පංතිය රුසියාවේ බලය අත්පත් කර ගතහොත්, එහෙත්, අන් රටවල කැරළි සහිත නැගී සිටීම් ඇති නොවුවහොත්, විප්ලවවාදී පක්ෂය කරනු ඇත්තේ කුමක්ද? එවිට කුමක් සිදුවේද? මෙම ප්‍රශ්නයට අපගේ යෝජනාවේ අවසාන ඡේදයෙන් පිළිතුරු ලැබේ.

"දැනටම, යුද්ධය පවතිද්දීම, තමන්ගේ අධිරාජ්‍යවාදී ආණ්ඩුවලට හා තමන්ගේ ධනපති පංතියට විරුද්ධව විප්ලවීය අරගලයක් සැබැවින්ම ගෙන යන විදේශයේ නිර්ධන පංති පක්ෂ හා කණ්ඩායම්වලට ආධාර කිරීමට අප පක්ෂයට හැකි සියල්ලක්ම කිරීමේ කටයුත්ත, විප්ලවවාදී පංතිය රුසියාවේ සම්පූර්ණ රාජ්‍ය බලය අල්ලා ගන්නා තෙක්ම එය ඉටු කරනු ඇත". අපට දැනට පොරොන්දු විය හැක්කේ හා අප දැනට කළ යුත්තේ එපමණකි. සෑම රටකම විප්ලවය නැග එමින් පවතී. නමුත් එය කොතරම් දුරට නැග තිබේද, එය කවද ආරම්භ වේද යන්න කිසිවෙක් නොදනී. තමන්ගේ ආණ්ඩුවලට විරුද්ධව විප්ලවීය අරගලයක් ගෙන යන ජනයා සෑම රටකම ඇත. අප ආධාර කළ යුත්තේ එම ජනයාටය; එම ජනයාට පමණකි. නියම කාරණය එයයි — අන් සියල්ලම අසත්‍යය. එනිසා අපි මෙසේ එකතු කරමු:

දැනටමත් යුද්ධ පෙරමුණෙහි ආරම්භ වී ඇති පරිදි සියළුම යුද්ධකාරී රටවල සොල්දාදුවන් අතර සමූහගත සහෝදරත්වය පෑමට අප පක්ෂය විශේෂයෙන්ම ආධාර දෙනු ඇත..."

මෙය පහත සඳහන් පරිදි තර්ක කරන ප්ලෙහානව්ට පිළිතුරකි: "එයින් ඇතිවන ඵලය කුමක්ද? සහෝදරත්වය පෑම සිදු වුනත් එයින් කුමක් වේද? පෙරමුණෙහිදී වෙන්වූ සාමයක් ඇති කර ගත හැකි බව මෙයින් නොපොනේද?" මෙය කෝලම් නැටුමක් මිස බැරෑරුම් ලෙස තර්ක කිරීමක් නොවේ. අප සෑම පෙරමුණකම සහෝදරත්වය පෑම අපේක්ෂා කරන අතර, අපි එය දිරිගැන්වීමට බලවත් උනන්දුවක් දක්වමු. අපි ස්විට්සර්ලන්තයෙහි වැඩ කරමින් සිටියදී භාෂා දෙකකින් ආයාචනයක් පළ කෙළෙමු. එහි එක් පැත්තක් ප්‍රංශ බසින්ද අනිත් පැත්ත ජර්මන් බසින්ද විය. අප දැන් රුසියානු සොල්දාදුවන්ට කරන්න කියන දෙයම කරන ලෙස එයින් එම සොල්දාදුවන්ට ආයාචනා කරන ලදී. සහෝදරත්වය පෑම ජර්මානු හා රුසියානු සොල්දාදුවන් අතර පමණක් කෙරෙන සේ එය සීමා කිරීමට අප අදහස් නොකරමු. සහෝදරත්වය පෑමෙහි යෙදෙන ලෙස අපි සියළු

දෙනාගෙන්ම ඉල්ලමු. සහෝදරත්වය පෑම යන්නෙන් අප අදහස් කරන්නේ මෙය බව මෙහිලා කියමු:

"... පීඩිතයන්ගේ මෙම සාංසිද්ධික සහයෝගිතා ප්‍රකාශය, සියළුම යුද්ධකාරී රටවල රාජ්‍ය බලය විප්ලවවාදී නිර්ධන පංතියට පැවරීම සඳහා මනාව සංවිධානය කළ හා දේශපාලන විඥනයෙන් යුත් ව්‍යාපාරයක් බවට පරිවර්තනය කිරීමට ප්‍රයත්න දරනු ඇත".

සහෝදරත්වය පෑම මේ දක්වා සාංසිද්ධික ස්වභාවයක විය. ඒ සම්බන්ධයෙන් අපි රැවටිල්ලට පත් නොවිය යුත්තෙමු. ජනතාව මුළා නොවනු පිණිස අපි මෙය පිළිගත යුත්තෙමු. සහෝදරත්වය පෑමෙහි යෙදෙන සොල්දදුවන් ඊට යොමු වන්නේ පැහැදිලි දේශපාලන අදහසකින් නොව, වෙහෙසව, දුබලව සිටින හා ධනපති පොරොන්දු කෙරෙහි තැබූ විශ්වාසය අත් හැරීමට පටන් ගත් පීඩිත ජනතාවන්ගේ සහජඥානයෙනි. ඔවුහු මෙසේ කියති: "නුඹලා සාමය ගැන කථා කරමින් සිටපල්ලා: අපිම කටයුතු ආරම්භයක් කරන්නෙමු — නුඹලාගේ සාම කථා දූන් අවුරුදු දෙකහමාරක් තිස්සේ අසා ඇත්තෙමු". මෙය නියම පංති සහජඥානයය. මෙම සහජඥානය නොමැතිව විප්ලවයේ සත් ව්‍යාපාරය සාර්ථක නොවනු ඇත. ඔබ දන්නා පරිදි කම්කරුවන් තමන්ම නිදහස් කර නොගතහොත් කිසිවෙක් ඔවුන් නිදහස් නොකරනු ඇත. එහෙත් තනිකර සහජඥානය පමණක් ප්‍රමාණවත්ද? ඔබ සහජඥානය කෙරෙහි පමණක් විශ්වාසය තබන්නෙහි නම් ඔබට වැඩි දුරක් යාමට නොහැකිය. මෙම සහජඥානය දේශපාලන අවබෝධය බවට පරිවර්තනය කළ යුතුය.

මෙම සහෝදරත්වය පෑම සංවර්ධනය විය යුත්තේ කුමක් දක්වාද යන්න, නැතහොත්, කම්කරු සහ සොල්දදු සෝවියට් සභා වෙත බලය පැවරීම දක්වා එය සංවර්ධනය විය යුතු බව, අපි අපගේ "සියළුම යුද්ධකාරී රටවල සොල්දදුවන් වෙත කරන ආයාචනය" මගින් පැහැදිලි කර ඇත්තෙමු. ස්වභාවික ලෙසටම ජර්මානු කම්කරුවන් ඔවුන්ගේ සෝවියට් සභා වෙනත් නමකින් හඳුන්වනු ඇත. නමුත් එහි ඇති දෝෂයක් නැත. වැදගත් කාරණය වන්නේ, සහෝදරත්වය පෑම සාංසිද්ධික බව නිවැරදියයි අප නිසැකවම පිළිගන්නා බවත්, අප මෙම සහෝදරත්වය පෑම දිරිගැන්වීමට පමණක් සීමාවී නොසිටින බවත්, සොල්දදු නිල ඇඳුමෙන් යුතුව සිටින කම්කරුවන්ගේ සහ ගොවීන්ගේ මෙම සාංසිද්ධික සහෝදරත්වය පෑම දේශපාලන වශයෙන් විඥත ව්‍යාපාරයක් බවට පරිවර්තනය කිරීමේ කටයුත්ත අප භාරගෙන සිටින බවත්, එම ව්‍යාපාරයේ අරමුණ සියළුම යුද්ධකාරී රටවල බලය විප්ලවවාදී නිර්ධන පංතිය අතට පත් කරන බවත්ය. මෙය ඉතා දුෂ්කර කර්තව්‍යයකි. නමුත්, ධනපති ක්‍රමයේ පාලනය යටතේද මිනිස් වර්ගයා පත්ව ඇත්තේ අතිශයින්ම දුෂ්කර තත්වයකට හා විනාශය කරා යොමු වූ තත්වයකටය. එයින් නොසන්සුන්තාවයේ පිපුරුම් ජනිත වන්නේ එබැවිනි. එම පිපිරුම් නිර්ධන පංති විප්ලවය පිළිබඳ සහතිකය වන්නේය.

අපගේ යෝජනාව මෙයයි. එය සාකච්ඡා සභාවේ සැලකිල්ල සඳහා ඉදිරිපත් කරන්නෙමු.

ප්‍රථමයෙන් පළ කරන ලද්දේ 1921 දී එන්. ලෙනින් (වී. උල්යානොව්) කෘති එකතුව, වෙළුම 14, දෙවැනි කොටසෙහිය.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය වෙළුම 31, පිටු 387-400

## 5

## යුද්ධය පිළිබඳ යෝජනාව

### I

යුද්ධකාරී බලවත් රටවල් කණ්ඩායම් දෙකෙහිම පැතිවලින් බලන කල වර්තමාන යුද්ධය අධිරාජ්‍යවාදී යුද්ධයකි: එනම් ලෝකාධිපත්‍යයෙන් ලබාගත් ලාභ බෙදා ගැනීමත්, මූල්‍ය (බැංකු) ප්‍රාග්ධනය සඳහා අවශ්‍ය වෙළඳ පොළවල් අත් කර ගැනීමත්, වඩාත් දුර්වල ජාතීන් යටත් කර ගැනීමත්, යනාදිය සඳහා ධනපතියන් කරන යුද්ධයකි. යුද්ධය දිනක් දිනක් පාසාම මූල්‍ය හා කාර්මික ධනපති පංතිය පොහොසත් කරන අතර සියළුම යුද්ධකාරී රටවල හා අනතුරුව මධ්‍යස්ථ රටවල නිර්ධන පංතිය සහ ගොවි ජනතාව දුප්පත් කර ඔවුන්ගේ ශක්තියද ක්ෂය කරන්නේය. ඊට අමතරව, යුද්ධය දිග්ගැස්සීම නිසා රුසියාවේ විප්ලවයේ ජයග්‍රහණයන්ට හා එහි තවදුර සංවර්ධනයට බරපතල තර්ජනයක්ද වන්නේය.

රුසියාවේ රාජ්‍ය බලය තාවකාලික ආණ්ඩුවට, එනම්, ඉඩම්හිමියන්ගේ හා ධනපතියන්ගේ ආණ්ඩුවකට අත්වීම නිසා, රුසියාව හා සම්බන්ධයෙන් වූ කල, යුද්ධයේ ස්වභාවය හා අර්ථය වෙනස්වීමක් නොසිදු විය. එවැන්නක් සිදුවිය හැකිද නොවීය.

සාර් දෙවැනි නිකොලායි සහ බ්‍රිතාන්‍යය, ප්‍රංශය යනාදී රටවල ධනපති ආණ්ඩු අතර ඇති කරගත් රහස් ගිවිසුම් ප්‍රසිද්ධ කිරීමට කටයුතු නොකළවිට පමණක් නොව, චීනය, පර්සියාව, තුර්කිය, ඔස්ත්‍රියාව, යනාදී රටවල් නිදහස් ලෙස කොල්ලකෑමට රුසියානු ධනපතියන්ට ඉඩ සලසන බවට පොරොන්දු දෙන රහස් ගිවිසුම් විධිමත් ලෙස හා ජාතියේ කැමැත්තද නොවිමසා ස්ථිර කළ විටද, මෙම කරුණ සක් සුදක් සේ පෙනී

ගියේය. මෙම ගිවිසුම රුසියානු ජනතාවගෙන් සඟවා තැබීමෙන්, යුද්ධයේ ස්වභාවය ගැන එම ජනතාවට දැනගන්නට නොදී ඔවුන් රවටනු ලැබේ.

ජාත්‍යන්තරවාදයෙන්, එනම්, සියළුම රටවල කම්කරුවන් ප්‍රාග්ධනයේ බන්ධනවලට විරුද්ධව කරන ඔවුන්ගේ අරගලයේදී දක්වන සහෝදරාත්මක සහයෝගිතාවයෙන්, සම්පූර්ණයෙන්ම බිඳී වෙන්වීමට නොකැමති කිසිම නිර්ධන පංති පක්ෂයකට, වර්තමාන යුද්ධයට හෝ වර්තමාන ආණ්ඩුවට හෝ, එසේ නැතහොත්, එහි ණය මුදල්වලට ආධාර දීම මෙම හේතුව නිසා කළ නොහැකි වේ.

අල්ලා ගත් රටවල් හැර දමන බවට, එනම්, විදේශ රටවල් අල්ලා ගැනීම හෝ කිසිම ජාතියක් බලෙන් රුසියාව තුළ රඳවා ගැනීම නොකරන බවට, වර්තමාන ආණ්ඩුව දෙන පොරොන්දු කෙරෙහි කිසිම විශ්වාසයක් තැබිය නොහැකිය. ප්‍රථම වශයෙන්ම, බැංකු ප්‍රාග්ධනයේ දහස් සංඛ්‍යාත රැහැන්වලින් ධනපතියන් එකට වෙළී සිටින නිසා, ණය මුදල්, වාසි අත්පත් කර ගැනීම, යුද්ධ කර්මාන්ත, ආදිය සඳහා ආයෝජනය කරන ලද සිය කෝටි ගණන් ධනයෙන් ලැබෙන ලාභ අත් නොහැර, ඔවුන් අල්ලා ගත් රටවල් මෙම යුද්ධයේදී හැර දැමීම ඔවුන්ට කළ නොහැකිය. දෙවැනිව, අල්ලා ගත් රටවල් හැර දමන බව ජනතාව නොමග යවනු පිණිස පළමුවෙන් ප්‍රකාශ කළ නව ආණ්ඩුව, ඒවා අත් හැරීමට අදහසක් නොමැති බව පසුව (1917 අප්‍රේල් 9, මොස්කව්) මිල්යුකොව් මගින් ප්‍රකාශ කර, අප්‍රේල් 18 දින නිකුත් කළ සටහනෙන් හා අප්‍රේල් 22 දින නිකුත් කළ ඒ පිළිබඳ පැහැදිලි කිරීමෙන්, එහි ව්‍යාප්තවාදී ප්‍රතිපත්තිය ස්ථිර කර ඇත. එනිසා ධනපතියන්ගේ පුහු පොරොන්දු ගැන ජනතාවට අනතුරු හඟවන මෙම සාකච්ඡා සභාව, අල්ලාගත් රටවල් වාචක ලෙස හැර දැමීමත්, අල්ලාගත් රටවල් ක්‍රියාත්මක ලෙස හැර දැමීමත්, එනම් කොල්ලකාරී රහස් ගිවිසුම් සියල්ලම ප්‍රසිද්ධ කිරීම හා අවලංගු කිරීම සහ එසේම, තමන් නිදහස් රාජ්‍යයක් වීමට කැමතිද නැතහොත් වෙනත් රාජ්‍යයක කොටසක් වීමට කැමතිද යන්න නිදහස් ඡන්දයෙන් තීරණය කිරීමේ අයිතිය වහාම සියළුම ජාතීන්ට දීමත්, අතර වෙනස පැහැදිලි ලෙස පෙන්නුම් කිරීම අවශ්‍ය බව ප්‍රකාශ කරයි.

II

දැන් රුසියාවේ නරෝද්නික් පක්ෂ (පොදු ජන සමාජවාදීන්,තෘදවික්වරු, සමාජවාදී විප්ලවවාදීන්) සියල්ලම පාහේද, මෙන්ෂෙවික් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ (සංවිධායක කාරක සභාව, චිහෙයිද්සේ, විසෙරතෙලි ආදීන්) අවස්ථාවාදී පක්ෂයද, පක්ෂවලට අයත් නොවන විප්ලවවාදීන් බහුතරයද



විනිවිද ගොස් ඇති ඊනියා විප්ලවවාදී ආරක්ෂාවාදයෙන් පංති අර්ථය අනුව පිළිබිඹු කෙරෙන්නේ, එක් අතකින් ධනපතියන් මෙන්ම, දුර්වල ජනයින් පීඩනයට ලක් කිරීමෙන් ලාභ ගරන පොහොසත් ගොවීන්ගෙන් හා කුඩා දේපල හිමියන්ගෙන් කොටසක අවශ්‍යතාවයන් හා දෘෂ්ටියය. අනිත් අතට විප්ලවවාදී ආරක්ෂාවාදය යනු, ස්වකීය පංති තත්වය අනුව, ධනපතියන්ගේ ලාභ සහ අධිරාජ්‍යවාදී යුද්ධය ගැන උවමනාවක් නොමැතිව සිටින නාගරික හා ගම්බද නිර්ධන පංතිකයන් හා අර්ධ නිර්ධන පංතිකයන් අතුරෙන් කොටසක් ධනපතියන් විසින් රවටනු ලැබීමේ ප්‍රතිඵලයකි.

''විප්ලවවාදී ආරක්ෂාවාදයට'' කිසිම සහනයක් දිය නොහැකි බවත්, ඊට දෙන සෑම සහනයකින්ම අදහස් වන්නේ අන්තර්ජාතිකවාදයෙන් හා සමාජවාදයෙන් සම්පූර්ණයෙන්ම බිඳී වෙන්වීමක් හා සමාන තත්වයක් බවත්, සාකච්ඡා සභාව පිළිගනියි. පුළුල් ජනතාව අතර පවතින ආරක්ෂාවාදය පිළිබඳ ප්‍රවණතාවයන් සම්බන්ධයෙන් වූ කල, වර්තමාන අවස්ථාවේදී ධනපතියන්ගේ ආණ්ඩුව කෙරෙහි තර්කයෙන් තොරව විශ්වාසය තැබීමේ ආකල්පය, යුද්ධය සීඝ්‍ර ලෙස කෙළවර කිරීමට බාධාකාරී වන ප්‍රධාන සාධකයන්ගෙන් එකක්ය යන සත්‍යය නොකඩවාම පැහැදිලි කිරීම මගින්, අපගේ පක්ෂය මෙම ප්‍රවණතාවයන්ට විරුද්ධව සටන් කරනු ඇත.

III

මෙම ප්‍රශ්න අතුරෙන් වඩාත්ම වැදගත්වන, ධනපති යුද්ධය හැකි තරම් ඉක්මණින් කෙළවර කරන්නේ කෙසේද යන්න, එනම්, බල කිරීමේ සාමයකින් නොව, සැබවින්ම ප්‍රජාතන්ත්‍රවාදී සාමයකින්ම එය කෙළවර කරන්නේ කෙසේද යන්න ගැන සාකච්ඡා සභාව මෙසේ ප්‍රකාශ කරයි:

එක පාර්ශවයක පමණක් යුද්ධ භටයන් යුද්ධ කිරීමට ප්‍රතික්ෂේප කිරීමෙන්, නැතහොත්, එක යුද්ධකාරී රටක් පමණක් සරල ලෙස සතුරු ක්‍රියා නැවැත්වීමෙන් යුද්ධය කෙළවර කළ නොහැකිය.

අප ජර්මනිය සමග වෙන්වූ සාමයක් ඇති කර ගැනීමට පක්ෂ යයි කියමින් ධනපතියන් අප පක්ෂයට එරෙහිව කරන පහත් අපවාදයට අපගේ විරුද්ධත්වය දක්වන බව සාකච්ඡා සභාව නැවතත් ප්‍රකාශ කරයි. ජර්මන් ධනපතියන්ද, රුසියානු, බ්‍රිතාන්‍ය, ප්‍රංශ සහ වෙනත් ධනපතියන් මෙන්ම කොල්ලකාරී බවත්, විල්හෙල්ම් අධිරාජයාද, දෙවැනි නිකොලායි හෝ බ්‍රිතාන්‍යයේ, ඉතාලියේ, රුමේනියාවේ හා වෙනත් රටවල රජවරුන් හෝ මෙන්ම ඔටුනු පලන් චෞරවයෙක් වන බවත්, අපි අදහස් කරමු.

යුද්ධය කරනු ලබන්නේ ආණ්ඩු විසින් යයිද, යුද්ධ නිරතුරුවම නිශ්චිත පංතිවල ප්‍රතිපත්ති සමග වෙන් නොකළ හැකි සේ තදින් බැඳී ඇතැයිද, යුද්ධය ප්‍රජාතන්ත්‍රවාදී සාමයකින් කෙළවර කළ හැක්කේ යුද්ධකාරී රටවල් කීපයක හෝ මුළු රාජ්‍ය බලයම, පීඩාකාරී ප්‍රාග්ධනයේ පාලනය කෙළවර කර දැමීමෙහි සමත් නිර්ධන සහ අර්ධ නිර්ධන පංතිය අතට පත් වුවහොත් පමණක් යයිද, යන සත්‍යය ඉවසිලිමත් ලෙස, එහෙත් අත් නොහැරම, ජනතාවට විස්තර කර දීම පිණිස අපගේ පක්ෂය කටයුතු කරනු ඇත.

විප්ලවවාදී පංතිය රුසියාවේ රාජ්‍ය බලය අත්පත් කර ගැනීමෙන් පසු ධනපතියන්ගේ ආර්ථික පාලනය විනාශ කිරීමට හේතුවන පියවර මාලාවක්ද, එසේම, ඔවුන් දේශපාලන වශයෙන් අහිංසක තත්වයට හෙලන පියවරයන්ද ගෙන, රටවල් අල්ලා ගැනීම හා වන්දි ගැනීම සම්පූර්ණයෙන්ම හැර දැමීමේ පදනමක් මත, ප්‍රජාතන්ත්‍රවාදී සාමයක් ඇති කිරීම සඳහා යෝජනා, වහාම හා අවංක ලෙස, සියළුම ජාතීන් වෙත ඉදිරිපත් කරනු ඇත. එවැනි පියවර ගැනීමත්, එසේ අවංක සාම යෝජනාවක් ඉදිරිපත් කිරීමත් නිසා, යුද්ධකාරී රටවල කම්කරුවන් තුළ සම්පූර්ණ අන්‍යෝන්‍ය විශ්වාසයක් උද්ගත වනු ඇත. ඒ අනුව යෝජනා කෙරෙන සාමයට ප්‍රතිරෝධය පාන අධිරාජ්‍යවාදී ආණ්ඩු වෙතොත් ඒවාට විරුද්ධව නිර්ධන පංතිය කැරළි ගසමින් නැගී සිටින අවස්ථා අනිවාරණීය වශයෙන්ම උදවනු ඇත.

දැනටම යුද්ධය පවතිද්දීම, තමන්ගේ අධිරාජ්‍යවාදී ආණ්ඩුවලට හා තමන්ගේ ධනපති පංතියට විරුද්ධව විප්ලවීය අරගලයක් සැබවින්ම ගෙන යන විදේශයේ නිර්ධන පංති පක්ෂ හා කණ්ඩායම්වලට ආධාර කිරීමට අප පක්ෂයට හැකි සියල්ලක්ම කිරීමේ කටයුත්ත, විප්ලවවාදී පංතිය රුසියාවේ සම්පූර්ණ රාජ්‍ය බලය අල්ලා ගන්නා තෙක්ම එය ඉටු කරනු ඇත. දැනටමත් යුද්ධ පෙරමුණෙහි ආරම්භ වී ඇති පරිදි, සියළුම යුද්ධකාරී රටවල සොල්දාදුවන් අතර සමූහගත සහෝදරත්වය පැමට විශේෂයෙන්ම ආධාර දෙන අප පක්ෂය, පීඩිතයන්ගේ මෙම සාංසිද්ධික සහයෝගිතා ප්‍රකාශය, සියළුම යුද්ධකාරී රටවල රාජ්‍ය බලය විප්ලවවාදී නිර්ධන පංතියට පැවරීම සඳහා මනාව සංවිධානය කළ හා දේශපාලන විඥානයෙන් යුත් ව්‍යාපාරයක් බවට පරිවර්තනය කිරීමට ප්‍රයත්න දරනු ඇත.

"ප්‍රාව්දා" අංක 44, 1917 මැයි 12 (අප්‍රේල් 29).

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 403-406.



6

## තාවකාලික ආණ්ඩුව කෙරෙහි දක්වන ආකල්පය පිළිබඳ යෝජනාව

1) තාවකාලික ආණ්ඩුවේ පංති ස්වභාවය අනුව එය ඉඩම් හිමි සහ ධනපති පංතික ආධිපත්‍යයේ අයවයක් බවද,

2) තාවකාලික ආණ්ඩුව සහ එය නියෝජනය කරන පංති, රුසියානු සහ ඉංග්‍රීසි-ප්‍රංශ අධිරාජ්‍යවාදය සමග නොසිඳිය හැකි බැමිවලින් බැඳී සිටින බවද,

3) තාවකාලික ආණ්ඩුව, එහි ප්‍රකාශිත වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කරන්නේ අර්ධ වශයෙන් පමණක් බවද එයද, විප්ලවවාදී නිර්ධන පංතියේ හා යම් තරමක් දුරට සුළු ධනපති පංතියේත් බලපෑම යටතේ පමණක් බවද,

4) දැන් සංවිධානය කරනු ලබමින් පවතින ධනපති පංතික හා ඉඩම් හිමි ප්‍රතිවිප්ලවයේ බලවේගයන්, තාවකාලික ආණ්ඩුව සෙවනේ සිටිමින් හා පැහැදිලිවම එහි අනුදැනුම ඇතිව, දැනටමත් විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදයට විරුද්ධව ප්‍රහාරයක් අරඹා ඇති බව හා ඒ අනුව තාවකාලික ආණ්ඩුව ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය තෝරා පත් කිරීමට දින නියම කිරීම මග හැරීමෙහිත්, සමස්තයක් වශයෙන් ජනතාව ආයුධ සන්නද්ධ කිරීම වැළැක්වීමෙහිත්, සියළුම ඉඩම් ජනතාවට පවරාදීමට විරුද්ධ වීමෙහිත්, ඉඩම් හිමි ක්‍රමයෙන් ගොවි ප්‍රශ්නය විසඳීම ඉඩම් විෂයෙහි ස්ථාපිත කිරීමෙහිත්, පැය අටේ වැඩ දිනය ක්‍රියාත්මක කිරීමට බාධා කිරීමෙහිත්, යුද්ධ හමුදාව තුළ (ගුච්කොව් සහ සමාගම විසින්) ප්‍රතිවිප්ලවවාදී ප්‍රචාර ගෙන යාමට විරුද්ධ නොවීමෙහිත්, සොල්දාදුවන්ට විරුද්ධව උසස් නිලධාරීන් එක් රැස් කිරීමෙහිත්, යනාදියෙහි යෙදෙන බවද,

5) ළඟ එන ආර්ථික ව්‍යසනය හේතුකොට ගෙන පරම අවශ්‍යතාවයක් වන විප්ලවවාදී ආර්ථික (ආහාර සම්පාදනය ආදී) පියවරයන් ගැනීමට, මෙම ධනපතියන් ගේ හා ඉඩම් හිමියන්ගේ ලාභ ආරක්ෂා කරන තාවකාලික ආණ්ඩුව අසමත් බවද,

6) ඒ අතරම, තවමත් කම්කරු සහ සොල්දාදු, එනම්, ගොවිජන බහුතරයේ නායක සංවිධානය වන පෙට්‍රොග්‍රෑඩ් කම්කරු හා සොල්දාදු නියෝජිත සෝවියට් සභාවේ විශ්වාසය හා සැබෑ එකඟත්වය කෙරෙහි මෙම ආණ්ඩුව දැනට බලාපොරොත්තු රඳවන බවද,

7) දේශීය හා විදේශීය යන ප්‍රතිපත්ති දෙකම විෂයෙහි තාවකාලික ආණ්ඩුව ගන්නා සෑම පියවක්ම නාගරික හා ගම්බද නිර්ධන පංතියන්ගේ සහ අර්ධ නිර්ධන පංතිකයන්ගේ ඇස් පෑදීමටත්, එක් හෝ අනිත් දේශපා-

ලන ක්‍රියාමාර්ගයක් තෝරා ගන්නා ලෙස සුළු ධනපති පංතියේ විවිධ කොටස්වලට බල කිරීමටත් නිසැකවම හේතුවන බවද, රු. ස. ප්‍ර. ක. ප. මෙම සමස්ත රුසියා සාකච්ඡා සභාව පිළිගන්නේය.

ඉහත සඳහන් කරුණු සැලකිල්ලට ගනිමින් සාකච්ඡා සභාව මෙසේ තීරණය කරයි:

1) නිර්ධන පංතිකයන්ගේ පංති විඥානය දියුණු කිරීම පිණිස සහ සුළු ධනපති පංතියේ චපලකම්වලට විරුද්ධව නාගරික හා ගම්බද නිර්ධන පංතිකයන් එක්සත් කිරීම පිණිස විස්තීර්ණ ලෙස වැඩ කටයුතු කළ යුතුව තිබේ. සම්පූර්ණ රාජ්‍ය බලය කම්කරු සහ සොල්දදු සෝවියට් සභාවලට හෝ, එසේ නැතහොත් ජනතා බහුතරයෙහි කැමැත්ත එක එල්ලේ ප්‍රකාශ කරන (පළාත්බද ස්වයංපාලන ආයතන, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ආදී) වෙනත් ආයතනවලට හෝ පැවරීම සැබැවක් වන බවට ඒකාන්ත සහතිකය වශයෙන් ප්‍රයෝජනවත් වන්නේ මෙම ආකාරයේ වැඩ පමණකි.

2) මේ අනුව, කම්කරු සහ සොල්දදු නියෝජිත සෝවියට් සභා තුළ බහු විධ ලෙස ක්‍රියාකාරී වීමද, සෝවියට් සභා සංඛ්‍යාව වැඩි කිරීම හා ඒවායේ බලය තහවුරු කිරීම අරමුණු කරගෙන කටයුතු කිරීමද, සෝවියට් සභා තුළ සිටින අප පක්ෂයේ නිර්ධන පංතික ජාත්‍යන්තරවාදී කණ්ඩායම් එකට පැස්සීමද අවශ්‍ය වන්නේය.



3) විප්ලවය පළාත්බද ප්‍රදේශවල ලත් ජයග්‍රහණ තහවුරු කර පුළුල් කරනු වස්, ප්‍රාදේශීය ජනගහනයෙන් ස්ථිර බහුතරයක සහයෝගය ඇතිව, නිදහස් අයිතිවාසිකම් ක්‍රියාත්මක කිරීමත්, ප්‍රතිවිප්ලවවාදී බලධර කොටස් අස්කර දැමීමත්, නිෂ්පාදනය හා බෙදාහැරීම පාලනයට යටත් කිරීම ඇරඹීම වැනි ආර්ථික පියවරයන් ගැනීමත්, ආදිය සම්බන්ධයෙන් එම ජනතාවගේ ස්වාධීන ක්‍රියාකාරිත්වය සෑම ආකාරයකින්ම විකාශ කිරීම, සංවිධානය කිරීම හා ශක්තිමත් කිරීම අවශ්‍යය.

4) යුද්ධ හමුදාවේ හා වීදිවල යන දෙතැනම ප්‍රතිවිප්ලවවාදී කොටස් සංවිධානය කරමින් සිටින ව්‍යවස්ථානුකූල-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ආණ්ඩු පක්ෂය දැන් කම්කරුවන් වෙඩි තබා දැමීමට උත්සාහ කරන බව, තාවකාලික ආණ්ඩුව නිකුත් කළ සටහන නිසා අප්‍රේල් 19—21 දිනවල උත්සන්න වූ දේශපාලන අර්බුදයෙන් පෙනේ. ද්විත්ව බලයෙන් පැන නගින අස්ථිර තත්වය නිසා එවැනි සිදුවීම් නැවත ඇතිවීම වැළැක්විය නොහැකිය. එනිසා 1848 ජූනි දිනවල පැරීසියේ සිදුවුන වැනි ලෙසට නිර්ධන පංතිය සමූහ වශයෙන් වෙඩි තබා දැමීමේ බරපතල තර්ජනය මග හැරීම පිණිස, නිර්ධන පංතිය ආයුධ සන්නද්ධ කිරීමත්, නිර්ධන පංතිය හා විප්ලවවාදී යුද්ධ හමුදාව අතර සමීපතම සම්බන්ධකම් ඇති කිරීමත්, තාවකාලික ආණ්ඩුව කෙරෙහි විශ්වාසය තැබීමේ ප්‍රතිපත්තිය අත් හැර දැමීමත් අවශ්‍ය බව



හැකි තරම් බලවත් ලෙස ජනතාවට කීම නිර්ධන පංති පක්ෂයේ යුතුකම වන්නේය.

"ප්‍රාව්ද" අංක 42, 1917 මැයි 10 (අප්‍රේල් 27)

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 407-409

7

## පක්ෂ වැඩ පිළිවෙළ සංශෝධනය කිරීම පිළිබඳ ප්‍රශ්නය ගැන යෝජනාව[71]

පහත සඳහන් කරුණු අනුව පක්ෂ වැඩපිළිවෙළ සංශෝධනය කිරීම අවශ්‍ය යයි සාකච්ඡා සභාව අදහස් කරයි:

1) ළඟා වෙමින් පවතින සමාජවාදී විප්ලවයට අදාලව අධිරාජ්‍යවාදය හා අධිරාජ්‍යවාදී යුද්ධ කාලය ගැන ඇගැයීම; "වැඩ කරන ජනතාවට රටක් නැත"[72] යන මාක්ස්ගේ සටන් පාඨය අමතක කර සිටින ඊනියා "ආරක්ෂාවාදීන්" විසින් මාක්ස්වාදය විකෘති කරනු ලැබීමට විරුද්ධව සටන් කිරීම.

2) රාජ්‍යය ගැන සඳහන් කරන ප්‍රවාද සහ වගන්ති සංශෝධනය කිරීම; එවැනි සංශෝධනයක් ධනපති පාර්ලිමේන්තුවේදී සමූහාණ්ඩුවක් නොව, ප්‍රජාතන්ත්‍රවාදී නිර්ධන පංති — ගොවිජන සමූහාණ්ඩුවක් (එනම්, පොලිසිය නොමැතිව, ස්ථිර යුද්ධ හමුදාවක් නොමැතිව සහ වරප්‍රසාද ලත් නිලධාරි පෙළැන්තියක් නොමැතිව කටයුතු කරන වර්ගයේ රාජ්‍යයක්) සඳහා කරන ඉල්ලීමක ස්වභාවය ගත යුතුය.

3) දේශපාලන වැඩපිළිවෙළෙහි කල් ඉක්මවා ඇති කොටස ඉවත් කිරීම හෝ අත්හැර දැමීම.

4) වඩාත් සසංගත ප්‍රජාතන්ත්‍රවාදී ඉල්ලීම් වඩාත් යථාතථ්‍ය ලෙසින් ප්‍රකාශ කරනු පිණිස අවම දේශපාලන වැඩපිළිවෙළෙහි කරුණු ගණනාවක් වෙනස් කිරීම.

5) අවම වැඩපිළිවෙළෙහි, කල් ඉක්ම ගිය බොහෝ තැන් ඇති මහජන අධ්‍යාපනය හා සම්බන්ධ ආර්ථික කොටසත්, සම්පූර්ණයෙන්ම වෙනස් කිරීම.

6) ගොවිජන ප්‍රශ්නය සම්බන්ධ යෝජනාවට අනුකූල වන සේ ගොවිජන වැඩපිළිවෙළ සංශෝධනය කිරීම.

7) දැනට ජනසතු කිරීමට සුදුසු තත්වයට පත්ව ඇති සම්මේල ආදිය ගණනාවක් ජනසතු කිරීම සඳහා ඉල්ලීම ඇතුලත් කිරීම.

8*

8) නූතන සමාජවාදයේ ප්‍රධාන උපනති ගැන විශ්ලේෂණයක් එකතු කිරීම.

පක්ෂ සම්මේලනයේ අනුමැතිය සඳහා ඉදිරිපත් කරනු පිණිස, ඉහත සඳහන් කරුණු පදනම් කරගත් කෙටුම්පත් පක්ෂ වැඩ පිළිවෙළක් මාස දෙකක් ඇතුලත සකස් කරන ලෙස සාකච්ඡා සභාව මධ්‍යම කාරක සභාවට නියම කරයි. කෙටුම්පත් සලකා බලන ලෙසත්, වෙනත් වැඩපිළිවෙළවල් සකස් කරන ලෙසත්, සාකච්ඡා සභාව සියළුම පක්ෂ සංවිධාන සහ සාමාජිකයන් වෙත දැනුම් දෙයි.

''සොල්දත්ස්කයා ප්‍රාව්ද'' අංක 13 ට අතිරේකය, 1917 මැයි 16(3)

සම්පූර්ණ 5 කෘති, වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 414-415.

8

## ගොවිජන ප්‍රශ්නය ගැන වාර්තාව
## අප්‍රියෙල් 28 (මැයි 11)

### රැස්වීමේ වාර්තාවෙන්

සහෝදරවරුනි, ප්‍රථම විප්ලවය සමයේදී ගොවිජන ප්‍රශ්නය ගැන අපගේ පක්ෂය ඉතාමත් අංග සම්පූර්ණ ලෙස සාකච්ඡා කළ හෙයින්, මෙම විෂය ගැන අපගේ අදහස් මනාව පැහැදිලි වී තිබේ. සාකච්ඡා සභාව පත්කළ හා මෙම විෂය ගැන උනන්දුවක් දක්වන හා මනා පළපුරුද්දක් ඇති සහෝදරවරුන්ගෙන් යුත් කාරක සභාව, සැලකිය යුතු වෙනස් කම් නොකරම කෙටුම්පත් යෝජනාවලට එකඟ වීමෙන් මේ බව අනියමින් ඔප්පු වේ. එනිසා මම මගේ අදහස් ඉතා කෙටියෙන් ඉදිරිපත් කරන්නෙමි. තවද, කෙටුම්පතෙහි සෝදුපත් පිටපත් සියළුම සාමාජිකයින් වෙත ඇති හෙයින් එය සම්පූර්ණයෙන් කියවීමේ අවශ්‍යතාවයක්ද නැත.

වර්තමානයේ රුසියාව මුළුල්ලේම ඇති වෙමින් පවතින ගොවිජන ව්‍යාපාරයේ වර්ධනය ඉතාමත් පැහැදිලි හා ප්‍රතික්ෂේප කළ නොහැකි දෙයකි. මෙන්ෂෙවික්වරුන් විසින් යෝජනා කරන ලද හා 1906 ස්ටොක්හෝම් සම්මේලනයේදී[73] අනුමත කරන ලද අප පක්ෂයේ වැඩපිළිවෙළ ප්‍රථම රුසියානු විප්ලවය මගින් පවා නිෂ්ප්‍රභා වූවකි. නාගරික සභා සන්තක කිරීම පිළිබඳ මෙන්ෂෙවික් යෝජනාව සම්මේලනයේදී අනුමත කරවා ගැනීමට ඔවුහු සමත් වූහ. ඔවුන්ගේ වැඩපිළිවෙළෙහි හරය පහත සඳහන් පරිදි විය: ගොවිජන ඉඩම්ද, ප්‍රජා සහ ගෙවතු ඉඩම්ද ගොවිජනතාවට හිමි වන අතර, වතුකාර දේපල ප්‍රාදේශීය ස්වයං පාලන මණ්ඩල විසින් අත්පත් කර ගනු ලැබේ. එවැනි වැඩ පිළිවෙළකට පක්ෂව මෙන්ෂෙවික්වරු ඉදිරිපත් කළ ප්‍රධාන තර්ක අතුරෙන් එකක් වූයේ ගොවිජන ඉඩම් ගොවිජනයාටම හැර වෙනත් කිසිවෙකුට පවරා දීම ගොවිජනතාව කිසිකලෙකත් තේරුම් නොගනු ඇතැයි යන්නය. වාර්තාව ඉදිරිපත් කළ මාස්ලව් සහ කස්ත්‍රොව් මෙම තර්කය විශේෂයෙන්ම අවධාරණය කළ බව ස්ටොක්හෝම් සම්මේලනයේ රැස්වීම් වාර්තාව ගැන දන්නා ඕනෑම කෙනෙකුගේ මතකයට නැගෙනු ඇත. මෙය සිදුවූයේ ගොවිජන ව්‍යාපාරයේ ස්වභාවය හා එහි ශක්තිය ගැන වාස්තවික තොරතුරු නොතිබුණු කාලයක් වූ ප්‍රථම දූමා සභාවට පෙර කාලයේදීය. දැන් එම කරුණ බොහෝ විට අමතක කරනු ලබන නමුත් අපි එය අමතක නොකළ යුත්තෙමු. රුසියාව ගොවිජන විප්ලවයෙන් ගිනි ගනිමින් තිබෙන බව කවුරුත් දැන සිටි නමුත්, ගොවිජන ව්‍යාපාරය සංවිධානය වනු ඇත්තේ කෙසේද, නැතහොත් ගොවි විප්ලවය සංවර්ධනය වනු ඇත්තේ කුමණ දිශානතියක් ඔස්සේද යන්න කිසිවෙක් දැන සිටියේ නැත. සම්මේලනය විසින් ප්‍රකාශ කරන ලද අදහස් ගොවීන්ම දැරූ නියම හා ප්‍රායෝගික අදහස්ද යන්න පරීක්ෂා කර බැලීමට කිසිම ඉඩක් නොතිබුණි. මෙන්ෂෙවික්වරුන්ගේ තර්කය එතරම් වැදගත් සේ සලකනු ලැබීමට හේතු වූයේ එයයි. ගොවිජනයා මෙම ප්‍රශ්නය දෙස බලන්නේ කෙසේද යන ප්‍රථම බරපතල හැඟවීම අපට ලැබුණේ අපගේ ස්ටොක්හෝම් සම්මේලනය නිම වී මඳ කලකිනි. ප්‍රථම හා දෙවැනි යන දූමා සභා දෙකෙහිදීම ගොවිජනයාම තෘදවික්''104 දෙනාගේ පණත''[74] ඉදිරිපත් කළහ. මෙම පණතට යෙදූ අත්සන් ගැන මම විශේෂ අධ්‍යයනයක් කෙළෙමි; විවිධ මන්ත්‍රීවරුන්ගේ අදහස්, ඔවුන්ගේ පංති සම්බන්ධතාවයන් හා කොතරම් දුරට ඔවුන් ගොවීන් ලෙසට ගත හැකිද යන්න ගැනද සුපරීක්ෂාකාරී ලෙස අධ්‍යයනය කෙළෙමි. මෙම අත්සන්කරු මන්ත්‍රීවරුන් 104 දෙනාගෙන් අති බහුතරය ගොවීන් වූ බව මම, සාර්වාදී පුවත් පාලකයා විසින් පුළුස්සා දමන ලද එහෙත් මා නැවත පළ කරන මගේ පොතෙහි[75] ඒකාන්ත ලෙස සඳහන් කෙළෙමි. ඉඩම් ජනසතු කරන ලෙස එම පණතෙන් කියා තිබුණි. සියළුම ඉඩම් රජයේ දේපල බවට පත්විය යුතුයයි ගොවිජනතාව කීහ.

ගොවිජනතා උවමනාවන් පිළිබඳ දෘෂ්ටි කෝණයෙන් මෙන්ෂෙවික්වරු දූමා සභා දෙකෙහිදීම යෝජනා කළ පියවරට වඩා ජනසතු කිරීම යහපතැයි සැලකීමට දූමා සභා දෙකේම සිටි මුළු රුසියාවේම ගොවි ජනතාව නියෝජනය කරන මන්ත්‍රීවරු යොමුවීම ගැන පැහැදිලි කළ හැක්කේ කෙසේද? ගොවිජනතාව ඔවුන්ගේ ඉඩම්වල හිමිකම තබා ගන්නා ලෙසත්, වතුකාර දේපල පමණක් ජනතාවට දිය යුතු බවත් මෙන්-

ෂෙවික්වරු යෝජනා කළහ. නමුත් ඉඩම් සියල්ලම ජනතාවට දිය යුතු යයි ගොවිජනයා කියා සිටියහ. මෙයට කුමක් හේතු වී යයි අපි කියන්නෙමුද? රුසියානු ගොවිජනතාව ඔවුන්ගේ කොමියුන සංවිධානය නිසා සමාජ සන්තක කිරීමට, ශ්‍රම ප්‍රතිපත්තියට, පක්ෂවන බව සමාජවාදී විප්ලවවාදීහු කියති. එම වදන්මාලා සියල්ලම සාමාන්‍ය බුද්ධියෙන් තොරය. ඒවා තුළ ඇත්තේ හුදෙක් වචනම පමණකි. එහෙත් එය විස්තර කරන්නේ කෙසේද? රුසියාවේ සියළුම ආකාරයේ ඉඩම් හිමිකම්, එනම්, ගොවිජනයාගේ හා ඉඩම් හිමියන්ගේ ඉඩම්ද, ප්‍රජා සහ ගෙවතු ඉඩම්ද සම්බන්ධ සියළු හිමිකම් විනිවිද ගිය පැරණි, අර්ධ වැඩවසම් සම්බන්ධකම් පවතින හෙයින්, වෙළඳ පොළේ තත්වය සලකා බලන කල, ඉඩම් මුළු ජනතාවටම පවරන ලෙස ඉල්ලීමට ගොවිජනතාවට සිදු වූ බව මම කල්පනා කරමි. පැරණි ගොවිජන ජීවිතයේ පැටලිල්ල ලිහා දැමිය හැක්කේ ජනසතු කිරීමෙන් පමණක් බව ගොවිජනතාව කියති. ඔවුන් බලන්නේ ධනපති දෘෂ්ටි කෝණයෙනි. සමාන ඉඩම් බුක්තිය යනුවෙන් ඔවුන් අදහස් කරන්නේ චතුකාර දේපල රාජසන්තක කිරීම මිස තනි පුද්ගල හිමිකරුවන් එක සමාන තත්වයට පත් කිරීම නොවේ. ජනසතු කිරීම යනුවෙන් ඔවුන් අදහස් කරන්නේ සියළුම ඉඩම් ගොවිජනතාව අතර නැවත බෙදා දීමය. මෙය විශිෂ්ට ධනපති යෝජනා ක්‍රමයකි. සමාන කිරීම හෝ සමාජ සන්තක කිරීම ගැන එකද ගොවියෙක්වත් කථා කළේ නැත. නමුත් තවත් බලා සිටිය නොහැකි බවත්, ඉඩම් සියල්ලම පිරිසිදු කළ යුතු බවත් ඔවුහු සියළු දෙනාම කීහ. වෙනත් වචනවලින් කියතොත් ඔවුන් කීවේ, විසිවැනි ශත වර්ෂයේ කොන්දේසි යටතේ පැරණි ක්‍රමයට ගොවිතැන කරගෙන යාමට නොහැකි බවය. ඉන්පසු ස්තලිපින් ප්‍රතිසංස්කරණය මගින් ඉඩම් ප්‍රශ්නය තවදුරටත් ව්‍යාකූල කර තිබේ.[76] ගොවි ජනතාව ජනසතු කිරීම ඉල්ලන විට ඔවුන් අදහස් කළ දේ එය ය. එයින් අදහස් වන්නේ ඉඩම් නැවත වෙන් කර දීමකි. විවිධාකාර ඉඩම් හිමිකම් නොතිබිය යුතු බවකි. සමාජ සන්තක කිරීමක් පිළිබඳ අල්ප මාත්‍ර හෝ අදහසක් එහි නොමැත. 1905 වර්ෂයේ ඉඩම් හිමිකම් හා සම්බන්ධ සංඛ්‍යා ලේඛනවල කෙටි සම්පිණ්ඩනයක් අනුව ගොවිජන පවුල් 300 කට හිමිව තිබුණු ඉඩම් ප්‍රමාණය (දෙස්යාටින් 2000) එක ඉඩම්හිමි පවුලකට හිමිවූ ඉඩම් ප්‍රමාණයට සමානවූ හෙයින්, ගොවි ජනතාවගේ මෙම ඉල්ලීම සමානාත්මතාවාදී යයි කියනු ලැබේ. මේ අර්ථයෙන් නම් එය සමානාත්මතාවාදී වන නමුත් සියළුම කුඩා ගොවිපළවල් සමාන තත්වයකට පත් කරන බව එයින් නොකියවේ. 104 දෙනාගේ පණත පෙන්නුම් කරන්නේ ඊට ප්‍රතිවිරුද්ධ දෙයකි.

ධනපති-ප්‍රජාතන්ත්‍රවාදය හා සම්බන්ධයෙන් වූ කල රුසියාවේ ජනසතු කිරීම අවශ්‍යය යන අදහස විද්‍යාත්මක ලෙස සනාථ කරනු පිණිස



ඉදිරිපත් කළ යුතුව තිබෙන වැදගත් කරුණු මේවාය. නමුත් තවත් හේතුවක් නිසාද එය අවශ්‍ය වේ. නිෂ්පාදන මාර්ග පිළිබඳ පෞද්ගලික හිමිකමට එයින් දැවැන්ත පහරක් වැදෙන්නේය. පෞද්ගලික ඉඩම් හිමිකම අවලංගු කිරීමෙන් පසුව රුසියාවේ සියළු දේම කලින් පැවති සේම පමතිනු ඇතැයි සිතීම හුදෙක්ම අඥාන කමක් වේ.

ඊළඟට ප්‍රායෝගික නිගමන හා ඉල්ලීම් කීපයක් ඇත. කෙටුම්පතට ඇතුල් කළ යුතු සුළු සංශෝධන අතුරෙන් පහත සඳහන් ඒවාට අවධානය යොමු කරවන්නෙමි. පළමුවැනි කරුණ මෙසේ කියවේ: ''චතුකාර දේපල සියල්ලම වහාම සහ සම්පූර්ණයෙන්ම රාජ සන්තක කිරීම සඳහා නිර්ධන පංතියේ පක්ෂය එහි මුළු ශක්තියෙන්ම සහයෝගය දෙනු ඇත''. මෙහි ''සහයෝගය දෙනු ඇත'' යන්න වෙනුවට, ''සටන් කරනු ඇත'' යන්න අපි යෙදිය යුත්තෙමු. අපගේ අදහස වන්නේ ගොවීන්ට ප්‍රමාණවත් තරම් ඉඩම් නොමැති බව හා ඔවුනට තවත් ඉඩම් අවශ්‍යය යන්න නොවේ. එය දැනට ප්‍රචලිතව පවතින අදහසය. චතුකාර දේපල යනු ගොවිජනයා මැඩලන හා ඔවුන් නොදියුණු තත්වයේ තබන පීඩනයේ පදනම වන බව අපි කියමු. තිබෙන ප්‍රශ්නය, ගොවීන්ට ප්‍රමාණවත් තරම් ඉඩම් තිබේද, නැතහොත් ප්‍රමාණවත් තරම් ඉඩම් නැද්ද යන්න නොවේ. ප්‍රවේණිදාස ක්‍රමය හංග වේවා! විප්ලවවාදී පංති අරගලයේ දෘෂ්ටි කෝණය අනුව ප්‍රශ්නය ඉදිරිපත් කල යුත්තේ ඒ ආකාරයෙනි. ඒවා ඉදිරිපත් කළ යුත්තේ තමන්ට තිබෙන ඉඩම් ප්‍රමාණය කොපමණද, ඒවා කොටස් කර දිය යුත්තේ කුමණ ප්‍රතිමානය අනුවද යන්න තෝරා බේරා ගැනීමට යත්න දරන ඒ නිලධරයන්ගේ දෘෂ්ටි කෝණයෙන් නොවේ. අංක 2 සහ 3 දරන කරුණුවල අනුපිළිවෙළ ප්‍රතිවර්ත කළ යුතු යයි මම අදහස් කරමි. මා එසේ කියන්නේ, විප්ලවවාදී ක්‍රියාරම්භකත්වයේ ප්‍රතිඵලය වශයෙන් ඇති කරන නීතියට වඩා එම විප්ලවීය ක්‍රියාරම්භකත්වය අපට වැදගත්වන හෙයිනි. ඔබ නීතිය ලියන තෙක් බලා සිටිමින්, එතෙක් ඔබම විප්ලවවාදී ක්‍රියාරම්භකත්වය වර්ධනය කිරීමෙහි නොයෙදෙන්නේ නම් ඔබට නීතියවත්, ඉඩම්වත් නොලැබෙනු ඇත.

ජනසතුව ක්‍රියාත්මක කිරීම පිණිස නිලධාරීන් විශාල කාර්යාංශයක් අවශ්‍ය වෙතැයි කියමින් සමහරු ඊට විරුද්ධ වෙති. එය සත්‍යයක් නමුත්, රාජ්‍ය සන්තක භාවය යනුවෙන් අදහස් වන්නේ සෑම ගොවියෙක්ම රජයෙන් ඉඩම් බදු ගන්නා බවය. බදු ඉඩම් කට්ටි අතුරු බදු දීම තහනම් වේ. නමුත් ගොවියෙක් බදු ගන්නා ඉඩම් ප්‍රමාණය හා ඉඩම් වර්ගය මුළුමනින්ම නිරාකරණය කළ යුත්තේ නිලධාරිවාදී නොවන නිසි ප්‍රජාතන්ත්‍රවාදී බලායතනය මගිනි.

''ගොවිපල් සේවක'' යන්න වෙනුවට ''කෘෂිකාර්මික ශ්‍රමකරු''

යන්න අපි ආදේශ කරමු. "ගොවිපල් සේවක" යන වචනය අප්‍රසන්න බව සහෝදරවරු කීප දෙනෙක්ම කීහ. මෙම වචනයට විරුද්ධත්වයද දක්වන ලදී. එය ඉවත් කළ යුතුය.

ඉඩම් ප්‍රශ්නය නිරවුල් කිරීමේදී දැන් අපි නිර්ධන පංතික ගොවි කාරක සභා ගැන හෝ, සෝවියට් සභා ගැන හෝ කථා නොකළ යුත්තෙමු. එසේ කියන්නේ, නිර්ධන පංතිය හා ගොවි ජනතාව අතර බෙදීමක් ඇති කරමින් ගොවිජනතාව සොල්දාදු නියෝජිත සෝවියට් සභා පිහිටුවා තිබෙන බව අපට පෙනෙන හෙයිනි.

අප දන්නා ලෙසට සුළු ධනපති පංතික ආරක්ෂාවාදී පක්ෂ, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස්වන තෙක් ඉඩම් ප්‍රශ්නය කල් තැබීමට පක්ෂ වෙති. ඉතාමත් උසස් ලෙස සංවිධානය වූ ආකාරයකින් ගොවිජනතාවට වහාම ඉඩම් පවරා දීමට අපි පක්ෂ වෙමු. අරාජික ලෙස ඉඩම් අල්ලා ගැනීම ගැන අපි අවධාරණයෙන්ම විරුද්ධ වෙමු. ගොවි ජනතාව ඉඩම් බදු ගැනීම සම්බන්ධයෙන් ඉඩම් හිමියන් සමග පිළියෙළක් යොදා ගන්නා ලෙස යෝජනා කරන ෂිංගර්යොව් හා කැඩෙට්වරු ඉදිරිපත් කරන වට්ටෝරු දැන් කෙනෙකුට භාර ගත නොහැකිය. දැනටමත් ගොවි ජනතාව කිසිම ගෙවීමක් නොකරම හෝ බදු කුලියෙන් හතරෙන් පංගුවක් පමණක් ගෙවා හෝ ඉඩම් අත්පත් කර ගනිමින් සිටිති.

එක් සහෝදරයෙක් පෙන්සා ගුබේර්නියා පළාතෙන් ප්‍රාදේශීය යෝජනාවක් ගෙනවුත් තිබේ. ගොවිජනතාව ඉඩම් හිමියන්ගේ කෘෂිකාර්මික උපකරණ අත්පත් කරගන්නා බවත්, එහෙත් ඒවා ගෙපත් අතර බෙදා නොහැර පොදු දේපල බවට පරිවර්තනය කරන බවත්, එහි සඳහන්ව ඇත. ඉඩම් සියල්ලම ගොවිතැන් කිරීම පිණිස මෙම උපකරණ උපයෝගි කර ගැනීමට, ඔවුහු නිශ්චිත අනු පිළිවෙළක් හා රීතියක් ස්ථාපිත කරති. එවැනි පියවරයන් ගැනීමේදී ඔවුන් මෙහෙයවනු ලබන්නේ කෘෂිකාර්මික නිෂ්පාදනය වැඩි කිරීමේ අභිලාෂය විසිනි. මෙය අරාජිකත්වයකැයි සියළුම ඉඩම් හිමියන් හා ධනපතියන් ඝෝෂා කළත්, එය ප්‍රතිපත්තිමය වශයෙන් ඉතා වැදගත් කරුණකි. නමුත්, ගොවියා එතැනම වාඩි වී සිටින්නට හැර දමා, එය අරාජිකවාදය යයි කියමින් ඔබ නන්දෙඩවීමටත්, ඝෝෂා කිරීමටත් පටන් ගන්නෙහි නම්, එවිට ඇත්තෙන්ම ඔබට අරාජිකවාදය ලැබෙනු ඇත. ආණ්ඩුවේ නිලධාරීන්ට වඩා හොඳින් ගොවිතැන් කොන්දේසි සහ සමාජමය පාලනය ගොවි ජනතාවට වැටහෙන බවත්, සිය ගුණයක් වැඩි කාර්යක්ෂමතාවයකින් ඔවුන් එම පාලනය ක්‍රියාත්මක කරන බවත් ගොවිජනතාව පෙන්වා ඇත. කුඩා ගමක නිසැක ලෙස මනාව ව්‍යවහාරයට නැගිය හැකි එවැනි පියවරක්, අනිවාරණීය වශයෙන්ම වඩාත් පැතිරී ගිය පියවරයන් ගැනීමට තුඩු දෙන්නේය. ගොවියා දැනටමත් උගෙන ගැනීමට පටන් ගෙන තිබෙන පරිදි, ඔහු මෙය උගෙන ගැනීමට පටන් ගත් විට ධනපති මහාචාර්යවරුන්ගේ දැනුම අවශ්‍ය නොවනු ඇත. කුඩා ගොවිපළවල පමණක් නොව, සියළුම ඉඩම් ගොවිතැන් කිරීම සඳහා කෘෂිකාර්මික උපකරණ උපයෝගි කර ගැනීම අත්‍යාවශ්‍ය බව ඔහුම නිගමනය කරනු ඇත. ඔවුන් මෙය කරන්නේ කෙසේද යන්න වැදගත් කරුණක් නොවේ. පොදුවේ සී සෑම හා බීජ වැපිරීම සඳහා ඔවුන්ගේ තනි පුද්ගල ඉඩම් කොටස් ඒකාබද්ධ කරන්නේද යන්න අපි නොදනිමු. ඔවුන් එය වෙනත් ආකාරයකින් කළත්, එහි වරදක් නොමැත. වැදගත් කාරණය වන්නේ, තමන් මාක්ස්වාදීන් සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් යයි කියා ගනිමින්ද, ඉතා බරපතල ස්වභාවයක් පාමින්ද, සමාජවාදී විප්ලවය සඳහා තවමත් කල්යල් පැමිණ නැති බවත්, එනිසා ගොවි ජනතාව වහාම ඉඩම් අත්පත් කර නොගත යුතු බවත්, ජනතාවට දේශනා කරන සුළු ධනපති බුද්ධිමතුන් රාශියකට මුහුණ දීමට නොසිදුවීමේ වාසනාව ගොවි ජනතාවට අත් වීමය. වාසනාවකට මෙන් රුසියාවේ ගම්බද පෙදෙස්වල එවැනි මහත්වරු ඇත්තේ කලාතුරකිනි. ගොවිජනතාව ඉඩම් හිමියන් සමග ඇති කර ගත් එකඟතාවයක් අනුව ඉඩම් ලබා ගැනීමෙන් පමණක් සැනසී සිටිමින්, ස්වකීය අත්දැකීම් සාමූහික වශයෙන් ක්‍රියාත්මක කිරීමෙහි අසමත් වෙති නම්, එවිට පරාජය නොවැළැක්විය හැකි වනු ඇත. එවිට ගොවි කාරක සභා හුදෙක්ම සෙල්ලම් බඩුවක් බවට, නිරර්ථක ක්‍රීඩාවක් බවට පත්වනු ඇත. 8 වැනි කරුණ*කෙටුම්පත් යෝජනාවට ඇතුලත් කළ යුතු යයි අප කියන්නේ එහෙයිනි.

ප්‍රාදේශීය ගොවි ජනතාව, තමන්ම, මෙම ක්‍රියාරම්භකත්වය ගත් බව අප දැන ගත් කල, අපගේ යුතු කම වන්නේ එම ක්‍රියාරම්භකත්වය අනුමත කිරීම හා නිර්දේශ කිරීමය. විප්ලවය නාම මාත්‍ර පියවරයන්ට සීමා නොවන බවටත්, අර්බුදයට විරුද්ධව කරන අරගලය දෙපාර්තමේන්තුවල සාකච්ඡාවලට හා ෂිංගර්යොව්ගේ ලිපිවලට සීමාවූ විෂයක් නොවන බවටත්, සාගතය පරාජය කිරීම සහ නිෂ්පාදනය වැඩි කිරීම සඳහා ගොවි ජනතාව සංවිධානාත්මක ලෙස ඇත්ත වශයෙන්ම ඉදිරියට යන බවටත්, සහතිකයක් දිය හැක්කේ ඒ මාර්ගයෙන් පමණකි.

ප්‍රථමයෙන් සම්පූර්ණ වශයෙන් පළ කරන ලද්දේ එන්. ලෙනින් (වී. උල්යානොව්) කෘති, වෙළුම 14, දෙවැනි කොටසෙහිය. සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31 පිටු 416-421.

* මෙම වෙළුමේ 124—125 වැනි පිටු බලන්න. — සංස්කාරක

## ගොවිජන ප්‍රශ්නය ගැන යෝජනාව

රුසියාවේ වැඩවසම් ඉඩම්හියන්ගේ බලයෙහි ප්‍රධාන බලකණුව වන්නේත්, රාජාණ්ඩුව යළිත් ස්ථාපිත කිරීමේ හැකියාව සහතික කරන්නේත්, දැනට පවතින චතුකාර දේපලය. මෙම ඉඩම් හිමි ක්‍රමයේ පැවැත්ම විසින්, රුසියාවේ ජනගහණයෙන් ඉතා විශාල කොටසක් වන ගොවි ජනතාව දිළිඳු භාවයේ, දස භාවයේ හා පෑගීමට පත් පැවැත්මේ ශාපයටද, මුළු මහත් රටම ජීවිතයේ සෑම අංශයකම නොදියුණුකමටද, අවශ්‍යයෙන්ම කැප කරනු ලැබේ.

කට්ටි[77] (ප්‍රජා සහ ගෙවතු) ඉඩම් සහ පෞද්ගලික (බදු ගත් හා මිළයට ගත්) ඉඩම් යන දෙආකාරයේම වූ රුසියාවේ ගොවි ජන ඉඩම් හිමි ක්‍රමය, පැරණි අර්ධවැඩවසම් බන්ධන හා සම්බන්ධකම්වලින්ද, ප්‍රවේණිදැස ක්‍රමයේ කාලයේ පටන් පැවත ආ ප්‍රවර්ග අනුව ගොවි ජනතාව බෙද වෙන් කරනු ලැබ සිටීමෙන්ද, විවට කෙත් ක්‍රමයෙන්ද, යනාදියෙන් ඉහළ සිට පහළ දක්වා සෑම පැත්තෙන්ම බැඳී තිබේ. රාජ්‍යයේ සියළුම ඉඩම් ජනසතු කිරීමට ගොවි ජනතාව දක්වන උද්වේගයට පදනම ඒකාන්ත වශයෙන් සැපයෙන්නේ, මෙම යල්පැන ගිය හා හානිදායක ක්‍රම බිඳ දැමීමටත්, ඉඩම් ''පිරිසිදු'' කිරීමටත්, රුසියානු හා ලෝක ආර්ථිකයේ නව කොන්දේසිවලට ගැලපෙන සේ ඉඩම්හිමිකමේ හා කෘෂිකර්මාන්තයේ සියළුම සම්බන්ධකම් ප්‍රතිසංස්කරණය කිරීමට සහ යළි හැඩගැස්වීමටත්, ඇති අවශ්‍යතාවයෙනි.

සියළුම වැඩවසම් බන්ධනයන්ට හා රුසියාවේ මුළු මහත් ඉඩම් හිමි හා ඉඩම් බුත්ති ක්‍රමයට විරුද්ධව පොදු ගොවි ජනතාව කරන අරගලය සඳහා සියළු නරෝද්නික් පක්ෂ හා කණ්ඩායම් කඳවුරු බඳින්නේ කුමණ නම් මනෝරාජ්‍යයන් තුළ වුවද, එම අරගලය එලෙසින්ම ගත් කල පවා, එය ඒ සියළු බන්ධනයන් බිඳ දැමීමට දරනු ලබන සම්පූර්ණයෙන්ම ධනපති ප්‍රජාතන්ත්‍රවාදී වූ, නිසැක වශයෙන්ම ප්‍රගතිශීලී වූ සහ ආර්ථික වශයෙන් අත්‍යාවශ්‍ය වූ ප්‍රයත්නයකි.

ඉඩම් ජනසතුව ධනපති පියවරක් වන නමුත්, පංති අරගලය සඳහා නිදහස සහ ධනපති සමාජය යටතේ, ධනපති නොවන සියළු බාධකයන්ගෙන් තොරව ඉඩම් බුත්ති විඳීමට අපේක්ෂා කළ හැකි උපරිම නිදහසත් එයින් ඇතිවේ. ඒ හැරත්, පෞද්ගලික ඉඩම් හිමිකම අවලංගු කිරීමක් වන ඉඩම් ජනසතුවෙන් පොදු වශයෙන් නිෂ්පාදන මාර්ග සියල්ලම පිළිබඳ හිමිකමට ඉතාමත් බලවත් පහරක් වැදෙනු ඇති හෙයින්, නිර්ධන පංතියේ



පක්ෂය එයට හැකි සෑම ආකාරයකින්ම එවැනි ප්‍රතිසංස්කරණයකට පහසුකම් සැලසිය යුතුය.

අනිත් අතට, රුසියාවේ පොහොසත් ගොවීහු, මීට බොහෝ ඉහතදීම ගොවි ධනපති පංතියක මූලිකාංගයන් පරිණාම කරගත්හ. ස්තලීපින් ප්‍රතිසංස්කරණයෙන් මෙම මූලිකාංගයන් නිසැක වශයෙන්ම ශක්තිමත් විය, වර්ධනය විය, බලවත් විය. එමෙන්ම ගම්බද ජනගහනයේ අනිත් ධ්‍රැවයෙහි වූ කෘෂිකාර්මික වේතන කම්කරුවන්, නිර්ධන පංතිකයන් හා නිර්ධන පංතියට සමීප අර්ධ නිර්ධන පංතික ගොවිජන සමූහයාද ශක්තියෙන් හා සංඛ්‍යාවෙන් වර්ධනය විය.

චතුකාර දේපල ක්‍රමය කඩා බිඳ දැමීම හා නැති කර දැමීම වඩාත් අධිෂ්ඨාන සහගත හා සසංගත වූ තරමට, රුසියාවේ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී ගොවිජන ප්‍රතිසංස්කරණය සසංගත වූ තරමට, පොහොසත් ගොවීන්ට (ගොවි ධනපති පංතියට) විරුද්ධව කෘෂිකාර්මික නිර්ධන පංතිය කරන පංති අරගලය වඩාත් බලවත් හා වේගවත් ලෙස විකාශ වනු ඇත.

ගම්බද නිර්ධන පංතිය හා එය සමගම, ගම්බද නිර්ධන පංතික සමූහයාද, තම මග පෙන්වීම අනුගමනය කරන සේ ඒකරාශී කරගැනීමට නාගරික නිර්ධන පංතිය සමත් වේද, එසේ නැතහොත්, මෙම ජනකාය ගුච්කොව් හා මිල්යුකොව් සමග, ධනපතියන් හා ඉඩම් හිමියන් සමග සන්ධානයක් දෙසට හා පොදු වශයෙන් ප්‍රතිවිප්ලවය දෙසට නැඹුරු වෙමින් සිටින ගොවි ධනපති පංතියේ නායකත්වය අනුගමනය කරන්නේද යන්න මත රුසියානු විප්ලවයේ ඉරණම සහ ප්‍රතිඵලය රැඳී පවතිනු ඇත. මෙම අදහසෙහි අමුත්තක් විය හැක්කේ යුරෝපයේ නැගී එන ළදරු විප්ලවය අපගේ රට කෙරෙහි ඍජු හා බලවත් බලයක් පෑවහොත් පමණකි.

මෙම පංති තත්වයත්, බලවේග තුලනයත් සැලකිල්ලට ගන්නා සාකච්ඡා සභාව පහත සඳහන් පරිදි තීරණය කරයි:

1) රුසියාවේ චතුකාර දේපල (රජ පවුලේ සහ පල්ලි හා කැබිනට් ඉඩම් ආදිය)[78] වහාම සහ සම්පූර්ණයෙන්ම රාජ්‍ය සන්තක කරනු සඳහා නිර්ධන පංතියේ පක්ෂය එහි මුළු ශක්තිය යොදා සටන් කරයි.

2) ගොවිජන නියෝජිත සෝවියට් සභාවලට, එනම් සංවිධානය වී සිටින ගොවි ජනතාව අතට හෝ, එසේ නැතහොත්, ඉඩම් හිමියන්ගෙන් සහ නිලධාරීන්ගෙන් සම්පූර්ණයෙන්ම නිදහස් ලෙස, සැබවින්ම ප්‍රජාතන්ත්‍රවාදී ආකාරයෙන් තෝරා පත් කරන ලද ප්‍රාදේශීය ස්වයං පාලන ආයතනවලට හෝ ඉඩම් සියල්ලම පවරනු සඳහා පක්ෂය බලවත් ලෙස හඬනගනු ඇත.

3) රටේ තිබෙන සියළුම ඉඩම් ජනසතු කරන ලෙස නිර්ධන පංතියේ පක්ෂය ඉල්ලයි; ජනසතු කිරීම යනුවෙන් මෙහි අදහස් කරන්නේ සියළුම

ඉඩම්වල හිමිකම් අයිතිය රජයට පැවරීම හා ඉඩම් පරිපාලනය කිරීමේ අයිතිය ප්‍රාදේශීය ප්‍රජාතන්ත්‍රවාදී ආයතනවලට පැවරීමය.

4) ''ඉඩම් හිමියන් සමග ස්වේච්ඡා එකඟත්වයක්'' ඇති කරගන්නා ලෙස ෂිංගර්යොව්ගේ කටින් කරවන ප්‍රකාශයන් හා තමන්ම සාමූහික වශයෙන් කරන ප්‍රකාශයන් යන දෙආකාරයෙන්ම ගොවි ජනතාවට බල කිරීමට උත්සාහ කරන, නැතහොත්, ඉඩම් හිමියන්ගේ අවශ්‍යතාවයන්ට ගැලපෙන ප්‍රතිසංස්කරණයක් ගොවි ජනයා මත පැටවීමට උත්සාහ කරන සහ ''අන්තනෝමතික ක්‍රියා'' සම්බන්ධයෙන් ගොවි ජනයාට දඬුවම් කිරීමට තර්ජනය කරන, එනම් ජනගහනයේ බහුතරයට විරුද්ධව, එහි සුළු පිරිසගේ (ඉඩම් හිමියන්ගේ හා ධනපතියන්ගේ) හිංසනය යෙදීමට තර්ජනය කරන තාවකාලික ආණ්ඩුවට විරුද්ධව එක් අතකින්ද, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස්වන තෙක් ඉඩම් සියල්ලම අත්පත් කර නොගන්නා ලෙස ගොවි ජනතාවට උපදෙස් දෙන නාරෝද්නික්වරුන් බහුතරයේ සහ මෙන්ෂෙවික් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සුළු ධනපති පංතික චපලත්වයට විරුද්ධව අනිත් අතින්ද, පක්ෂය අධිෂ්ඨාන සහගත අරගලයක් කළ යුතුය.

5) සංවිධානය වූ ආකාරයෙන් ඉඩම් අත්පත් කර ගන්නා ලෙසත්, දේපලට යම්තමින් හෝ අලාභ හානියක් විවට ඉඩ නොතබන ලෙසත්, නිෂ්පාදනය වැඩි කිරීමට පියවර ගන්නා ලෙසත් පක්ෂය ගොවි ජනතාවට උපදෙස් දෙයි.

6) ගොවිජන ප්‍රතිසංස්කරණ සාර්ථක වීමේ හා කල් පැවැත්මේ ඉඩකඩ බොහෝ දුරට ඇති වන්නේ මුළු රාජ්‍යයම ප්‍රජාතන්ත්‍රීය කළහොත් පමණකි; නැතහොත්, එක් අතකින් පොලිසිය, ස්ථිර යුද්ධ හමුදාව සහ වරප්‍රසාද ලත් නිලධාරි පෙළැන්තිය අහෝසි කළහොත් හා අනිත් අතින් ඉහළ සිට ක්‍රියාත්මක කරන පරිපාලනයෙන් සහ භාරකාරත්වයෙන් තොරව සම්පූර්ණයෙන් නිදහස්ව පවතින පුළුල් ප්‍රාදේශීය ස්වයංපාලන ක්‍රමයක් පවතින්නේ නම් පමණකි.

7) කෘෂිකාර්මික නිර්ධන පංතිය වෙනම හා ස්වාධීනව සංවිධානය කිරීමට වහාම සහ සෑම තන්හිම කටයුතුකළ යුතුය. කෘෂිකාර්මික ශ්‍රමකරු නියෝජිත සෝවියට් සභා (සහ එමෙන්ම වෙනම පිහිටුවන අර්ධ නිර්ධන පංතික ගොවිජන නියෝජිත සෝවියට් සභා) ස්වරූපයෙන් සහ සියළුම ප්‍රාදේශීය සහ නාගරික ආණ්ඩු මණ්ඩල තුළ පවතින නිර්ධන පංතික කණ්ඩායම් සහ කාණ්ඩ ස්වරූපයෙන්ද, යන දෙආකාරයෙන්ම, එම පංතිය සංවිධාන කළ යුතුය.

8) සමාජයම ස්වභාවයේ මෙහෙයවීමක් අනුව සියළුම ඉඩම් වගා කිරීම සඳහා උපයෝගි කරගනු පිණිස සත්ව සම්පත හා කෘෂිකාර්මික



උපකරණ ගොවි කාරක සභා තුළ සංවිධානය වූ ගොවීන්ට බෙදා දීමෙන් රුසියාවේ ප්‍රදේශ ගණනාවක ගොවි කාරක සභා දක්වන ක්‍රියාරම්භකත්වයට පක්ෂයේ සහයෝගය දැක්විය යුතුය.

9) සෑම වතුකාර දේපලක්ම, කෘෂිකාර්මික විශේෂඥන්ගේ මග පෙන්වීම සහ හොඳම ශිල්ප ක්‍රම අනුව, කෘෂිකාර්මික ශ්‍රමකරු නියෝජිත සෝවියට් සභා විසින් පවත්වා ගෙන යනු ලබන, සැලකිය යුතු ප්‍රමාණයේ ආදර්ශ ගොවිපළක් බවට පරිවර්තනය කිරීමට උත්සාහ ගන්නා ලෙස නිර්ධන පංති පක්ෂය ගම්බද නිර්ධන පංතිකයන්ට හා අර්ධ නිර්ධන පංතිකයන්ට උපදෙස් දිය යුතුය.

''ප්‍රාව්ද'' අංක 45, 1917 මැයි 13 (අප්‍රේල් 30).

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 425-428.

## 10

## කම්කරු සහ සොල්දදු සෝවියට් සභා ගැන සෝජනාව

රුසියාවේ විවිධ පළාත්වල ඇති කම්කරු සහ සොල්දදු නියෝජිත සෝවියට් සභාවල වැඩ කරන සහෝදරවරුන්ගේ වාර්තා හා ඔවුන් එවූ ලියවිලි සාකච්ඡා කළ සාකච්ඡා සභාව මෙසේ තීරණය කරයි:

පළාත් බද ප්‍රදේශ බොහෝ ගණනක විප්ලවය පහත සඳහන් පරිදි ඉදිරියට යයි: ස්වකීය ක්‍රියාරම්භකත්වය අනුව ක්‍රියාකරන නිර්ධන පංතිය සහ ගොවි ජනතාව සෝවියට් සභා පිහිටුවන අතර පැරණි බලධාරීන් අස් කරති. නිර්ධන පංතික සහ ගොවි ජන ජනතා මිලීෂියා හමුදාවක් පිහිටුවනු ලැබේ. සියළුම ඉඩම් ගොවි ජනයාට පවරා දෙනු ලැබේ. පැක්ටරිවල කම්කරු පාලනය ඇති කර, පැය අටේ වැඩ දිනය ආරම්භ කර, වැටුප් වැඩි කරනු ලැබේ. නිෂ්පාදනය පවත්වා ගන්නා අතර ආහාර බෙදා හැරීම ආදිය කම්කරුවන් විසින් පාලනය කරනු ලැබේ.

පළාත්වල විප්ලවය ගැඹුරෙන් හා පරිමාණයෙන් වැඩිවෙමින් වර්ධනය වීම යනු එක් අතකින් සියළු බලය සෝවියට් සභා වලට පැවරීම සඳහා සහ නිෂ්පාදනයේ පාලනය කම්කරුවන්ට සහ ගොවිජනයාට භාර කිරීම සඳහා ව්‍යාපාරයක වර්ධනයකි. අනිත් අතින්, එය, සෝවියට් සභාවලට හෝ එසේ නැතහොත්, ජාතියේ බහුතරයෙහි කැමැත්ත එක එල්ලේ ප්‍රකාශ කරන (ප්‍රාදේශීය ස්වයං පාලන ආයතන, ආණ්ඩු ක්‍රම සම්පාදක

මණ්ඩලය ආදිය වැනි) වෙනත් ආයතනවලට සියළු රාජ්‍ය බලය පවරන විප්ලවයේ දෙවැනි අදියර සඳහා ජාතික පරිමාණයකින් බලවේග සූදනම් කෙරෙන බවට සහතිකයක්ද වන්නේය.

ප්‍රධාන නගරවල හා තවත් විශාල නගර කීපයක රාජ්‍ය බලය සෝ-වියට් සභාවලට පැවරීම විශේෂයෙන් දුෂ්කර කර්තව්‍යයකි. එනිසා, ඒ සඳහා නිර්ධන පංතියේ බලවේගයන් විශේෂයෙන්ම දීර්ඝ කාලයක් තිස්සේ සූදනම් කිරීම අවශ්‍ය වන්නේය. ධනපති පංතියේ විශාලම බලවේගයන් ඒකරාශී කර තිබෙන්නේත්, විප්ලවවාදී පොදු ජනතාවගේ ක්‍රියාරම්භකත්-වයට බාධාකාරී වන හා ඔවුන්ගේ ස්වාධීනත්වය දුර්වල කරන ප්‍රතිපත්ති-යක් වන, ධනපති පංතිය සමග සම්මුති ඇති කර ගැනීමේ ප්‍රතිපත්තිය වඩාත් බලවත් ලෙස දක්නට ලැබෙන්නේත්, මෙම නගරවලය. පළාත් හා සම්බන්ධයෙන් මෙම සෝවියට් සභා ඉටුකරන නායක කාර්ය කොටස ගැන සලකන කල මෙය විශේෂයෙන්ම අන්තරාදයක තත්වයකි.

එනිසා එක් අතකින්, සඳහන් කරන ලද පරිදි ප්‍රාදේශීය වශයෙන් විප්ලවය විකාශ කිරීමට හැකි සෑම ආකාරයකින්ම ආධාර කරන අතර, අනිත් අතින්, නිර්ධන පංති ක්‍රියා මාර්ගයේ ජයග්‍රහණය සඳහා සෝවියට් සභා තුළ (නිලතලවලට නව තෝරා පත් කිරීම් සඳහා කරන ප්‍රචාරයේ ස්වරූපයෙන්) ක්‍රමාණුකූල ලෙස අරගලයක් කිරීම නිර්ධන පංති පක්ෂයේ කර්තව්‍යය වේ. පොදු කම්කරු සහ සොල්දදු සමූහයා තමන්ගේ පැත්තට දිනා ගැනීමට පක්ෂය එහි සියළු ධෛර්යය යෙදිය යුතුය. එය, නිර්ධන පංතියේ ප්‍රතිපත්තිය සහ සුළු ධනපති පංතියේ ප්‍රතිපත්තිය අතරද, ජාත්‍යන්-තරවාදී ප්‍රතිපත්තිය හා ආරක්ෂාවාදී ප්‍රතිපත්තිය අතරද, විප්ලවවාදී ප්‍රතිපත්-තිය හා අවස්ථාවාදී ප්‍රතිපත්තිය අතරද, වෙනස රේඛාවකින් මෙන් සලකුණු කළ යුතුය. කම්කරුවන් සංවිධානය කිරීම හා ඔවුන් ආයුධ සන්නද්ධ කිරීමත්, විප්ලවයේ ඊළඟ අවධිය සඳහා ඔවුන්ගේ බලවේගයන් සූදනම් කිරීමත් පිණිස පක්ෂය කටයුතු කළ යුතුය.

කම්කරු සහ සොල්දදු නියෝජිත සෝවියට් සභා තුළ බහුපාර්ශවීය ලෙස ක්‍රියාකාරී වීමත්,සෝවියට් සභා සංඛ්‍යාව වැඩි කිරීමත්,සෝවියට් සභා තුළ සිටින අප පක්ෂයේ නිර්ධන පංතික ජාත්‍යන්තරවාදී කාණ්ඩායම් එකට පැස්සීමත් අවශ්‍ය බව සාකච්ඡා සභාව නැවතත් ප්‍රකාශ කරයි.

''ප්‍රාව්දා'' අංක 46, 1917 මැයි 15
(2)

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 430-431.



## 11

## ජාතික ප්‍රශ්නය ගැන කළ කථාව
## අප්‍රියෙල් 29 (මැයි 12)

### රැස්වීමේ වාර්තාවෙනි

අපගේ පක්ෂය එහි වැඩ පිළිවෙළ අනුමත කළ වර්ෂය වන 1903 ආරම්භයේ පටන් අපට පෝලන්ත සහෝදරවරුන්ගේ බලවත් විරුද්ධත්-වයට මුහුණ පෑමට සිදුවිය. ඔබ දෙවැනි සම්මේලනයේ රැස්වීම් වාර්තාව අධ්‍යයනය කරන්නෙහි නම්, ඔවුන් අද පාවිච්චි කරන තර්කම එදද පාවිච්චි කළ බවත්, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ස්වාධිපත්‍යය සඳහා ජාතීන්-ගේ අයිතිය පිළි ගැනීමට අකැමති නිසා ඔවුන් එම සම්මේලනයෙන් ඉවත්ව ගිය බවත් ඔබට පෙනෙනු ඇත. එද පටන් මේ දක්වාම අපට මෙම ප්‍රශ්නය සමග ගැටීමට සිදුවිය. 1903 වන විට අධිරාජ්‍යවාදය පැවති නමුත් පෝ-ලන්ත සමාජවාදීහු ඔවුන්ගේ තර්කවල ඒ ගැන සඳහනක් නොකළහ. ඔවුහු එවකට කරමින් සිටි විස්මය ජනක හා පුදුම සහගත වරදම දැනුදු කරති. අපගේ පක්ෂයේ ස්ථාවරය ජාත්‍යෝන්මාදවාදීන්ගේ ස්ථාවරය සමග එක මට්ටමක තැබීමට මෙම මිනිසුන්ට උවමනා වී තිබේ.

දීර්ඝ කාලයක් තිස්සේ රුසියාව විසින් කෙරෙන පීඩනයේ ප්‍රතිඵලයක් වශයෙන් පෝලන්තයේ ප්‍රතිපත්තිය සම්පූර්ණයෙන්ම ජාතිකවාදී එකක් වී තිබේ. ඒ අනුව මුළු පෝලන්ත ජාතියම, එකම අදසහකින්, එනම්, මොස්කව් නුවරුන්ගෙන් පළි ගැනීමේ අදහසෙන් වියරු වැටී ඇත. සාර්ගේ අතෙහි සිටිමින්, පෝලන්ත නිදහස ඝාතනය කළ අළුගෝසුවා වශයෙන් සේවය කළ රුසියානු ජනතාව තරම් පෝලන්ත ජාතිකයින් පීඩනයට පත් කළ වෙනත් කිසිවෙක් නැත. පෝලන්ත ජාතිය තුළ තරම්, රුසියාව කෙරෙහි දක්වන ගැඹුරු වෛරයක් ඇති වෙනත් ජාතියක් නො-මැත. පෝලන්ත ජාතිකයින් තරම් දැඩි ලෙස රුසියාව අප්‍රිය කරන තවත් ජාතියක් නොමැත. මෙහි ප්‍රතිඵලයක් වශයෙන් අප හමුවේ ඇත්තේ අරුම පුදුම දෙයකි. පෝලන්ත ධනපති පංතිය නිසා, පෝලන්ත සමාජ-වාදී ව්‍යාපාරයට බාධාවක්වී තිබේ. පෝලන්තය නිදහස් වන්නේ නම් මුළු ලෝකයම යකාට ගියත් කමක් නැත. නමුත් මේ ආකාරයෙන් ප්‍රශ්නය ඉදිරිපත් කිරීම ජාත්‍යන්තරවාදය විහිළුවක් බවට පත් කිරීමකි. දැන් පෝලන්තය හිංසනයට ගොදුරු රටක් බව සැබවි. එහෙත්, රුසියාව විසින් පෝල-න්තය නිදහස් කරගනු ලැබෙතැයි යනු පෝලන්ත ජාතිකවාදීන්ට බලාපො-රොත්තු විය නොහැකිය. එසේ කිරීම ජාත්‍යන්තරවාදයට ද්‍රෝහිවීමකි.

පෝලන්ත ජාතිකවාදීන් සිය අදහස් කොතරම් දුරට පෝලන්ත ජනතාවට කවා තිබේද යත්, පෝලන්තය හා සම්බන්ධයෙන් පවතින තත්වය එසේය.

ජාත්‍යන්තරවාදයේ සටන් පාඨය ඉදිරිපත් කිරීමෙන්ද, සියළුම රටවල නිර්ධන පංතියේ සහෝදරාත්මක සමගිය වැදගත් කම අතින් තමන්ට අන් සියල්ලට වඩා ශ්‍රේෂ්ඨ බව හා එම නිසා පෝලන්තය නිදහස් කර ගැනීම සඳහා යුද්ධයට නොයන බව ප්‍රකාශ කිරීමෙන්ද, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සහෝදරවරු මහා ඓතිහාසික මෙහෙයක් ඉටු කර ඇත. මෙය ඔවුන්ගේ ගෞරවයට හේතු වේ. අප නිතරම මේ අය පමණක් පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ලෙසට සැලකුවේ එනිසාය. අන් අය දේශප්‍රේමීන් වෙති. පෝලන්ත ප්ලෙහානව්ලා වෙති. නමුත් මෙම විශේෂතාවය, එනම්, සමාජවාදය ආරක්ෂා කිරීම පිණිස උමතු හා අශෝභන ජාතිකවාදයට විරුද්ධව අරගල කිරීමට ජනතාවට සිදුවීම හේතුකොට ගෙන ඇති වී තිබෙන්නේ අමුතුම තත්වයකි: පෝලන්තයේ නිදහස පිළිබඳ අදහස, වෙන් වී ඉවත්වීමට ඇගේ ඇති අයිතිය පිළිබඳ අදහස, අත්හැර දැමිය යුතු යයි කියමින් සහෝදරවරු අප වෙත එති.

වෙනත් කිසිම ජනතාවකට වඩා ජාතීන් පීඩනයට පත් කරමින් සිටි මහ රුසියානුන් වන අපි, පෝලන්තයට, උක්‍රේනියාවට හෝ පින්ලන්තයට වෙන් වී ඉවත් වීමේ අයිතිය දීම කුමක් නිසා ප්‍රතික්ෂේප කරමුද? අප ජාත්‍යෝන්මාදවාදීන් වුවහොත් පෝලන්තයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ දුෂ්කර තත්වය මඳක් ලිහිල් විය හැකි හෙයින් අපට ජාත්‍යෝන්මාදවාදී වන ලෙස කියනු ලැබේ. පෝලන්ත ජනතාව සටන් කිරීමෙහි සමත් රාජ්‍යයන් දෙකක් අතර ජීවත් වන හෙයින්, අපි පෝලන්තය නිදහස් කිරීමට කටයුතු කරන බවට ව්‍යාජ පෙනුමක් නොදෙන්නෙමු. සමාජවාදී පක්ෂයක ජාත්‍යෝන්මාදවාදීන්ට තැනක් නොමැති නිසා, නියම ප්‍රජාතන්ත්‍රවාදීන් වන්නේ පෝලන්ත ජනතාව නිදහස් විය යුතු බව කියන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් පමණක් බව පෝලන්ත කම්කරුවන්ට කියනු වෙනුවට, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් කරන්නේ, හුදෙක් රුසියානු කම්කරු පංතිය සමග සමගිවීම වාසිදායක බව පෙනෙන නිසාම, තමන් පෝලන්තය වෙන් වී ඉවත්වීමට විරුද්ධ යයි කියමින් තර්ක කිරීමය. එසේ කිරීමට සම්පූර්ණ අයිතිය ඔවුන්ට ඇත. නමුත් ජාත්‍යන්තරවාදය ශක්තිමත් කිරීමට එකම වචන පුනරුච්චාරණය කිරීම අවශ්‍ය නොවන බව මොවුහු වටහා නොගනිති. මෙහිදී කළ යුතුව ඇත්තේ, පීඩිත ජාතීන්ට ඇති වෙන් වී ඉවත් වීමේ අයිතිය රුසියාවේදීද, ඔවුන්ට එක්සත් වීමට ඇති අයිතිය පෝලන්තයේදීද අවධාරණය කිරීමය. එක්සත් වීමේ නිදහස යන්නෙන් ඉවත් වී ඉවත් වීමේ නිදහස අදහස් වේ. රුසියානුන් වන අපි වෙන් වී වෙත් වීමේ නිදහස අවධාරණය කළ යුත්තෙමු. ඒ අතර පෝලන්ත ජාතිකයන් එක්සත් වීමේ නිදහස අවධාරණය කළ යුතුය.



මාක්ස්වාදය සම්පූර්ණයෙන්ම අත්හැර දැමීමක් වන විතණ්ඩවාදී ප්‍රකාශ ගණනාවක් මෙහිදී අපට දක්නට ලැබේ. ජ්‍යතකොව් සහෝදරයා ගත් ස්ථාවරය, රෝසා ලුක්සෙම්බුර්ග් ... (ඕලන්දය නිදර්ශනයකි)...* නැවත ප්‍රකාශ කිරීමකි. ජ්‍යතකොව් සහෝදරයා තර්ක කරන්නේ සහ තමන්ගේම තර්ක බිඳ හෙලන්නේ එසේය. එසේ කියන්නේ ඔහු න්‍යායික වශයෙන් වෙන් වී ඉවත් වීමේ නිදහස ප්‍රතික්ෂේප කරන නමුත්, ඒ අතරම, වෙන් වී ඉවත් වීමේ නිදහසට විරුද්ධවන ඕනෑම කෙනෙක් සමාජවාදියෙක් නොවන බව කියන හෙයිනි. ජ්‍යතකොව් සහෝදරයා සම්පූර්ණයෙන්ම හිස අවුල් කර ගත් ස්වභාවයේ කථා මෙහිදී කියා ඇත. බටහිර යුරෝපයේ රටවල් බොහොමයක්, ඔවුන්ගේ ජාතික ප්‍රශ්න මිට බොහෝ ඉහතදී විසඳා ගත්හ. ජාතික ප්‍රශ්න විසඳා ඇතැයි කියන විට ඉන් සඳහන් කෙරෙන්නේ බටහිර යුරෝපය ගැනය. එසේ වුවත් ජ්‍යතකොව් සහෝදරයා එය නොගැලපෙන තැනට, එනම්, නැගෙනහිර යුරෝපය සම්බන්ධයෙන් යොදයි. ඒ අනුව අප වැටෙන්නේ විකට තත්වයකටය.

මෙයින් ඇති වන අවුල ගැන කල්පනා කර බලන්න! පින්ලන්තය අපගේ යාබද රටය. පින්ලන්තය සම්බන්ධයෙන් නිශ්චිත පිළිතුරක් සොයා ගත නොහැකිව ජ්‍යතකොව් සියල්ල පටලවා ගනී. පින්ලන්තය වෙන් වීමේ ව්‍යාපාරය එහි වර්ධනය වෙමින් පවතින බව ඊයේ ''රබෝචයා ගසියෙත'' පත්‍රයෙන් ඔබට කියවන්නට ලැබින. කැඩෙට්වරු එම රටට සම්පූර්ණ ස්වතන්ත්‍රතාවය දීම ප්‍රතික්ෂේප කරන නිසා, එහි වෙන් වීමේ ව්‍යාපාරය වර්ධනය වෙමින් පවතින බව එහි සිට පැමිණෙන පින්ලන්ත ජාතිකයින් අපට කියති. එහි ලඟදීම අර්බුදයක් ඇතිවන්නට යන්නේය. අග්‍රාණ්ඩුකාර රොදිචෙව් ගැන අප්‍රසාදය තදින් පැතිරී තිබේ. නමුත් ආණ්ඩුක්‍රම සම්පාදක මණ්ඩලය රැස්වූ පසු පින්ලන්තය සහ රුසියාව අතර ගිවිසුමක් ඇති කරගත හැකි හෙයින් පින්ලන්ත ජාතිකයින් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය එන තෙක් බලා සිටිය යුතු යයි ''රබෝචයා ගසියෙත'' ලියයි. ගිවිසුමක් යනුවෙන් ඔවුන් අදහස් කරන්නේ කුමක්ද? තමන්ගේ ඉරණම තමන්ට උවමනා ආකාරයෙන් තීරණය කර ගැනීමේ අයිතිය තමන්ට ඇති බවත්, එය අයිතිය ප්‍රතික්ෂේප කරන ඕනෑම මහ රුසියානු ජාතිකයෙක් ජාත්‍යෝන්මාදවාදියෙක් බවත්, පින්ලන්ත ජාතිකයන් ප්‍රකාශ කළ යුතුය. පින්ලන්ත කම්කරුවාට අපි මෙසේ කීවෙමු නම්, එය වෙනත් කරුණකි: ඔබට වඩාත්ම හොඳ කුමක්ද යන්න තීරණය කරගන්න...*

---

* වාර්තාවේ හිස් තැනකි. — සංස්කාරක

* රැස්වීමේ වාර්තාවෙහි හිස් තැනකි. — සංස්කාරක

මෙයින් සමාජවාදය සඳහා සටන් පාඨයක් නොසැපයෙන බව කියමින් ප්‍යතකොව් සහෝදරයා නිකම්ම අපගේ සටන් පාඨය ප්‍රතික්ෂේප කරන නමුත්, ඔහුද සුදුසු සටන් පාඨයක් ඉදිරිපත් නොකරන්නේය. ''දේශ සීමා භංගවේවා'' යන සටන් පාඨය යටතේ සමාජවාදී විප්ලව ක්‍රමය යන්න මහා අවුලකි. මෙම අදහස ''අධිරාජ්‍යවාදී ආර්ථිකවාදය''* ලෙසට හඳුන්වමින් මා ලියූ ලිපිය අපට පළ කිරීමට නොහැකි විය. ''දේශ සීමා භංග වේවා'' යන සටන් පාඨය යටතේ සමාජවාදී විප්ලව ''ක්‍රමය'' යන්නෙහි අර්ථය කුමක්ද? රාජ්‍යය අවශ්‍ය බව අපි කියමු. එසේම රාජ්‍යය සඳහා දේශ සීමා තිබීම අවශ්‍ය වේ. රාජ්‍යය ධනපති ආණ්ඩුවක් සහිත වන්නට පිළිවන. නමුත් අපට සෝවියට් සභා අවශ්‍යය. නමුත් සෝවියට් සභා වුවද දේශ සීමා පිළිබඳ ප්‍රශ්නයට මුහුණ පාන්නේය. ''දේශ සීමා භංග වේවා'' යන්නෙහි අර්ථය කුමක්ද? එය අරාජික භාවයේ ආරම්භය ය... ''දේශ සීමා භංග වේවා'' යන සටන් පාඨය යටතේ සමාජවාදී විප්ලව ''ක්‍රමය'' හුදෙක්ම අවුලකි. සමාජවාදී විප්ලවයට සුදුසු කාලය පැමිණි විට, එය අන්තිමේදී ඇතිවූ විට, එය වෙනත් රටවලට පැතිර යනු ඇත. අපි එයට උදව් දෙන්නෙමු. නමුත් ඒ කුමණ ආකාරයෙන්ද යන්න අපි නොදන්නෙමු. ''සමාජවාදී විප්ලවු ක්‍රමය'' යන්න හුදෙක්ම අර්ථ විරහිත වචන මාලාවකි. ධනපති විප්ලවය නොවිසඳා ඉතිරි කළ ප්‍රශ්න බේරුම් කිරීම වෙනුවෙන් අපි පෙනී සිටින්නෙමු. වෙන් වීමේ ව්‍යාපාරය සම්බන්ධයෙන් අප දක්වන්නේ උදාසීන, මධ්‍යස්ථ ආකල්පයකි. පින්ලන්තය, පෝලන්තය හෝ උක්‍රේනියාව රුසියාවෙන් වෙන්වී ඉවත් වුවහොත් එයින් නරකක් සිදු නොවේ. එහි ඇති වරද කුමක්ද? එහි වරදක් ඇතැයි කියන ඕනෑම කෙනෙක් ජාත්‍යෝන්මාදවාදියෙකි. සාර් නිකොලායිගේ ප්‍රතිපත්තිය තවදුරටත් ගෙන යනු ඇත්තේ උමතු අයෙක් පමණකි. නෝර්වේ ස්වීඩනයෙන් වෙන්වී ඉවත් නොවූයේද? පළමු වැනි අලෙක්සාන්දර් හා නැපෝලියන් වරක් ජාතීන් හුවමාරු කර ගත්හ. සාර්වරු වරක් පෝලන්තය විකුණුහ. අපි සාර්වරුන්ගේ මෙම ප්‍රතිපත්තිය තවදුරටත් ගෙන යන්නෙමුද? මෙය නම් ජාත්‍යන්තරවාදයේ උපක්‍රම අත්හැර දැමීම් සහ ඉතාමත් නරක ජාත්‍යෝන්මාදවාදය ය. පින්ලන්තය වෙන්වී ඉවත් වීමේ ඇති වරද කුමක්ද? නෝර්වේ ස්වීඩනයෙන් වෙන්වී ඉවත් වීමෙන් පසු එම ජනතාවන් දෙක අතර, එම රටවල නිර්ධන පංතිය අතර, අන්‍යෝන්‍ය විශ්වාසය වැඩි විය. ස්වීඩන ඉඩම් හිමියන්ට යුද්ධයක් ආරම්භ කිරීමට උවමනා වූ නමුත්, ස්වීඩන කම්කරුවෝ එවැනි යුද්ධයකට සම්බන්ධ වීම ප්‍රතික්ෂේප කළහ.

දැන් පින්ලන්ත ජාතිකයන්ට අවශ්‍ය වී තිබෙන්නේ අන් කිසිවක්

---

* සිංහලෙන් පළවූ 4 වැනි වෙළුමෙහි පිටු 000000 බලන්න.



නොව ස්වතන්ත්‍රය ය. අපි පින්ලන්තයට සම්පූර්ණයෙන්ම නිදහස ලැබීම ගැන පක්ෂ වෙමු. එසේ වූ කල රුසියානු ප්‍රජාතන්ත්‍රවාදය කෙරෙහි වැඩි විශ්වාසයක් ඇති වී පින්ලන්ත ජාතිකයන් වෙන් නොවනු ඇත. ස්වතන්ත්‍රතාවය ගැන කේවෙල් කිරීමට රොදිචෙව් මහතා පින්ලන්තයට යන අතර, අපගේ පින්ලන්ත සහෝදරවරු මෙහි පැමිණ අපට ස්වතන්ත්‍රතාවය අවශ්‍ය යයි කියති. නමුත් ඔවුන්ට පිළිතුරු වශයෙන් ලැබෙන්නේ වෙඩි මුරයක් බඳු ''ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය එන තෙක් සිටිනු'' යන්නය. නමුත් අපි මෙසේ කියමු: ''පින්ලන්තයට නිදහස දීම ප්‍රතික්ෂේප කරන ඕනෑම රුසියානු සමාජවාදියෙක් ජාත්‍යෝන්මාදවාදියෙක් වේ''.

දේශ සීමා නියම කෙරෙන්නේ ජනතාවගේ කැමැත්ත අනුව බව අපි කියමු. රුසියාව, ඔබ කූර්ලන්තය සඳහා සටන් නොකළ යුතුය! ජර්මනිය කූර්ලන්තයෙන් ඔබේ හමුදා ඉවත් කරන්න! අප වෙන්වී ඉවත් වීමේ ප්‍රශ්නය විසඳන්නේ එසේය. ජනතාවන්ගේ නිදහස ලබා ගැනීමෙන් ඔවුන් වැළැක්වීම නිර්ධන පංතිය නොකළ යුතු දෙයක් හෙයින්, බලහත්කාරය පාවිච්චි කිරීම එයට කළ නොහැකිය. ''දේශ සීමා භංග වේවා'' යන සටන් පාඨය නැවතත් නිවැරදි වන්නේ සමාජවාදී විප්ලවය ක්‍රමයක් නොව, යථාර්ථයක් වූ පසු පමණක්ය. එවිට අපි මෙසේ කියන්නෙමු: සහෝදරවරුනි, අප වෙත එන්න...

යුද්ධය පිළිබඳ ප්‍රශ්නය සම්පූර්ණයෙන්ම වෙනත් දෙයකි. අවශ්‍යතාවයක් ඇති වුවහොත් අපි විප්ලවවාදී යුද්ධයක් ප්‍රතික්ෂේප නොකරමු. අපි ජාතිකවාදීන් නොවෙමු... මිල්යුකොව් මෙහි වාඩිවී සිටිමින්, පෝලන්ත ජනතාව සමග නින්දා සහගත ලෙස කේවෙල් කිරීමට රොදිචෙව් යවන විට රුසියානු ජනතාවට මෙසේ කියන්නෙමු: ඔබ පින්ලන්තයට බල නොකළ යුතුය. වෙනත් ජාතීන් පීඩාවට පත් කරන කිසිම ජාතියකට නිදහස්ව සිටිය නොහැකිය.[79] බෝර්ග්බෙර්ග් ගැන යෝජනාවෙහි[80] අපි මෙසේ කියා ඇත්තෙමු: ඔබගේ යුද්ධ හමුදා ඉවත් කරගෙන, ප්‍රශ්නය විසඳා ගැනීමට එම ජාතියට ඉඩ දෙන්න. නමුත් හෙට සෝවියට් සභා බලය අත්පත් කර ගතහොත්, එය ''සමාජවාදී විප්ලව ක්‍රමය'' ක් නොවන අතර, එවිට අපි මෙසේ කියන්නෙමු: ජර්මනිය, ඔබේ හමුදා පෝලන්තයෙන් ඉවත් කරගන්න; රුසියාව, ඔබේ හමුදා ආර්මේනියාවෙන් ඉවත් කර ගන්න. අපි වෙනත් දෙයක් කරන්නෙමු නම්, අපි ජනතාව රවටන්නමෝ වෙමු.

තම පීඩිත පෝලන්තයෙහි සෑම කෙනෙක්ම ජාත්‍යෝන්මාදවාදියෙකැයි ජෙර්ෂින්ස්කි සහෝදරයා කියයි. නමුත් එකම පෝලන්ත ජාතිකයෙක්වත් පින්ලන්තය හෝ උක්‍රේනියාව ගැන වචනයනවත් නොකියන්නේ ඇයි? අප 1903 පටන් මේ දක්වා මේ ගැන බොහෝ සෙයින් තර්ක විතර්ක කර ඇති හෙයින් ඒ ගැන කථා කිරීම අපහසු වන තත්වයක් මතු

වේ. ඔබ කැමැත්තක් කරන්න.... මෙම අදහස නොපිළිගන්නා ඕනෑම කෙනෙක් රටවල් අල්ලා ගන්නෙකි, ජාතෝන්මාදවාදියෙකි. අපි සියළුම ජාතීන්ගේ සහෝදර සමගියකට කැමැත්තෙමු. උක්‍රේනියානු සමූහාණ්ඩුවකුත්, රුසියානු සමූහාණ්ඩුවකුත් තිබේ නම් ඒ දෙක අතර වඩාත් සමීප සම්බන්ධයකුත්, වැඩි විශ්වාසයකුත්, පවතිනු ඇත. අපට සෝවියට් සමූහාණ්ඩුවක් තිබෙන බව උක්‍රේනියානුන්ට පෙනී ගියහොත් ඔවුන් වෙන් වී ඉවත් නොවනු ඇත. නමුත් අපට ඇත්තේ මිල්යුකොව් සමූහාණ්ඩුවක් නම් ඔවුන් වෙන්වී ඉවත් වනු ඇත. ජ්‍යතකොව් සහෝදරයා ඔහුගේම මතයට විරුද්ධව යමින්, දේශ සීමා තුළ ජාතීන් බලෙන් රඳවා ගෙන සිටීමට තමා විරුද්ධ යයි කී විට, ඔහු ඇත්ත වශයෙන්ම ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය පිළිගත්තේය. හීවා හි ගොවිජනයා හීවාහි ඛාන් යටතේ වෙසෙනු දැකීමට අපි සැබවින්ම නොකැමැත්තෙමු. අපි අපගේ විප්ලවය විකාශ කිරීමෙන් පීඩිත ජනතාවන් කෙරෙහි බලපාන්නෙමු. පීඩිත ජනතාවන් අතර ප්‍රචාරක කටයුතු කළ යුත්තේ මෙම අදහස අනුව පමණකි.

නිදහස සඳහා පින්ලන්තයේ සහ උක්‍රේනියාවේ අයිතිය නොපිළිගන්නා ඕනෑම රුසියානු සමාජවාදියෙක් ජාතෝන්මාදවාදියෙකුගේ තත්වයට පහත වැටෙනු ඇත. එවිට, තමන් නිවැරදි බව පෙන්වීමට, විතණ්ඩවාදී ප්‍රකාශ හෝ ''ක්‍රමය'' ගැන සඳහන් කිරීම හෝ ඔහුට ප්‍රයෝජනවත් නොවනු ඇත.

ප්‍රථමයෙන් පළ කරන ලද්දේ එන්. ලෙනින් (උල්‍යානොව්) කෘති, XIV වැනි වෙළුමේ දෙවැනි කොටසෙහිය.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 432-437.

## 12

## ජාතික ප්‍රශ්නය ගැන යෝජනාව

ස්වකීය පංති වරප්‍රසාද ආරක්ෂා කර ගැනීම සහ විවිධ ජාතීන්ට අයත් කම්කරුවන් අතර අසමගිය ඇති කිරීම සඳහා, ඉඩම් හිමියෝ, ධනපතියෝ සහ සුළු ධනපතියෝ ඒකාධිපත්‍යයෙන් සහ රාජාණ්ඩුවෙන් උරුම කොට ලත් ජාතික පීඩනයේ ප්‍රතිපත්තිය පවත්වා ගෙන යති. වඩා දුර්වල ජාතීන් යටත් කිරීමේ ප්‍රවණතාවය වැඩි කරන නවීන අධිරාජ්‍යවාදය, ජාතික පීඩනය උත්සන්න කරන නව සාධකයකි.



ධනපති සමාජ ක්‍රමය යටතේ ජාතික පීඩනය ඉවත් කිරීම සාර්ථක වශයෙන් කිරීමේ කිසියම් හෝ හැකියාවක් ඇතොත්, ඒ සසංගත ලෙස ප්‍රජාතන්ත්‍රවාදී වූ ස්මූහාණ්ඩු ක්‍රමයක් හා සියළුම ජාතීන් හා භාෂා අතර සම්පූර්ණ සමානතාවය සහතික කරන රාජ්‍ය පාලනයක් යටතේ පමණකි.

නිදහස් ලෙස වෙන්වී ඉවත් වීම සහ ස්වාධීන රාජ්‍යයන් පිහිටුවා ගැනීම සඳහා රුසියාවේ කොටසක් වන සියළුම ජාතීන්ට ඇති අයිතිය පිළිගත යුතු වන්නේය. ඔවුන්ට මෙම අයිතිය දීම ප්‍රතික්ෂේප කිරීම හෝ, එම අයිතිය ප්‍රායෝගික වශයෙන් ක්‍රියාත්මක වීම සහතික කරනුවස් පියවර ගැනීමට අසමත් වීම හෝ රටවල් යටත් කිරීමේ හා අල්ලා ගැනීමේ ප්‍රතිපත්තියකට සහයෝගය දීමට සමාන වේ. විවිධ ජාතීන්ට අයත් කම්කරුවන් අතර සම්පූර්ණ සමගිය ඇතිවීම සහතික කළ හැක්කේත්, සැබවින්ම ප්‍රජාතන්ත්‍රවාදී වූ ක්‍රියා මාර්ගයක් අනුව ජාතීන් එකිනෙකට ආසන්න වන සේ ඒවා අතර සමීපතාවයක් ඇති කළ හැක්කේත්, වෙන්වී ඉවත් වීම සඳහා ජාතීන්ට ඇති අයිතිය නිර්ධන පංතිය විසින් පිළිගනු ලැබීමෙන් පමණකි.

නිදහස් ලෙස වෙන්වී ඉවත් වීමේ අයිතිය ප්‍රතික්ෂේප කිරීම එක එල්ලේම සාර්වාදයේ ප්‍රතිපත්තිය තවදුරටත් පවත්වාගෙන යාමකට තුඩු දෙන බව, මෙම වර්තමානයේ පින්ලන්තය හා රුසියානු තාවකාලික ආණ්ඩුව අතර ඇතිවී තිබෙන සට්ටනයෙන් සිත් කාවදින ලෙස පැහැදිලි වේ.

නිදහස් ලෙස වෙන්වී ඉවත් වීම සඳහා ජාතීන්ගේ අයිතියත්, කිසියම් නියමිත ජාතියක්, කිසියම් නියමිත අවස්ථාවක වෙන්වී ඉවත්ව යාමේ ඥනවන්තකමත්, යන දෙක එකක් සේ පටලවා නොගත යුතුය. මින් පසු කී ප්‍රශ්නය මතුවන එක් එක් අවස්ථාවේදී, සමස්තයක් වශයෙන් සමාජ සංවර්ධනයේ අවශ්‍යතාවයන් හා සමාජවාදය සඳහා නිර්ධන පංතිය කරන අරගලයේ අවශ්‍යතාවයන් ගැන සැලකිල්ලක් දක්වමින්, නිර්ධන පංතියේ පක්ෂය ඉතාමත් ස්වාධීන ලෙස තීරණය කළ යුතුය.

පුළුල් ප්‍රාදේශීය ස්වතන්ත්‍රතාවයක් ක්‍රියාත්මක කරන ලෙසත්, ඉහළ සිට කරන පරිපාලනය අහෝසි කරන ලෙසත්, අනිවාර්ය රාජ්‍ය භාෂාවක් පැනවීම අහෝසි කරන ලෙසත්, ප්‍රාදේශීය ජනතාව විසින්ම තක්සේරු කරන ලද පරිදි ආර්ථික හා සමාජ තත්වයන්ද, ජනතාවගේ ස්වභාවික සංයුතියද, යනාදිය සැලකිල්ලට ගනිමින්, ස්වයං පාලන හා ස්වතන්ත්‍ර ප්‍රදේශවල දේශ සීමා නියම කරන ලෙසත්, පක්ෂය ඉල්ලයි.

අධ්‍යාපනය ආදිය රාජ්‍යයේ පාලනයෙන් ඉවත් කර යම්කිසි ආකාරයක ජාතික සෙයිම් සභා* විශේෂයක පාලනය යටතට පත් කරන ''ජාතික

* පෝලන්තයේ පැවති නියෝජිත මන්ත්‍රණ සභා. — සංස්කාරක

"සංස්කෘතික ස්වතන්ත්‍රභාවය'' යනුවෙන් හැඳින්වෙන දෙය පක්ෂය විසින් අවධාරණයෙන් යුතුව ප්‍රතික්ෂේප කරනු ලැබේ. එක ප්‍රදේශයක වෙසෙන කම්කරුවන්, එකම ව්‍යවසායෙහි වැඩ කරන කම්කරුවන් පවා, ඔවුන්ගේ ''ජාතික සංස්කෘතිය'' අනුව, ජාතික-සංස්කෘතික ස්වතන්ත්‍රය විසින් බෙදා වෙන් කරනු ලැබේ. වෙනත් වචනවලින් කියතොත් එය කම්කරුවන් සහ ඔවුන්ගේ ජාතියේ ධනපති සංස්කෘතිය අතර බැඳීම් ශක්තිමත් කරයි. නමුත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ අරමුණ වන්නේ, ලෝක නිර්ධන පංතියේ ජාත්‍යන්තර සංස්කෘතිය සංවර්ධනය කිරීමය.

ඕනෑම එක ජාතියක් විසින් භුක්ති විඳිනු ලබන සියළු වරප්‍රසාද ද, ජාතික සුළු ජනතාවන්ගේ අයිතිවාසිකම් උල්ලංඝනය කිරීමේ සියළු අවස්ථාද අවලංගු කරන මූලික නීතියක් ව්‍යවස්ථාවෙහි ඇතුලත් කරන ලෙස පක්ෂය ඉල්ලයි.

කම්කරු පංතියේ යහපත පිණිස, රුසියාවේ සියළුම ජාතීන්ට අයත් කම්කරුවන්ට පොදු නිර්ධන පංති සංවිධාන තිබීම, එනම්, දේශපාලන සංවිධාන, වෘත්තීය සමිති, සමුපකාර අධ්‍යාපන ආයතන, යනාදී වූ සංවිධාන පොදුවේ තිබීම අවශ්‍ය වන්නේය. ජාත්‍යන්තර ප්‍රාග්ධනයට සහ ධනපති ජාතිකවාදයට විරුද්ධව සාර්ථක අරගලයක් කිරීමේ හැකියාව නිර්ධන පංතියට ලැබෙන්නේ, විවිධ ජාතීන්ට අයත් කම්කරුවන් එවැනි පොදු සංවිධාන තුළ සංයෝජනය වීමෙන් පමණකි.

''සොල්දත්ස්කයා ප්‍රාව්ද'' අංක 13 ට අතිරේකය. 1917 මැයි 16 (3)

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 439-440.

## 13

## වර්තමාන තත්වය ගැන යෝජනාව

ලෝක වෙළඳ පොළේ ආධිපත්‍යය සඳහා ලෝක සංගත ව්‍යාපාර හා බැංකු ප්‍රාග්ධනය ඇති කළ ලෝක යුද්ධය හේතු කොට ගෙන ද්‍රව්‍යමය විටිනාකම් බහුල වශයෙන් විනාශ වී යන නිෂ්පාදන බලවේගයන්ගේ ශක්තිය පිරිහෙන හා අත්‍යාවශ්‍ය පාරිභෝගික භාණ්ඩ හා නිෂ්පාදන මාර්ග අවම ප්‍රමාණයවත් නිපදවීමට නොහැකි වන තරමට යුද්ධ කර්මාන්ත වර්ධනය වූ තත්වයක් දැනටමත් ඇතිවී තිබේ.

එනිසා මිනිස් වර්ගයා වර්තමාන යුද්ධයෙන් මිදී යා නොහැකි අවුලකට පත් වී, විනාශයේ ප්‍රපාතාභිමුඛයට තල්ලු වී ඇත.



යුද්ධයට පෙර පවා, වඩාත් සංවර්ධිත සහ දියුණු රටවල නිසැක වශයෙන්ම පැවතියාවූ, සමාජවාදී විප්ලවය සඳහා සුදුසු තත්වයන්, යුද්ධයේ ප්‍රතිඵලයක් වශයෙන් අති මහත් සීඝ්‍රතාවයකින් මෝරමින් තිබුණේය. ඉදිරියටත් මෝරමින් පවතී. අන් කවරදකටත් වඩා වැඩි වේගයකින්, කුඩා සහ මධ්‍යම ප්‍රමාණයේ ව්‍යවසායයන් ඉවතට තල්ලුවී, විනාශවී යන්නේය. ප්‍රාග්ධනය සංකේන්ද්‍රණය වීම සහ එය ජාත්‍යන්තර තත්වයට පත්වීම යෝධ පියවර තබමින් ඉදිරියට යයි. ඒකාධිකාරී ධනපති ක්‍රමය රාජ්‍ය ඒකාධිකාරී ධනපති ක්‍රමය බවට පත්වන සේ විකාශ වෙයි. රටවල් ගණනාවකම ඇතිවී තිබෙන තත්වයන්ගේ බලපෑම නිසා, නිෂ්පාදනය සහ බෙදහැරීම සමාජය මගින් මෙහෙයවීම ආරම්භනොකර බැරි තත්වයක් උද්ගතවී තිබේ. සමහර රටවල අනිවාර්ය ශ්‍රම සේවයට බඳවා ගැනීම විශ්වීය වශයෙන් ක්‍රියාත්මක කරනු ලැබේ.

නිෂ්පාදන මාර්ගයන් පෞද්ගලිකව අයිතිකරගෙන තිබීමේ තත්වයන් යටතේ, නිෂ්පාදනයේ ඒකාධිකාරය හා එහි පාලනය රජය අතට පත් කිරීම වෙත එල්ල වුනු මෙම සියළු පියවරයන් සමග අනිවාරණීය වශයෙන්ම වැඩ කරන ජනතාව සූරා කෑම උත්සන්න වීමත්, පීඩනය වැඩි වීමත් සිදුවේ. එම තත්වය යටතේ සූරා කන්නන්ට හා ප්‍රතිගාමීත්වයට ප්‍රතිරෝධය දැක්වීම වඩාත් දුෂ්කර වන අතර, යුද්ධමය සර්වාධිකාරය වර්ධනය වන්නේය. ඒ සමගම මෙම පියවරයන් නිසා, ජනගහනයේ අන් සියළුම කොටස්වලට හානි ගෙන දීමෙන් ලොකු ධනපතියන්ගේ ලාභ දැවැන්ත ලෙස වර්ධනය වීමට මාර්ගය සැලසේ. සියකෝටි ගණන් වන යුද්ධ ණය මුදල් සඳහා අනාගතයේ දශක ගණන් තිස්සේ ගෙවන පොලී වශයෙන්, ධනපතියන්ට කප්පම් දීමට වැඩ කරන ජනතාවට අනිවාර්යයෙන්ම සිදුවන්නේය. නමුත් නිෂ්පාදන මාර්ග පිළිබඳ පෞද්ගලික අයිතිය අවලංගු කිරීම සහ රාජ්‍ය බලය සම්පූර්ණයෙන්ම නිර්ධන පංතිය අතට පත්වීම සමග එක්වූ කල ඉඳුරාම මෙම තත්වයන්ම, මිනිසා විසින් මිනිසා සූරා කෑම අහෝසි කරන සහ සියළු දෙනාගේම යහ සාධනය සහතික කරන සමාජ පරිවර්තනය සාර්ථක වන බවට පොරොන්දු දෙන සාධකයක් වන්නේය.

* * *

අනිත් අතට, එවකට ආසන්න වෙමින් තිබුණු සහ දැන් ඇවිලෙමින් පවතින අධිරාජ්‍යවාදී යුද්ධය හා නියත සම්බන්ධයක් ඇතිව නිර්ධන පංති විප්ලවයක් සිදුවීම ඒකාන්ත බව 1912 බාසල් ප්‍රකාශනයෙන් පළ කළ මුළු ලෝකයේම සමාජවාදීන්ගේ අනාවැකිය සිද්ධීන්ගේ ගමන් මාර්ගය විසින් පැහැදිලි ලෙස සනාථ වන්නේය.

රුසියානු විප්ලවය, යුද්ධයේ අනිවාරණීය ප්‍රතිඵලයක් වශයෙන් ඇතිවන නිර්ධන පංති විප්ලව අතුරෙන් ප්‍රථම විප්ලවයේ, ප්‍රථම අවධිය පමණකි.

සියළුම රටවල් තුළ ධනපති පංතියට විරුද්ධව කැරළි ගැසීමේ ස්වභාවයක් වර්ධනය වෙමින් පවතී. එසේම, මිනිස් වර්ගයා විනාශයට පත් වීමට නොදී ගලවා ගත හැක්කේ, බලය නිර්ධන පංතියට පැවරීමෙන් හා නිෂ්පාදන මාර්ග පිළිබඳ පෞද්ගලික අයිතිය අහෝසි කිරීමෙන් බව නිර්ධන පංතිය අවබෝධ කර ගනිමින් සිටී.

සියළුම රටවල, විශේෂයෙන්ම බ්‍රිතාන්‍ය හා ජර්මනිය වැනි ඉතාමත් දියුණු රටවල "තමන්ගේ" ධනපති පංතියේ පැත්ත නොගත් සමාජවාදීන් සිය ගණන් දෙනා, ධනපති ආණ්ඩු විසින් සිරගත කරනු ලැබ සිටී. මෙසේ කිරීමෙන් ඔවුන් පෙන්නුම් කර ඇත්තේ, නැගී එන නිර්ධන පංති විප්ලවය කෙරෙහි ඔවුන් තුළ ඇති බිය ය. ජර්මනියේ, විශේෂයෙන්ම මෑත සති කීපය තුළ අති විශාල ස්වභාවයක් ගත් මහා වැඩ වර්ජනවලින්ද, පෙරමුණෙහි ජර්මානු සහ රුසියානු සොල්දාදුවන් අතර සහෝදරත්වය පෑම වර්ධනය වීමෙන්ද, එරටෙහි විප්ලවය ළඟ එන බව පෙන්නුම් කෙරේ.

විවිධ රටවල කම්කරුන් අතර ධනපතියන්ගේ අවශ්‍යතාවයන් ඉටුකිරීම පිණිස දනට එකිනෙකා මරා ගනිමින් සිටින කම්කරුවන් අතර, සහෝදරාත්මක විශ්වාසය සහ සමගිය නැවතත් ඇති වෙමින් පවතී. මේ අනුව විවිධ රටවල කම්කරුවන් විසින් ක්‍රියාත්මක කරනු ලබන එක්සත් විප්ලවීය සටන් සඳහා අවශ්‍ය තත්වයන් නිර්මාණය වනු ඇත. ලෝක සමාජවාදී විප්ලවයේ ක්‍රමානුකූල සංවර්ධනයද, බොහෝ දුරට නොවරදින ලෙස එය සාර්ථක වීමද සහතික කළ හැක්කේ එවැනි සටන් මගින් පමණකි.

* * *

යුරෝපයේ ඉතාමත් නොදියුණු රටවල් අතුරෙන් එකක, කුඩා ගොවීන්ගේ අති විශාල ජනගහනයක් මධ්‍යයේ දනට කටයුතු කරමින් සිටින රුසියානු නිර්ධන පංතියට වහාම සමාජවාදී වෙනස්කම් කිරීමේ අරමුණ ඇතිව කටයුතු කළ නොහැකිය.

නමුත්, කම්කරු පංතිය ධනපති පංතියට අධාර කළ යුතු යයිද, එසේ නැතහොත් එය සුළු ධනපති පංතියට පිළිගත හැකි තරමට එහි කටයුතු සීමා කළ යුතු යයිද, එසේත් නැතහොත්, දනට සුදුසු කල් ලබා ඇති සහ සමාජවාදය කරා ඉලක්ක වූ ප්‍රයෝගික පියවර ගණනාවක් ගැනීමේ හදිසි අවශ්‍යතාවය ගැන ජනතාවට පැහැදිලි කරදීමේ කටයුත්තෙහිදී නිර්ධන පංතියට භාර නායක කාර්ය කොටස එය අත්හළ යුතු යයිද, ඒ අනුව නිගමනය කළහොත්, එය බරපතල වරදක් වනු ඇත. එපමණක් නොව



එය අර්ථය වශයෙන් සම්පූර්ණයෙන්ම ධනපති පංතිය පැත්තට පැනයාමක්ද වනු ඇත.

එම පියවරයන් මෙසේය: පළමුව ඉඩම් ජාතිය සතු කිරීමය. එක එල්ලේම ධනපති ක්‍රමයේ රාමු කට්ටුවෙන් ඔබ්බට නොයන නමුත් මෙම පියවර නිෂ්පාදන මාර්ග පිළිබඳ පෞද්ගලික අයිතියට බරපතල පහරක් වන්නේය. එනිසා ගම්බද පෙදෙස්වල අර්ධ නිර්ධන පංතිය පාන බලය එයින් ශක්තිමත් වනු ඇත.

ඊළඟ පියවරයන් වන්නේ සියළුම බැංකු හසුකොට රාජ්‍යය මගින් පාලනයක් ඇති කිරීම සහ ඒවා එක බැංකුවක් වන සේ ඒකාබද්ධ කිරීමද, එසේම, රක්ෂණ නියෝජිත ආයතන සහ විශාල ධනපති සම්මේල (නිදසුන් වශයෙන් සීනි සම්මේලය, ගල් අඟුරු සම්මේලය, ලෝහ සම්මේලය, ආදිය) පාලනයට යටත් කිරීමද, ආදායම් සහ දේපල සඳහා වඩාත් සාධාරණ අනුක්‍රමික බද්දක් ක්‍රමානුකූල ලෙස පැනවීමද වේ. ආර්ථික වශයෙන් මෙම පියවරයන් කාලෝචිත වන අතර, තාක්ෂණික වශයෙන් මේවා ක්‍රියාත්මක කිරීමේ හැකියාව තිබේ. ගොවි ජනතාව මෙම ප්‍රතිසංස්කරණවලින් හැම ආකාරයකින්ම වාසියක්ම ලබන හෙයින්, දේශපාලන වශයෙන් එම ජනතාවගේ සහයෝගය එම පියවරයන් සඳහා ලැබෙන්නටද ඉඩ තිබේ.

එක් අතකින්, මෙම නව ප්‍රතිසංස්කරණයන් ප්‍රායෝගික වශයෙන් අවශ්‍ය බව ජනතාවගෙන් අති බහුතරය පැහැදිලි ලෙස හා දෘඪ ලෙස අවබෝධ කරගත් පසුව පමණක් එවා ක්‍රියාත්මක කිරීම ආරම්භ කරන බව සෝවියට් සභාවල ස්වභාවය අනුව සහතික වන හෙයින්ද, අනිත් අතින්, මෙම ප්‍රතිසංස්කරණ පොලීසියේ සහ නිලධාරීන්ගේ මූලිකත්වයෙන් නොව, සංවිධානය වූ හා ආයුධ සන්නද්ධ නිර්ධන පංති පොදු ජනතාව හා ගොවි ජනතාව තමන්ගේම කටයුතු කළමනාකරණයෙහි යෙදෙමින් ස්වේච්ඡාවෙන් සහභාගිවීමේ ස්වරූපයෙන් ක්‍රියාත්මක කරන බවත් සෝවියට් සභාවල ස්වරූපයෙන්ම සහතික වන හෙයින්ද, ඉහත සඳහන් පියවරයන් සමග සමාන්තරව විශ්වීය අනිවාර්ය ශ්‍රම සේවයද ආරම්භ කිරීම, දනට ඝන හා වර්ධනය වන දලක් ලෙසට රුසියාව පුරා පැතිරී තිබෙන කම්කරු සොල්දාදු, ගොවිජන හා වෙනත් නියෝජිත සෝවියට් සභාවලට හැකිවේ.

සම්පූර්ණ බලය නිර්ධන පංතිය හා අර්ධ නිර්ධන පංතිය අතට පත් වූ කලෙක ජාතික පරිමාණයකින් ක්‍රියාත්මක කිරීම සඳහා මෙම හා වෙනත් එවැනි පියවරයන් සියල්ලම සාකච්ඡා කර සූදනම් කළ හැකිය; එසේම කළ යුතුය. එපමණක් නොව, අවස්ථාව ලැබුණු විට, මුළු ජනතාවගේම විප්ලවීය බලධාරී ආයතන ඒවා ක්‍රියාත්මකද කළ යුතුය.

ඉහත සඳහන් පියවරයන් ක්‍රියාත්මක කිරීමේදී ඉමහත් සුපරීක්ෂාකාරීත්වයක් හා විචාරවත් භාවයක් දක්විය යුතුය. ජනගහනයේ ස්ථිර බහුතරයක් දිනාගත යුතු අතර, කිසියම් පියවරක් ගැනීමට රටෙහි ඇති ප්‍රායෝගික සූදනම ගැන මෙම බහුතරයට අවබෝධ කර දිය යුතුය. වර්තමාන මහා ව්‍යසනයෙන් ගැලවීමේ මාර්ගයක් සොයා ගැනීමට ගොවිජනයාට ආධාරකාරී වීම පංති විඥනය ඇති කම්කරුවන්ගේ යුතුකම වන හෙයින්, කම්කරුන්ගේ පංති විංඥනය ඇති පෙරමුණු බල ඇණිය එහි අවධානය යොමු කළ යුත්තේ මෙම දිසාව ඔස්සේය.

"සොල්දත්ස්කයා ප්‍රාවද" අංක 13 ට අතිරේකය, 1917 මැයි 16 (3)

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 449-452.

# රු.ස.ප්‍ර.ක.(බො.)ප. හත්වැනි (අප්‍රියෙල්) සමස්ත රුසියා සාකච්ජා සභාවේ යෝජනා ගැන හැඳින්වීම

කම්කරු සහෝදරවරුනි!

ස්වකීය මධ්‍යම කාරක සභාව මගින් එක්සත්ව සිටින හා "බොල්ෂෙවික්" පක්ෂය ලෙසට සරල වශයෙන් හැඳින්වෙන රුසියානු සමාජ-ජාත්තන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ සමස්ත රුසියා සාකච්ජා සභාවේ කටයුතු නිමව ඇත.

සාකච්ජා සභාව, විප්ලවය පිළිබඳ සියළුම මූලික ප්‍රශ්න ගැන ඉතාමත් වැදගත් යෝජනා අනුමත කළේය. එම යෝජනා සම්පූර්ණ ලෙස පහත පළ වේ.

විප්ලවය අර්බුදයක් මැදින් ගමන් කරමින් පවතී. අප්‍රෙල් 19 හා අප්‍රෙල් 21 අතර කාලය තුළ පෙට්‍රොග්‍රෑඩ් සහ මොස්කව් වීදිවලදී මේ බව දක්ක හැකි විය[81]. තාවකාලික ආණ්ඩුව මේ බව පිළිගෙන තිබේ. පෙට්‍රොග්‍රෑඩ් කම්කරු සහ සොල්දදු සෝවියට් සභාවේ විධායක කාරක සභාව මේ බව පිළිගෙන තිබේ. එපමණක් නොව, මා මෙය ලියමින් සිටින අවස්ථාවේදී ගුච්කොව්ගේ ඉල්ලා අස්වීමෙන් මේ බව වඩාත් හොඳින් සනාථ වේ.

රාජ්‍ය බල අර්බුදය, විප්ලවයේ අර්බුදය අහඹුවක් නොවේ. තාවකාලික ආණ්ඩුව රුසියානු සහ ඉංග්‍රීසි-ප්‍රංශ ප්‍රාග්ධනය සමග එකට බැඳී සිටින හා අධිරාජ්‍යවාදී යුද්ධය තවදුරටත් කරගෙන යාමෙන් මහ හැරිය නොහැකි තත්වයට පත්ව සිටින ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ ආණ්ඩුවකි. නමුත් සොල්දදුවන් යුද්ධයෙන් වැහැරී ගොස් ඇත. යුද්ධය කරනු ලබන්නේ ධනපතියන්ගේ උවමනාව සඳහාය යන අවබෝධය එන්න එන්නම ඔවුන් තුළ තහවුරු වෙයි. සොල්දදුවන්ට යුද්ධය අවශ්‍ය නැත. ඒ හැරත් දරුණු ව්‍යසනයක, දුර්භික්ෂයක සහ ආර්ථික විනාශයක භයානක අවතාරයක් වෙනත් රටවල් කරා මෙන්ම රුසියාව කරාද ළඟා වෙමින් පවතී.

තාවකාලික ආණ්ඩුව සමග එකඟත්වයක් ඇති කර ගැනීමෙන්, එයට ආධාර දීමෙන්, ණය මුදලට ආධාර දීමෙන් සහ ඒ අනුව යුද්ධයට ආධාර දීමෙන්, පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාව මහ අවුරාගත් තත්වයට පත්ව තිබේ. තාවකාලික ආණ්ඩුව ගැන වග කිව යුතු තත්වයක් උසුලන සෝවියට් සභාව මෙම තත්වයෙන් ගැලවී යන මාර්ගයක් සොයා ගත නොහැකිව සිටින අතර ධනපති ආණ්ඩුව සමග ඇති කරගත් එම එකඟත්වය නිසා මහත් අවුලකට පත් වී තිබේ.

මෙම ඉතා වැදගත් ඓතිහාසික අවස්ථාවේදී අනාගත විප්ලවය අවදනමට ලක්ව ඇති විට, ධනපතියන්, බලාපොරොත්තු සුන් වීමත්, කම්කරුවන් වෙඩි තබා දැමීමේ අදහසත් අතර ඇඹරෙමින් සිටින විට, අපගේ පක්ෂය, එහි සාකච්ඡා සභා යෝජනා මගින් ජනතාව වෙත මෙසේ ආයාචනා කරයි:

විප්ලවයේ ගාමක බලය වන්නේ කුමණ පංතිද යන්න අපි තේරුම් ගත යුත්තෙමු. ඔවුන්ගේ විවිධ අපේක්ෂාවන් කල්පනාකාරී ලෙස අගය කළ යුතුය. කම්කරුවා යන මාර්ගයෙහිම යාමට ධනපතියා සමත් නොවේ. ධනපතියන් කෙරෙහි සම්පූර්ණ විශ්වාසය තැබීමට හෝ, එසේ නැතහොත්, කම්කරුවන් සමග සහෝදර සන්ධානයක් ඇති කර ගැනීමට සියළු දෙනාගේම එකඟත්වයක් වහාම ඇති කර ගැනීමට හෝ පුළුවන් කමක් සුළු දේපල හිමියන්ට නොමැත. විප්ලවයට යන නිවැරදි මඟ අපට සොයා ගත හැකි වන්නේ, අප මෙම පංති අතර වෙනස තේරුම් ගත් පසු පමණකි.

ජන ජීවිතයේ සියළුම මූලික ප්‍රශ්න සම්බන්ධයෙන් අපගේ සාකච්ඡා සභාව බැසගත් නිගමනවලින් විවිධ පංතිවල උවමනාවන් වෙන්කර පෙන්වන පැහැදිලි රේඛාවක් සලකුණු වන අතර, ධනපති ආණ්ඩුව කෙරෙහි විශ්වාසය තැබීමේ සහ එයට ආධාර දීමේ ප්‍රතිපත්තිය අත් නොහැරියහොත්, කිසිවක් කර ගත නොහැකි තත්වයෙන් ගැලවීමේ මාර්ගයක් කිසිසේත් සොයා ගත නොහැකි බවත් එයින් පෙන්නුම් කෙරේ.

මෙය පෙර නොවූ විරූ තරම් දුෂ්කර තත්වයකි. මෙයින් මිදීමට ඇත්තේ එක මගක්, එකම එක මගක්, පමණකි. එය නම්, රුසියාව මුළුල්ලේම, පහළ සිට ඉහළ දක්වාම, මුළු රාජ්‍ය බලයම කම්කරු, සොල්දාදු, ගොවිජන සහ වෙනත් නියෝජිත සෝවියට් සභාවලට පැවරීමය. වෙනත් රටවල කම්කරුවන්ගේ විශ්වාසය නැවත සීඝ්‍රාකාරයෙන් ගොඩනැගෙතැයි බලාපොරොත්තු විය හැක්කේත්, ප්‍රාග්ධනයේ වියගස ඉවතලා දැනට ජනතාව පටලවා ගෙන සිටින සාපරාධී ලේ වැගිරීම කෙළවරක් කරන යෝධ යුරෝපීය විප්ලවය ඇති වෙතැයි බලාපොරොත්තු විය හැක්කේත්, ගොවිජනතාවගෙන් වැඩි කොටසක සහයෝගය ලබන කම්කරු පංතියට රාජ්‍ය බලය අත් වුවහොත් පමණකි. ගොවි ජනතාවගෙන් වැඩි කොටසක සහයෝගය ලබා ගෙන කම්කරු පංතිය තමන් අතට බලය ගතහොත් පමණක්, ධනපතියන්ගේ සහ ඉඩම් හිමියන්ගේ උවමනාවන් ඉටු කිරීමට නොව, වැඩ කරන ජනයාගේ උවමනාවන් ඉටු වන පරිද්දෙන් ජනතාවගේ මුළු මහත් ජීවන ක්‍රමයම පරිවර්තනය කිරීම සඳහා, වැඩ කරන ජනතාව, එකෙක් නැර, එම බලය කෙරෙහි සම්පූර්ණ විශ්වාසය තබා, ආත්ම ලාභය නොබලා වැඩ කරනු ඇත. මෙසේ ආත්ම ලාභය නොතකා වැඩ කිරීමෙන් තොරව, සෑම සියළු පුද්ගලයෙක්ම දරන යෝධ ප්‍රයත්නයක් නොමැතිව, ජීවිතය නව රටාවකට ගොඩනැංවීම සඳහා දැඩි බවක් සහ අධිෂ්ඨානයක් දක්වන්නේ නැතිව, සියළුම කම්කරුවන්ගේ සහ සියළුම දුප්පත් ගොවියන්ගේ දැඩි සංවිධාන වීමක් සහ සහෝදරාත්මක විනයක් නොමැතිව, මේ සියල්ල නොමැතිව ගැලවීමේ මගක් නොමැත.

---

යුද්ධය නිසා මුළු මිනිස් වර්ගයාම විනාශයේ ප්‍රපාතාභිමුඛයට පත්ව ඇත. ධනපතියෝ තදින් යුද්ධයට පැටලී සිටින අතර එයින් ගැලවීමට නොහැකිව සිටිති. මුළු ලෝකයම භයානක අනතුරකට මුහුණ පා සිටී.

කම්කරු සහෝදරවරුනි! නව සහ වඩාත් ශ්‍රෙෂ්ට වීරත්වයක්, දශ ලක්ෂ ගණන් හා කෝටි ගණන් ජනතාවගේ වීරත්වයක්, ඒ කීර්තිමත් පෙබරවාරි සහ මාර්තු විප්ලවයේ දිනවල ඔබ පෑ වීරත්වය ඉක්මවා යන වීරත්වයක් පෑ යුතු කාලය ළං ළංව එන්නේය. ඒ සඳහා සූදනම් වන්න.

ඔබ ඒ සඳහා සූදනම් වන අතර මෙය මතක තබා ගන්න. පොදු ජන කෝපයෙන් ඇතිවූ සරල කැරළි ගැසීම් සහිත දින කීපයක් තුළ, ධනපතියන් සමග එක්වී ඔබට ජය ලබා ගත හැකි වීනම්, ධනපතියන්ට විරුද්ධව ජයග්‍රහණය ලැබීම සඳහා, ධනපතියන් පරදවා ජයගැනීම සඳහා ඊට වඩා යමක් ඔබට අවශ්‍යවනු ඇත. ජයග්‍රහණය අත්පත් කර ගැනීම සඳහා, කම්කරුවන් හා දුප්පත් ගොවි ජනතාව බලය අල්ලා ගනු දැකීම සඳහා, එම බලය රැක ගනිමින් එයින් නිසි ප්‍රයෝජන ගනු සඳහා ඔබට සංවිධානය, නැවතත් සංවිධානය තව තවත් සංවිධානය අවශ්‍ය වනු ඇත.

අප පක්ෂය එයට හැකි පමණින් ඔබට ආධාර කරන්නේය. ප්‍රධාන වශයෙන්ම, විවිධ පංතිවල විවිධ ප්‍රතිෂ්ඨාවන් ගැන, ඒවායේ විවිධ ශක්ති ප්‍රමාණයන් ගැන ඔබට පැහැදිලි කර දීමෙන් එසේ කරන්නේය. අපගේ සාකච්ඡා සභාවේ තීරණයන් මේ සඳහා වෙන්වී ඇත. තවද ඔබ මෙම කරුණ හරි හැටි අවබෝධ නොකර ගන්නේ නම් සංවිධානය යන්න සම්පූර්ණයෙන්ම අර්ථ විරහිත වනු ඇත. එසේම, සංවිධානයෙන් තොරව දශ ලක්ෂ ගණන් සහභාගි වන සටන් කිසිසේත් කළ නොහැකිය; ජයග්‍රහණය කිසිසේත් අත් කරගත නොහැකිය.

වචන කෙරෙහි විශ්වාසය නොරඳවන්න. පොරොන්දු වලින් නොමග නොයන්න. ඔබේ ශක්තිය ගැන අධි තක්සේරු නොකරන්න. සෑම පැක්ට-

රියකම සෑම රෙජිමේන්තුවකම හා හමුදා කණ්ඩායමකම, සෑම නිවාස කාණ්ඩයකම සංවිධානය කරන්න. සෑම දිනකම සෑම පැයකම ඔබගේ සංවිධාන කටයුතුවල යෙදෙන්න. මෙම වැඩ කොටස ඔබම කරන්න. එය වෙනත් කෙනෙකුට පැවරිය හැකි වැඩක් නොවේ. දියුණු කම්කරුවන් කෙරෙහි පොදු ජනතාව සම්පූර්ණ විශ්වාසයක් තබන තත්වයක් ගොඩ නැගීම සඳහා ස්ථිර ලෙස, ශක්තිමත් ලෙස සහ කඩාකප්පල් කළ නොහැකි ලෙසට වැඩ කරන්න. අපගේ සාකච්ඡා සභාවේ තීරණවල ප්‍රධාන සත්ධාරය එසේය. විප්ලවයේ මුළු මහත් සංවර්ධනයම උගන්වන ප්‍රධාන පාඩම එයයි. සාර්ථකත්වය පිළිබඳ එක සහතිකයක් එයයි.

කම්කරු සහෝදරවරුනි! සියළුම රටවල පංති විඥනය ඇති විප්ලවවාදී නිර්ධන පංතිය තහවුරු කිරීමේ කටයුතු ශක්තිමත් ලෙස, මහත් උවමනාවකින් සහ වෙහෙස නොබලා ඉටු කරන ලෙස අපි ඔබට ආයාචනා කරන්නෙමු. ගැලවීමට ඇති එකම එක මාර්ගය මෙයයි. යුද්ධයේ මහා භයෙන් සහ ප්‍රාග්ධනයේ වියගසෙන් මිනිස් වර්ගයා මුදා ගැනීමේ එකම මග එයයි.

"සොල්දත්ස්කයා ප්‍රාව්දා" අංක 13 ට අතිරේකය, 1917 මැයි 16 (3)

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31, පිටු 454-475.

# කම්කරු සහ සොල්දාදු නියෝජිත සෝවියට් සභාවල ප්‍රථම සමස්ත රුසියා සම්මේලනය[82]

1917 ජුනි 3-24 (ජුනි 16-ජුලි 7)

## තාවකාලික ආණ්ඩුව කෙරෙහි දක්වන ආකල්පය ගැන කථාව ජුනි 4 (17)

මට ලැබී තිබෙන කෙටි කාලය තුළ මට කථා කළ හැකි වන්නේ විධායක කාරක සභාවේ වාර්තාව ඉදිරිපත් කළ කථිකයා සහ ඉන් පසු කථිකයන් මතු කළ ප්‍රධාන ප්‍රතිපත්තිමය ප්‍රශ්න ගැන පමණකි. එසේ කිරීම මැනවැයි මම කල්පනා කරමි.

අප හමුවේ තිබෙන ප්‍රථම හා මූලික ප්‍රශ්නය වූයේ මෙයයි: අප සහභාගිවන මෙම රැස්වීම කුමක්ද? මෙම සමස්ත රුසියා සම්මේලනයට එකතු වී සිටින මෙම සෝවියට් සභා මොනවාද? විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදය ගැන තමන්ට ඇති අන්ත වැරදි අවබෝධයත්, තමන් එය සම්පූර්ණයෙන්ම අත්හැර දමූ බවත් වසං කිරීමට මෙහි මිනිසුන් මෙතරම් කියන්නේ කුමණ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවවාදයක් ගැනද? සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනය ඉදිරියේ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදය ගැන කථා කිරීම, එම ආයතනයේ ස්වභාවය, එහි පංති සංයුතිය හා විප්ලවයේදී එය ඉටු කරන කාර්ය කොටස මුවා කර තැබීමකි. ඒ ගැන වචනයක්වත් නොකියන අය ඒ අතරම ප්‍රජාතන්ත්‍රවාදීන් යන පදවිනාමයට අයිතිවාසිකම් කීම ඇත්තෙන්ම අරුමයකි. ඔවුහු අපට ධනපති පාර්ලිමේන්තුවාදී සමූහාණ්ඩුවක් සඳහා වැඩ පිළිවෙළක්, එනම්, බටහිර යුරෝපයේ සෑම තන්හිම පැවති ආකාරයේ වැඩ පිළිවෙළක් සැලසුම් කර දෙති. අපගේ ආණ්ඩුවද ඇතුළුව, දැන් සියළුම ධනපති ආණ්ඩු පිළිගෙන තිබෙන ප්‍රතිසංස්කරණ ඇතුලත් වැඩ පිළිවෙළක් ඔවුහු අපට සැලසුම් කර දෙති. නමුත් ඔවුහු අපට ඒ සමගම විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදය ගැන කථා කරති. ඔවුන් කථා කරන්නේ කාටද? ඔවුන් කථා කරන්නේ සෝවියට් සභාවලටය. නමුත්, සෝවියට් සභා හා සමාන කිසිවක් තිබෙන ධනපති, ප්‍රජාතන්ත්‍රවාදී, සමූහාණ්ඩු රටක් යුරෝපයේ ඇද්දැයි මම ඔබෙන් අසමි. එවැනි රටක් නොමැති බව පිළිගැනීමට ඔබට සිදුවනු ඇත. තිබිය හැක්කේ එකක් නැතහොත් අනික

වන නිසා, එක්කෝ දැන් අපට සැලසුම් කර දෙන ලද වැනි හා සෑම රටකම වාර දූසිම් ගණනක් යෝජනා කරන ලද නමුත් කඩදාසියට පමණක් සීමා වී පවතින ප්‍රතිසංස්කරණ සඳහා ''සැළසුම්'' සහිත ධනපති ආණ්ඩුවක් හෝ එසේ නැතහොත්, දැන් ඔවුන් සඳහන් කරන ආයතන, එනම්, විප්ලවය විසින් නිර්මාණය කරනු ලබන හා 1792 දී හා 1871 දී ප්‍රංශයේත්, 1905 දී රුසියාවේත් ඇතිවූ වැනි මහා විප්ලවීය උද්ගමන අවස්ථාවක පමණක් දැකිය හැකි ආදර්ශ සහිත, නව වර්ගයේ ''ආණ්ඩුව'' යන දෙකෙන් එකක් වන නිසා, එවැනි ආයතනයක් කිසිම තැනෙක නොමැත; තිබිය හැක්කේද නොවේ. සෝවියට් සභා යනු කිසිම සාමාන්‍ය ධනපති පාර්ලිමේන්තු රාජ්‍යයක නොපවතින හා ධනපති ආණ්ඩුවක් සමග එක පෙළට පැවතිය නොහැකි ආයතනයකි. ඒවා නව, වඩාත් ප්‍රජාතන්ත්‍රවාදී වර්ගයක රාජ්‍යයක් වන අතර, අප අපගේ පක්ෂ යෝජනාවල එය හඳුන්වන්නේ සම්පූර්ණ බලය කම්කරු සහ සොල්දාදු නියෝජිත සෝවියට් සභාවලට අයත්වූ, ගොවිජන-නිර්ධන පංතික සමූහාණ්ඩුවක් ලෙසටය. සමහරුන් මෙය න්‍යායික ප්‍රශ්නයක් ලෙස සැලකීම වරදකි. එය මග හැරිය හැකි බවක් පෙන්වන විටත්, දැන් කම්කරු සහ සොල්දාදු සෝවියට් සභා සමග එක් පෙළට යම් යම් ආයතන පවතින බව පෙන්වමින් විරෝධය පාන විටත් ඔවුන් කරන්නේ වරදකි. සැබැය. ඒවා එක පෙළට සිටින සේ පවතින බව ඇත්තය. නමුත් නිමක් නැති වැරදි අවබෝධයන්, ඝට්ටන හා ඝර්ෂණ ජනිත වන්නේ එහෙයිනි. රුසියානු විප්ලවයේ මුල් උද්ගතිය, මුල් ඉදිරි ගමන නැවතී නිශ්චලනයක් ඇති වන්නේත්, අපගේ සභාග ආණ්ඩුව, එහි මුළු මහත් දේශීය සහ විදේශීය ප්‍රතිපත්තියෙහි දී, අධිරාජ්‍යවාදී ප්‍රහාරයක් දීමට සූදනම් වීම සම්බන්ධයෙන් ගන්නා ඒ ආපසු ගාමී පියවරයන් අපට දක්නට ලැබෙන්නේත් එහෙයිනි.

එකක් හෝ අනික: එක්කෝ සුපුරුදු ධනපති ආණ්ඩුවය. එසේ නම්, ගොවිජන, කම්කරු, සොල්දාදු සහ වෙනත් සෝවියට් සභාවලින් වැඩක් නැත. එක්කෝ ඒවා සේනාපති වරුන් විසින්, යුද්ධ හමුද තුළ බලය රඳවා ගෙන සිටින හා කෙරෙන්ස්කි ඇමතිවරයාගේ අලංකාර කථා ගැන කිසි සැලකිල්ලක් නොදක්වන ප්‍රතිවිප්ලවවාදී සේනාපතියන් විසින් කඩා බිඳ දමනු ලැබෙනු ඇත. නැතහොත් ඒවා අපකීර්තිමත් ලෙස අභාවයට යනු ඇත. ඒවාට තෝරා ගත හැකි වෙනත් මාර්ගයක් නොමැත. ඒවාට පසු බැසීමට හෝ එක තැන රැඳී සිටීමට හෝ නොහැක. ඒවාට පැවතීමට හැකි එකම ක්‍රමය ඉදිරියට යාමය. මෙය රුසියානුන් විසින් නිර්මාණය කරන ලද රාජ්‍ය ක්‍රමයක් නොව, විප්ලවය ජය ගැනීමේ වෙනත් මගක් නොමැති නිසා එය විසින් ඉදිරිපත් කරන ලද්දකි. සමස්ත රුසියා සම්මේලනය තුළ බලය සඳහා පක්ෂ අතර ඝර්ෂණ හා අරගල ඇතිවීම නොවැ-



ළැක්විය හැකිය. නමුත් මෙය ඇති විය හැකි වැරදීම් හා මායා මත ඉවත් කර දැමීමක්, එනම්, ඇමතිවරුන් ඊයේ කී දේ සඳහන් කරන ඔවුන්ගේ වාර්තාවලින්ද, ඔවුන් හෙට දින ලියන දෙයින්ද, ඔවුන් අනිද්දා පොරොන්දු වන දෙයින්ද, නොව, පොදු ජනතාවගේම දේශපාලන පළපුරුද්ද මගින් (රුස්වීමේ නොසන්සුන් ස්වභාවයකි) එසේ කිරීමක් වනු ඇත. සහෝදරවරුනි, රුසියානු විප්ලවය මගින් නිර්මාණය කරන ලද, එමෙන්ම ජීවත් වෙනවාද, නැතහොත්, නැසෙනවාද යන ප්‍රශ්නයට දැන් මුහුණ පා සිටින ආයතනවල දෘෂ්ටි කෝණයෙන් බලන කල මෙහි දක්නට ඇත්තේ විකට තත්වයකි. සෝවියට් සභා දැන් පවතින ලෙසට ඒවාට දිගටම පැවතිය නොහැකිය. වැඩිහිටි මිනිසුන්, කම්කරුවන් හා ගොවි ජනයා රැස්කොට, ලියකියවිලි මගින් කිසිසේත් හරි වැරදි බැලිය නොහැකි යෝජනා අනුමත කිරීමටත් වාර්තා ඇසීමටත් ඔවුන් යොමු කරනු ලැබේ! මෙම වර්ගයේ ආයතන යනු, තවමත් බටහිර යුරෝපයේ පැවතිය නොහැකි සහ ඉඩම් හිමියන් සහ අධිරාජ්‍යවාදය පරාජය කිරීමේ අර්ථයෙන් රුසියානු විප්ලවයේ ජයග්‍රහණය සඳහා නැතිවම බැරි, පොලිසිය සහ ස්ථිර යුද්ධ හමුදාවක් නොමැති ස්ථාවර බලයක්, හුදෙක් වචනවලින් පමණක් නොව, ක්‍රියාත්මක ලෙස ස්ථාපිත කරන සමූහාණ්ඩුවකට පරිවර්තනය වීමේ පියවරකි.

මෙම බලය නොමැතිව, අපට තනිවම එවැනි ජයග්‍රහණයක් කිසිසේත්ම ලැබිය හැකි නොවේ. එපමණක් නොව අපට මෙහිදී නිර්දේශ කරන ලද වැඩ පිළිවෙළ ගැන හා අප හමුවේ ඇති කරුණු ගැන ගැඹුරට විමසූ තරමට, මූලික ප්‍රතිවිරෝධය වඩාත් පැහැදිලි සේ කැපී පෙනෙන්නේය. ප්‍රථම තාවකාලික ආණ්ඩුව නරක එකක්වූ බව වාර්තාකරු කථිකයා සහ අනිත් කථිකයෝ කීහ! නමුත් බොල්ෂෙවික්වරු, ඒ කාලකණ්ණි බොල්ෂෙවික්වරු මෙම ආණ්ඩුවට ආධාර නොකරන හා එය ගැන විශ්වාසයක් නොමැති බව කී විට ''අරාජිකවාදී'' යන චෝදනාව කීවරක් නම් අප වෙත එල්ල කරන ලදද! කලින් ආණ්ඩුව නරක එකක් වූ බව දැන් කවුරුත් කියති. නමුත් සභාග ආණ්ඩුව, එහි මඳක් සමාජවාදී ඇමතිවරුද සමග ගත් කල, එය කලින් ආණ්ඩුවට වඩා වෙනස් වන්නේ කෙසේද? වැඩ පිළිවෙළවල් හා කෙටුම්පත් ගැන අප කථා කළා මදිද? ඒවා තවමත් ප්‍රමාණවත් නැද්ද? අප නියම කටයුතු කිරීම වෙත යොමු විය යුතු කාලය පැමිණ තිබෙනවා නොවේද? සභාග ආණ්ඩුව පිහිටවූ මැයි මස 6 වැනි දින පටන් දැන් මසක් ගතවී තිබේ. සත්‍ය කරුණු දෙස බලන්න. රුසියාවේ හා අධිරාජ්‍යවාදී යුද්ධයට පැටලී තිබෙන අනිත් රටවල බල පවත්වන විනාශය දෙස බලන්න. මෙම විනාශයට හේතුව කුමක්ද? එයට හේතුව, ධනපතියන්ගේ කොල්ලකාරී ස්වභාවයයි. ඔබට සැබෑ අරාජිකභාවය දැකිය හැක්කේ එහිය. එපමණක් නොව, ඒ බව පිළිගෙන තිබෙන්නේ

අපගේ ප්‍රවෘත්ති පත්‍රයෙහි නොවේ; කිසිම බොල්ෂෙවික් පත්‍රයක නොවේ, දෙවියෝ රකිත්වා! ඒ බව පිළිගෙන තිබෙන්නේ අමාත්‍යවරුන්ගේ ''රබෝචයා ගසියෙත'' පත්‍රයෙහිය!! විප්ලවවාදී ආණ්ඩුව විසින් කාර්මික ගල් අඟුරු මිළ නංවන ලද බව එය වාර්තා කරයි. සභාග ආණ්ඩුව මේ අතින් කිසිම වෙනසක් කර නොමැත. රුසියාවේ සමාජවාදය ආරම්භ කිරීම නැතහොත් සාමාන්‍ය වශයෙන් කියතොත් මූලික වෙනස්කම් ඇති කිරීම එක් වරම කළ හැකිදැයි අපෙන් අසනු ලැබේ. සහෝදරවරුනි, ඒ සියල්ලම පුහු කථාය. මාක්ස් සහ එංගල්ස් නිතරම පැහැදිලි කළ ලෙසට, ඔවුන්ගේ ධර්මයෙහි මෙසේ කියා ඇත: ''අපගේ ධර්මය ඇදහිල්ලක් නොව ක්‍රියාකාරිත්වය උදෙසා මහ පෙන්වීමකි''[83]. පිරිසිදු ධනපති ක්‍රමය පිරිසිදු සමාජවාදී ක්‍රමයට පරිවර්තනය වෙමින් පවතින තැනක් ලෝකයේ නොමැත. යුද්ධ කාලයකදී එවැන්නක් තිබිය නොහැකිය. නමුත් ධනපතියන් අතර කෙරෙන සාපරාධී යුද්ධයට පැටලී සිටින දශකෝටි ගණන් ජනයාගේ ජීවිත වැනසී යන නිසා, ඒ අතරමැද දෙයක්, අළුත් හා පෙර නොදක්නා ලද වීරු දෙයක් ඇත. එය ප්‍රතිසංස්කරණ කරන බවට පොරොන්දු දීමේ ප්‍රශ්නයක් නොවේ. එම පොරොන්දු දීම හුදු කථා පමණකි. මෙය දැන් අපට අවශ්‍යවන පියවර ගැනීම පිළිබඳ ප්‍රශ්නයකි.

''විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදය'' ගැන අන්‍යොන්‍ය ප්‍රශංසා නිකුත් කරමින් ''විප්ලවවාදී ප්‍රජාතන්තවාදය'' ගැන කථා කිරීම නැවැත්විය යුතු කාලය එළඹ ඇති හෙයින් ඔබට ''විප්ලවවාදී'' ප්‍රජාතන්ත්‍රවාදය ගැන කථා කිරීමට අවශ්‍ය නම්, ඔබ කළ යුත්තේ, එම සංකල්පය සහ ධනපති ඇමති මඩුල්ල යටතේ පවතින ප්‍රතිසංස්කරනවාදී ප්‍රජාතන්ත්‍රවාදය අතර වෙනස පෙන්වීම සහ අපට මාක්ස්වාදය සහ සාමාන්‍ය වශයෙන් විද්‍යාත්මක සමාජවාදය විසින් උගන්වා ඇති පරිදි පංති විග්‍රහයක් කිරීමය. අප ධනපති ඇමති මඩුල්ලක් යටතේ ප්‍රතිසංස්කරණවාදී ප්‍රජාතන්ත්‍රවාදය වෙත යායුතු යයි යෝජනා කරනු ලැබේ. සුපුරුදු බටහිර යුරෝපීය ආකෘතිවල ස්ථාවරය අනුව බලන කල එය හොඳ දෙයක් වන්නට පිළිවන. එසේ වුවද, අද රටවල් ගණනාවක්ම විනාශයේ ප්‍රපාතයට සමීප වී තිබෙන අතර, පහසුවෙන් ක්‍රියාත්මක කිරීමට නොහැකි තරම් සංකීර්ණයයිද, විශේෂයෙන් පැහැදිලි කිරීමක් අවශ්‍ය යයිද, මීට කලින් කථා කළ කථිකයා වූ තැපැල් සහ විදුලි පණිවුඩ ඇමති විසින් කියන ලද ප්‍රායෝගික පියවරයන් අපට නම් ඉතා පැහැදිලිව වැටහී ඇත. සම්පූර්ණ බලය ගැනීමට සූදනම ප්‍රකාශ කරන දේශපාලන පක්ෂයක් රුසියාවේ නැතැයි ඔහු කීවේය. මම මෙසේ පිළිතුරු දෙමි: ''තිබේ. එවැනි පක්ෂයක් තිබේ. කිසිම පක්ෂයකට එය ප්‍රතික්ෂේප කළ නොහැකිය. එසේම අප පක්ෂය නියත වශයෙන්ම එය ප්‍රතික්ෂේප කරන්නේ නැත. ඕනෑම අවස්ථාවක සම්පූර්ණ බලය ගැනීමට



එය සූදනම්ය''. (අත් පොළසන් සහ සිනා). ඔබට උවමනා තරම් සිනා වීමට පුළුවන. නමුත් දක්ෂිණාංශික පක්ෂයක් සමග එක පෙළට සිටිමින් ඇමතිවරයා අප වෙත මෙම ප්‍රශ්නය ඉදිරිපත් කරන්නේ නම් ඔහුට නිසි පිළිතුරක් ලැබෙනු ඇත. කිසිම පක්ෂයකට මෙය ප්‍රතික්ෂේප කළ නොහැකිය. නිදහස තවමත් පවතිද්දී, අත් අඩංගුවට ගැනීම සහ සයිබීරියාවට පිටුවාහල් කිරීම පිළිබඳ තර්ජන, එනම්, මඳක් සමාජවාදී ඇමතිවරු සමග හවුලේ ආණ්ඩු කරන ප්‍රතිවිප්ලවවාදීන් කරන තර්ජන, තවමත් තර්ජනවලට වැඩි යමක් නොවන තත්වයක් පවතිද්දී, සෑම පක්ෂයක්ම මෙසේ කියනු ඇත: ඔබ අප කෙරෙහි විශ්වාසය තබන්න; එවිට අපි අපගේ වැඩ පිළිවෙළ ඔබට දෙන්නෙමු.

මෙම වැඩ පිළිවෙළ අපගේ සාකච්ඡා සභාව විසින් අප්‍රේල් 29 දින සපයා ඇත.[84] අවාසනාවකට මෙන් එය ගැන නොතකා හැර ඇති අතර, එහි මාර්ග දේශකත්වය පිළිගෙන නැත. එය ගැන සාමාන්‍ය විස්තරයක් කිරීම අවශ්‍ය බව පෙනේ. අපගේ යෝජනාව සහ වැඩ පිළිවෙළ ගැන තැපැල් සහ විදුලි පණිවුඩ ඇමතිවරයාට සාමාන්‍ය විස්තරයක් කිරීමට මම උත්සාහ කරමි. ආර්ථික අර්බුදය හා සම්බන්ධයෙන් වහාම ක්‍රියාත්මක කිරීම සඳහා අපගේ වැඩ පිළිවෙළෙහි ඇතුලත් කර තිබෙන්නේ, ධනපතියන් ''පිරිසිදු'' ධනපති ක්‍රමය අනුව විවෘත වෙළෙඳ පොළේ කටයුතුවලින් නොව, යුද්ධ සම්පාදන මාර්ගයෙන් ලබන සියයට 500 හා 800 දක්වා ඉහළ යන තරම් වන අත්‍යධික ලාභ ප්‍රසිද්ධියට පත් කරන ලෙස ඉල්ලීමය. එය කල් දැමීම අවශ්‍ය නොවේ. කම්කරු පාලනය ඇත්ත වශයෙන්ම අවශ්‍ය වන්නේ සහ ක්‍රියාත්මක කළ හැක්කේ මෙහිදීය. ඔබ ''විප්ලවවාදී'' ප්‍රජාතන්ත්‍රවාදීන් යියි ඔබම කියා ගන්නේ නම්, සම්මේලනයේ නාමයෙන් ඔබ මේ පියවර ක්‍රියාත්මක කළ යුතුය. එය එක දිනකින් ක්‍රියාත්මක කළ හැකි පියවරකි. එය සමාජවාදය නොවේ. එය නියම අරාජිකවාදය පෙනෙන සේද, අධිරාජ්‍යවාදය සමග කරන ක්‍රීඩාවත්, ජනතාවගේ දේපල සමග සහ අප නොනවත්වාම ග්‍රීසියේ බෙල්ල මිරිකන නිසා හෙට විනාශ වීමට යන ලක්ෂ ගණන් ජීවිත සමග කරන ක්‍රීඩාවත්, පිළිබඳ නියම තත්වය පෙනෙන සේද, ජනතාවගේ ඇස් විවෘත කිරීමක් වන්නේය. ලාභ ප්‍රසිද්ධියට පත් කොට, ලොකුම කෝටිපතියන් පණස් දෙනා හෝ සිය දෙනා අත් අඩංගුවට ගන්න. ඔවුන් සති කීපයක් හුදෙක් සිරභාරයේ තබන්න. නව ආණ්ඩුව යටතේ පවා අප රටට දිනපතාම දහස් ගණන් හා දශ ලක්ෂ ගණනින් වැය වීමට හේතුවන උල්පත්, වංචාකාරී ක්‍රියාමාර්ග, දූෂණ හා කෑදර ක්‍රියා ගැන තොරතුරු ඔවුන් ලවා හෙළිදරව් කිරීමේ සරල අරමුණ ඇතිව, අවශ්‍ය නම් සාර් නිකොලායි රොමානොව් සිර අඩස්සි ගත කර තිබෙන වරප්‍රසාදලත් තත්වයන්ම වුවද දී, ඔවුන් එසේ සිර කර තබන්න. අරාජික-

භාවයේ හා විනාශයේ ප්‍රධාන හේතුව එයයි. සියල්ලම කලින් මෙන්ම පවතින බවත්, සභාග ආණ්ඩුව කිසිම දෙයක් වෙනස් කර නොමැති බවත්, එය කර ඇත්තේ ප්‍රකාශන සහ පුරාජේරු නිවේදන ගොඩක් එකතු කිරීම පමණක් බවත් අප කියන්නේ එනිසාය. මිනිසුන් කොතරම් අවංක වුවත්, වැඩ කරන ජනතාවට යහපතක් වන සේ ඔවුන් කොතරම් අවංක ලෙස ප්‍රාර්ථනා කළත්, වෙනසක් සිදු වී නොමැත. එකම පංතිය බලය අත්කර ගෙන සිටී. ඔවුන් අනුගමනය කරන ප්‍රතිපත්තිය ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්තියක් නොවේ.

''මධ්‍යම හා ප්‍රාදේශීය බලය ප්‍රජාතන්ත්‍රවාදීකරණය'' ගැන ඔබ කථා කරන්නෙහිය. මෙම වචන නවතාවයක් දරන්නේ රුසියාවෙහි පමණක් බව ඔබ නොදන්නෙහිද? වෙනත් රටවල මඳක් සමාජවාදී ඇමතිවරු දුසිම් ගණනක් ඔවුන්ගේ රටවලට එවැනි පොරොන්දු දී ඇති බව ඔබ නොදන්නෙහිද? ජනතාවට ප්‍රාදේශීය බලධාරීන් තෝරා පත් කරන විට, ප්‍රාදේශීය බලධාරීන් පත් කිරීමේ හෝ ස්ථිර කිරීමේ අයිතිය තමන් සතුයයි කියමින් මධ්‍යස්ථානය ප්‍රජාතන්ත්‍රවාදයේ මූලික ප්‍රතිපත්ති උල්ලංඝනය කරන විට එම පොරොන්දුවල ඇති වටිනාකම කුමක්ද? ධනපතියෝ නොනවත්වාම ජනතාවගේ දේපල කොල්ල කති. අධිරාජ්‍යවාදී යුද්ධය නොනැවතීම සිදු වෙයි. එසේ වුවත්, අපට ප්‍රතිසංස්කරණ, ප්‍රතිසංස්කරණ හා තවත් ප්‍රතිසංස්කරණ ගැන පොරොන්දු දෙනු ලැබේ. යුද්ධය විසින් සියල්ල පොඩි පට්ටම් කර දමනු හා තීරණය කරනු ලැබෙන නිසා එම පොරොන්දු ඉටු කිරීමට නොපුළුවන. යුද්ධය කරන්නේ ධනපති ලාභ හා සම්බන්ධයෙන් නොවේ යයි කියන අය සමග ඔබ එකඟ නොවන්නේ මන්ද? මිනුම් දණ්ඩ හැටියට ගත හැක්කේ කුමක්ද? එය ප්‍රථමයෙන්ම, බලයේ සිටින පංතිය කුමක්ද, දිගටම ස්වාමිත්වය දරාගෙන සිටින්නේ කුමණ පංතියද, බැංකු සහ මූල්‍ය කටයුතුවලින් දිගටම කෝටි දස දහස් ගණනින් ලාභ ලබන්නේ කුමණ පංතියද යන්නය. ඒ එකම ධනපති පංතියමය. එනිසා යුද්ධය තවදුරටත් අධිරාජ්‍යවාදී යුද්ධයම වන්නේය. ප්‍රථම තාවකාලික ආණ්ඩුව හෝ මඳක් සමාජවාදී ඇමතිවරු සහිත ආණ්ඩුව හෝ කිසි වෙනසක් කර නැත. රහස් ගිවිසුම් රහස් ලෙසම පවතී. රුසියාව සටන් කරන්නේ සමුද්‍ර සන්ධි අල්ලා ගැනීම, පර්සියාව තුළ තවදුරටත් ල්‍යාහව් ප්‍රතිපත්තිය[85] අනුගමනය කිරීම යනාදිය සඳහාය.

මෙයින් අදහස් වන්නේ දශ කෝටි ගණන් ජනයා ඝාතනය කිරීම වන නිසා, එය කිසිවෙකුට අවශ්‍ය නැති නිසා, ඔබට එය අවශ්‍ය නැති බවත්, ඔබ වැඩි දෙනාට එය අවශ්‍ය නැති බවත්, ඇමතිවරුන්ට එය අවශ්‍ය නැති බවත්, මම දනිමි. නමුත්, දූන් මිල්යුකොව් සහ මක්ලකොව් මෙතරම් කියන ඒ ප්‍රහාරය ගෙන බලන්න. එයින් අදහස් කෙරෙන්නේ කුමක්ද



යන්න ඔවුහු මනා සේ දනිති. එය බලය පිළිබඳ ප්‍රශ්නය සමග, විප්ලවය පිළිබඳ ප්‍රශ්නය සමග, සම්බන්ධවී තිබෙන බව ඔවුහු දනිති. දේශපාලන ප්‍රශ්න යුද්ධෝපායික ප්‍රශ්නවලින් වෙන්කොට ගත යුතු බව අපට කියනු ලැබේ. මෙම ප්‍රශ්නය කුමණ ආකාරයෙන් හෝ මතු කිරීමම විකාරයකි. සාකච්ඡාවට බඳුන් වන කාරණය දේශපාලන කරුණක් බව කැඩෙට්වරු හොඳින්ම දනිති.

සාමය සඳහා පහළින් ආරම්භ වී ඇති විප්ලවවාදී අරගලය නිසා වෙන්ව සාමයක් ඇති විය හැකි යයි කීම අපවාදයකි. අපට බලය තිබුණේ නම්, අප ගන්නා ප්‍රථම පියවර වන්නේ, ලොකුම ධනපතියන් අත් අඩංගුවට ගෙන, ඔවුන්ගේ කුමන්ත්‍රණ රැහැන් කපා දැමීමය. එය නොකළහොත්, රටවල් අල්ලා ගැනීමෙන් හා වන්දි ගැනීමෙන් තොර සාමයක් ගැන කරන සියළු කථා නිරර්ථක වන්නේය. අපගේ ඊළඟ පියවර වන්නේ, අප සියළුම ධනපතියන් හොරුන් ලෙසට, එනම් මිල්යුකොව්ට වඩා යම්තම්න්වත් හොඳක් නැති, එහෙත්, මෝඩ කමින් මඳක් අඩු තෙරෙශෙන්කෝද, ප්‍රංශ ධනපතියන්ද, බ්‍රිතාන්‍ය ධනපතීන්ද, එවැනි අනිත් සියළු දෙනාද, හොරුන් ලෙසට සලකන බව ආණ්ඩුවල හිසට උඩින් සියළුම ජනතාවන් වෙත ප්‍රකාෂ කිරීමය.

ඔබගේම ''ඉස්වෙස්තියා''[86] පත්‍රය අවුලට පත්ව, රටවල් අල්ලා ගැනීමෙන් සහ වන්දි ගැනීමෙන් තොර සාමයක් වෙනුමට Status quo* යෝජනා කරයි. ''රටවල් අල්ලා ගැනීමෙන් තොර'' සාමය ගැන අප දරන අදහස ඊට වෙනස්ය. ''පෙඩරල්'' සමූහාණ්ඩුවක් ගැන කථා කරන විට ගොවිජන සම්මේලනය[87] පවා සත්‍යයට වඩාත් ආසන්න වෙයි. අළුත් හෝ පරණ ක්‍රමයෙන් කිසිම ජාතියක් පීඩනයට පත් කිරීමේ උවමනාවක් එයට නොමැති බවත්, පින්ලන්තයේ හා උක්‍රෙනියාවේ වැරදි සෙවීමට යුද්ධ ඇමති බොහෝ වෙහෙස ගනනා නමුත් හා ඉඩ නොදිය යුතු හා නොඉවසිය හැකි සට්ටන ඒවා සමග ඇති කරන නමුත්, එම රටවල් එකකටවත් බල කිරීමේ උවමනාවක් එයට නොමැති බවත්, ගොවිජන සම්මේලනයේ එම කියමනෙන් අදහස් වේ. ශක්තිමත් ආණ්ඩුවක් සහිත තනි හා කොටස්වලට නොබෙදුනු සමූහාණ්ඩුවක් රුසියාවේ තිබීම අපට අවශ්‍යය. නමුත් ශක්තිමත් ආණ්ඩුවක් ලබා ගත හැක්කේ අදල සියළුම ජනතාවන්ගේ ස්වේච්ඡා එකඟත්වයෙන් පමණකි. විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදය'' යනු බරපතල වචන වේ. නමුත් ඒවා යොදනු ලබන්නේ, වෙන් වී ඉවත් වීමට පවා උවමනාවක් නොදක්වන උක්‍රෙනියාව හා පින්ලන්තය

* පවත්නා තත්වය, මෙම අවස්ථාවේදී යුද්ධයට පෙර තත්වය. — සංස්කාරක

ගැන සුළු වැරදි සෙවීමෙන් ප්‍රශ්නය අවුල් කරගන්නා ආණ්ඩුවක් විෂයෙහිය. ඒ රටවල් කියන්නේ මෙය පමණකි: ''ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ මූලික ප්‍රතිපත්ති ක්‍රියාත්මක කිරීම ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය එන තෙක් කල් නොදමන්න!''

ඔබ ඔබේම අල්ලාගත් රටවල් අත්හරින තෙක් රටවල් අල්ලා ගැනීමෙන් සහ වන්දි ගැනීමෙන් තොර සාමයක් ඇති කළ නොහැකිය.එය විහිළුවකි, සිනා නාඩගමකි. යුරෝපයේ සෑම වැඩකරුවෙක්ම අපට සිනාසෙමින් මෙසේ කියයි: ඔබ චතුර ලෙස කථා කරමින්, බැංකු කරුවන් බලයෙන් පහ කරන ලෙස ජනතාවට කියන නමුත්, ඔබගේම බැංකු කරුවන් ඇමති මණ්ඩලය තුළට යවන්නෙහිය. ඔවුන් අත් අඩංගුවට ගනිව්, ඔවුන්ගේ කූටෝපායයන් හෙළිදරව් කරව්, සැඟවුනු උල්පත් සොයා ගනිව්! නමුත්, ප්‍රතිරෝධයෙන් මැඩලිය නොහැකි සංවිධානද ඔබ සතුව ඇතත්, ඔබම එය නොකරන්නෙහිය. 1905 හා 1917 අත්දැකීම් ඔබට ඇත. ඇණවුම් අනුව විප්ලව තැනිය නොහැකි බවත්, වෙනත් රටවල විප්ලව ඇතිවූයේ කැරළි ගසමින් නැගී සිටීමේ දුෂ්කර හා ලේ වගුරන ක්‍රමයෙන් බවත්, සෝවියට් සභාවල බලයට ප්‍රතිරෝධය දැක්විය හැකි කණ්ඩායමක් හෝ පංතියක් රුසියාවේ නොමැති බවත් ඔබ දන්නෙහිය. විශේෂයක් වශයෙන් රුසියාවේ මෙම විප්ලවය සාමකාමී එකක් විය හැකිය. අද හෝ හෙට මෙම විප්ලවය සියළුම ධනපති පංතිවලින් ඈත් වෙමින් සියළුම ජනතාවන් වෙත සාමය යෝජනා කළහොත්, ප්‍රංශය සහ ජර්මනිය යන දෙරටම, එනම්, එරටවල ජනතාව එය භාර ගනු ඇත. එසේ වන්නේ මෙම රටවල් විනාශ වෙමින් පවතින නිසාය; ජර්මනියේ තත්වය ඉතාමත් අවදානම් නිසාය; ඇය තම ගැලවීම සොයා ගත නොහැකිව සිටින නිසාය; එසේම ප්‍රංශය... (සභාපති: ''ඔබේ කාලය අවසානයි'').

මම මිනිත්තු භාගයකින් අවසන් කරමි... (නොසන්සුන් කම, කථිකයාගේ කථාව කරගෙන යාමට ඉඩ දෙන ලෙසට සභාවෙන් ඉල්ලීම්; විරුද්ධත්වය හා අත්පොළසන්).

(සභාපති: ''කථිකයාගේ කාලය දීර්ඝ කරන ලෙස මෙහෙයුම් කාරක සභාව යෝජනා කරන බව සම්මේලනයට දන්වමි. විරුද්ධත්වයක් තිබේද? වැඩිදෙනා කාලය දීර්ඝ කිරීමට පක්ෂය'').

මා කථාව නැවැත්වූයේ, රුසියාවේ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන් වචනවලින් පමණක් නොව, ඇත්ත වශයෙන්ම ප්‍රජාතන්ත්‍රවාදීන් නම්, ඔවුන් ධනපතියන් සමග සම්මුතිවලට එළඹෙන්නේ නැතිව විප්ලවය ඉදිරියට ගෙන යනු ඇති බවත්, රටවල් අල්ලා ගැනීමෙන් හා වන්දි ගැනීමෙන් තොර සාමය ගැන කථා කිරීම නොව රුසියාව විසින් කරන ලද රටවල් අල්ලා ගැනීම් අවලංගු කරනු ඇති බවත්, රටවල් අල්ලා ගැනීම් සියල්ලම සාපරාධී හා කොල්ලකාරී යයි පැහැදිලි ලෙස ප්‍රකාශ



කරනු ඇති බවත්, කියමින් එම කරුණ ගැන කථා කරමින් සිටියදීය. එසේ කළ විට, පර්සියාව හා බෝල්කන් රටවල් බෙදා ගැනීම සඳහා දහස් ගණන් හා දස ලක්ෂ ගණන් ජනයාට මරු කැඳවීමේ තර්ජනය ගෙන එන අධිරාජ්‍යවාදී ප්‍රහාරය නැවැත්විය හැකිවනු ඇත. එවිට සාමයේ මාවත විවෘත වනු ඇත. එය පහසු මඟක් නොවේ. එය පහසු යයි අපි නොකියමු. එසේම, එය ඇත්ත වශයෙන්ම විප්ලවවාදී යුද්ධයක් නොවන බව සහතික කරන මගක්ද නොවේ.

අප මෙම ප්‍රශ්නය ඉදිරිපත් කරන්නේ බසාරව් අද නොවයා ෂිස්න්[88] හි එය ඉදිරිපත් කරන ආකාරයෙන් නොවේ. අප කියන්නේ, අධිරාජ්‍යවාදී යුද්ධයෙන් පසුව රුසියාවේ කර්තව්‍යයන් බලාපොරොත්තු වූවාට වඩා පහසු වන තත්වයකට ඇය පත්ව ඇති බව පමණකි. එසේම ඇගේ භූගෝලීය තත්වය කෙබඳුද යත්, කිසියම් බලවත් රටක්, එයට විරුද්ධව ප්‍රාග්ධනය හා තම කොල්ලකාරී උවමනාවන් ඔට්ටු කිරීමේත්, රුසියානු කම්කරු පංතියට හා එයට සම්බන්ධ අර්ධ නිර්ධනයන්ට, එනම්, දුප්පත් ගොවි ජනතාවට විරුද්ධව නැගී සිටීමේත්, අවදානම් කාර්යය තමන් වෙත පවරා ගතහොත්, එය අල්ලා ගන්නේ ඉතා දුෂ්කර කර්තව්‍යයක් වනු ඇත. ජර්මනිය පරාජයවීමට ආසන්නය. තවද, මැක්සිකෝව ගිල ගැනීමට බලාපොරොත්තුවන සහ සමහර විට හෙට දින ජපානයට විරුද්ධව යුද වදිනු ඇති, එක්සත් ජනපදය යුද්ධයට සම්බන්ධ වූ පසු, ජර්මනියේ තත්වය ඉතාමත් නරක් වී ඇත; එය විනාශ කර දමනු ලැබෙනු ඇත. ප්‍රංශය ඇගේ භූගෝලීය තත්වය නිසා අන් රටවලට වඩා පීඩා විඳින අතර ඇගේ වීඩාපත් ස්වභාවය සීමාන්තයට යමින් පවතී. මේ රට ජර්මනිය තරම් නිරාහාරව නොසිටින නමුත්, ජර්මනියට වඩා ඉතා විශාල සංඛ්‍යාවක් ඇගේ වැසියන් නැසී ගොස් ඇත. දැන් ගත යුතු ප්‍රථම පියවර, රුසියානු ධනපතියන්ගේ ලාභ සීමා කිරීම හා දස කෝටි ගණන් ලාභ ගරා ගැනීමට ඔවුනට ඇති හැකියාව සම්පූර්ණයෙන්ම අහිමි කිරීම නම්, ඔබ සියළුම රටවල ධනපතියන්ට විරුද්ධව එල්ල කෙරෙන සාම ගිවිසුමක් සියළුම ජාතීන් වෙත යෝජනා කරන අතර, ජර්මන් ධනපතියන් හා ඔවුන්ට කෙළින්ම හෝ වක්‍රලෙස ආධාර දෙන, නැතහොත්, ඔවුන් සමග සම්බන්ධව සිටින අය සමග කිසිම සාකච්ඡාවකට නොඑළඹෙන බවද, ප්‍රංශ සහ බ්‍රිතාන්‍ය ධනපතියන් සමග කථා කිරීම ප්‍රතික්ෂේප කරන බවද, ප්‍රකාශ කරතොත්, එසේ නම්, ඔබ කම්කරුවන්ගේ ඇස් හමුවේ එම ධනපතියන් හෙළා දැකීමට කටයුතු කළා වනු ඇත.ප්‍රාග්ධනයට විරුද්ධව කිසිකලෙකත් විප්ලවීය අරගලයක් කර නැති මැක්ඩොනල්ඩ්ට[89] ගමන් බල පත්‍රයක් දී තිබීම ජයග්‍රහණයක් සේ සැලකීමට ඔබට නුපුළුවන. බ්‍රිතාන්‍ය ධනපතියන්ට විරුද්ධව කරන විප්ලවීය අරගලය නිසා මැක්ලීන් සහෝදරයා සහ

සිය ගණන් බ්‍රිතාන්‍ය සමාජවාදීන් සිර ගත කර සිටියදී, එම අරගලයම කරමින් "ජර්මන් කම්කරුවනි, ඔබේ කයිසර්ට වෙඩි තබනු!" යනුවෙන් කී නිසා ලීබ්නෙහ්ට් සහෝදරයා අපරාධකරුවන්ගේ සිරගෙයක ලා සිටියදී, එම අරගලයේ අදහස්, ප්‍රතිපත්ති, ව්‍යවහාරය හා අත්දැකීම් කිසි කලෙකත් ප්‍රකාශ කර නොමැති නිසාම මෙහි පැමිණීමට අවසර දෙනු ලබන ඔහුට බල පත්‍රයක් දීම, ජයග්‍රහණයක් ලෙස සැලකීමට පුළුවන් කමක් ඔබට නොමැත.

තාවකාලික ආණ්ඩුවේ සාමාජිකයන් වැඩි දෙනෙක්, විශේෂයෙන් යළි ස්ථාපිත කරන ලද තුන්වැනි දූමා සභාවක සාමාජිකයන් වශයෙන් — එම දූමා සභාව තුන්වැනිද හතරවැනිද යන්න මා නොදන්නා බව මෙහිලා කිව යුතුය — දිනපතාම අප වෙනුවෙන් සූදනම් කරන, අපට පොරොන්දු වන හා දැනටමත් අධිකරණ අමාත්‍යාංශය විසින් කෙටුම්පත් කරනු ලබන පනත්වල සඳහන් බරපතල වැඩ සහිත සිරගෙය තුළ, අධිරාජ්‍යවාදී ධනපතියන් ලා තැබීම වඩාත් සුදුසු නොවේද? මැක්ලීන් සහ ලීබ්නෙහ්ට් — අධිරාජ්‍යවාදයට විරුද්ධව විප්ලවීය අරගලයක් ව්‍යවහාරයට නංවන සමාජවාදීන්ගේ නම් එසේය. අපට සාමය සඳහා සටන් කිරීමට උවමනා කෙරේ නම්, සියළුම ආණ්ඩුවලට අප කිව යුත්තේ එයයි. ජනතාව ඉදිරියේ අපි ධනපතියන් හෙළා දැකිය යුත්තෙමු. එවිට ඔබ අධිරාජ්‍යවාදී ආණ්ඩු දුෂ්කර තත්වයකට හෙළන්නෙහිය. නමුත් සංඛ්‍යාව, පළපුරුද්ද සහ ද්‍රව්‍යමය ශක්තිය අතින් පෙර නොවූ විරූ තරම් පොහොසත් සංවිධානයක් වන කම්කරු සහ සොල්දාදු නියෝජිත සෝවියට් සභාව ඇතිව සිටින අපම, බැංකු කරුවන් සමග එක පෙරමුණකට එක්ව, මඳක් සමාජවාදී ආණ්ඩුවක් පිහිටුවාගෙන සිටිමින්, වසර දශක ගණන් තිස්සේ යුරෝපයේ කෙටුම්පත් කෙරුණු එම ප්‍රතිසංස්කරණම සඳහා කෙටුම්පත් සකස් කරන අතරම, ජනතාව අමතා,ඔබගේ මාර්තු 14 දින සාම ප්‍රකාශනය[90] නිකුත් කර "ඔබගේ සාර්වරුන්, රජවරුන් සහ බැංකු කරුවන් බලයෙන් නෙරපා දමනු" යයි කීමෙන්, දැන් ඔබම ඔබගේ තත්වය ව්‍යාකූල කරගෙන තිබේ. මේ වර්ගයේ සාම අරගල දැක යුරෝපයේ ජනතාව සිනාසෙති. ඔවුන් සාම අරගලය කරනු ඇත්තේ සෝවියට් සභා බලය සියතට ගෙන විප්ලවවාදී ආකාරයකින් කටයුතු කරන විට පමණකි.

ලේ වගුරන විප්ලවයකින් තොරව, ධනපතියන්ට මුහුණ දෙමින්, අධිරාජ්‍යවාදී යුද්ධය නැවැත්වීමට පංති පරිමාණයකින් කටයුතු කිරීමට සමත් වන රටවල්, දැනට ලෝකයේ ඇත්තේ එකක් පමණකි. එය කළ හැක්කේ එකම රටකට පමණකි. ඒ රට රුසියාවයි. තවද කම්කරු සහ සොල්දාදු සෝවියට් සභාව පවතින තාක් කල් ඇය ඒ එකම රට වනු ඇත. සාමාන්‍ය වර්ගයේ තාවකාලික ආණ්ඩුව සමග එක පෙළට සිටිමින් දීර්ඝ කාලයක් පැවතීමට සෝවියට් සභාවට නොපුළුවන. එයට දැන් තිබෙන



ලෙසට පැවතිය හැක්කේ ප්‍රහාරය ආරම්භ වන තෙක් පමණකි. රුසියානු විප්ලවයේ මුළු මහත් ප්‍රතිපත්තියේම සන්ධිස්ථානය එම ප්‍රහාරය වනු ඇත. එය නැවතී සිටීමේ කාලයේ සිට, එනම්, පහළින් ඇතිවන විප්ලවීය නැගී සිටීමක මාර්ගයෙන් සාමය සඳහා මාවත සකස් කිරීමේ කාලයේ සිට නැවතත් යුද්ධය ආරම්භ කිරීම දක්වා පරිවර්තනය වීමක් වනු ඇත. විවෘත කෙරුණු මාවත වූයේ, එක පෙරමුණක සහෝදරත්වය පෑමේ සිට සියළු පෙරමුණුවලට සහෝදරත්වය පෑම දක්වාත්, කූසගින්නේ පෙළෙන ජර්මන් කම්කරුවෙකු සමග පැන පිහියකට පාන් පෙත්තක් හුවමාරු කර ගැනීම වැනි — එය බරපතල වැඩ ඇතිව සිරගත කිරීමේ දඬුවම ලැබීමට තරම් වරදකි — සාංසිද්ධික සහෝදරත්වය පෑමේ සිට විඥත ලෙස සහෝදරත්වය පෑම දක්වාත් සිදුවූ පරිවර්තනයකි.

අපි අපගේම අතට බලය ගත් පසු ධනපතියන් මට්ටු කරන්නෙමු. එවිට යුද්ධය දැන් කෙරෙන වර්ගයේ යුද්ධයක් නොවනු ඇත. එසේ කියන්නේ කඩදාසියේ ලියා තිබෙන දෙයින් නොව, යුද්ධය කරන පංතිය අනුව යුද්ධයක ස්වභාවය තීරණය වන හෙයිනි. ඔබට කැමති දෙයක් කඩදාසියෙහි ලිවිය හැක. නමුත්, ඔබ මොනවා ලියුවත්, ඔබ කොතරම් මුබරි වුවත්, ඔබට මඳක් සමාජවාදී ඇමතිවරු කී දෙනෙක් සිටියත්, ධනපති පංතියට ආණ්ඩුවේ බහුතරයක් තිබෙන විට, යුද්ධය අධිරාජ්‍යවාදී යුද්ධයක්ම වනු ඇත. සැම දෙනෙක්ම එය දන්නේය. කාටත් එය පෙනෙන දෙයකි. ඇල්බේනියාවේ, ග්‍රීසියේ සහ පර්සියාවේ නිදර්ශනවලින්[91] එය ඉතාමත් පැහැදිලිව හා විචිත්‍ර ලෙස පෙනී ගොස් තිබේ. එසේ තිබියදී, ප්‍රහාරය ගැන අපගේ ලිඛිත ප්‍රකාශයට[92] සියළු දෙනාම පහර දෙන අතර නියත නිදර්ශන ගැන කිසිවෙක් හෝ වචනයක්වත් නොකීම ගැන මම පුදුම වෙමි! පනත් ගෙන එන බවට පොරොන්දු දීම පහසුය. නමුත් නියත පියවරයන් නැවත නැවතත් කල් දමනු ලැබේ. රටවල් අල්ලා ගැනීමෙන් තොර සාමයක් ගැන ප්‍රකාශයක් ලිවීම පහසුය. නමුත් ඇල්බේනියාව, ග්‍රීසිය හා පර්සියාව හා සම්බන්ධ සිදුවීම් ඇතිවූයේ සභාග ආණ්ඩුව පිහිටුවීමෙන් පසුවය. මෙසේ අවමානයට ලක් කරනු ලබන්නේ රුසියානු ප්‍රජාතන්ත්‍රවාදය බවත්, ග්‍රීසියේ බෙල්ල මිරිකනු ලබන බවත් කීවේ අන් කිසිවෙක් නොව, "දියල නරෝද්" පත්‍රය ය; අපගේ පක්ෂය නොව ආණ්ඩුවේම පත්‍රයක්, ඇමතිවරුන්ගේ පත්‍රයක් වන එයය. ග්‍රීසිය කෙරෙහි බල පෑම ගෙන එන ලද්දේ මිත්‍ර රටවල රාජ දූතයන් විසිනැයි මිල්යුකොව් ලීවේය. ස්වකීය පක්ෂයේ සාමාන්‍ය සාමාජිකයෙක් පමණක් වන මිල්යුකොව් කවරෙක් යයි ඔබ සිතන්නේද යන්න දන්නේ දෙවියෝ පමණකි. තෙරෙශෙන්කෝ කිසි ලෙසකින්වත් ඔහුට වඩා වෙනස් නොවේ. යුද්ධය අධිරාජ්‍යවාදී යුද්ධයක් ලෙසටම පවතී. යුද්ධය කෙළවර කළහැක්කේ විප්ලවය තවදුරටත් ඉදිරියට ගෙන යාමෙන් පමණකි. එනිසා, ඔබ බොහෝ දුරට අවංක

බව මා විශ්වාස කළත්, ඔබ කොතරම් සාමයට කැමති වුවත්, වැඩ කරන ජනතාව කෙරෙහි ඔබේ අනුකම්පාව සහ සාමය සඳහා ඔබේ අභිලාෂය කොතරම් අවංක වුවත්, ඔබ බල රහිතව සිටින්නේය. රුසියාවේ විප්ලවය ආරම්භ වූ විට, සාමය සඳහා විප්ලවීය අරගලයක්ද පහළින් ආරම්භ විය. ඔබ ඔබේ අතට බලය ගතහොත්, රුසියානු ධනපතියන්ට විරුද්ධව සටන් කරනු සඳහා උපයෝගී කරගනු පිණිස බලය විප්ලවවාදී සංවිධාන අතට පත්වුවහොත්, එවිට ඔබ සාමය යෝජනා කිරීමට සමත්වන බව සමහර රටවල වැඩ කරන ජනතාව විශ්වාස කරනු ඇත. එවිට යටත් පිරිසෙයින් දෙපාර්ශවයකින්වත්, එනම් ලේ ගැලීමෙන් දුර්මුඛව සිටින හා ස්වකීය අරමුණු ඉටුකරගැනීමේ සියළු බලාපොරොත්තු සුන්ව සිටින ජර්මනිය හා ප්‍රංශය පැත්තෙන්වත් අපට සාමය සහතික වනු ඇත. නමුත් සිදුවීම් අනුව, විප්ලවීය යුද්ධයක් කිරීමට අපට සිදු නොවෙතැයි යන්න කිසිවෙකුට නිශ්චය කර කිව නොහැකිය. එය කිසිවෙක් නොදනී. එනිසා එවැනි යුද්ධයක් කිරීමට අපට සිදු වෙතොත් අපි මෙසේ කියමු: ''අපි සමාදනවාදීන් නොවෙමු. විප්ලවීය පංතිය බලයට පත්ව තිබෙන විට, ධනපතියන්ට දශ ලක්ෂ ගණනින් ලාභ උපයා ගැනීමට උපකාර වන පරිදි ආර්ථික වියවුල් තත්වය උග්‍ර කිරීමට කුමණ ලෙසකින් හෝ කාරණා කටයුතු කෙරෙහි බලපෑමට ධනපතියන්ට තිබුණු හැකියාව ඇත්ත වශයෙන්ම ඔවුනට අහිමි කර තිබෙන විට, අපි යුද්ධය අත් නොහරිමු''. සෑම ජාතියක්ම නිදහස් විය යුතු බවත්, ඇල්සේස් සහ ලොරේන් ප්‍රදේශ තබා ගැනීමට ජර්මන් ජාතිය සටන් නොකළ යුතු සේම ප්‍රංශ ජාතිය එහි යටත් විජිත සඳහා සටන් නොකළ යුතු බවත් විප්ලවවාදී ආණ්ඩුව, සෑම ජාතියකටම, එක හෙලාම පැහැදිලි කරනු ඇත. ප්‍රංශය ඇගේ යටත් විජිත සඳහා සටන් කරන අතර, රුසියාවට යටත් විජිත හා සමාන වන හීවාව සහ බුහාරාව ඇත. එවිට යටත් විජිත බෙදා ගැනීම ආරම්භ වන්නේය. එසේ වූ විට ඒවා බෙදා ගන්නේ කෙසේද? කුමණ පදනමක් මතද? එය කෙරෙනු ඇත්තේ ශක්තිය පදනම් කරගෙනය. නමුත් ශක්තිය වෙනස් වී තිබේ. ධනපතියන්ට මෙම ප්‍රශ්න බේරා ගැනීමට යුද්ධය හැර වෙනත් මඟක් නොමැති තත්වයට ඔවුහු පත්ව සිටිති. ඔබ විප්ලවීය බලය අත්පත් කරගත් කළ, විප්ලවීය ලෙස සාමය ලබා ගැනීමේ මාවතක්ද ඔබට පෙනෙනු ඇත. එම මාවත නම්, සියළුම ජාතීන් වෙත විප්ලවීය ආයාචනයක් කරමින්, ඔබගේම ආදර්ශය මගින් ඔබගේ උපක්‍රම විස්තර කර දීමය. විප්ලවීය මාර්ගයෙන් ලබා ගත් සාමයට ළඟා වන මාවත සමහර විට ඔබට විවෘතව තිබෙන්නට පිළිවන. එවිට ලක්ෂ ගණන් ජනතාව මරණයට පත්වීමෙන් වැළැක්වීමට ඔබට පුළුවන් වනු ඇත. එසේ වූ කළ ජර්මන් හා ප්‍රංශ ජනතාව ඔබට පක්ෂව කථා කරනු ඇතැයි යන්න ඒකාන්ත ලෙස විශ්වාස කළ හැක. ධනපතියන් මර්දනය කළ පසු හා පාලනය කම්කරු පංතිය අතට පත්වූ විට, විප්ලවීය කම්කරු පංතියේ ශක්තිය දශ ගුණයකින් වැඩි වන නිසා, බ්‍රිතාන්‍ය, ඇමෙරිකන් හා ජපන් ධනපතියන්ට වුවද, විප්ලවීය කම්කරු පංතියට විරුද්ධව යුද්ධ කිරීමට අවශ්‍ය වුවත්, ඔවුනට එම යුද්ධය කිරීමට ලැබෙන්නේ සියයට එකක අවකාශයක් පමණකි. සාමය සහතික කරනු පිණිස ඔබ කළ යුත්තේ, ඔබ සමාදනවාදීන් නොවන බවත්, ඔබ ඔබගේ සමූහාණ්ඩුවත් කම්කරු නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයත්, ජර්මන්, ප්‍රංශ හා වෙනත් ධනපතියන්ට විරුද්ධව ආරක්ෂා කරන බව ප්‍රකාශ කිරීම පමණකි.

ප්‍රහාරය සම්බන්ධයෙන් අප කළ ප්‍රකාශය මූලික වශයෙන් එතරම් වැදගත් කොට අප සැලකුවේ එහෙයිනි. රුසියානු විප්ලවයේ මුළු ඉතිහාසයෙහිම මූලික වෙනසක් සඳහා උචිත කාලය පැමිණ තිබේ. රුසියානු විප්ලවය ආරම්භ වූ කල බ්‍රිතාන්‍යයේ අධිරාජ්‍යවාදී ධනපති පංතිය එයට ආධාර කළේ රුසියාවත් චීනයට හෝ ඉන්දියාවට සමාන යයි ඔවුන් සිතූ නිසාය. නමුත් දැනට ධනපතියන්ට වැඩි පිරිසක් සිටින ආණ්ඩුව සමග එක පෙළට සිටින සේ සෝවියට් සභා සමාන කිසිම නියෝජිත ආයතනයක් ලෝකයේ මීට පෙර කිසි තැනක ඇති වී නැත. ධනපති පංතියේ සභාග ඇමති මණ්ඩලයට හවුල් වීමෙන් ඔබ එම ආයතනය මරන්නෙහිය. රුසියානු විප්ලවය නිසා ධනපති ආණ්ඩුවලට විරුද්ධව පහළින් කෙරෙන අරගලය සෑම තන්හිම සහ සෑම රටවලම කලින් මෙන් තුන් ගුණයක් වැඩි සහයෝගයෙන් යුතුව දැන් යථාර්ථ වශයෙන් පිළිගනු ලැබේ. මෙහිදී මතු වන ප්‍රශ්නය ඉදිරියට යනවාද, ආපසු යනවාද යන්නය. විප්ලවයක් සිදුවන කාලය තුළ කිසිවෙකුට නිසලව සිටිය නොහැකිය. යුද්ධෝපක්‍රම අර්ථයට වඩා දේශපාලන හා ආර්ථික අර්ථයෙන්, ප්‍රහාරය රුසියානු විප්ලවයේ සන්ධිස්ථානයක් වන්නේ එහෙයිනි. මෙම හෝ අනිත් ඇමතිවරයාගේ අවබෝධය කුමක් වුවත්, දැන් ප්‍රහාරයක් දීම යනු, වාස්තවික වශයෙන් පර්සියාවේ හා අනිත් දුර්වල ජාතීන්ගේ බෙල්ල මිරිකීමේ අරමුණ ඇතිව, අධිරාජ්‍යවාදී ඝාතනය දිගටම කරගෙන යාම සහ තවත් ලක්ෂ ගණනක්, නැතහොත් දශ ලක්ෂ ගණනක් ජනතාව මරුමුවට යැවීම වන්නේය. දුප්පත් ගොවිජනතාවගේ ආධාර ලබන නිර්ධන පංතියට බලය පැවරීම යනු, මිනිස් වර්ගයා දත් ඉතාමත් විශ්වාසදායක හා ඉතාමත් වේදනා රහිත ආකෘති අනුව සාමය සඳහා කරන විප්ලවීය අරගලයකට පරිවර්තනය වීමකි; රුසියාවේ සහ සමස්ත ලෝකයේම විප්ලවවාදී කම්කරුවන්ගේ බලය හා ජයග්‍රහණය සහතික වන තත්වයකට පරිවර්තනය වීමකි. (සභාවේ කොටසකින් අත්පොළසන්)

''ප්‍රාව්ද'' අංක 82 සහ 83, 191
ජූනි 28 හා 29 (15 හා 16)

සම්පූර්ණ කෘති, 5 වැනි
මුද්‍රණය, වෙළුම 32,
පිටු 261-276.

# ජූනි 18 වැනි ද

එක් හෝ තවත් ආකාරයකින් ජූනි 18 වැනි ද රුසියානු විප්ලවයේ ඉතිහාසයේ සන්ධිස්ථානයක් ලෙසට සඳහන් වනු ඇත.

පසුගිය ඉරිද පෙළපාලිය[93] මගින් පංතිවල ප්‍රතිෂ්ඨාවන් අතර අන්‍යොන්‍ය තත්වයද, ඒවා එකිනෙකට විරුද්ධව කරන අරගලයේදී ඒවායේ සහසම්බන්ධයද, විශේෂයෙන්ම පක්ෂවල ශක්තිය සමග සසඳන කල පංතිවල ශක්තියද, කොතරම් පැහැදිලිව, සිත් කාවදින ලෙස හා අමතක නොවන ලෙස හෙළිදරව් වූයේද යත්, එතැන් පටන් ඉදිරියට ඇතිවන සිදුවීම්වල මාර්ගය හා වේගය කෙබඳු වුවත්, එයින් ඇතිවූ දේශපාලන අවබෝධය නැතහොත්, පැහැදිලිතාවය පිළිබඳ වර්ධනය අති විශාලය.

පෙළපාලිය නිසා පැය කීපයක් ඇතුළත, කුමන්ත්‍රණකාරී බොල්ෂෙවික්වරු ගැන වූ පුහු කථාව දූවිලි පිඩක් මෙන් සුලඟේ පාවී ගිය අතර, අප පක්ෂය නිතරම ඉදිරිපත් කළ සටන් පාඨවලට රුසියාවේ වැඩ කරන ජනතාවගේ පෙරමුණු බල ඇණිය වන අගනුවර කාර්මික නිර්ධන පංතිය හා යුද්ධ සේනාවලින් අති බහුතරයද සහයෝගය දක්වන බව ඉතාමත් පැහැදිලි ලෙස පෙනී ගියේය.

කම්කරු හා සොල්දාදු බලඇණි මිම්මට තබන පියවර ය. පන්ලක්ෂයක් පමණ පෙළපාලි කරුවන් ය. සංකේන්ද්‍රිත වේගවත් ප්‍රහාරයක් ය. සටන් පාඨ වටා ගොඩ නැගුනු සමගිය ය. එම සටන් පාඨ අතර වැඩියෙන්ම ප්‍රබලව කැපී පෙනුනේ මේවාය. ''සෝවියට් සභාවලට මුළු බලය පවරනු'', ''ධනපති ඇමතිවරුන් දහ දෙනා හංග වේවා'', ''ජර්මනිය සමග වෙනම සාම ගිවිසුමක්වත්, ඉංග්‍රිසි-ප්‍රංශ ධනපතියන් සමග රහස් ගිවිසුම්වත් එපා'' යනාදිය ය. රුසියාවේ සංවිධානයවූ කම්කරුවන්ගේ පෙරමුණු බල ඇණිය තුළ සහ සොල්දාදුවන් අතර මෙම සටන් පාඨ ජයග්‍රහණයට පත් වූ බවට පෙළපාලිය දුටු කිසිවෙක් තුළ සැකයක් නැත.



ජූනි 18 දින පෙළපාලිය, විප්ලවයට මඟ පෙන්වන සහ නොලිහෙන අවුලෙන් ගැලවෙන ආකාරය පෙන්වන විප්ලවවාදී නිර්ධන පංතියේ ශක්තිය හා ප්‍රතිපත්තිය විදහා පාන්නක් විය. පසුගිය ඉරිද පෙළපාලියෙහි ඇති ඓතිහාසික වැදගත් කමක්, එය සහ විප්ලවයේදී හා මැයි දිනයේදී ඝාතනය කරන ලද අයගේ අවමංගල්‍ය අවස්ථාවලදී ඇති වූ පෙළපාලි අතර ඇති ප්‍රධාන වෙනසත් මෙයයි. ඒ අවස්ථාවේදී එය විප්ලවයේ ප්‍රථම ජයග්‍රහණයට සහ එහි වීරයන්ට දක්වන විශ්වීය ගෞරවයක් විය. ජනතාව තමන් ඉතා සීඝ්‍ර ලෙස හා ඉතා සාර්ථක ලෙස පසු කළ, නිදහසේ මාවතේ ප්‍රථම අදියර දෙස ආපසු හැරී බැලූහ. මැයි දිනය, ලෝක ශ්‍රමකරු ව්‍යාපාරයේ ඉතිහාසය සහ එම ව්‍යාපාරයට සම්බන්ධ සාමයේ හා සමාජවාදයේ පරමාදර්ශය සමග එකට බැඳුනු අපේක්ෂාවන් හා ප්‍රාර්ථනා පිළිබඳ නිවාඩු දිනයක්ව තිබුණේය.

එම පෙළපාලි දෙකෙන් එකකින්වත් විප්ලවයේ තවදුර සංවර්ධනය සඳහා මාර්ගය පෙන්වීමට අදහස් නොකරන ලදී. එය කළ හැකිද නොවීය. විප්ලවය ඉදිරියට ගමන් කළ යුත්තේ කෙසේද සහ කුමණ මාර්ගයක් ඔස්සේද යන්න සම්බන්ධයෙන් නිශ්චිත, පැහැදිලි සහ හදිසි ප්‍රශ්න ජනතාව හමුවේ තැබීමවත්, ජනතාව වෙනුවෙන් ඒවා ඉදිරිපත් කිරීමවත්, ඒ පෙළපාලි දෙකෙන් එකකින්වත් නොකෙරිනි.

මේ අර්ථයෙන් ගත් කල ජූනි 18 දින පෙළපාලිය ප්‍රථම දේශපාලන සටන් පෙළපාලිය විය. එය, විප්ලවය තවදුර පෙරට ගෙන යාමට විවිධ පංති කටයුතු කරන ආකාරය, ක්‍රියා කිරීමට අපේක්ෂා කරන හා ක්‍රියා කරන ආකාරය දක්වන විස්තරයක් විය. එය, පොතක හෝ පුවත් පතක නොව, වීදිවලදීද, නායකයන් මගින් නොව ජනතාව මගින්ද දක්වන ලද විස්තරයකි.

ධනපති පංතිය මග හැර සිටියහ. පක්ෂ සටන් පාඨ සඳහා නිදහස තිබුණු සහ ප්‍රතිවිප්ලවයට විරෝධය දැක්වීම ප්‍රධාන අරමුණ කොටගත් ජනතාවගෙන් පැහැදිලි බහුතරයක සාමකාමී පෙළපාලියක් වූ එයට සහභාගි වීම ඔවුහු ප්‍රතික්ෂේප කළහ. එය ස්වභාවික දෙයක් විය. ධනපති පංතිය යනු ප්‍රතිවිප්ලවය ය. ඔවුහු ජනතාවගෙන් සැඟවෙති. ඔවුහු ජනතාවට විරුද්ධව නියම ප්‍රතිවිප්ලවවාදී කුමන්ත්‍රණ සංවිධානය කරති. දැනට රුසියාව පාලනය කරන පක්ෂ වන සමාජවාදී විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු, එම ඓතිහාසික ජූනි 18 දින පෙනී සිටියේ අස්ථිරව වැනෙන අය ලෙසටය. ඔවුන්ගේ සටන් පාඨවලින් කියවුනේ වැනෙන සුළු භාවය ය. ඔවුන්ගේ සටන් පාඨවලට සහයෝගය දක්වන සංඛ්‍යාව අල්පතරයක් වූ බව සැම දෙනාටම පැහැදිලි විය. ඔවුන්ගේ සටන් පාඨවලින් හා වැනෙන සුළු භාවයෙන් ඔවුන් ජනතාවට උපදෙස් දුන්නේ හොත් තැනම සිටින

ලෙසය; තාවකාලික වශයෙන් සියල්ලම නොවෙනස්ව තිබෙන්නට හරින ලෙසය. එය කිසිසේත් කළ නොහැකි දෙයක් බව ජනතාවටම, ඔවුන්ගේම හැඟීම අනුව වැටහී ගියේය.

වැනි වැනී සිටියා ඇති යයි නිර්ධන පංතියේ පෙරමුණු බල ඇණිය, රුසියානු කම්කරුවන්ගේ හා සොල්දදුවන්ගේ පෙරමුණු බල ඇණිය කීවේය. වැනි වැනී සිටියා හොඳටම ප්‍රමාණවත්ය. ධනපතියන් කෙරෙහි, ඔවුන්ගේ ආණ්ඩුව කෙරෙහි, ප්‍රතිසංස්කරණ කිරීමට ඔවුන් දරන නිෂ්ඵල ප්‍රයත්න කෙරෙහි, ඔවුන්ගේ යුද්ධය කෙරෙහි, ප්‍රහාරයක් දීම පිළිබඳ ඔවුන්ගේ පිළිවෙත කෙරෙහි විශ්වාසය තැබීමේ ප්‍රතිපත්තිය සම්පූර්ණයෙන්ම අසාර්ථක එකකි. එම ප්‍රතිපත්තිය බිඳවැටීමට ඉතා ආසන්නව පවතී. එය බිඳ වැටීම නොවැලැක්විය හැකිය. එම බිඳ වැටීම, පාලක පක්ෂවල, සමාජවාදී විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේද බිඳ වැටීම වනු ඇත. ආර්ථික කඩා කප්පල් වීම ළං ළංව එන්නේය. බලය තම අතට ගත් විප්ලවවාදී පංතියේ විප්ලවවාදී පියවරයන් මගින් හැර වෙනත් ගැළවීමක් නැත.

ජනතාව ධනපතියන් කෙරෙහි විශ්වාසය තැබීමේ ප්‍රතිපත්තියෙන් ඈත් විය යුත්තේය. ඔවුන් විශ්වාසය තැබිය යුත්තේ විප්ලවවාදී පංතිය කෙරෙහිය. එනම් නිර්ධන පංතිය කෙරෙහිය. බලයෙහි නිධානය ඇත්තේ එය තුළය; එය තුළම පමණකි. ජනතා බහුතරයේ උවමනාවන් ඉටුවන බවට, යුද්ධය හා ප්‍රාග්ධනය විසින් යටපත් කරනු ලැබ සිටින එහෙත්, යුද්ධය හා ප්‍රාග්ධනය පරාජය කිරීමෙහි සමත් වන වැඩ කරන සහ සූරාකනු ලබන ජනතාවන්ගේ උවමනාවන් ඉටුවන බවට සහතිකය එය පමණය!

රුසියාව හා මුළු මිනිස් වර්ගයාම මත පෙර නොවූ විරූ තරම් විශාල පරිමාණයක අර්බුදයක් පතිත වී තිබේ. එයින් ගැලවීමේ එකම මාර්ගය වන්නේ, වැඩ කරන හා සූරා කනු ලබන ජනතාවගේ ඉතාමත් සංවිධානාත්මක සහ දියුණු සේනාංකය කෙරෙහි විශ්වාසය තැබීම සහ එහි ප්‍රතිපත්තියට ආධාර කිරීමය.

ජනතාව මෙම පාඩම ඉක්මණින් ග්‍රහණය කරතිද, නැතහොත්, ඔවුහු කොතරම් ඉක්මණින් එය ක්‍රියාත්මක කරතිද යන්න අපි නොදනිමු. නමුත් මෙම පාඩමට අමතරව, නොවිසඳිය හැකි අවුලෙන් මිදීමේ වෙනත් මගක් නොමැති බවත්, ප්‍රතිවිප්ලවවාදීන් දක්විය හැකි චපලකම් හෝ මිලේච්ඡකම්වලින් හෝ කිසිම සෙතක් නොවන බවත්, අපි මැනවින් දන්නෙමු.

පොදු ජනතාව තමන්ගේ නායකයා වන නිර්ධන පංතිය කෙරෙහි සම්පූර්ණ විශ්වාසය තැබීම හැර වෙනත් ගැළවීමේ මගක් නොමැත.

''ප්‍රාව්දා'' අංක 86, 1917 ජූලි 3 (ජූනි 20).

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 32, පිටු 360-362

# කැඩෙට්වරු ඇමති මඩුල්ලෙන් ඉවත් වන විට ඔවුන් අපේක්ෂා කරන්නට ඇත්තේ කුමක්ද?[94]

මෙම ප්‍රශ්නය ඉතාමත් ස්වාභාවික ලෙස පැන නගින්නකි. නිශ්චිත උපක්‍රම සහිතව සිදුවීම්වලට මුහුණ දෙනු පිණිස, අපි ඒවා නිවැරදි ලෙස වටහා ගත යුත්තෙමු. එසේ නම් අපි කැඩෙට්වරුන්ගේ ඉල්ලා අස්වීම කෙසේ වටහා ගත යුත්තෙමුද?

වෛරය? උක්‍රේනියාව ගැන ප්‍රතිපත්තියක් වශයෙන් එකඟ නොවීම? කිසිසේත් නැත. කැඩෙට්වරු ප්‍රතිපත්තිවලට ගරු කරතියි හෝ එසේ නැතහොත් වෛරය අනුව ධනපති පංතියට යම් කිසිවක් කළ හැකියයි හෝ සැකයක් වශයෙන් වුව සිතීම අඥාන කමකි.

කැඩෙට්වරුන්ගේ ඉල්ලා අස්වීම වටහා ගත හැක්කේ ඔවුන් දිග දුර බලා ගත් පියවරක් ලෙසටය. ඔවුන් සැලකිල්ලට ගත් කරුණු මොනවාද?

විශාල විප්ලවයක් සහ තවමත් කැළඹිලි සහිත තත්වයේ පවතින රටක් ආණ්ඩු කිරීමට, ලෝක අධිරාජ්‍යවාදී යුද්ධයක් පවතිද්දී එසේ කිරීමට, සැබවින්ම විප්ලවවාදී පංතියක, එසේම, යෝධ ධෛර්යයක් ඇති, ඓතිහාසික වශයෙන් ශ්‍රේෂ්ට සහ එක්සිත් උද්යෝගයක් සහිත විප්ලවවාදී පංතියක, ක්‍රියාරම්භකත්වය හා මුළු ශක්තිය අවශ්‍ය වන්නේය. එක්කෝ මැයි 6 දින[95] පටන් කලක් තිස්සේ කැඩෙට්වරු දේශනා කළ ලෙසට ඔබ බලෙන් මෙම පංතිය යටපත් කළ යුතුය; එසේ නැතහොත් ඔබ එහි නායකත්වයට භාර විය යුතුය. එක්කෝ ඔබ අධිරාජ්‍යවාදී ප්‍රාග්ධනය සමග සන්ධානගත වන්නෙහිය. එවිට ඔබ ප්‍රහාරය ආරම්භ කළ යුතුය; ඔබ ප්‍රාග්ධනයේ කීකරු සේවකයෙක් විය යුතුය; ඔබ එයට විකිණෙනු යුතුය; ඔබ වන්දි නොමැතිව වතුකාර දේපල අහෝසි කිරීම පිළිබඳ මනෝරාජික අදහස් (චෙර්නොව්ගේ වැඩ පිළිවෙළට විරුද්ධව ල්වොගේ කථා ඇතුලත් ''බිර්ෂෙව්කා'' බලන්න) ඉවතලිය යුතුය. එසේ නැතහොත්, ඔබ අධිරාජ්‍යවාදී ප්‍රාග්ධනයට විරුද්ධ විය යුතුය. සියළුම ජාතීන් යුද්ධයෙන් හෙම්බත්වී

සිටින නිසා, එවිට ඔබ ඒ සියල්ලම වෙත නියත සාම කොන්දේසි ඉදිරිපත් කළ යුතුය; ප්‍රාග්ධනයට විරුද්ධව ලෝක නිර්ධන පංති විප්ලවයේ ධජය එසවීමට තරම් ඔබ එඩිතර විය යුතුය, සමත් විය යුතුය; එසේම වචනයෙන් නොව ක්‍රියාවෙන් එසේ කරනු පිණිස, දැඩි අධිෂ්ඨානයෙන් යුතුව රුසියාවේම විප්ලවය තවදුර ඉදිරියට ගෙනයාම පිණිස කටයුතු කළ යුතුය.

කැඩෙට්වරු වෙළඳාමෙහිදීද, මූල්‍ය කටයුතුවලදීද, ප්‍රාග්ධනය ආරක්ෂා කිරීමේදීද, එමෙන්ම දේශපාලනයේදීද කපටි ව්‍යාපාරිකයෝ වෙති. පවත්නා තත්වය වාස්තවික වශයෙන් විප්ලවීය තත්වයක් බව ඔවුන් නිවැරදි ලෙස සැලකිල්ලට ගෙන ඇත. ඔවුහු ප්‍රතිසංස්කරණවලටත්, ට්සෙරතෙලිලා සහ චෙර්නොව්ලා යන ප්‍රතිසංස්කරණවාදීන් සමග බලය බෙදා ගෙන භුක්ති විඳීමටත් එකඟ වෙති. නමුත් ප්‍රතිසංස්කරණ කිරීමෙන් ප්‍රශ්නය නිරාකරණය නොවනු ඇත. ප්‍රතිසංස්කරණ කිරීම පිහිට කොට ගෙන අර්බුදයෙන්, යුද්ධයෙන් සහ ආර්ථික කඩාකප්පල් වීමෙන් මීදීයාමේ මාර්ගයක් නොමැත.

ඔවුන්ගේ පංති දෘෂ්ටිය අනුව, අධිරාජ්‍යවාදී සූරාකන්නාගේ දෘෂ්ටිය අනුව ඔවුන් කරුණු සැලකිල්ලට ගත් ආකාරය නිවැරදිය. කැඩෙට්වරු නිවැරදි ලෙස ගණන් බලා ඇත. ඔවුන් මෙසේ කියන ලෙසක් පෙනේ: "ඉල්ලා අස්වීමෙන් අපි අවසාන නිවේදනයක් කරන්නෙමු. දැන් ට්සෙරතෙලිලා සහ චෙර්නොව්ලා නියම විප්ලවවාදී පංතිය කෙරෙහි විශ්වාසය නොතබන බව සහ දැන් නියම විප්ලවවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කිරීමට ඔවුනට නුවමනා බව අපි දන්නෙමු. අපි ඔවුන් බිය ගන්වමු. කැඩෙට්වරු නැති වීම යනු ලෝක ව්‍යාප්ත ඉංග්‍රීසි-ඇමෙරිකානු ප්‍රාග්ධනයේ "ආධාරය" නැතිව යාමකි. එහි අර්ථය ඔවුනටද විරුද්ධව විප්ලවයේ ධජය ඔසවනු ලැබීමය. ට්සෙරතෙලිලා හා චෙර්නොව්ලා එය නොකරති. එය කිරීමට තරම් ඔවුහු එඩිතර නොවෙති! ඔවුන් අපට අවනත වනු ඇත!

එසේ නොවේ නම්, එවිට ප්‍රාග්ධනයට විරුද්ධව විප්ලවයක් ආරම්භ වූනත්, එය අසාර්ථක වනු ඇත; එවිට අපි ආපසු එන්නෙමු".

කැඩෙට්වරු ගණන් බලන්නේ ඒ ආකාරයටය. අපි නැවතත් මෙසේ කියමු: සූරාකනු පංතියේ දෘෂ්ටිය අනුව ඔවුන්ගේ ගණන් බැලීම නිවැරදිය.

ට්සෙරතෙලිලා සහ චෙර්නොව්ලා චපල සුළු ධනපති පංතියේ දෘෂ්ටිය නොපිළිගෙන, සූරාකනු ලබන පංතියේ දෘෂ්ටිය පිළිගනිත් නම්, ඔවුන් විප්ලවවාදී නිර්ධන පංතියේ ප්‍රතිපත්තිය නිවැරදි ලෙස පිළිපැදීමෙන් කැඩෙට්වරුන්ගේ නිවැරදි ගණන් බැලීමට පිළිතුරු දෙනවා ඇත.

1917 ජූලි 3(16) දින ලියන ලදී.
1917 ජූලි 28(15) දින "ප්‍රොලිතාර්ස්කය දියල" අංක 2 හි පළ කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 32, පිටු 406-407.

# රාජ්‍ය බලය කොහිද? ප්‍රතිවිප්ලවය කොහිද?

මෙම ප්‍රශ්නයට ඉතා සරල ලෙස පිළිතුරු දෙනු ලැබේ: ප්‍රතිවිප්ලවයක් ඇත්තේම නැත. එය කොහේදැයි අපි නොදනිමු . නමුත් බලය තිබෙන්නේ කොහේද යනු අපි හොඳින් දනිමු. එය පවතින්නේ කම්කරු සහ සොල්දාදු නියෝජිත සෝවියට් සභාවල සමස්ත රුසියා සම්මේලනයේ මධ්‍ය විධායක කාරක සභාව (ම. වි. කා.) විසින් පාලනය කෙරෙන තාවකාලික ආණ්ඩුව අතෙහිය. සුපුරුදු පිළිතුර මෙයයි.

සම්ප්‍රදායික සියල්ල බිමට ඇද දමන සහ සියළු මායා මත සුනු විසුනු කරන, වර්ග බොහොමයකම අර්බුද මෙන්, ඊයේ ඇතිවූ දේශපාලන අර්බුදයද[96], ඕනෑම විප්ලවයක මූලික ප්‍රශ්නවලට පිළිතුරු වශයෙන් ඉදිරිපත් කරන, ඉහත සඳහන් සුපුරුදු පිළිතුරුවලින් ප්‍රකාශිත මායා මත නෂ්ටාවශේෂ බවට පත් කළේය.

දෙවැනි දූමා සභාවේ හිටපු සාමාජිකයෙක් වන අලෙක්සින්ස්කි නැමති අයෙක් ඇත. ඔහු පුනරුත්ථාපනය වන තෙක්, එනම්, ඔහුගේ අවංක භාවය නැවත ඔප්පු කරන තෙක්, කම්කරු, සොල්දාදු සහ ගොවිජන නියෝජිත සෝවියට් සභාවල පාලක පක්ෂ වන සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු, ඔහු කම්කරු සහ සොල්දාදු නියෝජිත සෝවියට් සභාවේ විධායක කාරක සභාවට භාර ගැනීම ප්‍රතික්ෂේප කළහ.

ඒ සම්බන්ධයෙන් ඇතිවූ අවුල කුමක්ද? අලෙක්සින්ස්කි ඔහුගේ අවංක භාවය ඔප්පු කළ යුතු බව, එනම්, ඔහු වංක බව කියමින්, විධායක කාරක සභාව, ඔහු කෙරෙහි තම විශ්වාසය තැබිය නොහැකි බව ප්‍රසිද්ධියේ සහ පැහැදිලි ලෙස ප්‍රකාශ කළේ මන්ද?

එසේ වූයේ අලෙක්සින්ස්කි කළ ලිඛිතාපහාසාත්මක ප්‍රකාශයක් නිසා ඔහු අපකීර්තියක් ලබා සිටීම හේතු කොට ගෙන, පැරිසියේ ඉතාමත් විවිධාකාර පක්ෂවලට අයත් පුවත්පත් කලාවේදීන් විසින්, ඔහු අපවාදකා-

රයෙකු ලෙස හංවඩු තබණු ලැබ සිටි හෙයිනි. විධායක කාරක සභාව හමුවේ තමාගේ අවංක භාවය ඔප්පු කිරීමට තරම් අලෙක්සින්ස්කි කරදර නොවීය. ප්ලෙහානව්ගේ ''යෙදින්ස්ත්ව'' ප්‍රවෘත්ති පත්‍රය අස්සේ සැඟවී සිටීමට ඔහු වැඩි කැමැත්තක් දක්වීය. ප්‍රථමයෙන් ඔහු තමාගේ මුල් අකුරුවලින් එහි පෙනී සිටි අතර, පසුව ධෛර්යය ඇතිවූ පසු සම්පූර්ණ නමින් පෙනී සිටියේය.

ඊයේ, ජූලි 4 දින සවස, අලෙක්සින්ස්කි කිසියම් අළුත් ලිඛිතාපහාසයක් පෙට්‍රොග්‍රෑඩ් පුවත්පත් කලාවේදීන් හමුවේ තැබූ බව බොල්ෂෙවික්වරුන් කීප පෙනෙකුට ඔවුන්ගේ මිතුරන්ගේ අනතුරු හැඟවීමක් අනුව දැනගන්නට ලැබුණි. මෙම අනතුරු හැඟවීම ලත් බොහෝ දෙනෙක්, අලෙක්සින්ස්කි සහ ඔහුගේ ''කටයුතු'' අතිශය පිළිකුලෙන් සලකා එය නොතකා හැරියහ. නමුත්, මධ්‍ය විධායක කාරක සභාවේ සාමාජිකයෙක් වූ එක් බොල්ෂෙවික්වාදියෙක්, එනම් ජුගෂ්විලි (ස්ටාලින්), ජෝර්ජියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු ලෙසට දීර්ඝ කාලයක් තිස්සේ චහෙයිඩ්සේ හැඳින සිටි අතර, අලෙක්සින්ස්කිගේ අළුත් අපකීර්තිමත් අපවාද ව්‍යාපාරය ගැන ම. වි. කා. සභා රැස්වීමකදී ඔහුට කීවේය.

මෙය සිදුවූයේ මැදියම් රාත්‍රියෙහි වූ නමුත්, විවෘත උසාවියට සහ ම. වි. කා. සභාව මගින් කෙරෙන පරීක්ෂණයකට බියවන මිනිස්සු පතුරුවන ලිඛිතාපහාසයන් ගැන ම. වි. කා. සභාවට නිහඬව සිටිය නොහැකියයි චහෙයිඩ්සේ ප්‍රකාශ කළේය. චහෙයිඩ්සේ ම. වි. කා. සභාවේ සභාපති ලෙසට තමන්ම නමින් හා තාවකාලික ආණ්ඩුවේ සාමාජික ට්සෙරතෙලි නමින් වහාම සියළුම පුවත්පත් කාර්යාලවලට දුරකථනයෙන් කථා කර අලෙක්සින්ස්කිගේ ලිඛිතාපහාසයන් පළකිරීමෙන් වැලකී සිටීම සුදුසු බව ඒවාට දන්වීය. එම ඉල්ලීම ඉටු කිරීමට කැමැත්ත පුවත්පත් බොහොමයක්ම පළ කළ බවත්, ටික වේලාවක් නිහඬව සිටියේ ''යෙදින්ස්ත්ව'' සහ ''රෙච්'' පමණක් (අපි ''යෙදින්ස්ත්ව'' නොදක්කෙමු. ''රෙච්'' එම ලිඛිතාපහාසය පළ කර නැත) බවත් චහෙයිඩ්සේ ස්ටාලින්ට කීවේය. එහි ප්‍රතිඵලයක් වශයෙන් එම ලිඛිතාපහාසය පළ කළේ නොවැදගත්, ජාත්‍යෝන්මාදවාදී සහ බොහෝ බුද්ධිමත් ජනයා නොදත් ''ෂිවොයේ ස්ලෝව''[97] අංක 51(404) පමණකි. එහි සංස්කාරක හා ප්‍රකාශක අත්සන් කරන්නේ ඒ. එම්. උමාන්ස්කි යන නමිනි.

අපවාදකාරයන් දැන් උසාවිය හමුවේ උත්තර දෙනු ඇත. මේ අර්ථයෙන් සියල්ල සරල වී තිබේ.

ලිඛිතාපහාසයේ අභූත විපරීත ස්වභාවය සිත් කාවදිනසුලුය. ''ජර්මනිය සමග හැකි තරම් ඉක්මණින් වෙනම සාම ගිවිසුමක් ඇති කර ගැනීමට උනන්දු කරනු සඳහා'' දහසය වැනි සයිබීරියානු රයිපල් රෙජිමේන්තුවේ යෙර්මෝලෙන්කෝ නැමති සුළු මුළාදෑණියා, ''හයවැනි හමුදාවේ පෙරමුණු සේනාංකවලට පිටුපසින් සිටි අප වෙත එවන (?) ලදී''. පෙනෙන ලෙසට, ඔහු ''ෂිවොයේ ස්ලෝව'' පත්‍රය පළ කළ ''ලියවිල්ලෙහි'' මෙසේ විස්තර කෙරෙන පැන ගිය සිරකරුවාය: ''සහෝදරවරුන්ගේ බල කිරීම අනුව යෙර්මෝලෙන්කෝ මෙම මෙහෙය භාර ගත්තේය!!''

එවැනි මෙහෙයක් භාර ගැනීමට තරම් නින්දිත වූ පුද්ගලයෙකු කෙරෙහි විශ්වාසය තැබිය හැක්කේ කොතරම් අඩුවෙන්ද යන්න ඔබට මෙයින්ම සිතා ගත හැකිය!.. සාක්ෂිකරුට ගරුත්වය පිළිබඳ හැඟීමක් නැත. මෙය සත්‍යයකි.

ඊළඟට සාක්ෂිකරු දෙන සාක්ෂිය කුමක්ද?

ඔහු කියන සාක්ෂිය මෙසේය: ''රුසියාව තුළ මෙවැනි ප්‍රචාරයක්, ජර්මන් හමුදාවේ ප්‍රධාන මණ්ඩලයේ ඒජන්තවරයෙක්ද, උක්‍රේනියාවේ විමුක්තිය සඳහා සංගමයේ උක්‍රේනියා අංශයේ[98] සභාපති ඒ ස්කොරපිස් — යොල්තුහොව්ස්කි හා ලෙනින්ද, විසින් කරගෙන යනු ලබන බව ජර්මන් හමුදාවේ ප්‍රධාන මණ්ඩලයේ නිලධාරීන් වන ෂිදිට්ස්කි හා ලූර්ස් ඔහුට කියා ඇත. තාවකාලික ආණ්ඩුව කෙරෙහි රුසියානු ජනතාව තබා ඇති විශ්වාසය දුර්වල කිරීමට ලෙනින්ට හැකි සියල්ලක්ම කිරීම ඔහුට පවරා ඇත''.

මේ අනුව යෙර්මෝලෙන්කෝ මෙම නින්දිත ක්‍රියාවට පොළඹවා ගනු සඳහා ජර්මන් නිලධාරීන් ලෙනින් ගැන ඔහුට ලජ්ජා විරහිත ලෙස බොරු කියා ඇත. කවුරුත් දන්නා ලෙසට හා මුළු බොල්ෂෙවික් පක්ෂයම නිල වශයෙන් ප්‍රකාශ කර ඇති ලෙසට, ලෙනින් ජර්මනිය සමග වෙනම සාම ගිවිසුමක් ඇති කර ගැනීම ඉතා බලවත් ලෙස, සසංගත ලෙස හා කොන්දේසි විරහිත ලෙස ප්‍රතික්ෂේප කර ඇත්තේය!! ජර්මන් නිලධාරීන්ගේ බොරුව කොතරම් පැහැදිලිද, ගොරහැඩිද සහ විපරීතද යත්, එය බොරුවක්ම මිස වෙනත් යමක් ලෙසට කිසිම උගත් පුද්ගලයෙක් මොහොතකට හෝ නොසලකනු ඇත. එපමණක් නොව, ලෙනින් හා ජාත්‍යන්තරවාදීන් සියළු දෙනාම, යුද්ධය අතරතුර ඇතිවූ මෙම සැක උපදවන සමාජ-දේශප්‍රේමී ''සංගමය'' සමග තමන් කිසිම සම්බන්ධයක් නොමැති බව නිතර නිතර ප්‍රසිද්ධියේ ප්‍රකාශ කර තිබෙන නිසා යොල්තුහොව්ස්කි (?) සහ උක්‍රේනියාවේ විමුක්තිය සඳහා සංගමය සමග ලෙනින් සම්බන්ධ කිරීම විපරීතයක් බව දේශපාලන වශයෙන් උගත් කෙනෙකුට ඊටත් වඩා ලෙස වැටහෙනු ඇත!

''ලියවිල්ල'' එය ''අළුත් තොරතුරු'' යනුවෙන් විස්තර කර ඉදිරිපත් කරන කරුණු නිසා නොවේ නම්, ජර්මන්වරුන්ගෙන් අල්ලස් ගත් යෙර්මෝලෙන්කෝ හෝ ජර්මන් නිලධාරීන් හෝ කී ගොරහැඩි බොරුව

ගැන කිසිසේත් සැලකිල්ලක් දක්වීමට තරම් වටනේ නැත. එම ''අළුත් තොරතුරු'' සැපයුවේ කව්ද, ලැබුණේ කාගෙන්ද, ලැබුණේ කවදද යනු එහි සඳහන්ව නැත. එම ''ලියවිල්ල'' අනුව ''විශ්වාස කටයුතු පුද්ගලයන් මගින් ප්‍රචාරය සඳහා මුදල් සපයනු ලැබේ''. (කවුරුන් විසින්ද? චෝදිතයා, නැතහොත්, සැකකරු ලෙනින් යයි කීමට ''ලියවිල්ල'' බිය වන්නේය!! ''එය ලබන්නේ'' කවුද යන්න ගැන ලියවිල්ල කිසිවක් නොකියයි). එම විශ්වාස කටයුතු පුද්ගලයන් නම් පූර්ස්ටන්බර්ග් (හනෙට්ස්කි) සහ කස්ලොව්ස්කි යන ''බොල්ෂෙවික්වරු'' ය. බැංකු මගින් මුදල් එවූ බව ඔප්පු කරන තොරතුරු තිබෙන බවද, ජර්මන් ඒජන්තවරු සහ බොල්ෂෙවික් නායකයන් අතර දේශපාලන සහ මූල්‍ය ස්වභාවයේ වන, කෙළවරක් නැති (!) විදුලි පණිවුඩ හුවමාරුවක් යුද්ධමය පුවත් පාලනයට හසුවී තිබෙන'' බවද කියනු ලැබේ!!

නැවතත්, තුවාල ඇඟිල්ලක් මෙන් දික්වන පල් බොරුවකි. එහි එක වචනයක හෝ සත්‍යයක් තිබේ නම්, (1) ඉතා මෑතදී රුසියාවට නිදහස් ලෙස ඇතුළු වීමට සහ එසේම නිදහස් ලෙස ඉන් පිටවී යාමට හනෙට්ස්කිට ඉඩ දෙන ලද්දේ මන්ද? (2) හනෙට්ස්කි හා කස්ලොව්සකි කළ අපරාධ ගැන තොරතුරු පුවත්පත්වල පළවන්නට පෙර ඔවුන් දෙදෙනාගෙන් එක්කෙනෙක්වත් සිරභාරයට නොගන්නා ලද්දේ මන්ද? මුදල් විදුලි පණිවුඩ, ආදිය යැවීමක් ගැන යම්තමින් හෝ විශ්වාස කටයුතු තොරතුරු යුද්ධ හමුද ප්‍රධාන මණ්ඩලයට ලැබී තිබුණේ නම්, හනෙට්ස්කි හා කස්ලොව්ස්කි අත් අඩංගුවට නොගෙන අලෙක්සින්ස්කි සහ ජාත්‍යෝන්මාදවාදී පත්‍ර මගින් ඒ ගැන කට කථා පැතිරවීමට එය ඉඩ දීම සිදුවිය හැක්කක්ද? මෙය ඉතාමත් නින්දිත පුවත්පත් අපවාද කාරයන්ගේ පහත් තත්වයේ ක්‍රියාවක් මිස අනෙකක් නොවන බව පැහැදිලි නොවේද?

හනෙට්ස්කි සහ කස්ලොව්ස්කි බොල්ෂෙවික්වරු නොව පෝලන්ත සමාජ-ප්‍රජතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජිකයින් වන බව අපි මීට එකතු කරනු කැමැත්තෙමු. එම පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙක් වන හනෙට්ස්කි ගැන 1903 ලන්ඩන් සම්මේලනයේ[99] පටන් අප දන්නා බවත්, පෝලන්ත නියෝජිතයන් එම සම්මේලනයෙන් ඉවත්ව ගිය බවත්, යනාදියද එකතු කරන්නෙමු. හනෙට්ස්කිගෙන්වත්, කස්ලොව්ස්කිගෙන්වත් බොල්ෂෙවික් වරුනට කිසිකලෙකත් කිසිම මුදලක් නොලැබුණේය. ඒ සියල්ලම බොරුවකි; සම්පූර්ණ අශික්ෂිත බොරුවකි.

එහි දේශපාලන වැදගත්කම කුමක්ද? ප්‍රථම වශයෙන්ම, බොල්ෂෙවික්වරුන්ගේ ප්‍රතිපාක්ෂිකයන්ට බොරුවේ සහ ලිඛිතාපහාසයේ පිහිට නොමැතිව පැවතිය නොහැකි තරමට ඔවුන් ඉතාමත් පහත් හා පිළිකුල් සහගත වන බව එයින් පෙනේ.



දෙවැනිව, මෙම ලිපියේ සිරස්තලයෙන් නගා ඇති ප්‍රශ්නයට පිළිතුරක් මෙයින් අපට ලැබේ.

''ලියවිලි'' ගැන වාර්තාව මැයි 16 දින තරම් ඉහතදී කෙරෙන්ස්කි වෙත යවන ලදී. කෙරෙන්ස්කි තාවකාලික ආණ්ඩුව සහ සෝවියට් සභාව යන ''බලය'' ඇති අධිකාර ආයතන දෙකෙහිම සාමාජිකයෙකි.

මැයි 16 සිට ජූලි 5 දක්වා යනු දීර්ඝ කාලයකි. බලය ඇත්ත වශයෙන්ම නියම බලයක් වීනම්, එය තමන්ම එම ''ලියවිලි'' ගැන පරීක්ෂා කර, සාක්ෂිකරුවන්ගෙන් ප්‍රශ්න කර, සැක කරුවන් අත් අඩංගුවට ගත යුතුව තිබුණි. බලයට, ''බලාධිකාරයන්'' දෙකටම, එනම්, තාවකාලික ආණ්ඩුව සහ ම. වි. කා. සභාවට මෙය කළ හැකිව තිබුණි; ඒවා එය කළ යුතුව තිබුණි.

නමුත් එම බලාධිකාරයන් දෙකම අක්‍රියාශීලීය. ඒ අතර, ලිඛිතාපහාස කටයුතුවල යෙදෙන්නෙක් වූ නිසා සෝවියට් සභාවේ විධායක කාරක සභාවට නොගන්නා ලද අලෙක්සින්ස්කි සමග කිසියම් ආකාරයක සම්බන්ධකම් පැවැත්වීමෙහි යුද්ධ හමුද ප්‍රධාන මණ්ඩලය යෙදී සිටින බව පෙනේ! හරියටම කැඩෙවරු ඉවත්වී යන මේ අවස්ථාවේම, යුද්ධ හමුද ප්‍රධාන මණ්ඩලය සමහරවිට අහම්බෙන්, නිල ලියවිලි පළ කිරීම අලෙක්සින්ස්කිට භාර දෙනවා වන්නට පිළිවන!

බලාධිකාරය අක්‍රියාත්මකය. ලෙනින්, හනෙට්ස්කි, නැතහොත් කස්ලොව්ස්කි ගැන සැකයක් තිබේ නම් ඔවුන් අත් අඩංගුවට ගැනීමට කල්පනා කිරීමට පමා, කෙරෙන්ස්කිවත්, තාවකාලික ආණ්ඩුවවත්, ම. වි. කා. සභාවවත් යොමු වන්නේ නැත. මෙම පැහැදිලි ලිඛිතාපවාදය පළ නොකරන ලෙස චෙහෙයිඩ්සේ සහ ටසෙරතෙලි යන දෙදෙනාම ඊයේ ජූලි 4 දින රාත්‍රියේ පුවත්පත්වලට කීහ. නමුත් ඊට ස්වල්ප වේලාවකට පසු, මහ රාත්‍රියේ ''ප්‍රාව්ද'' පත්‍රයේ කාර්යාල පොඩි කරීම, එම පත්‍රය පළ කිරීම නැවැත්වීම, එහි ප්‍රකාශකයින් අත් අඩංගුවට ගැනීම, (සැක සහිත මුදල් ගනු දෙනු ගැන විස්තර පරීක්ෂා කිරීමට බව පෙන්වමින්) එහි ගිණුම් පොත් අත් අඩංගුවට ගැනීම සඳහා පලොව්ත්සොව් විසින් ජුන්කර්වරු[100] හා කොසාක්වරුන් යවන ලදී. ඒ අතරම, හැඟීම් ඇවිස්සීම, බොල්ෂෙවික්වරුන්ට පරිභව කිරීම, කලහකාරී හිංසනය පැතිරීම සහ ''ප්‍රාව්ද'' පත්‍රයේ කාර්යාල පොඩිකළ පලොව්ත්සොව්ගේ, ජුන්කර්වරුන්ගේ සහ කොසාක්වරුන්ගේ හැසිරීම සාධාරන කර පෙන්වීම සඳහා ඒ ජාත්‍යෝන්මාදවාදී, පහත්, ජරා කඩමාළු පිංච වන ''ෂිවොයේ ස්ලෝව'' මුළු ලිඛිතාපහාසය සම්පූර්ණයෙන්ම පළ කළේය.

සත්‍ය දක ඇස් වසා නොගන්නා කෙනෙක් මෙයින් මුළාවට නොවැටෙනු ඇත. ක්‍රියා කිරීමට අවශ්‍ය විට බලාධිකාරයන් දෙකම අකර්මන්‍යව

පවතී එයට හේතුව ම. වි. කා. සභාව කැඩෙට්වරු කෙරෙහි විශ්වාසය ''තබන'' සහ ඔවුන් ප්‍රකෝප කිරීමට බිය වන නිසාත්, ඒ අතර කැඩෙට්වරු තිරය පිටුපස සිට ක්‍රියා කිරීමට කැමති හෙයින් ඔවුන් බලාධිකාරයක් ලෙසට කටයුතු නොකරන නිසාත් වේ.

තිරයෙන් පිටුපස ඇති ප්‍රතිවිප්ලවය දහවල් එළිය මෙන් පැහැදිලිව පෙනේ: කැඩෙට්වරු, යුද්ධ හමුදා ප්‍රධාන මණ්ඩලයේ සමහර කොටස් (අපගේ පක්ෂ යෝජනාවෙහි ඔවුන් ගැන විස්තර කර ඇත්තේ, '' උසස් තනතුරු දරන නිලධාරීන්'' යනුවෙනි) සහ වංචනික අර්ධ කළු සියය පුවත්පත් එහි දක්නට ලැබේ. මොවුහු අකර්මන්‍යව නො සිටිති. ඔවුහු අතිනත් ගෙන ''වැඩ'' කරති. යුදෙව් සංහාර, යුදෙව් සංහාර සඳහා ප්‍රයත්න, පෙළපාලි කරුවන්ට වෙඩි තැබීම යනාදිය තවාන් කරන භූමිය මෙයයි.

සත්‍ය දැක තම ඇස් වසා නොගන්නා කෙනෙකුට තවදුරටත් මුළා වී සිටිය නොහැකිය.

බලාධිකාරයක් නොමැත. එසේම බලාධිකාරයක් නිර්මාණය කිරීම සඳහා සෝවියට් සභාවලට බලය පැවරීමෙන් අඩිතාලම් දමන තෙක් බලාධිකාරයක් නොතිබෙනු ඇත. බලාධිකාරයක් නොතිබීම ප්‍රයෝජනයට ගන්නා ප්‍රතිවිප්ලවය යම් යම් උසස් තනතුරුධාරී නිලධාරීන් සහ කළු සියය[101] පුවත්පත් සමග කැඩෙට්වරු එක්සත් කරමින් ශක්තිමත් වන්නේය. මෙය කණගාටුදයක යථාර්ථයකි. එසේ වුවත් එය යථාර්ථයක්ම වේ.

කම්කරුවනි, සොල්දදුවනි, ඔබ ඔබගේ දැඩි බව, අධිෂ්ඨාන සහගත බව හා සුපරීක්ෂාකාරිත්වය පෙන්විය යුත්තෙහිය.

1917 ජූලි 5 (18) දින ලියන ලදී.

1917 ජූලි 19 (6) දින ''ලිස්තොක් ප්‍රාව්දි'' හි පළ කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 32, පිටු 410-417.

# අර්බුද තුන

මේ දිනවල බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව එල්ල කරන අපහාස සහ බොරු වඩාත් දරුණු වන තරමට, අපි වඩ වඩාත් සන්සුන් ලෙස ඒවා නිෂ්ප්‍රභා කරන අතරම සිදුවීම් සහ විප්ලවයේ වර්තමාන ගමන් මාර්ගයේ දේශපාලන, එනම්, පංති අර්ථය අතර අන්තර් සම්බන්ධය ගැන සිතා බැලිය යුත්තෙමු.

බොරු සහ අපහාස නිෂ්ප්‍රභා කිරීමට අප කළ යුත්තේ ජූලි 6 දින ''ලිස්තොක් ''ප්‍රාව්දි'' ''[102] ගැන නැවත සඳහන් කිරීම සහ පෙළපාලියට විරුද්ධව (සමාජවාදී-විප්ලවවාදීන්ගේ පත්‍රය පිළිගන්නා ලෙසට) බොල්ෂෙවික්වරු ජූලි 2 දින ව්‍යාපාරයක් ගෙන ගිය බවට ලිඛිත සාක්ෂි සපයන පහත මුද්‍රිත ලිපියට විශේෂයෙන්ම පාඨකයාගේ අවධානය යොමු කිරීම පමණකි. ජූලි 3 දින පොදුජන කෝපය පුපුරා හැලෙමින් සටනක් බවට පරිවර්තනය වෙමින්, අපගේ උපදෙස්වලට පටහැනිව පෙළපාලිය ආරම්භ වූ බවත් එම ලිපියෙන් පෙනේ. ජූලි 4 වැනි දින සාමකාමී සහ සංවිධානාත්මක පෙළපාලියක් පවත්වන ලෙස අප පත්‍රිකාවක් මගින් (සමාජවාදී-විප්ලවවාදී ''දියල නරෝද''[103] පත්‍රයෙහි එය නැවත පළ විය) ආයාචනා එළ බවත්, ජූලි 4 දින රාත්‍රියේ පෙළපාලිය අවසාන කිරීමට අප තීරණයක් සම්මත කළ බවත් එයින් පෙනේ. අපහාස කාරයිනි, තොපගේ අපහාසය දිගටම ගෙනයව්! මෙම සත්‍ය කරුණු සහ සෑම දෙයක්ම සම්බන්ධයෙන් ඒවා පාන තීරණාත්මක බලය නිෂ්ප්‍රභා කිරීමට තොපට කිසි කලෙකත් නොපුළුවන!

සිදුවීම්වල ඓතිහාසික අන්තර් සම්බන්ධය වෙතට අපි හැරෙමු. තාවකාලික ආණ්ඩුවට ආධාර දීම ගැන, අප්‍රේල් මාසයේ ආරම්භය තරම් ඈත කාලයකදීම අප විරුද්ධ වූ කල, සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු අපට පහර දුන්හ. නමුත් යථාර්ථයෙන් ඔප්පු වී ඇත්තේ කුමක්ද?

අප්‍රේල් 20 සහ 21 ත්, ජූනි 10 සහ 18 ත්, ජූලි 3 හා 4 ත් යන දිනවල ඇතිවූ දේශපාලන අර්බුදවලින් ඔප්පු වී ඇත්තේ කුමක්ද?[104]

ප්‍රථමයෙන්ම, තාවකාලික ආණ්ඩුවේ ධනපති බහුතරයේ ධනපති ප්‍රතිපත්තිය ගැන පොදු ජනතාව වැඩි වැඩියෙන් අප්‍රසාදයට පත්වන බව එයින් ඔප්පු වී තිබේ.

පාලක සමාජවාදී-විප්ලවවාදීන්ගේ පත්‍රය වන ''දියල නරෝද'' බොල්ෂෙවික්වරුන්ට බලවත් ලෙස විරුද්ධ නමුත්, ජූලි 3 හා 4 දිනවල සටනට ගැඹුරු ආර්ථික හා දේශපාලන හේතු තිබෙන බව එහි ජූලි 6 දින කලාපය මගින් පිළිගැනීමට එයට සිදුව තිබීම සටහන් කිරීම වැදගත්ය. මෙම සටන කෘත්‍රිම වශයෙන් නිර්මානය කරන ලදැයිද,බොල්ෂෙවිකවරු, එම සටනට පක්ෂව ව්‍යාපාරයක් ගෙන ගියහයිද කියන මුග්ධ, අමූලික කැත බොරුව දිනෙන් දින වඩ වඩාත් පැහැදිලිව හෙළිදරව් වනු ඇත.

විද්‍යානුකූල ලෙස දේශපාලනය දෙස බැලීමේදී අවශ්‍යවන පරිදි ඉහත සඳහන් දේශපාලන අර්බුද තුනෙහි අන්තර් සම්බන්ධයන් ගැන සැලකිලිමත් වෙමින් ඒවා දෙස බලතහොත් අපට ඒවායේ පොදු හේතුව, පොදු ප්‍රභවය හා දුරගාමී පොදු මුල් පැහැදිලිව පෙනෙනු ඇත. එවැනි අර්බුද තුනක් කෘත්‍රිම වශයෙන් ඇති කළ හැකියයි සිතීම පවා මෝඩ කමකි.

දෙවැනිව, ඒ එකින් එක කෙරෙහි තිබුණු අන් අර්බුද සමග පොදු දෙයත් එහි එකිනෙකෙහි විශේෂ අංග ලක්ෂණත් වටහා ගැනීම උපදේශාත්මක වන්නේය.

අර්බුද තුනටම පොදු වන්නේ, සියළුම සීමාවන් ඉක්මවා ගිය පොදුජන අප්‍රසාදයකි, ධනපති පංතිය හා ඔවුන්ගේ ආණ්ඩුව කෙරෙහි ඇති පොදු ජන නොරිස්සුමකි. කාරණයෙහි මෙම හරය අමතක කරන, නොතකා හරින හෝ අඩුවෙන් තක්සේරු කරන කවුරුන් හෝ චේවා, පංති අරගලය හා සම්බන්ධ මාක්ස්වාදයේ අ යන්න ආ යන්න අත්හැර දමන්නෙකි.

තමන් සමාජවාදීන් යයි කියා ගන්නා, යුරෝපීය විප්ලවවල පංති අරගලයේ ස්වභාවය ගැන යමක් දන්නා අය, රුසියානු විප්ලවයේ පංති අරගලය ගැන කල්පනා කර බැලීම මැනවි.

මෙම අර්බුද ප්‍රකට වූ ආකාරය අනුව ඒවා එකකින් අනික වෙනස් වේ. ප්‍රථම (අප්‍රේල් 20—31) අර්බුදය කලබල සහිත සහ සාංසිද්ධික, එසේම සම්පූර්ණයෙන්ම අසංවිධානාත්මක එකක් විය. කළු සියය පිරිස් පෙළපාලි කරුවන් වෙත වෙඩි තැබීමද, බොල්ෂෙවික්වරුන්ට විරුද්ධ අභූත පූර්ව ලෙස දරුණු සහ අමූලික චෝදනා නැගීමද ඒ අනුව සිදුවිය. එම පිපිරීමෙන් පසුව දේශපාලන අර්බුදයක් ඇතිවිය.

දෙවැනි අවස්ථාවේදී පෙළපාලිය බොල්ෂෙවික්වරුන් විසින් කැඳවන ලද අතර, සෝවියට් සභා සම්මේලනයේ තද බල නිවේදනයකින් සහ ඒකාන්ත තහනමකින් පසුව එය අවලංගු කරන ලදී.ඊළඟට බොල්ෂෙවික් සටන්





පාඨ පැහැදිලි ලෙස ප්‍රබල තැනක් ගත් ජූනි 18 දින පෙළපාලිය ඇතිවිය. සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන්ම ජූනි 18 දින සවස පිළිගත් ලෙසට, පෙරමුණෙහි කෙරුණු ප්‍රහාරය නිසා නොවී නම්, නිසැක වශයෙන්ම දේශපාලන අර්බුදයක් පැන නගින්නට තිබුණි.

තුන්වැනි අර්බුදය ජූලි මස 3 දින සාංසිද්ධික ලෙස ඇති විය. එය වැලැක්වීම සඳහා බොල්ෂෙවික්වරු ජූලි 2 දින උත්සාහ ගත් නමුත් එම උත්සාහය සාර්ථක නොවීය. ජූලි 14 දින එය උච්ඡස්ථානයට පත් වූ අතර, ඒ අනුව ජූලි 5 හා 6 දිනවල ප්‍රතිවිප්ලවය කෝපාවිෂ්ට ලෙස පහර දුන්නේය. ස්පිරිදොනව සහ තවත් සමාජවාදී විප්ලවවාදීන් සෝවියට් සභාවලට බලය පැවරීමට පක්ෂ බව ප්‍රකාශ කිරීමෙන්ද, කලින් එයට විරුද්ධව සිටි මෙන්ෂෙවික් ජාත්‍යන්තරවාදීන් එම අදහසම හඬ නැංවීමෙන්ද සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ වැනෙනසුලු භාවය ප්‍රකට විය.

අවසාන වශයෙන්, මෙම සිදුවීම් ඒවායේ අන්තර් සම්බන්ධය අනුව සලකා බලන කල, මෙම අර්බුද තුනෙන් හැම එකක්ම,කිසියම් ආකාරයක පෙළපාලියක් වශයෙන්, එනම් ව්‍යාපාරය රැළිමාලා ආකාරයෙන් ඉදිරියට ගෙන යන, සංකීර්ණ වර්ගයක පෙළපාලියක ස්වභාවයෙන් ඉදිරිපත් වූ අතර, එය සීඝ්‍ර නැගීමකින් අනතුරුව හදිසි වැටීමක්ද, විප්ලවයේ සහ ප්‍රතිවිප්ලවයේ තියුණු වීමක්ද, තරමක් දුරට දීර්ඝ කාලයක් සඳහා මැද කොටස් ඉවත්ව සිටි තත්වයක්ද, වූ බව එයින් බැස ගත හැකි වඩාත්ම උපදේශාත්මක නිගමනය විය හැකිය.

අර්බුද තුනෙහිම චලිතය පෙළපාලියක ස්වරූපය ගත්තේය. එය ආණ්ඩු විරෝධී පෙළපාලියක් යයි කීම වඩාත් නිවැරදි සහ සිදුවීම් පිළිබඳ තත්වානුකූල විස්තරයක් වනු ඇත. නමුත් මෙහි වැදගත් කරුණ වූයේ එය සාමාන්‍ය පෙළපාලියක් නොවීමය. එය සැලකිය යුතු තරමකින් පෙළපාලිය ඉක්මවා යන එහෙත් විප්ලවයට වඩා අඩු යමක් විය. එය විප්ලවයත්, ප්‍රතිවිප්ලවයත් යන දෙකම එකවර කඩා පැනීමක් විය; නිර්ධන පංති සහ ධනපති පංති කොටස් කලහකාරී ලෙස ඉදිරියට පැමිණි අතර, මැද කොටස් සම්පූර්ණයෙන්ම මෙන් සහ සමහර විට හිටි අඩියේම ''ඉවත් වීමක්'' විය.

මේ හා සම්බන්ධයෙන් වූ කල, මැද කොටස් නිශ්චිත පංති බලවේගයන්ට, නිර්ධන පංතිය සහ ධනපති පංතිය යන දෙකටම දෝෂාරෝපනය කිරීම මෙම ව්‍යාපාර සැම එකකදීම දක්ක හැකිය. සමාජවාදී විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් දෙස බලන්න. බොල්ෂෙවික්වරු ඔවුන්ගේ සීමාන්තික කටයුතු මගින් ප්‍රතිවිප්ලවයට ආධාර කරතියි ඔවුහු වියරුහුණු කලෙක මෙන් මුළු වැර යොද ඝෝෂා කරති. එසේ වුවත් (ආණ්ඩුව තුළ ඔවුන් සමග පෙරමුණක් සාද ගෙන සිටින) කැඩෙට්වරු ප්‍රතිවිප්ලවවාදී යයි ඔවුහු නැවත නැවතත් පිළිගනිති. ''දියල නරෝද'' ඊයේ මෙසේ ලීවේය:

''අපගේ හදිසි කර්තව්‍යය වන්නේ, අපත්, සටන්කාමී වී තිබෙන ''යෙදින්ස්ත්ව'' (සමාජවාදී-විප්ලවවාදීන් මැතිවරණයේදී එය සමග පෙරමුණක් ඇති කරගත් බව අපි එකතු කරමු) ඇතුළු දක්ෂිණාංශික කොටසුත් වෙන් කර දක්වන රේඛාවක් ඇඳීමය; අප අතර ගැඹුරු දිය අගලක් කැනීමය''.

මෙය අද (ජූලි 7) දින ''යෙදින්ස්ත්ව'' සමග සසඳා බලන්න. සෝවියට් සභා (එනම් සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන්) ''සති දෙකක් යන තෙක් කාරණා ගැන කල්පනා කර බලනු ඇති'' බවත්, බලය සෝවියට් සභා අතට පත්වුවහොත්, ''එය ලෙනින්ගේ ආධාර කරුවන්ගේ ජයග්‍රහණයක් වනු ඇති'' බවත් එහි ප්ලෙහානව් කතුවැකියට නොපිළිගෙන බැරි විය. කැඩෙට්වරු නීතිය නොපිළිපදිතොත්, එසේවූ කරමට හොඳය...'' යනුත්, ''ඔවුන් (ඇමති මඩුල්ලෙන් ඉවත් වීමෙන්) ලොකු වරදක් කරමින් ලෙනින්ගේ ආධාර කරුවන්ගේ කටයුතු පහසු කළ බැවි ඔවුන්ටම පිළිගැනීමට සිදුවනු ඇති'' බවත් ප්ලෙහානව් කියයි.

මෙය නියම නිදර්ශනයක් නොවේද? මැද කොටස්, බොල්ෂෙවික්වරුන්ගේ වැඩ පහසු කිරීම ගැන කැඩෙට්වරුන්ටත්, කැඩෙට්වරුන්ගේ වැඩ පහසු කිරීම ගැන බොල්ෂෙවික්වරුන්ටත් දෝෂාරෝපනය කරති! දේශපාලන නම් වෙනුවට අපි පංති නම් යොදන්නෙමු නම්, අප ඉදිරියේ තිබෙනු ඇත්තේ නිර්ධන පංතිය සහ ධනපති පංතිය අතර පංති අරගලය අතුරුදහන් වීම පිළිබඳ සුළු ධනපති පංතියේ සිහිනය වන බව සිතා ගැනීම එතරම් අපහසු දෙයක්ද?ධනපත පංතියට එරෙහිව නිර්ධන පංතිය කරන පංති සටන ගැන සුළු ධනපති පංතිය පළ කරන දුක්ගැනවිලි? ගැඹුරතම ආර්ථික සහ දේශපාලන භේද කරනකොටගෙන නිර්ධන පංතිය ක්‍රියාත්මක නොවිනි නම්, ව්‍යාපාර තුනක් තබා එක පොදු ජන ''ව්‍යාපාරයක්'' වත් ''නිර්මාණය'' කිරීමට, ලෝකයේ කොතැනක හෝ බොල්ෂෙවික්වාදීන්ට වුවද, පුළුවන් කමක් නොතිබුණු බව සිතා ගැනීම එතරම් අපහසුදු? ධනපති පංතිය පංතියක් වශයෙන් ප්‍රතිවිප්ලවවාදී බවට පත් කරන එවැනිම ගැඹුරු හේතු සාධක නිසා නොවේනම්, ඒකාබද්ධ කැඩෙට්වරුන් සහ රාජාණ්ඩුවාදීන් කවුරුන් වුවත්, ඔවුන්ට ''දක්ෂිණාංශයෙන් ව්‍යාපාරයක්'' ඇති කිරීමට නොහැකි බව සිතා ගැනීම එතරම් අපහසුද?

අප්‍රේල් 20—21 ව්‍යාපාරය ගැනද, දරදඬු ගතිය, සීමාන්තයට යාම සහ තත්වය උග්‍ර කිරීම ගැනද, අපත්, කැඩෙට්වරුනුත් යන දෙපාර්ශවයටම දෝෂාරෝපනය කරන ලදී. නෙව්ස්කි මාවතේ වෙඩි තැබීම් ගැන (එය කොතරම් විශාල බොරුවක් වුවත්) බොල්ෂෙවික්වරුන්ට දෝෂාරෝපනය කරන ලදී. නමුත් ව්‍යාපාරය අවසන් වූ විට, එම සමාජවාදී-විප්ලවවාදීහුම සහ එම මෙන්ෂෙවික්වරුම, ඔවුන්ගේ නිල ''ඉස්වෙස්තියා'' පත්‍රය මගින් ''පොදු ජන ව්‍යාපාරය අධිරාජ්‍යවාදීන් සහ මිල්යුකොව්ලා ආදීන් අතුගා දැම්මේය'' යි කීවෝය, නැතහොත්, ව්‍යාපාරයට ප්‍රශංසා කළෝය!!මෙයම අගනා නිදර්ශනයක් නොවේද? නිර්ධන පංතිය හා ධනපති පංතිය අතර පංති අරගලය කෙරෙන ආකාරය සහ එහි අර්ථය සුළු ධනපති පංතියට නොවැටහෙන බව එයින් ඉතා පැහැදිලි ලෙස පෙන්නුම් නොකෙරේද?

වාස්තවික තත්වය මෙයයි. රටේ ජනගහනයෙන් අති බහුතරය එහි ජීවන තත්වය සහ ඊටත් වඩා ඔවුන්ගේ අදහස් අනුව සුළු ධනපති පංතික වන්නේය. නමුත් මූලික වශයෙන් බැංකු සහ සම්මේල මගින් ලොකු ප්‍රාග්ධන අධිකාරීහු රට පාලනය කරති. තමන්ගේම මාවතෙහි යාමට තරම් මේරූ නාගරික නිර්ධන පංතියක් මෙම රටෙහි ඇතත්, අර්ධ නිර්ධන පංතිකයන් බහුතරය තම පැත්තට ඇද ගැනීම එයට තවමත් නොපුළුවන. අප දැන් විමර්ශනයට ලක් කරන අර්බුද තුන වැනි අර්බුදත්, ඒවායේ ආකෘතිත් අනිවාරණීය වශයෙන්ම පැන නගින්නේ මෙම මූලික, පංතිමය සාධකයෙනි.

අනාගතයේදී අර්බුදවල ආකෘතිය වෙනස් වන්නට පිළිවන. නමුත්, යම් හෙයකින් සමාජවාදී-විප්ලවවාදී ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ඔක්තෝබරයේදී රැස්වූවත්, ප්‍රශ්නයේ හරය නොවෙනස්ව පවතිනු ඇත. සමාජවාදී-විප්ලවවාදීන් ගොවිජනතාවට මෙම පොරොන්දු දී ඇත: (1) පෞද්ගලික ඉඩම් හිමිකම අවලංගු කිරීම; (2) ඉඩම් වැඩ කරන ජනතාවට පවරා දීම; (3) වතුකාර දේපල රාජ සන්තක කර, වන්දි නොමැතිව ඒවා ගොවි ජනයාට පවරා දීම. ධනපති පංතියට විරුද්ධව ඉතාමත් තීරණාත්මක විප්ලවවාදී පියවරයන් නොගෙන මෙම ශ්‍රේෂ්ට ප්‍රතිසංස්කරණ කිසිසේත් සාර්ථක කර ගත නොහැකිය. එම පියවරයන් ගත හැක්කේ, දුප්පත් ගොවීන් නිර්ධන පංතිය සමග එක්සත් වූ කල පමණකි; බැංකු සහ සම්මේල ජනසතු කිරීමෙන් පසුව පමණකි.

ධනපති පංතිය සමග සම්මුතියේ මාර්ගයෙන් මෙම ලක්ෂණ දේවල් ලබා ගත හැකියයි කලක් යන තෙක් විශ්වාස කරන, පහසුවෙන් විශ්වාසයට වැටෙන, ගොවි ජනතාව, සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ පොරොන්දු ඉටු කරවා ගැනීම සඳහා නිර්ධන පංතිය ධනපති පංතියට විරුද්ධව කරන තියුණු පංති අරගලය ගැන අනිවාරණීය වශයෙන්ම නොකැමති සහ... (ලිහිලෙන් කියතොත්) ''අප්‍රසාද'' වනු ඇත. එය එසේ විය; ඉදිරියේදීද එසේම වනු ඇත.

1917 ජූලි 7(20) දින ලියන ලදී.

1917 ජූලි 19 දින ''රබොත්නිටසා'' අංක 7 සහරාවෙහි පළ කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 32, පිටු 428-432.

# බොල්ෂෙවික් නායකයන් උසාවියෙහි පෙනී සිටීම පිළිබඳ ප්‍රශ්නය[105]

පෞද්ගලික කතා බහ අනුව බලන කල මෙම ප්‍රශ්නය ගැන බල පවත්නා අදහස් දෙකක් ඇත.

''සෝවියට් වාතාවරණය'' හමුවේ අවනත වන සහෝදරවරු බොහෝ විට උසාවියෙහි පෙනී සිටීම කරා යොමු වෙති.

කම්කරුවන්ට වඩාත් සමීප අය උසාවියෙහි පෙනී නොසිටීම කරා යොමු වන බව පෙනේ.

ප්‍රතිපත්තියක් වශයෙන් ගත් කල, මෙම ප්‍රශ්නය, සුපුරුදු ලෙසට ව්‍යවස්ථානුකූල මායා මත යනුවෙන් හැඳින්වෙන දෙය ගැන කරන තක්සේරුවක තත්වයට සරල වන්නේය.

රුසියාවේ ක්‍රමානුකූල ආණ්ඩුවක් පවතින බව නැතහොත් පැවතිය හැකි බවද, ක්‍රමානුකූල උසාවියක් ඇති බවද, ආණ්ඩුක්‍රම සම්පාදක මණ්ඩලය රැස් කෙරෙනු ඇතැයි යනුවෙන්ද, සිතන යම් කෙනෙක් උසාවියේ පෙනී සිටීමට පක්ෂ නිගමනයකට එළඹෙන්නට පුළුවන.

නමුත් එම අදහස සම්පූර්ණයෙන්ම වැරදිය. (විප්ලවයකින් තොරව) ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවීම ඉතාමත් අඩමාන බවත්, රුසියාවේ (දැනට) ක්‍රමානුකූල ආණ්ඩුවක් හෝ ක්‍රමානුකූල උසාවියක් හෝ නොපවතින හා පැවතිය නොහැකි බවත්, ඉතාමත් පැහැදිලි ලෙස පෙනී යන්නේ ජූලි 4 දිනෙන් පසු අළුත්ම සිදුවීම් වලිනි.

උසාවිය යනු බලධාරී ආයතනයකි. ලිබරල්වාදීහු සමහර විට මෙය අමතක කරති. නමුත්, එසේ කිරීම, මාක්ස්වාදියෙකුට අපරාධයකි.

එසේ නම් බලය ඇත්තේ කොහිද? බලය සංයුක්ත වන්නේ කුමකින්ද?

ආණ්ඩුවක් නොමැත. දිනෙන් දින එය වෙනස් වන්නේය. එය අක්‍රියාත්මකය.



ක්‍රියාත්මකව තිබෙන බලය යුද්ධමය ආඥාදායකත්වය ය. මෙම තත්වයන් යටතේ ''උසාවි'' ගැන කථා කිරීම පවා විහිළුවකි.

එය උසාවි පිළිබඳ ප්‍රශ්නයක් නොව, සිවිල් යුද්ධයේ එක් කොටසක් පිළිබඳ කථාවකි.

අවාසනාවකට මෙන්, උසාවියේ පෙනී සිටීමට පක්ෂ අය වටහා නොගන්නේ මෙයයි.

නඩුවේ මුල් සාක්ෂිකරුවන් ලෙසට පෙරෙවෙර්සෙව් සහ අලෙක්සින්ස්කි සිටිති!! එවැනි තත්වයන් යටතේ උසාවි ගැන කථා කිරීම විගඩමක් නොවේද? එම තත්වයන් යටතේ ඕනෑම උසාවියකට ඕනෑම කරුණක් පරීක්ෂාකර, විභාග කර, ඔප්පු කළ හැකි යයි කල්පනා කිරීම බොළඳ සිතුවිල්ලක් නොවේද?

බලය යුද්ධමය ආඥාදායකත්වය අතෙහි පවතී. නව විප්ලවයක් නොමැතිව සිදුවිය හැක්කේ, කිසියම් කාලයක් සඳහා, විශේෂයෙන්ම යුද්ධය පවතින කාලයට මෙම බලය තවත් ශක්තිමත් වීම පමණකි.

''මම නීතියට විරුද්ධව කිසිවක් කර නැත්තෙමි. උසාවි සාධාරණය. ඒවා කාරණා බේරුම් කරනු ඇත. නඩුව අසන්නේ ප්‍රසිද්ධියේය. ජනතාවට කාරණය වැටහෙනු ඇත. මම උසාවියේ පෙනී සිටින්නෙමි.''

මෙසේ තර්ක කිරීම ළදරුවෙකුගේ හා සමාන බොළඳ කමකි. බලධාරීන්ට අවශ්‍යව තිබෙන්නේ නඩුවක් ඇසීමට නොව, ජාත්‍යන්තරවාදීන්ට විරුද්ධව හිංසා පීඩා කිරීමේ ව්‍යාපාරයකි. කෙරෙන්ස්කි සහ සමාගමට උවමනා වී තිබෙන්නේ ඔවුන් සිරගෙයි ලා එහි අඩස්සි කර තැබීමටය. එය ඉහතදී බ්‍රිතාන්‍යයේ සහ ප්‍රංශයේ සිදු වූයේද, එය අනාගතයේ රුසියාවේ සිදුවන්නේද එපරිද්දෙන්මය.

ජාත්‍යන්තරවාදීන් ඔවුනට හැකි තරම් දුරට නීති විරෝධී ලෙස වැඩ කිරීම සුදුසු අතර, ඔවුන් සිය කැමැත්තෙන්ම උසාවියෙහි පෙනී සිටීමේ මෝඩකම නොකළ යුතුය!

1917 ජූලි 8(21) දින ලියන ලදී.

1925 වර්ෂයේදී ''ප්‍රොලිතාර්ස්කයා රෙවලුට්සියා'' අංක 1 සඟරාවෙහි ප්‍රථමයෙන් පළ කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 32, පිටු 433-434 .

# දේශපාලන තත්වය

## (ප්‍රවාද හතරක්)

1. ප්‍රතිවිප්ලය සංවිධානය වී තහවුරු වී ඇත්ත වශයෙන්ම බලය තමන් අතට ගෙන ඇත[106].

ප්‍රතිවිප්ලවය සම්පූර්ණයෙන්ම සංවිධානය කිරීම සහ තහවුරු කිරීම, එහි ප්‍රධාන බලවේග තුන ඒකාබද්ධ කිරීමෙන් සංයුක්ත වූවකි. එම ඒකාබද්ධ කිරීම දක්ෂ කල්පනාවක් අනුව දැනටමත් ක්‍රියාත්මක කර තිබේ.[107] (1) සංවිධානය වූ ධනපති පංතියේ නියම නායකයා වන ව්‍යවස්ථානුකූල ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය, ඇමති මණ්ඩලයෙන් ඉවත් වීමෙන් එය හමුවේ අවසාන නිවේදනයක් තැබුවේය. එසේ කිරීමෙන් එය ප්‍රතිවිප්ලවය මගින් ඇමති මණ්ඩලය බලයෙන් නෙරපා දැමීම සඳහා මාර්ගය සකස් කළේය. (2) ඉතාමත් ප්‍රමුඛ සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදීන් පවා දන් කවෙනාක් කෙනෙක් ලෙසට විස්තර කරන කෙරෙන්ස්කි සිතාමතාම හෝ දැනුවත්ව හෝ දෙන ඔහුගේ ආධාර ඇතිව, යුද්ධ හමුද ප්‍රධාන මණ්ඩලය හා හමුද නායකයන් නියම වශයෙන් රාජ්‍ය බලය අල්ලාගෙන ඇත. එසේම ඔවුහු පෙරමුණෙහි විප්ලවවාදී සේනාංක වෙඩිතබා දැමීමටද, මොස්කව් හා පෙට්‍රොග්‍රෑඩ් විප්ලවවාදී හමුද සහ කම්කරුවන් නිරායුධ කිරීමටද, නිෂ්නි නොව්ගොරොද්හි කලබල මර්දනය කිරීමටද, නඩු නොඅසා පමණක් නොව, ආණ්ඩුවේ නියෝග පවා නොමැතිව බොල්ෂෙවික්වරු අත් අඩංගුවට ගැනීමට සහ ඔවුන්ගේ පුවත්පත් තහනම් කිරීමටද, කටයුතු කරති. දැනට රුසියාවේ මූලික රාජ්‍ය බලය බොහෝ දුරට යුද්ධමය ආඥාදායකත්වයක් වී තිබේ. වචනයෙන් විප්ලවවාදී, එහෙත් ක්‍රියාවෙන් බල රහිත ආයතන ගණනාවක් නිසා, මෙම සත්‍යය තවමත් ව්‍යාකූලව පවතී. නමුත් එය කොතරම් නිසැක හා මූලික කරුණක්ද යත්, එය වටහා ගන්නේ නැතිව, කෙනෙකුට දේශපාලන තත්වය ගැන කිසිවක් වටහා ගත නොහැකිය. (3) බොල්ෂෙවික්වරුන් පස්සේ එළවීමේ සිට සෝවියට් සභා පස්සේ, වෙර්නොව් "ගිනි තබන්නා" ආදීන් පස්සේ එළවීම දක්වා වෙනස් වීගොස් තිබෙන කළු සියය — රාජාණ්ඩුවාදී සහ ධනපති පුවත්පත් ඉතාමත් පැහැදිලි ලෙස පෙන්වා දී ඇති පරිදි, දැනට සම්පූර්ණ බල සහිත රජයක සහ කැඩෙට්වරුන්ගේ ආධාරය ලබන යද්ධමය ආඥාදායකත්වයේ ප්‍රතිපත්තියෙහි නියම අර්ථය සෝවියට් සභා විසුරුවා හැරීමට කටයුතු සූදනම් කිරීම වන්නේය. පසු ගිය දින කීපය තුළ සමාජවාදී විප්ලවවාදී සහ මෙන්ෂෙවික් නායකයන් බොහෝ දෙනෙක්, එනම්, සෝවියට් සභාවල වර්තමාන බහුතරය, මෙය පිළිගෙන සහ ප්‍රකාශ කර තිබේ. නමුත් ඔවුහු ඔවුන්ගේ සුළු ධනපති ස්වභාවයට ගැලපෙන සේ අර්ථ විරහිත මහා ශාබ්දික වදන් මාලා දෙසමින් මෙම බලගතු යථාර්ථය නොතකා හරිති.

2. ට්සෙරතෙලිගේ සහ වෙර්නොව්ගේ ප්‍රධානත්වයෙන් යුත් සෝවියට් සභාවල සහ සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පක්ෂවල නායකයන් විප්ලවය ප්‍රතිවිප්ලවය අතට පත් කිරීමෙන්, තමන්ද, තම පක්ෂද, සෝවියට් සභාද, හුදෙක්ම ප්‍රතිවිප්ලවයේ සෙළුව වසන කොළ අතු පමණක් බවට පත් කර ඇති හෙයින්, ඔවුහු විප්ලවයේ සද් ව්‍යාපාරයට සම්පූර්ණයෙන්ම ද්‍රෝහී වී සිටිති.

සමාජවාදී-විප්ලවවාදීන් විසින් බොල්ෂෙවික් වරුන් පාවා දෙනු ලැබීමෙනුත්, තමන් බොල්ෂෙවික් වරුන්ගේ පුවත්පත් වසා දැමීමට එකඟ වන්නේ මන්ද යන්න ජනතාවට පැහැදිලි ලෙස හා විවෘත ලෙස කීමට තරම් එඩිතර නොවී, ඒවා තහනම් කිරීම සඳහා ඔවුන්ගේ නිහඬ එකඟත්වය දීමෙනුත්, මෙය ඔප්පු වේ. කම්කරුවන් සහ විප්ලවවාදී රෙජිමේන්තු නිරායුධ කිරීම අනුමත කිරීමෙන් ඔවුහු නියම බලය සම්පූර්ණයෙන්ම අහිමි කරගෙන සිටිති. ඔවුන් පත්ව සිටින්නේ, සෝවියට් සභා විසුරුවා හැරීම සඳහා සම්පූර්ණයෙන්ම සූදනම් වන තෙක්, ජනතාවගේ අවධානය එයින් "වෙනතකට යොමු කිරීමට" එයට ආධාර කරනුවස් වැඩියෙන්ම කට බලියන සෝෂකයන්ගේ තත්වයටය. සමාජවාදී -විප්ලවවාදීන්ගේ මෙන්ෂෙවික්වරුන්ගේ සහ සෝවියට් සභාවල වර්තමාන බහුතරයේ අන්ත බංකොලොත්භාවය වටහා නොගෙන, ඔවුන්ගේ "අධ්‍යක්ෂවරු" සහ වෙනත් නාඩගම්කරුවන් කරන්නේ අන්ත බොරුවක් බව වටහා නොගෙන වර්තමාන දේශපාලන තත්වය ගැන කිසිම දෙයක් වටහා ගත නොහැකිය.

3. රුසියානු විප්ලවයේ සාමකාමී සංවර්ධනය සඳහා තිබුණු සියළු බලාපොරොත්තු සම්පූර්ණයෙන්ම අතුරුදහන් වී ඇත. වාස්තවික තත්වය මෙසේය: එක්කෝ යුද්ධමය ආඥාදායකත්වය සම්පූර්ණයෙන් ජයග්‍රහණය කරනු ඇත; එසේ නැතහොත් කම්කරුවන්ගේ ආයුධ සන්නද්ධ නැගී සිටීම ජයග්‍රහණය කරනු ඇත. මෙයින් පසු කී ජයග්‍රහණය ඇති විය හැක්කේ, කැරළි ගසමින් නැගී සිටීමත්, ආර්ථික කඩාකප්පල් වීම සහ යුද්ධය

දීග්ගැසීම හේතුකොටගෙන ආණ්ඩුවට හා ධනපති පංතියට විරුද්ධව ඇතිවන පොදුජන කැළඹීමත් සම්පාත වූ විට පමණකි.

''සෝවියට් සභාවලට මුළු බලය පවරනු'' යන්න විප්ලවය සාමකාමී ලෙස සංවර්ධනය කිරීම සඳහා ඉදිරිපත් කෙරුණු සටන් පාඨයක් විය. අප්‍රේල්, මැයි, ජූනි මාසවල සහ ජූලි 5—9 දක්වා එනම්, නියම බලය යුද්ධමය ආඥා දයකත්වය අතට පත්වන තුරු එය, විය හැකිව තිබුණි. දැන් මෙම සටන් පාඨය නිවැරදි නොවේ. එසේ වන්නේ, බලය මාරු වී ඇති බවත්, සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් ඇත්ත වශයෙන් විප්ලවය සම්පූර්ණයෙන්ම පාවා දී ඇති බවත්, එයින් සැලකිල්ලට නොගැනෙන හෙයිනි. ප්‍රතිගාමිත්වයට විරුද්ධවීම සඳහා අපරීක්ෂාකාරී සටන් කිරීමෙන් හා කැරළි ගැසීමෙන්, අර්ධ ප්‍රතිරෝධනයෙන් හෝ විශ්වාසය තැබිය නොහැකි පහර දී පැන යාමේ ප්‍රයත්නවලින් හෝ ප්‍රයෝජනයක් නොවේ. ඒ සඳහා ප්‍රයෝජනවත් වනු ඇත්තේ, තත්වය ගැන පැහැදිලි ලෙස වටහා ගැනීමය; කම්කරු පෙරමුණු බලඇණියේ වීර්යය සහ අධිෂ්ඨානය ය; ආයුධ සන්නද්ධ නැගී සිටීම සඳහා කටයුතු සූදනම් කිරීමය. එම නැගී සිටීම ජයග්‍රහණයට පත් වීම සඳහා තිබෙන වර්තමාන කොන්දේසි ඉතාමත් දුෂ්කරය. නමුත්, ඉහත සඳහන් කරුණු හා උපනති සම්පාත වුවහොත් එය ජයග්‍රහණය කිරීමේ හැකියාව තිබේ. අපි ව්‍යවස්ථානුකූල හෝ සමූහාණ්ඩුවාදී මායා මත නොදැරිය යුත්තෙමු. සාමකාමී මාර්ගය ගැන තවත් මංමුළාවන්ට නොවැටිය යුත්තෙමු. කළු සියය කොසාක්වරුන්ගේ ප්‍රකෝප කිරීම්වලට දැන් ඉඩ නොදිය යුත්තෙමු. බලවේගයන් එකතු කර ගෙන, ඒවා හඳුනා ගෙන, අවිගත් නැගී සිටීම සඳහා සූදනම් වෙමු. අර්බුදයේ ගමන් මාර්ගයෙන් ඉඩ ලැබෙතොත්, එය සැබැවින්ම පොදු ජන සහ දේශව්‍යාප්ත පරිමාණයේ නැගී සිටීමක් කිරීම සඳහා සූදනම් වෙමු. ප්‍රතිවිප්ලවවාදීන් බලය අත්පත් කර ගැනීමෙන් පසු ඔවුන් ඉඩම් හිමි පංතිය හා සමග සම්පූර්ණයෙන්ම සමගි වී සිටින නිසා, අවිගත් නැගිටීමක් නොමැතිව ගොවි ජනතාවට ඉඩම් පවරා දීම කිසිසේත් කළ හැකි නොවේ.

කැරලි ගසමින් නැගී සිටීමේ අරමුණ විය යුත්තේ අපගේ පක්ෂ වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කිරීමේ අදහස ඇතිව, දුප්පත් ගොවි ජනතාවගේ ආධාරය ලබන නිර්ධන පංතියට බලය පැවරීම පමණකි.

4. කම්කරු පංතියේ පක්ෂය නීත්‍යානුකූල වැඩ අත් නොහැර, එහෙත්, මොහොතකට හෝ එය ගැන අධිතක්සේරුවක් නොකර, එය 1912—1914 කාලයේ කළ සේ, නීත්‍යානුකූල හා නීති විරෝධී කටයුතු ඒකාබද්ධ කළ යුතුය.

නීත්‍යානුකූල වැඩ කිරීමට ඉඩ ඇති එක පැයක්වත් අපතේ යන්න ඉඩ නොදෙන්න. නමුත් අපි කිසිම ව්‍යවස්ථානුකූල හෝ ''සාමකාමී'' මුළාවක් කෙරෙහි විශ්වාසය නොතැබිය යුත්තෙමු. පත්‍රිකා පළකිරීම යනාදී කටයුතු සඳහා සෑම තන්හිම හා අප්‍රමාදවම නීති විරෝධී සංවිධාන හෝ එසේ නැතහොත් ශාඛා පිහිටුවනු. වහාම, සසංගත ලෙස, අධිෂ්ඨාන සහගත ලෙස හා සියළුම කටයුතු හසුවන සේ ප්‍රතිසංවිධාන කටයුතු කරනු.

විප්ලවයක් සහ ආයුධ සන්නද්ධ නැගිටීමක් මගින් සාර්වාදය බලයෙන් නෙරපීම ගැන කථාකරන අතරම, දූමා සභාව, රක්ෂණ සමිති, වෘත්තීය සමිති ආදියෙහි අපට තිබුණු නීත්‍යානුකූල පදනම අහිමි කර නොගෙන අප 1912—1914 කාලයේ වැඩ කළ ලෙසට කටයුතු කරනු.

1917 ජූලි 10(23) දින ලියන ලදී.

1917 අගෝස්තු 2 (ජූලි 20) දින ''ප්‍රොලිතාර්ස්කය දියල'' අංක 6 හි පළ කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 34, පිටු 15

# "ප්‍රොලිතාර්ස්කොය දියල" කතුවරුන්ට ලිපියක්[108]

සහෝදරවරුනි!

අප අත් අඩංගුවට ගැනීම සඳහා තාවකාලික ආණ්ඩුව නිකුත් කළ නියෝගයට යටත් වීමේ අදහස අපි වෙනස් කර ගත්තෙමු. ඊට හේතුවූ කරුණු මෙසේය.

ලෙනින් සහ වෙනත් අයට විරුද්ධව ඉදිරිපත් කර ඇති "වරපුරුෂ කටයුතු" ගැන "නඩුව" ප්‍රතිවිප්ලවයේ පක්ෂය විසින් උවමනාවෙන්ම ගොතන ලද බොරු නඩුවක් බව ඉරිදා දින "නොවයේ වරෙමයා"[109] පත්‍රයෙහි පළ කෙරුණු හිටපු අධිකරණ ඇමති පෙරෙවෙර්සෙව්ගේ ලිපියෙන් මැනවින් පැහැදිලි වේ.

අපගේ පක්ෂයට විරුද්ධව සොල්දදුවන් හැඩගැස්වීම පිණිස (ඔහුගේම සත්‍ය කියමන) සනාථ නොකෙරුණු චෝදනාවලින් ප්‍රයෝජන ගන්නා ලද බව ඔහු විවෘතයේම පිළිගත්තේය. මෙය පිළිගෙන ඇත්තේ හිටපු අධිකරණ ඇමතිවරයා සහ මේ මෑතක් වනතෙක්ම තමන් සමාජවාදියෙකැයි කියා ගත් පුද්ගලයෙක් විසිනි! පෙරෙවෙර්සෙව් දැන් එතැන නැත. නමුත්, නව අධිකරණ ඇමතිවරයා පෙරෙවෙර්සෙව්ගේ සහ අලෙක්සින්ස්කිගේ ක්‍රම අනුගමනය කිරීමට පැකිළීමක් දක්වනු ඇද්දැයි කිසිවෙකුට කිව නොහැකිය.

ප්‍රතිවිප්ලවවාදී ධනපති පංතිය අළුත් ද්‍රේෆුස් නඩුවක්[110] නිර්මාණය කිරීමට උත්සාහ කරයි. යුදෙව්වරු ළමයින්ගේ ලේ බොතියි යන්න, බේලිස් නඩුව[111] ගෙතූ රුසියානු ප්‍රතිගාමීත්වයේ නායකයන් විශ්වාස කළ ලෙසටම මොවුහුද අපගේ "වරපුරුෂ කටයුතු" ගැන විශ්වාස කරති. යුක්තිය ක්‍රියාත්මක වීම පිළිබඳ සහතිකයක් දැන් රුසියාවේ නොමැත.

රුසියානු ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ පූර්ණාධිකාරය තමන් යයි සලකා ගන්නා මධ්‍ය විධායක කාරක සභාව, වරපුරුෂ චෝදනා පරීක්ෂා කිරීමට කොමිසම් සභාවක් පත් කළ නමුත් ප්‍රතිවිප්ලවවාදී බලවේගවල බලපෑම අනුව, පසුව එය එම කොමිසම් සභාව අවලංගු කළේය. අප සිරභාරයට ගැනීම සඳහා නිකුත් කරන ලද වරෙන්තුව කෙළින්ම ස්ථිර කිරීම හෝ අවලංගු කිරීම එය ප්‍රතික්ෂේප කළේය. අප ප්‍රතිවිප්ලවයට භාරදී එය අත සෝද ගත්තේය.

අපට විරුද්ධව නගා ඇති "කුමන්ත්‍රණය කිරීම" සහ "කැරළි ගැසීම සඳහා සදාචාරමය පෙළඹවීම" පිළිබඳ චෝදනා දැන් නිශ්චිත ස්වභාවයක් ගනී. නමුත් ජූලි 3—5 වැනි ව්‍යාපාරයක් ගැන සඳහන් කිරීමේදී එය "කුමන්ත්‍රණයක්" ලෙසට විස්තර කිරීම කොතරම් අර්ථ විරහිතද දන්නා තාවකාලික ආණ්ඩුව හෝ සෝවියට් සභාව, අප කළේයයි කියන අපරාධය ගැන නියත අධිචෝදනයක් කර නොමැත. මෙන්ෂෙවික් සහ සමාජවාදී විප්ලවවාදී නායකයන්ගේ උත්සාහය වී තිබෙන්නේ, ප්‍රතිවිප්ලවවාදීන් කියන ලෙසට අපගේ සාමාජිකයින් ගණනාවක් ඔවුන්ට භාර දීමෙන් ප්‍රතිවිප්ලවය සතුටු කිරීමය. දැනට රුසියාවේ නීතිමය පදනමක් පැවතිය නොහැකිය. ක්‍රමවත්භාවය පවත්නා ධනපති රටවල පවා තිබෙන වැනි ව්‍යවස්ථානුකූල අයිතිවාසිකම් සහතික වීම වුවද මෙහි නොසිදු වේ. දැන් අප අධිකාරීන්ට භාර වීම යනු, අප මිල්යුකොව්ලාගේ, අලෙක්සින්ස්කිලාගේ, පෙරෙවෙර්සෙව්ලාගේ, එනම්, කැසකවමින් සිටින ප්‍රතිවිප්ලවවාදීන්ගේ අතට හසුවීමකි. ඔවුන් අපට විරුද්ධව ඇති සියළු චෝදනාදෙස බලන්නේ සිවිල් යුද්ධයේ එක් කොටසක් වශයෙනි.

ජූලි 6—8 දිනවල සිදුවූ දෙයින් පසුව, කිසිම රුසියානු විප්ලවවාදියෙකුට තවදුරටත් ව්‍යවස්ථානුකූල මුළාවන්ට වැටී සිටිය නොහැකිය. විප්ලවය සහ ප්‍රතිවිප්ලවය තීරණාත්මක ආකාරයෙන් පොර වැදීමට යොමුවෙමින් සිටී. අපි දිගටම විප්ලවයේ පැත්ත ගෙන සටන් කරන්නෙමු.

අපි අපට හැකිතාක් දුරට දිගටම නිර්ධන පංතියේ විප්ලවීය අරගලයට ආධාර කරන්නෙමු. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස්වුවහොත්, අප අත් අඩංගුවට ගැනීම සඳහා තාවකාලික ආණ්ඩුව නිකුත් කළ නියෝගය ගැන විනිශ්චයක් කිරීමේ සම්පූර්ණ බලය එයට ලැබෙනු ඇත. එයටද එම බලය ලැබෙන්නේ එය රැස්කිරීම ධනපති පංතියේ කටයුත්තක් නොවුවහොත් පමණකි.

එන්. ලෙනින්

"ප්‍රොලිතාර්ස්කොය දියල" අංක 2, 1917 ජූලි 28(15)

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 34, පිටු 8-9

# සටන් පාඨ ගැන

ඉතිහාසයේ නව නැම්මක් ඇති වූ විට, ප්‍රගතිශීලී පක්ෂ පවා කලක් යන තෙක්, නව තත්වය අනුව හැඩගැසීමට නොහැකිව සිටි අවස්ථා බොහෝය. එවැනි අවස්ථාවල, එම පක්ෂ, කලින් නිවැරදි වූ, එහෙත් දැන් අර්ථවත්භාවය සම්පූර්ණයෙන් ගිළිහුණු, එනම් ඉතිහාසයේ නව නැම්ම ක්ෂණික වූ තරමටම ක්ෂණික ලෙස එම අර්ථය ගිළිහුණු, සටන් පාඨ ප්‍රතිරාවය දෙවීමෙහි යෙදී ඇත.

සෝවියට් සභාවලට මුළු බලය පවරන ලෙස ඉල්ලා ඉදිරිපත් කරන ලද සටන් පාඨය සම්බන්ධයෙන්ද එවැනි දෙයක් යළි සිදුවීමට ඉඩ ඇත. එම සටන් පාඨය, අපගේ විප්ලවයේ යළි ආපසු නොඑන සේ ගෙවී ගිය කාල පරිච්ඡේදයකදී, නිදසුනක් වශයෙන් පෙබරවාරි 27 සිට ජූලි 4 දක්වා කාලයේදී, නිවැරදි විය. නිසැක ලෙසම පෙනෙන පරිදි එහි නිරවද්‍යතාවය නිමාවට පත්ව තිබේ. මෙය වටහා නොගතහොත්, අද තිබෙන වැදගත් ප්‍රශ්නවලින් එකක්වත් වටහා ගත නොහැකිය. සෑම විශේෂිත සටන් පාඨයක්ම නිගමන කර ගත යුත්තේ, නිශ්චිත දේශපාලන තත්වයක විශේෂිත අංගලක්ෂණවල එකතු සමස්තයෙනි. තවද, ජූලි 4 දිනෙන් පසුව, දැන් රුසියාවේ පවතින දේශපාලන තත්වය, පෙබරවාරි 27 හා ජූලි 4 අතර කාලයේ පැවති තත්වයට වඩා හාත්පසින්ම වෙනස්ය.

විප්ලවයේ දැනට ගතවී ඇති එම කාල පරිච්ඡේදයේදී ''ද්විත්ව බලය'' යනුවෙන් හැඳින්වුනු තත්වය රටෙහි පැවැත්තේය. රාජ්‍ය බලයේ අවිනිශ්චිතභාවය සහ පරිවර්තනීය ස්වභාවය, එයින් ද්‍රව්‍යමය සහ විධිමත් යන දෙයාකාරයෙන්ම ප්‍රකාශිත විය. බලය පිළිබඳ ප්‍රශ්නය සෑම විප්ලවයකම මූලික ප්‍රශ්නය වන බව අපි අමතක නොකළ යුත්තෙමු.

ඒ අවස්ථාවේදී රාජ්‍ය බලය අස්ථාවරව තිබිණි. ස්වේච්ඡා එකඟතාවයක් අනුව එය තාවකාලික ආණ්ඩුව සහ සෝවියට් සභා අතර බෙදා ගන්නා ලදී. සෝවියට් සභා නිදහස් එනම්, බාහිර බල කිරීමට යටත් නැති, ආයුධ සන්නද්ධ කම්කරුවන් හා සොල්දාදුවන් නියෝජනය කළේය. එහිදී ඇත්ත වශයෙන් වැදගත් වූයේ, ආයුධ ජනතාව අතෙහි තිබීම සහ පිටතින් ජනතාව කෙරෙහි බලපෑමක් නොවීමය. විප්ලවයේ සාමකාමී ප්‍රගතිය සඳහා මාවත විවෘත වූයේ හා සහතික වූයේ එයිනි. ''සෝවියට් සභාවලට මුළු බලය පවරනු'' යන්න එම සාමකාමී සංවර්ධන මාවතෙහි ඊළඟට ඉටුකර ගත හැකි ආසන්නතම පියවර සඳහා සටන් පාඨය විය. එය විප්ලවයේ සාමකාමී සංවර්ධනය සඳහා සටන් පාඨය විය. පෙබරවාරි 27 හා ජූලි 4 අතර කාලය තුළ එය සිදුවීමට ඉඩ තිබුණු හා කැමැත්තෙන් පිළිගත හැකි දෙයක් විය. නමුත් දැන් ඒ සඳහා කිසිම ඉඩක් නැත.

''සෝවියට් සභාවලට මුළු බලය පවරනු'' යන්න විප්ලවයේ සාමකාමී ප්‍රගතිය සඳහා සටන් පාඨයක් වූ බව ප්‍රමාණවත් ලෙස කල්පනාවට ගත්තේ එම සටන් පාඨයේ ආධාර කරුවන් සියළු දෙනාම නොවන බව පෙනේ. එය සාමකාමී ප්‍රගතියක් වශයෙන් සලකන ලද්දේ සෝවියට් සභාවලට බලය පැවරීම ගැන ප්‍රතිරෝධය දැක්වීමට හා එය වැලැක්වීමේ හැකියාව එකල (පෙබරවාරි 27 හා ජූලි 4 අතර) කිසිම කෙනෙකුට, කිසිම පංතියකට හා වැදගත් සේ සැලකෙන කිසිම බලවේගයකට නොතිබුණු බව කියන අර්ථයෙන් නොවේ. එපමණක්ද නොවේ. කල්යල් ඇතිව සෝවියට් සභාවලට මුළු බලය පැවරුනේ නම්, සෝවියට් සභා තුළ, පංති අරගලය ඉතාමත් සාමකාමී සහ වේදනා රහිත ආකාරයන් අනුව සිදුවීමට පවා ඉඩකඩ තිබුනේය යන අර්ථයෙන් සාමකාමී සංවර්ධනය සඳහා එකල අවකාශ තිබිණි.

මෙම කාරණයේ පසුව සඳහන් පැත්ත ගැනද දක්වා ඇත්තේ අප්‍රමාණවත් අවධානයකි. පංති සංයුතිය අතින් බලන කල සෝවියට් සභා, කම්කරු සහ ගොවිජනතා ව්‍යාපාරයේ අවයව වූ අතර, ඒවා ඔවුන්ගේ ආඥාදායකත්වය සඳහා එලෙසින්ම උපයෝගී කරගත හැකි ස්වභාවයේ ආකෘතියක් විය. එම සෝවියට් සභාවලට සම්පූර්ණ රාජ්‍ය බලය තිබුණේ නම්, ඒවායේ ප්‍රධාන වරද වූ, ධනපතියන් කෙරෙහි විශ්වාසය තැබීම පිළිබඳ සුළු ධනපති කණ්ඩායම්වල මූලික දුර්වලකම සැබවින්ම ජයගත හැකිව තිබුණි; ඒවායේම පියවරයන් මගින්ම එම දුර්වලකම් විවේචනය වන්නට තිබුණි. සෝවියට් සභා සම්පූර්ණ සහ අබාධිත ලෙස බලය ක්‍රියාත්මක කළේ නම්, ඒවා තුළ බලයේ සිටින පංති හා පක්ෂ වෙනස් කිරීම යාමකාමී ලෙස සිදුවන්නට තිබුණි. එසේ වී නම්, සියළුම සෝවියට් පක්ෂ යහ ජනතාව අතර සම්බන්ධය ස්ථාවරව හා හානි නොවී පවතින්නට තිබුණි. ධනපති පංතිය සමග සම්මුති ඇති කරගැනීමේ සුළු ධනපති පංති සංමුළාව සාමකාමී ලෙස ඉවත් කිරීම සඳහා ආධාරකාරී වියහැකි වූයේ,

සෝවියට් පක්ෂ සහ ජනතාව අතර, ව්‍යාප්තිය හා ගැඹුර අතින් නිදහස් ලෙස වර්ධනය වන සම්බන්ධය පමණක් බව, අයෙක් එක මොහොතකට හෝ අමතක නොකළ යුතුය. සෝවියට් සභාවලට බලය පැවරූ පමණින්ම, එයම පමණක් හේතු කොට ගෙන, පංති අතර සහසම්බන්ධයේ වෙනසක් නොවන්නට තිබුණි; නොවියහැකිව තිබුණි. ගොවිජනතාවගේ සුළු ධනපති ස්වභාවය එයින් කිසිසේත් වෙනස් කළ හැකි නොවීය. නමුත්, ගොවිජනතාව ධනපති පංතියෙන් වෙන් කිරීම කරාද, ඔවුන් කම්කරුවන්ට සමීප කිරීම සහ කම්කරුවන් සමග එක්සත් කිරීම කරාද, ඉලක්ක කළ විශාල හා කාලෝචිත පියවරක් තැබීම එමගින් කළ හැකි විය.

නිසි කාලයේදී සෝවියට් සභාවලට බලය අත්වූයේ නම් සිදුවන්නට තිබුණේ එයයි. ජනතාවට පහසුතම හා වඩාත්ම වාසිදායක මාර්ගය එය වන්නට තිබුණි. එය ඉතාමත් අඩු වේදනා සහිත මාර්ගය විය හැකි වූ හෙයින්, ඒ සඳහා ඉතා ශක්තිමත් ලෙස සටන් කිරීම අවශ්‍ය විය. එසේ වුවද, කල්යල් ඇතිව සෝවියට් සභාවලට බලය පැවරීම සඳහා කරන මෙම අරගලය දැන් කෙළවර වී තිබේ. සාමකාමී සංවර්ධන මාර්ගයක් කිසිසේත් යොදවාගත නොහැකි තත්වයක් ඇති වී තිබේ. සාමකාමී නොවන සහ ඉතාමත් වේදනා සහිත මාර්ගයක් ආරම්භ වී ඇත.

ජූලි 4 වැනිද නැම්ම, නියත වශයෙන්ම වාස්තවික තත්වය බරපතල ලෙස වෙනස්වීමක් වූයේය. රාජ්‍ය බලය පිළිබඳ අස්ථාවර තත්වය කෙළවර විය. තීරණාත්මක අවස්ථාවේදී බලය ප්‍රතිවිප්ලවය අතට පත්වී තිබේ. සුළු ධනපති සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පක්ෂත් ප්‍රතිවිප්ලවවාදී කැඩෙට්වරුත් අතර සහයෝගිතාවය පදනම් කරගෙන පක්ෂ සංවර්ධනය වීම අනුව, මෙම සුළු ධනපති පක්ෂ දෙකම ප්‍රතිවිප්ලවවාදී ඝාතනයේ කොටස් කරුවන් හා ඊට අනුබල දෙන්නන් වීමේ තත්වයක් මතුවී තිබේ. සුළු ධනපති පංතිය, ධනපති පංතිය කෙරෙහි තර්කයෙන් තොරව විශ්වාසය තැබීම හේතුකොට ගෙන, පක්ෂ අතර අරගලය සංවර්ධනය වෙත්ම, ඔවුන් පත්වූයේ උවමනාවෙන්ම ප්‍රතිවිප්ලවවාදීන්ට ආධාර දෙන තත්වයටය. පක්ෂ සම්බන්ධකම් පිළිබඳ සංවර්ධනයේ චක්‍රය සම්පූර්ණ වී ඇත. පෙබරවාරි 27 දින සියළුම පංති තමන් රාජාණ්ඩුවට විරුද්ධව එක්සත් වුනු තත්වයක සිටි බව දුටහ. ජූලි 4 දිනෙන් පසුව රාජාණ්ඩුවාදීන් හා කළු සියය පිරිස් සමග එකට අත්වැල් බැඳගෙන කටයුතු කරන ප්‍රතිවිප්ලවවාදී ධනපති පංතිය, සුළු ධනපති සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් බිය වැද්දීමද එක්තරා දුරකට උපයෝගි කර ගනිමින්, ඔවුන්ගේ ආධාරය ලබාගෙන, නියම රාජ්‍ය බලය, අකීකරු සොල්දාදුවන් වෙඩි තබා හෙළන සහ පෙට්‍රොග්‍රෑඩයේ බොල්ෂෙවික්වරුන් තලා පෙළා දමන කවෙන්යාක්ලාට, ඒ යුද්ධ හමුද කල්ලියට, භාර දුන්හ.



සෝවියට් සභාවලට රාජ්‍ය බලය පවරන ලෙස ඉල්ලා ඉදිරිපත් කරන සටන් පාඨය දැන් මෝඩ කමක්, නැතහොත්, විහිළුවක් සේ පෙනෙන්නට පිළිවන. වාස්තවික ලෙස ගත් කල එය ජනතාව රැවටීමක් වනු ඇත; සෝවියට් සභාවලට බලය ගැනීම, නැතහොත්, ඒවාට බලය ලැබීම පිණිස එවැනි තීරණයක් සම්මත කිරීම දනුදු ප්‍රමාණවත් යයි ද, ඝාතනයට අනුබල දීමෙන් ලේ තවරා නොගත් පක්ෂ තවමත් සෝවියට් සභා තුළ ඇතැයිද, කර තිබෙන දේ නැවත නිවැරදි කළ හැකි යයි ද, සිතීමේ මංමුළාව එයින් දිරිගැන්වෙනු ඇත.

බොල්ෂෙවික්වාදීන්ට තාඩන පීඩන කිරීමටත්, පෙරමුණේ සොල්දාදුවන් වෙඩි තබා දැමීමටත්, කම්කරුවන් නිරායුධ කිරීමටත්, සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ ආධාරය දුන් නිසා, ඊට "පළිගැනීමක්" වශයෙන්, ප්‍රතිවිප්ලවවාදීන්ට විරුද්ධව ඔවුන්ට ආධාර දීම "ප්‍රතික්ෂේප කිරීමට" හැකියාවක් විප්ලවවාදී නිර්ධන පංතියට ඇතැයි සිතීම බරපතල වරදක් වනු ඇත. එය ප්‍රථම වශයෙන්, (ව්‍යාපාරයේ යහපත සඳහා චපල සුළු ධනපති පංතියට පමණක් නොව, ලොකු ධනපති පංතියට පවා නිර්ධන පංතිය ආධාර කරන හෙයින්) සත්වාරය පිළිබඳ අමන සංකල්පය නිර්ධන පංති ව්‍යාපාරයට ගැලපීමක් වන්නේය; දෙවැනිව, එය පවත්නා දේශපාලන තත්වයෙහි හරය නොපැහැදිලි වන සේ "සදුපදේශයෙහි" යෙදීමට දරන අමන ප්‍රයත්නයක් වන්නේය. වඩාත් වැදගත් ලෙස සටහන් කරගත යුතු කාරණය එයයි.

අනිත් අතට, දේශපාලන හරයෙන් කියවෙන්නේ මින් පසු සාමයෙන් බලය ලබාගත නොහැකි බවය. එය ලබා ගත හැක්කේ, මෙම අවස්ථාවේදී ඇත්ත වශයෙන් බලයට පත්ව සිටිනවුන්ට විරුද්ධව කරන තීරණාත්මක අරගලයකින් ජයගැනීමෙන් පමණකි. එනම් පෙට්‍රොග්‍රෑඩයට ගෙන ආ ප්‍රතිගාමී යුද්ධ සේනාවල සහ කැඩෙට්වරුන්ගේ සහ රාජාණ්ඩුවාදීන්ගේ ආධාරය කෙරෙහි විශ්වාසය තබන යුද්ධ හමුද කල්ලියට, නැතහොත්, කවෙන්යාක්ලාට විරුද්ධව කරන එවැනි අරගලයකින් ජය ලැබීමෙන් පමණකි.

පවත්නා තත්වයේ හරය අනුව පෙනෙන්නේ, රාජ්‍ය බලය දරා සිටින මෙම අළුත් බලවතුන් පරාජය කළ හැක්කේ විප්ලවවාදී පොදු ජනතාව විසින් පමණක් බවත්, එම ජනතාව ක්‍රියාකාරිත්වයට ගෙන ඒම සඳහා නිර්ධන පංති නායකත්වය ඔවුන්ට ලැබෙන්නට සැලැස්වීම පමණක් නොව, විප්ලවයේ සත් ව්‍යාපාරය පාවා දුන් සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පක්ෂ ජනතා පිටු පෑමට බඳුන් වීමද අවශ්‍ය බවත් වේ.

දේශපාලනය තුළට අමන සදචාරය ඇතුළත් කරන අය මෙසේ තර්ක කරති: නිර්ධන පංතිය සහ විප්ලවවාදී රෙජිමේන්තු නිරායුධ කරන කවෙ-

න්යාක්ලාට ආධාර දීමෙන් සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් කළේ ''වරදකැයි'' සිතා ගනිමු; එසේ වුවත්, ඔවුන්ගේ ''වරද'' ''නිවරද කර ගැනීමට'' ඔවුනට අවස්ථාවක් දිය යුතුය; ''වරද'' නිවරද කර ගැනීම ඔවුනට ''දුෂ්කර වන සේ කටයුතු නොකළ යුතුය''; සුළු ධනපති පංතිය කම්කරුවන් දෙසට හැරී ඒම පහසු කළ යුතුය. එසේ තර්ක කිරීම, නව ආකාරයකින් කම්කරුවන් රැවටීමක් නොවේ නම්, එය ළදරුවන්ගේ මෙන් බොළඳ කමක් හෝ හුදෙක්ම මෝඩකමක් හෝ වනු ඇත. එසේ කියන්නේ සුළු ධනපති පංතිය කම්කරුවන් දෙසට හැරී ඒම යනුවෙන් මෙම ජනතාව ඔවුනට පිටුපාා සිටින බවක් අදහස් වන හෙයිනි. එහි වෙනත් අදහසක් තිබිය නොහැකිය. සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පක්ෂවලට දැන් ඔවුන්ගේ ''වරද'' නිවරද කර ගත හැක්කේ ට්සෙරතෙලි, චෙර්නොව්, දන් සහ රකිත්නිකොව් ඝාතකයන්ගේ ආධාරකරුවන් වශයෙන් නම් කර, ඔවුන් හෙළා දැකීමෙන් පමණකි. මේ ආකාරයෙන් ඔවුන්ගේ ''වරද'' ''නිවරද කරනු ලැබීම'' ගැන අපි සම්පූර්ණයෙන්ම සහ කොන්දේසි විරහිතව පක්ෂ වෙමු...

විප්ලවයේ මූලික ප්‍රශ්නය, බලය පිළිබඳ ප්‍රශ්නය බව අපි කීවෙමු. නියම බලය තිබෙන්නේ කොහේද යන ප්‍රශ්නය ව්‍යාකූල කෙරෙන ආකාරය පියවරක් පියවරක් පාසා අපට පෙන්නුම් කෙරෙන්නේත්, නාමික බලය හා නියම බලය අතර අපසාරිතාවය හෙළිදරව් කෙරෙන්නේත්, විප්ලව විසිනැයි යන්න අපි ඊට එකතු කළ යුත්තෙමු. එය සෑම විප්ලවීය කාල පරිච්ඡේදයකම දක්නට ලැබෙන ප්‍රධාන ගුණාංග අතුරෙන් එකකි. 1917, මාර්තු සහ අප්‍රේල් මාසවලදී නියම බලය පැවතියේ ආණ්ඩුව අතෙහිද නැතහොත් සෝවියට් සභාව අතෙහිද යන්න නොපැහැදිලිව තිබුණි.

එසේ වුවත්, දැන්, බලය තිබෙන්නේ කා අතේද යන විප්ලවයේ මූලික ප්‍රශ්නයට කල්පනාකාරී ලෙස මුහුණ දීම පංති විඥනය ඇති කම්කරුවන්ට විශේෂයෙන්ම වැදගත් වේ. එය ද්‍රව්‍යමය වශයෙන් ප්‍රකට වන ආකාරය සැලකිල්ලට ගන්න. වචන ක්‍රියා වශයෙන් වරදවා නොගන්න. එවිට පිළිතුර සොයා ගැනීම ඔබට දුෂ්කර නොවනු ඇත.

රාජ්‍යය සැදී ඇත්තේ මූලික වශයෙන් ආයුධ සන්නද්ධ මිනිසුන්ගේ සේනාංකවලින් හා ඒවාට අදාල හිරගෙවල් වැනි අමතර ද්‍රව්‍යමය ආයතනවලිනැයි ෆ්‍රෙඩ්රික් එංගල්ස් වරක් කීවේය.[112] දැන් කාමිනෙව් සහ වෙනත් අය සිර කොට තබා ගෙන සිටින්නේත්, ''ප්‍රාව්ද'' පත්‍රය වසා දමා ඇත්තේත්, කම්කරුවන් සහ සොල්දාදුවන්ගෙන් කොටසක් නිරායුධ කළේත්, එසේම සොල්දාදුවන්ගෙන් කොටසක් වෙඩි තබා දැමුවේත්, යුද්ධ හමුදාවේ සේනාවලින් එවැනිම කොටසක් වෙඩි තබා දමන්නේත්, පෙට්‍රොග්‍රෑඩයට විශේෂයෙන් ගෙන්වා සිටින ඒ ජුන්කර්වරුන් හා ප්‍රතිගාමී කොසාක්වරුය. නියම බලය මෙම ඝාතකයින්ය. ට්සෙරතෙලිලා සහ චෙර්නොව්ලා බලය රහිත ඇමතිවරු වෙති. ඔවුහු ඝාතනයට ආධාර දෙන පක්ෂවල නායක, රූකඩ ඇමතිවරු වෙති. එය සත්‍යයකි. සමහර විට ට්සෙරතෙලි සහ චෙර්නොව් තමන් පෞද්ගලිකව ඝාතනය ''අනුමත නොකරන'' නිසා හෝ, එසේ නැතහොත්, තමන් ඊට සම්බන්ධ නැති බව ඔවුන්ගේ පත්‍ර බියසුලු ලෙස පවසන නිසා හෝ එම සත්‍යයෙහි වටිනාකම මඳක් හෝ අඩු නොවේ. එසේ දේශපාලන ඇඳුම වෙනස් කිරීමෙන් හරයෙහි කිසිම වෙනසක් සිදු නොවේ.

පෙට්‍රොග්‍රෑඩ් නගරයේ ඡන්දදායකයන් 1,50,000 කගේ ප්‍රවෘත්ති පත්‍රය තහනම් කර තිබේ.ජූලි 6 දින ජුන්කර්වරු වොයිනොව් නැමති කම්කරුවා මරා දැමුවේ ඔහු මුද්‍රණාලයෙන් ''ලිස්තොක් ප්‍රාව්දි'' පත්‍රය ඔසවා ගෙන ගිය නිසාය. එය ඝාතනය කිරීමක් නොවේද? එය කවෙන්යාක්ලාගේ හපන්කමක් නොවේද? නමුත් ආණ්ඩුවට හෝ සෝවියට් සභාවලට හෝ ඒ ගැන ''දෙස් කිව'' නොහැකියයි ඔවුන් අපට කියන්නට ඉඩ තිබේ.

ආණ්ඩුවට සහ සෝවියට් සභාවලට එසේ වීමමය කාරිය, කියා අපි පිළිතුරු දෙන්නෙමු. අප එසේ කියන්නේ ඔවුන් එවිට නමින් පමණක් ප්‍රධානීන් වන, පඹයන් වන හෙයිනි. නියම බලය ඇත්තේ ඔවුන් අතෙහි නොවේ.

මූලික වශයෙන්ම හා අන් සියල්ලටම වඩා,ජනතාව ඇත්ත දැනගත යුතුය. ඇත්ත වශයෙන් රාජ්‍ය බලය මෙහෙයවන්නේ කවරෙක්දැයි යන්න ඔවුන් දැන ගත යුතුය. ජනතාවට ඇත්ත කිව යුතුය. බලය තිබෙන්නේ ධනපති පංතියේ සහ කළු සියය පුවත්පත් වන ''නොවයේ වරෙම්යා'', ''ෂිවෝය ස්ලෝව'' යනාදිය මගින් කටයුතු කරන සියළුම රාජාණ්ඩුවාදීන්ගේ ආධාරය ලබන, කවෙන්යාක්ලාගේ (කෙරෙන්ස්කි, යම් යම් හමුදාපතියන් ආදීන්ගේ) යුද්ධ හමුදා කල්ලියක් අත බව ජනතාවට කිව යුතුය.

එම බලය පෙරළා දැමිය යුතුය. මෙය නොකරන්නේ නම්, ප්‍රතිවිප්ලවයට විරුද්ධව සටන් කිරීම ගැන කරන සියළු කථා, හුදු වදන් හරඹයක්, ''තමන් රවටා ගැනීමක් සහ ජනතාව රැවටීමක්'' පමණකි.

දැන් එම බලයට ඇමති මණ්ඩලයේ සිටින ට්සෙරතෙලි සහ චෙර්නොව් යන දෙදෙනාගේම සහ ඔවුන්ගේ පක්ෂවල ආධාරය ලැබේ. මෙම පක්ෂ ඉටු කරන ඝාතකයාගේ කාර්ය කොටසද, අප්‍රේල් 21, මැයි 5, ජූනි 9 සහ ජූලි 4[113] ඒවා කළ ''වැරදි'' වලින් පසුව සහ කවෙන්යාක්ලාජූලි මාසයේ ලත් ජයග්‍රහණය කල්තබා සහතික කිරීමට දහයෙන් නවයක්ම හේතුවූ ප්‍රතිපත්තිය වන ආක්‍රමණයේ ප්‍රතිපත්තියට ඒවායේ අනුමැතිය දුන් පසුව, එම පක්ෂවලට එවැනි ''අවසාන ජවනිකාවක්'' පෙන්වීමට සිදුවීම නොවැළැක්විය හැකි වූ බවද, අපි ජනතාවට පැහැදිලි කර දිය යුත්තෙමු.

වර්තමාන විප්ලවයේ සහ විශේෂයෙන්ම ජූලි දිනවල නිශ්චිත අත් දැකීම් ගැන සැලකිල්ලට ගැනීම, එනම්, ජනතාවගේ නියම සතුරා වන යුද්ධ හමුද කල්ලිය, කැඩෙට්වරු සහ කළු සියය පිරිස් පෙන්නුම් කිරීමත්, ඝාතකයන්ගේ ආධාරකරුවන්ගේ කොටස ඉටු කළ හා ඉටු කරන සුළු ධනපති පක්ෂ වන සමාජවාදී-විප්ලවවාදී හා මෙන්ෂෙවික් පක්ෂවල වෙස් මුහුණු නිසැක වශයෙන්ම ගලවා දැමීමත්, සහතික කෙරෙන පරිදි, ජනතාව අතර උද්ඝෝෂණ කටයුතු ප්‍රතිසංවිධානය කළ යුතු වේ.

යුද්ධ හමුද කල්ලියේ බලය පෙරළා නොදමන තාක් කල් සහ සමාජ-වාදී විප්ලවවාදී හා මෙන්ෂෙවික් පක්ෂ ගැන හෙළිදරව් කොට ජනතා විශ්වාසය ඒවාට අහිමි කිරීම නොකරන තාක් කල්, ගොවි ජනතාවට ඉඩම් ලබා ගැනීමට බලාපොරොත්තු වීම සම්පූර්ණයෙන්ම නිශ්ඵල දෙයක් බව පැහැදිලි කරනු පිණිස, ජනතාව අතර උද්ඝෝෂණ වැඩ ප්‍රතිසං-විධානය කළ යුතුය. ''සාමාන්‍ය'' ධනපති සංවර්ධනය යටතේ එය ඉතා දීර්ඝ සහ අසීරු ක්‍රියාදමයකි. නමුත් යුද්ධයත්, ආර්ථික කඩාකප්පල්වීමත්, යන දෙකම නිසා, එය අතිශයින් වේගවත් වනු ඇත. මේවා මාසයක හෝ, එයේ නැතහොත් සතියක පවා කාලය අවුරුද්දකට සමාන කරන ස්වභාව-යේ ''ත්වරකයන්'' වන්නේය.

ඉහත දක්වන ලද කරුණුවලට පටහැනිව සමහරවිට විරෝධතා දෙකක් ඉදිරිපත් වන්නට පිළිවන: පළමුවැන්න, දැන් තීරණාත්මක අරගලයක් ගැන කථා කිරීමෙන්, ප්‍රතිවිප්ලවයට පමණක් වාසියක් වීමට ඉඩ සලසන තැනින් තැන කෙරෙන සටන් සඳහා උනන්දුවක් ඇති විය හැකිය; දෙවැන්න, ඔවුන් බලයෙන් පහ කිරීම යනුවෙන්ද අදහස් වන්නේ සෝවියට් සභාව-ලටම බලය පැවරීමය.

පළමුවැනි විරෝධයට පිළිතුරු වශයෙන් අපි මෙසේ කියමු: තමන්ට අවාසිදයක බව පැහැදිලිව පෙනෙන අවස්ථාවක, ප්‍රකෝපකිරීම්වලට හසු නොවීමට තරම් පංති විඥනයක් දැනටමත් රුසියාවේ කම්කරුවන්ට තිබේ. මෙම අවස්ථාවේදී සටනට බැසීමෙන් සහ ප්‍රතිරෝධය දැක්වීමෙන් අදහස් වන්නේ ප්‍රතිවිප්ලවවාදීන්ට ආධාර කිරීමක් බව අවිවාදයෙන් පිළිගත යුතුය. තීරණාත්මක අරගලයක් කළ හැකි වන්නේ ජනතාව තුළින් ගැඹු-රින්ම නව විප්ලවීය උත්සන්නියක් ඇති වුවහොත් පමණක් බවද, එසේම අවිවාදීය. නමුත්, විප්ලවීය උත්සන්නියක්ද, විප්ලවයේ වඩ දිය නැගී ඒමද, බටහිර යුරෝපීය කම්කරුවන්ගේ ආධාරය ලැබීමද, යනාදිය ගැන සාමාන්‍ය වශයෙන් කථා කිරීම ප්‍රමාණවත් නොවේ. අපගේ අතීතයෙන්, අපට ලැබුණු පාඩම්වලින් අපි නිශ්චිත නිගමනයකට එළඹ ගත යුත්තෙමු. ඒ අනුව,බලය අල්ලා ගෙන සිටින ප්‍රතිවිප්ලවවාදීන්ට විරුද්ධව තීරණාත්මක අරගලයක් සඳහා සටන් පාඨය වෙත අප යොමු වනු ඇත.



දෙවැනි විරෝධතාවයද, නියත යථාර්ථයන් වෙනුවට ඉතාමත් පොදු ස්වභාවයේ තර්කයන් ආදේශ කිරීමක් වන්නේය. විප්ලවවාදී නිර්ධන පංතිය හැර, ධනපති ප්‍රතිවිප්ලවවාදීන් බලයෙන් පහ කර දැමීමෙහි සමත් වෙනත් කිසිවෙක්, වෙනත් කිසිම බලවේගයක් නොමැත. දැන්, 1917 ජූලි අත් දැකීම්වලින් පසුව, විප්ලවවාදී නිර්ධන පංතිය ස්වාධීනව බලය අත්පත් කරගත යුතුව තිබේ. නොඑසේව, විප්ලවය ජයග්‍රහණයට පත්වීම කිසිසේ-ත්ම සිදුවිය නොහැක. තිබෙන එකම විසඳීම වන්නේ, බලය නිර්ධන පංතිය අතෙහි තිබීම සහ එම පංතියට දුප්පත් ගොවි ජනයාගේ නැතහොත් අර්ධ නිර්ධනයන්ගේ සහයෝගය ලැබීමය. මෙම විසඳීම සීඝ්‍ර කිරීමෙහි සමත් වන සාධක අපි දැනටමත් පෙන්වා දී ඇත්තෙමු.

මෙම නව විප්ලවයේදී සෝවියට් සභා මතුවී එන්නට පුළුවන. ඇත්තෙන්ම ඒවා මතුවී ආ යුතුය. නමුත් එම සෝවියට් සභා දැනට පවතින ඒවාම නොවේ; ධනපති පංතිය සමග සහයෝගී වන අවයව නොවේ. එසේ වුවද, සෝවියට් සභා ආදර්ශය අනුව මුළු රාජ්‍යයම ගොඩ නැගීමට අප පක්ෂ වන බව සැබෑය. එය සෝවියට් සභා සම්බන්ධයෙන් වූ සාමාන්‍ය ප්‍රශ්නයක් නොවේ. නමුත්, වර්තමාන ප්‍රතිවිප්ලවයට සහ වර්තමාන සෝවි-යට් සභාවල ද්‍රෝහී භාවයට විරුද්ධව සටන් කිරීම හා සම්බන්ධ ප්‍රශ්නයකි.

නියතය වෙනුවට භාවාර්ථය ආදේශ කිරීම විප්ලවයකදී කළ හැකි විශාලම හා බරපතලම වැරදි අතුරෙන් එකකි. වර්තමාන සෝවියට් සභා අසාර්ථක වී ඇත; සම්පූර්ණයෙන්ම පරාජයට පත්වී ඇත. එසේ වූයේ, ඒවායේ අධිපතිත්වය සමාජවාදී-විප්ලවවාදීන් හා මෙන්ෂෙවික්වරුන් විසින් දරන ලද නිසාය. මෙම අවස්ථාවේදී,මෙම සෝවියට් සභා පවතින්නේ, මස් මඩුවට ගෙනෙන ලදුව පිහි පහර කා මරහඬ නහන බැටළුවන්ට සමාන තත්වයකය. වර්තමානයේදී සෝවියට් සභා පත්ව ඇත්තේ, විජයග්‍රාහීව සහ විජයග්‍රහණය අත්කර ගනිමින් සිටින ප්‍රතිවිප්ලවය හමුවේ බලරහිත හා අසරන තත්වයකටය. සෝවියට් සභාවලට බලය පවරන ලෙස හඬ නගන සටන් පාඨය, වර්තමාන සෝවියට් සභාවලට බලය පවරන ලෙස කරන ''සරල'' ආයාචනයක් ලෙසට වටහා ගැනීමට ඉඩ තිබේ. එසේ කීම, ඒ සඳහා ආයාචනා කිරීම, ජනතාව රැවටීමක් වනු ඇත. රැවටීමට වඩා භයානක තවත් දෙයක් නොමැත.

පෙබරවාරි 27 සිට ජූලි 4 දක්වා වූ රුසියාවේ පංති හා පක්ෂ අරගලය පිළිබඳ චක්‍රය සම්පූර්ණ වී තිබේ. අළුත් චක්‍රයක් ආරම්භ වෙමින් තිබේ. එයට සම්බන්ධ වී ඇත්තේ පැරණි පංති නොවේ; පැරණි පක්ෂ නොවේ; පැරණි සෝවියට් සභා නොවේ. එයට සම්බන්ධ වී ඇත්තේ, අරගල අග්නි-යෙන් නව ජීවනය ලත්, අරගලයේ ක්‍රියාදමයෙන් පන්නරය, ශික්ෂණය හා නවරුව ලත් පංති, පක්ෂ සහ සෝවියට් සභා වෙති. අපි ඉදිරිය දෙස

බැලිය යුත්තෙමු; ආපසු නොබැලිය යුත්තෙමු. අප කටයුතු කළ යුත්තේ පැරණි පංති සහ පක්ෂ ප්‍රවර්ග සමග නොව, අළුත්, පශ්චාත් ජූලි පංති සහ පක්ෂ ප්‍රවර්ග සමගය. අපි නව චක්‍රයේ ආරම්භයේ පටන්, විජයග්‍රාහී ප්‍රති විප්ලවයේ පටන් ඉදිරියට යා යුත්තෙමු. එම ප්‍රති විප්ලවය ජයග්‍රහණය ලද්දේ සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් එය සමග සම්මුති ගත වූ හෙයින් වන අතර, එය පරාජය කිරීමට සමත් වන්නේ විප්ලවවාදී නිර්ධන පංතිය පමණකි. නමුත් මෙම නව චක්‍රයේ බොහෝ සහ විවිධ අවධි තිබෙනු ඇත. ප්‍රතිවිප්ලවයේ සම්පූර්ණ ජයග්‍රහණයට සහ සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ (අරගලයක් නොකරම) සම්පූර්ණ පරාජයටත් යන දෙකටම පෙර, එම අවධි දක්නට ලැබෙනු ඇත. එසේ වුවද මේ ගැන කථා කිරීමට හැකි වන්නේ පසුව පමණකි — මෙම එක් එක් අවධි වෙත පැමිණි පසු පමණකි.

ලියන ලද්දේ 1917 ජූලි මස මැද භාගයේදීය.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 34, පිටු 10-17.

1917 දී රු. ස. ප්‍ර. ක. (බෝ) ප. ක්රොන්ෂ්තාත් කාරක සභාව විසින් කුඩා පොතක් ලෙසට පළ කරන ලදී.

# විප්ලවයේ පාඩම්

සෑම විප්ලවයකින්ම අති විශාල ජන සංඛ්‍යාවක ජීවිත තුළ තියුණු වෙනස් කම් ඇති කෙරෙන්නේය. එවැනි වෙනසක් ඇති වීමට කල් යල් මෝරා තිබේ නම් මිස, නියම විප්ලවයක් සිදු විය නොහැකිය. එසේම, පුද්ගලයෙකුගේ ජීවිතයේ සිදුවන ඕනෑම වෙනසක් ඔහුට බොහෝ දේ උගන්වන, සාරවත් අත්දැකීම් ලබා දෙන සහ බලවත් චිත්ත වේගාත්මක කුහුල්කම් ගෙන එන ලෙසටම, විප්ලවද, කෙටි කාලයක් තුළ මුළු ජනතාවටම සාරවත් හා අගනා පාඩම් උගන්වයි.

සාමාන්‍ය නිද්‍රාශීලී ජීවිතයේදී ජනතාව අවුරුද්දකින් උගෙන ගන්නවාට වඩා දැ විප්ලවයක් අතරතුර එක් සතියකදී ඔවුහු උගෙන ගනිති. එසේ වන්නේ, මුළු ජනතාවගේම ජීවිතයේ තියුණු වෙනස්වීමක අවස්ථාවේදී, ජනතාවගේ විවිධ පංති අනුගමනය කරන අරමුණුද, ඒවාට ඇති ශක්තියද, ඒවා උපයෝගි කරගන්නා ක්‍රමද ඉතාමත් පැහැදිලි වන හෙයිනි.

පංති විඥනය ඇති සෑම කම්කරුවෙක්ම, සොල්දදුවෙක්ම, ගොවියෙක්ම, රුසියානු විප්ලවයේ පැඩම් ගැන ඉතා හොඳින් සිතා බැලිය යුතුය. දැන්, විශේෂයෙන්ම ජූලි සිදුවීම්වලට පසුව, අපගේ විප්ලවයේ ප්‍රථම අදියර අසාර්ථක වී තිබෙන බව පැහැදිලි වී තිබෙන කල, එසේ කිරීම අවශ්‍යය.

I

කම්කරුවන් හා ගොවි ජනතාව විප්ලවය කළ අවස්ථාවේදී ඔවුන් ඇත්ත වශයෙන් උත්සාහ කළේ කුමක් කිරීමට දැයි බලමු. ඔවුන් විප්ලවයෙන් බලාපොරොත්තු වූයේ කුමක්ද? අප දන්නා පරිදි ඔවුහු නිදහස, සාමය, පාන් සහ ඉඩම් ලබාගැනීමට අපේක්ෂා කළහ.

නමුත් දැන් අපට දක්නට ඇත්තේ කුමක්ද?

නිදහස වෙනුවට දුෂ්ට පාලනය නැවත ආපසු එමින් පවතී. පෙරමුණේ සොල්දාදුවන් සඳහා මරණ දඬුවම නැවතත් ක්‍රියාත්මක කරනු ලැබේ.[114] අනවසරයෙන් වතුකාර දේපල අල්ලා ගැනීම නිසා ගොවීන්ට නඩු පවරනු ලැබේ. කම්කරුවන්ගේ පුවත්පත්වල මුද්‍රණාල කඩා බිඳ දමනු ලැබේ. නඩු නොවිමසා කම්කරුවන්ගේ පුවත්පත් තහනම් කරනු ලැබේ. බොහෝ විට චෝදනා කිසිවක් නොමැතිවම හෝ ඉතා පැහැදිලි ලෙසම බොරුවට ගොතන ලද චෝදනා පදනම් කරගෙන බොල්ෂෙවික්වරු අත් අඩංගුවට ගනු ලැබේ.

නඩු පවරන්නේ යම් යම් පුද්ගලයන්ට විරුද්ධව නිසාත්, යම් යම් චෝදනා අනුව නිසාත්, බොල්ෂෙවික්වරුන්ට හිරිහැර කිරීම නිදහස උල්ලංඝනය කිරීමක් නොවන්නේ යයි තර්ක කිරීමට ඉඩ තිබේ. එසේ වුවද, එවැනි තර්කයක් හිතා මතා කියන පැහැදිලි බොරුවක් වනු ඇත. පුද්ගලයන්ට විරුද්ධව නගන මෙම චෝදනා උසාවියකින් ඔප්පු කර තහවුරු කළත්, පුද්ගලයෙක් කරන අපරාධයක් නිසා මුද්‍රණාල කඩා බිඳ දැමීම සහ පුවත්පත් තහනම් කිරීම කළ හැකි වන්නේ කෙසේද? බොල්ෂෙවික්වරුන්ගේ මුළු පක්ෂයමද, ඔවුන්ගේ උපනතිය සහ අදහස්ද, සාපරාධී බව ආණ්ඩුව නීත්‍යානුකූල ලෙස ප්‍රකාශ කර තිබුණේ නම් එය වෙනත් දෙයකි. නමුත් නිදහස් රුසියාවේ ආණ්ඩුවට එවැනි කිසිම දෙයක් කළ නොහැකි හා නොකළ බව සැම කෙනෙක්ම දන්නේය.

බොල්ෂෙවික්වරු යුද්ධයට විරුද්ධව සහ ඉඩම් හිමියන්ට හා ධනපතියන්ට විරුද්ධව ගෙන ගිය අරගලය නිසා ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ පුවත්පත් බලවත් සේ කෝපාන්විතව ඔවුනට බැන වදිමින්, බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව එකම චෝදනාවක්වත් ගෙතීමට පෙර පටන්ම ඔවුන් අත් අඩංගුවට ගන්නා ලෙසත්, ඔවුන් තලා පෙළා දමන ලෙසත් ඉල්ලා තිබීම නිසා ප්‍රධාන වශයෙන්ම, බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව නගා ඇති චෝදනාවෙහි ලිඛිතාපහාසාත්මක ස්වභාවය හෙළිදරව් වන්නේය.

ජනතාවට සාමය අවශ්‍යය. එසේ නමුත්, රුසියානු ධනපතියන්ට වෙනත් ජාතීන් කොල්ල කෑමට හැකි වනු පිණිස, හිටපු සාර් දෙවැනි නිකොලායි බ්‍රිතාන්‍ය සහ ප්‍රංශ ධනපතියන් සමග ඇති කරගත් ඒ රහස් ගිවිසුම්ම පදනම් කරගෙන නිදහස් රුසියාවේ විප්ලවවාදී ආණ්ඩුව නැවතත් රටවල් අල්ලා ගැනීමේ යුද්ධය පටන් ගත්තේය. එම රහස් ගිවිසුම් ප්‍රසිද්ධ නොකර තිබේ. නිදහස් රුසියාව කූටකාරකම්වල යෙදෙමින්, අද දක්වාම සියළුම ජාතීන් වෙත සාධාරණ සාමයක් සඳහා යෝජනා ඉදිරිපත් කර නැත.



පාන් නොමැත. දුර්භික්ෂය ළං ළංව එයි. ධනපතියන් සහ පොහොසතුන් කිසිම බයක් ලජ්ජාවක් නොමැතිව යුද්ධ සැපයුම් මගින් (දැන් යුද්ධය සඳහා දිනපතාම රූබල් පන් කෝටිය බැගින් ජාතියට වැය වේ) භාණ්ඩාගාරයට වංචා කරන බවත්, අධික මිළ අය කිරීම මගින් ඔවුන් අති දැවැන්ත ලාභ ලබන බවත්, ඒ අතර භාණ්ඩ නිෂ්පාදනය සහ බෙදාහැරීම සාර්ථක ලෙස කම්කරු පාලනයට යටත් කිරීමට කිසිම දෙයක් කර නොමැති බවත්, සියළු දෙනාටම පැහැදිලිය. දිනක් දිනක් පාසාම ධනපතියෝ වඩ වඩාත් බිය සැක නොමැතිව කටයුතු කරති. ඔවුහු කම්කරුවන් මහමඟට බස්වති. ඔවුන් එසේ කරන්නේ පොදු ජනතාව භාණ්ඩ හිඟයෙන් පීඩා විඳින අවස්ථාවකය.

ඉඩම් හිමි දේපල ක්‍රමය අසාධාරණයක් හා සොරකමක් බව ගොවි ජනතාවගෙන් අති බහුතරය සම්මේලනයක් සම්මේලනයක් පාසා ප්‍රකාශ කර ඇත. ඒ අතර තමන් විප්ලවවාදී සහ ප්‍රජාතන්ත්‍රවාදී යයි කියා ගන්නා ආණ්ඩුවක්, මාස ගණන් තිස්සේ ගොවි ජනතාව මුළා කරගෙන සිටිමින්, පොරොන්දු දීම සහ ප්‍රමාදයන් මගින් ඔවුන් රැවටුවේය. ඉඩම් මිළට ගැනීම සහ විකිණීම තහනම් කරන නීතියක් නිකුත් කිරීමට චෙර්නොව් ඇමතිවරයාට ඉඩ නොදී, මාස ගණනක්ම තිස්සේම ධනපතියෝ ඔහු වැළැක්වූහ. තවද, මෙම නීතිය අන්තිමේදී සම්මත වූ පසු ධනපතියෝ චෙර්නොව්ට විරුද්ධ නින්දිත ව්‍යාපාරයක් පටන් ගත්හ. ඔවුහු තවමත් එම ව්‍යාපාරය ගෙන යති. ආණ්ඩුව කොතරම් බිය සැක නොමැතිව ඉඩම් හිමියන් ආරක්ෂා කරන්නේද යත්, ඉඩම් ''අනවසරයෙන්'' අල්ලා ගැනීම ගැන නඩු පැවරීමට පටන් ගෙන ඇත.

ඔවුහු ගොවි ජනතාව මුළා කර ගෙන සිටිමින්, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස්වන තෙක් සිටින ලෙස ඔවුනට කියති. එසේ වුවත්, ධනපතියෝ එම මණ්ඩලය රැස්කිරීම දිගටම කල් දැමූහ. දැන් බොල්ෂෙවික්වරුන්ගේ බලපෑම නිසා එය සැප්තැම්බර් 30 දිනට නියම කර තිබෙන හෙයින්, මෙය කිසිසේත් ප්‍රමාණවත් නොවන කෙටි කල්දීමක් යයි විවෘතයේම ඝෝෂා කරන ධනපතියෝ, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කල් දමන ලෙස ඉල්ලති. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවීම යුද්ධය අවසන් වන තෙක් කල් තබන ලෙස, ධනපතියන්ගේ සහ ඉඩම් හිමියන්ගේ ''කැඩෙට්'', නැතහොත් ''මහජන නිදහස්'' පක්ෂයේ පානිනා වැනි ඉතාමත් බලවත් සාමාජිකයෝ විවෘත ලෙසම අයදිති.

ඉඩම් ගැන යමක් කිරීමට ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස්වන තෙක් සිටින්න. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස්කිරීමට යුද්ධය අවසන් වන තෙක් සිටින්න. යුද්ධය අවසාන කිරීමට නම්, සම්පූර්ණ ජයග්‍රහණය ලැබෙන තෙක් සිටින්න. එහි අර්ථය එයයි. ආණ්ඩුවෙහි බහුතරයක්

ඇතිව සිටින ධනපතියන් සහ ඉඩම් හිමියන්, ගොවි ජනතාවට උසුළු විසුළු කරමින් සිටින බව පැහැදිලිය.

## II

නමුත් සාර්වාදී ආණ්ඩුව බලයෙන් නෙරපීමෙන් පසුව, නිදහස් රටක මෙය සිදුවූයේ කෙසේද?

නිදහස නොමැති රටක සාර්වරයෙක් සහ කිසිවෙකු විසින් තෝරා පත් නොකරන ලද ඉඩම් හිමියන්, ධනපතියන් සහ නිලධාරිවාදීන් අතළොස්සක් විසින් ජනතාව පාලනය කරනු ලැබේ.

නිදහස් රටක ජනතාව පාලනය කරන්නේ ඒ සඳහා ජනතාවම තෝරා පත් කළ පිරිසක් විසිනි. මැතිවරණවලදී ජනතාව පක්ෂවලට බෙදෙති. සාමාන්‍ය වශයෙන් ජනගහනයේ සෑම පංතියක්ම තමන්ගේ පක්ෂයක් පිහිටුවා ගනියි. නිදසුනක් ලෙසට, ඉඩම් හිමියෝ, ධනපතියෝ, ගොවිජනයා සහ කම්කරුවෝ යන සියල්ලෝම වෙනම පක්ෂ පිහිටුවා ගනිති. එනිසා නිදහස් රටවල ජනතාව පාලනය කෙරෙන්නේ පක්ෂ අතර කෙරෙන විවෘත අරගලයක් සහ මෙම පක්ෂ අතර නිදහස් එකඟත්වයක් මගිනි.

1917 පෙබරවාරි 27 දින සාර්වාදී පාලනය පෙරළා දැමීමෙන් පසුව රුසියාව මාස හතරක් පමණ යන තෙක් නිදහස් රටක් සේ පාලනය විය. නැතහොත්, නිදහස් ලෙස පිහිටුවා ගන්නා ලද පක්ෂ අතර කෙරෙන විවෘත අරගලය සහ ඒවා අතර නිදහස් එකඟත්වය අනුව එය පාලනය විය. එනිසා, රුසියානු විප්ලවයේ සංවර්ධනය ගැන කරුණු වටහා ගැනීම පිණිස අන් සියල්ලටමත් වඩා කළ යුත්තේ, ප්‍රධාන පක්ෂ, ඒවා ආරක්ෂා කළ පංති උවමනාවන් සහ ඒවා සියල්ල අතර ඇති සම්බන්ධකම් ගැන අධ්‍යයනය කිරීමය.

## III

සාර්වාදී පාලනය පෙරළා දැමීමෙන් පසුව බලය පළමුවැනි තාවකාලික ආණ්ඩුව අතට පත්විය. එම ආණ්ඩුව ධනපති පංතියේ, එනම්, ධනපතියන්ගේ සහ ඔවුන්ට එකතු වූ ඉඩම් හිමියන්ගේ නියෝජිතයන්ගෙන් සමන්විත වූවකි. ප්‍රධාන ධනපති පක්ෂය වන ''කැඩෙට්'' පක්ෂය, ධනපති පංතියේ ආණ්ඩු පක්ෂය ලෙසට එහි මුල් තැන ගත්තේය.

නිදහස සඳහා සාර්වාදී යුද්ධ හමුදවලට විරුද්ධව ස්වකීය රුධිරය කැප



කරමින් සටන් කළේ ධනපතියන් නොව, කම්කරුවන් සහ ගොවිජනයාද, සොල්දදුවන් සහ සේලරුවන්ද වන නමුත්, මෙම පක්ෂය බලය අත් කර ගැනීම අහම්බෙන් සිදු වූවක් නොවේ. ධනපති පක්ෂයට ධනය, සංවිධානය සහ දැනුම තිබුණ නිසා එය බලය අත්පත් කර ගත්තේය. 1905 න් පසුව, එසේම විශේෂයෙන්ම යුද්ධ කාලය තුළ ධනපති පංතිය සහ ඒ හා සමාගම් වූ ඉඩම් හිමියෝ සංවිධානය අතින් ඉතාමත් විශාල දියුණුවක් ලබා ගත්හ.

කැඩෙට් පක්ෂය නිතරම රාජාණ්ඩුවාදී විය. 1905 දී සහ 1905 සිට 1917 දක්වාද, එය එසේ විය. සාර්වාදී දුෂ්ට පාලනයට විරුද්ධව ජනතාව ලත් ජයග්‍රහණයෙන් පසුව, එය තමන් සමූහාණ්ඩුවාදී පක්ෂයක් බව ප්‍රකාශයට පත් කළේය. රාජාණ්ඩු පරදවා ජනතාව ජයගත් විට, ධනපති පක්ෂවලට ධනපතියන්ගේ වරප්‍රසාද ආරක්ෂා කළ හැකි තාක් කල් හා ඔවුන්ගේ අසීමිත බලය ජනතාව මත පැතිරවීමට හැකිතාක් කල්, ඒවා සමූහාණ්ඩුවාදී වීමට කැමති වූ බව ඉතිහාසයේ අත්දැකීම්වලින් පෙනේ.

කැඩෙට් පක්ෂය ''ජනතාවගේ නිදහස'' ගැන වචනයෙන් කථා කරයි. නමුත් එය ඇත්ත වශයෙන්ම ධනපතියන් වෙනුවෙන් පෙනී සිටියි. එමෙන්ම සියළුම ඉඩම් හිමි, රාජාණ්ඩුවාදී සහ කළු සියය පිරිස් එක් වරම එයට ආධාර දෙන්නට වන්හ. විප්ලවයෙන් පසුව ධනපති පත්‍ර සියල්ලමත්, කළු සියය පත්‍ර සියල්ලමත්, කැඩෙට්වරුන් සමග එක තාලයට ගායනා කිරීමට පටන් ගත්හ. විවෘත ලෙස ඉදිරිපත් වීමට බිය වූ රාජාණ්ඩුවාදී පක්ෂ සියල්ලම, මැතිවරණයේදී කැඩෙට් පක්ෂයට ආධාර දුන්හ. නිදසුනක් ලෙසට පෙට්‍රොග්‍රෑඩයේ මෙය සිදුවිය.

බලය ලබාගත් පසු කැඩෙට්වරු කළේ, බ්‍රිතාන්‍ය සහ ප්‍රංශ ධනපතියන් සමග කොල්ලකාරී ගිවිසුම් ඇති කරගත්, සාර් දෙවැනි නිකොලායි ආරම්භ කළ රටවල් අල්ලා ගැනීමේ යුද්ධය නොනවත්වාම කරගෙන යාමට සෑම ප්‍රයත්නයක්ම දැරීමය. යුද්ධයෙන් ජයග්‍රහණය ලැබුණහොත් රුසියානු ධනපතියන්ට කොන්ස්තන්තිනෝපලය, ගැලීසියාව, අර්මේනියාව ආදිය අල්ලා ගැනීමට ඉඩ දෙන බව මෙම ගිවිසුම්වලින් පොරොන්දු දෙන ලදී. ජනතාව විශයෙහි කැඩෙට්වරුන්ගේ ආණ්ඩුව අනුගමනය කළේ, හිස් කූටකාරකම් හා පොරොන්දු දීම් මගින් ඔවුන් ඉවතට යොමු කිරීමේ සහ කම්කරුවන්ට හා ගොවි ජනතාවට ඉමහත් හා අත්‍යාවශ්‍ය වැදගත් කමකින් යුතු සියළුම කාරණා සම්බන්ධයෙන් තීරණයක් ගැනීම ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස්වන තෙක් කල් දමමින්, එම මණ්ඩලය රැස්කිරීමට දින නියමයක් නොකිරීමේ පටිපාටියකි.

නිදහසෙන් ප්‍රයෝජන ගනිමින් ජනතාව ස්වාධීන ලෙස සංවිධානය වීමට පටන් ගත්හ. රුසියාවේ ජනගහනයෙන් අති බහුතරය වන කම්කරු-

වන්ගේ සහ ගොවි ජනතාවගේ ප්‍රධාන සංවිධානය වූයේ කම්කරු, සොල්දාදු සහ ගොවිජන නියෝජිත සෝවියට් සභාය. පෙබරවාරි විප්ලවය සමයේදීම මෙම සෝවියට් සභා පිහිටුවීම ආරම්භ කරන ලදී. ඒ අනුව රුසියාවේ විශාල නගර බහුතරයක සහ ගම්බද දිස්ත්‍රික්ක රැසක පංති විඥානය ඇති සහ දියුණු කම්කරුවෝ හා ගොවිජනයා සියළු දෙනාම සති කීපයක් ඇතුළතදී සෝවියට් සභා තුළ සංවිධානය වූහ.

සෝවියට් සභා තේරී පත් වූයේ ඉතාමත් නිදහස් ආකාරයෙනි. ඒවා නියම වශයෙන්ම ජනතාවගේ, කම්කරුවන්ගේ සහ ගොවි ජනයාගේ සංවිධාන විය. ඒවා නියම වශයෙන්ම ජනතාවගෙන් අති බහුතරයක සංවිධාන විය. කම්කරුවෝ සහ සොල්දාදු නිල ඇඳුම් ලාගත් ගොවියෝ ආයුධ සන්නද්ධව සිටියහ.

සෝවියට් සභාවලට සම්පූර්ණ බලය අත් කර ගත හැකිව තිබුණු බව හා ඒවා එසේ කළ යුතුව තිබුණු බව නොකිවමනාය. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවන තෙක් සෝවියට් සභා හැර වෙනත් බලයක් රාජ්‍යය තුළ නොතිබිය යුතුව තිබිණි. අපගේ විප්ලවය සැබවින්ම පොදු ජනතා සහ සැබන්ම ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයක් විය හැකිව තිබුණේ එසේ වූ විට පමණකි. සාමය සඳහා ඇත්ත වශයෙන්ම වෙර දරන, රටවල් ජය ගැනීමේ යුද්ධය ගැන උවමනාවක් නොදක්වන, වැඩ කරන ජනතාවට, රටවල් ජය ගැනීමේ යුද්ධය කෙළවර කර, සාමයට මාර්ගය විවෘත කරන ප්‍රතිපත්තිය ක්‍රියාත්මක කළ හැකිව තිබුණේ එසේ වී නම් පමණකි. ''යුද්ධයෙන්'' අති දැවැන්ත ලාභ ලබාගන්නා සහ රට විනාශ වූ හා සාගත තත්වයට පත් කළ ධනපතියන් මර්දනය කිරීම කම්කරුවන්ට හා ගොවි ජනතාවට කළ හැකිව තිබුණේ එසේ වී නම් පමණකි. නමුත්, සෝවියට් සභාවල නියෝජිතයන් අතුරෙන්, සෝවියට් සභාවලට මුළු බලය පවරන ලෙස ඉල්ලූ බොල්ෂෙවික් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ පැත්ත ගෙන සිටියේ අල්පතරයක් පමණකි. සෝවියට් සභාවල නියෝජිතයන් අතුරෙන් බහුතරය සෝවියට් සභාවලට බලය පැවරීමට විරුද්ධ වූ මෙන්ෂෙවික් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සහ සමාජවාදී විප්ලවවාදී පක්ෂවල පැත්ත ගෙන සිටියහ. ධනපති ආණ්ඩුව ඉවත් කර සෝවියට් සභාවල ආණ්ඩුවක් පිහිටුවනවා වෙනුවට, මෙම පක්ෂ ධනපති ආණ්ඩුට ආධාර දීම, එය සමග සම්මුතිවලට එළඹීම සහ එය සමග සභාග ආණ්ඩුවක් ඇති කිරීම සඳහා බල කර සිටියහ. විප්ලවය ආරම්භ වූ තැන් පටන් ගත වූ පස් මාසය තුළ එහි සංවර්ධනයේ මුළු මාර්ගයෙහිම ප්‍රධාන සන්ධාරය වූයේ, ජනතාවගෙන් බහුතරයක විශ්වාසය හිමිකරගෙන සිටි සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පක්ෂ අනුගමනය කළ, ධනපති පංතිය සමග සම්මුති ගත වීමේ මෙම ප්‍රතිපත්තියය.



## IV

ධනපති පංතිය සමග සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ මෙම සම්මුතිගත වීම ඉදිරියට ගියේ කෙසේද යනු ප්‍රථමයෙන් බලමු. ජනතාවගෙන් බහුතරය ඔවුන් කෙරෙහි විශ්වාසය තැබුයේ මන්දැයි යන්න පැහැදිලි කිරීමට ඊළඟට උත්සාහ කරමු.

## V

රුසියානු විප්ලවයේ සෑම අවධියකදීම මෙන්ෂෙවික්වරු සහ සමාජවාදී-විප්ලවවාදීහු එක් හෝ තවත් ආකාරයකින් ධනපතියන් සමග සම්මුති ගත වූහ.

1917 පෙබරවාරි මස අවසානයේදීම, ජනතාව ජයග්‍රහණය අත්පත් කරගත් සහ සාර්වාදී පාලනය පෙරළා දමන ලද වහාම, ධනපතීන්ගේ තාවකාලික ආණ්ඩුව කෙරෙන්ස්කි ''සමාජවාදියෙක්'' ලෙසට භාර ගත්තේය. ඇත්ත වශයෙන්ම කෙරෙන්ස්කි කිසිකලෙකත් සමාජවාදියෙක් නොවීය. ඔහු තෲදවික්වරයෙක් පමණක් වූ අතර 1917 මාර්තු මාසයේදී ''සමාජවාදී විප්ලවවාදීන්ට'' එකතු විය. ඔහු ඔවුන්ට එකතු වූයේ, එසේ කිරීම ආරක්ෂා සහිත සහ ඉතාමත් වාසිදායක වූ පසුය. පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවේ නියෝජ්‍ය සභාපති වූ කෙරෙන්ස්කි මගින් කටයුතු කළ ධනපතීන්ගේ තාවකාලික ආණ්ඩුව, සෝවියට් සභාව ස්වකීය අණසක යටතට ගැනීමත්, එය හීලෑ කිරීමටත් පටන් ගත්තේය. ධනපති තාවකාලික ආණ්ඩුව එහි පොරොන්දු ඉටු කරන ''තාක් දුරට එයට ආධාර කිරීමට'' එම ආණ්ඩුව පිහිටවූ වහාම එකඟ වීමෙන් සෝවියට් සභාව, එනම්, එහි ප්‍රධානත්වය දැරූ සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු තමන් හීලෑ කරනු ලැබීමට ඉඩ දුන්හ.

සෝවියට් සභාව තමන් තාවකාලික ආණ්ඩුවේ කටයුතුවල හරි වැරදි බලන හා එය පාලනය කරන මණ්ඩලය ලෙසට සලකා ගත්තේය. සෝවියට් සභාවේ නායකයෝ ආණ්ඩුව සමග සම්බන්ධකම් පැවැත්වීම සඳහා සම්බන්ධතා කොමිසම යනුවෙන් හැඳින්වුනු ආයතනය පිහිටුවා ගත්හ.[115] සම්බන්ධතා කොමිසම තුළ සිටි සමාජවාදී විප්ලවවාදී මෙන්ෂෙවික් නායකයෝ, කාර්ය නියමයක් නැති හෝ නිල නොවන හෝ ඇමතිවරුන්ගේ තත්වය දරමින් නිරන්තරව ධනපති ආණ්ඩුව සමග සාකච්ඡා පැවැත්වූහ.

මෙවැනි තත්වයක් මාර්තු මාසය මුළුල්ලේම සහ අප්‍රේල් මාසයද සම්පූර්ණයෙන්ම පාහේ ගත වන තෙක් පැවැත්තේය. කාලය ලබා

ගැනීම සඳහා ධනපතියෝ ප්‍රමාද කිරීම් සහ කූටකාරකම්වල යෙදුනහ. මෙම කාලය තුළ ධනපති ආණ්ඩුව විප්ලවය ඉදිරියට ගෙනයාම සඳහා කිසිම වැදගත් කමක් ඇති එකද පියවරක්වත් නොගත්තේය. එහි ඍජු සහ හදිසි කර්තව්‍යය වූ ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස් කිරීම පිණිස වුවද එය කිසිම දෙයක් කළේ නැත. එය පළාත් වෙත එම ප්‍රශ්නය ඉදිරිපත් කළේවත්, එසේ නැතහොත් සූදානම් කිරීමේ කටයුතු ඉටු කිරීම සඳහා මධ්‍යම කොමිසමක් පත් කළේවත් නැත. ආණ්ඩුවට උවමනාවී තිබුණේ එකම දෙයක් පමණකි. එයට උවමනාවී තිබුණේ, බ්‍රිතාන්‍යයේ සහ ප්‍රංශයේ ධනපතියන් සමග සාර් ඇති කරගෙන තිබූ කොල්ලකාරී ගිවිසුම් හොර රහසින් අළුත්වැඩියා කිරීමට, හැකි තරම් ප්‍රවේසම් සහිතව හා නිහඬ ලෙස විප්ලවය අසාර්ථක කිරීමට හා සියල්ලක්ම පොරොන්දු වෙමින් තම පොරොන්දු එකක්වත් ඉටු නොකර සිටීමට පමණකි. සම්බන්ධතා කොමිසමෙහි සිටි සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු අලංකාර වදන් මාලා, පොරොන්දු සහ තව තවත් පොරොන්දුවලින් රැවටුනු නිවටයන් මෙන් වූහ. සුප්‍රසිද්ධ කථාවේ සඳහන් කපුටා මෙන්, සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරුද ධනපතියන්ගේ බොරු වර්ණනාවලට හසු වෙමින්, තමන් සෝවියට් සභා ඉතාමත් අගේකොට සලකන බවටත්, ඒවා නැතිව එකම පියවරක්වත් නොගන්නා බවටත්, ඔවුන් දෙන සහතිකවලට සතුටින් ඇහුම් කන් දෙමින් සිටියහ.

නමුත් කල් ගතවී ගිය අතර, ධනපතියෝ විප්ලවය සඳහා කිසිම කිසිවක් නොකළහ. ඊට ප්‍රතිකූල වශයෙන්, විප්ලවයට හානි සිදුවන ලෙසට, එය කොල්ලකාරී රහස් ගිවිසුම් අළුත්වැඩියා කිරීමට වග බලාගත්තේය; නැතහොත්, ඉංග්‍රීසි හා ප්‍රංශ තානාපති නිලධාරීන් සමග එසේම රහස් අනුපූරණ සාකච්ඡා පැවැත්වීමෙන්, ඒවා ''යළි පණ ගැන්වීමට'' වග බලා ගත්තේය. මෙම කාලය තුළ විප්ලවයට අවාසිවන ලෙසට එය යුද්ධ හමුදාවේ පෙරමුණුවල සිටින ජෙනරාල්වරුන් හා නිලධාරීන් අතර ප්‍රතිවිප්ලවවාදී සංවිධානයකට (එසේ නැතහොත්, යටත් පිරිසෙයින් ඔවුන් අතර නව සමගියකට) අත්තිවාරම් දැමුවේය. කම්කරුවන්ගේ බලවත් ප්‍රහාරය නිසා එකක් පසු තව එකක් යන ආකාරයට සහන දීමේ තත්වයට වැටී සිටි සහ ඒ අතරම, නිෂ්පාදනය කඩාකප්පල් කිරීමට (අලාභ හානි කිරීමට) හා අවස්ථාව පැමිණි විට එය අකර්මණ්‍ය කිරීමට කටයුතු සූදානම් කිරීමට පටන් ගෙන සිටි, කර්මාන්තකරුවන්ගේ සහ පැක්ටරි හිමියන්ගේ සංවිධානයක් විප්ලවයට හානි සිදුවන ලෙසට ආරම්භ කිරීමට එය වගබලා ගත්තේය.

එසේ වුවද, සෝවියට් සභාවල වූ දියුණු කම්කරුවන්ගේ සහ ගොවී ජනයාගේ සංවිධානය ප්‍රගතියෙන් ප්‍රගතියට පත් විය. ආණ්ඩුව සහ පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාව අතර එකඟත්වයක් තිබුණත්, කෙරෙන්ස්කිගේ පුරාජේරු කථා අසන්නට ලැබුනත්, ''සම්බන්ධතා කොමිසම'' තිබුණත්, ආණ්ඩුව ජනතාවගේ සතුරෙක්ව, විප්ලවයේ සතුරෙක්ව සිටින බව පීඩිත පංතිවල ප්‍රමුඛතම නියෝජිතයින්ට පෙනී ගියේය. ධනපතියන්ගේ ප්‍රතිරෝධය ව්‍යර්ථ කර නොදැමුවහොත්, සාමයේ, නිදහසේ සහ විප්ලවයේ යහපත් අරමුණු ඉටු නොවන බව ජනතාවට හැඟී ගියේය. ජනතාවගේ නොඉවසිල්ල හා අප්‍රසන්නතාවය වර්ධනය වෙමින් තිබුණේය.

## VI

අප්‍රේල් 20—21 දිනවල පිපිරීමක් ඇතිවිය. ව්‍යාපාරය සාංසිද්ධික ලෙස ඇවිලී ගියේය. ඒ සඳහා කිසිවෙක් පසුබිම සූදානම් කර තිබුණේ නැත. ව්‍යාපාරය කොතරම් පැහැදිලි ලෙස ආණ්ඩුවට විරුද්ධව එල්ල කර තිබුණේද යත්, ඇමතිවරු අත් අඩංගුවට ගැනීම සඳහා සම්පූර්ණයෙන් ආයුධ සන්නද්ධ රෙජිමේන්තුවක් පවා මරින්ස්කි මාළිගය වෙත පැමිණ සිටියේය. ආණ්ඩුවට බලය රැකගෙන සිටිය නොහැකි බව කාටත් හොඳින් පැහැදිලි විය. කිසිම අංශයකින් කිසිම ප්‍රතිරෝධයක් නොමැතිව සෝවියට් සභාවලට බලය ගත හැකිව (හා යත යුතුව) තිබුණි. ඒ වෙනුවට සමාජවාදී විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු ගරා හැලෙන ධනපති ආණ්ඩුවට ආධාර කරමින්, එය සමග තව තවත් සම්මුති ගත වෙමින් එයට බැඳුනු අතර, විප්ලවයට වඩාත් මරණීය වූ හා එය විනාශ මුඛය වෙත යැවීමට නැඹුරු වූ පියවරයන් ගත්හ.

සාමාන්‍ය සහ සාමකාමී කාලවලදී නොදක්නා තරම් සීඝ්‍ර සහ අංග සම්පූර්ණ ආකාරයකින් විප්ලවය සියළුම පංතිවලට කරුණු අවබෝධ කර දෙයි. පංති අරගලය හා දේශපාලනය හා සම්බන්ධ කාරණා විෂයෙහිදී අන් කාටත් වඩා හොඳින් සංවිධානය වී සිටින සහ වැඩි පළපුරුදුකම් ඇති ධනපතියෝ, අන් අයට වඩා ඉක්මණින් තම පාඩම උගෙන ගත්හ. ආණ්ඩුවේ තත්වය ඉතා අවදානම් බව අවබෝධ කරගත් ඔවුහු, කම්කරුවන් රැවටීමට, භේද කිරීමට සහ දුර්වල කිරීමට ධනපතියන් විසින් දශක ගණනාවක් තිස්සේ, නැතහොත් 1848 පටන්ම අනුගමනය කරන ලද ක්‍රමයක පිහිට සෙවූහ. මෙම ක්‍රමය සභාග ආණ්ඩුව යනුවෙන් හැඳින්වේ. එය ධනපති පංතියේ සාමාජිකයින්ගෙන් සහ සමාජවාදයේ සිට පිළ මාරු කළවුන්ගේ ඇමති මණ්ඩලයකි.

විප්ලවවාදී කම්කරු ව්‍යාපාරය සමග එක පෙළට නිදහස සහ ප්‍රජාතන්ත්‍රවාදය දීර්ඝ කාලයක් පැවති රටවල, බ්‍රිතාන්‍යයේ සහ ප්‍රංශයේ ධනපතියන් නැවත නැවතත් සහ ඉතා සාර්ථක ලෙසත් මෙම ක්‍රමය ක්‍රියාත්මක

කර තිබේ. ''සමාජවාදී'' නායකයෝ ධනපති ඇමති මණ්ඩලයකට ඇතුළු වූ පසු, ඔවුහු අනිවාර්‍යය වශයෙන්ම නමින් පමණක් ප්‍රධානීන් වූහ; ඔවුහු පඹයන් බවට, ධනපතියන්ගේ දොර රෙදි බවට හා කම්කරුවන් රැවටීමේ උපකරණ බවට පත්වූහ. රුසියාවේ ''ප්‍රජාතන්ත්‍රවාදී සහ සමූහාණ්ඩුවාදී'' ධනපතියන්ද ක්‍රියාත්මක කළේ මෙම ක්‍රමයමය. සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු තමන් රවටනු ලැබීමට එක්වරම ඉඩ දුන්හ. ඒ අනුව චෙර්නොව්, ට්සෙරතෙලි සහ සමාගම ඇතුලත් වූ ''සභාග' ආණ්ඩුව මැයි මස 6 වැනි දින යථාර්ථයක් බවට පත් විය.

සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පක්ෂවල නිවටයෝ අමන්දානන්දයට පත්ව ස්වකීය නායකයන්ගේ අමාත්‍ය කීර්තියේ රශ්මි ධාරාවන්ගෙන් මොට්ට ලෙස නැහැවෙන්නට පටන් ගත්හ. ''සෝවියට් නායකයන්'' ජනතාවට විරුද්ධව තමන්ගේ ආධාරකරුවන් වීම සහ ''පෙරමුණේ ආක්‍රමණික කටයුතු'' සඳහා, එනම්, මඳ කලකට අකර්මන්‍යව තිබුණු අධිරාජ්‍යවාදී කොල්ලකාරී යුද්ධය නැවත පටන් ගැනීම සඳහා, ඔවුන්ගේ ආධාරය දෙන බවට පොරොන්දුව ලබා ගැනීම සම්බන්ධයෙන් ඉමහත් සතුටට පත් ධනපතියෝ, ඔවුන්ගේ අත් එකට ඇතිල්ලූහ. පිම්බී සිටින මෙම නායකයන්ගේ බෙලහීනත්වය ධනපතියෝ හොඳින් දැන සිටියහ. නිෂ්පාදනය පාලනයට යටත් කිරීම, නිෂ්පාදනය සංවිධානය කිරීම, සාම ප්‍රතිපත්තියක්, යනාදිය සම්බන්ධයෙන් ධනපති පංතිය දෙන පොරොන්දු කිසි කලෙකත් ඉටු නොකෙරෙන බව ධනපතියෝ දැන සියහ.

එය එසේම සිදුවිය. සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් පහසුවෙන් රැවටිය හැකි වනු ඇතැයි යන්න ගැන ධනපතියන් තැබූ බලාපොරොත්තුව විප්ලවයේ සංවර්ධනයෙහි දෙවැනි අදියරෙන්, මැයි 6 සිට ජූනි 9 කාලයේ හෝ එසේ නැතහොත් ජූනි 18 සිදුවීම්වලින් සනාථ විය.

පෙෂෙහෝනව් සහ ස්කොබිලෙව් තමන්ම රවටා ගනිමින්ද, ධනපතියන්ගේ ලාභවලින් සියයට සියයක්ම ගන්නා බවත්, ඔවුන්ගේ ''ප්‍රතිරෝධ බිඳ දමා ඇති'' බවත් යනාදිය කියන අලංකෘත කථාවලින් ජනතාව රවටමින්ද, සිටියදී ධනපතියෝ නොනවත්වාම ඔවුන්ගේ තත්වය තහවුරු කරගත්හ. ධනපතියන් මර්ධනය කිරීමට මෙම කාලය තුළ කිසි දෙයක්, කිසිම කිසි දෙයක්, නොකරන ලදී. රාජ්‍ය පරිපාලනයේ මුළු යන්ත්‍රයම නිලධාරි පෙළැන්තිය (නිලධාරීන්) සහ ධනපති පංතිය අත පැවති අතර, සමාජවාදයේ පිළ හැර ගිය ඇමතිවරු පීඩිත පංතිවල අවධානය අන් අතකට යොමු කිරීම සඳහා ක්‍රියාත්මක වූ කථා යන්ත්‍ර බවට පත්වූහ. කර්මාන්ත පිළිබඳ නියෝජ්‍ය ඇමති වූ ඒ අපකීර්තිමත් පල්චින්ස්කි ධනපතියන්ට විරුද්ධ සෑම පියවරක්ම අවහිර කළ එම යන්ත්‍රයේ නියම නියෝජිතයෙක් විය. ඇමතිවරු නන්දෙඩවූ අතර, සියල්ලක්ම පෙර සේම පැවැත්තේය.



විප්ලවයට විරුද්ධව සටන් කිරීම සඳහා ධනපතියෝ විශේෂයෙන්ම ට්සෙරතෙලි ඇමතිවරයා පාවිච්චි කළහ. පත් කරන ලද කොමිසාර්වරයෙක් ඉවත් කිරීමට තරම් ක්‍රොන්ෂ්තාත්හි විප්ලවවාදීන් එඩිතර වූ පසු ඔවුන් ''සංසිඳුවීම'' සඳහා ඔහු එහි යවන ලදී.[116] ධනපති පුවත්පත් ක්‍රොන්ෂ්තාත්වලට විරුද්ධව සිතන්නටත් බැරි තරම් ඝෝෂාකාරී ලෙස, ප්‍රචණ්ඩ ලෙස සහ ද්වේශ සහගත ලෙස බොරු කියමින් හා බැන වදිමින් ප්‍රචාරයක් ගෙන ගිය අතර, එය රුසියාවෙන් ''වෙන්වී ඉවත්වීමට'' කැමැත්තක් දක්වන බවට චෝදනා කොට, සුළු ධනපතියන් හා අමනයන් බිය වැද්දීම පිණිස මෙම චෝදනාව සහ වෙනත් බහුභූත, දහසකුත් එකක් මාර්ගයෙන්, යළි යළිත් ප්‍රකාශ කළහ. නියම මොට්ටයෙක් සහ බියගත් අමනයෙක් වූ ට්සෙරතෙලි ධනපති ඇම ගිලීමේදී අන් සියල්ලටම වඩා ''අවංක'' ලෙස එසේ කළ තැනැත්තා විය. තමන් ප්‍රතිවිප්ලවවාදී ධනපති පංතියේ දසයෙකුගේ කාර්ය කොටස ඉටු කරන බව නොදැන, ක්‍රොන්ෂ්තාත් ප්‍රදේශය ''පොඩිපට්ටම් කර එය යටත් කිරීම'' සඳහා අන් සියල්ලන්ටම වැඩි උත්සුක්ත භාවයක් දක්වූයේ ඔහුය. විප්ලවවාදී ක්‍රොන්ෂ්තාත් ප්‍රදේශය සමග ''සම්මුතිය'' ඇති කර ගැනීමේදී ඔහු ඒ සඳහා යෙදුනු උපකරණය බවට පත්විය. එම සම්මුතිය අනුව, ක්‍රොන්ෂ්තාත්හි කොමිසාර්වරයා සරල ලෙස ආණ්ඩුවෙන් පත් නොකර, ප්‍රාදේශීය වශයෙන් තෝරා පත්කර ආණ්ඩුව මගින් ස්ථිර කිරීමට එකඟවන ලදී. සමාජවාදය අත්හැර ධනපති පැත්තට පිළ මාරු කළ ඇමතිවරු ඔවුන්ගේ කාලය වැය කළේ එවැනි කාලකණ්ණි සම්මුති ඇති කිරීම සඳහාය.

විප්ලවවාදී කම්කරුවන් ඉදිරියේ හෝ සෝවියට් සභා තුළදී හෝ තාවකාලික ආණ්ඩුව ආරක්ෂා කිරීමට ධනපති ඇමතියෙකුට පැමිණිය නොහැකිවූ අවස්ථාවල ස්කොබිලෙව්, ට්සෙරතෙලි, චෙර්නොව් හෝ වෙනත් ''සමාජවාදී'' ඇමතිවරයෙකු පැමිණ (නැතහොත්, වඩාත් නිවැරදි ලෙසට කියතොත්, ධනපතියන් විසින් එවන ලදුව) ඔහුගේ කාර්ය නියමය අකුරටම ඉටු කළේය. ඇමති මණ්ඩලය ආරක්ෂා කිරීමටත්, ධනපතියන්ට සුදු හුනු ගෑමටත්, වැල නොකැඩී පොරොන්දු දෙමින් හා ප්‍රමාද වන්න, ප්‍රමාදවන්න, තවත් ප්‍රමාදවන්න කියා ජනතාවට උපදෙස් දෙමින් ඔවුන් රැවටීමත්, හේ ඔහුගේ උපරිම ශක්තිය යෙදුවේය.

විශේෂයෙන්ම චෙර්නොව් ඇමතිවරයා ඔහුගේ ධනපති සගයන් සමග කේවෙල් කිරීමෙහි යෙදී සිටියේය. ජූලි මාසය දක්වාම, ජූලි 3—4 ව්‍යාපාරයෙන් පසුව ආරම්භවූ ''බලය පිළිබඳ නව අර්බුදය'' දක්වාම, කැඩෙට්වරු ඇමති මණ්ඩලයෙන් අස් වී යන තෙක්ම, චෙර්නොව් ඇමතිවරයා ජනතාවට ඉතාමත් යහසාධක වූ, ප්‍රයෝජනවත් හා වැදගත් කටයුත්තක, එනම්, යටත් පිරිසෙයින් ඉඩම් මිළට ගැනීම සහ විකිණීම තහනම්

කිරීමටවත් එකඟවන ලෙස ස්වකීය ධනපති සගයන්ට ''ඒත්තු ගැන්වීමෙහි'' සහ අනුශාසනා කිරීමෙහි නොකඩවාම යෙදී සිටියේය. මෙම තහනම කරන බවට පෙට්‍රොග්‍රෑඩ් සමස්ත රුසියා ගොවිජන නියෝජිත සම්මේලනයේදී[117] ගරු ගාම්භීර ලෙස ගොවීනට පොරොන්දු දී තිබිණි. නමුත්, එම පොරොන්දුව, හුදෙක් පොරොන්දුවක් ලෙසටම තිබුණේය. මැයි හෝ ජූනි යන මාසවලදී වෙර්නොව්ට එය ඉටු කර ගත නොහැකි විය. ජූලි 3—4 විප්ලවවාදී රැල්ල, නැතහොත් සාංසිද්ධික කඩා පැනීම සමග සම්පාතවූ ඇමති මණ්ඩලයෙන් කැඩෙට්වරු ඉල්ලා අස්වී යාම තෙක්ම එය ඉටු කර ගත නොහැකි විය. එසේ වුවද, එම අවස්ථාවේදී පවා එය තනිවූ පියවරක් වූයේය. ඉඩම් හිමියන්ට විරුද්ධව ඉඩම් සඳහා වූ ගොවිජනතා අරගලය සැලකිය යුතු ලෙසකින් දිරිගැන්වීමට එය සමත් වූයේ නැත.

ඒ අතරතුර, ජනතාව එතරම් වෛර කළ ගුච්කොව්ට ඉටු කර ගත නොහැකිව තිබුණු, යුද්ධ පෙරමුණේ ප්‍රතිවිප්ලවවාදී අධිරාජ්‍යවාදී කර්තව්‍යය වූ අධිරාජ්‍යවාදී කොල්ලකාරී යුද්ධය නැවත පටන් ගැනීම, සමාජවාදී-විප්ලවවාදී පක්ෂයේ අළුත් සාමාජික ''විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී'' කෙරෙන්ස්කි විසින් සාර්ථක ලෙස සහ ඉතා දක්ෂ ලෙස ඉටු කෙරෙමින් තිබිණි. ඔහු තමන්ගේම වාග් චාතුර්යයෙන් මත් වූයේය. ඔහු ඉත්තෙකු ලෙසට යොදගත් අධිරාජ්‍යවාදීහු ඔහුට දුම්මල ඇල්ලූහ; ඔහුට තියූ ගී ගායනා කළහ; ඔහුට වන්දනාමාන කළහ. මේ සියල්ලම කරන ලද්දේ සාර් දෙවැනි නිකොලායි බ්‍රිතාන්‍යයේ සහ ප්‍රංශයේ ධනපතියන් සමග ඇති කරගත් ගිවිසුම් අනුව කරනු ලබන යුද්ධය, එසේම රුසියානු ධනපතියන්ට කොන්ස්තන්තිනෝපලය හා ල්වොව්ද, එර්සුරුම් සහ ත්‍රපිසොන්ඩ්ද ලබා ගනු පිණිස කරන යුද්ධය, නැවත ආරම්භ කිරීමට විප්ලවවාදී යුද්ධ හමුද කැමති කරවා ගැනීම පිණිස ප්‍රයත්න දරමින්, යුද්ධ හමුදවලට කථා කිරීමෙන්, ඔහු අවංක ලෙස ධනපතියන්ට මෙහෙ කළ හෙයිනි.

මැයි 6 සිට ජූනි 9 දක්වා වූ රුසියානු විප්ලවයේ දෙවැනි අදියර එසේ ගතවී ගියේය. ''සමාජවාදී'' ඇමතිවරුන්ගේ ආවරණය හා රැකවරණය යටතේ, ශක්තියෙන් වර්ධනය වී තම තත්වය නහවුරු කරගත් ප්‍රතිවිප්ලවය බාහිර සතුරාටත්, අභ්‍යන්තර සතුරාටත්, එනම් විප්ලවවාදීකම්කරුවන්ටත් විරුද්ධව ප්‍රහාරයක් දීම සඳහා කටයුතු සූදනම් කළේය.

## VII

වැලැක්මක් නොතකා වර්ධනය වෙමින් පැවති පොදුජන අප්‍රසාදය සහ කෝපය සංවිධානාත්මක ලෙස ප්‍රකාශයට පත් කරනුවස්, පෙට්‍රොග්‍රෑ-



ඩයේ පෙළපාලියක් පැවැත්වීම සඳහා, විප්ලවවාදී කම්කරුවන්ගේ පක්ෂය වන බොල්ෂෙවික්වරු, ජූනි 9 දින කටයුතු සූදනම් කරමින් සිටියහ. ධනපති පංතිය සමග සම්මුති මගින් එකට පැටළී සිටි සහ ප්‍රහාරයක් පිළිබඳ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තියෙන් බැඳී සිටි සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් නායකයෝ, පොදු ජනතාව අතර තමන්ගේ බලපෑම හීන වී යන බව දන බියෙන් තැති ගත්හ. පෙළපාලියට විරුද්ධව පොදු උඩුබිරුලෑමක් පටන් ගන්නා ලදී. මේ වර සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන්ද සමග කැඩෙට්වරුනුත් එම ඝෝෂණයට එක් වූහ. සමාජවාදී විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ මෙහෙයවීම අනුව සහ ධනපතියන් සමග සම්මුතිගත වීමේ ඔවුන්ගේ ප්‍රතිපත්තියේ ප්‍රතිඵලයක් වශයෙන්, සුළු ධනපති පංතික පොදු ජනතාව ප්‍රතිවිප්ලවවාදී ධනපති පංතිය සමග සන්ධානගතවීම කරා ඇදී යන බව ඉතා නිශ්චිත හා පැහැදිලි ලෙස පෙනී ගියේය. ජූනි 9 දින අර්බුදයේ ඓතිහාසික වැදගත්කම හා පංති අර්ථය එයයි.

එක්සත් වූ කැඩෙට්වරුන්, සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් යන සියළු දෙනාටම විරුද්ධව, පරාජය පෙනෙන සටනකට ඒ අවස්ථාවේ කම්කරුවන් මෙහෙයවීමට අකැමති වූ බොල්ෂෙවික්වරු පෙළපාලිය අවලංගු කළහ. එසේ වුවද, ජනතා විශ්වාසයේ ඡායාමාත්‍රයක්වත් රැක ගැනීමට අපේක්ෂා කළ සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු, ජූනි 18 දිනට පොදු පෙළපාලියක් කැඳවීම නොකර බැරි තත්වයට පත්වූහ. සුළු ධනපති පංතිය නිර්ධන පංතිය දෙසට හැරී යාමක් ලෙසට මෙය නිවැරදිව වටහා ගත් ධනපතියෝ, මෙයින් බලවත් ලෙස කෝපයට පත්ව, පෙරමුණේ ප්‍රහාරයක් දීමෙන් ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ක්‍රියාව ව්‍යර්ථ කිරීමට තීරණය කළහ.

ඇත්ත වශයෙන්ම ජූනි 18 දින, පෙට්‍රොග්‍රෑඩ් ජනතාව අතර විප්ලවවාදී නිර්ධන පංතියේ සටන් පාඨ, එනම් බොල්ෂෙවික්වාදයේ සටන්පාඨ සිත් කාවදින සේ ජයග්‍රහණයට පත්වූ දිනයක් විය. ඒ අතර ජූනි 18 දින පෙරමුණෙහි ප්‍රහාරය ආරම්භ කරන ලද බව, ධනපතියෝ සහ බොනපාට්වාදී* කෙරෙන්ස්කි ගරු ගාම්භීර ලෙස ජූනි 19 දින නිවේදනය කළහ.

---

* බොනපාට්වාදී යනු (ප්‍රංශ අධිරාජයන් දෙදෙනෙකුගේ නම අනුව යෙදුනකි) ධනපතියන්ගේ සහ කම්කරුවන්ගේ පක්ෂ අතර කෙරෙන අතිශයින් තියුණු අරගලයේදී පැත්තක් නොගන්නා බව පෙන්වන ආණ්ඩුවකට යොදන නමකි. ඇත්ත වශයෙන්ම ධනපති පංතියට සේවය කරන එවැනි ආණ්ඩුවක් ප්‍රධාන වශයෙන්ම පොරොන්දු දීමෙන් සහ සුළු සහන සැලසීමෙන් කම්කරුවන් රවටන්නේය.

ප්‍රහාරයේ අනුයායී අර්ථය වූයේ, වැඩ කරන ජනතා බහුතරයේ කැමැත්තට පටහැනිව, ධනපතියන්ගේ උවමනාවන් ඉටු කරනු පිණිස මංකොල්ලකාරී යුද්ධය නැවත පටන් ගත් බවයි. ප්‍රහාරය හා සමග සමාගමිව, එක් අතකින් ජාත්‍යෝන්මාදවාදයේ යෝධ සංවර්ධනයක් හා බොනපාට්වාදී යුද්ධ හමුදු කල්ලියට යුද්ධමය බලය (හා ඒ අනුව රාජ්‍ය බලය) පැවරීමත්, අනිත් අතින්, ජනතාවට විරුද්ධව හිංසනය යෙදීම, ජාත්‍යන්තරවාදීන් තාඩන පීඩනවලට භාජනය කිරීම, උද්ඝෝෂණය කිරීමේ නිදහස අවලංගු කිරීම සහ යුද්ධයට විරුද්ධ අය අත් අඩංගුවට ගැනීම හා ඔවුන්ට වෙඩි තැබීමත්, අනිවාරණීය වශයෙන්ම සිදුවූයේ එහෙයිනි.

මැයි 6 දින සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු ධනපති පංතියේ විජයග්‍රාහී මංගල රථයට කඹයකින් බැඳුනු අතර, ජූනි 19 දින ඔවුහු ධනපතියන්ගේ වහලුන් ලෙසට යදමින් බැඳුනහ.

## VIII

මංකොල්ලකාරී යුද්ධය නැවත පටන් ගැනීම නිසා ජනතාවගේ අප්‍රසාදය ස්වභාවික ලෙසටම තව තවත් සීඝ්‍රයෙන් සහ උත්සන්න වෙමින් වර්ධනය විය. ජූලි 3—4 දිනවල ඔවුන්ගේ කෝපය උතුරා යනු දක්නා ලදී. නමුත් හැකිතාක් දුරට එයට සංවිධානාත්මක ස්වභාවයක් දීමට බොල්ෂෙවික්වරුන්ට සිදුව තිබුණ බැවින් ඔවුහු එම කඩා පැනීම වැලැක්වීමට උත්සාහ කළහ.

ධනපති පංතියේ දාසයෝ වූ සහ ස්වකීය ස්වාමියා විසින් බඳිනු ලැබ සිටි සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු, සියළු දේටම එකඟ වූහ: පෙට්‍රොග්‍රෑඩයට ප්‍රතිගාමී යුද්ධ හමුදා යැවීමට, නැවත මරණ දඬුවම පැනවීමට, කම්කරුවන් සහ විප්ලවවාදී හමුදාවන් නිරායුධ කිරීමට, අත් අඩංගුවට ගැනීම් සහ එහු බැඳීම්වලට හා නඩු විභාගයක් නොමැතිව පුවත්පත් තහනම් කිරීමට ඔවුහු එකඟ වූහ. ආණ්ඩුවේ සිටි ධනපති පංතියට සම්පූර්ණයෙන් අත්පත් කරගත නොහැකිවූ සහ සෝවියට් සභා අත්පත් කර ගැනීමට නොකැමතිවූ බලය, යුද්ධ සමූද බොනපාට්වාදී කල්ලිය අතට පත්විය. ඔවුන්ට කැඩෙට්වරුන්ගේ, කළු සියය පිරිස්වල, ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ සම්පූර්ණ ආධාරය ලැබිණි.

අඩියෙන් අඩිය ඉණිමඟ පහළට ධනපති පංතිය සමග සම්මුති ගතවීමේ ඉණිමඟට පාතැබූ පසු සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු, නොවැලැක්විය හැකි ලෙසටම එය පහළට ලිස්සා යමින් පතුලටම වැටුනහ. පෙබරවාරි 28 දින පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවෙදී ඔවුහු ධනපති ආණ්ඩුවට කොන්දේසි සහිතව ආධාර දීමට පොරොන්දු වූහ. මැයි 6 වැනි දින, එය බිඳ වැටෙන්නට නොදී බේරාගත් ඔවුහු, ප්‍රහාරයකට එකඟ වීමෙන් තමන් එහි සේවකයන් හා ආරක්ෂකයන් කරගනු ලැබීමට ඉඩ දුන්හ. ජූනි 9 දින ඔවුහු නිර්ධන පංතියට විරුද්ධව වියරු කෝපයේ, බොරු සහ අපහාස ප්‍රචාරයේ ව්‍යාපාරයක් ගෙන යාම සඳහා ප්‍රතිවිප්ලවවාදී ධනපති පංතිය සමග එක්සත් වූහ.

ජූනි 19 දින ඔවුහු මංකොල්ලකාරී යුද්ධය නැවත පටන් ගැනීමට අනුමැතිය දුන්හ. ජූලි 3 දින ඔවුහු ප්‍රතිගාමී යුද්ධ හමුදු කැඳවීමට එකඟ වූහ. එය ඔවුන් විසින් බොනපාට්වාදීනට සම්පූර්ණයෙන්ම බලය භාර දීමේ ආරම්භය විය. අඩියෙන් අඩිය ඉණිමඟ පහළට.

සමාජවාදී-විප්ලවවාදී පක්ෂවල මෙම නින්දිත සහගත අවසාන ජවනිකාව අහඹුවක් නොව, එය යුරෝපයේ අත්දැකීම්වලින් නැවත නැවතත් ඔප්පුවී ඇති පරිදි කුඩා දේපල හිමියන්ගේ සහ සුළු ධනපති පංතියේ ආර්ථික තත්වයේ ප්‍රතිඵලයක් විය.



## IX

සුළු දේපල හිමියා "රටේ ලෝකයේ ජීවත්වීමට", නියම ස්වාමියෙක් බවට පත්වීමට, ශක්තිමත් සේව්‍යයෙකුගේ තත්වයට, ධනපතියෙකුගේ තත්වයට පැමිණීමට සෑම ප්‍රයත්නයක්ම දරන, සෑම ධෛර්යයක්ම දරන බව සෑම කෙනෙක්ම දක ඇත. ධනපති ක්‍රමය රජ කරන තාක් කල් ධනපතියෙක් වීම (ඉතාමත් වාසිදායක තත්වය යටතේ වුව, එසේ වීමට ඉඩ ඇත්තේ කුඩා දේපල හිමියන් සියයකින් එක් අයෙකුට පමණකි) හෝ, විනාශවූ මිනිසෙක්, අර්ධ නිර්ධනයෙක් සහ අන්තිමේදී නිර්ධනයෙක් වීම හෝ හැර, වෙනත් විකල්පයක් සුළු දේපල හිමියාට නොමැත. මෙය දේශපාලනයටද සාධාරණය: සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදීහු, විශේෂයෙන්ම, ඔවුන්ගේ නායකයෝ ධනපති පංතිය පසුපස ඇදී යාමට නැඹුරු වෙති. සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ නායකයෝ ලොකු ධනපතියන් සමග එකඟත්වයට එළඹීමේ හැකියාව ගැන පොරොන්දු දෙමින් සහ සහතික වෙමින් තමන්ගේ ජනතාව රවටති. ඔවුන්ට කළ හැකි ලොකුම හපන්කම වන්නේ, වැඩ කරන ජනතාවගේ කුඩා ප්‍රමාණ ඉහළ කොටසකට, ඉතා කෙටි කාලයක් සඳහා, ධනපතියන්ගෙන් යම් යම් සුළු සහන ලබා ගැනීම

පමණකි. නමුත්, සෑම තීරණාත්මක ප්‍රශ්නයකදීම, සෑම වැදගත් කාරණයකදීම, සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන් ධනපති පංතියේ දුබල උපැදියක් ලෙසට, මූල්‍ය රජවරුන්ගේ කීකරු සේවකයින් ලෙසට, නිතරම එම පංතිය පස්සේ ඇදී ගියේය. බ්‍රිතාන්‍යයේ සහ ප්‍රංශයේ අත්දැකීම් විසින් බොහෝවිට එය සනාථ වී ඇත.

1917 පෙබරවාරි සිට ජූලි දක්වා රුසියානු විප්ලවයේ අත්දැකීම්වලින්, එනම්, විශේෂයෙන්ම අධිරාජ්‍යවාදී යුද්ධයේ බලපෑම සහ එය ගෙන ආ ගැඹුරුගාමී අර්බුදය යටතේ අසාමාන්‍ය සීඝ්‍රතාවයකින් සිදුවීම් ඇතිවූ එම කාලයේ ලැබූ අත්දැකීම්වලින්, සුළු ධනපති පංතියේ තත්වය අස්ථාවරය යන පැරණි මාක්ස්වාදී සත්‍යය ඉතාමත් සිත් කාවදින ලෙස හා ප්‍රත්‍යක්ෂ ලෙස සනාථ වී තිබේ.

වැඩ කරන ජනතාව සමාජවාදී විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පක්ෂවලින් සම්පූර්ණයෙන්ම බිඳී වෙන්වී, එම පක්ෂවල ද්‍රෝහී කාර්ය කොටස අවබෝධ කර ගතහොත් මිස, ඔවුන් ධනපති පංතිය සමග සියළු සම්මුති අත්හැර අධිෂ්ඨාන සහගත ලෙස විප්ලවවාදී කම්කරුවන්ගේ පැත්ත ගතහොත් මිස, යුද්ධයේ, සාගතයේ සහ ඉඩම් හිමියන්ගේ හා ධනපතියන්ගේ දස බන්ධනවල ග්‍රහණයෙන් ඔවුනට මිදීමක් නොවන බව රුසියානු විප්ලවයේ පාඩම ය. ධනපතියන්ගේ ප්‍රතිරෝධය සුනුවිසුණු කර, වන්දි නොගෙවා ඉඩම් ලබා ගැනීම, පූර්ණ නිදහස ලබාගැනීම සහ සාගතය සහ යුද්ධය පරදවා ජය ලැබීම පිණිස ජනතාවට නායකත්වය දිය හැකි වන්නේ විප්ලවවාදී කම්කරුවන්ට පමණකි: ගොවිජන දුප්පතුන් එම කම්කරුවන්ට ආධාර දුනහොත් පමණකි.

## පසුවදන

මෙම ලිපියේ අන්තර්ගත කරුණුවලින් පෙනෙන ලෙසට එය ලියන ලද්දේ ජූලි මස අගදීය.

අගෝස්තු මාසයේ විප්ලව ඉතිහාසයෙන් ලිපියෙහි කියා ඇති කරුණු සම්පූර්ණයෙන්ම සනාථවී තිබේ. ඊට පසු, අගෝස්තු මස අගදී කර්නිලව් කැරැල්ල[118] ඇතිවීමෙන් විප්ලවයේ නව නැම්මකට හේතු විය. ප්‍රතිවිප්ලවවාදී සේනාපතියන් සමග සන්ධානගතවූ කැඩෙට්වරු, සෝවියට් සභා විසුරුවා හැර රාජාණ්ඩුව යළි ස්ථාපිත කිරීමට ප්‍රයත්න දරන බව එයින් ජනතාවට පැහැදිලි ලෙස පෙනී ගියේය. විප්ලවයේ මෙම නව නැම්ම කොතරම් බලවත්ද යනුත්, ධනපති පංතිය සමග සම්මුති ගතවීමේ මරණීය ප්‍රතිපත්තිය අවසන් කිරීම එය විසින් සාර්ථක කෙරේද යනුත්, නුදුරු අනාගතයේදී පෙනෙනු ඇත.

එන්. ලෙනින්

1917 සැප්තැම්බර් 6.

ලිපිය ජූලි මස අගදීද, පසු වදන 1917 සැප්තැම්බර් 6 (19) දින ද ලියන ලදී.

ලිපිය ''රබෝචි'' අංක 8 හා 9 පත්‍රවල 1917 සැප්තැම්බර් 12 හා 13 (අගෝස්තු 30 හා 31) දිනවල පළ කරන ලදී.

පසුවදන, එන්. ලෙනින්, ''විප්ලවයේ පාඩම්'' නැමති කුඩා පොතෙහි 1917 දී පළකරන ලදී. ''ප්‍රිබොයි'' ප්‍රකාශකයෝ, පෙට්‍රොග්‍රෑඩ්.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 34, පිටු 53-69.

# රු.ස.ප්‍ර.ක.ප. මධ්‍යම කාරක සභාවට

අයෙකුගේ හිස කැරකෙන තරම් වේගයෙන් සිදුවීම් ඇති වන නිසා, සමහර විට මෙය ලැබෙන කල බොහෝ ප්‍රමාද වූ තත්වයක් පවතින්නට පුළුවන. මා මෙය ලියන්නේ අගෝස්තු 30 බදාදා වන අතර, සැප්තැම්බර් 2 සිකුරාදා දිනට ප්‍රථම එය ලැබිය යුතු අයට එය කියවන්නට නොලැබෙනු ඇත. සමහර විට එය එදිනටවත් ලැබේද යන්න පවා ස්ථිර නැත. පහත සඳහන් කරුණු ලියා එවීම මගේ යුතුකම කොට සළකමි.

කර්නිලව් කැරැල්ල ඉතාමත් අනපේක්ෂිත ලෙස සිදුවූවකි. (එය එවැනි අවස්ථාවක සහ එවැනි ආකාරයකින් සිදු වෙතැයි අපේක්ෂිත වූවක් නොවේ). එසේම එය විශ්වාස කළ නොහැකි තරම් තියුණු ලෙස සිදුවීම්වලට නව නැඹුරුවක් දුන්නේය.

සෑම නව වෙනසක් මෙන්ම, එයද උපක්‍රම සම්බන්ධයෙන් සංශෝධනයක් සහ වෙනසක් කිරීමේ අවශ්‍යතාවය පළ කරයි. සෑම සංශෝධනයකදී මෙන්ම මෙහිදී ද, ප්‍රතිපත්ති විරහිත තත්වයකට නොවැටීමට අපි ඉතාමත් ප්‍රවේසම් විය යුත්තෙමු.

ප්‍රතිපත්තිවලට පිටුපාන අය (වොලොදර්ස්කි ලෙසට) ආරක්ෂාවාදයට හෝ (අනිකුත් බොල්ෂෙවික්වාදීන් මෙන්) සමාජවාදී-විප්ලවවාදීන් සමග පෙරමුණකට, එනම් තාවකාලික ආණ්ඩුවට ආධාර කිරීමට ලිස්සා වැටෙන්නෝ වෙතියි යනු මගේ ඒකාන්ත අදහසය. ඔවුන්ගේ ආකල්පය සම්පූර්ණයෙන්ම වැරදිය. ප්‍රතිපත්ති විරහිතය. අප ආරක්ෂාවාදීන් වන්නේ නිර්ධන පංතියට බලය පැවරීමෙන් පසුව පමණකි; සාමය යෝජනා කිරීමෙන් පසුවය; බැංකු සමග ඇති රහස් ගිවිසුම් හා බැඳීම් බිඳ දැමීමෙන් පසුවය; ඒ සියල්ලටම පසුව පමණකි. රීගා නගරය අල්ලා ගැනීම නිසාවත්, ඒ තබා, පෙට්‍රොග්‍රෑඩය අල්ලා ගැනීම නිසාවත්, අපි ආරක්ෂාවාදීන් නොවන්නෙමු. (වොලොදර්ස්කි මෙය කියවන්නේ නම් මම බොහෝ කැමති වෙමි).



ඒ දක්වා අපි නිර්ධන පංති විප්ලවය සඳහා කටයුතු කරමු; අපි යුද්ධයට විරුද්ධ වෙමු; අපි ආරක්ෂාවාදීන් නොවෙමු.

දැන් වුවද අපි කෙරෙන්ස්කිගේ ආණ්ඩුවට ආධාර නොකළ යුත්තෙමු. එයට ආධාර කිරීම ප්‍රතිපත්ති විරහිත කමකි. අපෙන් මෙසේ අසන්නට ඉඩ තිබේ: අපි කර්නිලව්ට විරුද්ධව සටන් කිරීමට අපේක්ෂා නොකරමුද? ඇත්තෙන්ම අපි එසේ කළ යුත්තෙමු! නමුත් ඒ දෙකම එකක් නොවේ. මෙහි විභේදන රේඛාවක් ඇත. සම්මුතිවලට වැටෙන සහ සිදුවීම් මාලාව නිසා ඉවත ඇදී යන සමහර බොල්ෂෙවික්වරු මෙම රේඛාව ඉක්මවා යති.

කෙරෙන්ස්කිගේ හමුදා කරන සේම අපිද කර්නිලව්ට විරුද්ධව සටන් කරන්නෙමු; දැන් සටන් කරමින් සිටිමු. නමුත් අපි කෙරෙන්ස්කිට ආධාර නොකරමු. ඊට ප්‍රතිකූල ලෙසට අපි ඔහුගේ දුර්වලකම හෙළිදරව් කරන්නෙමු. එහි වෙනසක් ඇත. එය සියුම් වෙනසක් වුවද, වටහා ගැනීම අත්‍යාවශ්‍ය වන අතර එය අමතක නොකළ යුතු වේ.

එසේ නම්, කර්නිලොව් කැරැල්ලෙන් පසුව, අපගේ උපක්‍රම විෂයෙහි කරන වෙනස සංයුක්ත වන්නේ කුමකින්ද?

අපි කෙරෙන්ස්කිට විරුද්ධව කරන අපගේ අරගලයේ ආකෘතිය වෙනස් කරන්නෙමු. ඔහු කෙරෙහි අප දක්වන විරුද්ධත්වය මඳක් හෝ අඩු නොකර, ඔහුට විරුද්ධව කියා ඇති දෙයින් එකම වචනයක් හෝ ඉවත් කර නොගෙන, ඔහු බලයෙන් පහ කිරීමේ කර්තව්‍යය අත් නොහැර, වර්තමාන තත්වය සැලකිල්ලට ගත යුතු බව අපි කියන්නෙමු. අපි දැන්ම කෙරෙන්ස්කි බලයෙන් පහ නොකරමු. අපි ඔහුට විරුද්ධව සටන් කිරීමේ කර්තව්‍යය වෙත වෙනත් මාර්ගයකින් ළඟා වන්නෙමු. නැතහොත් කෙරෙන්ස්කිගේ දුර්වලකම සහ වැනෙනසුලු භාවය (කර්නිලව්ට විරුද්ධව සටන් කරන) ජනතාවට අපි පෙන්වා දෙන්නෙමු. එය අතීතයේදී ද කර තිබේ. එසේ වුවද, දැන් එය අතිශයින්ම වැදගත් දෙය වී ඇති අතර, මෙයින් වෙනස සංයුක්ත වේ.

තවදුරටත් මෙම වෙනස පිළිබිඹු වන්නේ, කෙරෙන්ස්කි වෙත ඉදිරිපත් කරනු ලබන කිසියම් වර්ගයක අසම්පූර්ණ ස්වභාවයේ "වූ ඉල්ලීම්" සඳහා අප ගෙන යන ව්‍යාපාරය උත්සන්න කිරීම ඉතාමත් වැදගත් අවශ්‍යතාවය බවට පත් වී තිබීමෙනි. එම ඉල්ලීම් මෙසේ විය හැකිය: මිල්යුකොව් අත් අඩංගුවට ගනු; පෙට්‍රොග්‍රෑඩ් කම්කරුවන් ආයුධ සන්නද්ධ කරනු; ක්‍රොන්ෂ්තාත්, විබොර්ග් සහ ගෙල්සිංග්ෆෝර්ස් හමුදා පෙට්‍රොග්‍රෑඩයට කැඳවනු; දූමා සභාව විසුරුවා හරිනු, රොද්ස්යන්කො අත් අඩංගුවට ගනු; වතුකාර දේපල ගොවිජනතාවට පැවරීම නීත්‍යානුකූල කරනු; ධාන්‍ය හා පැක්ටරි සම්බන්ධයෙන් කම්කරු පාලනය අරඹනු, ආදී වශයෙනි. අප

මෙම ඉල්ලීම ඉදිරිපත් කළ යුත්තේ කෙරෙන්ස්කිට පමණක් නොවේ. කෙරෙන්ස්කිට වඩා අප ඒවා ඉදිරිපත් කළ යුත්තේ, කර්නිලව්ට විරුද්ධව කරන අරගලයේ සිදුවීම් මාලාව සමග ඇදී ගොස් සිටින කම්කරුවන්, සොල්දදුවන් හා ගොවි ජනතාව වෙතය. අපි ඔවුන්ගේ උනන්දුව රැකගත යුත්තෙමු; කර්නිලව්ගේ පැත්ත ගත් හමුදපතියන්ට හා නිලධාරීන්ට නිසි දඬුවම් දීමට ඔවුන් දිරි ගැන්විය යුත්තෙමු; ඉඩම් වහාම ගොවි ජනතාවට පවරන ලෙස ඉල්ලීමට ඔවුන් උනන්දු කළ යුත්තෙමු; රොද්ස්යන්කො සහ මිල්යුකොව් අත් අඩංගුවට ගත යුතු බවටත්, දූමා සභාව විසුරුවා හළ යුතු බවටත්, රෙච් සහ අනෙකුත් ධනපති පුවත්පත් වසා දැමිය යුතු බවටත්, ඒවාට විරුද්ධව පරික්ෂණ පැවැත්විය යුතු බවටත්,අදහස් ඔවුන්ට ඉදිරිපත් කළ යුත්තෙමු. ''වාම'' සමාජවාදී-විප්ලවවාදීන්[119] විශේෂයෙන්ම මෙම දිසාවට යොමු වන සේ උනන්දු කළ යුත්තෙමු.

නිර්ධන පංතියට බලය දිනා ගැනීමේ කර්තව්‍යයෙන් බැහැරට අපි ගමන් කර ඇතැයි සිතීම වැරදි වනු ඇත. නැත. අපි එයට ඉතා සමීප වන තත්වයට පැමිණ සිටිමු. ඒ එක එල්ලේම නොව එක් අංශයකිනි. මෙම අවස්ථාවේදී අප කෙරෙන්ස්කිට විරුද්ධව එක එල්ලේම ව්‍යාපාර ගෙන යනවාට වඩා, ඔහුට විරුද්ධව වක්‍ර ආකාරයේ ව්‍යාපාරයක්, එනම්, කර්නිලව්ට විරුද්ධව කාර්යශීලී ලෙස, වඩාත් කාර්යශීලී ලෙස, නියම විප්ලවවාදී යුද්ධයක් කරන ලෙසට බල කර ඉල්ලීමේ ව්‍යාපාරයක් ගෙන යා යුත්තෙමු. අපට බලය ලබා ගැනීම කරා යා හැක්කේ මෙම යුද්ධය සංවර්ධනය කිරීමෙන් පමණකි. නමුත් අපි අපගේ උද්ඝෝෂණ කටයුතුවලදී මේ ගැන කථා කළ යුත්තේ හැකි තරම් අඩුවෙනි. (ඒ අතර හෙට වුවද සිදුවීම් විසින් බලය අප අතට පත් කිරීමට ඉඩ තිබෙන බවත්, එසේ වූ විට අපි එය අත් නොහරින බවත්, මතක තබා ගත යුත්තෙමු. උද්ඝෝෂකයින්ට, උද්ඝෝෂක හා ප්‍රචාරක කණ්ඩායම්වලට සහ පොදු වශයෙන් සාමාජිකත්වයට ලිපියකින් (පුවත්පත් මගින් නොව) මෙය දැන්විය යුතු යයි මම හඟිමි. රට ආරක්ෂා කිරීම ගැන, විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ එක්සත් පෙරමුණක් ගැන, ආණ්ඩුවට තාවකාලික ආධාර කිරීම ගැන, යනාදී වූ වදන් මාලා, හුදෙක් හිස් වචනම පමණක් වන හෙයින්, අපි බුරුලක් නොදී ඒවාට විරුද්ධව සටන් කළ යුත්තෙමු. අපි මෙසේ කිව යුත්තෙමු. දැන් ක්‍රියා කිරීමට කාලයයි; සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් මහත්වරු වන ඔබ, දැන් දීර්ඝ කාලයක් තිස්සේ මෙම වදන් මාලා පට්ටා ගසා ඇත. දැන් ක්‍රියා කිරීමට කාලයයි; පොදු ජනතාව සම්බන්ධ කර ගනිමින්, කුල්මත් කරවමින් සහ ඔවුන් කුපිත කරවමින් (කෙරෙන්ස්කි පොදු ජනයාට බිය ය; ජනතාවට බිය ය), කර්නිලොව්ට විරුද්ධ යුද්ධය විප්ලවවාදී ආකාරයකින් ගෙන යා යුතුය. ජර්මන්වරුන්ට විරුද්ධව යුද්ධය සම්බන්ධයෙන් මේ දැන් ක්‍රියාත්මක වීම අවශ්‍යය. නියත කාරණා අනුව වහාම හා කොන්දේසි විරහිත ලෙස සාමය යෝජනා කළ යුතුය. මෙය කළහොත්, එක්කෝ ඉක්මණින් සාමයක් ඇති කරගත හැකිය; එසේ නැතහොත් යුද්ධය විප්ලවවාදී යුද්ධයක් බවට හැරවිය හැකිය. එසේ නොවුවහොත්, මෙන්ෂෙවික්වරු සහ සමාජවාදී-විප්ලවවාදීහු සියළු දෙනාම අධිරාජ්‍යවාදයේ අතවැස්සෝ වෙති.

---

පසුසටහන: මෙය ලිවීමෙන් පසුව ''රබෝචි''[120] කලාප හයක් මවිසින් කියවන ලදුව, අපගේ අදහස් සම්පාත වන බව කිව යුත්තෙමි. අගනා කතු වැකිද, වී. එම් — ගේ සහ වොල් — ගේ පුවත්පත් සමාලෝචනය හා ලිපිද ඉත සිතින් පිළිගනිමි. වොලොදර්ස්කිගේ කථාව ගැන කිව යුත්තේ, මගේ දෝෂාරෝපන එසේම ''ඉවත් කරන'' ස්වභාවයේ වූ ඔහුගේ 'කර්තෘවරුන්ට ලිපිය'[121] මා කියවූ බවය. නැවතත් සුබ පැතුම් හා සුහද හැඟුම් පළ කරමි.

ලෙනින්

1917 අගෝස්තු 30 (සැප්තැම්බර් 12) දින ලියන ලදී.

1920 නොවැම්බර් 7 දින ''ප්‍රාව්ද'' අංක 250 හි ප්‍රථමයෙන් පළ කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 34, පිටු 119-121.

# සම්මුති ගැන

දේශපාලනයෙහිදී සම්මුතිය යන වචනයෙන් අදහස් වන්නේ ඉල්ලීම් සමහරක් අත්හැර දැමීමය; අයෙක් වෙනත් පාර්ශවයක් සමග ඇති කරගන්නා එකඟත්වයක් අනුව තමන්ගේ ඉල්ලීම්වලින් කොටසක් අත් හැරීමය.

බොල්ෂෙවික්වරුන් ගැන සාමාන්‍ය මිනිසා දරන අදහස, එනම් බොල්ෂෙවික්වරුන්ට නින්ද අපහාස කරන ප්‍රවෘත්ති පත්‍ර දිරිගන්වන අදහස වන්නේ, බොල්ෂෙවික්වරු කිසිම කෙනෙක් සමග සම්මුති ඇති කරගැනීමට, කිසි කලෙකත් එකඟ නොවන බවය.

සමාජවාදයේ සහ විප්ලවයේ ප්‍රතිපත්තිවලට අපගේ ඇති පක්ෂපාතිත්වය පිළිනොගෙන බැරි තත්වයට අපගේ සතුරන් පවා වැටී සිටින බව එයින් ඔප්පුවන නිසා විප්ලවවාදී නිර්ධන පංතියේ පක්ෂය වශයෙන් අපි එම අදහස වර්ණනාවක් කොට සලකන්නෙමු. එසේ වුවද, එම අදහස වැරදි බව අපි කිව යුත්තෙමු. බ්ලැන්කිවාදී කොමියුනිස්ට්වාදීන්ගේ (1873) ප්‍රකාශනය විවේචනයට ලක් කළ එංගල්ස්, ඔවුන්ගේ ''සම්මුති එපා''[122] යන ප්‍රකාශය සමච්චලයට ලක් කිරීම නිවැරදි විය. මෙය විකාර වදනක් බවත්, සටන් කරන පක්ෂයක් සම්මුති පිළිගත යුතු බවට වට පිටාවේ තත්වයන් එයට බල කරන බවත්, ''ණයට දෙන ගෙවීම් කොටස් වශයෙන් පිළිගැනීම''[123] ප්‍රතික්ෂේප කිරීම මෝඩ කමක් බවත් ඔහු කීවේය. සැබැවින්ම විප්ලවවාදී පක්ෂයක කර්තව්‍යය වන්නේ සියළුම සම්මුති අත්හැරිය නොහැකි බව ප්‍රකාශ කිරීම නොව, මග හැරිය නොහැකි නිසා ඇති කරගනු ලබන සියළුම සම්මුති ඔස්සේ, තම ප්‍රතිපත්තිවලට, තම පංතියට හා තම විප්ලවීය අරමුණට, විප්ලවයට මාර්ගය සකස් කිරීමේ සහ විප්ලවයේ ජයග්‍රහණය සඳහා පොදු ජනතාවට උගැන්වීමේ ස්වකීය කර්තව්‍යයට පක්ෂපාතව සිටීමට සමත් වීමය.

නිදසුනක් වශයෙන් තුන්වැනි හා හතරවැනි දූමා සභාවලට සහභාගිවීම සම්මුතියක් විය. එය තාවකාලික වශයෙන් විප්ලවවාදී ඉල්ලීම් අත් හැරීමක් විය. නමුත් මෙය සම්පූර්ණයෙන්ම ඇති කර නොගෙන නොහැකි වූ සම්මුතියකි. එසේ කියන්නේ, බලවේග තුලනය අනුව පොදු ජන විප්ලවීය අරගලයක් සඳහා ඒ අවස්ථාවේ කිසිම ඉඩක් නොතිබුණු හෙයින්, දීර්ඝ කාලයක් තිස්සේ එම අරගලයට කටයුතු සූදානම් කරනු පිණිස, එවැනි ''ඌරු කොටුවක්'' තුළ සිටිමින් වුවද වැඩ කිරීමේ හැකියාව අපට තිබිය යුතු වූ හෙයිනි. බොල්ෂෙවික්වරු ප්‍රශ්නය වෙත මෙසේ සමීප වීම ඉතාමත් නිවැරදි වූ බව ඉතිහාසය ඔප්පු කර තිබේ.

දැන් ප්‍රශ්නය වී තිබෙන්නේ, නොවැලැක්විය හැකි ලෙසම ඇති කර ගත යුතුව තිබෙන සම්මුතියක් ගැන නොව ස්වේච්ඡාවෙන් ඇති කර ගන්නා සම්මුතියක් ගැනය.

අන්‍ය ඕනෑම දේශපාලන පක්ෂයක් මෙන්, අපගේ පක්ෂයත් දේශපාලන ආධිපත්‍යය තමන්ට ලබා ගැනීම සඳහා ප්‍රයත්න දරයි. අපගේ අරමුණ විප්ලවවාදී නිර්ධන පංතියේ ආඥාදායකත්වයයි. මෙම විශේෂ විප්ලවයේ අවශ්‍යතාවයන් අනුව මෙම ඉල්ලීම නිවැරදි සහ අනිවාර්යණීය බව විප්ලවයේ අඩ වසක කාලය තුළදී පැහැදිලි ලෙස, බලවත් ලෙස හා නිසැක ලෙස ඔප්පුවී තිබේ. එය නොමැතිව, ප්‍රජාතන්ත්‍රවාදී සාමයක්ද, ගොවි ජනතාවට ඉඩම්ද, එසේ නැතහොත්, සම්පූර්ණ නිදහස (සම්පූර්ණයෙන් ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක්) ද ජනතාවට කිසිසේත් නොලැබෙනු ඇත. අපගේ විප්ලවයේ හය මාසයක කාලයේ සිදුවීම්වලින්, එනම්, පංතිවල හා පක්ෂවල අරගලයෙන් සහ අප්‍රේල් 20—21, ජූනි 9—10 හා 18—19, ජූලි 3—5 හා අගෝස්තු 27—31 අර්බුදවලින් මෙය පෙනී ගොස් හා ඔප්පු වී තිබේ.

රුසියානු විප්ලවයට අත්දකින්නට සිදුවී තිබෙන වෙනස් නැඹුරුවීම් කොතරම් අනපේක්ෂිත හා අමුතු ස්වභාවයක් ගන්නේද යත්, පක්ෂයක් වශයෙන් අප ස්වේච්ඡාවෙන් සම්මුති යෝජනාවක් කිරීම සුදුසු බව ඇත්තය. නමුත් එය අපගේ ඍජු සහ ප්‍රධාන පංති සතුරාවන ධනපති පංතිය සමග නොව අපට සමීපතම ප්‍රතිමල්ලයන් වන ''පාලක'' සුළු ධනපති පක්ෂ, එනම්, සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් සමග සම්මුතියක් සඳහා යෝජනාවක් විය යුතුය.

විශේෂයක් වශයෙන් පමණක්, විශේෂ තත්වයක් යටතේ පමණක්, පැහැදිලිවම පෙනෙන ලෙසට ඉතා කෙටි කාලයකට අදළ වූ සම්මුතියක් සඳහා අප මෙම පක්ෂවලට යෝජනා ඉදිරිපත් කිරීමේ වරදක් නැත. අප එසේ කළ යුතු යයි මම අදහස් කරමි.

අප ඉදිරිපත් කරන සම්මුතිය වන්නේ, සෝවියට් සභාවලට මුළු බලය පැවරීම සහ සෝවියට් සභාවලට වග කියන සමාජවාදී-විප්ලව-

වාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ ආණ්ඩුවක් සඳහා ජූලි මසට පෙර වූ ඉල්ලීම වෙත ආපසු යාමය.

දින කීපයක් පමණක් තුළදී, නැතහොත් සතියකින් හෝ දෙකකින්, සම්පූර්ණයෙන්ම සාමකාමී මාර්ගයකින් එවැනි ආණ්ඩුවක් පිහිටුවා තහවුරු කළ හැකි වන්නේ දැන්ය; දැන් පමණකි. මුළු රුසියානු විප්ලවයේම සාමකාමී ඉදිරි ගමන සාර්ථක කිරීමටත්, සාමය සහ සමාජවාදයේ ජයග්‍රහණය සඳහා වූ ලෝක ව්‍යාපාරයේ යෝධ පියවරයන් ගැනීම සඳහා ඉතාමත් වාසිදායක අවස්ථා සලසා දීමටත්, එයට හැකිවීමට සෑම ඉඩක්ම තිබේ. මා කල්පනා කරන හැටියට, ලෝක විප්ලවයේ සහ විප්ලවීය ක්‍රමවල පාක්ෂිකයින් වන බොල්ෂෙවික්වරු, විප්ලවයේ සාමකාමී සංවර්ධනය පමණක් සලකා, මෙම සම්මුතියට එකඟවීම මැනවි — එකඟ විය යුතුය. මෙය ඉතිහාසයේ ඉතාමත් දුර්ලභ සහ ඉතාමත් අගනා අවස්ථාවකි. එය නිතර ඇතිවන අවස්ථාක් නොවේ.

සම්මුතියෙහි අර්ථය පහත සඳහන් පරිදි වනු ඇත: බොල්ෂෙවික්වරු ආණ්ඩුවට සම්බන්ධවීම සඳහා කිසිම හිමිකමක් ඉල්ලන්නේ නැතිවම (නිර්ධන පංතියේ සහ දුප්පත් ගොවි ජනතාවගේ ආඥාදායකත්වයක් පිහිටුවීම සාර්ථක කළහොත් මිස ජාත්‍යන්තරවාදීන්ට කිසිසේත් එම හිමිකම ලබාගත නොහැකිය), නිර්ධන පංතියට හා දුප්පත් ගොවි ජනතාවට වහාම බලය පවරන ලෙස ඉල්ලීමෙන් හා එම ඉල්ලීම සඳහා සටන් කිරීමේදී විප්ලවවාදී ක්‍රම උපයෝගී කර ගැනීමෙන් වලකිති. ඒ සඳහා ඉටුවිය යුත්තේ, සමාජවාදී විප්ලවවාදීන්ට සහ මෙන්ෂෙවික්වරුන්ට අළුත් දෙයක් නොවන හා නිරායාසයෙන්ම පැහැදිලි වන කොන්දේසියකි. එනම්, ප්‍රචාරක කටයුතු කිරීමට සම්පූර්ණ නිදහස තිබීම සහ තවදුරටත් ප්‍රමාද නොකර, නැතහොත් නියමිත දිනට කලින් වුවද, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවීමය.

ආණ්ඩු පෙරමුණ වන මෙන්ෂෙවික්වරු සහ සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදීහු එවිට (සම්මුතිය ඇති කර ගතහොත්) ප්‍රාදේශීය වශයෙන් සම්පූර්ණ බලයද සෝවියට් සභාවලට පවරා දී, සම්පූර්ණයෙන්ම හා තනිකරම සෝවියට් සභාවලට වග කියන ආණ්ඩුවක් පිහිටුවීමට කැමති වනු ඇත.මෙය ''අළුත්'' තත්වයක් වන්නේය. විප්ලවය සාමකාමී ලෙස ඉදිරියට යන බවත්, ප්‍රචාරක කටයුතු සඳහා නියම සහ සම්පූර්ණ නිදහස තිබෙන අතර, සෝවියට් සභාවල (නව තෝරා පත් කිරීම් මගින්) සංයුතිය හා ඒවායේ ක්‍රියාකාරිත්වය සම්බන්ධයෙන් නව ප්‍රජාතන්ත්‍රයක් ස්ථාපිත කිරීම නිසා සෝවියට් සභා තුළ පක්ෂ ගැටුම් සාමකාමීව විසඳා ගත හැකි බවත්, විශ්වාස කරමින්, බොල්ෂෙවික්වරු වෙනත් කොන්දේසි ඉදිරිපත් නොකරනු ඇතැයි මම සිතමි.



සමහර විට දැනටමත් මෙය නොකළ හැකි දෙයකි? සමහර විට එසේ වන්නට පිළිවන. නමුත් සියයට එකක අවස්ථාවක්වත් තිබේ නම්, එම අවස්ථාව වුවද සාර්ථක කර ගැනීමට ප්‍රයත්න දැරීම වටනේය.

මෙම ''සම්මුතියෙන්'' ඊට ''බැඳෙන'' පාර්ශව දෙකට එනම්, එක් අතකින් බොල්ෂෙවික්වරුන්ට සහ අනිත් අතින් සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් කඳවුරට ඇතිවන වාසිය කුමක්ද? එයින් එක පැත්තකටවත් කිසිම වාසියක් නොවේ නම්, සම්මුතිය ඇති විය නොහැකි බව පිළිගත යුතුය. එවිට ඒ ගැන තවදුරටත් කීමට දෙයක් නැත. දැනට (''සාමකාමී'', නිද්‍රාශීලී කාලවල අවුරුදු දශක දෙකක් හා සමාන, ජූලි හා අගෝස්තු මාස දෙකෙන් පසුව) මෙම සම්මුතිය ඇති කිරීම කොතරම් දුෂ්කර වුවත්, එය සාර්ථක වීමේ සුළු අවකාශයක් ඇතැයි මම කල්පනා කරමි. කැඩෙට්වරු සමග එක්ව ආණ්ඩුවකට සහභාගි නොවීමට සමාජවාදී-විප්ලවවාදීන් හා මෙන්ෂෙවික්වරුන් තීරණය කිරීම නිසා මෙම අවකාශය ඇතිවී තිබේ.

අනිත් අතට, ඉතාමත් නිදහස් ලෙස තම අදහස් ඉදිරිපත් කිරීමට ඉඩ සලසන හා සැබවින්ම පරිපූර්ණ ප්‍රජාතන්ත්‍රවාදයක් අනුව, සෝවියට් සභා තුළ බලවත් තත්වයක් දිනා ගැනීමට අවස්ථාවක් බොල්ෂෙවික්වරුන්ට ලැබෙන්නේය. ''සෑම කෙනෙක්ම'' වාචක ලෙස බොල්ෂෙවික්වරුන්ට මෙම නිදහස දීමට කැමැත්තේය. නමුත් යථාර්ථ වශයෙන් ධනපති ආණ්ඩුවක් හෝ ධනපති පංතිය සහභාගි වන ආණ්ඩුවක් හෝ යටතේ, එසේ නැතහොත් සෝවියට් සභා ආණ්ඩුවක් හැර අන් කිසිම ආණ්ඩුවක් යටතේ මෙම නිදහස කිසිසේත් ලැබිය නොහේ. සෝවියට් ආණ්ඩුව යටතේ එම නිදහස ලැබිය හැකිය. (එය ඒකාන්ත ලෙස ස්ථිර කර නොකියමු. නමුත් එය ලැබීමට ඉඩ ඇත). එතරම් දුෂ්කර අවස්ථාවක, එවැනි ඉඩක් ලැබීම ගැන සලකා, සෝවියට් සභාවල වර්තමාන බහුතරය සමග සම්මුතියක් ඇති කර ගැනීමේ වටිනා කමක් ඇත. යථාර්ථය අපගේ පැත්තෙහි වන හෙයින් නියම ප්‍රජාතන්ත්‍රවාදයට බියවීමට හේතුවක් අපට නොමැත. අපට විරුද්ධවන සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පක්ෂ අභ්‍යන්තරයේ පවතින උපනතිවල සංවර්ධනයට අදළ සිදුවීම් මාලාවෙන් පවා අපගේ නිරවද්‍යතාවය ඔප්පු වේ.

මෙන්ෂෙවික්වරුන්ට සහ සමාජවාදී-විප්ලවවාදීන්ටද වාසියක් සිදුවන්නේය. පැහැදිලි ලෙසම ජනතාවගෙන් අති බහුතරයක ආධාරය ලබමින් ඔවුන්ගේ පෙරමුණෙහි වැඩ පිළිවෙළ ක්‍රියාත්මක කිරීමට සෑම ඉඩක්ම ඔවුනට ලැබීමෙන් සෝවියට් සභා තුළ ඔවුන්ට ඇති බහුතරයේ සාමකාමී උපයෝගිත්වය ඔවුනට ලැබෙන්නේය.

නමුත්, එය පෙරමුණක් වන නිසාද, සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදය

ධනපති හා නිර්ධන පංති ප්‍රජාතන්ත්‍රවාදයට වඩා සමජාතීය ස්වභාවය අතින් නිතරම අඩු නිසාද, විෂම ජාතීය ස්වභාවයක් ගන්නා මෙම පෙරමුණෙන්, සමහර විට හඬ දෙකක් ඇසෙන්නට පිළිවන.

එක හඬක් මෙසේ කියනු ඇත: බොල්ෂෙවික්වරු සහ විප්ලවවාදී නිර්ධන පංතිය යන මාර්ගයම ඔස්සේ අපට යා නොහැකිය. එය සෑම විටම පමණට වැඩි ඉල්ලීම් ඉදිරිපත් කරනු ඇත; කෛරාටිකකමින් එය ගොවි දුප්පතුන් රවටා ගනු ඇත. එය සාමයද, මිතුරන් කෙරෙන් වෙන් වන ලෙසද, ඉල්ලනු ඇත. මෙය කොහෙත්ම කළ නොහැකිය. අප ධනපති පංතිය සමග සිටීම වඩා හොඳය, ආරක්ෂා සහිතය. තවද අප ඔවුන්ගෙන් සම්පූර්ණයෙන්ම වෙන්වී නොමැත. අප අතර ඇතිවූයේ තාවකාලික ආරවුලක් පමණකි. ඒ කර්නිලොව් සිද්ධිය සම්බන්ධයෙනි. අපි රණ්ඩු වූ නමුත්, නැවත මිතුරුවන්නෙමු. එපමණක් නොව කැරළි ගසමින් නැගී සිටීමක් සඳහා බොල්ෂෙවික්වරුන් දරන ප්‍රයත්නයන් 1871 කොමියුනය මෙන්ම පරාජය වීමට ඉරණම්ව ඇති හෙයින් ඔවුන් අපට ''දෙන'' දෙයක්ද නැත.

අනිත් හඬ මෙසේ කියනු ඇත: කොමියුනයට උපමා කිරීම ඉතාමත් නොගැඹුරුය. එය මෝඩ කමක් යයි කීමටද පුළුවන. මක්නිසාද යත්, ප්‍රථම වශයෙන් 1871 න් පසුව බොල්ෂෙවික්වරු යමක් උගෙන ගෙන තිබෙන හෙයිනි. බැංකු අල්ලා ගැනීමටත්, වර්සයිල්ස් නුවරට පහර දීමට ඉදිරියට යාමටත්, ඔවුහු අමතක නොකරනු ඇත. එවැනි තත්වයක් යටතේ කොමියුනය වුවද ජයග්‍රාහී වන්නට තිබුණි. එපමණක් නොව බොල්ෂෙවික්වරු බලයට පැමිණි වහාම ගොවි ජනතාවට ඉඩම්ද, වහාම සාමයක් ඇතිකිරීම සඳහා යෝජනාද, නිෂ්පාදනය නියම පාලනයකට යටත් කිරීමද, උක්‍රේනියානු, පින්ලන්ත ආදී වූ ජාතිකයින් සමග අවංක සාමයක්ද, යන දේ වහාම ජනතාවට ප්‍රදානය කිරීමේ හැකියාව ඔවුන්ට ඇත. ජනතාවට එවැනි දේ ප්‍රදානය කිරීමේ හැකියාවක් කොමියුනයට නොවීය. හැඩ වැඩ නොමැතිව කියතොත්, කොමියුනයට වඩා දස ගුණයක් ''තුරුම්පු'' බොල්ෂෙවික්වරුන් වෙත ඇත. දෙවැනිව, කොමියුනය යන්නෙන් අවසාන වශයෙන් අදහස් වන්නේ ඉතාමත් වෙහෙසකාරී සිවිල් යුද්ධයකි; දීර්ඝ කාලයක් ගතවන තෙක් සමකාමී සංස්කෘතික සංවර්ධනය අවහිර වීමකි; විවිධාකාර මාක්-මොන්ලාට සහ කර්නිලව්ලාට වඩාත් පහසුවෙන් ඔවුන්ගේ කටයුතු සහ කුමන්ත්‍රණ කරගෙන යාමට අවස්ථාව සැලසීමකි. එසේම, එවැනි කටයුතු අපගේ මුළු ධනපති සමාජයටම බලවත් තර්ජනයකි. කොමියුනයක් ඇතිවීමේ අවදානමට ඉඩදීම නුවණට හුරුද?

අපි අප අතටම බලය නොගන්නෙමු නම්, කාරණා කටයුතු මැයි 6 සිට අගෝස්තු 31 දක්වා කාලයේ මෙන් භයානක තත්වයක පවතින්නේ



නම්, රුසියාවේ කොමියුනයක් ඇතිවීම දුන් නැවත්විය නොහැකිය. සෑම විප්ලවවාදී කම්කරුවෙක්ම හා සොල්දදුවෙක්ම කොමියුනය ගැන කල්පනා කරනු ඇත; එය කෙරෙහි විශ්වාසය තබනු ඇත. ඔහු පහත සඳහන් පරිදි තර්ක කරනු ඇති හෙයින්, ඔහු එය ඉදි කිරීමට උත්සාහ කරනු ඇත: ''ජනතාව නැසී යති; යුද්ධය, සාගතය හා විනාශය පැතිරී යයි. අප ගලවා ගත හැක්කේ කොමියුනයට පමණකි. එනිසා අපි සියළු දෙනාම නැසෙමු, මැරෙමු, නමුත්, කොමියුනය පිහිටුවමු''. කම්කරුවන් අතර එවැනි සිතුවිලි ඇතිවීම වැලැක්විය නොහැකිය. එසේම මෙකල කොමියුනය විනාශ කිරීම 1871 දී තරම් පහසු නොවනු ඇත. රුසියානු කොමියුනයට ලෝකය මුළුල්ලේම මිතුරන් සිටිනු ඇත. ඔවුන් 1871 කොමියුනයට සිටි මිතුරන්ට වඩා සිය ගුණයක් බලවත් වනු ඇත... කොමියුනයක් ඇතිවීමේ අවදානමට අප ඉඩදීම නුවණට හුරුද? එපමණක් නොවේ. ඔවුන්ගේ සම්මුතිය මගින් බොල්ෂෙවික්වරු අපට කිසි දෙයක් නොදෙන බව පිළිගැනීමටද මම එකඟ නොවෙමි. මක්නිසාද යත්, සෑම ශීලාචාර රටකම, සෑම ශීලාචාර ඇමතිවරයෙක්ම, නිර්ධන පංතිය කොතරම් කුඩා වුවත්, යුද්ධ කාලයේදී නිර්ධන පංතිය සමග ඇති කරගන්නා සෑම එකඟත්වයක්ම ඉහළින් අගය කරන හෙයිනි. ඔවුහු එය ඉතා ඉහළින් අගය කරති. එපමණක් නොව මොවුහු කාර්ය ශූර පුද්ගලයන් වෙති. නියම ඇමතිවරු වෙති. මර්දනය කිරීම සහ ස්වකීය පුවත්පත්වල දුර්වලකම් මධ්‍යයේම බොල්ෂෙවික්වරු සීඝ්‍ර ලෙස වඩ වඩාත් ශක්තිමත් වෙති... කොමියුනයක් ඇතිවීමේ අවදානමට අප ඉඩ දීම නුවණට හුරුද?

අපට නිසැකවම බහුතරයක් ඇත. තව කලක් යන තෙක් ගොවි දුප්පතුන් අවදි නොවනු ඇත. අපගේ ජීවිත කාලය සඳහා අපට ආරක්ෂාව ඇත. ගොවිජන රටක බහුතරය සීමාන්තිකයන් අනුව යතැයි මම විශ්වාස නොකරමි. එසේම, නියම වශයෙන් ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක, පැහැදිලිව පෙනෙන බහුතරයකට විරුද්ධව කැරළි ගසමින් නැගී සිටීමක් විය නොහැකිය. දෙවැනි හඬ කියනු ඇත්තේ එයයි.

මාර්තව්ගේ හා ස්පිරිදෝනව්ලාගේ ආධාරකරුවන් අතරෙන් තුන්වැනි හඬක්ද ඇසෙන්නට පිළිවන. එයින් මෙසේ කියනු ඇත. ''සහෝදරවරුනි'', ඔබ දෙදෙනාම කොමියුනය හා එය ඇතිවීමට ඉඩ තිබීම ගැන කථා කිරීමේදී, පැකිලීමක් නොමැතිව එහි ප්‍රතිපාක්ෂිකයන්ගේ පැත්ත ගැනීම මගේ ඉවසුම් නොදෙන කෝපයට හේතු වේ. එක් හෝ තවත් ආකාරයකින්, ඔබ දෙදෙනාම කොමියුනය මර්දනය කළවුන්ගේ පැත්ත ගන්නෙහිය. කොමියුනය සඳහා ප්‍රචාරය කිරීම මම භාර නොගනිමි. සෑම බොල්ෂෙවික්වාදියෙක්ම කරනු ඇති ලෙසට, එහි පාක්ෂික පිරිසට එකතුවී සටන් කරන බවට මට කල් තබා පොරොන්දු විය නොහැකිය. නමුත් මගේ ප්‍රයත්නයන්ද

නොතකා කොමියුනය ආරම්භ වුවහොත්, මම එහි ප්‍රතිපාක්ෂිකයන්ට වඩා එහි ආරක්ෂකයන්ට ආධාර කරන්නෙමි.

ආණ්ඩුවේ තනතුරක් දැරීමට සියළු සුදුසුකම් ඇති සම්පූර්ණ ධනපතියාගේ පටන්, තවමත් නිර්ධන පංති ප්‍රතිෂ්ඨාවට එළඹීමට නොහැකිව සිටින යාචකයා දක්වා වූ අනු කොටස් රාශියක් සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදයෙන් නියෝජනය වන හෙයින්, ''පෙරමුණෙන්'' නැගෙන හඬ පැටලුම විශාලය, නොවැලැක්විය හැකිය. කිසියම් නිශ්චිත අවස්ථාවක මෙම හඬ පටලැවිල්ලෙහි ප්‍රතිඵලය කුමක්ද යන්න කිසිවෙකුට කිව නොහැකිය.

* * *

ඉහත ලිපිය සැප්තැම්බර් 1 වැනි සිකුරාද ලියන ලද නමුත් අනපේක්ෂිත හේතු නිසා (ඉතිහාසය සාක්ෂි දරනු ඇති ලෙසට, කෙරෙන්ස්කි යටතේ ස්වකීය වාසස්ථානය තෝරා ගැනීමේ නිදහස තිබුණේ සෑම බොල්ෂෙවික්වාදියෙකුටම නොවේ) එය එදිනම කර්තෘ මණ්ඩල කාර්යාලයට ලැබුණේ නැත. සෙනසුරාද සහ අද (ඉරිද) පත්‍ර කියවීමෙන් පසුව මම මටම මෙසේ කියා ගන්නෙමි: සම්මුතියක් යෝජනා කිරීමට සමහර විට දැනටමත් ප්‍රමාද වුනා වැඩිය. සාමකාමී සංවර්ධනයක් සඳහා තවමත් ඉඩකඩ ලැබෙන්නට තිබුණු දින කීපය පවා දැන් ගෙවී ගොස් තිබෙන්නට පිළිවන. ඔව්. සියළු දෙයින්ම පෙනෙන්නේ ඒ දින කීපය දැනටමත් ගෙවී ගොස් ඇති බවය.[124] එක් හෝ තවත් මාර්ගයකින්, කෙරෙන්ස්කි සමාජවාදී-විජලවවාදී පක්ෂයත්, සමාජවාදී විප්ලවවාදීනුත්, යන දෙකොට්ඨාශයම හැර දමා, සමාජවාදී-විප්ලවවාදීන් නොවන ධනපතියන්ගේ ආධාරය ඇතිව, තම තත්වය තහවුරු කර ගනු ඇත. ඔහුට එසේ කිරීමට ආධාරකාරී වනු ඇත්තේ සමාජවාදී-විප්ලවවාදීන්ගේ අක්‍රියාකාරී භාවය ය... ඔව්, සියළුම කරුණු අනුව පෙනෙන්නේ සාමකාමී සංවර්ධනයක් පිළිබඳ හැකියාව හදිසියේම ගෙන ආ දින කීපය දැනටමත් ගෙවී ගොස් ඇති බවය. දැන් කිරීමට ඇති එකම දෙය නම්, මෙම සටහන් සංස්කාරක වෙත යවා, ඒවාට ''ප්‍රමාද වූ සිතුවිලි'' යන සිරස්තලය යොදන ලෙස ඉල්ලීමය. සමහර විට ප්‍රමාද වූ සිතුවිලි වුවද වැදගත් වන්නට පිළිවන.

1917 සැප්තැම්බර් 3

1917 සැප්තැම්බර් 1—3 (14—16) දිනවල ලියන ලදී.

1917 සැප්තැම්බර් 19 (6) දින රබෝචි පුත් අංක 3 කලාපයෙහි පළ කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 34, පිටු 133-139.

# වර්තමාන දේශපාලන තත්වය ගැන කෙටුම්පත් යෝජනාව[125]

දේශපාලන තත්වය සම්බන්ධයෙන් රු. ස. ප්‍ර. ක. ප. (බොල්ෂෙවික්) හය වැනි සම්මේලනය[126] විසින් අනුමත කරන ලද යෝජනාව පදනම් කර ගනිමින් හා එම යෝජනාව වර්තමාන තත්වයට ගලපමින් රු. ස. ප්‍ර. ක. ප. මධ්‍යම කාරක සභාව එහි පූර්ණ රැස්වීමේදී මෙසේ ප්‍රකාශ කරයි:

1. ජූලි 3 සිට සැප්තැම්බර් 3 දක්වා වූ දෙමස තුළ දක්නා ලද විප්ලවයේ අසමසම වේගය නිසා, පංති අරගල හා දේශපාලන සිදුවීම් මාලාව විසින් මුළු රටම බොහෝ ඉදිරියට ගෙන ගොස් ඇත. විප්ලව හා යුද්ධ නොමැති සාම කාලයක් තුළ අවුරුදු ගණනාවකදීවත් ඉදිරියට යාමට නොහැකි තරම් එයින් රට ඉදිරියට ගොස් ඇත.

2. ජූලි 3—5 සිදුවීම් මුළු විප්ලවයේම සන්ධිස්ථානය වූ බව වඩ වඩාත් පැහැදිලි වෙමින් පවතී. මෙම සිදුවීම් ගැන නිවැරදි තක්සේරුවක් නොකර, නිර්ධන පංතියේ කර්තව්‍යයන් හෝ, අපට පාලනය කළ නොහැකි විප්ලවීය සිදුවීම්වල සංවර්ධන වේගය හෝ කිසිසේත් නිවැරදි ලෙස තක්සේරු කළ නොහැකිය.

3. බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව ධනපතියන් පතුරුවන සහ ධනපති පුවත්පත්වල හා ප්‍රකාශක මන්දිරවල ආයෝජනය කළ දශ ලක්ෂ ගණන් මුදල් ආධාරයෙන් ඉතා පුළුල් ලෙස ජනතාව අතරට පත් කරනු ලබන අපවාද, වඩ වඩාත් සීඝ්‍ර ලෙස හා ව්‍යාප්ත ලෙස හෙළිදරව් කරනු ලැබේ. බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව අපවාද කිරීම යනු, කම්කරු සහ ගොවිජන උවමනාවන්ගේ ආරක්ෂකයන්ට විරුද්ධව, එනම්, බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව කරන සටනේදී ඉඩම් හිමියන් හා ධනපතියන් උපයෝගි කරගන්නා ප්‍රධාන ආයුධවලින් එකක් බව ප්‍රථමයෙන් අගනුවර සහ වෙනත් විශාල නගරවල කම්කරුවෝද, ඊළඟට ගොවිජනතාවද වඩ වඩාත් හොඳින් වටහා ගත්හ.

4. බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව පැරණි අපවාදය ඉදිරිපත් කිරීමෙන් කර්නිලව් කැරැල්ලට වෙස් මාරුවක් දීමේ ඒකාන්ත ප්‍රයත්නයක් දරන ලදී. එය හමුද පතියන්ගේ හා හමුද නිලධාරීන්ගේ කැරැල්ලක් වූ අතර, ඔවුන් පිටුපස සිටින්නේ කැඩෙට් පක්ෂයේ (''ජනතා නිදහස්'' පක්ෂයේ) නායකත්වය පිළිගන්නා ඉඩම් හිමියන් හා ධනපතියන්ය. දුප්පතුන්ගේ නියම ආරක්ෂකයන්ගේ පක්ෂය වන බොල්ෂෙවික් කම්කරුවන්ගේ පක්ෂයට විරුද්ධව ධනපතියන් නගන අපවාදයෙහි නියම අර්ථය අවසානයේදී ජනතාවගෙන් විශාල කොටස්වලට පැහැදිලිවීමට ආධාරකාරී වූයේ මෙයය.

5. ජූලි 3-4 දිනවල ව්‍යාපාරය වැලැක්වීමට අප දූරූ ප්‍රයත්නද නොතකා එය සාංසිද්ධික ලෙස පිපිරී මතුවූ අතර, අප එයට ආධාර කිරීමට ප්‍රතික්ෂේප කළේ නම්, අප ඇත්ත වශයෙන් හා සම්පූර්ණයෙන්ම නිර්ධන පංතිය පාවාදුන් තත්වයට වැටෙන්නට තිබුණි. එයට හේතුව, ධනපතියන්ගේ උවමනාවන් ඉටු කිරීමට කරගෙන යන මංකොල්ලකාරී යුද්ධයක් වන අධිරාජ්‍යවාදී යුද්ධය දිග්ගැස්සීම ගැන සහ ආර්ථික කඩාකප්පල් වීම හා සාගතය උත්සන්න කරන හා වඩාත් උග්‍ර කරන ධනපති පංතිය සම්බන්ධයෙන් ආණ්ඩුවේ සහ සෝවියට් සභාවල අක්‍රියාකාරීභාවය ගැන, ඉතාමත් සහේතුක ලෙස, සාධාරණ ලෙස, ඇතිවූ කෝපය අනුව ජනතාව සටනට මෙහෙය වී සිටීමය.

6. ධනපති පංතිය සහ ආණ්ඩුව සියළු ප්‍රයත්න දැරුවත්, බොල්ෂෙවික්වරුන් සිය ගණනින් අත් අඩංගුවට ගැනීම, ඔවුන්ගේ ප්‍රවෘත්ති පත්‍ර සහ ලියවිලි අල්ලා ගැනීම, ඔවුන්ගේ කර්තෘ මණ්ඩල කාර්යාල පරීක්ෂා කිරීම, ආදිය කළත්, මේ සියල්ලම එසේ සිදු වූවත්, අප පක්ෂයට විරුද්ධව නගන අපවාදය, එනම්, ජූලි 3-4 දිනවල ව්‍යාපාරයේදී අප පක්ෂයේ අරමුණ වූයේ, සම්පූර්ණ බලය කම්කරු, සොල්දදු සහ ගොවිජන සෝවියට් සභාවලට පවරනු යන සටන් පාඨය සහිතව, ''සාමකාමී සහ සංවිධානාත්මක'' ලෙස පෙළපාලි දැක්වීම හැර වෙනත් යමකැයි යන්න ඔප්පු කිරීමට, කිසිවෙක් සමත් වී නැත; එසේ කිරීමට කිසිවෙක් කිසි කලෙකත් සමත් නොවනු ඇත.

7. ජූලි 3-4 දිනවල බලය අල්ලා ගැනීමට බොල්ෂෙවික්වරු අරමුණු කළාහු නම්, එය වරදකි. ජනතාවගේ බහුතරය තබා කම්කරුවන්ගෙන් බහුතරයවත් එම අවස්ථාව වන විට යුද්ධ හමුදවේ සේනාපතියන්ගේ, ගම් ප්‍රදේශයේ ඉඩම් හිමියන්ගේ සහ නගරයේ ධනපතියන්ගේ ප්‍රතිවිප්ලවවාදී ප්‍රතිපත්ති තවමත් ඇත්ත වශයෙන් අත්දැක තිබුණේ නැත. මෙම ප්‍රතිපත්ති ජනතාවට පැහැදිලි වූයේ ජූලි 5 දිනෙන් පසුවය. එම ප්‍රතිපත්ති පැන නැංගේ එක් අතකින් සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන්ද අනික් අතින් ධනපතියන්ද, අතර ඇති වූ සම්මුතියකිනි.

8. සිදුවීම් අනුව පෙනෙන ලෙසට, ජූලි 3-4 දිනවල අප පක්ෂයේ නියම වරද වූයේ රටේ පොදු තත්වය ඇත්ත වශයෙන් පැවතියාට වඩා අඩුවෙන් විප්ලවවාදී ලෙස සැලකීමත්, මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් බොහෝ සේ ධනපති වී, බොහෝ සේ ප්‍රති විප්ලවවාදී වී සිටි හෙයින් සාමකාමී සංවර්ධනයට තවදුරටත් ඉඩ නොමැතිව තිබියදී, සෝවියට් සභාවල ප්‍රතිපත්ති වෙනස් කිරීම තුළින් සාමකාමී ලෙස දේශපාලන වෙනස්කම් ඇති කළ හැකි යයි සැලකීමත් පමණකි. සිදුවීම් ඉතා සීඝ්‍ර ලෙස ඇති නොවේය යන බලාපොරොත්තුවෙන් පමණක් රුකුල් ලැබූ මෙම වැරදි අදහස නිවරද කර ගැනීම සඳහා ජූලි 3-4 පොදු ජන ව්‍යාපාරය සාමකාමී සහ සංවිධානාත්මක කිරීමේ අරමුණ ඇතිව ''සෝවියට් සභාවලට මුළු බලය පවරනු'' යන සටන් පාඨය සහිතව එම ව්‍යාපාරයට සහභාගිවීම හැර අප පක්ෂයට කළහැකි වෙනත් දෙයක් නොවීය.

9. කර්නිලව් කැරැල්ලේ ඓතිහාසික වැදගත්කම වනුයේ සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් වසං කරගෙන සිටි සත්‍යය එයින් ඉතා බලවත් ලෙස ජනතාවගේ නෙත් හමුවට පැමිණවීමය. මෙම සත්‍යය නම්, කැඩෙට් පක්ෂයේ නායකත්වයෙන් යුත් ඉඩම් හිමියන් හා ධනපති පංතිය සහ ඔවුන්ගේ පැත්ත ගෙන සිටින සේනාපතියන් හා හමුද නිලධාරීන් සංවිධානය වී සිටින බවය; ඔවුහු ඉතාමත් දුෂ්ට අපරාධ, එනම්, රිගාව (අනතුරුව පෙට්‍රොග්‍රෑඩය) ජර්මන්වරුන්ට භාර දීම, යුද්ධ පෙරමුණ රැකවල් රහිතව තැබීම, එමගින් බොල්ෂෙවික් රෙජිමේන්තු වෙඩි ප්‍රහාරයට හසු කිරීම, හමුද කැරැල්ල ආරම්භ කිරීම, ''මිලේච්ඡ හමුදව''[127] ඉදිරියෙන් තබාගෙන අගනුවරට විරුද්ධ යුද්ධ සේනා මෙහෙයවීම, යනාදී අපරාධ, කිරීමට සූදනම්ව සිටින හෝ කරමින් සිටින බවය. මේ සියල්ලම කිරීමේ අරමුණ වන්නේ, සම්පූර්ණ බලය අල්ලාගෙන, එම බලය ධනපති පංතිය අතට පත් කිරීම, ගම්බද පෙදෙස්වල ඉඩම් හිමියන්ගේ බලය තහවුරු කිරීම සහ කම්කරුවන්ගේ සහ ගොවි ජනතාවගේ රුධිරයෙන් රට නැවීමය.

ඉතිහාසය මුළුල්ලේම සියළු රටවලම ඔප්පු කරන ලද දෙය රුසියාව සම්බන්ධව කර්නිලව් කැරැල්ලෙන් ඔප්පු විය. එයින් ඔප්පු වූයේ ධනපති පංතිය ජනතාව මත පතුරුවන ඔවුන්ගේ බලය සහ ඔවුන්ගේ ලාභ යන දෙකම රැක ගනු සඳහා ඔවුන් තමන්ගේ රට පවා දෙන බව හා ඕනෑම අපරාධයක් කරන බවය.

10. ඉඩම් හිමියන්ට හා ධනපතියන්ටත්, කැඩෙට් පක්ෂයට හා එයට හිතවත්කම් දක්වන සේනාපතියන්ට හා හමුද නිලධාරීන්ටත් විරුද්ධව

හා ඔවුන් පරාජය කර ජය ලැබීම සඳහා, ඉතාමත් අධිෂ්ඨාන සහගත අරගලයක් කිරීම හැර, රුසියාවේ කම්කරුවන්ට හා ගොවි ජනතාවට වෙනත් විකල්පයක් නොමැත. එවැනි අරගලයකදී සහ එවැනි ජයග්‍රහණයක් කරා යාමට ජනතාවට, එනම්, සියළු වැඩ කරන ජනයාට, නායකත්වය දීමෙහි සමත් වන්නේ නාගරික කම්කරු පංතිය පමණකි; එසේම මුළු රාජ්‍ය බලයම එය අතට පත්වුවහොත් සහ එයට දුප්පත් ගොවි ජනතාවගේ ආධාරය ලැබුණහොත්ය.

11. මැයි 6 දින පටන්, විශේෂයෙන්ම ජූලි 3 දිනෙන් පසුව රුසියානු විප්ලවයේ සිදුවීම් සිතන්නට පවා බැරි තරම්, කුණාටුවක් නැතහොත් සුළි සුළඟක් බඳු වේගයෙන් ඇති වෙමින් පවතින නිසා, ඒවා ඉක්මන් කිරීම කිසිසේත් පක්ෂයේ කර්තව්‍යය විය නොහැකිය. අපගේ සියළු ප්‍රයත්නයන් ඉලක්ක කළ යුත්තේ තත්වය හා පංති අරගල ක්‍රියාමාර්ගය පිළිබඳ වෙනස්වීම් ගැන අපට හැකි තරම් දුරට කම්කරුවන්ට හා පොදු වශයෙන් වැඩකරන ජනතාවට විස්තර කර දෙමින්, සිදුවීම්වලට පසු නොවී ඒවා සමග එකට ඉදිරියට යාම වෙතය. තවමත් පක්ෂයේ ප්‍රධාන කර්තව්‍යය මෙයයි. තත්වය ඉතා උග්‍ර බවත්, සෑම ක්‍රියාවක්ම පිපිරීමකින් කෙළවර වීමට ඉඩ තිබෙන බවත්, එනිසා කලට පෙර කරන නැගී සිටීමකින් ඉතා විශාල හානියක් සිදුවිය හැකි බවත් අපි පැහැදිලි කළ යුත්තෙමු. ඒ අතරම, කම්කරු පංතියට පාලනය කළ නොහැකි වන සිදුවීම් නිසා එය අනිවාර්යයෙන්ම ප්‍රතිවිප්ලවවාදී ධනපති පංතියට විරුද්ධව අධිෂ්ඨාන සහගත සංග්‍රාමයක යෙදී බලය දිනා ගත යුතුවන පරිද්දෙන් එයට බල කරන තත්වයකට, එය අනිවාරණීය වශයෙන්ම හා සමහර විට ඉතාමත් විපත්තිදායක වේගයකින්, මෙම උග්‍ර තත්වය විසින් මෙහෙයවනු ලැබේ.

12. මුළු යුද්ධ හමුදාවම හමුදා ප්‍රධාන මණ්ඩලයට වෛර කරන බව කර්නිලව් කැරැල්ලෙන් සම්පූර්ණයෙන් හෙළිදරව් විය. බොල්ෂෙවිකවරුන් කෙරෙහි ඇති තම වෛරයද, එක් අතකින් කම්කරුවන් හා ගොවි ජනතාවත්, අනිත් අතින් ඉඩම් හිමියන් හා ධනපති පංතියත් අතර එකඟත්වයක් පිළිබඳ ප්‍රතිපත්තිය රැකීමෙහි තමන් යෙදෙන බවද, මාස ගණනක ප්‍රයත්න මගින් ඔප්පු කළ මෙන්ෂෙවික්වරුන්ට හා සමාජවාදී-විප්ලවවාදීන්ට පවා මෙය පිළිගැනීමට සිදුවිය. යුද්ධ හමුදා ප්‍රධාන මණ්ඩලය කෙරෙහි ඇති යුද්ධ හමුදාවේ වෛරය අඩුවී නොයනු ඇත. ක්ලෙම්බොව්ස්කි සහ වෙනත් කර්නිලව් සේනාපතියන් සිටින්නට හරිමින්, දැන් කෙරෙන්ස්කි ආණ්ඩුව කර්නිලොව් වෙනුවට අලෙක්සේයයව් ආදේශ කිරීමට පමණක් සීමාවන හෙයින්ද, යුද්ධ හමුදා සැලකිය යුතු තරමින් ප්‍රජාතන්ත්‍රවාදී කිරීමට හා ප්‍රතිවිප්ලවවාදී අණ දෙන නිලධාරීන් ඉවත් කිරීමට කිසිම දෙයක් කර නොමැති හෙයින්ද, එම වෛරය තවත් බලවත් වනු ඇත.



සෝවියට් සහා කෙරෙන්ස්කිගේ මෙම දුර්වල, චපල සහ පිළිවෙළක් නැති ප්‍රතිපත්තිය ඉවසමින් එයට ආධාර කරති. කර්නිලොව් කැරැල්ල මර්දනය කිරීමේදී මුළු බලය අත්පත් කරගැනීමේ තවත් අවස්ථාවක් පැහැර හැරිය එම සෝවියට් සභා, හුදෙක් බේරුමකට එළඹීම ගැන පමණක් නොව, සාපරාධී ලෙස බේරුමකට එළඹීම ගැන වරදෙහි බැඳී ඇත.

යුද්ධ හමුදා ප්‍රධාන මණ්ඩලයට වෛර කරන යුද්ධ හමුදාව විසින් තවත් මහා විපත් ගෙන ඒමට කැපවී තිබෙන රටවල් අල්ලා ගැනීමේ යුද්ධයක් ලෙසින් දැන් වටහා ගනු ලැබ තිබෙන යුද්ධයක් කිරීමට එය කැමති නොවේ.

13. ව්‍යවහාරයේදී ධනපති පංතියට සහ එහි රහස් ගිවිසුම්වලට ආධාර කරන මෙන්ෂෙවික්වරු සහ සමාජවාදී විප්ලවවාදීන් මෙන් හුදෙක් වචනයෙන් පමණක් නොව, බලයට පත් විට ක්‍රියාවෙන් සාම ප්‍රතිපත්තියක් අනුගමනය කිරීමෙහි සමත් වන්නේ කම්කරු පංතිය පමණකි. කම්කරු පංතිය නිශ්චිත ලෙස හා අප්‍රමාදවම, සියළුම ජනතාවන් වෙත විවෘත, නියත සහ සාධාරණ සාම යෝජනා ඉදිරිපත් කරනු ඇත. කර්නිලොව් සේනාපතියන් රිගාවෙන් පසුව පෙට්‍රොග්‍රෑඩයත් පාවා දුන්නත්, යුද්ධ තත්වය ගැන නොසලකා, එය කරනු ලැබේ. රුසියාවේ කම්කරුවන්ගෙන් සහ ගොවි ජනතාවගෙන් අති විශාල බහුතරයක් රටවල් අල්ලා ගැනීමේ වර්තමාන යුද්ධයට විරුද්ධවන නිසා සහ රටවල් අල්ලා ගැනීමෙන් සහ වන්දි ගැනීමෙන් තොරව සාධාරණ කොන්දේසි අනුව සාමයකට ආධාර කරන නිසා, මුළු ජනතාවම වෙනුවෙන් මෙම යෝජනා ඉදිරිපත් කිරීමට කම්කරු පංතියට හැකිවේ.

සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන්, සාමය ගැන කථා කරමින් මාස ගණන් ගත කරන විට, ඔවුහු තමන් රවටා ගන්නා අතරම ජනතාවද රවටති. කම්කරු පංතිය බලය ලබා ගත් විට, එකම දිනක්වත් අපතේ නොහැර එය සියල්ලන්ටම සාමය යෝජනා කරනු ඇත.

යුද්ධයට විරුද්ධ කම්කරු විප්ලවය සෑම තන්හිම වර්ධනය වෙමින් පවතී. එම විප්ලවය වැලක්වීම සියළුම රටවල ධනපතියන්ට බොහෝ සේ දුෂ්කර වී තිබේ. එනිසා, රුසියානු විප්ලවය සාමය සඳහා වූ බෙලහීන සහ අසරණ ප්‍රාර්ථනයක සිට රහස් ගිවිසුම් ප්‍රසිද්ධ කිරීම හා ඒවා අවලංගු කිරීම ආදිය සමගම ඉදිරිපත් කෙරෙන ඍජු සාම යෝජනාවක් දක්වා පරිවර්තනය වුවහොත්, ඉක්මණින් සාමය ඇතිවීමේ සියයට අනූනවයක අවස්ථා සැලසේ; සාමයට බාධා කිරීම ධනපතියන්ට නුපුළුවන් වේ.

එසේ වුවත්, අතිශයින්ම අඩමාන දෙයම සිදුවේ නම්, ධනපතියෝ ඔවුන්ගේ ජනතාවන්ගේ කැමැත්තට පටහැනි වෙමින් රුසියානු කම්කරු ආණ්ඩුවේ සාමය ප්‍රතික්ෂේප කරති නම්, යුරෝපයේ විප්ලවයක් ඇතිවීම

සිය ගුණයකින් ආසන්න වන්නේය. එවිට අපගේ කම්කරුවන් හා ගොවි ජනයා, වෛරයට නොව, ගෞරවාදරයට පාත්‍ර වූ අණ දෙන නිලධාරීන් හා යුද්ධ නායකයන් තෝරා පත් කරනු ඇත. සාමය යෝජනා කර තිබෙන විට, රහස් ගිවිසුම් ඉරා දමා තිබෙන විට, ඉඩම් හිමියන් හා ධනපතියන් සමග සන්ධානය බිඳ දමා තිබෙන විට හා සියළු ඉඩම් ගොවි ජනතාවට දී තිබෙන විට, යුද්ධයේ සාධාරණත්වය යුද්ධ හමුදාවට පෙනෙනු නිසැකය. යුද්ධය, රුසියාවේ සාධාරණ යුද්ධයක් බවට පත් වන්නේ එවිට පමණකි. කෙටිවිට කිරීමෙන් තොරව, කම්කරුවන් හා ගොවිජනයා සිය කැමැත්තෙන්ම සටන් කරනු ඇත්තේ මෙම යුද්ධයේදී පමණකි. එසේම දියුණු රටවල අනිවාරණීය වශයෙන් ඇති විය යුතු කම්කරු විප්ලවය මෙම යුද්ධය නිසා තව තවත් ළංවනු ඇත.

14. තමන් බලයට පත්වූ විට වතුකාර දේපල සියල්ලම, වන්දි නොමැතිව ගොවි ජනතාවට පවරා දෙන බව සහතික කළ හැක්කේ කම්කරු පංතියට පමණකි. මෙය කල් නොදැමිය යුතුය. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය මෙම පවරා දීම නීති සහගත කරනු ඇත. නමුත් ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය ප්‍රමාද වන්නේ ගොවි ජනයාගේ වරදක් නිසා නොවේ. ඉඩම් හිමියන් හා ධනපතියන් සමග ඇති කරගන්නා එකඟත්වයක් මගින් කිසිසේත් ඉඩම් ලබා ගත නොහැකි බව ගොවි ජනතාව දිනෙන් දිනම වඩාත් හොඳින් ඒත්තු ගනිති. ඉඩම් ලබා ගත හැක්කේ දුප්පත් ගොවි ජනතාව සහ කම්කරුවන් අතර ඉතා සමීප සහෝදරාත්මක සන්ධානයක් මගින් පමණකි.

කැඩෙට් ඉඩම් හිමියන්ට ලොකු සහ කුඩා සහන දීම මගින් ගොවි ජනතාවගේ උවමනාවන් ආරක්ෂා කිරීමට මාස ගණනක් තිස්සේ උත්සාහ කිරීමෙන් පසුව, චෙර්නොව් ඇමති මණ්ඩලයෙන් ඉල්ලා අස්වීම නිසා, බේරුම්කාරී ප්‍රතිපත්තියෙහි අසාර්ථකත්වය ඉතාමත් පැහැදිලි ලෙස හෙළිදරව් විය. ජූලි 5 දයින් පසුව ගම්වල ඉඩම් හිමියන් බල පුළුවන්කාරකම් ආරූඪ කරගෙන සිටින බවත්, ඔවුන් මර්දනය කිරීම හා අහිංසක තත්වයට පත් කිරීම අවශ්‍ය බවත්, ගොවි ජනතාව දකිති, දනිති, හඟිති.

15. ආර්ථික කඩාකප්පල්වීම සහ ළඟ එන සාගතය කෙළවර කළ හැක්කේ බලය ලබා ගත් කම්කරු පංතියට පමණකි. පාලනයක් ඇති කරන බව ආණ්ඩුව මැයි 6 දින පටන්ම කියා ඇති නමුත්, සියළු වැඩ කටයුතුවලට ධනපතියන් හා ඉඩම් හිමියන් අවහිර කරන නිසා, එය කිසි දෙයක් කර නැත; එයට කිසි දෙයක් කිරීමටද නොහැක. විරැකියාව වැඩි වේ; සාගතය ළං වේ; ව්‍යවහාර මුදල් අගය ක්ෂය වේ. නියමිත මිළ ගණන් දෙගුණ කිරීමෙන් පසු පෙෂෙහෝනව්ගේ ඉල්ලා අස්වීම නිසා අර්බුදය තවත් උග්‍ර වනු ඇත. ආණ්ඩුවේ අන්ත දුබලතාවය හා බෙලහීනතාවය මෙයින් නැවත වරක් පෙන්නුම් කෙරේ. මෙම තත්වයෙන් මිදිය හැක්කේ නිෂ්පාදනය හා බෙදා හැරීම කම්කරු පාලනයට යටත් කිරීමෙන් පමණකි. ධනපතියන් මර්දනය කිරීම, රාජ්‍ය බලය දරන ප්‍රයත්නවලට වැඩ කරන ජනතාවගේ වීරෝදාර ආධාරය ගෙන දීම, ක්‍රමාණුකූලභාවයක් සහ නිෂ්පාදිත භාණ්ඩ සඳහා සාධාරණ ලෙස ධාන්‍ය හුවමාරුවක් ඇති කිරීම කළ හැක්කේ කම්කරු ආණ්ඩුවකට පමණකි.

16. නාගරික කම්කරු පංතිය කෙරෙහි ගොවිජන දුප්පතුන් තබන විශ්වාසය, තාවකාලික වශයෙන්, ධනපති පංතියේ අපවාදය නිසා සහ බේරුම්කාරී ප්‍රතිපත්තිය කෙරෙහි බලාපොරොත්තු රැඳවීම නිසා දුර්වල වී ගිය නමුත්, විශේෂයෙන් ජූලි 5 දිනෙන් පසුව ගම්බද පෙදෙස්වල විවිධ වර්ගයේ වැඩ කරන ජනයා සිරභාරයට ගැනීම සහ ඔවුන්ට වද හිංසා කිරීමත්, කර්නිලොව් කැරැල්ලෙන් ජනතාවගේ ඇස් විවෘත වීමත්, නිසා එම විශ්වාසය නැවතත් ඇතිවන්න පටන් ගෙන තිබේ. බේරුම්කාරී ප්‍රතිපත්තිය ආරම්භ කිරීම හා මුදුන් පැමිනවීම ගැන වග කිව යුතු වූ සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පක්ෂ තුළ, විශේෂයෙන් ජූලි 5 දිනෙන් පසුව, බේරුම්කාරිත්වයට විරුද්ධව වැඩීයන අප්‍රසාදයක් සහ අරගලයක් පැවතීම, ධනපතියන් සමග සමාදනයෙන් බේරුමක් කර ගැනීම ගැන ජනතාවගේ විශ්වාසය හීන වන බව කියන ලකුණකි. පසුගිය සමාජවාදී-විප්ලවවාදී ''මණ්ඩලයේදී'' සහ මෙන්ෂෙවික් සම්මේලනයේදී මෙම විරෝධය පැමට සමාජිකත්වයෙන් පහෙන් දෙපංගුවක් (සියයට 40 ක්) සම්බන්ධ විය.

17. මුළු සිදුවීම් මාලාවද, සියළු ආර්ථික හා දේශපාලන තත්වයන්ද, සන්නද්ධ හමුදා තුළ සිදුවන සියල්ලක්ද, කම්කරු පංතිය විසින් සාර්ථක ලෙස බලය දිනා ගනු ලැබීම සඳහා මාර්ගය වඩ වඩාත් සකස් කරන්නේය. කම්කරු පංතියේ එම ජයග්‍රහණය, සාමය, පාන් සහ නිදහස ගෙන එන අතර එය වෙනත් සියළු රටවල නිර්ධන පංති විප්ලවයේ ජයග්‍රහණය කඩිනම් කරනු ඇත.

1917 සැප්තැම්බර් 5(16) දින
හෝ ඊට පෙර ලියන ලදී.

ප්‍රථමයෙන් ලෙනින් විවිධ කෘති
හි 1925 දී පළ කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි
මුද්‍රණය, වෙළුම 34, පිටු 144-150.

# ළඟ එන මහා විපත
# හා එයට විරුද්ධව සටන් කරන හැටි

## දුර්භික්ෂය ළඟා වෙයි

නොවැලැක්විය හැකි මහා විපතක තර්ජනයක් රුසියාවට එල්ල වී ඇත. දුම්රිය සේවය නොඇදහිය හැකි තරමට අවුල් වී ඇත. එම අවුල්වීම තවත් වැඩි වෙයි. දුම්රිය සේවය ඇන හිටිනු ඇත. පැක්ටරිවලට අවශ්‍ය ද්‍රව්‍ය සහ ගල් අඟුරු සැපයීම නවතිනු ඇත. ධාන්‍ය සැපයීම නවතිනු ඇත. පෙර නොදක්නා ලද විරූ මහා විපතක් ඇතිවීමෙන්, නැවත රාජාණ්ඩුව ඇතිවීමටත් ධනපති පංතියේ සහ ඉඩම් හිමියන්ගේ අසීමිත බලය යළි ස්ථාපිත කිරීමටත් ඉඩ පහසුකම් සලසමින්, සමූහාණ්ඩුව සහ ප්‍රජාතන්ත්‍රවාදය, සෝවියට් සභා සහ පොදු වශයෙන් නිර්ධන පංතික සහ ගොවිජන සමාගම්ද ඇද වැටීමක් වෙතියි බලාපොරොත්තුවන ධනපතියෝ උවමනාවෙන්ම හා අත්නොහැරම නිෂ්පාදනය (අලාභ හානි කිරීමෙන්, නවත්වා දැමීමෙන්, අවුල්කර දැමීමෙන්, බාධා කිරීමෙන්) කඩාකප්පල් කරති.

මහා විපතක හා සාගතයක අන්තරාය මේ ළඟම ඇත. මේ ගැන පුවත්පත් සියල්ලම නැවත නැවතත් ලියා ඇත. පක්ෂ විසින්ද, කම්කරු, සොල්දදු සහ ගොවිජන නියෝජිත සෝවියට් සභා විසින්ද, යෝජනා මහා රාශියක් සම්මත කරනු ලැබ තිබේ. මහා විපත නොවැලැක්විය හැකි බවත්, එය ඉතා ළංව ඇති බවත්, එයට විරුද්ධව සටන් කිරීම සඳහා සීමාන්තික පියවරයන් ගැනීම අවශ්‍ය බවත්, විනාශයෙන් බේරීම සඳහා ජනතාව ''වීරෝද්‍ර පරිශ්‍රම'' දැරිය යුතු බවත් යනාදිය එම යෝජනාවලින් පිළිගෙන තිබේ.

කවුරුත් මෙය කියන්නේය. කවුරුත් එය පිළිගන්නේය. එය එසේ බව කවුරුත් තීරණය කර තිබේ.

නමුත් කිසිවක් කරනු නොලැබේ.

විප්ලව කාලය හය මසක් ගත විය. මහා විපත තවත් ආසන්න වී තිබේ. විරැකියාව අති විශාල පරිමාණයක් ගෙන ඇත. ප්‍රමාණවත් තරම් ධාන්‍ය සහ අමු ද්‍රව්‍ය තිබෙන නමුත්, රටෙහි භාණ්ඩ හිඟයක් ඇත; ආහාර හා ශ්‍රම හිඟයකින් රට විනාශ වී යයි; එසේ වුවත්, එවැනි රටක, මෙතරම් උග්‍ර අවස්ථාවක, පොදු ජනතාවට රැකියා නොමැත! විප්ලවයේ (සමහරු එය ශ්‍රේෂ්ඨ විප්ලවයකැයි කියන නමුත්, මේ දක්වාම එය දුගඳ හමන විප්ලවයකැයි කීම සාධාරණ විය හැක) හය මාසයක කාලයකින් පසුව, තමන් ''විප්ලවවාදී -ප්‍රජාතන්ත්‍රවාදී යයි'' ආඩම්බරයෙන් කියාගන්නා සංගම්, නිල පුවත්පත් හා ආයතන රාශියක් තිබෙන ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක මහා විපත මඟ හැරීමට, සාගතය මඟ හැරීමට කිසිම වැදගත් දෙයක් කර නැති බව පෙන්වීමට මීට වඩා හොඳ සාක්ෂි තිබේද? අපි වැඩිවන වේගයකින් විනාශය කරා ළඟා වෙමින් සිටින්නෙමු. යුද්ධය නැවතී නොසිටිනු ඇත. එසේම එය ජාතික ජීවිතයේ සෑම අංශයකම විසන්ධානය වැඩි කරයි.

නමුත් මහා විපතට හා සාගතයට විරුද්ධව සටන් කිරීමේ මාර්ග තිබෙන බවත්, ඒවාට විරුද්ධව සටන් කිරීමට අවශ්‍ය පියවරයන් ඉතා පැහැදිලි, සරල, ශක්‍යතාපූර්ණ සහ ජනතා බලවේගයන්ට සම්පූර්ණයෙන්ම ඉටු කළ හැකි ඒවා බවත්, මෙම පියවරයන් නොගනු ලබන්නේ, ඒවා සාර්ථක වූ විට ඉඩම් හිමියන් හා ධනපතියන් අතලොස්සකගේ අති දැවැන්ත ලාභවලට පහර වදින නිසා පමණක් බවත්, තනිකරම ඒ නිසාම පමණක් බවත්, ඕනෑම කෙනෙකුට ඒත්තු යාමට සුළු වශයෙන් අවධානය හා කල්පනාව යොමු කිරීම ප්‍රමාණවත් වේ.

ඇත්ත වශයෙන්ම සෑම කථාවකින්ම, ඕනෑම උපනතියක ප්‍රවෘත්ති පත්‍රයක පළවන සෑම ලිපියකින්ම, ඕනෑම රැස්වීමක් හෝ ආයතනයක් සම්මත කරන සෑම යෝජනාවකින්ම, මහා විපතට එනම් සාගතයට, විරුද්ධව සටන් කිරීම හා එය මඟ හැරීම සඳහා ගත යුතු මූලික හා ප්‍රධාන පියවර කුමක්ද යන්න පිළිගෙන තිබෙන බව නිර්භයවම කිව හැක. මෙම පියවර, රජය මගින් පාලනයක්, අධීක්ෂණයක්, ගිණුම් තැබීමක් හා මෙහෙයවීමක්ද, භාණ්ඩ නිෂ්පාදනය හා බෙදා හැරීම සම්බන්ධයෙන් ශ්‍රම ශක්තිය නිසි ලෙස බෙදා හැරීමක්ද, ජනතා බලවේගයන් සකසුරුවමින් උපයෝගී කර ගැනීමද, මහන්සිය අපතේ යාම වැලැක්වීම සහ මහන්සිය අරපිරිමැස්මද ක්‍රියාත්මක කිරීම වේ. මහා විපතට හා සාගතයට විරුද්ධව සටන් කිරීම සඳහා මූලික අවශ්‍යතාවයන් වන්නේ පාලනය, අධීක්ෂණය හා ගිණුම් තැබීමය. මෙය ගැන විතර්කයට ඉඩක් නැති අතර මෙය විශ්වීය වශයෙන් පිළිගෙන තිබේ. ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ ආධිපත්‍යයට සහ ඔවුන්ගේ අති විශාල, අරුම පුදුම සහ නින්දිත ලාභවලට හානියක් වෙතැයි යන බිය නිසා නොකරනු ලබන්නේද ඉඳුරාම මෙයමය. අධික මිළ අය කිරීම හා යුද්ධ කොන්ත්‍රාත්වලින් (දැන් සියළු දෙනාම පාහේ යුද්ධය සඳහා සෘජු ලෙස හෝ වක්‍ර ලෙස හෝ ''වැඩ'' කරති) ලබන

එම ලාභ ගැන කවුරුත් දනිති; එය කාටත් පෙනෙන්නට තිබේ; ඒ සම්බන්ධයෙන් සියළු දෙනාම සුසුම් ලති, කෙඳිරිගාති.

යම්තමින් හෝ ඵලදායක වන එවැනි පාලනයක්, ගිණුම් තැබීමක් හා අධීක්ෂණයක් රජය මගින් ඇති කිරීමට කිසිම කිසි දෙයක් නොකරනු ලැබේ.

## ආණ්ඩුව සම්පූර්ණයෙන් අක්‍රියාකාරීය

පාලනය, අධීක්ෂණය හා ගිණුම් තැබීම සම්බන්ධ සියළු කටයුතු හා රජය මගින් ඒවා ක්‍රියාත්මක කිරීමට දරන සියළු ප්‍රයත්න, විෂ්වීය ලෙස, ක්‍රමානුකූල ලෙස හා අනවරත ලෙස කඩාකප්පල් කරීමක් සිදුවේ. මෙම කඩාකප්පල් කිරීම කෙරෙන්නේ කුමණ දෙයින්ද, එය කරනු ලබන්නේ කුමණ මාර්ගයෙන්ද යන්න අයෙක් නොදන සිටීම අන්ත බොළඳකමකි; එය නොදන්නා බවක් පෙන්වන තැනැත්තේ අන්ත කුහකයෙකි. එසේ කියන්නේ, බැංකු කරුවන් හා ධනපතියන් කරගෙන යන මෙම කඩාකප්පල් කිරීම එනම්, සෑම වර්ගයකම පාලනයක්, අධීක්ෂණයක් සහ ගිණුම් තැබීමක් ව්‍යර්ථ කරන ඔවුන්ගේ ක්‍රියා,ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවේ රාජ්‍ය ආකෘතිවලට, ''විප්ලවවාදී -ප්‍රජාතන්ත්‍රවාදී'' ආකෘතිවල පැවැත්මට ගලපනු ලබන හෙයිනි. විද්‍යාත්මක සමාජවාදයේ සියළුම ආධාර කරුවන් පිළිගන්නා බව කියන, එහෙත්, ස්වකීය මිත්‍රයන්ට ඇමති, නියෝජ්‍ය ඇමති ආදීවූ සැප පහසු නතතුරු ලැබුණු පසු, මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් විසින් අමතක කිරීමට උත්සාහ කරන ලද සත්‍යයක්, ධනපති මහත්වරු මැනවින් උගෙන ගෙන ඇත. එම සත්‍යය නම්, රාජාණ්ඩුවාදී ආකෘති වෙනුවට සමූහාණ්ඩුවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආකෘති ආදේශ කිරීම නිසා ධනපති සූරා කෑමේ ආර්ථික හරයට කිසිම හානියක් නොවන බවය. එසේම ඒ අනුවම, එහි අනිත් පැත්තද සත්‍යය වේ. ඒකාධිපති රාජාණ්වක් යටතේ මෙන්ම සාර්ථක ලෙස ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් යටතේද එම ආර්ථික හරය ආරක්ෂා කිරීම පිණිස කළ යුත්තේ, ධනපති ලාභයෙහි අනුල්ලංඝනීයත්වය හා ශුද්ධත්වය සඳහා කරන අරගලයේ ආකෘතිය වෙනස් කිරීම පමණකි. සෑම වර්ගයකම පාලනය, ගිණුම් තැබීම සහ අධීක්ෂණය කඩාකප්පල් කිරීමේ වර්තමාන සමූහාණ්ඩු-ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රියාමාර්ගය සංයුක්ත වන්නේ, පාලනය පිළිබඳ ''ප්‍රතිපත්තිය'' හා පාලනය කිරීමේ අවශ්‍යතාවය ඉතාමත් ආශාවෙන් (මෙන්ෂෙවික් සහ සමාජවාදී-විප්ලවවාදීන් සියළු දෙනාම කරන සේම) වචනයෙන් පිළිගන්නා අතර මෙම පාලනය ''අනුක්‍රමික ලෙස'' සහ ක්‍රමානුකූල ලෙස ''රජයෙන් මෙහෙයවන'' ක්‍රමයකට කරන ලෙස පමණක් බලකර ඉල්ලා



සිටීමෙනි. එසේ වුවද, ව්‍යවහාරික වශයෙන් මෙම කපටි උගුල් වදන් ප්‍රයෝජන වන්නේ, පාලනය ව්‍යර්ථ කිරීම, එය නිෂ්ඵල කිරීම, එය මිථ්‍යාවක් බවට පත්කිරීම සහ කාර්ය පරවශ සහ ප්‍රායෝගික වශයෙන් ඵලදායක සියළු පියවරයන් ප්‍රමාද කිරීමත්, අතිශයින්ම පැටලිලි සහිත, ක්‍රියා කරවීමට අපහසු සහ නිලධාරිවාදය නිසා අප්‍රාණික වූ, එසේම, සම්පූර්ණයෙන්ම ධනපතියන්ගේ කටයුතු මත රඳා පවතින, කිසිම දෙයක් නොකරන සහ කිසිම දෙයක් කළ නොහැකි පාලන ආයතන පිහිටුවීමත්, වසං කිරීම පිණිස පමණකි.

නිකම් ප්‍රකාශ පමණක් කිරීමෙන් වැලකෙනු පිණිස, මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී -විප්ලවවාදීන් අතරින් සාක්ෂි ලබා ගනිමු. විප්ලවයේ ප්‍රථම හය මස තුළ සෝවියට් සභාවල බහුතරයක් ඇතිව සිටි, ''සභාග ආණ්ඩුවට'' සහභාගි වුනු සහ එනිසාම ධනපතියන්ට අනුබල දීම හා සියළු පාලනය ව්‍යර්ථ කිරීමට ඔවුන්ට ඉඩ දීම ගැන රුසියානු කම්කරුවන්ට හා ගොවි ජනතාවට වග කිව යුතු අයද ඔවුන්මය.

මෙම මෙන්ෂෙවික්වරුන් හා සමාජවාදී විප්ලවවාදීන් විසින්ම නිර්මාණය කරන ලද හා පවත්වා ගෙන යනු ලබන විශේෂ පාලන සංවිධානයක යෝජනාවක්, ''විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදයේ'' ඊනියා ''සම්පූර්ණ බලය ලත්'' (කවට කමක් නොවේ!) මණ්ඩලවල නිල පුවත්පත වන ''ඉස්වෙස්ටිය'' (එනම්, සමස්ත රුසියා කම්කරු, සොල්දදු සහ ගොවිජන සෝවියට් සභා සම්මේලනයේ මධ්‍ය විධායක කාරක සභාවේ පුවත්පත), එහි 1917 සැප්තැම්බර් 7 දින අංක 164 කලාපයෙහි පළ කර තිබුණි. මෙම විශේෂ ආයතනය, මධ්‍ය විධායක කාරක සභාවේ ආර්ථික දෙපාර්තමේන්තුවය. එහි යෝජනාව, ''ආර්ථික ජීවිතය හැසිරවීම පිණිස ආණ්ඩුව යටතේ පිහිටුවන ලද මධ්‍යම මණ්ඩලවල සම්පූර්ණ අක්‍රියාකාරිත්වය'' ගැන සත්‍ය කරුණක් ලෙසට වාර්තා කරයි.

මෙන්ෂෙවික් සහ සමාජවාදී-විප්ලවවාදී ප්‍රතිපත්තිය බිඳ වැටී ඇති බවට, මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන්ම අත්සන් කළ මෙම ප්‍රකාශයට වඩා වැදගත් සාක්ෂියක් ගැන කෙනෙකුට සිතන්නටවත් පුළුවන් කමක් තිබේද?

ආර්ථික ජීවිතය හැසිරවීමේ අවශ්‍යතාවය සාර්වාදය යටතේම පිළිගෙන තිබුණු අතර, ඒ සඳහා යම් යම් ආයතන පිහිටුවා තිබුණි. නමුත් සාර්වාදය යටතේ ආර්ථික ව්‍යාකූලතාවය දිගටම වර්ධනය වී එය දැවැන්ත පරිමාණයකට පත් වූයේය. ආර්ථික ව්‍යාකූලතාවය කෙළවර කිරීමට සාර්ථක හා දැඩි පියවරයන් ගැනීම සමූහාණ්ඩුවාදී, විප්ලවවාදී ආණ්ඩුවේ කර්තව්‍යය බව වරක් පිළිගෙන තිබුණි. ''සභාග ආණ්ඩුව'' රජය මගින් පාලනය කිරීම හා හැසිරවීම ආරම්භ කිරීමට පොරොන්දුවන බව හා භාරගන්නා බව, මෙන්ෂෙවික්වරුන් හා සමාජවාදී-විප්ලවවාදීන් සම්බන්ධවෙමින් එම

ආණ්ඩුව පිහිටුවීමේදී එය ඉතා ගරු ගාම්භීර ලෙස නිකුත් කළ මැයි 6 දින එහි ප්‍රසිද්ධ ප්‍රකාශනයෙන් කියන ලදී. සියළු මෙන්ෂෙවික් සහ සමාජවාදී-විප්ලවවාදී නායකයන් මෙන් ට්සෙරතෙලි සහ චෙර්නොව්ද, තමන් ආණ්ඩුව සම්බන්ධයෙන් වග කියන බව පමණක් නොව තමන්ගේ පාලනය යටතේ පවතින "විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදයේ බලය ලත් මණ්ඩල" ඇත්ත වශයෙන් ආණ්ඩුවේ කටයුතු ගැන ඇස් බැල්මෙන් සිටින හා එම කටයුතු ගැන සොයා බලන බවද, දිවුරා සහතික කළහ.

මැයි 6 වැනි දිනෙන් පසුව මාස හතරක් ගත වී තිබේ. ඒ දීර්ඝ මාස හතරකි. එම හතර මාසය තුළදී, අර්ථයක් නැති අධිරාජ්‍යවාදී "ප්‍රහාරය" වෙනුවෙන් රුසියාව ජීවිත ලක්ෂ ගණනක් කැප කර තිබේ. එම මාස හතර තුළදී ව්‍යාකූලතාවය සහ ව්‍යසනය යොදුන් ගණනින් පියවර තබා වර්ධනය වී ඇත. එම කාලයේ ග්‍රීෂ්ම ඍතුවේදී නාවික ප්‍රවාහණ සේවය, කෘෂිකර්මාන්තය, ඛනිජ ද්‍රව්‍ය සඳහා කැනීම යනාදී වූ කරුණු සම්බන්ධයෙන් බොහෝ කටයුතු කිරීමට මාහැඟි අවස්ථාවක් ලැබුණේය. දැන් සතර මාසයකට පසුව, ආණ්ඩුව යටතේ පිහිටුවන ලද ආයතනවල "සම්පූර්ණ අක්‍රියාකාරිත්වය" පවතින බව නිල වශයෙන් පිළිගැනීමට මෙන්ෂෙවික්වරුන්ට හා සමාජවාදී-විප්ලවවාදීන්ට සිදුවී තිබේ!!

එසේ තිබියදී, මෙනෂෙවික්වරු සහ සමාජවාදී-විප්ලවවාදීහු බරපතල රාජ්‍යපාලකයන් සේ පෙනී සිටිමින්, සභාග ආණ්ඩුව වෙනුවට, කැඩෙට්වරුන් ආදේශ කරීමෙන්, වාණිජ සහ කර්මාන්ත කිත් කිතීච්ලාගේ[128], රියාබුෂින්ස්කිලාගේ, බුබ්ලිකොව්ලාගේ, තෙරෙශෙන්කෝලාගේ සහ සමාගමේ සභාගයක් ආදේශ කිරීමෙන් තත්වය දියුණු කළ හැකියයි දැන් (මා මෙය ලියන්නේ සැප්තැම්බර් 12 ප්‍රජාතන්ත්‍රවාදී සාකච්චා සභාව[129] පූර්වාසන්නයේය) නන් දෙඩවති.

මෙන්ෂෙවික්වරුන්ගේ සහ සමාජවාදී-විප්ලවවාදීන්ගේ මෙම පුදුම සහගත අන්ධ භාවයට හේතු වශයෙන් අප කියන්නේ කුමක්දැයි කෙනෙකුට අසන්නට පුළුවන. ඔවුහු අමාරුවේ වැටී සිටින දේශපාලන නොදරුවන් වෙතියිද, ඔවුන්ගේ අන්ත නොදැනුවත්කම සහ බොළඳකම නිසා තමන් කරන්නේ කුමක්දැයි නොදනිතියිද, ඔවුහු යහපත් අදහසින් වැරදි කරතියිද අපට සිතන්නට පුළුවන්ද?

## ප්‍රකට පාලන පියවරයන් හා ඒවා ක්‍රියාත්මක කිරීමේ පහසුකම්

අයෙක් මෙසේ අසනු ඇත: පාලනය කිරීමේ ක්‍රම හා පියවරයන් ඉතාමත් සංකීර්ණ, දුෂ්කර, අත්දැක නැති සහ හැදිනගෙන පවා නොමැති ඒවා නොවේද? ප්‍රමාදයට හේතුව වී තිබෙන්නේ, කැඩෙට් පක්ෂයේ රාජ්‍ය පාලකයින්, වෙළඳ හා කාර්මික පංතිය සහ මෙන්ෂෙවික් හා සමාජවාදී-විප්ලවවාදී පක්ෂ හය මාසයක් තිස්සේ වෙහෙස වෙමින්, ඩාදිය වගුරවමින් පාලන පියවරයන් හා ක්‍රම ගැන පරීක්ෂණ, අධ්‍යයන හා පර්යේෂණ කළ නමුත්, ප්‍රශ්නය තවමත් සිතන්නටවත් අපහසු තරම් දුෂ්කර හෙයින් හා එය තවමත් විසඳී නැති හෙයින් නොවේද?

අවාසනාවකට මෙන්, කරුණු නොදත්, නූගත්, පීඩිත දුප්පත් ගොවියාට සහ සියල්ල විශ්වාස කරන හා කරුණු සොයා නොබලන සාමාන්‍ය දුගියාට කරුණු ඉදිරිපත් කෙරෙන්නේ මේ ආකාරයෙනි. එසේ වුවද සාර්වාදය පවා, "පැරණි පාලනය" පවා යුද්ධ කර්මාන්ත කාරක සභා පිහිටුවන විට පාලනයක් ඇති කිරීමේ ප්‍රධාන පියවර, මූලික ක්‍රමය හා මාර්ගය දැන සිටියේය. එය වෘත්තීය අනුව, කාර්ය අරමුණ අනුව, ශ්‍රම අංශය අනුව, ආදී වශයෙන් ජනගහනය එක්සත් කිරීමය. නමුත්, සාර්වාදය ජනගහනය එක්සත් වීම ගැන බිය විය. එනිසා, එය, කවුරුත් දන්නා, ඉතා පහසු සහ සම්පූර්ණයෙන්ම ප්‍රායෝගික වන පාලන මාර්ගය සීමා කිරීමට හා කෘත්‍රිම වශයෙන් අවහිර කිරීමට, එහි මුළු ශක්තිය යොද ක්‍රියා කළේය.

යුද්ධයේ අනන්ත කරදර හා දුෂ්කරතාවයන්ගෙන් පීඩා විඳින, එක් හෝ තවත් මට්ටමකින් ආර්ථික ව්‍යාකූලත්වයෙන් හා සාගතයෙන් පීඩා විඳින, යුද්ධකාරී රටවල් සියල්ලම, පාලන පියවර මාලාවක්ම සලකුණු කර, නිශ්චය කර, ක්‍රියාත්මක කර හා අත්හද බලා තිබේ. එම පියවරයන් සෑම එකක්ම පාහේ සංයුක්ත වන්නේ ජනගහනය එක්සත් කිරීමෙන් හා රාජ්‍ය නියෝජිතයන් සහභාගි වන, රජයේ අධීක්ෂණය යටතේ පවතින, ආදී වූ, විවිධ වර්ගවල සංගම් පිහිටුවීමෙන් හා ඒවා දිරි ගැන්වීමෙනි. මෙම පියවර සියල්ලම ගැන සෑම දෙනාම දනිති: ඒවා ගැන බොහෝ කියා සහ ලියා ඇත; පාලනය හා සම්බන්ධයෙන් යුද්ධකාරී රටවල් සම්මත කළ නීති රුසියන් බසට පරිවර්තනය කර හෝ රුසියානු පුවත්පත්වල ඒ ගැන විස්තර සහිතව කරුණු ගෙන හැර දක්වා හෝ ඇත.

කාර්ය පරවශ ආකාරයෙන් හා මහත් උනන්දුවකින් පාලනය ක්‍රියාත්මක කිරීමේ උවමනාව අපගේ රාජ්‍යයට තිබුණි නම්, එය කළ යුතුව තිබුණේ, දැනටමත් ප්‍රසිද්ධ හා අතීතයේදී උපයෝගි කරගෙන තිබෙන සාරවත් පියවර රාශියක් නිදහස් ලෙස උපුටා ගැනීම පමණකි. මෙයට තිබුණ හා තවමත් තිබෙණ එකම බාධකය, එසේම, කැඩෙට්වරුන්, සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් ජනතාවගේ ඇසට ලක් විය නොදී සඟවා තබන බාධකය වන්නේ, පාලනය කිරීම නිසා ධනපතියන්ගේ අති දැවැන්ත ලාභ ගැන විස්තර හෙළිදරව්වීම සහ මෙම ලාභවල පදනම දුර්වලවීමය.

මෙම ඉතාමත් වැදගත් (රුසියාව යුද්ධයෙන් හා සාගතයෙන් මුදා ගැනීමට කැමති ඕනෑම නියම විප්ලවවාදී ආණ්ඩුවක වැඩපිළිවෙළට අවශ්‍යයෙන්ම සමාන ප්‍රශ්නයක් වන මෙම) ප්‍රශ්නය වඩාත් පැහැදිලි ලෙස විස්තර කිරීම සඳහා පාලනය පිළිබඳ මෙම පියවරයන් එකින් එක සඳහන් කර, ඒවා එකින් එක පරීක්ෂා කර බලමු.

ආණ්ඩුවක විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී යන නාමය හුදෙක් විහිළුවක් නොවේ නම්, එහි පැවැත්මේ ප්‍රථම සතියේම එය කළ යුතුව තිබුණේ, පාලනයේ ප්‍රධාන පියවරයන් පනවමින් ආඥාවක් නිකුත් කිරීම, වංචා සසගත ලෙස පාලනය මඟ හරින ධනපතියන්ට තරයේ හා තදබල ලෙස දඬුවම් පැමිණවීමට කටයුතු සැලැස්වීම, ධනපතියන්ගේ කටයුතු ගැන පරීක්ෂාවෙන් සිටින සේ ජනතාවට ආයාචනා කිරීම සහ ඔවුන් පාලනයේ රෙගුලාසි දැඩි ලෙස අනුගමනය කරන බවට වග බලාගැනීම පමණකි. එසේ කරන ලද නම්, මීට බොහෝ කලකට පෙර රුසියාවේ පාලන කටයුතු ආරම්භ වන්නට තිබුණි.

මෙම ප්‍රධාන පියවරයන් පහත සඳහන් පරිදි වේ.

1) සියළු බැංකු එක බැංකුවක් වන සේ ඒකාබද්ධ කිරීම, එහි කටයුතු රජයේ පාලනයට යටත් කිරීම හෝ බැංකු ජනසතු කිරීම.

2) සම්මේල, එනම් විශාලතම ඒකාධිකාරී ධනපති සමාගම් (සීනි, තෙල්, ගල්අඟුරු, යකඩ, වානේ සහ වෙනත් සම්මේල) ජනසතු කිරීම.

3) වාණිජ රහස්‍යභාවය අවලංගු කිරීම.

4) කර්මාන්ත කරුවන් වෙළෙන්දන් සහ සාමාන්‍ය වශයෙන් සේව්‍යයන් අනිවාර්යයෙන් සම්මේල ගත කිරීම (අනිවාර්යයෙන් සමාගම්වලට ඇතුළත් කර ඒකාබද්ධ කිරීම).

5) ජනගහනය පාරිභෝගිකයන්ගේ සමාගම්වලට අනිවාර්යයෙන් ඇතුළත් කර සංවිධානය කිරීම හෝ එවැනි සංවිධාන දිරිගැන්වීම හා ඒවා ගැන පාලනයක් ඇති කිරීම.

මෙම පියවරයන් විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආකාරයකින් ක්‍රියාත්මක කළ විට ඒ එක් එක් පියවරක ඇති වැදගත්කම ගැන විමසා බලමු.

## බැංකු ජනසතු කිරීම

අප දන්නා පරිදි බැංකු වර්තමාන ආර්ථික ජීවිතයේ කේන්ද්‍රස්ථාන වෙති; ඒවා මුළු ධනපති ආර්ථික ක්‍රමයේම ප්‍රධාන ස්නායු කේන්ද්‍ර වෙති. ''ආර්ථික ජීවිතය මෙහෙයවීම'' ගැන කථා කරන අතරම, බැංකු ජනසතු කිරීම පිළිබඳ ප්‍රශ්නය මඟ හැරීමේ අර්ථය, එක්කෝ අන්ත නොදැනුවත්



කම විදහා පෑමය; එසේ නැතහොත්, අලංකාර වදන් දෙසා බෑමෙන් හ ඉටු නොකිරීමේ බලාපොරොත්තුව ඇතිව මහා ලොකු පොරොන්දු දීමෙන් ''පොදු ජනතාව'' රැවටීමය.

බැංකු කටයුතු පාලනයට හා මෙහෙයවීමට යටත් නොකර, ධාන්‍ය සැපයුම හෝ සාමාන්‍ය වශයෙන් භාණ්ඩ නිෂ්පාදනය සහ බෙදා හැරීම හෝ පාලනය කිරීම සහ හැසිරවීම විකාරයකි. එය හරියටම රූබල් දශ ලක්ෂ සංඛ්‍යාත මුදල් ගැන ඇස් වසාගෙන සිටිමින් කොපෙක් එකක් දෙකක් රැක ගැනීමට උත්සාහ කිරීමක් වැනිය. වර්තමානයේ බැංකු (ධාන්‍ය හා අන් සෑම දෙයක්ම ඇතුළු) වෙළඳාම සහ කර්මාන්ත සමග ඉතා සමීප ලෙස හා බලවත් ලෙස බැඳී තිබේ. එනිසා බැංකුවලට අත නොතබා වටිනා කිසිම කටයුත්තක්, ''විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී'' කිසිම දෙයක් ඉටු කරගත නොහැකිය.

නමුත් බැංකුවලට ''අත තැබීම'' සමහර විට ඉතා දුෂ්කර සහ සංකීර්ණ කටයුත්තක් විය හැකිය? මෙම අදහස ධනපතියන්ට හා ඔවුන්ගේ ආරක්ෂකයන්ට වාසිදයක හෙයින්, ඔවුහු එය ඉදිරිපත් කිරීමෙන් අමනයන් බිය වැද්දීමට උත්සාහ කරති.

එසේ වුවද, කිසිම ''අයිතිකරුවෙකුට'' කොපෙක් එකක් හෝ අහිමි නොකරන බැංකු ජනසතුව, කිසිම තාක්ෂණික හෝ සංස්කෘතික දුෂ්කරතාවයකට හේතුවක් නොවන අතර, එය ඉතා සුළු පිරිසක් වන ධනවතුන් අතලොස්සකගේ අධම කෑදරකම නිසාම පමණක් ප්‍රමාද කරනු ලැබේ. බැංකු ජනසතුව, එතරම් නිරන්තර වශයෙන්, පුද්ගලික දේපල රාජසන්තක කිරීම සමග පටලවා ගනු ලැබේ නම්, පුළුල් පැතිර ගිය මෙම අවුලට වගකිව යුත්තේ, මහජනයා රැවටීමෙහි උවමනාවක් දක්වන, ධනපති ප්‍රවෘත්ති පත්‍රය.

බැංකු විසින් ලෙළවනු ලබන සහ ඒවා තුළ සංකේන්ද්‍රණය වී තිබෙන ප්‍රාග්ධනය සඳහා, කොටස් සහතික, බැඳුම්කර, බිල්පත් රිසිට්පත් ආදී වශයෙන් හැඳින්වෙන මුද්‍රිත හා ලිඛිත සහතිකපත් නිකුත් කර තිබේ. බැංකු ජනසතු කළත්, සියළුම බැංකු එකම රාජ්‍ය බැංකුවක් තුළ ඒකාබද්ධ කළත්, මෙම සහතිකවලින් එකක්වත් අවලංගු වන්නේ හෝ වෙනස් වන්නේ හෝ නැත. ඉතිරි කිරීම් ගිණුමක රූබල් පහළොවක් හිමි අයෙක් වේ නම්, බැංකු ජනසතු කිරීමෙන් පසුවද ඔහු රූබල් පහළොවක හිමිකරු වන්නේය. එසේම රූබල් එක් කෝටි පනස් ලක්ෂයක් හිමි අයෙක් වී නම්, කොටස්, බැඳුම්කර, බිල්පත්, වාණිජ සහතික ආදිය ස්වරූපයෙන්, ජනසතු කිරීමෙන් පසුවද රූබල් එක් කෝටි පනස් ලක්ෂය තවදුරටත් ඔහුට හිමිව තිබෙනු ඇත.

එසේ නම් බැංකු ජනසතුවෙහි අර්ථය කුමක්ද?

එය මෙසේය. ශේෂ පත්‍ර සකස් කිරීම, ව්‍යාජ ව්‍යවසායයන් හා උප සමාගම් පිහිටුවීම, යම් යම් පුද්ගලයන්ගේ නාම මාත්‍ර සේවය ලබා ගැනීම, ආදියෙහිදී උපයෝගී කරගනු ලබන ඉතාමත් සංකීර්ණ, පැටලිලි සහිත සහ කෛරාටික රැවටිලිකම් ගැන සෙවුම් බැලුම් ඉතාමත් දුෂ්කර නිසා, පුද්ගල බැංකු හා ඒවායේ කටයුතු (වාණිජ රහස්‍යභාවය ආදිය අවලංගු කළත්) මොනම වර්ගයක හෝ පාලනයකට යටත් කිරීම කිසිසේත් කළ නොහැකිය. නියම පාලනයක් කිරීමට හැකියාව ලැබෙන්නේ සියළු බැංකු එකක් වශයෙන් ඒකාබද්ධ කිරීමෙන් වන අතරම, ඉහත සඳහන් අනිකුත් පියවරයන් සියල්ලද ක්‍රියාත්මක කළහොත් පමණකි. එසේ බැංකු ඒකාබද්ධ කිරීමෙන් හිමිකම පිළිබඳ කිසිම වෙනසක් නොවන බවත්, හිමිකරුට කොපෙක් එකක් හෝ අහිමි නොවන බවත් නැවතත් කියමු. රූබල් සිය කෝටි ගණන් ගලා යන්නේ කොහාටද හා කොහොමද යනුත්, කොහෙන්ද හා කවදද යනුත්, තමන්ට දැනගත හැකි තත්වයක් රජයට ලබා ගත හැකි වන්නේ බැංකු ජනසතු කිරීමෙන් පමණකි. සමස්ත ආර්ථික ජීවිතයම හසුවන සේ, නැතහොත්, ප්‍රධාන භාණ්ඩ නිෂ්පාදනය හා බෙදහැරීම හසුවන සේ, ව්‍යාජ නොව, නියම පාලනයක් කළ හැකි වන්නේ, බැංකු, එනම්, ධනපති සංසරණයේ විවර්තනීය සහ ප්‍රධාන උපකරණය වන බැංකු, පාලනයට යටත් කළහොත් පමණකි. වෙනත් තත්වයන් යටතේ ජනතාව රැවටීමට සැලසුම් කළ ඇමති වදනක් සේ පැවතීමට ගොදුරුවූ ''ආර්ථික ජීවිතය හැසිරවීම'' නියම ලෙස සංවිධානය කළ හැකි වන්නේ බැංකු පාලනයට යටත් කළහොත් පමණකි. දේපල හා ආදායම් සඟවා තැබීම වැලැක්විය හැකි සේ සාර්ථක ලෙස ආදායම් බදු එකතු කිරීම සංවිධානය කිරීමට හැකි වන්නේද, බැංකු කටයුතු රාජ්‍ය බැංකුවකට සංකේන්ද්‍රණය කර පාලනයට යටත් කළහොත් පමණකි. දැනට ආදායම් බදු බොහෝ දුරට මිථ්‍යාවක් වන්නේය.

බැංකු ජනසතු කිරීම සඳහා කළයුත්තේ ඒ බවට ආඥවක් නිකුත් කිරීම පමණකි. එවිට අධ්‍යක්ෂවරුන් හා සේවකයන් විසින්ම එය ක්‍රියාත්මක කෙරෙනු ඇත. එක ආඥවකින්, ''එක පහරින්'' ක්‍රියාත්මක කළ හැකි මෙම පියවර ගැනීම සඳහා රජයට විශේෂ කාර්ය යන්ත්‍රයක් හෝ විශේෂ සූදනම් වීමේ කටයුතු කිරීමක් හෝ අවශ්‍ය නොවේ. ධනපති ක්‍රමය, බිල්පත් කොටස්, පිළිණපත් ආදිය සහිත අවධියට පත්වීමෙන්, ධනපති ක්‍රමයම විසින් එම පියවර ආර්ථික ශක්‍යතාවයක් බවට පත් කරන ලදී. කළයුත්තේ ගණකාධිකරණයේ එක්සත් භාවයත් ඇති කිරීම පමණකි. සියළු බැංකු එකම රාජ්‍ය බැංකුවක් තුළ ඒකාබද්ධ කිරීම සඳහා, වහාම, සෑම නගරයකම බැංකු කළමණාකරුවන් හා සේවකයන් විදුලි පුවත් මගින් කැඳවා, සෑම ප්‍රදේශයකම සහ මුළු රට වශයෙන්ම සාකච්ඡා සභා



පැවැත්වීමට විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩුව තීරණය කළහොත්, මෙම ප්‍රතිසංස්කරණය සති කීපයක් තුළ ක්‍රියාත්මක කළ හැකිය. ප්‍රතිරෝධය දක්වන අය වනු ඇත්තේ කළමණාකරුවන් සහ උසස් බැංකු නිලධාරීන්ය. කටයුතු ප්‍රමාද කිරීම ආදිය මගින් රජය රැවටීමට ඔවුහු උත්සාහ කරනු ඇත. මෙම මහත්වරුන්ගේ ඉතා ඉහළ වැටුප් සහිත තනතුරු හා අතිශයින් ලාභදායක වංචා සහගත කටයුතු කිරීමට ඔවුන්ට ඇති අවස්ථා අහිමි වන නිසා, ඔවුහු එසේ කරනු ඇත. කාරණයෙහි හෘදයවස්තුව එයයි. නමුත්, බැංකු ඒකාබද්ධ කිරීමට හරස්වන අල්පමාත්‍ර හෝ තාක්ෂණික දුෂ්කරතාවයක් නොමැත. රාජ්‍ය බලය විප්ලවවාදී වන්නේ වචනයෙන් පමණක් නොවේ නම්, (එනම්, උදාසීනත්වය සහ පුරුදු ලෙසට කටයුතු කිරීම ඉවතලීමට එය බිය නොවේ නම්) ,එය ප්‍රජාතන්ත්‍රවාදී වන්නේ වචනයෙන් පමණක් නොවේ නම් (එනම්, පොහොසතුන් අතලොස්සකගේ උවමනාවන් ඉටු කිරීමට නොව ජනතාවගෙන් බහුතරයෙහි අවශ්‍යතාවයන් ඉටු කිරීමට එය කටයුතු කරයි නම්), සුළු ප්‍රමාදයට පවා, එසේ නැතහොත්, ලේඛන සහ ගිණුම් සඟවා තැබීමේ ප්‍රයත්න දැරීමට, දෙන දඬුවම වශයෙන් කළමණාකරුවන්ගේ, අධ්‍යක්ෂ මණ්ඩල සාමාජිකයන්ගේ සහ ලොකු කොටස් හිමියන්ගේ දේපල රාජසන්තක කර ඔවුන් සිරගෙයි ලන බවට ආඥවක් නිකුත් කිරීම පමණක් ප්‍රමාණවත් වනු ඇත. නිදසුනක් වශයෙන්, බැංකු ජනසතුව හැකි තරම් සන්සුන් ලෙස සහ සීඝ්‍ර ලෙස ඉටුවීම පිණිස, වඩාත් දුප්පත් සේවකයන් වෙනම සංවිධානය කර, පොහොසතුන්ගේ වංචා සහ ප්‍රමාද අල්ලා ගැනීම සඳහා ඔවුනට ත්‍යාග පිරිනැමීම ප්‍රමාණවත් වනු ඇත.

බැංකු ජනසතු කිරීමෙන්, විශේෂයෙන් කම්කරුවන්ට නොව (කම්කරුවන් බැංකු සමග සම්බන්ධ වන්නේ ඉතා අල්ප වශයෙනි) ගොවිජන සහ සුළු කාර්මික පොදු ජනයාට සිදුවන යහපත අති විශාලය. එයින් දැවැන්ත ශ්‍රම පිරිමැස්මක් සිදුවේ. රජය කලින් සිටි බැංකු සේවක සංඛ්‍යාව තබාගනු ඇතැයි සිතන විට ජනසතුව, බැංකු උපයෝජනය විශ්වීය කිරීම දෙසට, ඒවායේ ශාඛා සංඛ්‍යාව වැඩි කිරීම, ඒවායේ කටයුතුවලින් ප්‍රයෝජන ගැනීම වඩාත් පහසු කිරීම ආදිය දෙසට යොමුවූ ඉතාමත් වැදගත් පියවරක් වන්නේය. කුඩා දේපල හිමියන්ට, ගොවිජනතාවට, පහසු කොන්දේසි අනුව ණය ලබා ගැනීමේ හැකියාව බෙහෙවින් වැඩිවනු ඇත. රජය හා සම්බන්ධයෙන් වූ කල, සඟවා තැබීමක් නොවන ප්‍රධාන මූල්‍ය කටයුතු සමාලෝචනය කිරීමට, ඊළඟට ඒවා පාලනය කිරීමට, ඊළඟට ආර්ථික ජීවිතය හැසිරවීමට හා අවසාන වශයෙන් ධනපති මහත්වරුන්ගේ ''සේවාවන්'' සඳහා ඔවුන්ට අහස උසට ''කොමිස්'' නොගෙවා විශාල රාජ්‍ය ගනු දෙනු සඳහා දශ ලක්ෂ ගණන් හා සිය කෝටි ගණන් මුදල් ලබා ගැනීමට හැකි තත්වයක්, එයට ප්‍රථම වරට ලැබෙන්නේය. යුද්ධයේ ස්ථා-

වරය අනුව වුවද, යෝධ වාසියක් සලසන හා රටේ ''යුද්ධ ශක්තිය'' දැවැන්ත ලෙස වැඩි කරන මෙම ඉතා පහසු සහ අවශ්‍ය පියවර වන බැංකු ජනසතු කිරීමට විරුද්ධව සියළුම ධනපතියන්, එනම්, සියළුම ධනපති මහාචාර්යවරු, සියළුම ධනපති පංතිකයන් හා ඔවුන්ට සේවය කරන ප්ලෙහානව්ලා සියළු දෙනාම, පොත්‍රෙසව්ලා සහ සමාගම, දත් කාගෙන සටන් කරන්නේ සහ එය අනුමත කිරීම වලක්වනුවස් එය නොකළයුතු බවට දහස් ගණන් කරුණු නිර්මාණය කරන්නේ, එම හේතුව නිසාය; එම හේතුව නිසාම පමණකි.

මෙවැනි විරෝධතාවයක් දක්වීමට ඉඩ තිබේ: ජර්මනිය හා ඇමෙරිකා එක්සත් ජනපදය වැනි රටවල් බැංකු ජනසතු කිරීම ගැන සිතන්නේවත් නැතිව, එතරම් විශිෂ්ට ලෙස ''ආර්ථික ජීවිතය හසුරුවන්නේ'' මන්ද?

එසේ වන්නේ, එයින් එකක් රාජාණ්ඩුවක් හා අනික සමූහාණ්ඩුවක් වන නමුත්, ඒ දෙකම හුදෙක් ධනපති පමණක් නොව අධිරාජ්‍යවාදීද වන හෙයිනියි, අපි ඊට පිළිතුරු දෙන්නෙමු. එනිසා ඔවුහු ප්‍රතිගාමී-නිලධාරිවාදී ක්‍රම අනුව ඔවුන්ට අවශ්‍ය ප්‍රතිසංස්කරණ කර ගනිති. නමුත් අප කථා කරන්නේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රම ගැනය.

මෙම ''සුළු වෙනස'' ඉතා වැදගත්ය. බොහෝ අවස්ථාවල ඒ ගැන කල්පනා කිරීම ''සිරිතට නොගැලපේ''. ''විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදය'' යන්න අප අතර (විශේෂයෙන් සමාජවාදී-විප්ලවවාදීන් හා මෙන්ෂෙවික්වරුන් අතර) ව්‍යවහාර වන සම්ප්‍රදායික පාඨයක, එනම්, දෙවියන් ගැන විශ්වාසය තැබීමට තරම් අඥාන නොවන මිනිසුන්ද භාවිතා කරන ''දෙවියන්ට ස්තුති වේවා'' යන්න වැනි පාඨයක තත්වයට පත්ව තිබේ; එසේ නැතහොත්, දියෙන්[130] හා යෙදින්ස්ත්ව යන පත්‍ර ධනපතියන්ගේ උවමනාවන් ඉටු කිරීම සඳහා ධනපතියන් විසින් ආරම්භ කර පවත්වා ගෙන යනු ලබන බවත්, එනිසා, මෙම පුවත්පත් වලට ලියන බොරු සමාජවාදීන්ගේ ''ගරුත්වය'' ඉතා ස්වල්ප බවත් සෑම කෙනෙක්ම පාහේ සිතන නමුත්, එම පත්‍රවල කාර්ය මණ්ඩලයක සාමාජිකයෙකු ඇමතීමේදී පවා සමහර විට යොදා ගනු ලබන ''ගරු පුරවැසියා'' යන්න වැනි පාඨයක් බවට පත්ව තිබේ.

විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදය යන්න අපි ඒකාකාර චාරිත්‍රානුකූල පාඨයක් ලෙසට නැතහොත් සම්ප්‍රදායික සර්වනාමයක් ලෙසට නොයොදා, එහි අර්ථය ගැන කල්පනා කරමු නම්, ප්‍රජාතන්ත්‍රවාදී යන්නෙහි අර්ථය ජනතා අල්පතරයේ නොව, බහුතරයේ උවමනාවන් යථාර්ථ වශයෙන් සැලකිල්ලට ගැනීම බව සහ විප්ලවවාදී යන්නෙහි අර්ථය හානිදායක සහ කල් ඉක්ම ගිය සියල්ල ඉතාමත් දැඩි සහ නිර්දය ආකාරයෙන් විනාශ කිරීම බව අපට පෙනේ.



අප දන්නා තරමට ඇමෙරිකාවේ හෝ ජර්මනියේ හෝ ආණ්ඩු වත්, පාලක පංති වත් ''විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී'' යන නමට හිමි කම් නොකියයි; අපගේ සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු එයට අයිතිවාසිකම් කියති. (එමගින් එය වෛශ්‍යා වෘත්තියෙහි යොදවති).

ජර්මනියේ ජාතික වැදගත් කමින් යුත්, ඉතා විශාල පෞද්ගලික බැංකු ඇත්තේ හතරක් පමණකි. ඇමෙරිකාවේ ඇත්තේ දෙකක් පමණකි. රජයෙන් කෝටි ගණන් ''අධි ලාභ'' සූරා ගැනීමට හා හැකි තරම් මූල්‍ය වංචා කිරීමට, ආණ්ඩුවේ නිලධාරීන්ට අල්ලස් දෙමින්ද (ඇමෙරිකාවේ සහ ජර්මනියේ යන දෙරටෙහිම මෙය සාමාන්‍ය දෙයකි), කටයුතුවල රහස්‍යභාවය ආරක්ෂා කිරීමට බැංකුවල පෞද්ගලිකභාවය ආරක්ෂා කරමින්ද, විප්ලවවාදී ලෙසට නොව ප්‍රතිගාමී ක්‍රමයකට, ප්‍රජාතන්ත්‍රවාදී ලෙසට නොව නිලධාරී ක්‍රමයකට, පෞද්ගලික ලෙස සහ හොර රහසේ එක්සත් වීම මූල්‍යාධිපතියන්ට වඩාත් ලෙහෙසිය, පහසුය, ලාභදායකය.

ඇමෙරිකාව හා ජර්මනිය යන දෙරටෙහිම ''ආර්ථික ජීවිතය හැසිරවීම'' කරන්නේ කම්කරුවන්ට (හා ගොවිජනතාවගෙන් කොටසකට) යුද්ධ කාලීන බරපතල වැඩ සහිත දඬුවම් තත්වයක්ද, බැංකු කරුවන්ට හා ධනපතීන්ට සුරපුරක තත්වයක්ද නිර්මාණය වන ක්‍රමයකටය. මෙහෙයවීම සංයුක්ත වන්නේ, සාගත තත්වයට පත්වන සේ කම්කරුවන් ''මිරිකන'' අතර ධනපතියන්ට යුද්ධයට පෙර පැවතියාට වැඩි ඉහළ ලාභ ලැබෙන තත්වයක් (හොර රහසේ, ප්‍රතිගාමී-නිලධාරිවාදී පිළිවෙළකට) ඇතිවීම සහතික කිරීමෙනි.

සමූහාණ්ඩුවාදී-අධිරාජ්‍යවාදී රුසියාවේද, එවැනි ක්‍රියාමාර්ගයක් ඇතිවීමට සියළු ඉඩක්ම තිබේ. ඇත්ත වශයෙන්ම මිල්යුකොව්ලා සහ ෂිංගර්යොව්ලා පමණක් නොව, තෙරෙශෙන්කො, නෙක්‍රසොව්, බර්නාට්ස්කි, ප්‍රකපොවිච් සහ සමාගම සමග හවුලට කෙරෙන්ස්කිද අනුගමනය කරන ක්‍රියාමාර්ගය එයයි. ඔවුහු බැංකුවල ''අනුල්ලංඝනීයත්වය'' සහ අත්‍යාධික ලාභ ලබා ගැනීමට ඒවාට ඇති අයිතියද ආරක්ෂා කරති. එනිසා අපි ඇත්ත කියමු. සත්‍යය මෙයයි. ආර්ථික ජීවිතය ප්‍රතිගාමී, නිලධාරිවාදී ක්‍රමයකට හැසිරවීමට සමූහාණ්ඩුවාදී රුසියාවට උවමනා වී තිබේ. නමුත් සෝවියට් සභා තිබෙන නිසා ''බොහෝ විට'' එසේ කිරීම දුෂ්කර වී තිබේ. කර්නිලොව් අංක 1 ට ඒවා විසුරුවා හැරීමට බැරි වූ නමුත්, කර්නිලව් අංක 2 ඒවා විසුරුවා හැරීමට උත්සාහ කරනු ඇත.

සත්‍යය එයයි. ජනතාවට කරුණු අවබෝධ කරනු පිණිස ''අපගේ'', ''ශ්‍රේෂ්ඨ'', ''විප්ලවවාදී'' ප්‍රජාතන්ත්‍රවාදය ගැන කියන පැණි රස කළ බොරුවලට වඩා, මෙම අමිහිරි, එහෙත්, සරල සත්‍යය ප්‍රයෝජනවත් වනු ඇත.

* * *

බැංකු ජනසතු කිරීමෙන්, ඒ හා සමගම රක්ෂණ ව්‍යාපාර ජනසතු කිරීමද, එනම්, රක්ෂණ සමාගම් සියල්ලම එකක් ලෙස ඒකාබද්ධ කිරීම, ඒවායේ කටයුතු මධ්‍යගත කිරීම හා ඒවා රජයේ පාලනයට යටත් කිරීම පහසුවනු ඇත. මෙහිදීද, විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩුවක් ඒ පිළිබඳ ආඥවක් නිකුත් කළහොත්, ඒකාබද්ධකරණය ස්වල්ප හෝ ප්‍රමාදයක් නොමැතිව ක්‍රියාත්මක කරන ලෙස අධ්‍යක්ෂවරුන්ට හා ලොකු කොටස් කරුවන්ට නියම කළහොත් සහ එය ක්‍රියාත්මක කිරීම සම්බන්ධයෙන් ඔවුන් සම්පූර්ණයෙන්ම වගකිව යුතු බවට නියමයක් කළහොත්, වහාම හා වැඩි දුෂ්කරතාවයක් නොමැතිව, රක්ෂණ සමාගම් සේවක සම්මේලනයට එම ඒකාබද්ධකරණය ක්‍රියාත්මක කළ හැකිය. ධනපතියෝ රූබල් දස කෝටි ගණන් රක්ෂණ ව්‍යාපාරයෙහි මුදල් ආයෝජනය කර ඇත්තාහ. කටයුතු සියල්ලක්ම කරනු ලබන්නේ සේවකයන් විසිනි. මෙම ව්‍යාපාරය ඒකාබද්ධ කිරීමෙන් රක්ෂණ වාරික ප්‍රමාණ අඩු කිරීමටත්, රක්ෂිතයන්ට සේවාවන් හා පහසු කම් රැසක් සැපයීමටත්, වැය කරන මහන්සිය හා මුදල් වැඩි නොකරම රක්ෂිතයන් සංඛ්‍යාව වැඩි කිරීමටත් මහ සකස් කළ හැකිවේ. ජාතික ශ්‍රමය පිරිමැසීමෙන් හා වචනයෙන් නොව ක්‍රියාවෙන් ''ආර්ථික ජීවිතය හැසිරවීමට'' ඉතාමත් වැදගත් අවස්ථා ගණනාවක් නිර්මාණය කිරීමෙන්, රටේ ආරක්ෂක ශක්තිය වැඩි කිරීමට හා වෙනත් යහසාධනයන්ට හේතුවන මෙම ප්‍රතිසංස්කරණය ප්‍රමාද කරනු ලබන්නේ හුදෙක්ම උදාසීන බව, පුරුදු පරිදි කටයුතු කිරීමේ අභිලාෂය හා උසස් වැටුප් ලබන නනතුරු ධාරීන් අතලොස්සකගේ ආත්ම ලාභය නිසා පමණක්ම වේ.

## සම්මේල ජනසතු කිරීම

ආර්ථිකයේ විවිධ අංශවල ඉතාමත් සමීප අන්තර් සම්බන්ධයක් හා අන්‍යෝන්‍ය රැඳියාවක් නිර්මානය කර තිබෙන ධනපති ක්‍රමය, පූර්ව ධනපති ක්‍රමවලින් වෙනස් වේ. මෙය මෙසේ නොවී නම්, සමාජවාදය කරා පියවර ගැනීමේ තාක්ෂණික ශක්‍යතාවයක් ඇති නොවන බව අමතර වශයෙන් සඳහන් කළ යුතුය. බැංකුවල ආධිපත්‍යයට නිෂ්පාදනය යටත් කරන නවීන ධනපති ක්‍රමය, ආර්ථිකයේ විවිධ අංශවල පවත්නා මෙම අන්‍යොන්‍ය රැඳියාව හැකි උපරිමය දක්වා ගෙන ගොස් තිබේ. බැංකු සහ කර්මාන්තයේ සහ වාණිජයේ වඩාත් වැදගත් අංශ වෙන් නොකළ හැකි සේ සංයෝජනය වී තිබේ. වාණිජ සහ කාර්මික සම්මේල (සීනි, ගල් අඟුරු, යකඩ, තෙල් ආදිය) පිළිබඳ ඒකාධිකාරයක් ඇති නොකර බැංකු පමණක් ජනසතු කළ නොහැකි බව මෙයින් එක් අතකින් අදහස් වේ. ආර්ථික ක්‍රියාකාරිත්වය මෙහෙයවීම ගැන බලවත් උවමනාවකින් කටයුතු කරන්නේ නම්, ඒ සඳහා බැංකු හා සම්මේල එක්වර ජනසතු කිරීම අවශ්‍ය වන බව අනිත් අතින් අදහස් වේ.

නිදසුනක් වශයෙන් සීනි සම්මේලය ගනිමු. එය සාර්වාදය යටතේ බිහිවිය. එසේම ඒ කාලයේදීම, එය පිරිපහදුවලින් විශිෂ්ට ලෙස සන්නද්ධ වූ දැවැන්ත ධනපති සංයෝජිත ව්‍යාපාරයක් බවට පත්වූයේය. නමුත්, මෙම සංයෝජිත ව්‍යාපාරය ඉතාමත් නිලධාරිවාදී හා ප්‍රතිගාමී ජීවගුණයකින් වෙළී ගොස්, අපචාර ස්වභාවයක් ගන්නා තරම් උසස් ලාභ ධනපතියන්ට ලබා දෙන අතර, එහි සේවකයන් කිසිම අයිතිවාසිකමක් නැති, අවමානයට පත් කරන ලද හා පාගා දමන ලද වහලුන්ගේ තත්වයට පත් කළේය. ඒ කාලයේ පවා රජය නිෂ්පාදනය පාලනය කළේය; මෙහෙය වූයේය. එහෙත්, ඒ පොහොසතුන්ගේ සහ අධිපතීන්ගේ උවමනාවන් ඉටු කිරීම පිණිස විය.

මෙහිදී කළ යුතුව තිබෙන්නේ, එකාකාර ගණකාධිකරණය, කම්කරු සංගම් මගින් පාලනය කිරීම ආදිය ආරම්භ කරනු සඳහා, සේවකයින්ගේ, ඉන්ජිනේරුවන්ගේ හා කොටස්කරුවන්ගේ සම්මේලනයක් කැඳවීම, අවශ්‍ය ප්‍රතිපාදන සලසමින් සරල ආඥ නිකුත් කිරීමෙන් ප්‍රතිගාමී-නිලධාරිවාදී මෙහෙයවීම, විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී මෙහෙයවීමක් බවට පරිවර්තනය කිරීම පමණකි. මෙය ඉතාමත් පහසු කටයුත්තක් වූවද එය කර නැත! ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් වන ආණ්ඩුවක් යටතේ, සීනි කර්මාන්තය මෙහෙයවීම ඇත්ත වශයෙන්ම ප්‍රතිගාමී-නිලධාරිවාදී වී පවතී. සියල්ලක්ම පැරණි ස්වභාවයෙන්ම පවතී. ජාතික ශ්‍රමය බෙලහීන කිරීම, පුරුදු පරිදිම කටයුතු කිරීම හා නිශ්චලනයත්, බොබ්‍රින්ස්කිලා හා තෙරෙශෙන්කෝලා පොහොසත් කිරීමත්, එසේම පවතී. ස්වාධීන ක්‍රියාරම්භකතාවය ක්‍රියාත්මක කරන ලෙස ආයාචනා කළ යුත්තේ නිලධාරිවාදීන්ට නොව ප්‍රජාතන්ත්‍රවාදීන්ටය; ''සීනි සිටුවරුන්ට'' නොව කම්කරුවන්ට සහ අනෙකුත් සේවකයන්ටය. එසේම මෙම කටයුත්ත දින කීපයකින් හා එක පහරින් කළ යුත්තකි. මෙම සීනි සිටුවරුන් සමගම ''සමාගම් ගත වීම'' සඳහා, නැතහොත්, ආර්ථික ජීවිතය හැසිරවීම සම්බන්ධයෙන් ආණ්ඩුවේ ''සම්පූර්ණ අක්‍රියාකාරිත්වය'' ඒකාන්ත අනිවාරණයත්වයකින් බිහි කරන හා එම අක්‍රියාකාරිත්වයට හේතුවන සමාගමයම සඳහා වූ සැලසුම් මගින්, ජනතාවගේ සිත් අන්ධකාර කිරීමට සමාජවාදී-විප්ලවවාදීහු හා මෙන්ෂෙවික්වරු කටයුතු නොකරති නම්, එසේ කළ යුතුය*.

---

* කෙරෙන්ස්කි ආණ්ඩුව සීනි ඒකාධිකාරයක් ආරම්භ කරන බවත්, කම්කරුවන්ගේ හා අනෙකුත් සේවකයන්ගේ සම්මේලනයක් නොමැතිව,

තෙල් ව්‍යාපාරය ගෙන බලමු. කලින් ධනපති ක්‍රමයේ සංවර්ධනය මගින් එය බොහෝ සෙයින්ම ''සමාජමය'' වී තිබුණි. දැනටමත් ඇත්ත වශයෙන්ම තාක්ෂණික සහ සමාජමය ලෙස ජාතික පරිමාණයෙන් සංවිධානය වී තිබෙන හා සේවකයන්, ඉන්ජිනේරුවන් ආදීන් ලක්ෂ ගණනක් විසින් දැනටමත් පවත්වාගෙන යනු ලබන ''ව්‍යාපාරයකින්'', කුපන් කැපීමෙන් අත්‍යාධික ලාභ ගරා ගනිමින් රුබල් දස ලක්ෂ ගණන් හා දස කෝටි ගණන් ලෙළවන තෙල් සිටුවරයන්ගේ ගණන හුදෙක් දෙතුන් දෙනෙක් පමණකි. තෙල් කර්මාන්තය ජනසතු කිරීම, විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී රජයකට වහාම කළ හැක්කකි. එවැනි රජයකට එය නොකරම බැරි දෙයකි. විශේෂයෙන්ම එය අර්බුදයකින් පීඩා විඳින විට, ජාතික ශ්‍රමය පිරිමැසීම සහ කුමණ පරිත්‍යාගයෙන් හෝ ඉන්ධන නිෂ්පාදනය වැඩි කිරීම අත්‍යවශ්‍යව තිබෙන විට, එසේ කළ යුතුය. සාර්ගේ ඇමතිවරු නැටවූ පරිද්දෙන්ම, ප්‍රමාද කිරීම, සමාවට කරුණු ඉදිරිපත් කිරීම, පොරොන්දු දීම, කෙළින්ම හෝ අනියම් ලෙස ධනපති ප්‍රවෘත්ති පත්‍රවලට අල්ලස්දීම (මෙය මහජන මතය යයි කියනු ලැබේ; කෙරෙන්ස්කිලා සහ අවුක්සෙන්තියෙව්ලා එයට ගරු කරති) හා නිලධාරීන්ට (නොවෙනස්ව පවතින පැරණි රාජ්‍ය යන්ත්‍රයේ පරණ තනතුරුවලම සිටින්නට කෙරෙන්ස්කි සහ අවුක්සෙන්තියෙව් විසින් ඉඩහරින ලද නිලධාරීන්ට) අල්ලස් දීම මගින්, තෙරෙශෙන්කොලා, කෙරෙන්ස්කිලා, අවුක්සෙන්තියෙව්ලා සහ ස්කොබෙලෙව්ලා නැටවීමට ''තෙල් සිටුවරු'' සමත්වන නිසා, මෙහිදී නිලධාරිවාදී පාලනය මගින් කිසිවක් කිරීමට හෝ කිසිවක් වෙනස් කිරීමට හෝ නොහැකි බව පැහැදිලිය.

නියම වශයෙන් යමක් කිරීමට නම්, නිලධාරිවාදය අත්හැර සැබවින්ම විප්ලවවාදී ලෙස ප්‍රජාතන්ත්‍රවාදය කරා ආ යුතුය. තෙල් ව්‍යාපාරය ජනසතු කිරීම ප්‍රමාද කිරීමට, ආදායම් හෝ ගිණුම් සඟවා තැබීමට, නිෂ්පාදනය කඩාකප්පල් කිරීමට, නිෂ්පාදනය වැඩි කිරීමට පියවර ගැනීම අතපසු කිරීමට, දඬුවම වශයෙන් තෙල් සිටුවරුන්ගේ හා කොටස්කරුවන්ගේ දේපල රාජ්‍යසන්තක කරන බවටත්, ඔවුන්ට සිර දඬුවම් පමුණුවන බවටත්, ආඥා නිකුත් කරමින්, ඔවුන්ට විරුද්ධව යුද්ධාරම්භ කළ යුතුය. කම්කරුවන්ගේ සහ අනෙකුත් සේවකයන්ගේ ක්‍රියාරම්භකත්වයෙන් ප්‍රයෝජන ගත යුතුය. ඔවුන් වහාම සාකච්ඡා සභා සහ සම්මේලනවලට කැඳවිය යුතුය. ඔවුහු සම්පූර්ණ පාලනයක් ක්‍රියාත්මක කර නිෂ්පාදනයෙහි වැඩි කිරීමක් පෙන්වති නම්, ලාභයෙන් කොටසක් ඔවුන් සඳහා වෙන් කළ යුතුය. අප්‍රමාදව,වහාම, 1917 අප්‍රියෙල් මාසයේදී මෙම විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී පියවරයන් ගනු ලැබුවේ නම්, ද්‍රව ඉන්ධන නිධි අතින් ලෝකයේ පොහොසත්ම රටවලින් එකක් වන රුසියාවට, මෙම ග්‍රීෂ්ම ඍතුවේදී ජලමාර්ග ප්‍රවාහණය යොදා ගනිමින්, ජනතාවට අවශ්‍ය ඉන්ධන ප්‍රමාණයන් සැපයීම උදෙසා ඉමහත් කාර්ය කොටසක් කිරීමට ඉඩ තිබුණි.

ධනපති පංතිය වත්, සමාජවාදී-විප්ලවවාදී-මෙන්ෂෙවික්-කැඩෙට් සභාග ආණ්ඩුවවත් කිසිම කිසි දෙයක් කර නැත. ඒ දෙකම කර තිබෙන්නේ නිලධාරිවාදී ප්‍රතිසංස්කරණ පිළිබඳ ක්‍රීඩාවට සීමාවී සිටීම පමණකි. එකම විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී පියවරක් ගැනීමට තරම්වත් ඔවුන් එඩිතර වී නැත. සෑම දෙයක්ම සාර්වරු යටතේ තිබුණු ලෙසටම පැවතී ඇත. තෙල් සිටුවරු, නිශ්චලනය, තමන් සූරා කන එවුන් කෙරෙහි කම්කරුවන් හා වෙනත් සේවකයන් දරන වෛරය, එයින් ඇතිවන ව්‍යාකූලත්වය හා ජාතික ශ්‍රමය දුර්මුඛ වීම එසේම පැවතියේය. වෙනස් වී තිබෙන්නේ සමූහාණ්ඩු කාර්යාලවලට ලැබෙන හා එයින් යවන කඩදසිවල ලිපි ශීර්ෂ පමණකි!

ගල් අඟුරු කර්මාන්තය ගෙන බලමු. තාක්ෂණික හා සංස්කෘතික වශයෙන් එයද ජනසතු කිරීම සඳහා එසේම මෝරා තිබේ. එසේම, එයද ජනතාව කොල්ලකන සොරුන්, ගල් අඟුරු සිටුවරුන් විසින් එසේම නින්දා සහගත ලෙස කළමණාකරණය කරනු ලැබේ. තවද, එක එල්ලේම කඩාකප්පල් කිරීම, නිෂ්පාදනයට සෘජු ලෙසම අලාභ හානි කිරීම හා එය නවතා දැමීම පිළිබඳ සිත් කාවදින සත්‍ය කරුණු ගණනාවක්ද ඇත. මෙන්ෂෙවික්වරුන්ගේ ඇමති පත්‍රය වන ''රබෝචය ගසියෙත'' පත්‍රය පවා මෙම කරුණු පිළිගත්තේය. නමුත් අපට දක්නට ඇත්තේ කුමක්ද? ''බාගෙට බාගෙ පදනම මත'', එනම් කම්කරුවන් හා ගල් අඟුරු සම්මේලයේ චෞරවයන් සමාන ගණනින් කැඳවා පවත්වන පැරණි, ප්‍රතිගාමී-නිලධාරිවාදී රැස්වීම් පැවැත්වීම හැර වෙනත් කිසිම දෙයක් කර නැත! එකද විප්ලව වාදී ප්‍රජාතන්ත්‍රවාදී පියවරක් ගෙන නැත. එකම නියම පාලනය වන, පහළින්, සේවක සංගමය මගින් හා කම්කරුවන් මගින්ද, රට වනසන සහ නිෂ්පාදනය ඇනහිටින තත්වයට ගෙන එන ගල් අඟුරු කාර්මිකයන්ට විරුද්ධව ත්‍රස්තය උපයෝගි කර ගැනීමෙන්ද, පාලනය කිරීම සඳහාවූ ප්‍රයත්නයක ඡායා මාත්‍රයක්වත් දරා නැත! අප ''සියළු දෙනාම'' ''සභාගයට'' පක්ෂව සිටින විට, කැඩෙට්වරුන් සමග නොවේ නම් වාණිජ සහ කාර්මික කොටස් සමග සභාගයකට පක්ෂව සිටින විට, මෙය කරන්නේ කොහොමද? තවද, සභාගයක් යනුවෙන් අදහස් කෙරෙන්නේ බලය ධනපතියන් අතේ තිබෙන්නට හැරීමය; ඔවුන්ට දඬුවම් නොකර සිටීමය; කටයුතුවලට අවහිර කිරීමට ඉඩදීමය; සියල්ලම සම්බන්ධයෙන් දෙස්

---

ප්‍රසිද්ධියක් නොමැතිව හා ධනපතියන් මර්දනය නොකර (!) ප්‍රතිගාමී ආකාරයෙන් එය ආරම්භ කරන බවත් මා පුවත්පත්වලින් කියවන විට මම මෙම කොටස ලියා තිබුණි.

කම්කරුවන් පිට දැමීමය; ව්‍යාකූලත්වය උත්සන්න කර එමඟින් නව කර්නිලොව් කැරැල්ලකට මාර්ගය සකස් කිරීමය.

## වාණිජ රහස්‍ය භාවය අවලංගු කිරීම

වාණිජ රහස්‍ය භාවය අවලංගු නොකළහොත්, නිෂ්පාදනය හා බෙදා හැරීම පාලනයට යටත් කිරීම යනු, එක්කෝ සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් රැවටීමට කැඩෙට්වරුන්ට අවශ්‍යවන හා කම්කරු පංති කොටස් රැවටීමට සමාජවාදී-විප්ලවවාදීන්ට අවශ්‍යවන, බොරු පොරොන්දුවක් වනු ඇත. එසේ නැතහොත් එම තත්වය යටතේ පාලනය ක්‍රියාත්මක කළ හැකි වන්නේ ප්‍රතිගාමී-නිලධාරිවාදී ක්‍රම හා මාධ්‍ය තුළිනි. ඕනෑම අගති විරහිත පුද්ගලයෙකුට මෙය ඉතා පැහැදිලි නමුත්, එසේම, වාණිජ රහස්‍ය භාවය අවලංගු කරන ලෙස ''ප්‍රාව්ද'' පත්‍රය නිරතුරුවම බල කළ නමුත් (ප්‍රාග්ධනයට යටහත් ලෙස සේවය කරන කෙරෙන්ස්කි ආණ්ඩුව විසින් එය තහන්ම් කරන ලද්දේ බොහෝ දුරට එම හේතුව නිසාය), අපගේ සමූහාන්ඩුවාදී ආණ්ඩුව වත්, ''විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදයේ බලය ලත් මණ්ඩල'' වත්, නියම පාලනයේ මෙම ප්‍රථම පියවර ගැන සිතා බලාවත් නැත.

මෙය පාලනයට යතුර වන්නේය. ජනතාව කොල්ල කන සහ නිෂ්පාදනය කඩාකප්පල් කරන ප්‍රාග්ධනයේ සංවේදී ස්ථානය අපට මෙහිදී දැක්ක හැකිය. ඒ ගැන යමක් කිරීමට සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් බියවන්නේද, ඉඳුරාම ඒ හේතුවම නිසාය.

ධනපතියන් සුපුරුදු ලෙස ඉදිරිපත් කරන හා සුළු ධනපතියන් නොසිතා නැවත කියන තර්කය වී තිබෙන්නේ, නිෂ්පාදන මාර්ග පුද්ගලිකව අයිති කරගෙන තිබීම සහ පුද්ගල ව්‍යවසායයන් වෙළඳ පොළ මත රැඳී පැවතීම නිසා වාණිජ පොත්වල හා බැංකු කටයුතු ඇතුළුව වාණිජ කටයුතුවල ද ''ශුද්ධත්වය'' අත්‍යාවශ්‍ය බැවින්, ධනපති ආර්ථිකයක වාණිජ රහස්‍යභාවය පොදුවේ අවලංගු කිරීම කිසිසේත් කළ නොහැකි බවය.

මෙම හෝ වෙනත් එවැනි තර්ක පුනරුච්චාරණය කරන අය, නවීන ආර්ථික ක්‍රියාකාරිත්වය හා සම්බන්ධ මූලික, ඉතා වැදගත් හා සුප්‍රසිද්ධ කරුණු දෙකක් ගැන තමන්ගේ ඇස් වසා ගැනීමෙන් තමන් රැවටීමට පත් වීමට ඉඩ දෙති; එසේම ඔවුහු ජනතාවද රවටති. මෙයින් ප්‍රථම කරුණ නම් මහා පරිමාණ ධනපති ක්‍රමයේ පැවැත්මය, එනම් බැංකු, සම්මේල, විශාල පැක්ටරි ආදියෙන් සමන්විත ආර්ථික ක්‍රමයේ විශේෂ අංග ලක්ෂණය. අනිත් කරුණ යුද්ධය ය.



වාණිජ රහස්‍යභාවය කෙරෙන් සාධාරණත්වයේ අන්තිම ඡායාව පවා පලවා හරින්නේ, එය කුහකත්වය බවට හා ලොකු ප්‍රාග්ධනාධිකාරීන්ගේ මූල්‍ය වංචා සහ අත්‍යාධික ලාභ සඟවා තැබීමේ උපකරණයක් බවට පත් කරන්නේ, සැම තන්හිම ඒකාධිකාරී ධනපති ක්‍රමයට පෙරළෙමින් පවතින නවීන මහා පරිමාණ ප්‍රාග්ධනය ය. මහා පරිමාණ ප්‍රාග්ධනය, ඉඳුරාම, එහි තාක්ෂණික ස්වභාවය නිසාම සමාජමය වූ ආර්ථිකයක් වේ. ඒ අනුව එය දශ ලක්ෂ සංඛ්‍යාත ජන සමූහයා සම්බන්ධයෙන් ක්‍රියාත්මක වන අතර, එහි කටයුතුවලින් දහස් ගණන් හා දස දහස් ගණන් පවුල් එක්සත් කරයි. එය, වාණිජ රහස්‍යභාවය අවලංගු කිරීමෙන් කිසිම අපහසුවකට පත් නොවන, වාණිජ පොත් කිසිවක් නොතබන කුඩා හස්ත කාර්මික හෝ මධ්‍යම ගොවි ආර්ථිකය මෙන් නොවේ!

දැනට පවතින තත්වය අනුව, මහා පරිමාණ ව්‍යාපාර විසින් කරනු ලබන කටයුතු ගැන සිය ගණන් අය හෝ ඊට වැඩි දෙනෙක් දනිති. මෙහිදී වාණිජ රහස්‍යභාවය ආරක්ෂා කරන නීතියෙන් නිෂ්පාදනයේ හෝ හුවමාරුවේ අවශ්‍යතාවයන්ට සිදුවන යහපතක් නැත. නමුත් එය ප්‍රයෝජනවත් වන්නේ, අප දන්නා පරිදි, ජනතාව රවටන ලෙසට සකස් කෙරෙන බද්ධ ව්‍යාපාර වස්තු සමාගම් වාර්තා සහ ශේෂ පත්‍ර විෂයෙහි බහුල වශයෙන් පැතිරී තිබෙන හා එයින් සඟවා තබනු ලබන, ඉතාමත් කොරසැඩි සමපේක්ෂණය සහ ලාභ ගැරීමක් සඳහා පමණකි.

කුඩා පරිමාණ අලෙවි භාණ්ඩ නිෂ්පාදනයේ දී, එනම්, නිෂ්පාදනය සමාජමය වී නැති සහ විසිරී හා අසමගිව සිටින කුඩා ගොවීන් හා හස්ත කාර්මිකයින් අතර, වාණිජ රහස්‍යභාවය නොවැලැක්විය හැකි අතර, මහා පරිමාණ ධනපති නිෂ්පාදනයේ වාණිජ රහස්‍යභාවය ආරක්ෂා කිරීම යනු මුළු ජනතාවගේම අවශ්‍යතාවයන්ට පටහැණි වෙමින් හුදෙක් අතලොස්සක් පිරිසකගේ වරප්‍රසාද හා ලාභ ආරක්ෂා කිරීමට සමානය. බද්ධ ව්‍යාපාර වස්තු සමාගම්වල ගිණුම් ප්‍රසිද්ධ කිරීමට නීතියෙන් ප්‍රතිපාදන සලසා තිබීමෙන් පෙනෙන පරිදි, නීතිය දැනටමත් මෙය පිළිගෙන තිබේ.

නමුත් දියුණු රටවල් සියල්ලෙහිම හා එමෙන්ම රුසියාවෙහිද දැනටමත් ආරම්භ කර තිබෙන මෙම පාලනය, ප්‍රතිගාමී ධනපති පාලනය ය. එයින් ජනතාවගේ ඇස් විවෘත කිරීමක් හා බද්ධ ව්‍යාපාර වස්තු සමාගම්වල කටයුතු ගැන සම්පූර්ණ සත්‍යය දැන ගැනීමට ඉඩ සැලසීමක් නොවන්නේය.

විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආකාරයෙන් කටයුතු කිරීම සඳහා වාණිජ රහස්‍ය භාවය අවලංගු කරමින්, හැකි උපරිම සම්පූර්ණත්වයෙන් ගිණුම් ඉදිරිපත් කරන ලෙස ලොකු ව්‍යවසායයන්ට හා ධනපතියන්ට බල කරමින්, සැලකිය යුතු ප්‍රජාතන්ත්‍රවාදී සංඛ්‍යාත්මක ශක්තියක් ඇති (නිදසුනක් ලෙසට 1000 ක් හෝ 10,000 ක් ඡන්දදායකයන් ඇති) පුරවැසි කණ්ඩායම්වලට

ඕනෑම විශාල ව්‍යවසායයක සියළුම ලේඛන පරීක්ෂා කිරීමේ අයිතිය දෙමින් තවත් නීතියක් සම්මත කළ යුතුය. සරල ආඥාවක් නිකුත් කිරීමෙන් එවැනි පියවරක් සම්පූර්ණයෙන්ම සහ පහසුවෙන්ම ක්‍රියාත්මක කළ හැකිය. කාර්යාල සේවක සංගම්, කම්කරු සංගම් හා දේශපාලන පක්ෂ මගින් කෙරෙන පාලනයක් සඳහා පොදුජන ක්‍රියාරම්භකත්වයක් ඇතිවීමට ඉඩ සැලසෙන්නේ එයින් පමණකි; පාලනය සාර්ථක සහ ප්‍රජාතන්ත්‍රවාදී වන්නේ එමගින් පමණකි.

මෙයට යුද්ධයක් එකතු කරන්න. වාණිජ හා කාර්මික ව්‍යවසායයන්ගෙන් බහුතරය දැන් වැඩ කරන්නේ ''නිදහස් වෙළඳ පොළ'' සඳහා නොව ආණ්ඩුව සඳහාය; යුද්ධය සඳහාය. මතු වී තිබෙන්නේ දැන් එක එල්ලේම, හෙට එළිවන විට සමාජවාදය ආරම්භ කිරීමේ ප්‍රශ්නයක් නොව, රාජ්‍යය කොල්ලකෑම හෙළිදරව් කිරීමේ ප්‍රශ්නයක් වන හෙයින්, සමාජවාදය ආරම්භ කළ නොහැකියයි කියමින් අපට පිළිතුරු දෙන්නේ බොරුකාරයන්, පට්ටපල් බොරුකාරයන් බව මා දැනටමත් ප්‍රාව්දා පත්‍රයෙන් ප්‍රකාශ කර ඇත්තේ එනිසාය.

ධනපති ''යුද්ධ'' ආර්ථිකය (එනම්, ඍජු සහ අනියම් ලෙස යුද්ධ කොන්ත්‍රාත් සමග සම්බන්ධ ආර්ථිකය) යනු, ක්‍රමානුකූල සහ නීත්‍යානුකූල කළ කොල්ලකෑමය. එසේම මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලව වාදීන් සමග එක්ව, වාණිජ රහස්‍ය භාවය අවලංගු කිරීමට විරුද්ධ වන කැඩෙට් ප්‍රභූවරු ඉඳුරාම, මෙම මංකොල්ලයට ආධාර අනුබල දෙන්නෝ වෙති.

යුද්ධය සඳහා දැන් රුසියාවට දිනකට රූබල් පන් කෝටියක් වැය වන්නේය. මෙම පන් කෝටිය වැඩි වශයෙන්ම යුද්ධ හමුද කොන්ත්‍රාත් කරුවන් අතට යන්නේය. මෙම පන් කෝටියෙන් දිනකට යටත් පිරිසෙයින් රූබල් පණස් ලක්ෂයක් හා සමහර විට එක් කෝටියක් හෝ ඊට වැඩි කොටසක් ධනපතියන්ගේ සහ ඔවුන් සමග එක් හෝ තවත් ආකාරයකින් කල්ලි ගැසුන නිලධාරීන්ගේ''අවංක ආදයම''වන්නේය.යුද්ධ කොන්ත්‍රාත් ගනු දෙනු සඳහා මුදල් ණයට දෙන ඉතා විශාල සමාගම් හා බැංකු එමගින් අත්‍යාධික ලාභ ලබති. එම ලාභ ලබන්නේ රාජ්‍යය කොල්ලකෑමෙනි. යුද්ධයේ දුෂ්කරතාවය ''නිමිත්තෙන්''මිනිසුන් ලක්ෂ ගණන් හා දශ ලක්ෂ ගණන් මිය යාම ''නිමිත්තෙන්'' ජනතාවට වංචා කිරීම හා ඔවුන් කොල්ලකෑම විස්තර කිරීමට වෙනත් නාම විශේෂණයක් නොමැත.

යුද්ධ කොන්ත්‍රාත්වලින් ලබන මෙම නින්දිත ලාභ ගණන්, බැංකු වසං කර තබන ''සහතික කිරීමේ ලියවිලි'' ගැනත්, ජීවන වියදම ඉහළ යාමෙන් වාසි ලබන්නේ කවුරුන්ද යනුත්, ''සියළු දෙනාම'' දනිති. ''සමාජයේදී'' ඒ ගැන මඳ සිනහවක් නැගෙන්නේය. සාමාන්‍ය පිළිවෙතක්



ලෙසට ''අප්‍රසන්න'' කරුණු සම්බන්ධයෙන් නිහඬව සිටින සහ සියුම් ප්‍රශ්න මග හරින ධනපති ප්‍රවෘත්ති පත්‍රවල පවා ඒ ගැන නියත වශයෙන් සඳහන් කෙරෙන අවස්ථා බොහෝය. සෑම කෙනෙක්ම ඒ ගැන දන්නෝය. නමුත් සෑම කෙනෙක්ම ඒ ගැන නිහඬ වෙමින්, එය ඉවසා සිටියි. ''පාලනය'' හා ''මෙහෙයවීම'' ගැන වතුර ලෙස දෙඩන ආණ්ඩුව ගැන කවුරුත් ඉවසීම භජනය කරති!!

විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීහු, නියම විප්ලවවාදීන් සහ ප්‍රජාතන්ත්‍රවාදීන් වෙත් නම්, වාණිජ රහස්‍ය භාවය අවලංගු කරමින්ද, ගිණුම් ප්‍රසිද්ධ කරන ලෙස කොන්ත්‍රාත් කරුවන්ට හා වෙළෙඳුන්ට බල කරමින්ද, නිසි අධිකාරීන්ගෙන් අවසර නොමැතිව ස්වකීය ක්‍රියාකාරිත්ව ක්ෂේත්‍රය අතහැර යාම ඔවුන්ට තහනම් කරමින්ද, වසං කිරීමට හා ජනතාව රැවටීමට දඬුවම ලෙසට දේපල රාජසන්තක කිරීම හා වෙඩි තැබීම නියම කරමින්ද*, පහළින්, ප්‍රජාතන්ත්‍රවාදී ලෙස, ජනතාවම විසින් කෙරෙන කම්කරුවන් හා වෙනත් සේවකයින්, පාරිභෝගිකයින් ආදීන්ගේ සංගම් මගින් කෙරෙන පරීක්ෂණය හා පාලනය සංවිධානය කරමින්ද, වහාම නීතියක් සම්මත කරනු ඇත.

මෙම ප්‍රශ්නය හා සම්බන්ධයෙන් අපගේ සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු පුනරුච්චාරණය කරන්නේ, බියෙන් ගැහෙන සියළුම අමනයන් කියන දේම වන නිසා, එනම්, පමණට වඩා තදබල පියවරයන් ගතහොත් ධනපතියන් පැනයනු ඇතැයිද, ධනපතියන් නොමැතිව අපගේ කටයුතු කරගත නොහැකියයි ද, අපට හැබෑවටම ''උදව් කරන'' බ්‍රිතාන්‍ය සහ ප්‍රංශ ධනපතියන් ''අමනාප වීමට'' ඉඩ ඇතැයිද, යන්නම කියන නිසා, ඔවුහු බියෙන් වෙව්ලන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ලෙසට හඳුන්වනු ලැබීමට සම්පූර්ණ සුදුසුකම් ඇත්තෝ වෙති. බොල්ෂෙවික්වරු යෝජනා කරන්නේ ඉතිහාසයේ නොවූ දෙයක්, මීට පෙර කිසි කලෙක අත්හදා බලා නොමැති දෙයක්, ''මනෝරාජික'' දෙයක් යයි සිතන්නට ඉඩ ඇත. නමුත් මීට අවුරුදු 125 කට පෙර, ප්‍රංශයේ නියම විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදීන්, තමන් කරන යුද්ධයේ සාධාරණත්වය හා ආරක්ෂක ස්වභාවය ගැන ඒකාන්ත විශ්වාසයක් ඇතිව සිටි, සැබවින්ම පොදුජන සහයෝගය ඇතිව සිටි හා ඒ බව නිසැකව දැන සිටි අතර, පොහොසතුන් කෙරෙහි

* මරණ දඬුවමට විරුද්ධව තර්ක කිරීම සාධාරණ වන්නේ වැඩ කරන පොදු ජනතාවට විරුද්ධව, සූරා කෑම පවත්වා ගැනීම සඳහා, සූරා කන්නන් විසින් එය ක්‍රියාත්මක කරන විට පමණක් බව බොල්ෂෙවික් පුවත්පත් මගින් මා දැනටමත් පෙන්වා දී ඇත. සූරා කන්නන්ට, එනම් ඉඩම් හිමියන්ට හා ධනපතියන්ට විරුද්ධව මරණ දඬුවම ක්‍රියාත්මක නොකර සිටීමට කිසිම විප්ලවවාදී ආණ්ඩුවකට නුපුළුවන් විය හැකිය.

විප්ලවවාදී පාලනයක් ඇති කිරීමට හා ලෝකයාගේ ගෞරවයට පාත්‍රවන ආකාරයේ ප්‍රතිඵල ලැබීමට සමත් වූහ. තවද පසුගිය ශත වර්ෂ එකකුත් කාලක් තුළදී බැංකු, සම්මේල, දුම්රිය මාර්ග යනාදිය නිර්මානය කළ ධනපති ක්‍රමයේ සංවර්ධනය නිසා, සූරා කන්නන්, ඉඩම් හිමියන් හා ධනපතියන් සැබෑ ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු සහ ගොවි ජන පාලනයකට යටත් කිරීමට පියවර ගැනීම බොහෝ සෙයින් පහසු හා සරල වී තිබේ.

ඇත්ත වශයෙන් පාලනය පිළිබඳ මුළු ප්‍රශ්නයම පිඬු කොට ගත් කළ මතුවන්නේ, කවුරුන් විසින් කවුරු පාලනය කරනු ලැබේද, නැත-හොත් පාලනය කරන්නේ කුමණ පංතියද, පාලනය කරනු ලබන්නේ කුමණ පංතියද යන්නය. අපගේ රටෙහි, සමූහාණ්ඩුවාදී රුසියාවෙහි, විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදී යයි කියනු ලබන ''බලය ලත් මණ්ඩල'' වල ආධාරය ලබන ඉඩම් හිමියන් සහ ධනපතියන් තවමත් පාලකයන් ලෙසට පිළිගනු ලැබේ. ඔවුහු තවමත් පාලනය කරති. මෙහි අනිවාරණීය ප්‍රතිඵලය වන්නේ, ජනතාව අතර විශ්වීය කෝපයක් දල්වන ධනපති මංකොල්ලය සහ ධනපතියන් විසින් කෘත්‍රිම වශයෙන් පවත්වා ගනු ලබන ආර්ථික අර්බුදය ය. අපි ඉතාමත් දැඩි ලෙස සහ නොවෙනස් කළ හැකි ලෙසට, පැරණි දෙයින් බිඳී වෙන් වීමට නොබියව, නව දේ එඩිතර ලෙස ගොඩ නැඟීමට බිය නොවී, ඉඩම් හිමියන් හා ධනපතියන් කම්කරු සහ ගොවි ජන පාලනයකට යටත් කිරීමට පෙරට යා යුත්තෙමු. අපගේ සමාජවාදී-විප්ලව-වාදීන් සහ මෙන්ෂෙවික්වරුන් මහාමාරියටත් වඩා බිය වන්නේ මෙයටය.

## අනිවාර්යයෙන් සංගම්ගත කිරීම

කර්මාන්ත කරුවන් අනිවාර්ය වශයෙන් සම්මේලගත කිරීම නැත-හොත් අනිවාර්යයෙන් සංගම්වලට ඇතුළත් කිරීම නිදසුනක් ලෙසට දැනටමත් ජර්මනියේ ක්‍රියාත්මක කරනු ලැබේ. එසේම, එහි ඇති අළුත් දෙයක්ද නැත. මෙහිදීද සමාජවාදී විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරු-න්ගේ වරද නිසා අපට දකින්නට ලැබෙන්නේ, කැඩෙට්වරු හෝ බුබ්ලි-කොව්ලා හෝ, එසේ නැතහොත් තෙරෙශෙන්කෝ සහ කෙරෙන්ස්කි සමග නටන කද්රිල්ලෙව් නැටුමෙන් මෙම වැඩි ගරුත්වයක් නැති පක්ෂ විසින් ''විනෝදමත්'' කරනු ලබන සමූහාණ්ඩුවාදී රුසියාවේ නිශ්චලනය ය.

අනිවාර්යයෙන් සම්මේලගත කිරීම, එක් අතකින් රජය විසින් ධනපති සංවර්ධනය ඉක්මන් කරනු ලැබීමේ මාධ්‍යයකි. එනිසා සෑම තන්හිම පංති අරගලය සංවිධානය වීමටත්, සංගම්වල සංඛ්‍යාව, විවිධත්වය සහ



වැදගත්කම වැඩි වීමටත් හේතු වේ. අනිත් අතට, ඕනෑම වර්ගයක සාර්ථක පාලනයක් සහ සියළු ආකාරයෙන් ජාතික ශ්‍රමය පිරිමැස්ම සඳහා අනිවාර්ය ''සංගම්ගතකරණය'' නැතිවම බැරි පූර්ව කොන්දේසියකි.

නිදසුනක් වශයෙන්, ජර්මනියේ නියමිත ප්‍රදේශයක හෝ මුළු රටෙ-හිම හෝ හම් නිෂ්පාදකයන් සංගමයකට ඇතුළත් විය යුතු යයි ජර්මන් නීතිය ඔවුනට බල කරයි. එම සංගමයේ පාලන අරමුණු ඉටු කිරීම සඳහා, රජයේ නියෝජිතයෙක් එහි පාලන මණ්ඩලයට ඇතුළත් වේ. මෙම වර්ග-යේ නීතියක් නිසා, එක එල්ලේම, නැතහොත්, හුදෙක් මෙම නීතිය නිසාම, පාලනය, එනම් එය යොමුවන දිසාව හා එහි ජීව ගුණය අතින් එය ප්‍රතිගාමී නිලධාරිවාදී වුවත්, නැතහොත් විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී වුවත්, දේපල සම්බන්ධකම් කෙරෙහි කිසිම බලපෑමක් ඇති නොවේ. එය නිසා එකම අයිතිකරුවෙකුට හෝ කොපෙක් එකක්වත් අහිමි වන්නේ නැත.

අප්‍රමාදව, එකම සතියක වත් අගනා කාලය අපතේ නොහැර අප රටේ එවැනි නීති සම්මත කළ හැකිය, සම්මත කළ යුතුය. නීතිය ක්‍රියාත්මක කිරීමේ වඩාත් නිශ්චිත ආකෘති, එය ක්‍රියාත්මක කිරීමේ වේගය, එය ක්‍රියා-ත්මක කිරීම පිළිබඳ කටයුතු අධීක්ෂණය ආදිය සමාජමය තත්වයන් අනුවම නිර්ණය වීමට ඉඩ තැබිය යුතුය. මෙම තත්වය යටතේ, එවැනි නීතියක් සම්මත කිරීම සඳහා විශේෂ කාර්ය යන්ත්‍රයක්වත්, විශේෂ විමර්ශනයක්-වත්, මූලික පරීක්ෂණ පැවැත්වීමවත් රජයට අවශ්‍ය නොවේ. කළයුතු එකම දෙය නම්, පැරණි කළමණාකරණ ක්‍රම හා පාලනයක් නොමැති වීම නිසා සහතික වී තිබෙන අත්‍යාධික ලාභ අහිමි කර ගැනීමට කැමැත්-තක් නොදක්වන සහ එවැනි ඇඟිලි ගැසීම්වලට ''පුරුදු වී නැති'' ධනපතිය-න්ගේ යම් යම් පෞද්ගලික අයිතිවාසිකම් කෙරෙන් බිඳී වෙන් වීමට අධිෂ්ඨානය ඇති කර ගැනීම පමණකි.

එවැනි නීතියක් සම්මත කිරීම සඳහා කාර්ය යන්ත්‍රයක් හෝ (ගොවි ජනතාවගේ විප්ලවවාදී ක්‍රියාරම්භකත්වය වෙනුවට ආදේශ කිරීමට චෙර්-නොව් උත්සාහ කළ) සංඛ්‍යා ලේඛන'' හෝ අවශ්‍ය නොවේ. එම නීතිය ක්‍රියාත්මක කිරීම නිෂ්පාදකයින්ගේම, නැතහොත්, කර්මාන්ත කරුවන්-ගේම, පවත්නා සමාජ බල වේගයන්ගේම, යුතු කමක් වන තාක් දුරට, එය පවත්නා මහජන (එනම්, ආණ්ඩුවේ නොවන), බල වේගයන්ගේ පාලනයට යටත් වන තාක් දුරට, ඒවා අවශ්‍ය නොවේ. මෙහි සඳහන් මහජන බලවේගයන්, ඊනියා ''පහළ ප්‍රජා කොටස්'' වලින්, එනම්, වීරත්-වය, ආත්ම පරිත්‍යාගය හා සහෝදර විනය පිළිබඳ හැකියාව අතින්, සූරා කන්නන්ට වඩා අතිශයින් ශ්‍රෙෂ්ට බව ඉතිහාසය නිතරම ඔප්පු කර ඇති, පීඩිත හා සූරාකනු ලබන පංතිවලින් නියම වශයෙන්ම සමන්විත විය යුතුය.

අපට ඇත්ත වශයෙන්ම විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩුවක් ඇතැයි

සිතමු. නිදසුනක් වශයෙන් සෑම නිෂ්පාදන අංශයකම සිටින දෙදෙනෙකුට නොඅඩු කම්කරු සංඛ්‍යාවක් සේවයෙහි යොදන, නිෂ්පාදකයන් හා කර්මාන්තකරුවන් සියළු දෙනාම උයෙස්ද් සහ ගුබේර්නියා සංගම් තුළ වහාම ඒකාබද්ධ විය යුතු යයි එම ආණ්ඩුව තීරණය කරතැයි සිතමු. නීතිය දැඩි ලෙස ක්‍රියාත්මක කිරීම පිළිබඳ වගකීම ප්‍රථමයෙන්ම නිෂ්පාදකයන්, අධ්‍යක්ෂවරුන් හා ලොකු කොටස් කරුවන් (නවීන කර්මාන්තයේ නියම නායකයන් හා එහි නියම ස්වාමිවරුන් ඔවුන් වන නිසා) වෙත පවරනු ලැබේ. අප්‍රමාදව නීතිය ක්‍රියාත්මක කිරීමට ඔවුහු වැඩ නොකරති නම්, ඔවුන් යුද්ධ සේවය හැර ගියවුන් සේ සලකා ඒ අනුව ඔවුන්ට දඬුවම් කරනු ලැබේ. එසේම ඔවුන් තමන්ගේ කටයුතු සම්බන්ධයෙන්, එකෙක් සියළු දෙනාම වෙනුවෙන්ද, සියළු දෙනාම එකෙක් වෙනුවෙන්ද ස්වකීය සම්පූර්ණ දේපල පරදුවට තබා අන්‍යොන්‍ය වශයෙන් වග කිව යුතුය. ඊළඟට වගකීම භාර කෙරෙන්නේ කාර්යාල සේවකයින්ටය. ඔවුන්ද එක සංගමයක් පිහිටුවා ගත යුතුය. සියළුම කම්කරුවන්ට හා ඔවුන්ගේ වෘත්තීය සංගමයටද එසේම වග කීම පැවරේ. සංගම් ගත කිරීමෙන් අරමුණු කෙරෙන්නේ ඉතාමත් අංග සම්පූර්ණ, දැඩි හා සවිස්තර ආකාරයෙන් ගිණුම් තැබීම පමණක් නොව, ප්‍රධාන වශයෙන්ම, අමු ද්‍රව්‍ය මිළට ගැනීම, නිෂ්පාදිතයන් අලෙවි කිරීම සහ ජාතික අරමුදල් හා බලවේග පිරිමැසීම සම්බන්ධ කටයුතු ඒකාබද්ධ කිරීමය. ආර්ථික විද්‍යාවෙන් අපට උගන්වන ලෙසට හා සම්මේලවල, කාටලවල හා සංගත ව්‍යාපාරවල ආදර්ශයෙන් අපට පෙනෙන ලෙසට, විවිධ වෙනස් ආයතන එකම සම්මේලයක් ලෙසට ඒකාබද්ධ කළ විට, මෙම පිරිමැස්ම දැවැන්ත දියුණුවකට පත්විය හැකිය. එසේම, මෙසේ සංගම්ගත කිරීම නිසා දේපල සම්බන්ධකම් අංශු මාත්‍රයකින් හෝ වෙනස් නොවන බව හා කිසිම අයිතිකරුවෙකුට කොපෙක් එකක්වත් අහිමි නොවන බව, නැවතත් කිව යුතුය. මෙම කරුණ තදින් අවධාරණය කළ යුතුය. පොදු වශයෙන් සමාජවාදීන් සහ විශේෂයෙන්ම බොල්ෂෙවික්වරු කුඩා සහ මධ්‍යම දේපල හිමියන්ගේ දේපල ''අසන්තක'' කිරීමට අපේක්ෂා කරතියි කියමින් ධනපති පුවත්පත් නිතරම ඔවුන් ''බිය වද්දන'' හෙයින් එසේ කළ යුතුය. ධනපති පුවත්පත් හිතාමතා කරන එම ප්‍රචාරය බොරුවකි. සම්පූර්ණ සමාජවාදී විප්ලවයක් ඇති වුවත් කුඩා ගොවීන්ගේ දේපල අසන්තක කිරීමට සමාජවාදීහු අපේක්ෂා නොකරති. ඔවුනට එසේ කිරීමට පුළුවන් කමක් නැත. ඔවුහු එසේ නොකරති. මේ දක්වාම අප කථා කරමින් සිටින්නේ දැනටමත් බටහිර යුරෝපයේ ක්‍රියාත්මක කර තිබෙන, එසේම ළඟ එන සහ නොවැලැක්විය හැකි මහා ව්‍යසනයට විරුද්ධව සටන් කිරීම සඳහා යම් තරමක් හෝ සසංගත ප්‍රජාතන්ත්‍රවාදයක්



වෙතොත් එය විසින් වහාම අප රටේ ක්‍රියාත්මක කළ යුතු, හදිසි පියවරයන් ගැන පමණකි.

කුඩා හා ඉතා කුඩා දේපල හිමියන්ට අයත් දේපල ඉතා කුඩා පරිමාණයේ හා තාක්ෂණික වශයෙන් නොදියුණු තත්වයේ වන හෙයින්ද, අයිතිකරුවන්ගේ නූගත්කම, නැතහොත්, අධ්‍යාපනික අඩුපාඩුකම් නිසාද, ඔවුන් සංගම් තුළ ඒකාබද්ධ කිරීමට තාක්ෂණික හා සංස්කෘතික යන දෙආකාරයේම බරපතල බාධක හරස් වන්නේය. නමුත් හරියටම ඒ ආකාරයේම වන (අපගේ කල්පිත නිදර්ශනයෙහි සඳහන් වැනි) ව්‍යවසායයන් නීතියෙන් නිදහස් කළ හැකිය. අති විශාල සංඛ්‍යාවක් වන කුඩා ව්‍යවසායයන් නිෂ්පාදනයේ එකතු සමස්තයෙහි ඉටු කරන කාර්ය කොටස සහ සමස්තයක් වශයෙන් මුළු ආර්ථිකය තුළ ඒවා දරන වැදගත්කමද ඉතා සුළු හෙයින් ඒවා ප්‍රමාද වී ඒකාබද්ධ වීම නිසා තබා, ඒවා ඒකාබද්ධ නොවී තිබීම නිසා වුවද බරපතල අවහිරයක් නොවේ. එපමණක් නොව, ඒවා බොහෝ විට එක් හෝ තවත් මාර්ගයකින් ලොකු ව්‍යවසායයන්ගෙන් යැපෙන තත්වයේ පවතී.

තීරණාත්මක වැදගත්කමක් දරන්නේ ලොකු ව්‍යවසායයන් පමණකි. එමෙන්ම, මෙහිදී ''සංගම්ගත කිරීම'' සඳහා අවශ්‍ය තාක්ෂණික සහ සංස්කෘතික මාධ්‍යයන් සහ බලවේග ඇත. අඩුවකට ඇත්තේ, මෙම බලවේග සහ මාධ්‍යයන් ක්‍රියාත්මක භාවයට පත් කරනු සඳහා,ධූරාකන්නන් කෙරෙහි නිර්දය තදබල බවක් පෑ යුතු විප්ලවවාදී ආණ්ඩුවේ දැඩි, අධිෂ්ඨාන සහගත ක්‍රියාරම්භකතාවය පමණකි.

රටක තාක්ෂණික වශයෙන් පුහුණු බලවේගයන් හා සාමාන්‍ය වශයෙන් බුද්ධිමය බලවේගයන් දුර්ලභ වූ තරමට, හැකි තරම් ඉක්මණින් හා හැකි තරම් දැඩි ලෙස අනිවාර්ය සංගම්ගත කිරීම සඳහා ආඥාවක් නිකුත් කිරීම ඉතා හදිසි කටයුත්තක් වේ. මෙම ආඥාව ක්‍රියාත්මක කිරීමේදී විශාල හා විශාලතම ව්‍යවසායවලින් පටන් ගත යුතුය. බුද්ධිමය බලවේග පිරිමැස්මෙන් උපයෝගී කර ගත හැක්කේ සහ ඒවා සම්පූර්ණ ප්‍රයෝජනයට යෙදීමට සහ නිවැරදි ලෙස බෙදා හැරීමට අවකාශ සලසන්නේ සංගම්ගතකරණය පමණකි. 1905 න් පසුව, සාර්වාදී ආණ්ඩුව යටතේ සිටිමින් හා ආණ්ඩුව පැනවූ දහස් ගණන් බාධකවලට මුහුණ දෙමින්, රුසියාවේ ප්‍රත්‍යන්ත ප්‍රදේශවල ගොවි ජනයා විවිධ වර්ගවල සංගම් ඇති කිරීමේ දැවැන්ත ඉදිරි පියවරක් තැබීමට සමත් වූහු නම්, මෙම අරමුණ ඇතිව, ''පහළ ජන කොටස්වල'' ආධාරය, සහභාගිත්වය, උවමනාවන් හා වාසිය කෙරෙහිත්, කම්කරුවන්ගේ සහ වෙනත් සේවකයන්ගේ ප්‍රජාතන්ත්‍රය කෙරෙහිත් විශ්වාසය තබමින් සහ පාලනය ක්‍රියාත්මක කරන ලෙස ඔවුන් වෙත ආයාචනා කරමින්, නියම විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ආකාරයකින් බල

කිරීම ක්‍රියාත්මක කළහොත්, වඩාත් ඉක්මණින් නොවේ නම්, මාස කීපයක් තුළදී හෝ මහා පරිමාණ සහ මධ්‍යම පරිමාණ කර්මාන්ත හා වෙළඳාම සාර්ථක ලෙස ඒකාබද්ධ කළ හැකි බව පැහැදිලිය.

## පාරිභෝජනය ක්‍රමවත් කිරීම

පාරිභෝජනය ක්‍රමවත් කරන ලෙසට යුද්ධය මධ්‍යස්ථ රටවල් ගණනාවකට බල කර තිබේ. පාන් සලාක පත්‍ර නිකුත් කර ඇති අතර ඒවා සාමාන්‍ය දෙයක් වී තිබේ. ඒ අනුව වෙනත් සලාක පත්‍රද එළි දැක තිබේ. මේ සම්බන්ධයෙන් විශේෂත්වයක් නොදරන රුසියාවේද පාන් සලාක පත් ක්‍රියාත්මක කර තිබේ.

මෙය නිදසුනක් ලෙසට ගනිමින්, මහා විපතට විරුද්ධව සටන් කිරීම සඳහා අවම ප්‍රතිසංස්කරණවලට පමණක් සීමාවන ප්‍රතිගාමී-නිලධාරිවාදී ක්‍රමත්, ස්වකීය නමට ගැලපෙන පරිදි, පැරණි, කල්ගිය ක්‍රම කෙරෙන් වේගවත් ලෙස බිඳී වෙන්වීම සහ හැකි තරම් සීඝ්‍ර ප්‍රගතියක් ලබා ගැනීම සඳහා එක එලලේම අරමුණු කළයුතු විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රමත් සංසන්දනය කිරීමට, එනම්, සියල්ලටම වඩා සිත් කාවදින සංසන්දනයක් කිරීමට, අපට පුළුවන් වනු ඇත.

නවීන ධනපති රටවල පාරිභෝජනය ක්‍රමවත් කරන්නේ කෙසේද යන්න පෙන්වන නියම නිදසුනකි, පාන් සලාක පත්‍රය. එයින් (උපරිම වශයෙන් වුව) අරමුණු කෙරෙන්නේ එක් දෙයක් සාර්ථක කර ගැනීමටය. එය නම්, තිබෙන ධාන්‍ය ප්‍රමාණය සෑම කෙනෙකුටම කොටසක් ලැබෙන සේ බෙද හැරීමය. පාරිභෝජනය සඳහා උපරිම සීමාවක් ඇති කෙරේ. ඒ සියළුම ආහාර ද්‍රව්‍ය සඳහා නොව, ප්‍රධාන ආහාර ද්‍රව්‍ය, එනම්, "පොදුජන" පාරිභෝජනයට අදාල ආහාර ද්‍රව්‍ය සඳහා පමණකි. එයින් ඉටු කිරීමට බලාපොරොත්තු වන්නේ එපමණකි. වෙනත් කිසිවක් කිරීමේ බලාපොරොත්තුවක් නැත. තිබෙන ධාන්‍ය ප්‍රමාණය නිලධාරීවාදී ලෙසට ගණන් බලා, එය ඒක පුද්ගල පදනමක් මත බෙද සලාකය නියම කර, එය ක්‍රියාත්මක කරනු ලැබේ. කටයුත්ත එයින් කෙළවර වේ. සුඛෝපභෝගි ද්‍රව්‍ය "කොහොමටත්" හිඟ නිසා, "ජනතාවට" ලබා ගත නොහැකි තරමට "කොහොමටත්" මිළ වැඩි නිසා, ඒවා කෙරෙහි බල පෑමක් නොමැත. එනිසා, ඉතාමත් ප්‍රවේසම් සහිත, සාඩම්බර හා දැඩි ලෙස පාරිභෝජනය හසුරුවන රට යයි වැරදීමේ බියක් නොමැතිව, කිව හැකි ජර්මනිය පවා ඇතුලත්ව, සියළුම යුද්ධකාරී රටවල, එනම්, ජර්මනියේ පවා, පොහොසතුන් "සලාක ක්‍රමය" මග හරින බව අපට දක්නට තිබේ. මේ



ගැනද "කවුරුත්" දනිති; "කවුරුත්" ඒ ගැන සිනා රැල්ලක් පා කථා කරති. ජර්මනියේ දරුණු යුද්ධමය දැඩි බවක් පවතින නමුත්, එහි සමාජවාදී පුවත්පත්වල හා සමහර විට ධනපති පුවත්පත්වල පවා නිතර පළ කෙරෙන දැන්වීම් හා වාර්තාවලින් අපට පෙනෙන දෙයකි, එහි (මුදල් රැසක් ඇති සියළු දෙනාම අසනීප බවක් කියමින් යාමට පුරුදු වී ඇති) යම් යම් සෞඛ්‍ය නිකේතනවල පොහොසතුන්ට ඕනෑ තරම් සුදු පාන් ලබා ගත හැකි බව හා පොහොසතුන් පොදුජන පාරිභෝජන ද්‍රව්‍ය වෙනුවට ඉතා හොඳ සහ දුර්ලභ ද්‍රව්‍ය ආදේශ කරන බව.

ධනපති ක්‍රමයේ, වේතන වහල් ක්‍රමයේ, නැතහොත් පොහොසතුන්ගේ ආර්ථික ආධිපත්‍යයේ පවුරු දුර්වල කිරීමට බිය වන කම්කරුවන්ගේ සහ පොදු වශයෙන්, වැඩ කරන ජනයාගේ ක්‍රියාරම්භකත්වය උනන්දු කිරීමට බියවන, වඩාත් දැඩි ආකල්පයක් වෙත යන සේ ඔවුන් ප්‍රකෝප කිරීමට බියවන, ප්‍රතිගාමී ධනපති රාජ්‍යයක්, එවැනි රාජ්‍යයක් පාන් සලාක පත්වලින් සෑනසෙනු ඇත. එවැනි රාජ්‍යයක් විසින් මොහොතකට හෝ, එය ගන්නා කිසිම පියවරකදී හෝ, ධනපති ක්‍රමය ශක්තිමත් කිරීමේ හා එය දුර්වල විය නොදී වැලැක්වීමේද, පොදු වශයෙන් "ආර්ථික ජීවිතය හැසිරවීමේ" හා විශේෂයෙන්ම පාරිභෝජනය ක්‍රමවත් කිරීමේ කටයුතු තනිකරම ජනතාවට ආහාර සැපයීමට පමණක් අවශ්‍යවන ස්වභාවයේ පියවරයන්ට සීමා කිරීමේද, පොහොසතුන් කෙරෙහි බලපාන පාලනයක් ඇති කිරීමෙන් සහ යුද්ධකාලීන දුෂ්කරතාවයේ බරෙන් වැඩි කොටසක් පොහොසතුන්, වරප්‍රසාද ඇතියවුන්, හොඳට ආහාර ගන්නවුන් හා පමණට වැඩියෙන් ආහාර ගන්නවුන් මත දැමීමේ මාර්ගයෙන් පාරිභෝජනය ක්‍රමවත් කිරීමට කිසිම උත්සාහයක් නොදැරීමේද, ප්‍රතිගාමී අරමුණ අමතක කරනු නොලැබේ.

යුද්ධය ජනතාව හමුවේ තැබූ ප්‍රශ්නය පිළිබඳ ප්‍රතිගාමී-නිලධාරීවාදී විසඳුම නිලධාරිවාදී සහ ප්‍රතිගාමී අදහස්වලින් මඳකුදු පසු නොබැස, එනම්, දුප්පතුන්ගේ, නිර්ධන පංතිකයින්ගේ, පොදු ජනතාවගේ ("ප්‍රජාතන්ත්‍රයාගේ") ක්‍රියාරම්භකත්වය උනන්දු නොකිරීමේ, පොහොසතුන් යටත් කරන ඔවුන්ගේ පාලනයක් ඇති නොකිරීමේ සහ සුඛෝපභෝගී ද්‍රව්‍ය ගැනීම මගින් පාඩුව පිරිමසා ගැනීමට පොහොසතුන්ට හැකි තරම් පමණ සිදුරු විවෘත කර තැබීමේ අදහසින් මඳකුදු පසු නොබැස, පාන් සලාක පත්වලට පමණක්, "පොදු ජන" ආහාර ද්‍රව්‍ය, එනම්, ජනතාවට ආහාර දීමට අවශ්‍යවන ද්‍රව්‍ය සමසේ බෙද හැරීමට පමණක් සීමා වන්නේය. එසේම සිදුරු විශාල සංඛ්‍යාවක් විවෘතව තබන බවත්, ජර්මනියේ පවා එසේ කරන බවත්, අපි නැවතත් කියමු. එනිසා ඒ අතින් රුසියාව ගැන කීම අවශ්‍ය නැත. පොහොසතුන් සෞඛ්‍ය නිකේතනවලට ගොස්, ඉතා

අල්ප ස්වකීය නිල සලාකයට ''අමතර ආහාර ද්‍රව්‍ය'' වෙනත් ආකාරයකින් ලබා ගනිමින් තමන් පාලනය කරනු ලැබීමට ඉඩ නොදෙන අතර, ''පොදු ජනයා'' නිරාහාරව සිටිති.

විමුක්තියේ සහ සමානාත්මතාවයේ නාමයෙන් මේ මෑතදී සාර්වාදී පාලනයට විරුද්ධව විප්ලවයක් කළ රුසියාවේ, ස්වකීය නියම දේශපාලන ආයතන හා සම්බන්ධයෙන් වූ කල එක්වරම ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් බවට පත්වූ රුසියාවේ, ජනතාවගේ සිතට තදින් වැදෙන්නේ, විශේෂයෙන්ම පොදු ජන අප්‍රසාදයට, නොසන්සුන්කමට, කෝපයට හා නොඉවසිල්ලට හේතු වන්නේ, පොහොසතුන් ඉතා පහසුවෙන් පාන් සලාක පත් සීමා පැන යන ආකාරය සියළු දෙනාටම පෙනෙන්නට තිබීමය. ඔවුහු ඇත්ත වශයෙන්ම ඉතා පහසුවෙන් එය කරති. ඔවුහු ඉතා ඉහළ මිළකට, මේසය යටින් ඔවුන්ට ඕනෑ දෙයක්, එසේම, ඉන් විශාල ප්‍රමාණයක් ලබා ගනිති. විශේෂයෙන්ම ''හයිය'' ඇති අය (එය ඇත්තේ පොහොසතුන්ට පමණකි) එසේ කරති. කුසගින්නේ සිටින්නේ පොදු ජනතාවය. පාරිභෝජන ක්‍රමවත් කිරීම ඉතාමත් පටු නිලධාරිවාදී-ප්‍රතිගාමී සීමාවන් තුළ අසුරා තිබේ. ක්‍රමවත් කිරීම නියම විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී පදනමක් මත තැබීමේ කිසිම බලාපොරොත්තුවක් ආණ්ඩුවේ නැත. එසේ කිරීමේ කිසිම උවමනාවක් එයට නොමැත.

''හැම දෙනාම'' පෝලිම් නිසා ගහැට විඳිති. නමුත්, — නමුත් පොහොසත්තු ඔවුන්ගේ මෙහෙකරුවන් පෝලිම්වල සිටීමට යවති. ඔවුහු ඒ සඳහා විශේෂ මෙහෙකරුවන් පවා යොදවති! ''ප්‍රජාතන්ත්‍රවාදය'' යනු එයයි!

කිව නොහැකි තරම් භයානක ව්‍යසනයන්ගෙන් රට පීඩිතව පවතින විට, විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිපත්තියක් පාන් සලාක පත්වලට සීමා නොවී, ඊට අමතරව ප්‍රථමයෙන්, පාරිභෝජක සමිති නොමැතිව පාරිභෝජනය සම්බන්ධයෙන් සම්පූර්ණ පාලනයක් ඇති නොකළ හැකි නිසා මුළු ජනගහනයම අනිවාර්ය ලෙස එම සමිති තුළ සංවිධාන කිරීමද, දෙවැනිව, මෙම පාරිභෝජක සමිතිවල ලේකම් කාර්යාල කටයුතු හා එවැනි වෙනත් කටයුතු සඳහා ගෙවීමක් නොමැතිව පොහොසතුන් ශ්‍රම සේවයෙහි යෙදවීමද, තුන්වැනිව, යුද්ධයේ දුෂ්කරතාවය සියළු දෙනා අතරම සැබවින්ම එකාකාර ලෙස බෙදී යන සේ ජනතාව අතර සෑම සියළු පාරිභෝගික ද්‍රව්‍යම සමව බෙදා දීමද, හතර වැනිව, පොහොසතුන්ගේ පාරිභෝජනය සම්බන්ධයෙන් ජනගහනයේ වඩාත් දුප්පත් කොටස් මගින් පාලනයක් කෙරෙන පරිදි පාලනය සංවිධානය කිරීමද එකතු කරනු ඇත.

මෙම ක්ෂේත්‍රයෙහි ප්‍රජාතන්ත්‍රය ස්ථාපිත කිරීමේදී සහ පාලනය සංවිධා-



නය කිරීමෙහිදී ජනතාවගේ දුප්පත් පංතිවල පිරිස් විසින් දක්වනු ලබන නියම විප්ලවීය ජීවගුණයද, පවතින බුද්ධිමත් බලවේගයන්ද සියල්ලම උපයෝජන්‍ය කරගැනීමට සහ ජනතාවගේ සැබෑ විප්ලවවාදී ශක්තීන් වර්ධනය කිරීමට උපස්තම්භක වන ඉමහත් උනන්දුකාරකයක් වනු ඇත. එසේ තමුත්, සමූහාණ්ඩුවාදී සහ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී රුසියාවේ ඇමතිවරු, හරියටම අධිරාජ්‍යවාදී රටවල ඔවුන්ගේ සගයන් මෙන්, ''ජනතාවගේ යහපත පිණිස පොදුවේ වැඩ කිරීම'' ගැන හා ''සෑම ධෛර්යයක්ම දෑමීම'' ගැන දූන් කථා කරති. නමුත් මෙම කථාවේ කුහකත්වය ජනතාවට පෙනෙන්නේය, දැනෙන්නේය, එසේම වැටහෙන්නේය.

මෙහි ප්‍රතිඵලය වන්නේ, ප්‍රගතියක් නොමැති වීමය; නොවැලැක්විය හැකි ලෙසට අවුල් වියවුල් පැතිර යාමය; මහා විපතක් ආසන්න වීමය. එයට හේතුව, කර්නිලව්, හින්ඩන්බර්ග්, නැතහොත්, සාමාන්‍ය අධිරාජ්‍යවාදී ක්‍රමයට කම්කරුවන්ට යුද්ධකාලීන සිර දඬුවම් දීමේ හැකියාවක් අපේ ආණ්ඩුවට නොමැති වීමය. එසේ කළ නොහැකි වන තරමට බලවත්සේ විප්ලවයේ සම්ප්‍රදායයන්, මතක සටහන්, සළකුණු, පුරුදුකම් හා ඇයතන ජනතාව අතර තවමත් ජීවමානව පවතී. අපගේ ආණ්ඩුව ධනපති පංතියෙන් යැපෙන නිසාත්, එය ධනපති පංතිය සමග ''සහාගයක්'' ඇති කරගෙන තිබෙන නිසාත්, ඔවුන්ගේ වරප්‍රසාදවලට හානි කිරීමට එය බිය වන නිසාත්, එය සම්පූර්ණයෙන්ම ලෙඩ වී සහ තරයේ අවුලට පත්වී ඇති හෙයින්, ප්‍රජාතන්ත්‍රවාදී ආකාරයකින් සැබැවින්ම බරපතල පියවරයන් කිසිවක් ගැනීමේ උවමනාවක් එයට නැත.

## ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානවල වැඩ කටයුතු ආණ්ඩුව විසින් කඩාකප්පල් වරනු ලැබීම

මහා විපතට සහ සාගතයට විරුද්ධව සටන් කිරීමේ විවිධ මාර්ග සහ මාධ්‍ය ගැන අපි පරීක්ෂා කෙළෙමු. එක් අතකින්, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ද, අනිත් අතින්, ආණ්ඩුව සහ එයට ආධාර කරන සමාජවාදී විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ පෙරමුණද, අතර ප්‍රතිවිරෝධයන් සෑම තැනකම පැතිර පවතින බව හා ඒවා සමහන් කළ නොහැකි බව අපි දුටුවෙමු. මෙම ප්‍රතිවිරෝධතාවයන්, හුදෙක් අපගේ ලියවිලිවල පමණක් නොව, ඒවා යථාර්ථ වශයෙන්ම පවතින බවත්, ඒවා සමහන් කළ නොහැකි බව සමස්තයක් වශයෙන් මුළු ජනතාවටම බලපාන ගැටුම් අනුව සැබැවින්ම

සනාථ වන බවත්, ඔප්පු කිරීමට අප කළ යුත්තේ, විප්ලවයේ සය මාසයට ඉතාමත් ආවේණික වූ ''ප්‍රතිඵල'' සහ පාඩම් දෙකක් සිහියට නැඟීම පමණකි.

පල්චින්ස්කිගේ ''පාලනයේ'' ඉතිහාසය එක පාඩමකි. පෙෂෙහෝනව්ගේ ''පාලනයේ'' හා ඔහු ඇද වැටීමේ ඉතිහාසය අනිත් පාඩමය.

ඉහත විස්තර කරන ලද, මහා විපතට සහ කුස ගින්නට විරුද්ධව සටන් කිරීම සඳහා වූ පියවරයන්ගේ හරය වන්නේ ජනගහනය සහ මූලික වශයෙන්ම ප්‍රජාතන්ත්‍රවාදීන්, එනම්, ජනගහනයෙන් බහුතරය වන, කම්කරුවන්, ගොවි ජනයා සහ විශේෂයෙන්ම, දුප්පත් ගොවිජනයා, ''සංගම්ගතවීම'' (බල කිරීම තරම් දුරට පවා යන) උනන්දු කිරීමය. යුද්ධයේ දුෂ්කරතාවයන්ට, එහි මහා බරට සහ බලවත් අපහසුකම්වලට මුහුණ දීම සඳහා ජනගහනයද සාංසිද්ධික වශයෙන් අනුගමනය කිරීමට පටන් ගත්තේ මෙම මාර්ගයය.

ජනගහනය නිදහස් ලෙස හා ස්වාධීනව ''සංගම්ගතවීම'' වැලැක්වීමට සාර්වාදය එයට හැකි සියල්ලක්ම කළේය. නමුත් සාර්වාදී රාජාණ්ඩුව බිඳ වැටීමෙන් පසුව, රුසියාවේ සෑම තන්හිම ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන මතුවී සීඝ්‍රයෙන් සංවර්ධනය වන්නට පටන් ගත්තේය. මහා විපතට විරුද්ධව සටන් කිරීම සාංසිද්ධික වශයෙන් පැන නගින සැපයුම් කාරක සභා, ආහාර කාරක සභා, ඉන්ධන මණ්ඩල යනාදී නොයෙක් ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන විසින් ආරම්භ කරන ලදී.

අප විමර්ශනයට භාජනය කරන ප්‍රශ්නය හා සම්බන්ධයෙන් වූ කල, මුළු හය මාසයේම ඉතාමත් වැදගත් දෙය වූයේ, ''විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදයේ බලය ලත් මණ්ඩල'' නාමයෙන් මෙන්ෂෙවික්වරුන් හා සමාජවාදී-විප්ලවවාදීන් විසින් ආධාර කරනු ලබන හා තමන් සමූහාණ්ඩුවාදී සහ විප්ලවවාදී යයි කියා ගන්නා ආණ්ඩුවක්, ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානවලට විරුද්ධව සටන් කර ඒවා පරාජය කිරීමය!

මෙම සටන නිසා පල්චින්ස්කි ලද්දේ රුසියාව මුළුල්ලේ පැතිරී ගිය ඉතා කණගාටුදායක අපකීර්තියකි. ඔහු ආණ්ඩුවට හොරෙන්,ජනතාව ඉදිරියේ ප්‍රසිද්ධ ලෙස ඉදිරිපත් නොවී, කටයුතු කළේය. (''ජනතාවට පෙනෙන ලෙසට'' කැමැත්තෙන්ම ටෙසෙරතෙලි ඉදිරියට තල්ලු කරමින්, ශබ්ද නොකර වැදගත් කටයුතු සඳහා පිළියෙළ යෙදීමෙහි තමන්ම යෙදුනු කැඩෙට්වරු සාමාන්‍යයෙන් ක්‍රියා කිරීමට කැමති වූයේ එපරිද්දෙනි). කිත් කිතිච්ලාගේ අධික ලාභ සහ අභිප්‍රායයන්ට ''හානි'' නොකර කිසිම බරපතල පියවරක් ගත නොහැකි නිසා, සාංසිද්ධික ලෙස නිර්මාණය කෙරුණු ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන ගත් සියළුම බරපතල පියවරයන්ට පල්චින්ස්කි අවහිර කළේය. ඒ අනුව පල්චින්ස්කි ඇත්ත වශයෙන්ම කිත් කිතිච්ලාගේ කීකරු ආරක්ෂකයෙක් හා සේවකයෙක් විය. සාංසිද්ධික වශයෙන් ඇතිවූ



ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානවල නියෝග නිකම්ම අවලංගු කර දැමීම තරම් දුරට පල්චින්ස්කි ගියේය! මේ බව පුවත්පත්වලද වාර්තා විය.

පල්චින්ස්කි ''පාලනය'' මාස කීපයක්ම පැවතියේය. ඔහු පාලනය කළේ ටෙසෙරතෙලි, ස්කොබිලෙව් සහ වෙර්නොව් ''ඇමතිවරු'' වී සිටි කාලයේමය.ඔහුගේ එම මුළු ''පාලන'' කාලයම මුල පටන් අග දක්වා මහා අපචාරයක් විය. එය යටතේ ධනපතියන් සතුටු කිරීම සහ ඔවුන්ගේ කෑත කෑදරකමට ඉඩදීම සඳහා ජනතාවගේ කැමැත්ත හා ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ තීරණ ව්‍යර්ථ කිරීම සිදුවිය. පුවත්පත්වල පළවූයේ පල්චින්ස්කිගේ ''මහා හපන්කම්'' වලින් ඉතා ස්වල්පයක් පමණකි. ඔහු සාගතයට විරුද්ධ අරගලයට බාධා කළ ආකාරය ගැන සම්පූර්ණ පරීක්ෂණයක් කළ හැකි වන්නේ, නිර්ධන පංතියේ නියම ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩුවක් බලයට පත්වී, පල්චින්ස්කි හා ඔහු වැන්නන්ගේ කටයුතු ගැන කිසිවක් නොසඟවා ඔවුන් කළ දේ ජනතාවගේ විනිශ්චය සඳහා ඉදිරිපත් කළ විට පමණකි.

පල්චින්ස්කි විශේෂයෙන් අමුතු පුද්ගලයෙක් වූ බවත්, අවසානයේදී ඔහු ඉවත් කරන ලද බවත්... සමහර විට තර්කයක් වශයෙන් ඉදිරිපත් කිරීමට ඉඩ තිබේ. නමුත් සත්‍ය කාරණය නම් පල්චින්ස්කි පිළිවෙත විශේෂත්වයක් නොව සාමාන්‍ය දෙයක් වීමය. ඔහු ඉවත් කිරීම නිසා කිසිසේත් යහපතක් වී නැත. ඔහුගේ තැන ගෙන ඇත්තේ වෙනත් නම් ඇති ඒ වර්ගයේම පල්චින්ස්කිලාය. එසේම, ධනපතියන්ගේ ''බලපෑම'' කිසිම අඩුවක් නොමැතිව සම්පූර්ණයෙනුත්, ධනපතියන් සතුටු කිරීම සඳහා කුසගිනි විරෝධී සටන කඩාකප්පල් කිරීමේ ප්‍රතිපත්තිය සම්පූර්ණයෙන්මත්, නොවෙනස්ව පවතී. එයට හේතුව, කෙරෙන්ස්කි සහ සමාගම ධනපතියන්ගේ උවමනාවන් ආරක්ෂා කිරීම පිණිස අටවා ගත් කඩතුරාවක් පමණක් වීමය.

මෙය ඔප්පු කරන ඉතාමත් සිත් කාවදින සාධකය,ආහාර ඇමති පෙෂෙහොනව්ගේ ඉල්ලා අස්වීමය. අප දන්නා ලෙසට පෙෂෙහොනව් ඉතාමත් මැදහත් නරෝද්නික්වරයෙක් වන්නේය. ආහාර නිෂ්පාදනය සංවිධානය කිරීමේදී ඔහු අවංකව වැඩ කිරීමට අපේක්ෂා කළේය. එම කටයුත්තෙහිදී ප්‍රජාතන්ත්‍රවාදී සංවිධාන සමග සම්බන්ධ වී, ඒවායේ ආධාර ඇතිව වැඩ කිරීමට ඔහුට උවමනා විය. පොදු ජන සමාජවාදී පක්ෂයේ සාමාජිකයෙකු වූ මෙම ඉතාමත් මැදහත් නරෝද්නික්වාදියා ධනපතියන් සමග ඕනෑම සම්මුතියක් පිළිගැනීමට සූදනම් වූ නමුත්, ඔහුට ඉල්ලා අස්වීමට බල කරන ලදී! එනිසා පෙෂෙහොනව්ගේ වැඩ කටයුතු පිළිබඳ අත්දැකීම හා ඔහුගේ ඉල්ලා අස්වීම වඩාත් කුතුහලය අවුස්සනසුලුය. ඔහුට ඉල්ලා අස්වීමට සිදුවූයේ ධනපතියන්, ඉඩම් හිමියන් හා කුලාකයන් සතුටු කිරීමට කෙරෙන්ස්කි ආණ්ඩුව නියමිත ධාන්‍ය මිළ වැඩි කළ හෙයිනි!

සැප්තැම්බර් 2 දින ස්වබෝද්නයා ෂිස්න්[131]අංක 1 පත්‍රයෙහි ''පියවර'' හා එහි වැදගත්කම ගැන එම්. ස්මිත් විස්තර කරන්නේ මෙසේය:

''ආණ්ඩුව නියමිත මිළ වැඩි කිරීමට දින ගණනකට පෙර ජාතික ආහාර කාරක සභාව තුළ පහත සඳහන් ජවනිකාව ඇතිවනු දක්නා ලදී. දක්ෂිණාංගිකයෙක්, පුද්ගලික වෙළඳාමේ අයිතිවාසිකම් දැඩි ලෙස ආරක්ෂා කරන්නෙක් හා ධාන්‍ය ඒකාධිකාරයට සහ වාණිජ කටයුතුවලට රජයේ ඇඟිලි ගැසීම ගැන නිර්දය ලෙස විරුද්ධ අයෙක් වූ, රොලොවිච් තුටු පහටු සිනා රැල්ලක් පාමින් ළඟදී ධාන්‍ය මිළ වැඩි කරන්නට යන බව තමාට දැනගන්නට ඇතැයි කීවේය.

තමා එබඳු කිසිම දෙයක් නොදන්නා බවත්, රුසියාවේ විප්ලවය පවත්නා තාක් කල් එවැන්නක් සිදුවිය නොහැකි බවත්, කෙසේ හෝ වේවා, බලය ලත් ප්‍රජාතන්ත්‍රවාදී මණ්ඩල එනම්, ආර්ථික මණ්ඩලය සහ ජාතික ආහාර කාරක සභාව ප්‍රථමයෙන් නොවිමසා ආණ්ඩුවට එවැනි පියවරක් ගත නොහැකි බවත් කියමින්, කම්කරු හා සොල්දාදු නියෝජිත සෝවියට් සභාවේ නියෝජිතයා ඊට පිළිතුරු දුන්නේය. ගොවිජන නියෝජිත සෝවියට් සභාවේ නියෝජිතයාද, මෙම ප්‍රකාශයට සහයෝගය දැක්වීය.

''එහෙත් අහෝ සිදුවූ දෙයක්! මෙම ප්‍රත්‍යුත්තරයේ විස්තරයට යථාර්ථයෙන් ඉතාමත් කර්කශ සංශෝධනයක් ඉදිරිපත් විය. මෙහිදී නිවැරදි වූයේ ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ නියෝජිතයා නොව, පොහොසත් කොටස්වල නියෝජිත තැනය. ප්‍රජාතන්ත්‍රවාදී අයිතිවාසිකම්වලට පහර දීමට කෙරෙන සූදානම ගැන ඔහු ඉතා හොඳින් දැන සිටියේය. එවැනි ප්‍රහාරයක් ඇතිවීමේ හැකියාව පවා පිළි නොගෙන ප්‍රජාතන්ත්‍රවාදී නියෝජිතයන් කෝපයෙන් එය ප්‍රතික්ෂේප කළ නමුත්, ඔහු එය හොඳින් දැන සිටියේය''.

මේ අනුව බලන කල, කම්කරුවන්ගේ නියෝජිතයා සහ ගොවිජනතාවගේ නියෝජිතයා යන දෙදෙනාම, ඉතා පැහැදිලි ලෙස, ජනතාවගෙන් අති බහුතරයේ නාමයෙන් ඔවුන්ගේ අදහස ඉදිරිපත් කළත්, කෙරෙන්ස්කි ආණ්ඩුව එම අදහසට විරුද්ධව ධනපතියන්ගේ යහපත පිණිස කටයුතු කරයි!

ධනපතියන්ගේ නියෝජිතයෙක් වන රොලොවිච් ප්‍රජාතන්ත්‍රවාදීන්ට හොරෙන් කරුණු හොඳින් දැන ගෙන සිටි බව පෙනී ගියේය. එය වනාහි, අපට නිතරම පෙනී ගිය පරිදි සහ අපට දැන් පෙනෙන පරිදි, ''රෙච්'' සහ ''බිර්ෂෙව්කා'' යන ධනපති පුවත්පත්වලට කෙරෙන්ස්කි ආණ්ඩුවේ කෙරුම් ගැන වඩාත්ම හොඳින් කරුණු දැන ගන්නට ලැබීමට සමාන දෙයකි.

මෙසේ විශිෂ්ට ලෙස නොරතුරු දැනගන්නට ලැබීමෙන් පෙනෙන්නේ කුමක්ද? එයින් පැහැදිලි වන්නේ ධනපතියන්ට ඔවුන්ගේ ''කටයුතු කර ගැනීමේ මාර්ග'' තිබෙන බව හා බලය ඔවුන්ගේ අතෙහිම තිබෙනු හා සමාන බවය. කෙරෙන්ස්කි නමට පමණක් නායකයෙක් වන අතර, ඔවුහු තමන් කැමති ලෙසට හා කැමති විට ඔහු උපයෝජනය කර ගනිති. පොහොසතුන් අතලොස්සකගේ ලාභ උදෙසා කෝටි ගණන් කම්කරුවන්ගේ හා ගොවි ජනයාගේ අවශ්‍යතාවයන් බිලි දී තිබෙන බව පෙනේ.

අනිත් අතට, ජනතාවට කරන මේ දූෂ්ට අපරාධය ගැන සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් ප්‍රතිචාර දක්වන්නේ කෙසේද? මින් පසු කෙරෙන්ස්කිට සහ ඔහුගේ සගයන්ට දිය යුතු තැන සිර ගෙය යයි කියමින් ඔවුහු කම්කරුවන් හා ගොවි ජනතාව වෙත ආයාචනයක් නිකුත් කළෝද?

දෙවියෝ රකිත්වා!සමාජවාදී-විප්ලවවාදීහු හා මෙන්ෂෙවික්වරු ඔවුන්ගේ ආර්ථික දෙපාර්තුමේන්තුව මගින් සම්මත කළ හා අප දැනටමත් සඳහන් කර ඇති යෝජනාවට පමණක් සීමාවී සිටියහ! කෙරෙන්ස්කි ආණ්ඩුව විසින් ධාන්‍ය මිළ වැඩි කිරීම ''ආහාර සම්පාදනයට හා රටේ මුළු ආර්ථික ජීවිතයටම බරපතල පහරක් ගසන විනාශකාරී පියවරක්'' බව හා මෙම විනාශකාරී පියවරයන් ගෙන ඇත්තේ කෙළින්ම නීතිය ''උල්ලංඝනය'' කරමින් බවත් ඔවුහු මෙම යෝජනාවෙන් ප්‍රකාශ කරති!!

සම්මුති ඇති කිරීමේ ප්‍රතිපත්තියේ, කෙරෙන්ස්කි සමග මුකුළු කිරීමේ සහ ඔහුට ''කමා කිරීමේ'' අභිලාෂයේ ප්‍රතිපත්තියෙහි ප්‍රතිඵල එසේය!

පොහොසතුන්ගේ, ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ යහපත පිණිස, පාලනය පිළිබඳ කටයුතු සියල්ලම සහ ආහාර සම්පාදනයත්, ඉතාමත් දුර්වලව පවතින මුදල් තත්වයේ ස්ථායීතාවයක් ඇති කිරීමේ කටයුතුත්, විනාශ කරන පියවර අනුමත කිරීමෙන් ආණ්ඩුව නීතිය උල්ලංඝනය කරන නමුත්, සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු වාණිජ සහ කාර්මික කොටස් සමග එකඟත්වයක් ඇති කර ගැනීම ගැන තවදුරටත් කථා කරති. ඔවුහු තෙරෙශෙන්කෝ සමග සාකච්ඡා වලට සහභාගි වීමෙහි හා කෙරෙන්ස්කිට ''කමා කිරීමෙහි'' තවදුරටත් යෙදෙමින්, ආණ්ඩුව විසින් ඉතා සන්සුන් ලෙස හමස් පෙට්ටියේ ලනු ලබන විරෝධය ප්‍රකාශ කිරීමේ කඩදාසි යෝජනාවලට පමණක් සීමාවී සිටිති!!

සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් ජනතාව සහ විප්ලවය පාවා දී ඇති බව සහ බොල්ෂෙවික්වරු ජනතාවගේ නියම නායකයන් බවට, එසේම, සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් ජනතා කොටස්වල පවා නායකයන් බවට පත් වෙමින් සිටින බැව් මෙයින් ඉතා පැහැදිලි ලෙස හෙළිදරව් වන්නේය.

කෙරෙන්ස්කි සහ සමාගමේ දූෂ්ට අපරාධ කෙළවර කිරීමට සහ කෙරෙන්ස්කි සහ ඔහුගේ ආණ්ඩුව කඩාකප්පල් කරන ප්‍රජාතන්ත්‍රවාදී ආහාර බෙදීම, සැපයුම හා සංවිධාන පිළිබඳ කටයුතු යළි ස්ථාපිත කිරීමට

හැකිවන්නේ, බොල්ෂෙවික් පක්ෂයේ නායකත්වයෙන් යුත් නිර්ධන පංතිය බලය දිනා ගැනීමෙන් පමණකි.

මෙම ධාන්‍ය මිළ වැඩි කිරීම වැනි නින්ද සහගත ක්‍රියාවකට රට යොමු කළ ප්‍රතිපත්තියක් වන, සමාජවාදී-විප්ලවවාදීන්ගේ හා මෙන්ෂෙවික්වරුන්ගේ චපල, අස්ථිර හා සැබවින්ම ද්‍රෝහී ප්‍රතිපත්තිය හමුවේ, ආහාර බෙදා දීම හා සැපයුම සහතික කිරීම සහ කම්කරුවන්ගේ සහ ගොවි ජනතාවගේ ඉතාමත් හදිසි අවශ්‍යතාවයන් ඉටු කිරීම සහතික කරන මුළු ජනතාවගේ අවශ්‍යතාවයන් වෙනුවෙන් පෙනී සිටින නියෝජිතයන් ලෙසට බොල්ෂෙවික්වරු කටයුතු කරති. ඉහත නිදර්ශනයෙන් මේ බව ඉතා පැහැදිලිව අනාවරණය වේ.

## මූල්‍ය බිඳ වැටීම
## සහ ඊට විරුද්ධව සටන් කිරීමේ පියවරයන්



නියමිත ධාන්‍ය මිළ වැඩි කිරීම පිළිබඳ ප්‍රශ්නයේ තවත් පැත්තක් තිබේ. මෙම මිළ වැඩි කිරීම නිසා, කඩදාසි මුදල් නිකුතුවේ වියවුල් සහිත වැඩිවීමක්ද, ජීවන වියදමෙහි තවදුර වැඩි වීමක්ද, මූල්‍ය අසංවිධානය වැඩි වීමක්ද, මූල්‍ය බිඳ වැටීම ආසන්න වීමක්ද, සිදු වන්නෝය. කඩදාසි මුදල් නිකුතුව ඉතාමත් නරක ආකාරයේ අනිවාර්ය ණය ක්‍රමයය; අන් සියල්ලටම වඩා එය කම්කරුවන්ගේ සහ ජනගහනයේ දුප්පත්ම කොටස්වල ජීවන තත්වය කෙරෙහි බලපාන්නේය; මූල්‍ය අවුල් වියවුල් වලින් පැන නගින ප්‍රධාන නපුර එයයි. ඒ බව කවුරුත් පිළිගනිති.

සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ ආධාරය ලබන කෙරෙන්ස්කි ආණ්ඩුව ක්‍රියාත්මක කරන පියවර මෙයයි!

ප්‍රාග්ධනයේ උවමනාවන් කෙරෙන් විප්ලවවාදී ලෙස බිඳී වෙන්වීමේ සහ නියම ප්‍රජාතන්ත්‍රවාදී පාලනයේ එනම්, ධනපතියන් යටත් කොට ''පහළින්'' කම්කරුවන් හා ගොවීන් විසින් ක්‍රියාත්මක කරනු ලබන පාලනයේ මාර්ගය හැර මූල්‍ය අසංවිධානයට සහ නොවැලැක්විය හැකි මූල්‍ය බිඳ වැටීමට විරුද්ධව සටන් කිරීමේ වෙනත් මගක් නොමැත. මෙම කෘතියේ මුල් කොටස මුළුල්ලේම, මෙම මාර්ගය ගැන අපි සඳහන් කර ඇත්තෙමු.

කඩදාසි මුදල් නිකුතුව නිසා ලාභ ගැරීම පහසු වේ; ධනපතියන්ට රූබල් දශ ලක්ෂ ගණන් රැස් කර ගැනීමට ඉඩ සැලසේ; ද්‍රව්‍ය, යන්ත්‍ර-සූත්‍ර ආදියෙහි දැනටමත් අධික මිළ තව තවත් ඉතා වේගයෙන් වැඩිවීම නිසා, නිෂ්පාදනයේ අත්‍යාවශ්‍ය ප්‍රසාරණයට බලවත් සේ අකුල් හෙළීමක් සිදුවේ. අධිලාභ ගැරීම තුළින් ධනපතියන් රැස් කරගත් ධනය සඟවා තබා ඇති කල, ඒ ගැන කළ හැකි දෙයක් තිබේද?

විශාල සහ ඉතා විශාල ආදායම්වලින් අනුක්‍රමික සහ වැඩි බදු ප්‍රමාණ සහිත ආදායම් බද්දක් අය කිරීම ආරම්භ කළ හැකිය. අපගේ ආණ්ඩුව, අනිකුත් අධිරාජ්‍යවාදී රටවල් අනුව යමින්, ආදායම් බද්දක් ක්‍රියාත්මක කර තිබේ. ප්‍රථමයෙන් මුදලෙහි අගය වඩ වඩාත් වේගවත් ලෙස පහත වැටෙන නිසා සහ දෙවැනිව, ලාභ ගැරීමෙන් ලබන ආදායම වැඩි වෙත්ම, එමෙන්ම, වාණිජ රහස්‍ය භාවය වඩාත් සුරැකිව ආරක්ෂා කෙරෙත්ම, ලාභ වැඩි වැඩියෙන් සඟවනු ලැබෙන නිසා, එම ආදායම් බද්ද බොහෝ දුරට මිථ්‍යාවක් වී තිබේ; අවලංගු නීතියක් වී තිබේ.

බද්ද ව්‍යාජයක් නොව, සැබෑ බද්දක් වීමට නම්, නාමික නොව සැබෑ පාලනයක් අවශ්‍යය. නිලධාරිවාදය දහසක් රැහැන්වලින් ධනපති පංතිය සමග බැඳී, වෙළී, පැටලී තිබෙන්නක් වන හෙයින්, ධනපතියන් කෙරෙහි පනවනු ලබන පාලනය නිලධාරිවාදී වෙතොත් එය කිසිසේත් සාර්ථක නොවේ. රාජාණ්ඩු සහ සමූහාණ්ඩු යන දෙවර්ගයේම බටහිර යුරෝපීය අධිරාජ්‍යවාදී රාජ්‍යයන්, කම්කරුවන්ට යුද්ධකාලීන බරපතල වැඩ සහිත සිර දඬුවම් නැතහොත් යුද්ධකාලීන වහල් භාවය ගෙන එන ''ශ්‍රම සේවය'' ක්‍රියාත්මක කිරීමෙන් පමණක් මූල්‍ය ක්‍රමානුකූලතාවය ඇති කර ගන්නේ-එනිසාය.

යුද්ධයේ බර නිර්ධන පංතිය සහ වැඩ කරන ජනතාව මත පැටවීමේ ප්‍රතිගාමී-නිලධාරිවාදී පාලනය හැර, අධිරාජ්‍යවාදී රාජ්‍යයන් දන්නා වෙනත් පාලනයක් නැත. ප්‍රංශය සහ ඇමෙරිකාව යන සමූහාණ්ඩු පවා මේ සම්බන්-ධයෙන් අමුතු තත්වයක් නොගනී.

ධනපතියන් සමග දබර නොවී සිටීමට සහ ඔවුන් සමග පවත්වන ''සහභාගය'' විනාශ නොවීමට නම්, අපගේ ආණ්ඩුවට සිදුවී තිබෙන්නේ ප්‍රතිගාමී-නිලධාරිවාදී පාලනයක් ඇතිකිරීමටය. එම පාලනය විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී එකකැයි කියමින්, එය හැරුණු හැරුණු අතට ජනතාව රවටයි; එමගින් එය මේ මෑතදී සාර්වාදය පෙරළා දැමූ පොදු ජනතාව අවුස්-සයි, කුපිත කරවයි. අපගේ ආණ්ඩුවේ ප්‍රතිපත්තියෙහි මූලික ප්‍රතිවිරෝධය එයයි.

නමුත් පොහොසතුන් යටත් කරන ඉතාමත් කාර්ය සාධක පාලනයක් ඇති කළ හැකි වන්නේත්, ආදායම් සැඟවීමට විරුද්ධව ඉතාමත් සාර්ථක සටනක් කළ හැකි වන්නේත්, විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී පියවරයන් ගැනී-මෙන් පමණකි. එය කළ හැකි වන්නේ පීඩිත පංති, කම්කරුවන් හා ගොවීන් සංගම් තුළ සංවිධානය කිරීමෙන් පමණකි.

කඩදාසි මුදල් නිකුත් කිරීම මග හැරීමේ මාර්ගයක් ලෙසට චෙක් පත් උපයෝජනය දිරි ගැන්වීමේ ප්‍රයත්නයක් දරනු ලැබේ. දුප්පතුන් හා සම්බන්ධයෙන් වූ කල මෙම පියවරෙහි ඇති වැදගත් කමක් නැත. එසේ වන්නේ ඔවුන් අතින්-කටට ස්වරූපයේ දිවියක් ගෙවමින්, එක සතියකින් ඔවුන්ගේ ''ආර්ථික චක්‍රය'' සම්පූර්ණ කර, ඔවුන් උපයාගත් තඹ දෙක තුන ආපසු ධනපතියන් අතට පත් කරන බැවිනි. පොහොසතුන් සම්බන්ධයෙන් නම් චෙක් පත් උපයෝජනය බෙහෙවින් වැදගත් වන්නට පිළිවන. බැංකු ජනසතු කිරීම හා වාණිජ රහස්‍ය භාවය අවලංගු කිරීම වැනි පියවරයන් සමග ඒකාබද්ධ ලෙස ගත් කල, එයින් ධනපතියන්ගේ ආදායම් සැබවින්ම පාලනය කිරීමට, එම ආදායම් මත නියම වශයෙන් බදු පැනවීමට හා මූල්‍ය ක්‍රමය යථා ලෙස ''ප්‍රජාතන්ත්‍රවාදී'' කිරීමට (හා ඒ අතරම ක්‍රමානුකූල කිරීමට) රජයට හැකිවේ.

නමුත් ධනපතියන්ගේ වරප්‍රසාදවලට හානියක් පැමිණේ යයිද, ඔවුන් සමග පවතින ''සභාගය'' විනාශවේයයිද, බිය වීම නිසා මෙම ක්‍රියා මාර්ගය අවහිර වන්නේය. එසේ වන්නේ, සැබැවින්ම විප්ලවවාදී පියවරයන් නොගතහොත් හා ඉතා බරපතල ලෙසට බල කිරීම නොකළහොත්, ධනපතියන් කිසිම පාලනයකට අඩංගු නොවන බැවිනි. එසේ වූ කල ඔවුහු ඔවුන්ගේ අයවැය හෙළිදරව් නොකරති, ප්‍රජාතන්ත්‍රවාදී රජය මගින් ''ගිණුම් තැබීම'' සඳහා ඔවුන්ගේ කඩදාසි මුදල් භාර නොදෙති.

බැංකු ජනසතු කිරීමෙන්, චෙක් පත් භාවිතය සියළුම පොහොසතුන්ට අනිවාර්ය කිරීමෙන්, ආදායම් සැඟවීම ආදිය සඳහා දඬුවම ලෙසට දේපල රාජ සන්තක කිරීමට නියම කිරීමෙන්, සාර්ථක ලෙස සහ විශ්වීය ලෙස පාලනය ක්‍රියාත්මක කිරීම සංගම් තුළ සංවිධානය වූ කම්කරුවන්ට හා ගොවීන්ට ඉතා පහසු වනු ඇත. එවිට එය පොහොසතුන් අවනත කරන පාලනයක් සහ කඩදාසි මුදල් ඇති අයගෙන් හා ඒවා සඟවාගෙන සිටින අයගෙන්, එම මුදල්, ඒවා නිකුත් කරන භාණ්ඩාගාරය වෙත ආපසු ලැබෙන්නට සලස්වන පාලනයක් වනු ඇත.

මෙය ඉටු කිරීම සඳහා විප්ලවවාදී නිර්ධන පංතියේ නායකත්වයෙන් යුත් ප්‍රජාතන්ත්‍රවාදයේ විප්ලවවාදී ආශ්‍රද්ධයකත්වයක් අවශ්‍යය. එයින් අදහස් වන්නේ ප්‍රජාතන්ත්‍රවාදය ඇත්ත වශයෙන්ම විප්ලවවාදී විය යුතු බවය. කාරණයේ අරටු කොටස එයයි. නමුත් අපගේ සමාජවාදී-විප්ලවවාදීන්ට සහ මෙන්ෂෙවික්වරුන්ට එපා වී තිබෙන්නේමද එයමය. ඔවුහු ''විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදයේ'' කොඩිය වනමින් ජනතාව රවටන අතර, "après nous le déluge" — අපෙන් පසු ලෝක විනාශය, යන ප්‍රතිපත්තිය අනුගමනය කරන ධනපති පංතියේ ප්‍රතිගාමී-නිලධාරිවාදී ප්‍රතිපත්තියට ඇත්ත වශයෙන්ම ආධාර කරති!



ධනපති දේපලවල ''ශුද්ධත්වය'' හා සම්බන්ධ ප්‍රජාතන්ත්‍ර විරෝධී ගති සිරිත් හා දුර්මත අප තුළ කොතරම් තදින් විනිවිද ගොස් තිබේද යන්න පවා සාමාන්‍යයෙන් අපගේ සැලකිල්ලට ලක් වන්නේ නැත. ඉන්ජිනේරුවෙක් හෝ බැංකු කරුවෙක්, කම්කරුවෙකුගේ ආදායම හා වියදම සහ ඔහුගේ වේතන හා නිෂ්පාදකත්වය ගැන තොරතුරු ප්‍රසිද්ධ කළ විට එය සම්පූර්ණයෙන්ම සුදුසු හා සාධාරණ දෙයක් ලෙසට සලකනු ලැබේ. එය කම්කරුවාගේ ජීවිතයට ඇඟිලි ගැසීමක් ලෙසට හෝ ඉන්ජිනේරුවරයා ''වර පුරුෂ කටයුත්තක හෝ ඔත්තු සැපයීමක'' යෙදීමක් ලෙසට හෝ කිසිවෙක් නොසිතයි. වේතන කම්කරුවාගේ ශ්‍රමය සහ ඉපයීම් තමන්ගේ විවෘත පොත ලෙසට ධනපති පංතිය විසින් සලකනු ලැබේ. ඕනෑම ධනපතියෙකුට, ඕනෑම වෙලාවක, එය බැලීමට සහ කම්කරුවාගේ ''සුඛෝපභෝගී ජීවනය'', ඔහු තුළ ඇතැයි කියන ''අලසකම'', ආදිය හෙළිදරව් කිරීමට පුළුවන.

හොඳයි, ප්‍රතිවර්තන ස්වභාවයේ පාලනය ගැන කියන්නේ කුමක්ද? ධනපතියන්ගේ ආදායම් සහ වියදම් හරි වැරදි බැලීමට, එම විෂය ගැන තොරතුරු පළ කිරීමට සහ ආදායම් සඟවා තැබීමට විරුද්ධව සටන් කිරීමේදී ආණ්ඩුවට ආධාර කිරීමට ප්‍රජාතන්ත්‍රවාදී ආණ්ඩුවක් විසින් සේවක, ලිපිකරු සහ ගෘහ සේවක සංගම් කැඳවාගනු ලැබුවහොත් සිදුවිය හැක්කේ කුමක්ද?

''වර පුරුෂ කටයුතු'' සහ ''ඔත්තු සැපයීමට'' එරෙහිව ධනපතියන් මොන තරම් මහා ඝෝෂාවක් කරනු ඇද්ද? ස්වාමිවරු සේවකයන් පාලනය කරන විට, නැතහොත් ධනපතියෝ කම්කරුවන් පාලනය කරන විට එය සාමාන්‍ය ස්වාභාවික දෙයක් ලෙසට සලකනු ලැබේ. වැඩ කරන සහ සූරා කනු ලබන ජනතාවගේ පෞද්ගලික ජීවිතය අනුල්ලංඝනීය සේ නො සැලකේ. ඕනෑම ''වේතන වහලෙකුගෙන්'' විස්තර විභාග කිරීමට, ඕනෑම වේලාවක ඔහුගේ ආදායම සහ වියදම ගැන ප්‍රසිද්ධ කිරීමට ධනපති පංතියට අයිතිය තිබේ. නමුත් පීඩකයා පාලනය කිරීමට, ඔහුගේ ආදායම සහ වියදම පෙන්වා දීමට, යුද්ධ කාලයේදී පවා ඔහු ගත කරන සුඛෝපභෝගී ජීවිතය, යුද්ධ පෙරමුණේ හමුද නිරාහාරව විනාශ වී යාමට ඒකාන්ත වශයෙන් හේතුවන, ඔහුගේ එම සුඛෝපභෝගී ජීවිතය ගැන හෙළිදරව් කිරීමට පීඩිතයා උත්සාහ කළහොත් — අහෝ නැත, ''වර පුරුෂ කටයුතු'' හා ''ඔත්තු සැපයීම'' ඉවසා සිටීමට ධනපති පංතිය සූදානම් නැත!

මේ සියල්ලෙහිම අර්ථය එකය: ධනපති පංතියේ පාලනය, නියම විප්ලවවාදී, නියම ප්‍රජාතන්ත්‍රවාදය සමග ගැලපිය නොහැකිය. විසිවැනි ශත වර්ෂයේදී ධනපති රටක සිටින අතර, අපි සමාජවාදය දෙසට ඉදිරියට

යාමට බිය වන්නෙමු නම්, අපට විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන් වීමේ හැකියාවක් නැත.

## සමාජවාදය දෙසට ඉදිරියට යාමට අපි බිය වන්නෙමු නම් අපට ඉදිරියට යාමට පුළුවන්ද?

මෙතෙක් ඉදිරිපත් කර ඇති කරුණු අනුව පහත සඳහන් විරෝධය මතු කිරීමට, සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ ප්‍රවර්තන අවස්ථාවාදී අදහස්වලින් පෝෂණය වූ පාඨකයා පහසුවෙන් යොමු වන්නට පිළිවන. මෙහි විස්තර කර තිබෙන පියවරයන් බොහොමයක්ම, දැනටම යථාර්ථ වශයෙන් සමාජවාදී පියවරයන් මිස ප්‍රජාතන්ත්‍රවාදී පියවරයන් නොවන බව ඔහු කියන්නට ඉඩ තිබේ!

සාමාන්‍ය වශයෙන් (එක් හෝ තවත් ආකාරයකින්) ධනපති, සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පුවත්පත්වලින් ඉදිරිපත් කෙරෙන, මෙම ප්‍රවර්තන විරෝධය වනාහි, නොදියුණු ධනපති ක්‍රමය ආරක්ෂා කිරීමේ ප්‍රතිගාමී ප්‍රයත්නයකි. එය ස්ත්‍රුවේවාදී ඇඳුම් පළන්ද ඉදිරිපත් කෙරෙන ප්‍රයත්නයකි. අප සමාජවාදයට සුදුසු තරම් මෝරා නොමැති බවත්, සමාජවාදය ''ආරම්භ කිරීමට'' තවමත් කල් පැමිණ නැති බවත්, අපගේ විප්ලවය ධනපති විප්ලවයක් බව හා (ප්‍රංශයේ ශ්‍රේෂ්ට ධනපති විප්ලවවාදීන් අවුරුදු 125 කට පෙර පීඩකයන්ට විරුද්ධව, ඉඩම් හිමියන්ට සහ ධනපතියන්ට එකසේ විරුද්ධව ත්‍රස්තය ක්‍රියාත්මක කිරීමෙන් ඔවුන්ගේ විප්ලවය ශ්‍රේෂ්ට විප්ලවයක් කළ නමුත්!) අප ධනපති පංතියේ දසයන් විය යුතු බවත්, එයින් කියන්නාක් මෙන් පෙනේ.

මේ ආකාරයට තර්ක කරන ධනපතියන්ගේ අන්තේවාසික බොරු මාක්ස්වාදීන්ට සහ දැන් ඔවුන්ට එකතු වී සිටින සමාජවාදී විප්ලවවාදීන්ට, අධිරාජ්‍යවාදය කුමක්ද, ධනපති ඒකාධිකාරය කුමක්ද, රාජ්‍යය කුමක්ද සහ විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදය කුමක්ද යන්න (ඔවුන්ගේ අදහසේ න්‍යායික පදනම පරීක්ෂා කිරීමෙන් පෙනෙන පරිදි) නොවැටහෙන්නේය. සමාජවාදය දෙසට හැර වෙනත් දිසාවකට ඉදිරියට යා නොහැකි බව මෙය වටහා ගත් කෙනෙක් නිසැක ලෙස පිළිගනු ඇත.

සියළු දෙනාම අධිරාජ්‍යවාදය ගැන කථා කරති. නමුත් අධිරාජ්‍යවාදය හුදෙක් ඒකාධිකාරී ධනපති ක්‍රමය වන්නේය.

රුසියාවේ ධනපති ක්‍රමයත් ඒකාධිකාරී ධනපති ක්‍රමය බවට පත් වී ඇතැයි යන්න ''ප්‍රොද්උගල්'', ''ප්‍රොදමෙත්'', සීනි සම්මේලය, යනාදියෙන් මනාව ඔප්පු වේ. ඒකාධිකාරී ධනපති ක්‍රමය, රාජ්‍ය ඒකාධිකාරී ධනපති ක්‍රමය දක්වා සංවර්ධනය වන්නේ කෙසේද යන්න උගන්වන පාඩමක් බඳුය, සීනි සම්මේලය.

ඊළඟට රාජ්‍යය යනු කුමක්ද? එය පාලක පංතියේ සංවිධානයකි. නිදසුනක් වශයෙන් ජර්මනියේ එය ජුන්කර්වරුන්ගේ සහ ධනපතියන්ගේ සංවිධානයකි. එනිසා ජර්මන් ප්ලෙහානවිලා (ෂෙයිඩමාන්ලා, ලෙන්ච් සහ වෙනත් අය ''යුද්ධකාලීන සමාජවාදය'' යනුවෙන් හඳුන්වන දෙය අන් කිසිවක් නොව, ඇත්ත වශයෙන්ම යුද්ධ කාලීන රාජ්‍ය ඒකාධිකාරී ධනපති ක්‍රමය ය. වඩාත් සරල ලෙස සහ පැහැදිලි ලෙස කියතොත්, එය කම්කරුවන්ට යුද්ධ කාලීන බරපතල වැඩ සහිත සිර දඬුවම් දීම සහ ධනපති ලාභ සඳහා යුද්ධ කාලීන ආරක්ෂාව සැලසීම වන්නේය.

ජුන්කර් ධනපති රාජ්‍යයක් වෙනුවට, ඉඩම්හිමි-ධනපති රාජ්‍යය වෙනුවට, විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යයක් ආදේශ කිරීමට දැන් උත්සාහ ගන්න. එනම් විප්ලවවාදී ක්‍රමයකින් සියළුම වරප්‍රසාද අහෝසිකරන සහ විප්ලවවාදී ක්‍රමයකින් සම්පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදය ක්‍රියාත්මක කිරීමට බිය නොවන රාජ්‍යයක් ආදේශ කිරීමට උත්සාහ ගන්න. නිමය විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී රජයක් ඇතොත්, රාජ්‍ය ඒකාධිකාරී ධනේශ්වර ක්‍රමය අනිවාරණීය වශයෙන් හා නොවැලැක්විය හැකි ලෙස සමාජවාදය දෙසට යන පියවරක්, එක පියවරකට වැඩි දෙයක්, වන්නේය!

එසේ වන්නේ අති විශාල ධනපති ව්‍යාපාරයක්, ඒකාධිකාරයක් බවට පත් වූ විට එය මුළු ජාතියටම සේවය කරන බව එයින් අදහස් වන හෙයිනි. එය රාජ්‍ය ඒකාධිකාරයක් බවට පත් වන්නේ නම්, එයින් අදහස් වන්නේ රාජ්‍යය (එනම්, ජනගහනයේ, එසේම විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදයක් ඇතොත්, ප්‍රධාන වශයෙන්ම, ගොවි ජනතාවගේ සහ කම්කරුවන්ගේ ආයුධ සන්නද්ධ සංවිධානය) එම මුළු ව්‍යාපාරයම මෙහෙයවන බවය.

එක්කෝ ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ උවමනාවන් ඉටු කිරීම පිණිස එසේ කරනු ලැබේ.එය එසේ නම් අපට ඇත්තේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් නොව, ප්‍රතිගාමී-නිලධාරිවාදී රාජ්‍යයකි, අධිරාජ්‍යවාදී සමූහාණ්ඩුවකි.

එසේ නැතහොත් විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදයේ උවමනාවන් ඉටු කිරීම පිණිස එසේ කරනු ලැබේ. එවිට එය සමාජවාදය දෙසට යන පියවරකි.

සමාජවාදය රාජ්‍ය ධනපති ඒකාධිකාරයේ සිට ඉදිරියට තබන ඊළඟ පියවර වන්නේය. වෙනත් වචන වලින් කියතොත් සමාජවාදය යනු මුළු ජනතාවගේම උවමනාවන් ඉටු කිරීම පිණිස යොදා ගන්නා ලද හා ඒ තාක් දුරට ධනපති ඒකාධිකාරය නොවන, රාජ්‍ය ධනපති ඒකාධිකාරී ක්‍රමයම වේ.

මෙහි මැද මාවතක් නොමැත. සංවර්ධනයේ වාස්තවික ක්‍රියාදමය කෙබඳුද යත්, සමාජවාදය දෙසට ඉදිරියට නොයා ඒකාධිකාරවල (ඒවායේ සංඛ්‍යාව සහ වැදගත්කම යුද්ධය නිසා දස ගුණයකින් වැඩි වී තිබේ) සිට ඉදිරියට යාමට පුළුවන් කමක් නැත.

එක්කෝ අපි ඇත්ත වශයෙන්ම විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන් විය යුත්තෙමු. එසේ නම් අපි සමාජවාදය දෙසට යොමුවූ පියවරයන් ගැනීමට බිය නොවිය යුත්තෙමු. එසේ නැතහොත් අපි සමාජවාදය කරා යොමු වූ පියවර ගැනීමට බිය වෙමින්, අපගේ විප්ලවය ධනපති විප්ලවයක් යයිද, සමාජවාදය "ආරම්භ කළ" නොහැකියයිද යනාදී තර්ක ඉදිරිපත් කරමින්, ප්ලෙහානව්, දන් හෝ චෙර්නොව් ආකාරයෙන්, එම පියවරයන් හෙළා දකිමු. එසේ වූ කල අපි අනිවාරණීය වශයෙන්ම කෙරෙන්ස්කිගේ, මිල්යුකොව්ගේ සහ කර්නිලව්ගේ තත්වයට පහත වැටෙන්නෙමු. එනයින් අපි කම්කරුවන්ගේ සහ ගොවීන්ගේ "විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී" අපේක්ෂාවන් ප්‍රතිගාමී-නිලධාරිවාදී ආකාරයෙන් යටපත් කරන්නෙමු.

මැද මාවතක් නොමැත.

අපගේ විප්ලවයේ මූලික ප්‍රතිවිරෝධය ඇත්තේ එහිය.

පොදු වශයෙන් ඉතිහාසයේදී, විශේෂයෙන්ම යුද්ධ කාලයේදී නිශ්චලව සිටීමට පුළුවන් කමක් නැත. අපි එක්කෝ ඉදිරියට යා යුත්තෙමු. නැතහොත්, පසු බැසිය යුත්තෙමු. විප්ලවවාදී ආකාරයකින් සමූහාණ්ඩුවක් සහ ප්‍රජාතන්ත්‍රවාදය දිනාගත් විසිවැනි ශත වර්ෂයේ රුසියාවෙහි සමාජවාදය දෙසට ඉදිරියට යාම නොකර, එය කරා යොමුවූ පියවරයන් නොගෙන (කාර්මික ශිල්පයේ සහ සංස්කෘතියේ මට්ටම අනුව සකස් වුනු හා තීරණය වුනු පියවරයන් නොගෙන-ගොවිජන කෘෂිකර්මය තුළ මහා පරිමාණ යන්ත්‍ර කර්මාන්තය ක්‍රියාත්මක කිරීම හෝ සීනි කර්මාන්තයෙන් එය ඉවත් කිරීම හෝ කළ නොහැකිය) වෙනත් ලෙසකට ඉදිරියට යාම කිසිසේත් කළ නොහැකිය.

ඉදිරියට යාමට බියවීම යනු පසු බැසීමකි. මිල්යුකොව්ලාගේ සහ ප්ලෙහානව්ලාගේ අමන්දනන්දනයට හේතුවන පරිදි සහ ට්සෙරතෙලිලාගේ සහ චෙර්නොව්ලාගේ මෝඩ ආධාරය ඇතිව, කෙරෙන්ස්කිලා සැබවින්ම කරන්නේ එයය.

ඒකාධිකාරී ධනපති ක්‍රමය රාජ්‍ය ඒකාධිකාරී ධනපති ක්‍රමය බවට පරිවර්තනය වීම අසාමාන්‍ය සීඝ්‍රතාවයකින් ක්‍රියාත්මක කළ යුද්ධය, එමගින් මිනිස් වර්ගයා සමාජවාදයට අති විශේෂයෙන් සමීප තත්වයකට පත් කර තිබේ. ඉතිහාසයේ දයලෙක්තික ස්වභාවය එසේය.

අධිරාජ්‍යවාදී යුද්ධය සමාජවාදී විප්ලවයේ පූර්වාසන්නය ය. එසේ වන්නේ යුද්ධයේ මහා භීෂණය නිසා නිර්ධන පංතික කැරළි පැන නගින



හෙයින් පමණක් නොවේ. සමාජවාදය සඳහා අවශ්‍ය ආර්ථික කොන්දේසි මෝරා නොමැති නම්, කිසිම කැරැල්ලකට සමාජවාදය ඇති කළ නොහැකිය. නමුත්, අධිරාජ්‍යවාදය සමාජවාදී විප්ලවයේ පූර්වාසන්නය වන්නේ රාජ්‍ය ඒකාධිකාරී ධනපති ක්‍රමය යනු සමාජවාදය සඳහා අවශ්‍ය සම්පූර්ණ ද්‍රව්‍යමය සූදනම් කිරීම වන හෙයිනි; එය සමාජවාදයට පිවිසෙන එළිපත්ත වන හෙයිනි; එය ඉතිහාසය නැමති හිණි මගේ, එයත් සමාජවාදය නැමති හිණි පෙත්තත් අතර අන්තර් හිණක් නොමැති හිණි පෙත්ත වන හෙයිනි.

* * *

සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු දෘෂ්ටි නිවේශක ආකාරයකින් සමාජවාදය පිළිබඳ ප්‍රශ්නයට ළඟා වෙති; කට පාඩම් කරගත් එහෙත් හොඳින් වටහා නොගත් දෘෂ්ටියක ස්ථාවරයෙන් ඒ වෙත ළඟ වෙති. දුර බැහැර, නොදත් හා අඳුරු අනාගතයක් ලෙසට ඔවුහු සමාජවාදය ගැන මනෝ රූප මවති.

නමුත් නවීන ධනපති ක්‍රමයේ සෑම ජනේලයකින්ම සමාජවාදය අප වෙත බැළුම් හෙළා ගෙන සිටියි. මෙම නවීන ධනපති ක්‍රමයේ පදනම අනුව ඉදිරි පියවරක් වන සෑම වැදගත් කටයුත්තක්ම මගින් සමාජවාදයේ කටු සටහන එක එල්ලේම සහ ප්‍රායෝගික වශයෙන් සලකුණු කරනු ලැබේ.

විශ්වීය අනිවාර්ය ශ්‍රම සේවය යනු කුමක්ද?

එය නවීන ඒකාධිකාරී ධනපති ක්‍රමය පදනම් කරගත් ඉදිරි පියවරකි. එය කිසියම් පොදු සැලැස්මක් අනුව, ආර්ථික ජීවිතය සමස්තයක් වශයෙන් මෙහෙයවීම කරා යොමු වූ පියවරකි. එය ජාතික ශ්‍රමය පිරිමැසීම වෙත සහ ධනපති ක්‍රමය විසින් ශ්‍රමය අර්ථ විරහිත ලෙස අපතේ හැරීම වැලැක්වීම වෙත ඉලක්ක වූ පියවරකි.

ජර්මනියේ විශ්වීය අනිවාර්ය ශ්‍රම සේවය ක්‍රියාත්මක කරන්නේ ජුන්කර්වරු (ඉඩම් හිමියන්) සහ ධනපතියන් ය. එනිසා එය අනිවාරණීය වශයෙන්ම කම්කරුවන්ට යුද්ධ කාලීන බරපතල වැඩ සහිත සිර දඬුවමක් වේ.

නමුත් විප්ලවවාදී-සමාජවාදී රාජ්‍යයක එම ආයතනයම ක්‍රියාත්මක කිරීම මනැසට නඟා කල්පනා කර බලන්න. කම්කරු, සොල්දාදු සහ ගොවිජන නියෝජිත සෝවියට් සභා විසින් ආරම්භ කරනු ලබන, ක්‍රියාත්මක කරනු ලබන සහ මෙහෙයවනු ලබන, විශ්වීය අනිවාර්ය ශ්‍රම සේවය එතෙකින්ම සමාජවාදය නොවන නමුත්, එය තවදුරටත් ධනපති ක්‍රමය නොවනු ඇත. එය සමාජවාදය දෙසට යොමු වූ යෝධ පියවරක් වනු

ඇත. සම්පූර්ණ ප්‍රජාතන්ත්‍රවාදය ආරක්ෂා කරගතහොත්, පොදු ජනතාවට විරුද්ධව අභූත පූර්ව හිංසනයක් ක්‍රියාත්මක නොකර එතැන සිට ධනපති ක්‍රමය වෙත නැවත පසු බැසීමක් සිදුවිය නොහැකි වනු ඇත.

## ආර්ථික ව්‍යාකූලත්වයට විරුද්ධව අරගලය සහ යුද්ධය

ළඟ එන මහා විපතට විරුද්ධව සටන් කිරීමට ගත යුතු පියවරයන් ගැන සලකා බැලීමේදී අප හමුවට තවත් අතිශයින්ම වැදගත් ප්‍රශ්නයක් පැමිණෙයි. එය නම්, දේශීය හා විදේශීය ප්‍රතිපත්තිය අතර සම්බන්ධය, නැතහොත්, වෙනත් වචනවලින් කියතොත්, රටවල් අල්ලා ගැනීමේ යුද්ධයක්, එනම්, අධිරාජ්‍යවාදී යුද්ධයක් සහ විප්ලවීය යුද්ධයක්, එනම් නිර්ධන පංතික යුද්ධයක් අතර, සාපරාධී, කොල්ලකාරී යුද්ධයක් සහ සාධාරණ ප්‍රජාතන්ත්‍රවාදී යුද්ධයක් අතර, සම්බන්ධය පිළිබඳ ප්‍රශ්නය ය.

මහා විපත මඟ හැරීම සඳහා ගත යුතු බවට අප ඉහත විස්තර කළ සියළුම පියවරයන් නිසා, රටේ ආරක්ෂක ශක්තිය, නැතහොත්, වෙනත් වචනවලින් කියතොත්, එහි යුද්ධ ශක්තිය මහත් සේ වැඩි වනු ඇත. එක් අතකින් එසේ සිදු වේ. අනිත් අතින් රටවල් අල්ලා ගැනීමේ යුද්ධය සාධාරණ යුද්ධයක් බවට හැරෙන්නේ නැතිව මෙම පියවරයන් ක්‍රියාත්මක කළ නොහැකිය. ධනපතියන්ගේ යහපත පිණිස, ධනපතියන් ගෙන යන යුද්ධය, සියළුම වැඩ කරන ජනතාවන්ගේ සහ පීඩිත ජනතාවන්ගේ යහපත පිණිස, නිර්ධන පංතිය ගෙන යන යුද්ධයක් බවට පරිවර්තනය නොකර, මෙම පියවරයන් ක්‍රියාත්මක කළ නොහැකිය.

තවද, ඇත්ත වශයෙන්ම, බැංකු සහ සම්මේල ජනසතු කිරීමෙන් හා ඒ සමගම ගත් වාණිජ රහස්‍ය භාවය අවලංගු කිරීමෙන් හා ධනපතියන් යටත් කරන කම්කරු පාලනය ස්ථාපිත කිරීමෙන් අදහස් වන්නේ, ජාතික ශ්‍රමයේ දැවැන්ත ඉතිරියක් හා බලවේග සහ මාධ්‍යයන් පිරිමැස්මක් පමණක් නොවේ. වැඩ කරන පොදු ජනතාවගේ, එනම් ජනගහනයෙන් බහුතරයෙහි තත්වයේ වැඩි දියුණු වීමක්ද එයින් අදහස් වේ. කවුරුත් දන්නා ලෙසට, ආර්ථික සංවිධානය නවීන යුද්ධ ශිල්පය සඳහා තීරණාත්මක ලෙස වැදගත් වේ. රුසියාවට ධාන්‍ය, ගල් අඟුරු, තෙල් සහ යකඩ ප්‍රමාණවත් තරමින් ඇත. මේ අතින් අපි යුද්ධකාරී යුරෝපීය රටවල්වලට වඩා හොඳ තත්වයක සිටින්නෙමු. ඉහත සඳහන් කෙරුණු පියවරයන් මගින්, ආර්ථික ව්‍යාකූලත්වයට විරුද්ධව අරගල කළහොත් සහ එම අරගලයේදී පොදු ජන ක්‍රියාරම්භකත්වය ආධාරකොට ගැනීම, ජනතාවගේ තත්වය



වැඩි දියුණු කිරීම සහ බැංකු හා සම්මේල ජනසතු කිරීම සිදු කළහොත්, මුළු රටම අසමසම තරම් උසස් ලෙස ආර්ථික වශයෙන් සංවිධානය වූ තත්වයකට නැංවීම පිණිස, ඇගේ විප්ලවය හා ප්‍රජාතන්ත්‍රවාදය උපයෝගී කරගැනීමට, රුසියාවට පුළුවන.

සෑම පාලන පියවරකටම අකුල් හෙලන සහ නිෂ්පාදනය කඩාකප්පල් කරන ධනපති පංතිය සමග ''සභාග'' ගත වීම වෙනුවට, සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු,අප්‍රියෙල් මාසයේදී සෝවියට් සභාවලට බලය පවරා දුන්නෝ නම්, එසේම, ඔවුන්ගේ පරිශ්‍රමයන්, ''අමාත්‍ය ගෙඹි පිම්ම'' පැනීමට නොව, කැඩෙට්වරු සමග උරෙනුර ගටා ඇමති ධුර සහ නියෝජ්‍ය ඇමති ධුර දැරීමට නොව, ධනපතියන් අවනත කරන කම්කරුවන්ගේ සහ ගොවිජනයාගේ පාලන කටයුතුවලදී සහ ධනපතියන්ට විරුද්ධව කළ ඔවුන්ගේ යුද්ධයේදී ඔවුන්ට මඟ පෙන්වීමට යොමු කළෝ නම්, රුසියාව මේ වන විට, ඉඩම් සියල්ල ගොවි ජනයා අතෙහි තිබෙන, බැංකු ජනසතු කෙරුණු, එනම්, ඒ තාක් දුරට (නවීන ජීවිතය සඳහා මේවා ඉතාමත් වැදගත් ආර්ථික පදනම් වෙති) අනිත් ධනපති රටවල් සියල්ලටම වඩා උසස් රටක් වන්නට තිබුණි.



බැංකු ජනසතු කළ රටක ආරක්ෂක බලය, නැතහොත්, යුද්ධ ශක්තිය, බැංකු පුද්ගලික අයිතිය යටතේ පවතින රටකට වඩා උසස්ය. ඉඩම් ගොවි කාරක සභා අතෙහි තිබෙන ගොවිජන රටක යුද්ධ ශක්තිය, ඉඩම් ඉඩම්හිමියන් අතෙහි පවතින එවැනි රටක යුද්ධ ශක්තියට වඩා උසස්ය.

1792-1793 කාලයේදී ප්‍රංශ ජාතිකයින් පෑ වීර දේශප්‍රේමීත්වය හා යුද්ධමය වික්‍රමයේ ප්‍රාතිහාර්යයන් ගැන සඳහන් කරනු ලැබේ. නමුත් එවැනි ප්‍රාතිහාර්ය ඇති කළ එකම හේතුව වූ ද්‍රව්‍යමය, ඓතිහාසික-ආර්ථික තත්වයන් අමතක කරනු ලැබේ. යල් පිනූ වැඩවසම් ක්‍රමය නියම විප්ලවවාදී ආකාරයකින් මර්දනය කිරීමත්, රට මුළුල්ලේම වඩාත් උසස් නිෂ්පාදන ක්‍රමයක් ආරම්භ කිරීමත්, නිදහස් ගොවිජන ඉඩම් බුක්තියත්, ක්‍රියාවට නැඟුණි. එපමණක් නොව, නියම විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී වේගයකින්, අධිෂ්ඨානයකින්, ශක්තියකින් සහ භක්තියකින් ඒවා ක්‍රියාත්මක කෙරුණි. ප්‍රංශයේ ආර්ථික අඩිතාලටම නවජීවනයක් දෙමින් සහ නවීකරණයක් දෙමින්, ප්‍රංශය ''ප්‍රාතිහාර්ය'' පාන කලෙක මෙන් වේගවත් ලෙස එය මුදගත් ද්‍රව්‍යමය තත්වයන් එසේය.

ප්‍රංශයෙන් පැහැදිලි වන්නේ එක කරුණකි. එකම කරුණක් පමණකි. එයින් පෙනෙන්නේ රුසියාවට ආරක්ෂක ශක්තිය ලැබීම සඳහා, රුසියාවේත් පොදු ජන වීරත්වයේ ''ප්‍රාතිහාර්ය'' ඇතිවනු දැකීම සඳහා, යල් පැන ගිය සියල්ල ''ජැකොබින්'' ස්වභාවයෙන් නිර්දය ලෙස අතුගා දමා,

රුසියාව ආර්ථික වශයෙන් නවීකරණය කර, එයට නව ජීවනයක් දිය යුතු බවය. තවද, හුදෙක් සාර්වාදය අතුගා දැමීමෙන් පමණක් විසිවැනි ශත වර්ශයේ මෙය කළ නොහැකිය. (අවුරුදු 125 කට පෙර ප්‍රංශය එයට සීමා වූයේ නැත) වතුකාර දේපල විප්ලවීය ලෙස අහෝසි කිරීමෙන් පමණක්ම (සමාජවාදීන්-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් විසින් ගොවි ජනතාව පාවා දෙන ලද නිසා, අප මෙයවත් ඉටු කර නැත), ගොවි ජනතාවට ඉඩම් පවරා දීමෙන් පමණක්ම එය කළ හැකි නොවේ. අප දැන් ජීවත් වන්නේ විසිවැනි ශත වර්ෂයේය. බැංකු පිළිබඳ ස්වාමිත්වය නොමැතිව, ඉඩම් පිළිබඳ ස්වාමිත්වය තිබීමෙන් පමණක්, දැන් ජන ජීවිතයට නව-ජීවනයක් දී එය නවීකරණය කළ හැකි නොවේ.

දහඅට වැනි ශතවර්ෂයාවසනයේ ප්‍රංශයේ දක්නා ලද ද්‍රව්‍යමය සහ කාර්මික නවීකරණය, දේශපාලන හා අධ්‍යාත්මික නවීකරණයක්ද, විප්ලවවාදී ප්‍රජාන්ත්‍රවාදීන්ගේ සහ විප්ලවවාදී නිර්ධන පංතියේ ආඥාදායකත්වයක්ද (ප්‍රජාතන්ත්‍රවාදීන් එයින් වෙන් වී නොසිටි අතර ඔවුහු එය සමග එකට පැහී සිටියහ), ප්‍රතිගාමී සියළුම දේට විරුද්ධව කරන යුද්ධයක්ද සමග, අතිනත් ගෙන ඇති වූවක් විය. මුළු මහත් ජනතාවම, විශේෂයෙන්ම පොදු ජනතාව,එනම් පීඩිත පංතික ජනතාව,සීමා රහිත විප්ලවවාදී උද්වේගයෙන් මඩනා ලද්දේය. යුද්ධය සාධාරණ ආරක්ෂක යුද්ධයක් බව සියළු දෙනාම කල්පනාකළහ.එය ඇත්ත වශයෙන්ම එසේ විය.විප්ලවවාදී ප්‍රංශය, ප්‍රතිගාමී රාජාණ්ඩුවාදී යුරෝපයට විරුද්ධව ආරක්ෂාව සඳහා සටනෙහි යෙදී සිටියාය. නැපෝලියන්ගේ ප්‍රතිවිප්ලවවාදී ආඥාදායකත්වය විසින් ප්‍රංශයේ ආරක්ෂක යුද්ධ, රටවල් අල්ලා ගැනීමේ යුද්ධ බවට හරවන ලද්දේ 1792-1793 කාලයේ නොව,ඊට අවුරුදු ගණනකට පසුව, රට අභ්‍යන්තරයේ ප්‍රතිගාමීත්වය ජයග්‍රහණයට පත්වූ පසුවය.

නමුත් රුසියාවේ සිදුවන්නේ කුමක්ද? අපි ධනපතියන්ගේ උවමනාවන් ඉටු කරනු පිණිස, අධිරාජ්‍යවාදීන් සමග සන්ධානගතව හා බ්‍රිතාන්‍යයේ සහ වෙනත් රටවල ධනපතියන් සමග සාර් ඇති කරගත් රහස් ගිවිසුම්වලට අනුකූලව, කොන්ස්තන්තිනෝපලය, ල්වොව් සහ අර්මේනියාව යනාදී විදේශ දේශයන් කොල්ලකෑමට රුසියානු ධනපතියන්ට ඉඩ කඩ සලසන බවට, මෙම ගිවිසුම් මගින් ඔවුන්ට පොරොන්දු දෙමින් නොනවත්වාම අධිරාජ්‍යවාදී යුද්ධයක් කරගෙන යන්නෙමු.

රුසියාව සාධාරණ සාමයක් යෝජනා නොකරන තාක් කල්, අධිරාජ්‍යවාදයෙන් බිඳී නොවෙන්වන තාක් කල්, යුද්ධය, අසාධාරණ, ප්‍රතිගාමී සහ කොල්ලකාරී යුද්ධයක්ම වනු ඇත. යුද්ධයක සමාජ ස්වභාවය, එහි නියම අර්ථය, නිර්ණය වන්නේ (අඥාන පිටිසරයෙකුගේ තත්වයට පහත වැටෙන සමාජවාදී-විපලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් සිතන ලෙසට)



සතුරු හමුදවල තත්වය අනුව නොවේ. මෙම ස්වභාවය නිර්ණය වන්නේ, යුද්ධය මගින් අවිච්ඡින්නව ඉදිරියට ගෙන එන ලද ප්‍රතිපත්තිය, යුද්ධය-කරන පංතිය හා යුද්ධය කිරීමෙන් ඉටු කර ගැනීමට අපේක්ෂා කරන අරමුණු අනුවය.

රහස් ගිවිසුම් අනුව, ජනතාව කොල්ලකාරී යුද්ධයකට මෙහෙයවා, ඔවුන් ඒ සඳහා උද්වේග සහිත වීම ඔබට බලාපොරොත්තු විය හැකි නොවේ.විප්ලවවාදී රුසියාවේ ඉදිරියෙන්ම සිටින පංතිය නිර්ධන පංතියය. යුද්ධයේ සාපරාධී ස්වභාවය ගැන එය වැඩි වැඩියෙන් අවබෝධ කරගනිමින් සිටී. මෙම පොදුජන අවබෝධය නැති කර දැමීමට ධනපති පංතිය සමත් වී නැත. එපමණක් නොව, යුද්ධයේ සාපරාධී ස්වභාවය පිළිබඳ අවබෝධය වර්ධනය වෙමින් පවතී. රුසියාවේ ප්‍රධාන නගර දෙකෙහිම[132] නිර්ධන පංතිය නිශ්චිත වශයෙන්ම ජාත්‍යන්තරවාදී වී ඇත!

එසේ වූ කල, යුද්ධය සඳහා පොදුජන උද්වේගයක් ඇතිවෙතැයි බලාපොරොත්තු වන්නේ කෙසේද!

එකක් අනිකෙන් වෙන් කළ නොහැකිය. ස්වදේශ ප්‍රතිපත්තිය විදේශ ප්‍රතිපත්තියෙන් වෙන් කළ නොහැකිය. මහා ආර්ථික පරිවර්තනයන් ක්‍රියාත්මක කිරීමේදී ජනතාව දක්වන ශ්‍රෙෂ්ට වීරත්වයෙන් තොරව රට ආත්ම ආරක්ෂාව සලසා ගැනීමට සමත් තත්වයට පත් කළ නොහැක. එසේම අධිරාජ්‍යවාදයෙන් බිඳී වෙන් නොවී, සියළුම ජාතීන්ට ප්‍රජාතන්ත්‍රවාදී සාමයක් යෝජනා නොකර, ඒ අනුව, යුද්ධය, රටවල් අල්ලා ගැනීමේ සහ කොල්ලකෑමේ සාපරාධී යුද්ධයක සිට, සාධාරණ විප්ලවවාදී ආරක්ෂක යුද්ධයක් බවට පරිවර්තනය නොකර, පොදුජන වීරත්වය කුළු ගැන්විය නොහැක.

අපගේ විප්ලවයත් අධිරාජ්‍යවාදයේ යකඩ අඩුවට අසුවී තිබෙන අපගේ රටත් ගලවා ගත හැක්කේ, දේශීය සහ විදේශීය යන දෙආකාරයේම ප්‍රතිපත්තියෙහිදී තරයේ සහ සසංගත ලෙස, ධනපතියන් කෙරෙන් බිඳී වෙන් වීම මගින් පමණකි.

## විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන් සහ විප්ලවවාදී නිර්ධන පංතිය

අද රුසියාවේ ප්‍රජාතන්ත්‍රවාදීන් සැබවින්ම විප්ලවවාදී වීමට නම් ඔවුන්, තරයේම විප්ලවවාදී වන එකම පංතිය වන නිර්ධන පංතියේ අරගලයට ආධාර කරමින්, එම පංතිය සමග ඉතා කිට්ටු සන්ධානයෙන් යුතුව ඉදිරියට යා යුතුය.

ළඟ එන අනුපමේය මහා විපතට විරුද්ධව සටන් කිරීමේ මාධ්‍යයන් ගැන විශ්ලේෂණය කිරීමේදී ඉදිරිපත් වන නිගමනය එයයි.

යුද්ධය නිසා දැවැන්ත අර්බුදයක් ඇතිවී තිබේ; ජනතාවගේ ද්‍රව්‍යමය සහ සදචාර බලවේග බෙහෙවින් වෙහෙසට පත්වී තිබේ; මුළු මහත් නවීන සමාජ සංවිධානයටම තදබල සේ පහර වැදී තිබේ. එනිසා, එක්කෝ විනාශ වී යාම, නැතහොත්, වඩාත් උසස් නිෂ්පාදන ක්‍රමයක් වෙත වේගයෙන් සහ සාකල්‍යයෙන්ම පරිවර්තනය වීම පිණිස, ස්වකීය ඉරණම ඉතාමත් විප්ලවවාදී පංතියට භාර දීම යන දෙකෙන් එකක් තෝරා ගැනීමට මිනිස් වර්ගයාට දැන් සිදුවී තිබේ.

ඓතිහාසික හේතූන් ගණනාවක් නිසා, එනම් රුසියාවේ අතිශය නොදියුණුකම, යුද්ධය ඇය පිට පැටවූ අසාමාන්‍ය දුෂ්කරතාවයන්, සාර්වාදයේ අන්ත ජරාපත් ස්වභාවය සහ 1905 සම්ප්‍රදයයන්ගේ බලවත් දුර්වාර්ණීයභාවය නිසා, අන් රටවලට වඩා කලින් රුසියාවේ විප්ලවය ආරම්භ විය. විප්ලවයේ ප්‍රතිඵලයක් වශයෙන්, රුසියාව, ඇගේ දේශපාලන ක්‍රමය හා සම්බන්ධයෙන් වූ කල, මාස කීපයක් තුළ දියුණු රටවල් හා සම මට්ටමකට පැමිණියාය.

නමුත් එය ප්‍රමාණවත් නොවේ. යුද්ධය බුරුලක් නොදක්වන්නේය. එය විකල්පයන් ඉදිරිපත් කරන්නේ නිර්දය සැර පරුෂ ස්වභාවයකිනි. එක්කෝ විනාශ වෙනු; නැතහොත් ආර්ථික වශයෙන්ද දියුණු රටවල් පසුකර අභිබවා යනු.

දියුණු රටවල් විශාල ගණනක අත්දැකීම් සහ ඒවායේ කාර්මික ශිල්පයේ සහ සංස්කෘතියේ ප්‍රතිඵල අප ඉදිරියේ තිබෙන නිසා එය කළ හැකිය. යුරෝපයේ වර්ධනය වන යුද්ධ විරෝධයෙන්ද, නැගී එන ලෝක ව්‍යාප්ත කම්කරු විප්ලවයේ වාතාවරණයෙන්ද, අපට සදචාරමය ආධාරය ලැබෙන්නේය. අධිරාජ්‍යවාදී යුද්ධයේ කාලයේදී ඉතාමත් දුර්ලභ දෙයක් වන අපගේ විප්ලවවාදී-ප්‍රජාතන්ත්‍රවාදී නිදහස විසින් අප පණ ගන්වනු හා උනන්දු කරනු ලැබේ.

එක්කෝ විනාශ වනු, නැතහොත් පූර්ණ වේගයෙන් ඉදිරියට යනු. ඉතිහාසය ඉදිරිපත් කරන විකල්පය එයයි.

එවැනි තත්වයක් යටතේ නිර්ධන පංතිය ගොවි ජනයා කෙරෙහි දක්වන ආකල්පය බොල්ෂෙවික්වරුන්ගේ පැරණි සංකල්පය සනාථ කරන්නකි. අදාළ ලෙස සංශෝධනය කොට ගත් විට එයින් අදහස් වන්නේ ගොවි ජනතාව ධනපති පංතියේ බලපෑමෙන් කඩා වෙන් කර ගත යුතු බවය. විප්ලවයේ ගැලවිල්ල පිළිබඳ එකම සහතිකය එයයි.

තවද, මුළු මහත් සුළු ධනපති පංති ජනකායෙන් වඩාත්ම අධිකතර සංඛ්‍යාව වන්නේ ගොවි ජනතාවය.



අපගේ සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු, ගොවි ජනතාව ධනපති පංතියේ බලපෑමට යටත් කර තැබීමේ සහ ඔවුන් නිර්ධන පංතිය සමග නොව, ධනපති පංතිය සමග සන්ධානයක් ඇති කර ගැනීමට මෙහෙයවීමේ ප්‍රතිගාමී කාර්යය තමන් වෙත පවරා ගෙන සිටිති.

විප්ලවයේ අත් දැකීම් ආශ්‍රයෙන් ජනතාව සීඝ්‍ර ලෙස දැනුම ලබති. එනිසා සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ ප්‍රතිගාමී ප්‍රතිපත්තිය අසාර්ථක වෙමින් පවතී. පෙට්‍රොග්‍රෑඩ් සහ මොස්කව් යන නගර දෙකේම සෝවියට් සභා දෙකෙහිදීම ඔවුන් පරාජය වී ඇත[133]. සුළු ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ දෙකම තුළ ''වාම'' විරුද්ධ පාර්ශවයක් වැඩෙමින් පවතී. 1917 සැප්තැම්බර් 10 දින පෙට්‍රොග්‍රෑඩ්හි පැවැත්වුනු සමාජවාදී විප්ලවවාදීන්ගේ නාගරික සාකච්ඡා සභාවකදී, නිර්ධන පංතිය සමග සන්ධානයක් දෙසට නැඹුරු වන සහ ධනපති පංතිය සමග (සභාගයක්) සන්ධානයක් ප්‍රතික්ෂේප කරන වාම සමාජවාදී-විප්ලවවාදීන්ට, තුනෙන් දෙකක වැඩි ඡන්දයක් ලැබිණ.

සමාජවාදී විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු ධනපතියන්ට සුපුරුදු සැසඳීමක් කරති; ඔවුහු ධනපති පංතිය සමග ප්‍රජාතන්ත්‍රවාදය සසඳති. නමුත් එවැනි සංසන්දනයක් අර්ථ විරහිතය. එය රාත්තල් යාර සමඟ සැසඳීම මෙන්ම අර්ථයෙන් තොරය.

ප්‍රජාතන්ත්‍රවාදී ධනපති පංතිය කියා දෙයක් සහ ධනපති ප්‍රජාතන්ත්‍රවාදය කියා දෙයක් ඇත. මෙය නැතැයි කියන කෙනෙක් ඉතිහාසය සහ දේශපාලන අර්ථ ශාස්ත්‍රය යන දෙකම ගැන කිසිවක් නොදන්නා අයෙක් විය යුතුය.

ධනපති පංතිය සහ නිර්ධන පංතිය අතර සුළු ධනපති පංතිය ඇතැයි යන අවිවාදී සත්‍ය කාරණය වසං කිරීමට, සමාජවාදී විප්ලවවාදීන්ට සහ මෙන්ෂෙවික්වරුන්ට ව්‍යාජ සංසන්දනයක් අවශ්‍ය වන්නේය. ඔවුන්ගේ ආර්ථික තත්වය අනුව ඔවුහු, එනම් සුළු ධනපති පංතිය, ධනපති පංතිය සහ නිර්ධන පංතිය අතර එහා මෙහා වැනෙති.

සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු, ධනපති පංතිය හා සමග සන්ධානයකට සුළු ධනපති පංතිය ඇදගැනීමට යත්න දරති. ඔවුන්ගේ ''සභාගයේ'', ඇමති මණ්ඩලයේ සභාගයේ සහ නියම අර්ධ කැඩෙට්වරයෙක් වන කෙරෙන්ස්කිගේ ප්‍රතිපත්තියෙහි සම්පූර්ණ අර්ථය එයය. විප්ලවයේ හය මාසයේ කාලය තුළ මෙම ප්‍රතිපත්තිය සම්පූර්ණයෙන්ම පරාජය වී තිබේ.

කැඩෙට්වරු අගති සහිත ප්‍රීතියෙන් පිණා යති. විප්ලවය සම්පූර්ණයෙන්ම අසාර්ථක වී ඇතැයි ඔවුහු කියති. යුද්ධය හෝ ආර්ථික විසංධානය ගැන විසඳීමක් කිරීමට අසමත් වී ඇතැයි ඔවුහු කියති.

එය සත්‍යයක් නොවේ. සම්පූර්ණයෙන්ම අසාර්ථකත්වයට පත්ව

ඇත්තේ කැඩෙට්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන්ය. මොවුන්ගේ සන්ධානය හය මාසයක් තිස්සේ රුසියාව පාලනය කර තිබෙන්නේ, ආර්ථික විසංධානය වැඩි කිරීමට සහ යුද්ධ තත්වය උග්‍ර කිරීමට පමණකි.

ධනපති පංතිය සහ සමාජවාදී විප්ලවවාදීන් හා මෙන්ෂෙවික්වරුන් අතර සන්ධානයේ අසාර්ථකත්වය වඩාත් සම්පූර්ණ වූ තරමට, ජනතාව තමන්ගේ පාඩම වඩාත් ඉක්මණින් උගනිති; ඔවුහු ඔවුන්ගේ නිවැරදි විමුක්ති මාර්ගය වෙත, එනම්, ගොවි දුප්පතුන්, නැතහොත්, ගොවි ජනතාවගෙන් බහුතරය සහ නිර්ධන පංතිය අතර සන්ධානය වෙත එළඹෙති.

1917 සැප්තැම්බර් 10-14.

1917 සැප්තැම්බර් 10 සිට 14 (23 සිට 27) දක්වා දිනවල ලියන ලදී

පෙට්‍රොග්‍රෑඩ්හි "ප්‍රිබෝයි" ප්‍රකාශකයන් විසින් පොතක් ලෙසට 1917 ඔක්තෝබර් මස අගදී පළ කරන ලදී

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 34, පිටු 151-199

# විප්ලවය පිළිබඳ මූලික ප්‍රශ්න අතුරෙන් එකක්

සෑම විප්ලවයකදීම ඉතාමත් ප්‍රධාන ප්‍රශ්නය වන්නේ රාජ්‍ය බලය පිළිබඳ ප්‍රශ්නය ය. සියල්ලම තීරණය වන්නේ, බලය තිබෙන්නේ කුමණ පංතිය අතේද යන්න අනුවය. බලය හා සම්බන්ධයෙන් කෙරෙන වාද විවාද නිසා ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය පිළිබඳ ප්‍රශ්නය හා පාන් පිළිබඳ ප්‍රශ්නය යන දෙකම අමතක කරනු ලැබේ යයි, රුසියාවේ ප්‍රධාන ආණ්ඩු පක්ෂයේ පත්‍රය වන "දෙයල නරෝද" (අංක 147) මැසිවිලි කී විට, සමාජවාදී-විප්ලවවාදීන්ට මෙසේ පිළිතුරු දිය යුතුව තිබුණි: නුඹලාටම මැසිවිලි කියා ගනිල්ලා. 'අමාත්‍ය ගෙඹි පිම්ම' ද, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයද, ධාන්‍ය ඒකාධිකාරයක් හා රටට පාන් සැපයීම පිළිබඳව එකහවූ පියවරයන් ධනපතියන් සමග එක්ව දිගින් දිගටම කල් දැමීමද, සම්බන්ධයෙන් වැඩියෙන්ම වග කිව යුත්තේ නුඹලාගේ පක්ෂයේ වැනෙනසුලු භාවය සහ අතීරණය ය".

විප්ලවය සංවර්ධනයෙහි සහ එහි විදේශ හා දේශීය ප්‍රතිපත්තිවල, සියළු දේම තීරණය කරන මූලික ප්‍රශ්නය බලය පිළිබඳ ප්‍රශ්නය වන හෙයින්, එය මඟ හැරීමට හෝ ඉවතට තල්ලු කිරීමට හෝ නොපුළුවන. බලය කුමණ ක්‍රමයේ එකක්ද යන්න ගැන අවිනිශ්චිතතාවයෙන් අපගේ විප්ලවය හය මසක කාලයක් "අපතේ හැරිය" බව, අවිවාදී සත්‍යයකි. එය සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ වැනෙනසුලු ප්‍රතිපත්තියෙන් පැන නැගුනු සත්‍ය කරුණකි. දීර්ඝ කාලීන වශයෙන් බලන කල, මෙම පක්ෂවල වැනෙනසුලු ප්‍රතිපත්තිය තීරණය වූයේ, සුළු ධනපති පංතියේ පංති තත්වය අනුවය; ප්‍රාග්ධනය හා ශ්‍රමය අතර අරගලයේදී ඔවුන් දක්වන ආර්ථික අස්ථායීතාවය අනුවය.

දැනට මතුවන සම්පූර්ණ ප්‍රශ්නය වන්නේ, මෙම ශ්‍රේෂ්ට, සිදුවීම්වලින් අසාමාන්‍ය ලෙස පිරිගිය, සය මාසය තුළ සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්

කිසිවක් උගෙන ගෙන තිබේද යන්නය . ඔවුන් එසේ යමක් උගෙන ගෙන නැත්නම්, විප්ලවය නිෂ්ඵල වී ඇත. එවිට එය ගලවාගත හැක්කේ නිර්ධන පංතියේ ජයග්‍රාහී නැගී සිටීමකින් පමණකි. ඔවුන් එයින් යමක් උගෙන ගෙන තිබේ නම්, ස්ථාවර, නොවැනෙනසුලු බලයක් පිහිටුවීම වහාම ආරම්භ කළ යුතුය. පොදුජන විප්ලවයක, එනම් ජනතාව, කම්කරු හා ගොවිජනතා බහුතරය කුල්මත් කර සටනට පොලඹවන විප්ලවයක කාලයේදී, බලයක් ස්ථාවර වන්නේ, එය පැහැදිලි ලෙසම හා කොන්දේසි විරහිතව ජනගහනයෙන් බහුතරයක් මත පදනම් වුවහොත් පමණකි. මේ දක්වා රුසියාවේ රාජ්‍ය බලය පැවතුණේ සම්පූර්ණයෙන්ම පාහේ ධනපති පංතිය අතෙහිය. යම් විශේෂ සහනයන් පමණක් දීමත් (එසේ කරන්නේ ඊට පසු දින සිට ඒවා ආපසු ගැනීමට පමණකි), පොරොන්දු දීමක් (එසේ කරන්නේ ඒවා ඉටු නොකිරීමට පමණකි), ඔවුන්ගේ ආධිපත්‍යය සහේතුක බව පෙන්වීමට අනේකවිධ කාරණා සෙවීමත් (ඒ ''අවංක සභාගයක්'' සේ පෙනෙන්නට සැලැස්වීමෙන් ජනතාව රැවටීමට පමණකි), ආදිය නොකර බැරි තත්වයකට එම පංතිය පත්ව ඇත. තමන් ජනප්‍රිය, ප්‍රජාතන්ත්‍රවාදී, විප්ලවවාදී ආණ්ඩුවකැයි එය වචනයෙන් කියයි. එහෙත් ක්‍රියාවෙන්, එය ජනතා විරෝධී, ප්‍රජාතන්ත්‍ර නොවන, ප්‍රතිවිප්ලවවාදී, ධනපති ආණ්ඩුවකි. මෙතෙක් පැවති ප්‍රතිවිරෝධතාවය එයයි. බලයේ සම්පූර්ණ අස්ථාවරභාවයට හා චපලත්වයටත්, සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් ඇමතිවරු එතරම් අවාසනාවන්ත ලෙස (ජනතාවට) උද්යෝගයෙන් යෙදෙන ''අමාත්‍ය ගෙඹි පිම්මටත්'', හේතු වූයේ එයයි.

එක්කෝ සෝවියට් සභා විසුරුවා හරිනු ලැබීමෙන් ඒවා අපකීර්තිමත් අභාවයකට ගොදුරු විය හැකි බව හෝ එසේ නැතහොත් මුළු බලයම ඒවාට පවරා දිය යුතු බව මම 1917 ජූනි මාසයේදී සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනයට කීවෙමි. ජූලි සහ අගෝස්තු මාසවල සිදුවීම්, මගේ එම වචන නිවැරදි බව ඔප්පු කළේය. ජනතාවගෙන් ඉතාමත් සුළු අල්පතරයකට, ධනපති පංතියට හා සූරා කන්නන්ට බලය පවරා දීම හා සමානවූ තත්වයක් ''පදනම පුළුල් කිරීම'' යනුවෙන් හඳුන්වන පොත්‍රෙසව්, ප්ලෙහානව් සහ ධනපති පංතියේ වෙනත් අතවැස්සන් මොන තරම් බොරු කීවත්, ස්ථාවර විය හැක්කේ සහ පැහැදිලි ලෙසම ජනතාවගෙන් බහුතරයක් මත පදනම් විය හැක්කේ සෝවියට් සභාවල බලය පමණකි.

ඉතාමත් කැළඹිලි සහිත විප්ලවයේ, ඉතාමත් කැළඹිලි සහිත අවස්ථාවල පවා ස්ථාවරව පවතිනු ඇත්තේ සහ පෙරළාදැමීමට නොහැකිවනු ඇත්තේ සෝවියට් බලය පමණකි. විප්ලවය නොනැවතම සහ පුළුල් ලෙසින් සංවර්ධනය වීමත්, සෝවියට් සභා තුළ පක්ෂ අතර අරගලය



සාමකාමී වීමත්, සහතික කළ හැක්කේ මෙම බලයට පමණකි. මෙම බලය නිර්මාණය කරන තාක් කල්, අතීරණයත්, අස්ථාවරභාවයත්, වැනෙනසුලුභාවයත්, කෙළවරක් නැති ''බලය පිළිබඳ අර්බුදත්'', ඇමති ගෙඹි පිම්ම පිළිබඳ නිරන්තර රැවට්ල්ලත්, දකුණෙන් සහ වමෙන් ඇතිවන කඩාපැනීමත්, අනිවාරණීය වශයෙන් පවතිනු ඇත.

එසේ වුවද, ''සෝවියට් සභාවලට බලය පවරනු'' යන සටන් පාඨය, සැම විටම නොවේ නම්, බොහෝ අවස්ථාවලදී ඉතාමත් වැරදි ලෙසට වටහා ගනු ලැබේ; එයින් අරමුණු කරන්නේ ''සෝවියට් බහුතරයේ පක්ෂවල ඇමති මණ්ඩලයක්'' යයි අදහස් කරනු ලැබේ. මෙම ඉතාමත් වැරදි අදහස ගැන වඩාත් විස්තර සහිතව සඳහන් කිරීමට අපි කැමැත්තෙමු.

''සෝවියට් බහුතරයේ පක්ෂවල ඇමති මණ්ඩලයක්'' යන්නෙන් අදහස් වන්නේ, පැරණි ආණ්ඩු යන්ත්‍රය එහැම පිටින්ම තිබෙන්නට හැර, ඇමති පුද්ගලයන් පමණක් මාරු කිරීමකි. එය ඉතාමත් නිලධාරිවාදී සහ කිසිසේත් ප්‍රජාතන්ත්‍රවාදී නොවන යන්ත්‍රයකි. සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ වැඩ පිළිවෙළවල ඇති බරපතල ප්‍රතිසංස්කරණ පවා ක්‍රියාත්මක කිරීමට එය අසමත්ය.

''සෝවියට් සභාවලට බලය පවරනු'' යන්නෙන් අදහස් වන්නේ මුළු මහත් පැරණි රාජ්‍ය යන්ත්‍රයම, ප්‍රජාතන්ත්‍රවාදී සියළු දේටම අකුල් හෙළන මුළු නිලධාරිවාදී යන්ත්‍රයම සම්පූර්ණයෙන් වෙනස් කරමින්, යළි හැඩගැස්විය යුතු බවය. එයින් අදහස් වන්නේ, මෙම යන්ත්‍රය ඉවත් කර, ඒ වෙනුවට, අළුත්, පොදුජන, නැතහොත්, සෝවියට් සභාවල, එනම් සංවිධානය වූ සහ ආයුධ සන්නද්ධ පොදු ජනතාවගේ, කම්කරුවන්ගේ, සොල්දාදුවන්ගේ සහ ගොවි ජනතාවගේ බහුතරයේ, සැබවින්ම ප්‍රජාතන්ත්‍රවාදී යන්ත්‍රයක් ආදේශ කළ යුතු බවය. එයින්, අදහස් වන්නේ, ජනතා නියෝජිතයින් තෝරාපත් කිරීමේදී පමණක් නොව, රාජ්‍ය පරිපාලන කටයුතුවලදී, ප්‍රතිසංස්කරණ ක්‍රියාත්මක කිරීමේදී සහ වෙනත් වෙනස්කම් ඇති කිරීමේදීද ජනතාවගේ බහුතරයට ක්‍රියාරම්භකත්වය සහ ස්වාධීනත්වය දීමය.

මෙම වෙනස වඩාත් පැහැදිලි කිරීම සහ වටහා ගැනීම පහසු කිරීම සඳහා, සමාජවාදී-විප්ලවවාදීන්ගේ ''දියල නරෝද'' පත්‍රය ටික කලකට ඉහතදී කළ වැදගත් පිළිගැනීමක් ගැන මතක් කිරීම වටනේය. සමාජවාදී ඇමතිවරුන් අතෙහි පවතින අමාත්‍යාංශවල පවා (මෙය ලියන ලද්දේ සමහර මෙන්ෂෙවික්වරුන්ද, සමාජවාදී-විප්ලවවාදීන්ද, ඇමතිධුර දූරු සහ කැඩෙට්වරු සමග ඒ අපකීර්තිමත් සභාගය පැවැත්වූ කාලය තුළය) මුළු පරිපාලන යන්ත්‍රයම නොවෙනස්ව පැවති අතර, එය වැඩට බාධා කළේයයි එය ලිවේය.

මෙය සම්පූර්ණයෙන්ම වටහා ගත හැකිය. ඇමතිවරු මාරු කිරීමෙහි ඇත්තේ ඉතා සුළු අර්ථයක් බව, ධනපති පාර්ලිමේන්තු ඇති සහ ධනපති ව්‍යවස්ථානුකූල ආණ්ඩු ඇති රටවල මුළු ඉතිහාසයෙන්ම පෙනේ. එයට හේතුව, පරිපාලනයට අදළ නියම වැඩ කටයුතු විශාල නිලධාරි හමුදවක් අතෙහි තිබීමය. නමුත් මෙම හමුදව කොනින් කොනට ප්‍රජාතන්ත්‍ර විරෝධීය. එය දහස් සංඛ්‍යාත සහ දශලක්ෂ සංඛ්‍යාත රැහැන්වලින් ඉඩම් හිමියන් හා ධනපතියන් සමග සම්බන්ධව ඇති අතර, ඔවුන්ට සම්පූර්ණයෙන්ම ගැති වන්නේය. මෙම හමුදව ධනපති සම්බන්ධකම් රජයන වාතාවරණයකින් වට කොට තිබේ. එය මෙම වාතාවරණයෙන් පිටස්තර කිසිවක් වැද්ද නොගනියි. එහි ගති පැවතුම් නියමිත ක්‍රමයක් අනුව සිදුවේ. එය ගල් ගැසුනු එක තැන පල්වෙන හා මෙම වාතාවරණයෙන් බිඳී ඉවත්වීමට බලයක් නොමැති ස්වභාවයක් දරයි. එයට කල්පනා කළහැක්කේ, හැඟීම් ඇති කරගත හැක්කේ, නැතහොත් ක්‍රියා කළ හැක්කේ පැරණි ක්‍රමයට පමණකි. මෙම හමුදව නිලතලවලට හා ''සිවිල්'' සේවයේ වරප්‍රසාද කෙරෙහි දස ස්වභාවයකින් බැඳී තිබේ. මෙම හමුදවේ ඉහළ තනතුරුධාරීන්, කොටස් සහ බැංකු මාර්ගයෙන් සම්පූර්ණයෙන්ම මූල්‍ය ප්‍රාග්ධනයට වහල් වී ඇත. ඔවුන් එක්තරා දුරකට ප්‍රාග්ධනයේ උවමනාවන් හා බලපෑම පතුරුවන වාහනය බවට පත් වී ඇත.

වන්දි නොමැතිව වතුකාර දේපල අවලංගු කිරීමට නැතහොත්, ධාන්‍ය ඒකාධිකාරය ආදීවූ ප්‍රතිසංස්කරණ මෙම රාජ්‍ය යන්ත්‍රය මාර්ගයෙන් ක්‍රියාත්මක කිරීමට ප්‍රයත්න දැරීම ලොකුම මුලාවකි; ලොකුම ආත්ම වංචනයකි; එසේම, ජනතාව රැවටීමකි. තුන්වැනි ප්‍රංශ සමූහාණ්ඩුව වැනි ''රජෙක් නැති රාජාණ්ඩුවක'' හැඩය දරන සමූහාණ්ඩුවක් නිර්මාණය කිරීමෙන් සමූහාණ්ඩුවාදී ධනපති පංතියට සේවය කිරීමට මෙම යන්ත්‍රයට පුළුවන. නමුත්, ප්‍රාග්ධනයේ අයිතිවාසිකම්, ''ශුද්ධවූ පෞද්ගලික දේපලෙහි'' අයිතිවාසිකම්, අඩු කිරීමේ හෝ සීමා කිරීමේ ප්‍රතිසංස්කරණ පවා ක්‍රියාත්මක කිරීම, එයට කිසිසේත් නුපුළුවන. එම අයිතිවාසිකම් අවලංගු කිරීම, එයට එතරම්වත් කළ නොහැකිය. ''සමාජවාදීන්'' ඇතුළත් විවිධාකාර සභාග ඇමති මණ්ඩලවල සිටින එම සමාජවාදීන් අතර වන පුද්ගලයන්, ඉතාමත්ම අවංක අය වූ අවස්ථාවලදී පවා, එම ඇමති මණ්ඩල යටතේ ඔවුන් නිතරම ධනපති ආණ්ඩුවට ආභරණයක් හෝ කඩතුරාවක්, නැතහොත්, ආණ්ඩුව කෙරෙහි එල්ලවන ජනතා කෝපය ඉවත හරවන හෙණ සැර බැහැර ලන සන්නායකයක් හෝ වැනි, වැඩක් නැති තත්වයට පත්වන්නේද, ජනතාව රැවටීම පිණිස යොද ගන්නා ආණ්ඩුවේ උපකරණයක් බවට පත්වන්නේද, එනිසාය. 1848 දී ලූයි බ්ලාන්ක්ට සිදු වූයේත්, බ්‍රිතාන්‍යයේ හා ප්‍රංශයේත් ඇමති මණ්ඩලවලට සමාජවාදීන් සහභාගි වූ දුසිම් ගණනක් අවස්ථාවලදී සිදු වූයේත්, එයය. 1917 දී චෙර්නොව්ලාට සහ ට්සෙරතෙලිලාට සිදුවී තිබෙන්නේද එයමය. ධනපති ක්‍රමය පවතින තාක් සහ පැරණි ධනපති, නිලධාරිවාදී රාජ්‍ය යන්ත්‍රය සුරැකිව පවතින තාක් කල්, එය එසේ විය; ඉදිරියටද එසේ වනු ඇත.

කම්කරු, සොල්දදු සහ ගොවිජන නියෝජිත සෝවියට් සභා අපරිමිත තරම් උසස් සහ අසම සම තරම් ප්‍රජාතන්ත්‍රවාදී වූ නව වර්ගයක රාජ්‍ය යන්ත්‍රයක් නියෝජනය කරන හෙයින්, ඒවා විශේෂයෙන්ම අගනේය. පාලනය දඩමීමා කරගෙන සෝවියට් සභා (විශේෂයෙන්ම, පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාව සහ සමස්ත රුසියා සෝවියට් සභාව, එනම් මධ්‍යම විධායක කාරක සභාව) හුදෙක් වැඩකට නැති සහ ආණ්ඩුව විසින් ඉතාමත් ආචාරශීලී හා කාරුණික සිනහවක් පා හමස් පෙට්ටියේ දමනු ලබන යෝජනා සම්මත කරන සහ අදහස් ඉදිරිපත් කරන, නිෂ්ඵල කථා සාප්පු බවට පරිවර්තනය කිරීමට සමාජවාදී-විප්ලවවාදීහු සහ මෙන්ෂෙවික්වරු ඔවුන්ට හැකි සහ නොහැකි සියල්ලක්ම කළහ. එසේ වුවද, නියම කුණාටුවක පෙරනිමිති ගෙන ආ කර්නිලව් සිද්ධියේ ''නැවුම් සුළං රැල්ල'', සෝවියට් සභාවල තිබුණු පුස්ගඳ වහනය කරන සියල්ල ටික කලකට ඉවත ගසා ගෙන යාමට හා විප්ලවීය ජනතාවගේ ක්‍රියාරම්භකත්වය මහේශාක්‍ය, බලවත් සහ අනභිබවනීය දෙයක් ලෙසට ප්‍රකාශිත වීමට ප්‍රමාණවත් විය.

සන්දේහවාදීන් සියළු දෙනාම ඉතිහාසයේ මෙම නිදර්ශනයෙන් පාඩමක් උගෙන ගැනීම සුදුසුය. ''අනිවාරණීය වශයෙන් ධනපති පංතිය පැත්තට නැඹුරුවන පැරණි යන්ත්‍රය වෙනුවට ආදේශ කළ හැකි යන්ත්‍රයක් අපට නැතැ''යි කියන්නවුන්, තමන් ගැන ලජ්ජාවට පත් විය යුතුය. එසේ කියන්නේ, මෙම යන්ත්‍රය පවතින බැවිනි. එම යන්ත්‍රය නම් සෝවියට් සභාය. ජනතාවගේ ක්‍රියාරම්භකත්වයට සහ ස්වයීනත්වයට බිය නොවන්න. විප්ලවවාදී සංවිධාන කෙරෙහි ඔබගේ විශ්වාසය තබන්න. එවිට, කර්නිලොව්ට විරුද්ධ කම්කරුවන්ගේ සහ ගොවි ජනයාගේ සමගියේ සහ වියරු කෝපයේ අවස්ථාවෙහි දක්නා ලද ඔවුන්ගේ එම ශක්තියම, එම මහේශාක්‍ය භාවයම, එම අනභිබවනීයත්වයම, ඔබට සියළු රාජ්‍ය කටයුතු පිළිබඳ භූමියෙහිදීද දැකිය හැකිවනු ඇත.

ජනතාව කෙරෙහි විශ්වාසය නොතැබීම, ඔවුන්ගේ ක්‍රියාරම්භකත්වයට හා ස්වාධීනත්වයට බිය වීම, ඔවුන්ගේ විප්ලවීය ශක්තියට සෑම ආකාරයෙන්ම සහ කොන්දේසි විරහිත ලෙස ආධාර කරනවා වෙනුවට, එය හමුමේ සසල වීම — සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් නායකයින් කළ අන් සියල්ලටම වඩා බරපතල වරද එයයි. ඔවුන්ගේ අතිරණයෙහි, ඔවුන්ගේ වැනෙනසුලු භාවයෙහි සහ පැරණි බෝතල්වලට, පැරණි නිලධාරිවාදී රාජ්‍ය යන්ත්‍රයට, අළුත් වයින් වත්කිරීමට

ඔවුන් දරන කෙළවරක් නැති හා සම්පූර්ණයෙන්ම නිරර්ථක ප්‍රයත්නවල මුල් විහිදී ඇත්තේ මෙහි තුළ අපට පෙනේ.

1917 රුසියානු විප්ලවයේදී යුද්ධ හමුදව ප්‍රජාතන්ත්‍රවාදී කිරීමේ ඉතිහාසයත්, චෙර්නොව් අමාත්‍යාංශයේ ඉතිහාසයත්, පල්චින්ස්කිගේ ''පාලනයත්'', පෙෂෙහෝනව්ගේ ඉල්ලා අස්වීමත් ගෙන බලන්න. ඒ පිළිබඳ සෑම පියවරකින්ම අප කී දේ ඉතාමත් සිත්කාවදින ලෙස ඔප්පු වන බව, ඔබට පෙනෙනු ඇත.තෝරා පත් කළ සොල්දදුවන්ගේ සංවිධාන කෙරෙහි සම්පූර්ණ විශ්වාසය නොතැබූ නිසා සහ සොල්දදුවන් විසින් ඔවුන්ගේ අණ දෙන නිලධාරීන් තෝරා පත් කරනු ලැබීම කිසිසේත් අනුගමනය නොකරනු ලැබූ නිසා කර්නීලොව්ලා, කලේදින්ලා සහ ප්‍රතිවිප්ලවවාදී නිලධාරීන් යුද්ධ හමුදවේ මුල් තැන්වල සිටින තත්වයක් ඇති විය. මෙය සත්‍ය කරුණකි. කර්නීලව් සිද්ධියෙන් පසුව කෙරෙන්ස්කි සියළු දේම තිබෙන්නට හරින බවත්, එය ඇත්ත වශයෙන්ම කර්නීලොව් සිද්ධිය නැවත ගෙන එන්නක් බවත්, උවමනාවෙන්ම තම ඇස් වසා නොගන්නා කෙනෙකුට නොපෙනී යා නොහැක. අලෙක්සෙයෙව් පත්කිරීමද, ක්ලෙම්බොව්ස්කිලා, ගගාරින්ලා,බග්රතියොන්ලා සහ වෙනත් කර්නීලව් අනුගාමිකයින් සමග ''සාමය'' පැවැත්වීමද , කර්නීලව්ට සහ කලේදින්ට ලිහිල දැක්වීම යන සියල්ලෙන්ම ඉතා පැහැදිලිව ඔප්පු වන්නේ, කෙරෙන්ස්කි ඇත්ත වශයෙන්ම නැවත වරක් කර්නීලොව් සිද්ධිය ඇති කිරීමට යන බවය.

මැද මාවතක් නොමැත. අත් දැකීමෙන් මෙය පෙනී ගොස් තිබේ. එක්කෝ සියළු බලය සෝවියට් සභාවලට හිමි වී, යුද්ධ හමුදව සම්පූර්ණයෙන්ම ප්‍රජාතන්ත්‍රවාදී කෙරෙනු ඇත. එසේ නැතහොත්, තවත් කර්නීලොව් සිද්ධියක් ඇතිවනු ඇත.

ඊළඟට චෙර්නොව් අමාත්‍යාංශයේ ඉතිහාසය කුමක්ද? ගොවි ජනතාවගේ අවශ්‍යතාවයන් සපුරාලීම වෙත යොමුවුනු, අඩු වැඩි වශයෙන් බරපතල සෑම පියවරක්ම, ගොවි ජනතාවත්, ඔවුන්ගේ පොදුජන සංවිධානත්, ඔවුන්ගේ කටයුතුත් කෙරෙහි විශ්වාසය පෙන්වන සෑම පියවරක්ම, ඔවුන් තුළ මහත් උද්යෝගයක් ජනිත කිරීමට හේතුවූ බව එයින් ඔප්පු නොවූයේද? නමුත් කැඩෙට්වරු සහ නිලධාරිවාදීන් සමග ''වාද විවාද කරමින්'' මාස හතරක්ම පමණ ගෙවීමට චෙර්නොව්ට සිදු විය. කෙළවරක් නැති ප්‍රමාද කිරීම් සහ කුමන්ත්‍රණ කිරීම් මගින්, ඔවුන් කළේ අවසානයේදී කිසිවක් ඉටු නොකරම ඉල්ලා අස්වන තැනට ඔහු පත් කිරීමය. එසේ වූයේ මෙම මාස හතර තුළ ඉඩම් හිමියන් හා ධනපතියන් ''ක්‍රීඩාවෙන් ජයගත්'' හෙයිනි. ඔවුහු වතුකාර දේපල බේරාගත්හ; ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය කැඳවීම ප්‍රමාද කළහ; ඉඩම් කාරක සභාවලට විරුද්ධව මර්දනයන් කීපයක් පවා පටන් ගත්හ.



මැද මාවතක් නොමැත. අත්දැකීමෙන් මෙය පෙනී ගොස් තිබේ. එක්කෝ මධ්‍යම සහ ප්‍රාදේශීය යන දෙආකාරයේම සියළු බලය සෝවියට් සභාවලට හිමි වී වහාම සියළුම ඉඩම් ගොවි ජනතාවට දෙනු ඇත. එසේ නැතහොත්, ඉඩම් හිමියන් හා ධනපතියන් සෑම පියවරකටම බාධා කරමින්, ඉඩම් හිමියන්ගේ බලය යළිත් තහවුරු කරමින්, ගොවි ජනතාව කෝපයෙන් උමතු කරවා, ඉතාමත් දරුණු ගොවිජන කැරැල්ලක් ඇතිවන තැනට කරුණු යොදනු ඇත.

නිෂ්පාදනය අධීක්ෂණය කිරීම සඳහා ගත් අඩු වැඩි වශයෙන් බරපතල සෑම පියවරක්ම ධනපතියන් විසින් (පල්චින්ස්කිගේ ආධාර ඇතිව) මර්දනය කරන ලද විටද, ධාන්‍ය ඒකාධිකාරයත්, පෙෂෙහෝනව් ආරම්භ කළ ධාන්‍ය සහ වෙනත් ආහාර ද්‍රව්‍ය ක්‍රමාණුකූලව ප්‍රජාතන්ත්‍රවාදී ලෙස බෙද හැරීම ආරම්භ කළ වහාම එයත් වෙළෙන්දන් විසින් ව්‍යර්ථ කර දමනු ලැබූ විටද, සිදු වූයේ එයමය.

දැන් රුසියාවේ අවශ්‍ය වී තිබෙන්නේ නව ''ප්‍රතිසංස්කරණ'' නිර්මාණය කිරීම නොවේ; ''අංග සම්පූර්ණ '' වෙනස් කිරීම් සඳහා ''සැලසුම්'' සකස් කිරීම නොවේ. අවශ්‍ය වී ඇත්තේ ඒ කිසිවක් නොවේ. ''සමාජවාදය ආරම්භ කිරීමට'' විරුද්ධව සහ ''නිර්ධන පංතියේ ආඥාදායකත්වයට'' විරුද්ධව ඝෝෂා කරන ධනපතියන්, පොත්‍රෙසොව්ලා, ප්ලෙඛානව්ලා තත්වය නිරූපනය කරන්නේ, උවමනාවෙන්ම වැරදි වර්ණයක් ගල්වා තත්වය නිරූපනය කරන්නේ එසේය. රුසියාවේ පවතින තත්වය කෙබඳුද යත්, යුද්ධයෙන් පැන නැග ඇති අභූත පූර්ව අමාරුකම් හා දුෂ්කරතාවයන්ද, ආර්ථික විසංධානයේ සහ සාගතයේ ඉතාමත් නියත අන්තරායද විසින්ම, ගැළවීමේ මාර්ගයක් පෙන්නුම් කරනු ලැබේ. එම තත්වයන්, එසේ පෙන්නුම් කරනවා පමණක් නොව, අවශ්‍යයෙන්ම කළ යුතු ප්‍රතිසංස්කරණයන් සහ වෙනත් වෙනස්කිරීම්ද ඉදිරිපත් කරන්නේය. කළයුතු මෙම වෙනස්කම් නම්, ධාන්‍ය ඒකාධිකාරය ඇතිකිරීම, නිෂ්පාදනය හා බෙදහැරීම පිළිබඳ පාලනයක් ඇති කිරීම, කඩදයි මුදල් නිකුතුව සීමා කිරීම, නිෂ්පාදිත භාණ්ඩ සහ සාධාරන ධාන්‍ය හුවමාරුවක් ඇති කිරීම, ආදියයි.

මේ වර්ගයේ සහ මෙම දිසාවට යොමුවූ පියවරයන් අනිවාර්යයෙන්ම ගත යුතු බව කවුරුත් පිළිගන්නා අතර බොහෝ ස්ථානවල ඉතාමත් විවිධාකාර අංශවලින් ඒවා ආරම්භ කර තිබේ. ඒවා දැනටමත් ආරම්භ කර තිබේ. නමුත් කෙරෙන්ස්කි ආණ්ඩුව මගින් (ඇත්තෙන්ම අන්ත ධනපති සහ බොනපාට්වාදී ආණ්ඩුවකි), පැරණි නිලධාරිවාදී රාජ්‍ය යන්ත්‍රය මගින් සහ රුසියානු සහ ''මිත්‍ර'' මූල්‍ය ප්‍රාග්ධනයේ සෘජු සහ වක්‍ර බලකිරීම මගින්, පානු ලබන ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ ප්‍රතිරෝධයෙන් සෑම තැනෙකදීම එම පියවරයන්ට බාධා කෙරේ.

පෙෂෙහෝනව්ගේ ඉල්ලා අස්වීම සහ නියමිත මිළ හා ධාන්‍ය ඒකාධිකාරය බිඳ වැටීම ගැන වැලපෙමින් අයි. ප්‍රිලෙෂායෙව් "දියලෝ නරෝද" (අංක 147) හි මෙසේ ලිවේ වැඩි ඈත කාලයක නොවේ:

"සෑම සංයුතියකම වූ අපගේ ආණ්ඩු සියල්ලෙහිම අඩුවක් ලෙස දක්නට ලැබුණේ ධෛර්යය හා තීරණාත්මකභාවය නොමැතිකමය... විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන් නැවතී බලා නොසිටිය යුතුය. ඔවුන්, තමන්ගේම ක්‍රියාරම්භකත්වය දක්වමින් සැලැස්මානුකූල ආකාරයකට ආර්ථික ව්‍යාකූලත්වය විසඳීමට මැදිහත් විය යුතුය... බලවත් ක්‍රියාමාර්ගයක් සහ අධිෂ්ඨාන සහගත ආණ්ඩුවක් අවශ්‍ය යම් තැනක් ඇත්නම් ඒ මෙතැනය".

සත්‍ය සත්‍යමය. මේවා රුවන් වදන් වන නමුත් එක අඩුවකට ඇත්තේ, ගත යුතු බලවත් ක්‍රියාමාර්ගය, ධෛර්යය හා තීරණාත්මකභාවය පිළිබඳ ප්‍රශ්නය පුද්ගලික කරුණක් නොව, ධෛර්යය හා තීරණාත්මක වීම පෙන්වීමෙහි සමත් වන්නේ කුමණ පංතියද යන්න බව කතුවරයාට අමතක වීමය. එහිදී සමර්ථවන එකම පංතිය නිර්ධන පංතිය ය. තදබල ක්‍රියා මාර්ගයක් අනුගමනය කරන, ධෛර්යමත් සහ අධිෂ්ඨාන සහගත ආණ්ඩුවක්, යනු, අන් කිසිවක් නොව, නිර්ධන පංතියේ සහ දුප්පත් ගොවි ජනතාවගේ ආඥාදායකත්වය වේ. අයි.ප්‍රිලෙෂායෙව් නොදැනුවත්වම මෙම ආඥාදායකත්වය සඳහා ආශාවකින් පෙළෙයි.

ව්‍යවහාරයෙහිදී එවැනි ආඥාදායකත්වයක් යන්නෙහි අර්ථය කුමක්ද? එහි අර්ථය අන් කිසිවක් නොව, කර්නීලව් අනුගාමිකයන්ගේ ප්‍රතිරෝධය බිඳ හෙළන බව හා යුද්ධ හමුදාව ප්‍රජාතන්ත්‍රවාදී කිරීම යළිත් ක්‍රියාත්මක කර සම්පූර්ණ කරන බවය. මෙම ආඥාදායකත්වය ඇති කර දින දෙකක් ගිය තැන යුද්ධ හමුදාවෙන් සියයට අනූ නවයක්ම එහි උද්යෝගිමත් ආධාර කරුවන් වනු ඇත. මෙම ආඥාදායකත්වය ගොවිජනතාවට ඉඩම් පවරා දෙනු ඇත. එසේම, එය ප්‍රාදේශීය ගොවි කාරක සභාවලට සම්පූර්ණ බලය පවරා දෙනු ඇත. ගොවි ජනතාව මෙම ආඥාදායකත්වයට ආධාර කරනු ඇතැයි යන්න ගැන, සිහි බුද්ධිය ඇති කෙනෙක් සැකයක් ඇති කරගන්නේ කෙසේද? පෙෂහෝනව් හුදෙක් පොරොන්දුවට පමණක් සීමා කළ දෙය (සෝවියට් සභා සම්මේලනය ඉදිරියේ පෙෂෙහෝනව් කළ සුප්‍රසිද්ධ කථාවෙහිදී, ඔහු ඇත්ත වශයෙන් කීවේ "ධනපතියන්ගේ ප්‍රතිරෝධය බිඳ දමා තිබෙන බවය), මෙම ආඥාදායකත්වය විසින් ක්‍රියාත්මක කෙරෙනු ඇත; එය යථාර්ථයට පරිවර්තනය කරනු ලැබේ. ඒ අතර දැනට හැඩ ගැසීමට පටන් ගෙන තිබෙන ආහාර සම්පාදනය, පාලනය, ආදිය ප්‍රජාතන්ත්‍රවාදී ලෙස කිරීමේ සංවිධාන කටයුතු කිසිසේත් අත් නොහරිනු ඇත. ඊට ප්‍රතිකූල වශයෙන් ඒවා ආරක්ෂා කර සංවර්ධනය කරනු ලැබේ. ඒවාට අකුල් හෙළන සියළු බාධක ඉවත් කරනු ලැබේ.

ධනපතියන්ගේ ප්‍රතිරෝධය සුනුවිසුනු කර දැමීමෙහිත්, බලය ක්‍රියාවේ යෙදවීමෙහිදී උච්චතම ධෛර්යයක් සහ අධිෂ්ඨානයක් පෑමෙහිත්, එසේම, යුද්ධ හමුදාවේ සහ ගොවි ජනතාව අතර වන පොදු ජනතාවගේ උද්යෝගිමත්, ආත්ම ලාභයෙන් තොර සහ සැබවින්ම වීරෝදර ආධාරය ලබා ගැනීමෙහිත්, සමත් වන්නේ නිර්ධන පංතියේ සහ ගොවි ජනතාවගේ ආඥාදායකත්වය පමණකි.

සෝවියට් සභාවලට මුළු බලය පවරනු. ජනතාවගේ බහුතරයෙහි දේශපාලන අවබෝධයට සහ අධිෂ්ඨානයටත්, ඔවුන්ගේ අත් දැකීම්වලටත් මනාව ගැලපෙන පරිද්දෙන් ක්‍රමික ලෙස, සාමකාමී ලෙස සහ අවුලෙන් තොරව තවදුරටත් ඉදිරියට යා හැක්කේ ඒ මාර්ගයෙන් පමණකි. සෝවියට් සභාවට බලය පැවරීමෙන් අදහස් කෙරෙන්නේ රටේ පරිපාලනය හා ආර්ථික පාලනය සම්පූර්ණයෙන්ම කම්කරුවන් සහ ගොවි ජනතාව අතට පවරන බවය. ඔවුන්ට ප්‍රතිරෝධය දැක්වීමට තරම් කිසිවෙක් එඩිතර නොවනු ඇත. එසේම, ඉඩම්, නිෂ්පාදිත භාණ්ඩ සහ ධාන්‍ය නිසි ලෙස බෙදා හරින්නේ කෙසේද යන්න ඔවුන්, ව්‍යවහාරයෙන් සහ ඔවුන්ගේම අත්දැකීම් මගින් ඉක්මණින්ම උගෙන ගනු ඇත.

'රබෝචි පුත්'' අංක 10, 1917
'සැප්තැම්බර් 27(14)

සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 34, පිටු 200-207

# රුසියානු විප්ලවය සහ සිවිල් යුද්ධය

## සිවිල් යුද්ධය පෙන්වා අප බිය ගැන්වීමට ඔවුහු උත්සාහ කරති

මෙන්ෂෙවික්වරු සහ සමාජවාදී-විප්ලවවාදීහු කැඩෙට්වරු සමග පෙරමුණකට එළඹීම ප්‍රතික්ෂේප කිරීමෙන් සහ තමන් නොමැතිව ආණ්ඩුවක් පිහිටුවීමේ සහ තමන්ට විරුද්ධව රුසියාව ආණ්ඩු කිරීමේ සම්පූර්ණ හැකියාව ප්‍රජාතන්ත්‍රවාදීන්ට තිබිය හැකිය යන අදහසින් බියට පත් ධනපති පංතිය, ප්‍රජාතන්ත්‍රවාදීන්, බිය වැද්දීමට තමන්ට හැකි සියල්ලක්ම කරති.

ඔබට හැකි තරම් ඔවුන් බිය කරන්න! ධනපති පුවත්පත් සියල්ලෙහිම සටන් පාඨය එයයි. ඔබේ මුළු ශක්තිය යොද ඔවුන් බිය කරන්න! බොරු කියන්න, අපහාස කරන්න, නමුත් ඔවුන් බිය කරන්න!

''බිර්සෙව්කා'', එහි බිය කිරීමේ කාර්ය ඉටු කරගන්නේ බොල්ෂෙවික්වරුන්ගේ කටයුතු ගැන බොරු ප්‍රවෘත්ති ගෙතීමෙනි. අනිත් පත්‍ර අලෙක්සෙයෙව්ගේ ඉල්ලා අස්වීම ගැන සහ පෙට්‍රොග්‍රෑඩයට විරුද්ධව දූන් දූන් එල්ලවන ජර්මන් ප්‍රහාරයක් ගැන, කට කථා පතුරුවා හැරීමෙන් එය කරති. ඔවුන් එසේ කරන්නේ, ගැලීසියාවේදී, රීගාව අසලදී සහ පෙට්‍රොග්‍රෑඩය අසලදී ජර්මානුන්ට පෙරමුණ විවෘත කර දීමේ හපන්කම කරනු ඇත්තේ කර්නිලොව් සේනාපතියන්ම (නිසැක ලෙසටම අලෙක්සෙයෙව් එම ගණයට අයත්ය) බවත්, ප්‍රධාන මණ්ඩලය කෙරෙහි යුද්ධ හමුදව තුළ දරුණු වෛරයක් ඇති කරන්නේ කර්නිලොව් සේනාපතියන්ම බවත්, සත්‍ය කරුණු අනුව ඔප්පු නොවන කලෙක මෙනි.

ප්‍රජාතන්ත්‍රවාදීන් බිය වැද්දීමේ මෙම ක්‍රමය ''ශක්තිමත් කිරීමට'' සහ විශ්වාසගන්වන තත්වයට පත් කිරීමට, ඔවුහු ''සිවිල් යුද්ධය'' ගැන සඳහන් කරති බියවැද්දීමේ සියළු ක්‍රම අතුරෙන්, ඉතාමත් පුළුල් ලෙස පැතිරී තිබෙන්නේ, සිවිල් යුද්ධය ගැන බියට පත් කිරීමය. අමන පිරිස් ඉත සිතින් පිළිගන්නා මෙම පතළ අදහස, ජනතා නිදහස් පක්ෂයේ රොස්තොව්



නදීබඩ ඩොන් කාරක සභාව, එහි සැප්තැම්බර් 1 (''රෙච්'' අංක 210) යෝජනාවෙන් ඉදිරිපත් කළේ මෙසේය:

සිවිල් යුද්ධය නිසා විප්ලවයේ සියළුම ජයග්‍රහණයන් අතුගෑවී යනු ඇති බවත්, එය අපගේ තරුණ සහ තවමත් අස්ථාවර නිදහසේ රුධිර ගංගාවල ගිලී යනු ඇති බවත්, කාරක සභාවට ඒත්තු ගොස් ඇති අතර, අප විප්ලවයේ ජයග්‍රහණ ආරක්ෂා කර ගැනීමට නම්, අවිශ්වාස සහගත සමාජවාදී මනෝරාජ්‍යයන් විසින් යෝජනා කෙරෙන පරිදි විප්ලවය ඇති කිරීමට විරුද්ධව බලවත් සේ විරෝධය ප්‍රකාශ කිරීමට අවශ්‍ය බවත් අපි අදහස් කරන බව ප්‍රකාශ කරමු''.

''රෙච්'' කතුවැකිවල, ප්ලෙහානව්ගේ සහ පොත්‍රෙසොව්ගේ ලිපිවල, මෙන්ෂෙවික් පුවත්පත් කතු වැකිවල, යනාදියෙහි අනේක වාරයක් දක්නට ලැබෙන මූලික අදහස, මෙයින් ඉතාමත් පැහැදිලි ලෙස, ඉතාමත් නිශ්චිත ලෙස, හොඳින් සලකා බැලූ සහ කරුණු සහිත ආකාරයෙන් ඉදිරිපත් කර ඇත. එනිසා මෙම අදහස ගැන වඩාත් විස්තර සහිත ලෙස විමසා බැලීම ප්‍රයෝජනවත් වනු ඇත.

වෙනත් කරුණුද සමගම අපගේ විප්ලවයේ හය මසක අත්දැකීම් පදනම් කර ගනිමින්, සිවිල් යුද්ධය ගැන වඩාත් යථාභූත විග්‍රහයක් කිරීමට උත්සාහ ගනිමු.

සිවිල් යුද්ධය යනු පංති අරගලයේ ඉතාමත් තියුණු අරගල ආකෘතිය බවත්, පංති අතර ආර්ථික සහ දේශපාලන සට්ටන සහ සංග්‍රාම නැවත නැවතත් ඇති වෙමින්, පුළුල් වෙමින්, තියුණු වෙමින්, පංති අරගලය, එක පංතියක් තවත් පංතියකට විරුද්ධව ආයුධ සන්නද්ධව කරන අරගලයක් බවට පරිවර්තනය වන එම අවස්ථාව බවත්, සියළුම යුරෝපීය විප්ලවවල මෙන්ම මෙම විප්ලවයේ අත්දැකීම්වලින් පෙනේ. තරමක් දුරට හෝ නිදහස් සහ දියුණු රටවල් සියල්ලෙහිම, බොහොමයක් අවස්ථාවල, නිතරම පාහේ, සිවිල් යුද්ධ ඇති වන්නේ, ධනපති ක්‍රමයේ මුළු මහත් ආර්ථික සංවර්ධනයම විසින්, ලෝකය මුළුල්ලේම වන නවීන සමාජයේ මුළු ඉතිහාසයම විසින්, නිර්මාණය කරනු ලබන්නාවූ සහ ගැඹුරු කරනු ලබන්නාවූ අන්‍යෝන්‍ය සතුරුතා තත්වයක් දරන පංති අතරය; වෙනත් වචනවලින් කියතොත් සිවිල් යුද්ධ ඇතිවන්නේ ධනපති පංතිය සහ නිර්ධන පංතිය අතරය.

අපගේ විප්ලවයේ පසුගිය අඩ වසර තුළදී, නිර්ධන පංතිය සිවිල් යුද්ධයට ඉතා සමීප කළ, ඉතා බලවත් සාංසිද්ධික කැළඹිලි (අප්‍රේල් 20-21, ජූලි 3-4) අපට අත් දකින්නට ලැබුණි. අනිත් අතට කර්නිලව් කැරැල්ල කැඩෙට් පක්ෂයේ නායකත්වයෙන් යුත්, ඉඩම් හිමියන්ගේ සහ

ධනපතියන්ගේ ආධාරය ලැබූ හමුද කුමන්ත්‍රණයක් විය. එම කුමන්ත්‍රණය මගින් ධනපති පංතිය සැබැවින්ම ආරම්භ කළේ සිවිල් යුද්ධයකි.

සත්‍ය කරුණු එසේය. අපගේම විප්ලවයේ ඉතිහාසය එසේය. අන් කිසිවකට වඩා අපි ඉතිහාසයෙන් පාඩම් උගත යුත්තෙමු. එය ගත් මාර්ගය ගැන අපි බොහෝ සේ සිතා බැලිය යුත්තෙමු. එහි පංති අර්ථය ගැන සිතා බැලිය යුත්තෙමු.

පහත සඳහන් කරුණුවල ස්ථාවරය අනුව රුසියාවේ නිර්ධන පංති සිවිල් යුද්ධයේ සහ ධනපති පංති සිවිල් යුද්ධයේ රෝග බීජ සංසන්දනය කිරීමට උත්සාහ කරමු: (1) ව්‍යාපාරයේ සාංසිද්ධික ස්වභාවය; (2) එහි අරමුණු; (3) එයට සහභාගි වන පොදු ජනතාවගේ දේශපාලන විඥනය; (4) ව්‍යාපාරයට ඇතුළත් බලවේග; (5) ව්‍යාපාරයේ දුර්වාරණීය ස්වභාවය. දැන් ''සිවිල් යුද්ධය'' යන වචන ''අනවශ්‍ය ලෙස එහා මෙහා වීසි කිරීමෙහි'' යෙදී සිටින පක්ෂ සියල්ලම, මේ ආකාරයෙන් ප්‍රශ්නය වෙත ළඟා වෙති නම්, සිවිල් යුද්ධයේ රෝග බීජ ගැන අධ්‍යයනය කිරීමට නියම ප්‍රයත්නයක් දරති නම් එයින් මුළු මහත් රුසියානු විප්ලවයේම පංති විඥනයට මහත් යහපතක් වනු ඇත.

ව්‍යාපාරයේ සාංසිද්ධිකතාවයෙන් පටන් ගනිමු. ජූලි 3-4 ව්‍යාපාරයේ සාංසිද්ධික ස්වභාවය ඔප්පු කිරීමට මෙන්ෂෙවික් ''රබෝචයා ගසියෙත'' සහ සමාජවාදී-විප්ලවවාදී ''දියල නරෝද'' වැනි සාක්ෂි කරුවන්ගේ සාක්ෂි අපට ඇත. ව්‍යාපාරයේ ආරම්භය සාංසිද්ධික වූ බවා ඒව පිළිගෙන තිබේ. ''ප්‍රොලෙතාර්ස්කොය දියල'' හි පළ කරන ලද සහ වෙනම පත්‍රිකාවක් ලෙසට නිකුත් කරන ලද, ''පිළිතුරක්'' යන ලිපියෙහි මෙම සාක්ෂිය උපුටා දැක්වීමි. එසේ වුවද, ආත්ම ආරක්ෂාවට සහ බොල්ෂෙවික්වරු මර්දනය කිරීමේදී තමන් ඉටු කළ කාර්ය කොටස නිවැරදි බව පෙන්වීමට කටයුතු කරන, මෙන්ෂෙවික්වරු සහ සමාජවාදී-විප්ලවවාදීහු, ජූලි 3-4 කැළඹිලිවල සාංසිද්ධික ස්වභාවය පිළිගැනීම නිල වශයෙන් ප්‍රතික්ෂේප කරති.

මෙම විවාදයට තුඩු දෙන කරුණ දැනට පසෙකින් තබමු. විවාදයක් නොමැති දෙය ගනිමු. අප්‍රේල් 20-21 ව්‍යාපාරය සාංසිද්ධික ස්වභාවයක් දැරූ බව කිසිවෙක් ප්‍රතික්ෂේප නොකරයි. සෝවියට් සභාවලට මුළු බලය පවරනු'' යන සටන් පාඨය යටතේ බොල්ෂෙවික් පක්ෂය සාංසිද්ධික ව්‍යාපාරයට සහභාගි වූයේය. ආණ්ඩුව සිරභාරයට ගැනීමට සූදනම්ව සිටි ආයුධ සන්නද්ධ සොල්දදුවන් 30,000 ක් වීදිවලට මෙහෙයවූ අභාව-ප්‍රාප්ත ලින්දෙ බොල්ෂෙවික්වරුන්ගෙන් ස්වාධීන ලෙස එම ව්‍යාපාරයට සම්බන්ධ විය. (මෙම යුද්ධ හමුදවේ ක්‍රියාව ගැන පරීක්ෂා කර හා අධ්‍යයනය කර නොමැති බව අමතර වශයෙන් සඳහන් කරමු. ඒ ගැන සමීප



ලෙස පරීක්ෂා කර බැලුවහොත්, ඓතිහාසික සිදුවීම් අනු පිළිවෙළ තුළ අප්‍රේල් 20 ට නිසි තැන දෙන්නේ නම්, නැතහොත්, එය පෙබරවාරි 28 සිට අගෝස්තු 29 දක්වා විහිදෙන දම්වැලෙහි පුරුකක් ලෙසට වටහා ගනු ලැබේ නම්, බොල්ෂෙවික්වරුන්ගේ වරද වූයේ, අමනයන් අපට චෝදනා කරන ලෙසට අධික විප්ලවවාදී ස්වභාවයක් දැක්වීම නොව, ඔවුන්ගේ උපක්‍රම ප්‍රමාණවත් තරම් විප්ලවවාදී නොවීම ය.)

මේ අනුව බලන කල, නිර්ධන පංතිය සිවිල් යුද්ධය කරා යොමු කරන ව්‍යාපාරය සාංසිද්ධික වූ බවට සැකයක් නොමැත. අනිත් අතට සාංසිද්ධිකතාවයට ඡායා මාත්‍ර වශයෙන් හෝ සමරූපවන කිසිවක් කර්නිලව් කැරැල්ල කෙරෙහි නොදක්නා ලදී. එය වංචාව සහ යුද්ධ හමුදපතිත්වයේ බලය උපයෝගි කර ගනිමින්, යුද්ධ හමුදවේ කොටසක් දිනාගැනීමට අපේක්ෂා කළ හමුදපතියන්ගේ කුමන්ත්‍රණයක් පමණක් විය.

ව්‍යාපාරයේ සාංසිද්ධික ස්වභාවය අනුව, එම ව්‍යාපාරය ජනතාව අතර ගැඹුරට මුල්බැස තිබෙන බවත්, එම මුල් ශක්තිමත් බවත්, එම ව්‍යාපාරය වැලැක්විය නොහැකි බවත් ඔප්පු වන්නේය යන්න ගැන, කිසිම සැකයක් තිබිය නොහැකිය. අප්‍රේල් 20-21 ව්‍යාපාරය බොල්ෂෙවික් සටන් පාඨ යොදු ගැනීමට ඉතා සමීප තත්වයට පැමිණියේය. ඒ අතර, ජූලි 3-4 ව්‍යාපාරය කෙළින්ම ඔවුන් සමග සම්බන්ධව සහ ඔවුන්ගේ බලපෑම සහ මෙහෙයවීම යටතේ ක්‍රියාත්මක විණි. නිර්ධන පංතික සිවිල් යුද්ධයේ ප්‍රධාන අරමුණු නිර්ධන පංතියේ සහ දුප්පත් ගොවිජනතාවගේ ආඥදායකත්වය පිහිටුවීම, සාමයට සහ කඩිනම් සාමයක් යෝජනා කිරීම වතුකාර දේපල ජනසතු කිරීම වන බව බොල්ෂෙවික් පක්ෂය එහි පුවත් මගින් සහ වාචක ප්‍රචාර මගින්, සියළු දෙනාටම ඇසෙන සේ විවෘත ලෙස, ඒකාන්ත ලෙස, ඉතා පැහැදිලි ලෙස සහ නිශ්චිත ලෙස ප්‍රකාශ කළේය.

කර්නිලව් කැරැල්ලෙහි අරමුණු වූයේ මොනවාද යනු අපි සියළු දෙනාම දනිමු. එම අරමුණු වූයේ, ඉඩම් හිමියන්ගේ සහ ධනපතියන්ගේ ආඥදායකත්වයක් පිහිටුවීම, සෝවියට් සභා විසුරුවා හැරීම, රාජාණ්ඩුව යළි ස්ථාපිත කිරීම සඳහා කටයුතු පිළියෙළ කිරීම බව, ප්‍රජාතන්ත්‍රවාදීන් අතර සියළු දෙනාම අවිවාදයෙන් පිළිගනිති. ප්‍රධාන කර්නිලව්වාදී පක්ෂය වන කැඩෙට් පක්ෂයට (දැන් එය කර්නිලව් පක්ෂය යනුවෙන් හැඳින්විය යුතු බව මෙහිලා සඳහන් කරමු), බොල්ෂෙවික්වරුන්ට වඩා ලොකු පුවත්පත්, ඊට වඩා බලවත් ප්‍රචාරක බලවේගයන් සතුව ඇත. නමුත්, ධනපති පංතියේ ආඥදායකත්වය ගැන හෝ සෝවියට් සභා විසුරුවා හැරීම ගැන හෝ, එසේ නැතහොත්, පොදු වශයෙන් කර්නිලව්වාදීන්ගේ අරමුණු ගැන හෝ, විවෘත ලෙස ජනතාවට කීමට තරම් ඔවුහු එඩිතර නොවූහ! ඔවුහු එසේ කිරීමට තරම් තවමත් එඩිතර නොවෙති.

ව්‍යාපාරයේ අරමුණු හා සම්බන්ධයෙන් වූ කල, නිර්ධන පංති සිවිල් යුද්ධයට ස්වකීය අවසාන අරමුණු විවෘත ලෙස ජනතාව හමුවේ තබා ඊට වැඩකරන ජනතාවගේ අනුකූලතාවය දිනා ගත හැකි නමුත්, ධනපති පංති සිවිල් යුද්ධය පොදු ජනතාවගෙන් කොටසකට නායකත්වය දීමේ ප්‍රයත්නයක් දැරීමෙහි සමත් වන්නේ, එහි අරමුණු සඟවා තැබීමෙන් වේ. පොදු ජනතාවගේ විඥානය අනුව බලන කල ඒවා අතර තිබෙන අති විශාල වෙනස එයයි.

මේ පිළිබඳ වාස්තවික දත්තයන් සේ ගිණිය හැක්කේ පක්ෂ සම්බන්ධකම් සහ මැතිවරණවලට අදළ ඒවා පමණකි. පොදු ජනතාවගේ පංති විඥනය පැහැදිලි ලෙස නිගමනය කිරීමකට දෙන වෙනත් කාරණා කිසිවක් දක්නට නොලැබේ. නිර්ධන පංති-විප්ලවවාදී ව්‍යාපාරය බොල්ෂෙවික් පක්ෂයෙන් නියෝජනය කෙරෙන බවත්, ධනපති ප්‍රතිවිප්ලවවාදී ව්‍යාපාරය කැඩෙට් පක්ෂයෙන් නියෝජනය කෙරෙන බවත් පැහැදිලිය. විප්ලවයේ හය මසක අත් දැකීම්වලින් පසුව, මෙය ප්‍රතික්ෂේප කිරීමට ඉඩක් නොමැත. සැලකිල්ලට භාජනය වී තිබෙන ප්‍රශ්නයට අදළව කළහැකි යථාර්ථවාදී ස්වභාවයේ සංසන්දනයන් තුනක් වේ. පෙට්‍රොග්‍රෑඩයේ දිස්ත්‍රික්ක දූමා සභා සඳහා පැවැත්වූනු මැයි මස මැතිවරණයත්, මධ්‍යම දූමා සභාව සඳහා පැවැත්වූනු අගෝස්තු මැතිවරණයත්, සංසන්දනය කළ විට, කැඩෙට්වරුන්ගේ ඡන්දය පහත වැටී ඇති බව සහ බොල්ෂෙවික්වරුන්ගේ ඡන්දය බෙහෙවින් වැඩිවී ඇති බව එයින් පෙන්නුම් කෙරේ. කම්කරු හෝ සොල්දදු ගොවිජන කොටස් සංකෙන්ද්‍රණය වී සිටින සෑම තැනකම, සාමාන්‍ය වශයෙන්ම, බොල්ෂෙවික්වාදය ශක්තිමත් බව කැඩෙට් පුවත්පත් පිළිගනියි.

පක්ෂ සාමාජිකත්වය, රැස්වීම්වලට සහභාගිවන පිරිස් ආදියෙහි උච්චාවචනයන් ගැන සංඛ්‍යාලේඛන නොමැති හෙයින්, පක්ෂයට එකතුවන මුදල් සම්බන්ධයෙන් පළකර තිබෙන දත්තයන් අනුව, එයට ලැබෙන පොදුජන සහයෝගය නිශ්චය කළ හැකිය. ''ප්‍රාව්ද'' පත්‍රය, මර්දනය කරන ලද වෙනත් පත්‍ර, ආදිය සඳහා මුදල් එකතු කිරීමේදී, බොල්ෂෙවික් කම්කරුවන් පෑ දැවැන්ත පොදු ජනතා වීරත්වයක් මෙම දත්තයන්ගෙන් පෙන්නුම් කෙරේ. එවැනි මුදල් එකතු කිරීම් ගැන වාර්තා නිතරම පළ කර තිබේ. කැඩෙට්වරුන් අතර අපට එවැනි කිසිවක් දක්නට නොලැබේ. පැහැදිලිවම පෙනෙන්නේ, ඔවුන්ගේ පක්ෂ කටයුතු පොහොසතුන්ගේ දයක මුදල්වලින් ''පෝෂණය'' කෙරෙන බවය. පොදු ජනතාවගෙන් ඔවුන්ට ලැබෙන ආධාරයක ඡායා මාත්‍රයක්වත් දක්නට නොමැත.

අවසාන වශයෙන්, එක් අතකින් අප්‍රේල් 20-21 සහ ජූලි 3-4 ව්‍යාපාර සහ අනිත් අතින් කර්නිලව් කැරැල්ල සංසන්දනය කරමු. සිවිල් යුද්ධයේදී පොදු ජනතාවගේ සතුරා වන්නේ කව්ද යනු, ඒ ධනපති පංතිය බව, එනම්, ඉඩම් හිමියන් සහ ධනපතියන් බව, බොල්ෂෙවික්වරු එක එල්ලේම පොදු ජනතාවට ප්‍රකාශ කළ බැව් එයින් පෙනේ. නමුත් කර්නිලව් අනුගමනය කළ යුද්ධ සේනා ඔහු අනුගමනය කළේ ඔවුන් සම්පූර්ණයෙන්ම රවටන ලද නිසා බව කර්නිලව් කැරැල්ලෙන් දැනටමත් හෙළි වී තිබේ. ''මලේවිජ හමුදව'' සහ කර්නිලව් හට කණ්ඩායම් පෙට්‍රොග්‍රෑඩ් පොදු ජනතාව සමග ගැටුණු අවස්ථාවේදී මෙම කරුණ මනාව පැහැදිලි විය.

එපමණක්ද නොවේ. සිවිල් යුද්ධයේදී නිර්ධන පංතියේ සහ ධනපති පංතියේ ශක්තිය පෙන්නුම් කරන්නේ කුමණ දත්තයන්ද? බොල්ෂෙවික්වරු ශක්තිමත් වන්නේ නිර්ධන පංතිකයන්ගේ සංඛ්‍යාවෙන් හා පංති විඥනයෙන්ද, සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් ''සාමාන්‍ය පිරිස්'' (එනම්, කම්කරුවන් සහ දුප්පත් ගොවිජනයා) බොල්ෂෙවික් සටන් පාඨ කෙරෙහි දක්වන අනුකූලතාවයෙන්ද පමණකි. මෙම සටන් පාඨ, අප්‍රේල් 20-21, ජූනි 18 සහ ජූලි 3-4 දිනවලදී, පෙට්‍රොග්‍රෑඩයේ ක්‍රියාශීලි විප්ලවවාදී පොදුජනතා බහුතරය තමන් පැත්තට දිනා ගත් බව සත්‍යයකි.

පොදු ජනතාව කෙරෙහි බලපෑම හා ඔවුන් අරගලයට අද්ද ගැනීම හා සම්බන්ධයෙන් විප්ලවවාදී නිර්ධන පංතිය පාර්ලිමේන්තු අරගලයේදී පෙන්වන ශක්තියට වඩා ඉතාමත් වැඩි ශක්තියක්, එය පාර්ලිමේන්තුවෙන් බාහිර අරගලයේදී පෙන්වන බව බටහිර රටවල නිතර ඇසෙන නිරීක්ෂණයකි. ''පාර්ලිමේන්තු'' මැතිවරණවලට අදළ දත්තයන් සහ ඉහත සඳහන් සිද්ධිවලට අදළ දත්තයන් සංසන්දනය කර බලන කල, මෙම නිරීක්ෂණ රුසියාව සම්බන්ධයෙන්ද සම්පූර්ණයෙන්ම ඔප්පු වන්නේය. සිවිල් යුද්ධය ගැන සලකන කල මෙය ඉතා වැදගත් නිරීක්ෂණයකි.

පාර්ලිමේන්තු අරගලයේ සියළු කාරණාවලදී සහ සම්පූර්ණ තත්වයම යටතේ, පීඩිත පංතිවල ශක්තිය, ඔවුන්ට සිවිල් යුද්ධයකදී ඇත්ත වශයෙන් දැක්විය හැකි ශක්තියට වඩා අඩු මන්ද යන්න, ඉතා පැහැදිලිය.

කැඩෙට්වරුන්ගේ සහ කර්නිලව් කැරැල්ලේ ශක්තිය, ධනයේ ශක්තිය ය. ඉංග්‍රීසි-ප්‍රංශ ප්‍රාග්ධනය සහ අධිරාජ්‍යවාදය කැඩෙට්වරුන්ට සහ කර්නිලව් ව්‍යාපාරයට පක්ෂපාත බව පුවත්පත්වලින් සහ දීර්ඝ දේශපාලන ක්‍රියා මාලාවකින් පෙනේ. අගෝස්තු 12 මොස්කව් සාකච්ඡා සභාවේ[134] මුළු දක්ෂිණාංශයම වියරු වැටුනු කලෙක මෙන් කර්නිලව්ට සහ කලේදින්ට ආධාර කළ බව කවුරුත් දන්නා කරුණකි. ප්‍රංශ සහ බ්‍රිතාන්‍ය ධනපති පුවත්පත් කර්නිලව්ට ''ආධාර'' කළ බව සුප්‍රකටය. බැංකු ද ඔහුට ආධාර කළ බව පෙනෙන්නට තිබේ.

ධනයේ මුළු බලයම කර්නිලව් පිටු පස විය. එහෙත්, එය මොන තරම් තුච්ඡ හා සීඝ්‍ර පරාජයක් වීද! පොහොසතුන්ට අමතරව කර්නිලව්-

ගේ ආධාරකරුවන් අතර ඇත්තේ වෙනත් සමාජ බලවේගයන් දෙකක් පමණකි. ඒවා නම් ''ම්ලේච්ඡ හමුදව'' සහ කොසාක්වරුය. මින් ප්‍රථම බලවේගය හුදෙක් නොදනුවත්කමෙහි හා රැවටිල්ලෙහි බලය වේ. පුවත්පත් ධනපති පංතිය අතෙහි පවතින කාලය වැඩිවූ තරමට මෙම බලය වඩාත් ශක්තිමත්ය. සිවිල් යුද්ධයෙන් පසුව, නිර්ධන පංතිය මෙම බලයේ මූලාශ්‍රයට නැවත නැගී සිටීමට ඉඩ නොලැබෙන සේ එය දුර්වල කර දමනු ඇත.

කොසාක්වරු ගැන කියතොත්, ඔවුහු, රුසියාවේ ප්‍රත්‍යන්ත ප්‍රදේශයක වෙසෙන සහ ඔවුන්ගේ ජීවන රටාවෙහි, ආර්ථිකයෙහි සහ සිරිත් විරිත්වල මධ්‍ය කාලීන හුරු පුරුදුකම් රැසක් පවත්වා ගත්, පොහොසතුන්ගෙන්, කුඩා හෝ මධ්‍යම ප්‍රමාණ චතුකාර දේපල (සාමාන්‍යයෙන් දෙස්යාටින් 50 ක් පමණ වන ඉඩම්) හිමියන්ගෙන් සමන්විත ජනගහනයේ කොටසක් වෙති. මෙය රුසියානු වන්දෙයි[135] ප්‍රදේශයක් සඳහා සමාජ — ආර්ථික පදනමක් ලෙසට අපට සැලකිය හැකිය. නමුත් කර්නිලව්-කලේදින් ව්‍යාපාරයේ සත්‍ය කරුණුවලින් ඔප්පු වී තිබෙන්නේ කුමක්ද? ගුච්කොව්ලා, මිල්යුකොව්ලා, රියාබුෂින්ස්කිලා සහ සමාගම විසින් ආධාර කරනු ලැබූ ''ආදරණීය-නායක'' කලේදින් පවා පොදුජන ව්‍යාපාරයක් නිර්මාණය කිරීමෙහි සමත් නොවීය! කලේදින් බොල්ෂෙවික්වරුන්ට වඩා ''ඍජු ලෙස'', ඊට වඩා බොහෝ සෙයින් හෙළිදරව් ලෙස, සිවිල් යුද්ධය දෙසට ගමනේ යෙදුනේය. කලේදින් ''දොන් ප්‍රදේශය කුළු ගැන්වීම'' සඳහා විශේෂයෙන්ම එහි ගියේය. නමුත්, තවමත් ඔහුට ඔහුගේ ''ගම්'' ප්‍රදේශයේ, එනම්, පොදු වශයෙන් රුසියානු ප්‍රජාතන්ත්‍රවාදයෙන් බොහෝ දුර බැහැර පිහිටි කොසාක් ප්‍රදේශයේ පොදුජන ව්‍යාපාරය පණ ගැන්වීමට හැකි වී නැත. ඊට ප්‍රතිකූල වශයෙන්, බොල්ෂෙවික් විරෝධී, සමස්ත රුසියා ප්‍රජාතන්ත්‍රවාදයේ බලපෑමෙහි හා ශක්තියේ ඒකාන්ත මධ්‍යස්ථානය තුළම නිර්ධන පංති ව්‍යාපාරයේ සාංසිද්ධික කඩාවැදීම් අපට දක්නට ලැබේ.

කොසාක්වරුන් අතර වන විවිධ ස්ථරයන් හා ආර්ථික කණ්ඩායම් ප්‍රජාතන්ත්‍රවාදය කෙරෙහි සහ කර්නිලව් කැරැල්ල කෙරෙහි දක්වන ආකල්පය සම්බන්ධයෙන් වාස්තවික දත්තයන් නොමැත. දුප්පත් සහ මධ්‍යම කොසාක්වරුන්ගෙන් බහුතරය යම් තරමක් දුරට ප්‍රජාතන්ත්‍රවාදය දෙසට නැඹුරුව සිටින බව හා පොහොසත් කොසාක්වරුන්ගේ ඉහළ තට්ටුව පමණක්, කර්නිලව්ට සම්පූර්ණයෙන්ම පක්ෂපාත බවත් හඟවන සලකුණු පමණක් ඇත.

එය කෙසේ වුවත්, ධනපති ප්‍රතිවිප්ලවයට පක්ෂපාත කොසාක් පොදුජන ව්‍යාපාරය අන්ත දුර්වලතාවයෙන් පෙළෙන බව අගෝස්තු 26-31 අත්දැකීම්වලින් ඓතිහාසික වශයෙන් ඔප්පු වී තිබේ.



දැන් ඉතිරිව තිබෙන්නේ අවසාන ප්‍රශ්නය පමණකි. එය ව්‍යාපාරයේ දුර්වාරණීය ස්වභාවය පිළිබඳ ප්‍රශ්නය වේ. බොල්ෂෙවික් නිර්ධන පංති ව්‍යාපාරය ගැන සලකා බලන කල, රුසියාවේ සමූහාණ්ඩුවක් පැවති හය මසාය තුළ පුවත්පත් සහ ප්‍රචාරක බලවේග අතින් යෝධ වැඩි බලයක් බොල්ෂෙවික්වාදයේ ප්‍රතිපාක්ෂිකයන් අතේ තිබුණු තත්වයන් යටතේ (අපහාස කිරීමේ ව්‍යාපාරය ''දෘෂ්ටිමය'' අරගලය ලෙසට විස්තර කිරීමේ අන්තරායට අප මුහුණ පැවත් මෙසේ කියමු) දෘෂ්ටිමය වශයෙන්ද, පුද්ගලයන් සිය ගණනක් අත් අඩංගුවට ගැනීම, අපගේ ප්‍රධාන මුද්‍රණ යන්ත්‍රය ගලවා දැමීම, අපගේ ප්‍රධාන පත්‍රය සහ වෙනත් පත්‍ර ගණනාවක් මර්දනය කර තිබීම ඇතුළු වූ, මර්දනයේ මාර්ගයෙන්ද, යන දෙආකාරයෙන්ම බොල්ෂෙවික්වාදයට විරුද්ධව අරගලය ගෙන යන ලද බවට සාක්ෂි අප වෙත තිබේ. මෙහි ප්‍රතිඵලය සත්‍ය කරුණුවලින් වටහා ගත හැකිය. අගෝස්තු පෙට්‍රොග්‍රෑඩ් මැතිවරණයේදී සහ එමෙන්ම සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පක්ෂ තුළ ද බොල්ෂෙවික්වරුන්ට සහයෝගය බලවත් සේ වැඩි යාමෙන් සහ බොල්ල්ෂෙවික්වාදය වෙතට සමීප වෙමින් පවතින ජාත්‍යන්තරවාදී සහ වාම උපනති ශක්තිමත් වීමෙන්ද, එය දක්ක හැකිය. මෙයින් අදහස් කෙරෙන්නේ සමූහාණ්ඩුවාදී රුසියාවේ නිර්ධන පංති ව්‍යාපාරයේ දුර්වාරණීය ස්වභාවය ඉමහත් බවය. කැඩෙට්වරුන්, සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් ඒකාබද්ධව දැරූ ප්‍රයත්න, ව්‍යාපාරය යම්තමින් හෝ දුර්වල කිරීමට සමත් නොවූ බව යථා කරුණුවලින් අපට ප්‍රකාශ කෙරේ. ඊට ප්‍රතිවිරුද්ධ ලෙස, කර්නිලව්වාදීන් හා ප්‍රජාතන්ත්‍රවාදය අතර සංඝට්ටනය නිසාම බොල්ෂෙවික්වාදය ශක්තිමත් විය. නිර්ධන පංති විප්ලවවාදී උපනතිවලට විරුද්ධව අරගල කළ හැකි එකම මාර්ගය වන්නේ, දෘෂ්ටිමය බලපෑම් සහ මර්දනය කිරීමය.

කැඩෙට්-කර්නිලව් ව්‍යාපාරයේ දුර්වාරණීය ස්වභාවය පිළිබඳ දත්තයන් තවමත් අඩුය. කැඩෙට්වරු කිසිම මර්දනයකට භාජන නොවූහ. ගුච්කොව් පවා නිදහස් කර ඇති අතර මක්ලකොව් සහ මිල්යුකොව් අත් අඩංගුවට ගැනීම පවා නොකෙරින. ''රෙච්'' පත්‍රය පවා මර්දනය කර නොමැත. කැඩෙට්වරුන්ට සමාව දෙනු ලැබේ. කෙරෙන්ස්කිගේ ආණ්ඩුව කර්නිලව් කැඩෙට්වරු සමග හාදකම් ඇති කරගැනීමට කටයුතු කරයි. ඒ ගැන මෙසේ විමසීම සුදුසුය: ඉංග්‍රීසි-ප්‍රංශ රියබුෂින්ස්කිලා, පෙට්‍රොග්‍රෑඩයේ නව මැතිවරණ ව්‍යාපාරය සඳහා කැඩෙට්වරුන්ට, ''යෙදින්ස්ත්ව'' ආදියට, කෝටි ගණන් මුදල් දෙනු ඇතැයි යන උපකල්පනය පිළිගත් කළ, කර්නිලව් කැරැල්ලෙන් පසුව ඔවුන්ගේ ඡන්ද සංඛ්‍යාව වැඩි වීමට ඉඩ ඇතැයි අපේක්ෂා කළ හැකිද? රැස්වීම් ආදිය අනුව බලන කල, මෙයට නැත යන්න හැර වෙනත් පිළිතුරක් දිය නොහැකි තරමය.

* * *

රුසියානු විප්ලවවල ඉතිහාසයෙන් සැපයෙන දත්තයන් සංසන්දනය කරමින් අප කළ විශ්ලේෂණය සම්පිණ්ඩනය කළ විට අපට බැස ගත හැකි නිගමනය වන්නේ, නිර්ධන පංති සිවිල් යුද්ධය ආරම්භයේදී ව්‍යාපාරයේ ශක්තිය, පංති විඥානය, මුල් ඇදී ගිය ස්වභාවය, වර්ධනය සහ දුර්වාරණීයත්වය හෙළිදරව් වූ බවය. ධනපති සිවිල් යුද්ධයේ ආරම්භයෙන් පොදු ජනතාව අතර ශක්තියක්, පංති විඥානයක්, කිසිම ගැඹුරක් හෝ ජයග්‍රහණය ලැබීමේ අවස්ථාවක් හෙළිදරව් වී නොමැත.

බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව, එනම්, විප්ලවවාදී නිර්ධන පංතියට විරුද්ධව,සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් සමග කැඩෙට්වරු ඇතිකරගත් සන්ධානය දූන් මාස ගණනාවක්ම ප්‍රායෝගික වශයෙන් අත්හද බලා තිබේ. තාවකාලික වශයෙන් වෙස්වළාගත් කර්නිලව්වාදීන් ''ප්‍රජාතන්ත්‍රවාදීන්'' සමග ඇති කර ගත් මෙම සන්ධානය නිසා සිදුවූයේ, බොල්ෂෙවික්වරුන් දුර්වල වීම නොව, ඔවුන් ඇත්ත වශයෙන්ම ශක්තිමත් වීම සහ එම ''සන්ධානය'' බිඳ වැටීමට සහ මෙන්ෂෙවික්වරුන් අතර වාම විරුද්ධ පාර්ශවය ශක්තිමත් වීමට මග පෑදීමය.

කැඩෙට්වරුන්ට විරුද්ධව, ධනපති පංතියට විරුද්ධව, සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් සමග වූ බොල්ෂෙවික්වරුන්ගේ සන්ධානයක් තවමත් අත්හද බලා නොමැත. නැතහොත් වඩාත් නිවැරදි ලෙස කියතොත් එවැනි සන්ධානයක් අත්හද බලා තිබෙන්නේ එක පෙරමුණකදී පමණකි, කර්නිලව් කැරැල්ල පැවති කාලය වන අගෝස්තු 26 සිට අගෝස්තු 31 දක්වා වූ දින පහක කාලයකදී පමණකි. තවද මෙම සන්ධානය, මෙතෙක් කිසිම විප්ලවයකදී නොවූ විරූ තරම් පහසුවෙන්, එම අවස්ථාවේදී ප්‍රතිවිප්ලවය පරදවා ජය ගත්තේය. එයින් ධනපති පංතියේ, එනම්, ඉඩම් හිමියන්ගේ, ධනපතියන්ගේ, මිත්‍ර-අධිරාජ්‍යවාදීන්ගේ සහ කැඩෙට්වරුන්ගේ ප්‍රතිවිප්ලවය මැඩලීම කොතරම් බලවත් ලෙස සිදුවීද යත්, ඒ පැත්තෙන් සිවිල් යුද්ධය නොපවත්නා තත්වයක් උදුවෙමින්, ආරම්භයේ පටන්ම, එය පුස්සක් වී, කිසිම ''සංග්‍රාමයක්'' ඇතිවීමට කලින්ම එය බිඳ වැටුනේය.

මෙම ඓතිහාසික සත්‍යය හමුවේ, ධනපති ප්‍රවෘත්ති පත්‍ර සහ ඒවායේ තාලය අල්ලන (ප්ලෙහානව්ලා, පොත්‍රෙසොව්ලා, බ්‍රෙෂ්කෝ-බ්‍රෙෂ්කොව්ස්කියාලා, ආදීන්) සියළු දෙනාම, ඔවුන් සතු මුළු ශක්තියෙන් මුර ගා කියන්නේ, බොල්ෂෙවික්වරුන් සමග මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් ඇති කරගන්නා සන්ධානයකින් සිවිල් යුද්ධයේ මහා භය පිළිබඳ ''තර්ජනය'' මතුවන බවය!



මෙය කණගාටුවට හේතුවක් නොවේ නම්, එය විකාරයක් වන්නේය. එවැනි විවෘත, නිරායාසයෙන් පැහැදිලිවන හා කැපී පෙනෙන අභූතතාවයකට, එසේ අපගේ විප්ලවයේ මුළු ඉතිහාසයේම සත්‍ය කරුණු පිටු දැකීමකට කන් දෙන අය තවමත් සිටීම, ඇත්තෙන්ම කණගාටුදායකය... මෙයින් පෙනෙන්නේ, ආත්මාර්ථකාමී ධනපති බොරුව, එනම්, විප්ලවයේ ඉතාමත් නිසැක හා ඒකාන්ත ලෙස පැහැදිලි පාඩම් සෝෂාවෙන් යටපත් කරන සහ ගිල්වා දමන බොරුවක්, තවමත් පතලව තිබෙන බවය. (පුවත්පත් ධනපති පංතිය අතේ තිබෙන තාක් කල් එය නොවැලැක්විය හැකිය.)

විප්ලවයෙන් උගන්වනු ලබන, ඒකාන්ත වශයෙන් අවිවාදී පාඩමක් වේ නම්, ඒ සිවිල් යුද්ධයක් ඇති වීමේ මහ සම්පූර්ණයෙන්ම අසුරා දැමිය හැක්කේ බොල්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් හා මෙන්ෂෙවික්වරුන් අතර සන්ධානයක් මගින් පමණක් බවය; රුසියාවේ සිවිල් යුද්ධයක් ඇතිවීම සම්පූර්ණයෙන්ම වැලකෙනු ඇත්තේ වහාම සෝවියට් සභාවලට මුළු බලය පැවරීමෙන් පමණක් බවය. එසේ වන්නේ එවැනි සන්ධානයකට විරුද්ධව, කම්කරු සොල්දාදු සහ ගොවිජන නියෝජිත සෝවියට් සභාවලට විරුද්ධව, ධනපතියන් පටන් ගන්නා සිවිල් යුද්ධයක් ගැන සිතන්නටවත් නොහැකි හෙයිනි; එවැනි ''යුද්ධයක්'' ප්‍රථම සංග්‍රාමය තෙක්වත් නොපවතිනු ඇත; කර්නිලව් කැරැල්ලෙන් පසු දෙවැනි වරට සෝවියට් ආණ්ඩුවට විරුද්ධව ''මිලේච්ඡ හමුදාව'' හෝ කලින් තරම් සංඛ්‍යාවක් කොසාක් සේනාංක හෝ මෙහෙයවීමට පවා ධනපතියන් අසමත් වනු ඇත!

විප්ලවය යනු ඉතාමත් තියුණු පංති ප්‍රතිවිරෝධතාවයන් උපරිම මට්ටමෙන් උග්‍රවීම වන හෙයින්, සාමාන්‍ය වශයෙන් කියතොත්, ඕනෑම විප්ලවයක් සාමකාමී ලෙස සංවර්ධනය වීම ඉතාමත් දුර්ලභ සහ දුෂ්කර දෙයක් වන්නේය. නමුත්, ගොවිජනතා රටක, ඉතාමත් අසාධාරණ සහ සාපරාධී යුද්ධයකින් වෙහෙසට පත් ජනතාවට සාමය ගෙන දීමට නිර්ධන පංතියේ සහ ගොවිජනතාවගේ ඒ සමගිය සමත්වන කල, ගොවි ජනතාවට ඉඩම් සියල්ලම පවරා දීමට එම සමගිය සමත් වන කල, එරටෙහි, ඒ විශේෂ ඓතිහාසික අවස්ථාවේදී, මුළු බලයම සෝවියට් සභාවලට පැවරුවහොත්, විප්ලවය සාමකාමී ලෙස ඇතිවීමට ඉඩ තිබේ; එය එසේ සිදුවන්නට පිළිවන. සෝවියට් සභා සම්පූර්ණයෙන්ම ප්‍රජාතන්ත්‍රවාදී කරන්නේ නම්, සොල්දාදුවන් පන්සියයකට එක් නියෝජිතයෙක් දෙන අතර කම්කරුවන් දහසකට එක් නියෝජිතයෙක් දීම වැනි ''සුළු සොරකම්'' සහ ප්‍රජාතන්ත්‍රවාදය උල්ලංඝනය කිරීම් ඉවත් කරන්නේ නම්, සෝවියට් සභා තුළ බලය සඳහා පක්ෂ ගෙන යන අරගලය සාමකාමී ලෙස සිදුවීමට ඉඩ

තිබේ. ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක එවැනි සුළු සොරකම් අතුරුදහන් විය යුතුය.

ඉඩම් සියල්ලම වන්දි නොමැතිව ගොවිජනතාවට පවරා දුන් සහ සියළුම ජනතාවන්ට සාධාරණ සාමයක් යෝජනා කරන සෝවියට් සභා-වලට මුහුණ දෙනවිට, එවැනි සෝවියට් සභාවලට මුහුණ පාන්නට සිදුවූ විට, බ්‍රිතාන්‍ය, ප්‍රංශ සහ රුසියන් ධනපතියන්ගේත්, කර්නීලව්ලාගේ, බුචනන්ලාගේ, රියාබුෂින්ස්කිලාගේ, මිල්යුකොව්ලාගේ, ප්ලෙහානව්-ලාගේ සහ පොත්‍රෙසොව්ලාගේත් සන්ධානය මුළුමනින්ම දුර්මුඛවනු ඇත. එවිට එයට බියවිය යුතු නැත.

වන්දි නොමැතිව ගොවි ජනතාවට ඉඩම් පවරා දීමට, ජීවිතයේ වෙනත් ක්ෂේත්‍රවල කරන එවැනි ප්‍රතිසංස්කරණවලට, සාධාරණ සාමයකට සහ අධිරාජ්‍යවාදයෙන් බිඳී වෙන් වීමට විරුද්ධව ධනපති පංතිය ප්‍රතිරෝධය පෑම නම් අනිවාරණීය ලෙසටම සිදුවනු ඇත. නමුත් එවැනි ප්‍රතිරෝධය පෑම සිවිල් යුද්ධ තත්වයට පත්වීම සඳහා යම්කිසි වර්ගයක පොදු ජනතා-වක්, සටන් කර සෝවියට් සභා පරාජය කිරීමෙහි සමත් පොදු ජනකායක් අවශ්‍යය. ධනපති පංතියට මෙම පොදු ජනකායයන් නොමැත. ඔවුනට එය කොතැනකින්වත් ලබාගත නොහැකිය. සෝවියට් සභා සියළු බලය අත්පත් කර ගැනීම ඉක්මන් වූ තරමට සහ වඩාත් ස්ථිරසාර වූ තරමට, "මිලේච්ඡ හමුදා" සහ කොසාක්වරු දේශපාලන විඥානයෙන් යුත්, ඉතා කුඩා කර්නීලව් ආධාරකරුවන් පිරිසක් හා කම්කරුවන්ගේ සහ ගොවි ජනතාවගේ ප්‍රජාතන්ත්‍රවාදී සහ සමාජවාදී (ඒ වන විට අප කටයුතු කරනු ඇත්තේ සමාජවාදය සම්බන්ධවය) සන්ධානයට පක්ෂ අති විශාල බහුත-රයක් ලෙසට හෙද වීම වඩාත් ඉක්මන්වනු ඇත.

සෝවියට් සභාවලට බලය අත්පත් වූ පසු, ධනපති පංතිය පාන ප්‍රති-රෝධයේ ප්‍රතිඵලයක් වශයෙන්, සෑම එක් එක් ධනපතියෙක්ම ගැන "සෙවි-ල්ලෙන් සිටීමට", ඔහුගේ කටයුතු අධීක්ෂණය කිරීමට, පාලනය කිරීමට හා ඔහු ලියා පදිංචි කිරීමට, කම්කරුවන් හා ගොවි ජනයා දුසිම් ගණන් සහ සිය ගණන් යෙදෙනු ඇත. එසේ සිදු වන්නේ ධනපතියන් විසින් ජනතාව රවටනු ලැබීම වැළැක්වීමට අරගල කිරීම, කම්කරුවන්ගේ සහ ගොවි ජනතාවගේ යහපත පිණිස අවශ්‍ය වන හෙයිනි. ධනපති ක්‍රමය විසින්ම, බැංකු, ලොකු පැක්ටරි, සංගත ව්‍යාපාර, දුම්රිය සේවාවන්, තැපැල් සේවය, පාරිභෝගිකයන්ගේ සංගම් හා වෘත්තීය සමිති වැනි ධනපති නිර්මාණයන් විසින්ම, මෙම ගිණුම් තැබීම සඳහා අවශ්‍ය ආකෘති සහ විධි ක්‍රම සංවර්ධ-නය කර සරල කර තිබේ. ඉතාමත් සවිස්තර ලෙස ගිණුම් තැබීම මග හරින, නැතහොත්, ජනතාව රවටන, ඒ ධනපතියන්ට සෝවියට් සභා මගින් දඬුවම් කරනු ලැබේ නම්, ඔවුන්ගේ සියළු දේපල රාජසන්තක



කිරීමෙන් සහ ටික කලකට ඔවුන් අත් අඩංගුවට ගැනීමෙන් ඔවුන්ට දඬුවම් කරනු ලැබේ නම්, ලේ වැගිරීමෙන් තොර මාර්ගයෙන් ඔවුන්ගේ ප්‍රතිරෝධය සම්පූර්ණයෙන් බිඳ හෙළීමට එය ප්‍රමාණවත් වනු ඇත. එසේ කියන්නේ, පාලනය සහ ගිණුම් තැබීම විශ්වීය තත්වයට, සම්පූර්ණ බල සහිත නොවැළැක්විය හැකි තත්වයට පත් කෙරෙන්නේ, බැංකු ජන-සතු කළ පසු ඒවා මගින්ද, සේවක සංගම් මගින්ද, තැපැල් කාර්යාල, පාරිභෝගිකයන්ගේ සංගම් සහ වෘත්තීය සංගම් මගින්ද වන හෙයිනි.

තවද, රුසියාවේ සෝවියට් සභා සහ ඇගේ කම්කරුවන්ගේ සහ දුප්පත් ගොවි ජනයාගේ සන්ධානය සමාජවාදය කරා යන පියවරයන් ගන්නා විට, ඔවුන් තනි වන්නේ නැත. අප තනිවී සිටිමු නම් අපට මෙම කර්තව්‍යය සාමකාමී ලෙස ඉටු කළ හැකි නොවනු ඇත. මක්නිසාදයත්, එය මූලික වශයෙන්ම ජාත්‍යන්තර කර්තව්‍යයක් වන හෙයිනි. නමුත් අපට අති දූවැන්ත අමතර බලවේග ඇත. වෙනත් රටවල ඉතාමත් දියුණු කම්කරු හමුදාවෝ එම බලවේග වෙති. රුසියාව අධිරාජ්‍යවාදයෙන් වෙන් වීම නිසාත්, අධිරාජ්‍යවාදී යුද්ධය නිසාත්, එරටවල කම්කරුවන්ගේ මෝරා එන සමාජවාදී විප්ලවය අනිවාරණීය ලෙසට ඉක්මන් වනු ඇත.

* * *

සිවිල් යුද්ධයකදී ගලා යන "ලේ ගංගාවන්" ගැන සමහරු කථා කරති. ඉහත උපුටා දක්වන ලද කර්නීලව්වාදී කැඩෙට්වරුන්ගේ යෝජනාවෙහි මෙය සඳහන් කර තිබේ. ධනපති සහ අවස්ථාවාදී සියළු දෙනාම දහස් ආකාරයකින් මෙම වාක්‍ය ඛණ්ඩය අනුප්‍රාසය කරති. කර්නී-ලව් කැරැල්ලෙන් ඉක්බිතිව පංති විඥානය ඇති සියළුම කම්කරුවෝ සිනාසෙති. ඔවුන් තවදුරටත් සිනාසෙනු ඇත. එසේම, ඔවුන්ට සිනා නොවී සිටිය නොහැකිය.

කෙසේ හෝ වේවා, බලවේගයන්, වැදගත්කම සහ ප්‍රතිඵල යන කරුණු දළ වශයෙන් තක්සේරු කරමින් වර්තමාන "ලේ ගංගා" පිළිබඳ ප්‍රශ්නය අධ්‍යයනය කළ හැකි අතර එසේ කළ යුතුය. එය බරපතල ලෙසට සැලකිල්ලට ගත යුතුය. හිස් හා නිතර කියන වදනක් සේ නොසැලකිය යුතුය. රුසියාව "ලේ ගංගාවල" ගිල්වීමේ හැකියාව කර්නීලව්ට ලබා දී-මට සහ ධනපතියන්ගේ, ඉඩම් හිමියන්ගේ සහ රාජාණ්ඩුවේ ආඥාදායකත්-වය යළි ස්ථාපිත කිරීමට තමන්ට හැකි සියල්ලම කළ කැඩෙට්වරුන්ගේ හුදු රැවටිල්ලක් පමණක් ලෙස එය නොගත යුතුය.

"ලේ ගංගාවන්" යයි ඔවුහු කියති. ප්‍රශ්නයේ මෙම පැත්ත ගැන ද විශ්ලේෂණය කර බලමු.

මෙන්ෂෙවික්වරුන්ගේ සහ සමාජවාදී-විප්ලවවාදීන්ගේ වැනෙනසුලු භාවය තවදුරටත් පවතිනු ඇතැයි උපකල්පනයක් වශයෙන් පිළිගනිමු. මෙම පක්ෂ සෝවියට් සභාවලට බලය පවරා නො දෙනු ඇතැයි සිතමු. ඔවුන් කෙරෙන්ස්කි බලයෙන් පහ නොකරනු ඇති බවත්, ධනපති පංතිය සමග වූ පැරණි කුණු වී ගිය සම්මුතිය තරමක් වෙනස් ආකාරයකින් (''පක්ෂග්‍රාහී නොවන'' සහ කැඩෙට්වරුන් වෙනුවට කර්නිලව්වාදීන් ආදේශ කරන වැනි ආකාරයකින්) යළිත් ඇති කර ගන්නා බවත්, රාජ්‍ය බලයේ යන්ත්‍රය වෙනුවට සෝවියට් යන්ත්‍රය ආදේශ නොකරන බවත්, සාමය යෝජනා නොකරන බවත්, අධිරාජ්‍යවාදයෙන් බිඳී වෙන් නොවන බවත්, වතුකාර දේපල රාජසන්තක නොකරන බවත් සිතමු. සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ වර්තමාන වපලත්වයේ, මෙම වර්තමාන ''සැප්තැම්බර් 12'' හි ප්‍රතිඵලය එසේ යයි සලකමු.

මෙහි ප්‍රතිඵලය වනු ඇත්තේ, සමාජවාදී-විප්ලවවාදීන් සහ මෙන්ෂෙවික්වරුන් තවදුරටත් දුර්වලවීම බවත්, ඔවුන් තවදුරටත් පොදු ජනතාවගෙන් ඈත්වීම බවත්, ජනතාව අතර නොඇදහිය හැකි තරම් කෝපයක් හා අප්‍රසාදයක් වැඩී යාම බවත්, විප්ලවවාදී නිර්ධන පංතියට, බොල්ෂෙවික්වරුන්ට දක්වන අනුකූලතාවය විශාල ලෙස වැඩී යාමක් බවත්, අපගේම විප්ලවයේ අත්දැකීම් අපට ඉතා පැහැදිලි ලෙස කියයි.

එවැනි තත්වයක් යටතේ, අගනුවර නිර්ධන පංතිය, දැනට සිටින තත්වයට වඩා කොමියුනයකට, කම්කරු නැගිටීමකට, බලය අල්ලා ගැනීමට, ඉතාමත් උසස් හා ඉතාමත් තීරණාත්මක ආකාරයේ සිවිල් යුද්ධයකට, තව තවත් ආසන්න වූ තත්වයක සිටිනු ඇත. අප්‍රේල් 20-21 සහ ජූලි 3-4 අත්දැකීම්වලින් පසුව, එවැනි ප්‍රතිඵලයක් ඇතිවීම ඓතිහාසික වශයෙන් නොවැලැක්විය හැකි බව පිළිගත යුතුය.

''ලේ ගංගාවන්'' යයි කැඩෙට්වරු මුර ගා කියති. නමුත් මෙම ලේ ගංගා නිර්ධන පංතියට සහ දුප්පත් ගොවිජනතාවට ජයග්‍රහණය ගෙන එනු ඇත. තවද මෙම ජයග්‍රහණය අධිරාජ්‍යවාදී යුද්ධය වෙනුවට සාමය ගෙන එන බවට එකට සියයක් ඔට්ටු තැබිය හැකිය. එයින් අදහස් වන්නේ, ධනපතියන් කොල්ලකාගත් වස්තුව සහ අල්ලා ගත් රටවල් (දිනාගත් ප්‍රදේශ) බෙදීම සඳහා දැනට ලේ වගුරුවන ලක්ෂ ගණන් මිනිසුන්ගේ ජීවිත බේරෙන බවය. ''ලේ ගංගා'' ගැලීම සහිතව වුවද, අප්‍රේල් 20-21 සිද්ධීන් කෙළවර වූයේ සෝවියට් සභාවලට මුළු බලය පැවරීමෙන් නම්, එසේම දුප්පත් ගොවි ජනතාව සමග සන්ධාන ගතවූ බොල්ෂෙවික්වරු සෝවියට් සභා තුළ ජයග්‍රහණය කළෝ නම්, ජූනි 18 දින සංග්‍රාමවලින් නිසැක ලෙස විනාශයට පත් පන් ලක්ෂයක් රුසියානු සොල්දාදුවන්ගේ ජීවිත එයින් බේරෙන්නට තිබුණි.



දැන් සෑම තැනෙකම මතු කරනු ලබන සිවිල් යුද්ධය පිළිබඳ ප්‍රශ්නය කිරා බලා විශ්ලේෂණය කළහොත් පංති විඥානය ඇති සෑම රුසියානු කම්කරුවෙක්ම, සෑම සොල්දාදුවෙක්ම එය වටහා ගනු ඇත්තේ මෙසේය; ඔහු එය වටහා ගත යුත්තේ එලෙසිනි. තවද, එවැනි කම්කරුවෙක් හෝ සොල්දාදුවෙක් බොහෝ දේ අත්දැක තිබෙන නිසා සහ ඔහු ඒ ගැන සිතා බලා ඇති අයෙක් වන නිසා, කොන්ස්තන්තිනෝපලය, ල්වොව්, වෝර්සෝ සඳහා සහ ''ජර්මනිය පරදවා ජය ලැබීම'' සඳහා තවත් රුසියානු සොල්දාදුවන් දශ ලක්ෂ ගණනින් බිලි දීමට කැමති පුද්ගලයන්, පක්ෂ හා කණ්ඩායම්, ''ලේ ගංගා'' ගැන නගන ඝෝෂාවට ඔහු නම් බිය වන්නේ නැත.

ජූනි 19 දින පටන් රුසියානු අධිරාජ්‍යවාදීන් ලේ සාගර වැගුරූහ. (සෝවියට් සභාවලට බලය භාර දීමෙන් එය මග හැරීමට ඉතා අනගි අවස්ථා තිබියදීම ඔවුහු එසේ කළහ.) අභ්‍යන්තර සිවිල් යුද්ධයකදී වැගිරෙන ''ලේ ගංගා'' යම්තම්න්වත් ඊට සමාන නොවන්නේය.

මෙම වර්තමාන යුද්ධය පවතිද්දී, සිවිල් යුද්ධයෙන් වැගිරෙන ලේ ගංගා පිළිබඳ ඔබගේ තර්කය පාවිච්චි කිරීමේදී මිල්යුකොව්ලා, පොත්‍රෙසොව්ලා යන ඔබ සියළු දෙනාම ප්‍රවේසම් විය යුතුය. එසේ කියන්නේ සොල්දාදුවන් ලේ සාගර දැක ඇති හෙයිනි. ඔවුන් ඒවායේ අර්ථය දන්නා හෙයිනි.

1917 වර්ෂයේ, එනම්, ජනතාව වෙහෙසට පත් කළ අති ඝෝර වධකාර සහ සාපරාධී යුද්ධයේ හතරවැනි වර්ෂයේ රුසියානු විප්ලවයේ ජාත්‍යන්තර තත්වය යම් සේද යත්, සිවිල් යුද්ධයෙන් ජයගත් රුසියානු නිර්ධන පංතිය යෝජනා කරන සාධාරණ සාමයක් අනුව, තවදුරටත් ලේ සාගර වැගිරීම වලක්වමින් යුද්ධ සමාදනයක් ඇති කර ගැනීමේ අවස්ථා සියයකුත් එකක් ඇත.

අන්‍යෝන්‍ය වශයෙන් යුද වැදී සිටින ඉංග්‍රීසි-ප්‍රංශ සහ ජර්මන් අධිරාජ්‍යවාදයන් නිර්ධන පංති සමූහාණ්ඩුවට විරුද්ධව ඒකාබද්ධ වීම ප්‍රායෝගික වශයෙන් සිදුවිය නොහැකි දෙයක් වන අතර, අපට විරුද්ධව ඉංග්‍රීසි, ජපන් සහ ඇමෙරිකන් ආධිරාජ්‍යවාදයන් ඒකාබද්ධ වීම ඉතා දුෂ්කර වන සේම, හුදෙක් රුසියාවේ භූමි ශාස්ත්‍රීය තත්වය නිසා පමණක් වුවද, එය අපට කිසිසේත් අන්තරාදයකද නොවේ. අනිත් අතට, සියළුම යුරෝපීය රටවල විප්ලවවාදී සහ සමාජවාදී නිර්ධන පංති ජනකායයන් සිටින බව සත්‍යයකි. ලෝක ව්‍යාප්ත සමාජවාදී විප්ලවය මෝරමින් පවතින බව සහ එය අනිවාරණීය බව නිසැකය. එවැනි විප්ලවයකට බරපතල ස්වභාවයෙන් ආධාර කළ හැක්කේ රුසියානු විප්ලවයේ ප්‍රගතියෙන් පමණකි. විදේශික ප්ලෙ-

හානව්ලා සහ ට්සෙරතෙලිලා සමග ස්ටොක්හෝම් සාකච්ඡා නැමති ක්‍රීඩාවෙහි යෙදීමෙන් නොවේ.

රුසියාවේ කොමියුනයක අනිවාරණීය පරාජය ගැන ධනපති පංතිය අඳෝනා නඟයි. නැතහොත්, නිර්ධන පංතිය බලය දිනා ගතහොත් එය පරාජය වන බව කියමින් වැළපෙයි.

මේවා බොරු, ආත්මාර්ථකාමී පංති අඳෝනාවන්ය.

නිර්ධන පංතිය බලය දිනා ගතහොත්, එය පවත්වා ගැනීමට සහ බටහිර ජයග්‍රාහී විප්ලවයක් ඇති වන තෙක් රුසියාවට නායකත්වය දීමට හැම අවස්ථාවක්ම එයට තිබේ.

ප්‍රථමයෙන්ම, අපි කොමියුනයෙන් ඉක්බිතිව බොහෝ දේ උගෙන ගෙන ඇත්තෙමු. එය අතින් සිදුවූ මරණීය වැරදි අපි නොකරමු. අපි ධනපති පංතිය අතේ බැංකු තිබෙන්නට නොහරින්නෙමු. අපි වර්සයිල්සයට (නැතහොත් කර්නීලව්වාදීන්ට) විරුද්ධව ආරක්ෂාවීමට සීමාවී නොසිට ඔවුන්ට විරුද්ධව ප්‍රහාරයෙහි යෙදෙමින් ඔවුන් සුනු විසුනු කර දමන්නෙමු.

දෙවැනිව, ජයග්‍රාහී නිර්ධන පංතිය රුසියාවට සාමය ගෙන දෙනු ඇත. තුන් අවුරුද්දකට වැඩි කාලයක් තිස්සේ කෙරුණු මිනිස් ඝාතනයේ ඒ සියළු භීෂණයන්ගෙන් පසුව සාමයේ ආණ්ඩුවක්, අවංක, සැබෑ සහ සාධාරණ සාමයේ ආණ්ඩුවක්, පෙරළා දැමීමට මිහිපිට කිසිම බලයක් සමත් නොවේ.

තුන්වැනිව, ජයග්‍රාහී නිර්ධන පංතිය වහාම හා වන්දි නොමැතිව ගොවි ජනතාවට ඉඩම් පවරා දෙන්නේය. අපගේ ආණ්ඩුව, විශේෂයෙන්ම සහාග ආණ්ඩුව, විශේෂයෙන්ම කෙරෙන්ස්කි ආණ්ඩුව, ''ඉඩම් හිමියන් සමග නැටූ නාඩගමෙන්'' වෙහෙසට පත් සහ අප්‍රසන්න වූ ගොවි ජනතාවගෙන් අති බහුතරයක්, ජයග්‍රාහී නිර්ධන පංතියට සම්පූර්ණයෙන්ම, කොන්දේසි විරහිතව සහ තමන්ට හැකි සියළු ශක්තියම යොදා ආධාර කරනු ඇත.

මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් වන ඔබ සියළු දෙනාම ජනතාවගේ''වීරෝදාර ප්‍රයත්න''ගැන කථා කරන්නෙහිය. අනන්ත වරක් කියා ඇති මෙම වදන, ඔබගේ ''මධ්‍යම විධායක සභාවේ ඉස්වෙස්තියා'' පත්‍රයේ ප්‍රධාන ලිපියෙහි නැවතවරක් සඳහන් කර තිබෙනු දුටුවෙමි. එය හුදෙක්ම වචන පමණකි. නමුත් කම්කරුවෝ සහ ගොවිජනයා එය කියවා ඒ ගැන කල්පනා කරති. එසේ සිතා බැලීමට, කර්නීලව් කැරැල්ලෙහි අත්දැකීම්ද, පෙෂෙහෝනව් අමාත්‍යංශයේ ''අත්දැකීම්'', වෙර්නොව් අමාත්‍යාංශයේ ''අත්දැකීම්'' සහ එවැනි වෙනත් කරුණු ද එකතු වූ කල, එම කල්පනාවන් අනිවාර  ය වශයෙන්ම මහ පෙන්වන්නේ, මෙම ''වීරෝදාර ප්‍රයත්න'' යනු අන් කිසිවක් නොව, දුප්පත් ගොවි ජනතාව තමන්ගේ ඉතාමත් විශ්වාසදායක මිත්‍රයන් සහ නායකයන් ලෙසට නාගරික කම්කරුවන් කෙරෙහි විශ්වාසය තැබීමය යන නිගමනය වෙතටය. වීරෝදාර ප්‍රයත්නය යනු, සිවිල් යුද්ධයේදී ධනපති පංතිය පරදවා රුසියානු නිර්ධන පංතිය ලබන ජයග්‍රහණය මිස අන් කිසිවක් නොවේ. වේදනා සහගත චපලත්වයෙන් රට මුදා ගැනීමක් වන්නේ එවැනි ජයග්‍රහණයකින් පමණකි; ගැලවීමේ මාර්ගය පෙන්වන්නේ, එමෙන්ම ඉඩම් හා සාමය ලබා දෙන්නේ එම ජයග්‍රහණය පමණකි.

සෝවියට් සභාවලට වහාම බලය පැවරීමක් මගින් නාගරික කම්කරුවන් සහ දුප්පත් ගොවි ජනතාව අතර සන්ධානයක් ඇති කළ හැකි නම් එය වඩාත්ම යහපති. විප්ලවය සාමකාමීව සිදු කරනු සඳහා බොල්ෂෙවික්වරු සියල්ලක්ම කරනු ඇත. මෙය නොමැතිව, ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය තනිව ගත් විට, එය පවා, විසඳීමක් ලබා දීමට සමත් නොවන්නේය. එයට හේතුව, එහිදී වුවද, සමාජවාදී-විප්ලවවාදීන්, කැඩෙට්වරු සමග, බ්‍රෙෂ්කො-බ්‍රෙෂ්කොව්ස්කායා සහ කෙරෙන්ස්කි සමග (ඔවුන් කැඩෙට්වරුන්ට වඩා හොඳ වන්නේ මොන ආකාරයෙන්ද?) යනාදී වශයෙන් එකඟත්වයන් ඇති කර ගැනීමේ ඔවුන්ගේ ''ක්‍රීඩාව'' තවදුරටත් කරගෙන යාමට ඉඩ ඇති බැවිනි.

කර්නීලව් කැරැල්ලෙන් පවා ''ප්‍රජාතන්ත්‍රවාදීන්'' පාඩමක් උගෙන ගෙන නැත්නම්, ඔවුහු චපලත්වයේ සහ සම්මුතියේ විනාශකාරී ප්‍රතිපත්තිය දිගටම අනුගමනය කරති නම්, මෙම චපලත්වයට වඩා අන් කිසිවක් නිර්ධන පංති විප්ලවයට විනාශකාරී නොවන බව අපි කියන්නෙමු. තත්වය එබඳු නිසා, සිවිල් යුද්ධය ගැන කියා අප බිය ගැන්වීමෙහි නොයෙදෙන්න මහත්වරුනි. කර්නීලව්වාදයෙන් සහ ''සහාගයෙන්'' මේ දැන්ම සහ සදහටම වෙන්වීමට ඔබ නොකැමැත්තෙහි නම්, සිවිල් යුද්ධය නොවැලැක්විය හැකිය. මෙම යුද්ධය සූරා කන්නන් පරදවා ජයග්‍රහණය ගෙන එනු ඇත. එය ගොවිජනතාවට ඉඩම් ලබා දෙනු ඇත. එය ජනතාවන්ට සාමය ගෙන දෙනු ඇත. එය ලෝක සමාජවාදී නිර්ධන පංතියේ ජයග්‍රාහී විප්ලවයට යන නිවැරදි මාවත විවෘත කරනු ඇත.

1917 සැප්තැම්බර් මස මුල්
භාගයේ ලියන ලදී.

1917 සැප්තැම්බර් 29(16) දින
''රබෝචි පුත්'' අංක 12 හි පළ
කරන ලදී.

සම්පූර්ණ කෘති, 5 වැනි
මුද්‍රණය, වෙළුම 34,
පිටු 214-228

## සංස්කාරකගේ සටහන්

[1] ''විදේශයෙහි සිට එවූ ලියුම්'' (ලිපි පහකි) ලෙනින් විසින් ලියන ලද්දේ ස්විට්සර්ලන්තයේ සිටියදී එයින් පලමුවැන්න-හතරවන්න ලියන ලද්දේ මාර්තු 7 සිට 12 (20 සිට 25) දක්වා දිනවලය. ඉන් පස්වැනි හා අවසාන නො කල ලිපිය ලෙනින් විසින් ලියන ලද්දේ ඔහු ස්විට්සර්ලන්තයේ සිට රුසියාව බලා පිටත් වීමට ආසන්නව සිටියදී 1917 මාර්තු 26 (අප්‍රියෙල් 8) දිනය.

මෙම ලියුම් පෙට්‍රොග්‍රෑඩ් නගරයට යැවුන නමුත් ඉන් පළමුවැන්න පමණක් කෙටියෙන් 1917 මාර්තු මස ''ප්‍රාව්ද'' පත්‍රයෙහි පළ විය. අනිත් සතර පළ වූයේ ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසුව ය. නිම නොකළ පස්වැනි ලියුමේ අදහස් තවත් විස්තර සහිත ලෙස පැහැදිලි කරමින් ලෙනින් එම අදහස් ඔහුගේ ''උපක්‍රම ගැන ලියුම්'' වල හා ''අපගේ විප්ලවයේදී නිර්ධන පංතියට පැවරෙන කර්තව්‍යයන්'' යන ලිපියෙහි ඇතුලත් කළේය (වී. අයි. ලෙනින්, සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 31 හා මෙම වෙළුමේ 33-72 පිටු බලන්න).

[2] මෙහි සඳහන් කර ඇත්තේ පෙබරවාරි විප්ලවයේ මුල් දිනවල මතු වූ පෙට්‍රොග්‍රෑඩ් කම්කරු නියෝජිතයන්ගේ සෝවියට් සභාව ගැන ය. සෝවියට් සභාවට තෝරාපත් කිරීම එක් එක් පැක්ටරිවල සාංසිද්ධික වශයෙන් ආරම්භවූ අතර, එය නගරයේ සියළුම පැක්ටරිවලට පැතිර ගියේය. සෝවියට් සභාව එහි රැස්වීම පැවැත්වීම සඳහා එක්රැස්වීමට පෙර, එය තමන්ගේ පාලනය යටතට ගැනීමේ ප්‍රයත්නයක් දරමින් මෙන්ෂෙවික් ලික්විඩේටර්වාදී* කේ. ඒ. ග්වොස්දියොව් සහ බී. ඕ.

---

* ඇවරකාරවාදී. — අනුවාදක

බග්දනොව් ද, දූමා සභිකයන් වූ එන්. එස් චිහෙයිද්සේ, එම්. අයි. ස්කෝබිලියෙව් සහ වෙනත් අය තමන් සෝවියට් සභාවේ තාවකාලික විධායක කාරක සභාව වන බව පෙබරවාරි 27 (මාර්තු 12) දින ප්‍රකාශයට පත් කළහ. එදිනම සවස සෝවියට් සභාව පැවැත්වූ ප්‍රථම රැස්වීමේදී, එය එන්. එස්. චිහෙයිද්සේ, ඒ. එෆ්. කෙරෙන්ස්කි සහ එම්. අයි. ස්කෝබිලියෙව් සහ තවත් අයගෙන් යුත් සභාපති මණ්ඩලයක් නිල වශයෙන් පත් කළේය. විධායක කාරක සභාවට ඒ. ජී. ෂ්ලියාප්නිකොව්, එන. එන්. සුහානොව් සහ වයි. එම්. ස්තෙක්ලොව් ද පත් කරන ලද අතර, සමාජවාදී පක්ෂවල මධ්‍යම කාරක සභා සහ පෙට්‍රොග්‍රෑඩ් කාරක සභා ද එහි නියෝජනය වීමට ප්‍රතිපාදන සලස්වන ලදී. සමාජවාදී-විප්ලවවාදීහු ප්‍රථමයෙන් සෝවියට් සභාව සංවිධාන කිරීම ගැන විරුද්ධ වූ නමුත්, පසුව ඊට ඔවුන්ගේ නියෝජිතයන් එවූහ.

සෝවියට් සභාව, තමන් කම්කරු සහ සොල්දාදු නියෝජිතයන්ගේ බල මණ්ඩලය වන බව ප්‍රකාශයට පත් කළේය. එසේම ප්‍රථම සෝවියට් සභා සම්මේලනය (1917 ජූනි) පැවැත්වෙන තෙක්ම එය ඇත්ත වශයෙන්ම සමස්ත රුසියානු මධ්‍යස්ථානයක් විය. සොල්දාදු නියෝජිතයන්ද ඇතුළත් කරමින් සෝවියට් සභාව මාර්තු 1(14) දින පුළුල් තරන ලදී.

සෝවියට් සභාවේ නායකත්වය සමගිකාරීන්ගේ අතට පත්ව තිබුණ නමුත්, විප්ලවවාදී කම්කරුවන්ගේ හා සොල්දාදුවන්ගේ බලපෑම යටතේ එය, සාර්වාදී නිලධාරීන් සිරභාරයට ගැනීම හා දේශපාලන සිරකරුවන් මුදා හැරීම වැනි විප්ලවවාදී පියවරයන් ගණනාවක්ම ගත්තේය. යුද්ධ හමුදාව කෙරෙහි විප්ලවවාදී වෙනස්කම් ඇති කිරීම පිණිස ඉමහත් කාර්ය කොටසක් ඉටු කළ ''පෙට්‍රොග්‍රෑඩ් යුද්ධ හමුදා දිස්ත්‍රික්කයේ ආරක්ෂක බලකායට සෝවියට් සභාවේ ප්‍රථම නියෝගය'', මාර්තු 1(14) නිකුත් කෙරිනි. එතැන් පටන්, සියළුම හමුදා ඒකකයන් ඒවායේ දේශපාලන කටයුතුවලදී සෝවියට් සභාවේ මගපෙන්වීම යටතේ කටයුතු කළ යුතු බවද, සියළු අවි ආයුධ හමුදා කණ්ඩායම්වල හා බල ඇණිවල කාරක සභාවල පාලනය යටතේ හා ඒවායේ ප්‍රයෝජනය සඳහා තැබිය යුතු බවද, දූමා සභාවේ තාවකාලික කාරක සභාවෙන් නිකුත් කෙරෙන නියෝග ක්‍රියාත්මක කළ යුත්තේ ඒවා සෝවියට් සභාවේ නියෝගවලට පටහැනි නොවෙතොත් පමණක් බවද යනාදී වශයෙන් එයින් නියම කරන ලදී.

නමුත්, ඉතාමත් තීරණාත්මක අවස්ථාවේදී මාර්තු 1(14) දිනෙන් පසු රාත්‍රියේදී සෝවියට් සභාවේ විධායක කාරක සභාවෙහි සිටි සමගිකාරීහු ස්වේච්ඡාවෙන්ම බලය ධනපති පංතියට දුන්හ. ඔවුහු ධනපතියන්ගේ හා ඉඩම් හිමියන්ගේ නියෝජිතයන්ගෙන් සමන්විත තාවකාලික ආණ්ඩුව පිළිගැනීම අනුමත කළහ. ඔවුන් මෙසේ ධනපති පංතියට යටත් වූ බව විදේශයට දැනගන්නට නොලැබිණ. එසේ වූයේ ව්‍යවස්ථානුකූල ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ අදහස්වලට වඩා වාමාංශික වූ අදහස් නියෝජනය කළ පුවත්පත් රටෙන් බැහැර ගෙනයාමට ඉඩ නොදෙන ලද නිසාය. ලෙනින්ට මේ ගැන දැන ගන්නට ලැබුණේ ඔහු ආපසු රුසියාවට පැමිණි පසුය.

3 ඔක්තෝබර්වාදීන් — මෙසේ හැඳින්වෙන්නේ 1905 නොවැම්බරයේදී පිහිටුවන ලද ලොකු ධනපතියන්ගේ රාජාණ්ඩුවාදී පක්ෂයක් වූ ''ඔක්තෝබර් දහහත්වැනි දින සංගමයේ'' සාමාජිකයන් ය. පක්ෂයට මෙසේ නම තබන ලද්දේ නිදහස පිළිබඳ අයිතිවාසිකම් දෙන ව්‍යවස්ථාවක් රුසියාවේ පනවන බවට පොරොන්දු වෙමින් 1905 ඔක්තෝබර් 17(30) දින සාර් කළ ප්‍රකාශනයට එය සහයෝගය දක්වන බව හැඟවීමේ අරමුණ ඇතිවය. ඔක්තෝබර්වාදීන්ගේ කටයුතු ජනතාවට සතුරු ස්වභාවයේ විය. ලොකු ධනපතියන්ගේ හා ධනපති ක්‍රමයට ස්වකීය වතු දේපල පවත්වා ගෙනගිය ඉඩම් හිමියන්ගේ අයිතිවාසිකම් ආරක්ෂා කළ ඔවුහු, සාර්ගේ දේශීය හා විදේශීය ප්‍රතිපත්තියට සම්පූර්ණ සහයෝගය දුන්හ.

1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසුව ඔක්තෝබර්වාදීහු පාලක පක්ෂය වූ අතර, ඔවුහු සමාජවාදී විප්ලවය මෝරා ඒම ගැන ක්‍රියාශීලී ලෙස විරුද්ධ වූහ.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසුව ඔක්තෝබර්වාදීහු සෝවියට් රාජ්‍ය බලයට විරුද්ධව සටන් කළහ.

කැඩෙට්වරු — මෙසේ හඳුන්වන ලද්දේ ව්‍යවස්ථානුකූල-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජිකයින්ය. එය රුසියාවේ ලිබරල්-රාජාණ්ඩුවාදී ධනපති පංතියේ ප්‍රධාන පක්ෂය විය. 1905 ඔක්තෝබරයේදී පිහිටුවන ලද මෙම පක්ෂය ධනපති පංතියේද, ඉඩම් හිමි සියම්ස්ත්ව නායකයන්ගේද, ධනපති බුද්ධිමතුන්ගේද, නියෝජිතයන්ගෙන් සමන්විත විය. අනතුරුව කැඩෙට්වරු අධිරාජ්‍යවාදී ධනපති පංතියේ පක්ෂය බවට පත්විය.

කැඩෙට්වරු, ප්‍රථම ලෝක යුද්ධයේදී සාර්වාදී ආණ්ඩුවේ කොල්ලකාරී විදේශ ප්‍රතිපත්තියට ආධාර කළ අතර, 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේදී රාජාණ්ඩුව බේරා ගැනීමට උත්සාහ කළහ. ධනපති තාවකාලික ආණ්ඩුවේ ප්‍රමුඛ තැනක් ගත් ඔවුහු, පොදු ජන විරෝධී, ප්‍රති විප්ලවවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළහ. ඔක්තෝබර්

සමාජවාදී විප්ලවයෙන් පසුව, සෝවියට් රාජ්‍ය බලයේ පරම සතුරන් බවට පත් කැඩෙට්වරු ආයුධ සන්නද්ධ ප්‍රතිවිප්ලවවාදී සටන් සියල්ලටමත්, විදේශ ආක්‍රමණ ව්‍යාපාරය සියල්ලටමත් සහභාගි වූහ.

4 බාසල් ප්‍රකාශනය — යුද්ධය ගැන වූ මෙම ප්‍රකාශනය, 1912 නොවැම්බර් 24-25 දිනවල බාසල්හි පැවැත්වුනු හදිසියෙන් රැස්කරන ලද ජාත්‍යන්තර සමාජවාදී සම්මේලනයේදී අනුමත කරන ලදී. අධිරාජ්‍යවාදී ලෝක යුද්ධයක් ඇතිවීම පිළිබඳ නැගී එන අන්තරාය ගැන ජනතාවන්ට අනතුරු හැඟවූ මෙම ප්‍රකාශනය, යුද්ධයේ කොල්ලකාරී අරමුණු හෙළිදරව් කරමින්, අධිෂ්ඨාන සහගත ලෙස සාමය සඳහා සටන් කරන ලෙසත්, "ධනපති අධිරාජ්‍යවාදයේ දැවැන්ත බලයට විරුද්ධව කම්කරු පංතියේ ජාත්‍යන්තර සමගියේ දැවැන්ත බලය ඉදිරිපත් කරන ලෙසත්, සියළුම රටවල කම්කරුවන් වෙත ආයාචනා කළේය. ලෙනින් විසින් සකස් කරන ලද හා 1907 ෂ්ටුට්ගාට් සම්මේලනයේ යෝජනාවට ඇතුලත් කරන ලද, අධිරාජ්‍යවාදී යුද්ධයක් ආරම්භ වුවහොත්, එයින් ඇති වන ආර්ථික හා දේශපාලන අර්බුදයෙන් ප්‍රයෝජන ගනිමින් සමාජවාදීන් සමාජවාදී විප්ලවය සඳහා සටන් කළ යුතු යයි කියන වාක්‍ය කොටස බාසල් ප්‍රකාශනයට ඇතුලත් විය.

5 රාස්නචින්ට්සි — (විවිධ නිල හා කොටස්වලට අයත් ජනයා) — වංශවත් පවුල්වලින් නොපැවතෙන විවිධ ස්ථරවලට අයත් ජනයා වන දෙවගැති කොටස්, වෙළෙඳ පංති සුළු ධනපති කොටස් හා ගොවිජනයා අතරින් ගත් රුසියානු බුද්ධිමතුන්.

6 මෙන්ෂෙවික්වරු — මොවුහු රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ සුළු ධනපති අවස්ථාවාදී උපනතියක් අනුගමනය කළහ. ඔවුන් මෙන්ෂෙවික්වරුන් වශයෙන් ප්‍රකට වූයේ රු. ස. ප්‍ර. ක. ප. 1903 දෙවැනි සම්මේලනයේදී ය. එහිදී, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය, ලෙනින්ගේ නායකත්වයෙන් යුත් විප්ලවවාදී අංශය හා මාර්තව්ගේ නායකත්වයෙන් යුත් අවස්ථාවාදී අංශය වශයෙන් භේද විය. පක්ෂයේ මධ්‍යම මණ්ඩලවලට තෝරාපත් කිරීම්වලදී විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට බහුතරය (බොල්ෂින්ස්ත්වෝ) පක්ෂ වූ අතර අවස්ථාවාදීන් සුළු පිරිස (මෙන්ෂින්ස්ත්වෝ) බවට පත්විය. බොල්ෂෙවික් හා මෙන්ෂෙවික් යන නම් සෑදුනේ ඒ අනුව ය.

1905-1907 විප්ලවයේදී, කම්කරු පංතිය විප්ලවයේ මූලිකත්වය ගැනීම ගැනත්, කම්කරු පංතිය හා ගොවි ජනතාව අතර සන්ධානය



ගැනත් විරුද්ධ වූ මෙන්ෂෙවික්වරු විප්ලවයට නායකත්වය දෙනු ඇතැයි ඔවුන් අදහස් කළ ලිබරල් ධනපති පංතිය සමග එකඟත්වයක් ඇති කරගන්නා ලෙස ඉල්ලූහ. විප්ලවයේ පරාජයෙන් පසු ප්‍රතිගාමීත්වය බල පැවැති අවුරුදුවලදී මෙන්ෂෙවික්වරු වැඩි කොටසක් ලික්විඩේෂනිස්ට්වාදීන් බවට පත් වූ අතර කම්කරු පංතියේ විප්ලවවාදී නීති විරෝධී පක්ෂය ඈවර කර දමන ලෙස ඉල්ලූහ. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ ජයග්‍රහණයෙන් පසුව, ධනපති පංතියේ තාවකාලික ආණ්ඩුවට ඇතුල් වූ ඔවුහු,එහි අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තියට ආධාර කරමින්, බොල්ෂෙවික්වාදීන් සූදානම් කරමින් සිටි සමාජවාදී විප්ලවයට විරුද්ධ වූහ.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසුව, මෙන්ෂෙවික්වරු විවෘත ප්‍රතිවිප්ලවවාදී පක්ෂයක් වී, සෝවියට් රාජ්‍ය බලය පෙරළා දැමීම අරමුණු කරගත් කුමන්ත්‍රණ හා කැරළි සංවිධානය කිරීමෙහි හා ඒවාට සහභාගි වීමෙහි යෙදුනහ.

සංවිධායක කාරක සභාව— ලික්විඩේටර්වරුන්ගේ 1912 අගෝස්තු සාකච්ඡා සභාවේදී පිහිටුවන ලද මෙන්ෂෙවික්වාදී නායක මධ්‍යස්ථානය මෙසේ හැඳින්විනි. ප්‍රථම ලෝක යුද්ධය සමයේදී සංවිධායක කාරක සභාව සමාජ-ජාත්‍යෝන්මාදවාදී ප්‍රතිෂ්ඨාවක් ගත්තේය. 1917 අගෝස්තු මාස දී රු. ස. ප්‍ර. ක. ප. (මෙන්ෂෙවික්) "සමගි" සම්මේලනයේදී මෙන්ෂෙවික් පක්ෂයේ මධ්‍යම කාරක සභාව තෝරා පත් කරන තෙක් මෙය ක්‍රියාත්මක විය.

7 මෙන්ෂෙවික්වරුන්ගේ දක්ෂිණාංශික ලික්විඩේෂනිස්ට් අංශය ගැන මෙසේ සඳහන් කර ඇත්තේ එහි නායකයන් වූ ග්වොස්දියොව් හා පොත්‍රෙසොව් යන දෙදෙනාගේ නම් අනුව ය. මොවුහු ප්‍රථම ලෝක යුද්ධය සමයේදී සමාජ-ජාත්‍යෝන්මාදවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළහ.

8 මෙහි සඳහන් කෙරෙන්නේ දූමා සභාවේ තාවකාලික කාරක සභාව හා පෙට්‍රෝග්‍රෑඩ් කම්කරු හා සොල්දාදු නියෝජිතයන්ගේ සෝවියට් සභාවේ විධායක කාරක සභාවේ සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් නායකයන් ඇති කරගත් එකඟත්වය අනුව 1917 මාර්තු 2(15) දින පිහිටුවන ලද ධනපති තාවකාලික ආණ්ඩුව ගැන ය. ජී. අයි. ල්වෝව් කුමාරයද (ඇමති මණ්ඩලයේ සභාපති හා ස්වදේශ කටයුතු භාර ඇමති), කැඩෙට් නායක පී. එන්. මිල්යුකොව්ද (විදේශ කටයුතු භාර ඇමති), ඔක්තෝබර්වාදී නායක ඒ. අයි. ගුච්කොව්ද (යුද්ධ හමුදාව

සහ කලකට නාවුක හමුදවද භාර ඇමති), ලොකු ධනපති පංතියේ සහ ඉඩම් හිමියන්ගේ වෙනත් නියෝජිතයන්ද, තෘදෙවික්වර ඒ. එෆ්. කෙරෙන්ස්කිද (අධිකරණ ඇමති) යන අයගෙන් තාවකාලික ආණ්ඩුව සමන්විත විය.

9 සාම පුනරුත්ථාපන පක්ෂය — ප්‍රථම දූමා සභාව විසුරුවා හැරීමෙන් පසුව 1906 දී ආරම්භ කරන ලද ලොකු ධනපතියන්ගේ සහ ඉඩම් හිමියන්ගේ ව්‍යවස්ථානුකූල-රාජාණ්ඩුවාදී සංවිධානයකි. එහි වැඩ පිළිවෙළ ඔක්තෝබර්වාදීන්ගේ වැඩ පිළිවෙළට ආසන්න එකක් විය. එය කාර්මික හා වාණිජ ධනපති පංතියේද, ධනපති ක්‍රමයට වතු පවත්වාගෙන ගිය ඉඩම් හිමියන්ගේද අයිතිවාසිකම් ආරක්ෂා කළේය. තුන්වැනි දූමා සභාවේදී ''ප්‍රගතිවාදී කණ්ඩායම'' ඇති කිරීම සඳහා මෙම පක්ෂය, ඊනියා ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණ පක්ෂය සමග එක්සත් විය.

10 තෘදෙවික්වරු (තෘදෙවික් කණ්ඩායම) — සුළු ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන්ගේද නරෝද්නික් අදහස් දරන ගොවීන්ගේ හා බුද්ධිමතුන්ගේද කණ්ඩායමකි. එය ප්‍රථම දූමා සභාවේ ගොවිජන මන්ත්‍රීවරු විසින් 1906 අප්‍රියෙල් මස දී පිහිටුවන ලදී. දූමා සභා හතරෙහිම තෘදෙවික් කණ්ඩායම් තිබුණි. තෘදෙවික්වරු, කැඩෙට්වරුන් සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර වැනෙමින් සිටියහ. 1917 ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසුව ඔවුහු තාවකාලික ආණ්ඩුවට ක්‍රියාශීලී ලෙස ආධාර දුන්හ. ඔවුහු ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට සතුරු ආකල්පයක් දැක්වූහ.

11 රාජ්‍ය දූමා සභාව — 1905 විප්ලවවාදී සිදුවීම් නිසා සාර්වාදී ආණ්ඩුවට කැඳවීමට සිදු වූ නියෝජිත සභාවකි. දූමා සභාව නාමික වශයෙන් ව්‍යවස්ථාදායක මණ්ඩලයක් වූ නමුත්, එයට නියම බලයක් නොතිබුණේය. දූමා සභාවට තෝරා පත් කිරීම සෘජු, සමාන හෝ සර්වජන ඡන්දයෙන් කෙරුනක් නොවීය. කම්කරු පංතියේ සහ රුසියාවේ වෙසෙන රුසියානු නොවන ජාතික කොටස්වලද ඡන්ද අයිතිවාසිකම් බෙහෙවින් සීමා කර තිබුණි. කම්කරුවන් හා ගොවීන්ගෙන් විශාල කොටසකට කිසිම ඡන්ද අයිතිවාසිකමක් නොතිබුණි.

ප්‍රථම දූමා සභාව (1906 අප්‍රියෙල්-ජූලි) හා දෙවැනි දූමා සභාව (1907 පෙබරවාරි-ජූනි) සාර්වාදී ආණ්ඩුව විසින් විසුරුවා හරින ලදී. ආණ්ඩුවේ 1907 ජූනි තුන්වැනි දින කුමන්ත්‍රණයෙන් පසුව, එය නව මැතිවරණ නීතියක් ප්‍රකාශයට පත් කළේය. ඒ අනුව, කම්කරුවන්ගේද, ගොවිජනයාගේ සහ නාගරික සුළු ධනපතියන්ගේද ඡන්ද අයිතිවාසිකම් තවත් සීමා කරන ලදින්, තුන්වැනි (1907-1912) හා හතරවැනි (1912-1917) දූමා සභා තුළ ඉඩම් හිමියන්ගේ හා ලොකු ධනපතියන්ගේ පෙරමුණෙහි සම්පූර්ණ ආධිපත්‍යය පැවතීම සහතික විය.



2 යුද්ධ කර්මාන්ත කාරක සභා — යුද්ධය කරගෙන යාමට සාර්වාදී ආණ්ඩුවට ආධාර කිරීම සඳහා ධනපතීහු 1915 මැයි මාසයේදී මෙම කාරක සභා රුසියාවේ පිහිටවූහ. මධ්‍යම යුද්ධ කර්මාන්ත කාරක සභාවේ නායකත්වය දැරුවේ ලොකු කර්මාන්ත කරුවෙකු හා ඔක්තෝබර්වාදීන්ගේ නායකයා වූ ඒ. අයි. ගුච්කොව් ය. අධිරාජ්‍යවාදී යුද්ධයට ආධාර දීම පිළිබඳ අදහස කම්කරු පංතිය තුළ පැතිරවීමේ ප්‍රයත්නයක් දරමින් ධනපති පංතිය මෙම කාරක සභා, යටතේ ඊනියා ''කම්කරු කණ්ඩායම්'' පිහිටවූ අතර, මෙන්ෂෙවික්වරු ඒවාට සහභාගි වූහ. බොල්ෂෙවික්වරු යුද්ධ කර්මාන්ත කාරක සභා වර්ජනයක් ප්‍රකාශයට පත් කළ අතර, ඔවුනට කම්කරුවන්ගේ සහයෝගය ලැබිණ.

3 මෙම ලිපිය 1917 අප්‍රියෙල් 17 දින එන්. ලෙනින් යන අත්සන යටතේ ''ප්‍රාව්දා'' අංක 26 හි පළ විය. සුප්‍රසිද්ධ ''අප්‍රියෙල් ප්‍රවාද'' ඇතුලත් මෙම ලිපිය ලෙනින් විසින්, ඔහු පෙට්‍රොග්‍රෑඩයට සම්ප්‍රාප්ත වීමට පෙර දුම්රියේදී ලියන ලද බව පෙනේ.

1917 අප්‍රියෙල් 4(17) දින තෙව්රීද මාලිගයේ පැවැත්වුනු රැස්වීම් දෙකකදී ලෙනින් මෙම ප්‍රවාද කියෙව්වේය. ඉන් එකක් බොල්ෂෙවික්වරුන්ගේ රැස්වීමක්ද, අනික සමස්ත රුසියා කම්කරු හා සොල්දදු සෝවියට් සභා සම්මේලනයේ බොල්ෂෙවික් හා මෙන්ෂෙවික් නියෝජිතයන්ගේ රැස්වීමක්ද විය.

4 පොදුජන සමාජවාදීන් (එන්එස්වරු) — මෙසේ හැඳින්වුනේ 1906 දී සමාජවාදී-විප්ලවවාදී පක්ෂයේ දක්ෂිණාංශයෙන් වෙන්වූ සුළු ධනපති ශ්‍රමකරු පොදු ජන-සමාජවාදී පක්ෂයේ සාමාජිකයින් ය. පොදු ජන සමාජවාදීහු කැඩෙට්වරු සමග පෙරමුණක් සෑදීමට එකඟ වූහ.

1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසුව තෘදෙවික්වරු සමග සංයෝජනය වූ පොදුජන සමාජවාදී පක්ෂය ධනපති තාවකාලික ආණ්ඩුවට ක්‍රියාශීලී ලෙස සහයෝගය දුන් අතර,ඔවුන් එම ආණ්ඩුව තුළ නියෝජනය විය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් අනතුරුව, පොදුජන සමාජවාදීහු සෝවියට් රජයට විරුද්ධව ප්‍රතිවිප්ලවවාදී කුමන්ත්‍රණවලට හා සන්නද්ධ සටන්වලට සහභාගි වූහ.

15 සමාජවාදී-විප්ලවවාදීන් (එස්ඒර්වරු) — 1901 අවසානයේදී හා 1902 ආරම්භයේදී රුසියාවේ පිහිටුවන ලද සුළු ධනපති පක්ෂයකි.

පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී එස්ඒර්වරුන්ගෙන් වැඩි කොටස සමාජ-ජාත්‍යෝන්මාදවාදීන් බවට පත්වූහ. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසුව මෙන්ෂෙවික්වරු හා සමග එක්වූ සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදීහු ප්‍රතිවිප්ලවවාදී තාවකාලික ආණ්ඩුවේ බල කණුවක් බවට පත්වූ අතර, ඔවුන්ගේ නායකයෝ ආණ්ඩුවේ සාමාජිකයන් වූහ. ඉඩම් හිමි දේපල අහෝසි කරන ලෙස කී ගොවි ජනයාගේ ඉල්ලීමට සහයෝගය දැක්වීම සමාජවාදී-විප්ලවවාදී පක්ෂය විසින් ප්‍රතික්ෂේප කරන ලද අතර, වතුකාර දේපල ඉඩම් අත්පත් කරගෙන සිටි ගොවීන්ට දඬුවම් දීම සඳහා ඔවුනට විරුද්ධව තාවකාලික ආණ්ඩුවේ සමාජවාදී-විප්ලවවාදී ඇමතිවරුන් විසින් යුද්ධ හමුදා යවන ලදී. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසුව, සමාජවාදී-විප්ලව-වාදීහු, සෝවියට් රජයට විරුද්ධව අරගල කළ ධනපතියන්ට, ඉඩම් හිමියන්ට හා විදේශ ආක්‍රමණිකයන්ට, ක්‍රියාශීලී ලෙස ආධාර කළහ.

16 පැරිස් කොමියුනය, 1871 — නිර්ධන පංතික ආඥාදායකත්වය, හා කම්කරු පංතියේ විප්ලවවාදී රජය පිළිබඳ ඉතිහාසයේ ප්‍රථම අත්දැකී-මය. මෙය නිර්ධන පංතික විප්ලවයක් මගින් පැරිසියෙහි පිහිටුවන ලදී. 1871 මාර්තු 18 වැනිද සිට මැයි 28 වැනිද දක්වා දින 72 ක් මෙය පැවතියේය. පැරිස් කොමියුනය පිළිබඳ මෙම වෙළුමෙහි 30; 64-66; 214-215 පිටුවල සඳහන් කර ඇත.

17 ''යෙදින්ස්ත්ව'' (''සමගිය'') — ප්ලෙහානව්ගේ නායකත්වය යට-තේ වූ අන්ත දක්ෂිණාංශික මෙන්ෂෙවික්වරුන්ගේ නිල දිනපතා පත්‍රය. එය 1914 මැයි මස සිට 1918 ජනවාරි දක්වා පෙට්‍රොග්‍රෑඩ්හි පළ කරන ලදී.

එම පත්‍රය තාවකාලික ආණ්ඩුවට ආධාර කළ හා ධනපති පංතිය සමග සභාගයක් ඇති කිරීම යෝජනා කළ අතර, බොහෝ විට අසභ්‍ය පුවත්පත් කලාව අනුගමනය කරමින් බොල්ෂෙවික්වරුන්ට විරුද්ධ විය.

18 ''රුස්කයා වෝලිය'' (''රුසියානු නිදහස'') — ස්වදේශ කටයුතු භාර ඇමති ඒ. ඩී. ප්‍රොතොපෝපොව් විසින් ආරම්භ කරන ලද හා ලොකු බැංකු විසින් මුදලින් නඩත්තු කරන ලද ධනපති පංතියේ දිනපතා පත්‍රයකි. 1916 දෙසැම්බර් පටන් 1917 ඔක්තෝබර් දක්වා එය පෙට්‍රො-ග්‍රෑඩ්හි පළවිය



19 මාක්ස් හා එංගල්ස් විසින් 1872 දී ලියන ලද ''කොමියුනිස්ට් ප්‍රකාශන-යේ ජර්මන් සංස්කරණයට පෙරවදන'' ද, මාක්ස්ගේ ''ප්‍රංශයේ සිවිල් යුද්ධය'', ''ජාත්‍යන්තර වැඩ කරන ජනතා සංගමයේ ප්‍රධාන මණ්ඩල-යට කළ දේශනය'' හා ''ගෝතා වැඩ පිළිවෙළ ගැන විවරණය'' ද 1875 මාර්තු 18-28 එංගල්ස් ඔගස්ට් බෙබෙල්ට ලියූ ලියුමද, 1871 අප්‍රියෙල් 12 හා 17 දිනවල මාක්ස් ලුඩ්විග් කුගෙල්මාන්ට ලියූ ලිපිද බලන්න. (මාක්ස් සහ එංගල්ස්, ''තෝරාපත් කෘති'' දෙවැනි මුද්‍රණය වෙළුම 18, පිටුව 90; වෙළුම 17, පිටු 339-347; වෙළුම 19, පිටු 5, 9-32; වෙළුම 33, පිටු 172-173).

20 බ්ලාන්කිවාදය — ප්‍රංශ සමාජවාදී ව්‍යාපාරයේ උපනතියකි; එහි නාය-කයා වූයේ ප්‍රමුඛ විප්ලවවාදියෙක් හා ප්‍රංශ මනෝරාජික සමාජවාදයේ නියෝජිතයෙකු වූ ඔගස්ට් බ්ලාන්කි ය (1805-1881).

පංති අරගලය ප්‍රතික්ෂේප කළ බ්ලාන්කිවාදීහු, මිනිස් වර්ගයා නිදහස් කර ගැනීම නිර්ධන පංතියේ පංති අරගලය මගින් නොව, ඉතා සුළු පිරිසක් බුද්ධිමතුන් විසින් කරනු ලබන කුමණ්ත්‍රණයක් මගින් සිදුවෙතැයි අපේක්ෂා කළහ. (වී. අයි. ලෙනින්, ''සම්පූර්ණ කෘති'' 5 වැනි මුද්‍රණය, වෙළුම 13, පිටු 76). විප්ලවවාදී පක්ෂයක ක්‍රියාකාරී-ත්වය වෙනුවට, කුමන්ත්‍රණකාරීන් කණ්ඩායමක කටයුතු ආදේශ කිරීමේදී, බ්ලාන්කිවාදීහු, ජයග්‍රාහී නැගී සිටීමක් සඳහා අවශ්‍ය නියත තත්වය හා ජනතාව සමග සම්බන්ධකම් නොසළකා හැරියහ.

21 හතරවැනි රාජ්‍ය දූමා සභාව තුළ ඒ. එෆ්. කෙරෙන්ස්කි ට්‍රුදොවික් කණ්ඩායමට එකතුව සිටී අතර එම කණ්ඩායමේ සභාපති ධුරයද දැරුවේය.

22 සමස්ත රුසියා දුම්රිය සේවක සාකච්ඡා සභාව, 1917 අප්‍රියෙල් 6 සිට 20 (අප්‍රියෙල් 19 සිට මැයි 3) දක්වා පෙට්‍රොග්‍රෑඩ් නුවරදී පැවැත්විනි. සමගිකාරී පක්ෂවල නායකත්වය ඇතිව පැවැත්වුනු එය ආරක්ෂාවාදී ආකල්පයක් පිළිගත් අතර, තාවකාලික ආණ්ඩුවට සම්පූර්ණ සහයෝ-ගය ප්‍රකාශ කළේය. මෙන්ෂෙවික්වාදී ''යෙදින්ස්ත්වෝ'' ලියූ ලෙසට, සාකච්ඡා සභාවේ කථා කළ අයි. ඒ. තියෙඩොරොවිච් ''පොදු අදහසට කිසියම් අවුල් ගතියක් ඇතුලත් කළේය''. සාකච්ඡා සභාව විධායක කාරක සභාවක් පත් කර, දේශපාලන ප්‍රශ්න ගැන හා දුම්රිය ප්‍රවාහණය පිළියම් කිරීම සම්බන්ධ ප්‍රායෝගික ප්‍රශ්න ගැන උපදෙස්ද අනුමත කළේය.

23 අයි. ඒ. ක්‍රිලොව්ගේ ''බළලා සහ අරක්කැමියා'' යන මිථ්‍යා කථාවෙන් උපුටා ගැනීමකි.

24 එංගල්ස් ඕගස්ට් බෙබෙල් වෙත යැවූ 1875 මාර්තු 18-28 දින ඇති ලිපිය බලන්න. (මාක්ස් සහ එංගල්ස්.එකතු කළ කෘති, 2 වැනි මුද්‍රණය, වෙළුම 19, පිටුව 5)

25 කාල් මාක්ස්. ''ප්‍රංශයේ සිවිල් යුද්ධය. ජාත්‍යන්තර වැඩ කරන ජනතා සංගමයේ ප්‍රධාන මණ්ඩලයට කළ කථාව'' (මාක්ස් සහ එංගල්ස්. එකතු කළ කෘති, 2 වැනි මුද්‍රණය, වෙළුම 17, පිටු 346 බලන්න).

26 මෙහි අදහස් වන්නේ සමාජවාදී-විප්ලවවාදීන් එන්එස්වාදීන් හා තෘදෙවික්වරුන් ය.

27 ගොගොල්ගේ ''මළගිය ඇත්තෝ'' කථාවේ චරිතයකින් ගත් නමකි. එය බරපතලකමින් තොර හැඟීම් බර ඉඩම් හිමියෙකුගේ චරිතයකි. මෙම නම දුර්වල ආත්ම ශක්තියක් ඇති අඥාන සිහින මවන්නෙකු හඟවන්නකි.

28 පෙබියන්වරු — 1884 වර්ෂයේ ආරම්භ කරන ලද ඉංග්‍රීසි ප්‍රතිසංස්කරණවාදී සංවිධානයක් වූ ජේබියන් සමාජයේ සාමාජිකයින් මෙසේ හැඳින්විනි. ජේබියන් සමාජයේ සාමාජිකත්වය බොහෝ කොටම සමන්විත වූයේ උගතුන්, ලේඛකයන් හා දේශපාලනඥයන් වැනි ධනපති බුද්ධිමතුන් ගෙනි.නිර්ධන පංතික පංති අරගලයක හා සමාජවාදී විප්ලවයක අවශ්‍යතාවය පිළිගැනීම ප්‍රතික්ෂේප කළ ඔවුහු, සුළු ප්‍රතිසංස්කරණ මගින්, සමාජය ක්‍රමානුකූල ලෙස වෙනස් කිරීම මගින්, ධනපති ක්‍රමයේ සිට සමාජවාදයට සංක්‍රමණය විය හැකි යයි කීහ. ජේබියන්වාදය ''ඉතාමත් අවස්ථාවාදී උපනතියක් ලෙසට'' හඳුන්වමින් ලෙනින් එය විස්තර කළේය. 1900 දී ජේබියන් සමාජය කම්කරු පක්ෂයට එකතු විය.

ලෝක අධිරාජ්‍යවාදී යුද්ධය කාලයේදී ජේබියන්වරු සමාජ-ජාතෛයාන්මාදවාදී පිළිවෙත් අනුගමනය කළහ.

29 බ්‍රිතාන්‍ය කම්කරු පක්ෂය — (Labour Party) වෘත්තීය සමිතිද, සමාජවාදී සංවිධානද, කම්කරු නියෝජිතයන් පාර්ලිමේන්තුවට පත් කර යැවීමේ කණ්ඩායම්ද එකතුවූ සමිතියක් ලෙසට මෙය 1900 දී පිහිටුවන ලදී. එවකට, එය කම්කරු නියෝජනය සඳහා කාරක සභාව යනුවෙන් හැඳින්වුනද, 1906 දී කම්කරු පක්ෂය යන නම ආරූඪ කර ගත්තේය. වෘත්තීය සමිතිවල සාමාජිකයන් පක්ෂ සාමාජික මුදල් ගෙවත් නම්, ඔවුන් මෙම පක්ෂයේ සාමාජිකයන් ලෙසට ගැනේ.

කම්කරු පක්ෂය ආරම්භයේදී කම්කරුවන්ගේ පක්ෂයක් වූ නමුත් කල්යාමේදී සුළු ධනපතියන් බොහෝ දෙනෙක් එයට බැඳුනහ. එය දෘෂ්ටිය හා උපක්‍රම අතින් අවස්ථාවාදී පක්ෂයකි. එහි නායකයන් නිතරම අනුගමනය කළේ ධනපති පංතිය සමග පංති සහයෝගිතාවයේ ප්‍රතිපත්තියකි. ප්‍රථම ලෝක යුද්ධය සමයේදී එය සමාජ-ජාතෛයාන්මාදවාදී ප්‍රතිෂ්ඨාවක් ගත්තේය. කම්කරු පක්ෂය නොයෙක් වර ආණ්ඩු පිහිටුවා ඇති අතර ඒවා හැම එකක්ම බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදයේ ප්‍රතිපත්තිය අනුගමනය කළේය.

30 කම්කරු හෝ ශ්‍රමකරු කණ්ඩායම (Arbeitsgemeinschaft) 1916 වසන්තයේදී පිහිටුවන ලද ජර්මන් මැද පිරිසේ (කෞට්ස්කිවාදීන්ගේ) සංවිධානයකි. ඔවුහු සමාදානවාදී සටන්පාඨ ඉදිරිපත් කළ නමුත් සැබැවින්ම සමාජ-ජාතෛයාන්මාදවාදීන්ට ආධාර දීමෙහි යෙදුන අතර, ඔවුන්ගේ ප්‍රධාන ප්‍රහාරය, ජර්මන් අධිරාජ්‍යවාදී ආණ්ඩුවට හා යුද්ධයට විරුද්ධව සටන් කරමින් සිටි ජාත්‍යන්තර කණ්ඩායමට විරුද්ධව එල්ල කළහ. 1917 අප්‍රියෙල් මාසයේදී කම්කරු කණ්ඩායම් එක්ව ජර්මනියේ ස්වාධීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය පිහිටුවා ගත්හ.

31 සුළු පිරිස් හෝ ලොන්ගෙටිස්ට්වරු — 1915 දී ප්‍රංශ සමාජවාදී පක්ෂය තුළ හැඩ ගැසුනු මැද පිරිසට අයත් අල්පතරයකි. එහි නායකයා ජාන් ලොන්ගේ විය. ප්‍රථම ලෝක යුද්ධය කාලයේදී ඔවුහු සමාජ-සමාදානවාදී ස්ථාවරයක් ගත්හ. 1920 දෙසැම්බරයේ පැවැත්වුනු ප්‍රංශ සමාජවාදී පක්ෂයේ තූර්ස් සම්මේලනයේදී, එහි වාමාංශය ජයගත් පසු, අන්ත ප්‍රතිසංස්කරණවාදීන් සමග එක්වූ ලොන්ගෙටිස්ට්වරු පක්ෂයෙන් ඉවත්ව ගොස් ඊනියා දෙක හමාරේ ජාත්‍යන්තරයට බැඳුනහ. එය බිඳ වැටුනු පසුව ඔවුහු නැවත දෙවැනි ජාත්‍යන්තරය වෙත ආපසු පැමිණියහ.

32 බ්‍රිතාන්‍යයේ ස්වාධීන කම්කරු පක්ෂය (Independent Labour Party) — ක්‍රියාශීලී වැඩ වර්ජන ව්‍යාපාරය හා ධනපති පක්ෂවලින් බ්‍රිතාන්‍ය කම්කරු පංතිය නිදහස්වීම සඳහා නැගී ආ ව්‍යාපාරය අතරතුර, 1893 දී පිහිටුවන ලද ප්‍රතිසංස්කරණවාදී සංවිධානයකි. මෙම පක්ෂයේ නායකයින් වූයේ ජේමස් කෙයර් හාඩි හා ආර්. මැක්ඩොනල්ඩ්ය.

ආරම්භයේ පටන්ම ධනපති ප්‍රතිසංස්කරණවාදී ස්ථාවරයක් ගත් එය, එහි ප්‍රධාන අවධානය යොමු කළේ පාර්ලිමේන්තු ක්‍රමයේ අරගලයට හා ලිබරල් පක්ෂය සමග බෙරුම් කර ගැනීම් ඇති කර ගැනීමටය. ස්වාධීන කම්කරු පක්ෂය, ''ඇත්ත වශයෙන්ම නිතරම ධනපති පංතිය කෙරෙන් යැපුන අවස්ථාවාදී පක්ෂයක් විය'' යි ලෙනින් ලීවේය. (සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 39, පිටු 90)

ප්‍රථම ලෝක යුද්ධය ආරම්භ වූ අවස්ථාවේදී ස්වාධීන කම්කරු පක්ෂය යුද්ධයට විරුද්ධව ප්‍රකාශයක් කළ නමුත්, කල් නොයවාම සමාජ-ජාත්‍යෝන්මාදවාදී ක්‍රියාමාර්ගයක් අනුගමනය කළේය.

33 බ්‍රිතාන්‍ය සමාජවාදී පක්ෂය (British Socialist Party) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය හා අනෙකුත් සමාජවාදී කණ්ඩායම් ඒකාබද්ධ කිරීමෙන් 1911 මැන්චෙස්ටර්හි දී මෙම පක්ෂය පිහිටුවන ලදී. බ්‍රි.ස.ප. මාක්ස්වාදී අදහස්වලට ගැලපෙන සේ ප්‍රචාරක කටයුතු කළේය. එය ''අවස්ථාවාදී නොවූ අතර, ලිබරල්වාදීන්ගෙන් සැබැවින්ම නිදහස් විය''. (වී. අයි. ලෙනින්, සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය වෙළුම 23, පිටු 344).

එසේ වුවද, එහි සාමාජිකත්වය කුඩා වීම හා ජනතාව සමග එහි සම්බන්ධකම් සතුටුදායක නොවීම නිසා එය ස්වභාවයෙන් එක්තරා දුරකට නිකායවාදී විය. ප්‍රථම ලෝක යුද්ධය සමයේදී එහි බුද්ධිමතුන්ගේ (විලියම් ගැලකර්, ඇල්බට් ඉන්ක්පින්, ජෝන් මැක්ලීන්, තියඩෝර් රොත්ස්ටීන් හා අනිත් අයගේ) උපනතියක්, හින්ඩමාන්ගේ නායකත්වයෙන් යුත් සමාජ-ජාත්‍යෝන්මාදවාදී උපනතියක් අතර තියුණු අරගලයක් ඇති විය. ජාත්‍යන්තරවාදී උපනතිය තුළ සිටිමින් ප්‍රශ්න ගණනාවකදී මැද පිරිසේ ස්ථාවරයක් ගත් අස්ථිර කොටස්ද එය තුළ විය. 1916 පෙබරවාරි මාසයේදී පක්ෂයේ ක්‍රියාශීලී සාමාජිකයන් කණ්ඩායමක් "The Call" (''හඬ නැගීම'') යන පත්‍රය ආරම්භ කළහ. ජාත්‍යන්තරවාදීන් එක්සත් කිරීමෙහිලා එය වැදගත් කාර්ය කොටසක් ඉටු කළේය.1916 අප්‍රියෙල් මාසයේ සැල්පෝඩ්හිදී පවත්වන ලද බ්‍රි. ස. ප. වාර්ෂික සභාවේදී, හින්ඩමාන්ගේ සහ ඔහුගේ ආධාර කරුවන්ගේ සමාජ-ජාත්‍යෝන්මාදවාදී ස්ථාවරය හෙළා දකින ලදින් ඔවුහු පක්ෂයෙන් ඉවත් වූහ.

බ්‍රිතාන්‍ය සමාජවාදී පක්ෂය හා ඒසමග එක් වූ කොමියුනිස්ට් එක්සත් කණ්ඩායම, මහා බ්‍රිතාන්‍යයේ කොමියුනිස්ට් පක්ෂය පිහිටුවීමේ දී නායක කාර්ය කොටසක් ඉටු කළහ. 1920 දී පවත්වන ලද ප්‍රථම (සමගි) සම්මේලනයේදී බ්‍රි.ස.ප. ප්‍රාදේශීය සංවිධාන අතුරෙන් අතිබහුතරය, කොමියුනිස්ට් පක්ෂයට බැඳුනේය.



34 ට්සිමර්වෝල්ඩ් වාම කණ්ඩායම — 1915 සැප්තැම්බර් මස ට්සිමර්වෝල්ඩ්හිදී පවත්වන ලද ජාත්‍යන්තර සමාජවාදී සාකච්ඡා සභාවේදී, ලෙනින්ගේ ක්‍රියාරම්භකත්වය උඩ මෙය ආරම්භ කරන ලදී. රු. ස. ප්‍ර. ක. ප. නියෝජිතයන් අට දෙනාගෙන්ද, ස්වීඩනය, නෝර්වේ, ස්විට්සර්ලන්තය හා ජර්මනිය යන රටවල වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගෙන්ද, පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී විරුද්ධ පාර්ශ්වයෙන් ද, ලත්වියානු ප්‍රදේශයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගෙන්ද මෙම කණ්ඩායම සමන්විත විය. ලෙනින්ගේ නායකත්වයෙන් යුත් ට්සිමර්වෝල්ඩ් වාම කණ්ඩායම, සම්මේලනයේ මධ්‍යස්ථවාදී බහුතරයට විරුද්ධව අරගලයක් ගෙන ගියේය. ට්සිමර්වෝල්ඩ් සංවිධානය තුළ සිටිමින්ම, තම අදහස් ප්‍රචාරය කරන බවත්, ස්වාධීන ලෙස ජාත්‍යන්තර පරිමාණයෙන් කටයුතු කරන බවත් ඔවුහු ප්‍රකාශ කළහ.

සසංගත ජාත්‍යන්තරවාදී ස්ථාවරයක් ගත් එකම කණ්ඩායම වූ බෝල්ෂෙවික්වරු ට්සිමර්වෝල්ඩ් වාමාංශයේ මාර්ග දේශක බලවේගය වූහ.

35 ජාත්‍යන්තර කණ්ඩායම ජර්මන් වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ විප්ලවවාදී සංවිධානයක් විය. පසුව එය ස්පාර්ටකස් ලීගය යනුවෙන් නම් කරන ලදී. රෝසා ලුක්සෙම්බුර්ග් හා ප්‍රාන්ස් මේරිං 1915 අප්‍රියෙල් මස ආරම්භ කළ "Die Internationale" (''ජාත්‍යන්තරය'') යන පත්‍රය වටා, කාල් ලීබ්ක්නෙහ්ට්, රෝසා ලුක්සෙම්බුර්ග්, ප්‍රාන්ස් මේරිං ක්ලාරා ට්සෙත්කින් හා වෙනත් අය විසින් ප්‍රථම ලෝක යුද්ධය ආරම්භයේදී මෙම සංවිධානය පිහිටුවන ලදී. එය ''ජාත්‍යන්තරය'' යන නාමය යටතේ කණ්ඩායමක් ලෙස විධිමත්ව පිහිටුවන ලද්දේ 1916 ජනවාරි මාසයේදීය. 1916 පටන්, එය ''ස්පාර්ටකස්'' නමින් අත්සන් කරන ලද ''දේශපාලන ලියුම්'' නීති විරෝධී ලෙස පළ කළේය. එනිසා එය ස්පාර්ටකස් කණ්ඩායම යනුවෙන් හැඳින්විනි.

ස්පාර්ටකස් කණ්ඩායම ජනතාව අතර විප්ලවවාදී ප්‍රචාරය කර ගෙන ගියේය; වැඩ වර්ජනවලට නායකත්වය දුන්නේය; ප්‍රථම ලෝක යුද්ධයේ අධිරාජ්‍යවාදී ස්වභාවයත්, අවස්ථාවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නායකයන්ගේ ද්‍රෝහී භාවයත් හෙළිදරව් කළේය.

1917 දී ස්පාර්ටකස්වරු ජර්මනියේ මධ්‍යස්ථවාදී ස්වාධීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයට ඇතුළු වූහ. එහෙත් එය තුළ ඔවුන්ගේ නිදහස් භාවය ආරක්ෂා කර ගත්හ.

ජර්මනියේ 1918 නොවැම්බර් විප්ලවය කාලයේදී ස්පාර්ටකස් කණ්ඩායම, ''ස්පාර්ටකස් ලීගය'' යන නමින් පෙනී සිටි අතර 1918

දෙසැම්බර් 30—1919 ජනවාරි 1 දිනවල පැවැත්වුනු ආරම්භක සම්මේලනයේදී ජර්මනියේ කොමියුනිස්ට් පක්ෂය පිහිටෙව්වේය.

36 ''කම්කරු දේශපාලනය'' ("Arbeiterpolitik") — විද්‍යාත්මක සමාජවාදය පිළිබඳ ප්‍රශ්න ගැන ලියූ සතිපතා සඟරාවකි. එය 1919 ජර්මන් කොමියුනිස්ට් පක්ෂයට බැඳුනු වාම උන්නතිකාමීන්ගේ බ්‍රෙමන් කණ්ඩායමේ නිල ප්‍රකාශනය විය. එය 1916 සිට 1919 දක්වා බ්‍රෙමන්හි පළ කරන ලදී.

37 ''හෙට'' ("Demain") — හෙන්රි ගිල්බෝ නැමති ජාත්‍යන්තරවාදී ප්‍රංශ ලේඛකයා සහ පුවත්පත් කලාවේදියා විසින් ආරම්භ කරන ලද හා 1916 ජනවාරි මස සිට 1919 දක්වා පළ කෙරුණු සාහිත්‍යික හා දේශපාලන මාසිකයක් විය.

38 ''වෘත්තීය සමිතිවාදියා'' ("The Trade-Unionist") — 1915 නොවැම්බර් සිට 1916 නොවැම්බර් දක්වා ලන්ඩනයෙහි පළවූ බ්‍රිතාන්‍ය වෘත්තීය සමිති පත්‍රයකි.

39 ඇමෙරිකාවේ සමාජවාදී කම්කරු පක්ෂය — පළමුවැනි ජාත්‍යන්තරයේ ඇමෙරිකානු කොටස් සහ වෙනත් සමාජවාදී සංවිධාන ඒකාබද්ධ කිරීමෙන්, 1876 පිලඩෙල්පියා සම්මේලනයේදී මෙම පක්ෂය පිහිටුවන ලදී. පක්ෂයේ සාමාජිකයින්ගෙන් බහුතරය වූයේ ඇමෙරිකාවේ පාරම්පරික කම්කරුවන් සමග අඩු සම්බන්ධකම් පැවති සංක්‍රමණිකයින්ය. පළමු අවුරුදුවලදී පක්ෂයේ නායක ධුරවලට ලාසාල්වාදීහු පත්වූහ. ඔවුහු කණ්ඩායම්වාදී, පොතේගුරුවාදී ස්වරූපයේ වැරදි කළහ. පක්ෂයේ නායකයින්ගේ දෘෂ්ටිමය හා උපක්‍රම පිළිබඳ වැනෙන සුලු භාවය නිසා කණ්ඩායම් කීපයක්ම ඉන් ඉවත් විය, පක්ෂයද දුර්වල විය.

1890 වන විට සමාජවාදී කම්කරු පක්ෂයේ නායකත්වයට ඩී. ඩෙ-ලියොන්ගේ නායකත්වයෙන් යුත් වාමාංශිකයෝ පත්වූහ. ඔවුහුද ආරාජිකවාදී-සින්ඩිකත්වාදී ස්වරූපයේ වැරදි රැසක්ම කළහ.

ප්‍රථම ලෝක යුද්ධය සමයේදී සමාජවාදී කම්කරු පක්ෂය ජාත්‍යන්තරවාදය දෙසට නැඹුරු විය. 1919 දී එහි විප්ලවවාදී අංශය ඇමෙරිකාවේ කොමියුනිස්ට් පක්ෂය සංවිධානය කිරීමට සහභාගි විය.



40 ඇමෙරිකාවේ සමාජවාදී පක්ෂය — සමාජවාදී කණ්ඩායම් ගණනාවක් ඒකාබද්ධ කිරීමෙන්, 1901 ඉන්ඩියනෝපොලිස් සම්මේලනයේදී මෙම පක්ෂය පිහිටුවන ලදී.ප්‍රථම ලෝක යුද්ධය කලයේදී මෙම පක්ෂය තුළ ප්‍රවණතාවයන් තුනක් මතුවිය. ආණ්ඩුවේ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තියට ආධාර කළ සමාජ-ජාත්‍යෝන්මාදවාදීන්ද, අධිරාජ්‍යවාදී යුද්ධයට විරුද්ධ අරගලයට කථාවෙන් පමණක් සහයෝගය දක්වූ මැද පිරිසද, ජාත්‍යන්තරවාදී ස්ථාවරයක් ගනිමින් ක්‍රියාශීලී ලෙස යුද්ධයට විරුද්ධ වූ (චාල්ස් රූදෙන්බර්ග්, විලියම් පෝස්ටර්, විලියම් හේවුඩ් සහ වෙනත් අය) විප්ලවවාදී සුළු පිරිසද එම ප්‍රවණතාවයන් විය.

1919 දී සමාජවාදී පක්ෂය භේද විය. පක්ෂයෙන් ඉවත්වී ගිය වාමාංශය ඇමෙරිකාවෙ කොමියුනිස්ට් පක්ෂය පිහිටුවීමේ ප්‍රධාන බලවේගය හා එම පක්ෂයේ අරටුවද විය.

41 ''ජාත්‍යන්තරවාදියා'' ("The Internationalist") — ඇමෙරිකානු සමාජවාදීන්ගේ වාමාංශයේ සතිපතා ප්‍රවෘත්ති පත්‍රයකි. 1917 ආරම්භයේදී සමාජවාදී ප්‍රචාරය සඳහා ඇමෙරිකානු ලීගය විසින් බොස්ටන්හි පළ කරන ලදී.

42 ත්‍රිබියුන්වාදීන් — ඕලන්දයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජිකයන් මෙසේ හැඳින්විනි. එම පක්ෂයේ අදහස් ප්‍රකාශ කළ පත්‍රය වූයේ ''ත්‍රිබියුන්'' යි. ත්‍රිබියුන්වාදීන් සසංගත විප්ලවවාදී පක්ෂයක් නොවූ නමුත් ඔවුහු ලන්දේසි කම්කරු ව්‍යාපාරයේ වාමාංශය නියෝජනය කළ අතර ප්‍රථම ලෝක යුද්ධය කාලයේදී ප්‍රධාන වශයෙන් ජාත්‍යන්තරවාදී වූ ස්ථාවරයක් ගත්හ.

1918 දී ත්‍රිබියුන්වාදීහු ඕලන්ද කොමියුනිස්ට් පක්ෂය පිහිටවූහ.

"De Tribune" (වේදිකාව) — ඕලන්දයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ වාමාංශය විසින් 1907 දී ආරම්භ කරන ලද ප්‍රවෘත්ති පත්‍රයකි. වාම සාමාජිකයන් පක්ෂයෙන් නෙරපනු ලැබීමෙන් පසුව, ඔවුන් ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය පිහිටවූ අතර, පත්‍රය එම පක්ෂයේ නිල පත්‍රය විය. 1918 දී එය ලන්දේසි කොමියුනිස්ට් පක්ෂයේ නිල පත්‍රය විය. එය 1940 දක්වා "De Tribune" යන නම යටතේම පළ විය.

43 යෞවනයන්ගේ පක්ෂය, නැතහොත් වාමාංශය — මෙය ස්වීඩන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ වාමාංශයට ලෙනින් තැබූ නමය. ප්‍රථම ලෝක යුද්ධයේදී ජාත්‍යන්තරවාදී ස්ථාවරයක් ගත් ඔවුහු ට්සිමර්-

වෝල්ඩ් වාමාංශය සමග පෙළ ගැසුනහ. 1917 මැයි මාසයේදී ඔවුහු ස්වීඩනයේ වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය පිහිටුවා ගත්හ. 1919 සම්මේලනයේදී මෙම පක්ෂය කොමියුනිස්ට් ජාත්‍යන්තරයට සම්බන්ධ වීමට තීරණය කළේය. එම පක්ෂයේ විප්ලවවාදී අංශය 1921 දී ස්වීඩන කොමියුනිස්ට් පක්ෂය පිහිටුවා ගත්හ.

44 තෙස්න්‍යාකි — බුල්ගේරියාවේ විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය; මෙය 1903 දී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය බිඳ වැටීමෙන් පසු පිහිටුවන ලදී. තෙස්න්‍යාකි අධිරාජ්‍යවාදී යුද්ධයට විරුද්ධ විය. 1919 දී කොමියුනිස්ට් ජාත්‍යන්තරයට සම්බන්ධ වූ ඔවුහු බුල්ගේරියාවේ කොමියුනිස්ට් පක්ෂය පිහිටවූහ.

45 ''ඉදිරියට'' ("Avanti!") — 1886 වර්ෂයේ රෝමයේදී ආරම්භ කරන ලද දිනපතා පත්‍රයක් වූ මෙය ඉතාලියානු සමාජවාදී පක්ෂයේ නිල පත්‍රය විය.

46 1912 වර්ෂය ආරම්භයේදී පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ භේදයක් ඇති විය. එම භේදය ඇති වූයේ ලික්විඩේටර්වරුන් සමග බේරුමකට පැමිණීමේ ප්‍රතිපත්තිය පිළිගත් මධ්‍ය විධායකයේ (සෂොන්-දෙව්වරු) ආධාර කරුවන් සහ ලික්විඩේටර්වරුන්ට විරුද්ධ වෙමින් බෝල්ෂෙවික්වරු සමග සහයෝගී වූ ප්‍රාදේශීය විධායකයේ (රස්ල-මෝව්වරු) අනුගාමිකයන් අතරය.

පළමු ලෝක යුද්ධය කාලයේදී මෙම කණ්ඩායම් දෙක එක පක්ෂයකට එක්සත් වූ අතර එම පක්ෂය ජාත්‍යන්තරවාදී ස්ථාවරයක් ගත්තේය.

47 මෙම යෝජනාව ලෙනින් විසින් ලියන ලද්දකි, 1917 පෙබරවාරි 11 හා 12 දිනවල තොස්හි පැවති, ස්විස් වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ සූරිච් කැන්ටන ප්‍රදේශ සම්මේලනයේදී ඔවුහු එය තමන්ගේ නමින් ඉදිරිපත් කළහ.

48 ලෙනින් සඳහන් කරන්නේ 1891 පටන් 1933 දක්වා හෙම්නිට්ස්හි පළ කරන ලද, ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නිල පත්‍රය වූ ''ජන හඬ'' ("Volksstimme") පත්‍රය ගැනය.

''ඝන්ටාව'' ("Die Glocke") ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජික, සමාජ-ජාතෝන්මාදවාදී පාර්වූස් (ඒ. එල්. ගෙල්පන්ඩ්) 1915 සිට 1925 දක්වා මියුනික්හි හා පසුව බර්ලිනයේ පළ කළ දෙසතිපතා සඟරාවකි.

49 මෙහි සඳහන් කර ඇත්තේ 1916 දී කීයෙන්තාල්හි පැවැත්වුනු දෙවැනි ජාත්‍යන්තර සමාජවාදී සාකච්ඡා සභාවේදී අනුමත කරන ලද ''විනාශයට හා මරණයට පත්වන ජනතාව වෙත'' යන ආයාචනය ගැනය.

50 ලෙනින් ඔහුගේ ''ධනපති සමාදානවාදය සහ සමාජවාදී සමාදානවාදය'' යන කෘතියෙන් ප්‍රංශ සමාජවාදී පක්ෂයේ යෝජනා විවේචනය කළ අතර ඒ සඳහා එහි පරිච්ඡේදයක් වෙන් කළේය. එහි සිරස්තලය, ''ප්‍රංශ සමාජවාදීන්ගේ සහ සම්මේලවාදීන්ගේ සමාදානවාදය'' විය. යුද්ධය අවසාන කිරීමට අදාළ වන කොන්දේසි පිළිබඳව තමන්ගේ අදහස් ප්‍රකට කරන ලෙස සියළුම ජාතීන්ගෙන් ඉල්ලමින් සාමය ඇති කිරීමේ යෝජනාවක්, එනම්, අධිරාජ්‍යවාදී සාමයකින් අධිරාජ්‍යවාදී යුද්ධය අවසන් කිරීමේ යෝජනාවක් ඉදිරිපත් කළ එක්සත් ජනපදයේ විල්සන්ට යෝජනා දෙකෙන්ම ශුභ පතන ලදී.

51 තරුණයින්ගේ ජාත්‍යන්තරය ("Jugend Internationale") — මෙය ට්සිමර්වෝල්ඩ් වාමාංශයට සම්බන්ධ සමාජවාදී තරුණ සංවිධානවල ජාත්‍යන්තර සංගමයේ නිල ප්‍රකාශනය විය. එය 1915 සැප්තැම්බර් මස සිට 1918 මැයි මස දක්වා සූරිච්හි පළ විය.

52 අධිරාජ්‍යවාදී යුද්ධය නොනවත්වා කරගෙන යාමට වියදම් දැරීම සඳහා තාවකාලික ආණ්ඩුව විසින් නිකුත් කරන ලද ''විමුක්ති ණය මුදලට'' සහයෝගය දැක්වීමට පක්ෂවූ යෝජනාවක් පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවේ විධායක කාරක සභාව විසින් 1917 අප්‍රියෙල් 7 (20) දින 21 පක්ෂව හා 14 ක් විරුද්ධව ලැබුණු වැඩි ඡන්දයකින් සම්මත කෙරුණි. එම යෝජනාවට සහයෝගය දැක්වීම යුද්ධ ණය සඳහා ඡන්දය දීමට සමාන බව ප්‍රකාශ කරමින්, එම විධායක කාරක සභාවේ බොල්ෂෙවික් සාමාජිකයෝ එම ණය මුදලට විරුද්ධ වූහ. තවද ඔවුහු ඔවුන්ගේ විරුද්ධත්වය පැහැදිලි කරන විස්තර ප්‍රකාශයක් සහිත යෝජනාවක්ද ඉදිරිපත් කළහ.

53 ''රබෝචිය ගසියෙත'' (''කම්කරුවන්ගේ පුවත්පත'') — 1917 මාර්තු මස සිට නොවැම්බර් මස දක්වා පෙට්‍රොග්‍රෑඩ්හි පළ කෙරුණු මෙන්-

ෂෙවික් දිනපතා පත්‍රයකි. මෙම පත්‍රය තාවකාලික ආණ්ඩුවට ආධාර කළ අතර, බෝල්ෂෙවික් පක්ෂයට හා එහි නායක වී. අයි. ලෙනින්ට විරුද්ධ විය. එය ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට සතුරු ආකල්පයක් දැක්වූයේ ය.

54 කාල් මාක්ස් — ''ගොතා වැඩ පිළිවෙළ ගැන විවරණය'', ෆ්‍රෙඩ්රික් එංගල්ස් — "Internationales aus dem Volksstaat" — කෘතියට පෙරවදන. (මාක්ස් සහ එංගල්ස්, තෝරාගත් කෘති, වෙළුම 3, පිටු 13-30 බලන්න).

55 හයින්ගේ මෙම කියමන, මාක්ස් හා එංගල්ස් ප්‍රථමයෙන් උපුටා දැක්වූයේ ඔවුන්ගේ ''ජර්මන් දෘෂ්ටිය'' (දෙවැනි වෙළුම, 4 වැනි පරිච්ඡේදය, 4 කොටස, ''සේන්-සිමොන් ගුරුකුලය'') කෘතියෙහිය.

56 මෙම සඳහන කර ඇත්තේ රු. ස. ප්‍ර. ක. (බො.) ප. හත්වැනි සමස්ත රුසියා (අප්‍රියෙල්) සාකච්ඡා සභාව ගැනය. එය 1917 අප්‍රියෙල් 24 සිට 29 (මැයි 7 සිට 12) දක්වා පෙට්‍රොග්‍රෑඩ්හි පැවැත්විණි.

57 ''සොල්දත්ස්කයා ප්‍රාව්ද'' (''සොල්දාදුවන්ගේ ඇත්ත'') — ප්‍රථමයෙන් රු. ස. ප්‍ර. ක. (බො.) ප. පෙට්‍රොග්‍රෑඩ් කාරක සභාවේ යුද්ධ සංවිධානයේ නිල පත්‍රය ලෙසටද, අනතුරුව, රු. ස. ප්‍ර. ක. (බො.) ප. මධ්‍යම කාරක සභාවේ යුද්ධ සංවිධානයේ නිල පත්‍රය ලෙසටද, 1917 අප්‍රියෙල් පටන් 1918 මාර්තු දක්වා පළ කෙරුණු දිනපතා බොල්ෂෙවික් පත්‍රයකි.

58 ටිසිමර්වෝල්ඩ් සමාජවාදීන්ගේ තුන්වැනි සාකච්ඡා සභාව 1917 මැයි 31 දින ස්ටොක්හෝම්හි රැස්විය යුතු යයි ජාත්‍යන්තර සමාජවාදී කොමිසම යෝජනා කළේය. නමුත් එම සාකච්ඡා සභාව කීප වරක්ම කල් දමන ලදී. ටිසිමර්වෝල්ඩ් හවුල තුළ මැද පිරිස සමාජ-ජාත්‍යෝන්මාදවාදය දෙසට හැරී තිබෙන නිසා, බොල්ෂෙවික්වරු වහාම එයින් ඉවත් වී තුන්වැනි ජාත්‍යන්තරය සංවිධානය කිරීමට කටයුතු තුළ යුතු යයි ලෙනින් අදහස් කළේය. මෙම සාකච්ඡා සභාවට බොල්ෂෙවික්වරුන්ට සහභාගි විය හැක්කේ ප්‍රවෘත්ති කටයුතු සඳහා පමණකැයි ලෙනින් අදහස් කළේය. එම සාකච්ඡා සභාවට බොල්ෂෙවික් නියෝජිතයන් යැවීමට සමස්ත රුසියා හත්වැනි (අප්‍රියෙල්) සාකච්ඡා සභාව ජී. ඊ. සිනොවියෙව් යෝජනාව පරිදි තීරණය කළේය.

එම සාකච්ඡා සභාව 1917 සැප්තැම්බර් 5 සිට 12 දක්වා දිනවල පවත්වන ලදී. ටිසිමර්වෝල්ඩ් සංගමය සඳහටම බංකොලොත් වන බව හා ඔවුන්ගෙන් ඉක්මනින්ම ඉවත්වී තුන්වැනි ජාත්‍යන්තරය ආරම්භ කළ යුතු යයි ලෙනින් ගත් තීරණය නිවැරැදි බව තුන්වැනි ටිසිමර්වෝල්ඩ් සාකච්ඡා සභාවේ වැඩ කටයුතුවලින් සම්පූර්ණයෙන්ම ඔප්පු විය. තුන්වැනි සාකච්ඡා සභාව එම සංගමයේ අවසාන සාකච්ඡා සභාව විය.

59 ''ප්‍රාව්ද'' (''ඇත්ත'') — 1912 අප්‍රියෙල් 22 (මැයි 3) දින පටන් සාන්ත-පීටර්ස්බර්ග් හි පළ කරන ලද නීති විරෝධී බොල්ෂෙවික් පත්‍රයකි.

මෙම පුවත්පත පළ කෙරුණේ කම්කරුවන් විසින් එකතු කළ මුදල්වලිනි. එහි සාමාන්‍ය දෛනික ප්‍රචාරය පිටපත් 40 000 ක් වූ අතර සමහර විට එය 60 000 දක්වා ඉහළ ගියේය.

''ප්‍රාව්ද'' පත්‍රය නිරන්තර පොලිස් හිරිහැරවලට පාත්‍ර වූ අතර 1914 ජූලි 8 (21) දින වසා දමන ලදී.

එය පළකිරීම නැවත ආරම්භ වූයේ 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසුවය. 1917 මාර්තු 5(18) දින පටන් එය රු. ස. ප්‍ර. ක. ප. මධ්‍යම කාරක සභාවේ සහ පක්ෂයේ පෙට්‍රොග්‍රෑඩ් කාරක සභාවේ නිල පත්‍රය ලෙසට පළ විය. ලෙනින් විදේශයෙහි සිට ආපසු පැමිණීමෙන් පසුව අප්‍රියෙල් 5(18) දින ''ප්‍රාව්ද'' කර්තෘ මණ්ඩලයට බැඳී එහි ප්‍රධාන කර්තෘ විය. 1917 ජූලි සිට ඔක්තෝබර් දක්වා මෙම පත්‍රය ප්‍රතිවිප්ලවවාදී ධනපති තාවකාලික ආණ්ඩුව විසින් පීඩනයට භාජන කරන ලදින් එය නිතර නිතර එහි නම වෙනස් කරමින් ''ලිස්තොක් ප්‍රාව්දී'' (''ප්‍රාව්ද ප්‍රවෘත්ති පත්‍රිකාව''), ''ප්‍රොලිතාරි'' (''නිර්ධන පංතිකයා''), ''රබෝචි'' (''කම්කරුවා'') හා ''රබෝචි පුත්'' (''කම්කරු මාවත'') යන නම්වලින් පළ කෙරුණි, ඔක්තෝබර් සමාජවාදී විප්ලවයේ ජයග්‍රහණයෙන් පසුව 1917 ඔක්තෝබර් 27 (නොවැම්බර් 9) දින පටන් පක්ෂයේ ප්‍රධාන නිල පත්‍රය එහි පැරණි ''ප්‍රාව්ද'' යන නමින් පළ විය.

60 සභාග තාවකාලික ආණ්ඩුව පිහිටුවන ලද්දේ, මිත්‍ර අධිරාජ්‍යවාදී රටවල් සමග සාර්වාදී ආණ්ඩුව ඇති කරගත් ගිවිසුම් සියල්ලම අනුව කටයුතු කිරීමට තාවකාලික ආණ්ඩුව සූදානම් බව ස්ථිර කරමින්1917 අප්‍රියෙල් 18 (මැයි 1) දින විදේශ කටයුතු භාර ඇමති මිල්යුකොව් එරටවල ආණ්ඩුවලට යැවූ ලිපියක් නිසා ඇති වූ අර්බුදයේ ප්‍රතිඵලයක් වශයෙනි.අප්‍රියෙල් 20 හා 21 (මැයි 3 හා 4) දින වන විට කම්කරුවන්ගේ හා සොල්දාදුවන්ගේ බලගතු ව්‍යාපාරයක් බවට පරිවර්තනය වූ

සාංසිද්ධික විරෝධය පෑම හමුවේ, ප්‍රතිපත්තිය වෙනස් කළ බවක් පෙන්වීම පිණිස තාවකාලික ආණ්ඩුව, විදේශ ඇමති මිල්යුකොව්ගේ සහ යුද්ධ ඇමති ගුච්කොව්ගේ ඉල්ලා අස්වීම භාර ගෙන සභාග ආණ්ඩුවක් පිහිටුවීමේ යෝජනාව පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවට දැන්වීය. තම සාමාජිකයන් තාවකාලික ආණ්ඩුවට සම්බන්ධ නොවිය යුතු බවට සෝවියට් සභාව මාර්තු 1(14) දින ගත් තීරණය නොතකා මැයි 1(14) දින එහි විධායක කාරක සභාව පැවැත්වූ විශේෂ රැස්වීමකදී තාවකාලික ආණ්ඩුවේ යෝජනාව පිළිගන්නා ලදී.

සාකච්ඡා පැවැත්වීමෙන් පසුව මැයි මස 5(18) දින නව ආණ්ඩුවේ තනතුරු බෙදා ගැනීම සම්බන්ධයෙන් එකඟත්වයක් ඇති විය. ඒ අනුව ධනපති ඇමතිවරු 10 දෙනාට අමතරව, සමාජවාදී ඇමතිවරු පස් දෙනෙක්, එනම්, කෙරෙන්ස්කි යුද්ධ හමුදාව හා නාවුක හමුදාව භාර ඇමති වශයෙන්ද, ස්කොබෙලියෙව් කම්කරු ඇමති වශයෙන්ද, චෙර්නොව් කෘෂිකර්ම ඇමති වශයෙන්ද, පෙෂෙහෝනව් ආහාර ඇමති වශයෙන්ද, ට්සෙරෙතේලි තැපැල් හා විදුලි පණිවුඩ කටයුතු භාර ඇමති වශයෙන්ද ඇමති මණ්ඩලයට ඇතුලත් කරගන්නා ලදී. විවෘත ලෙස ධනපති පංතියේ පැත්ත ගත් සමාජවාදී-විප්ලවවාදීන් හා මෙන්ෂෙවික්වරුන් විසින් ධනපති තාවකාලික ආණ්ඩුව බේරා ගන්නා ලදී.

61 ලෙනින් සඳහන් කරන්නේ 1917 මැයි 11(24) දින යුද්ධ ඇමති කෙරෙන්ස්කි ප්‍රකාශයට පත් කළ නියෝගයක් ගැනය. එයින් ''සොල්දාදුවෙකුගේ අයිතිවාසිකම්'' විස්තර කෙරුණු අතර, යුද්ධ භූමියේ අකීකරුකම් දැක්වූ අවස්ථාවක උසස් නිලධාරියෙකුට බලහත්කාරය යෙදීමට ඉඩ දෙන වගන්තියක්ද ඊට ඇතුලත් විය. මෙම වගන්තිය එල්ල කරන ලද්දේ පහර දීමට යාම ප්‍රතික්ෂේප කළ සොල්දාදුවන්ට හා නිලධාරීන්ට විරුද්ධවය. මෙම නියෝගය පළ කිරීමත් හා සමග එක්වරම, රෙජිමේන්තු විසුරුවා හැරීමටත්, ''අකීකරුවීමට පෙළඹවීම'' සම්බන්ධයෙන් නිලධාරීන්ට හා සොල්දාදුවන්ට විරුද්ධව නඩු පැවරීමටත් කෙරෙන්ස්කි කටයුතු කළේය.

62 රු. ස. ප්‍ර. ක. (බො.) ප. පෙට්‍රොග්‍රෑඩ් නාගරික සාකච්ඡා සභාව 1917 අප්‍රියෙල් 14-22 (අප්‍රියෙල් 27-මැයි 5) දිනවලදී පවත්වන ලදී.

එම සාකච්ඡා සභාවේ යෝජනා වැඩි වශයෙන්ම රු. ස. ප්‍ර. ක. (බො.) ප. හත්වැනි සමස්ත රුසියා (අප්‍රියෙල්) සාකච්ඡා සභාවේ යෝජනා මත පදනම් විය.



63 ''රෙච්'' (''කථාව'') — කැඩෙට් පක්ෂයේ ප්‍රධාන නිල පත්‍රය වූ දිනපතා පත්‍රයකි. 1906 සිට 1917 ඔක්තෝබර් දක්වා සාන්ත-පීටර්ස්බර්ග්හි පළ කෙරිනි.

64 ''දියල නරෝද'' (''ජනතා ව්‍යාපාරය'') — සමාජවාදී-විප්ලවවාදී පක්ෂයේ මැද පිරිස් කණ්ඩායමේ නිල පත්‍රය විය. දිනපතා පත්‍රයක් වූ මෙය, 1917 මාර්තු සිට 1918 ජූලි දක්වා පෙට්‍රොග්‍රෑඩ්හි පළ කරන ලදී.

65 මාක්ස් 1871 අප්‍රේල් 17 දින කුගෙල්මාන් වෙත ලියූ ලිපිය බලන්න (මාක්ස් සහ එංගල්ස්, තෝරාගත් කෘති, දෙවන මුද්‍රණය, වෙළුම 33, පිටු 175).

66 එර්ෆුට් වැඩ පිළිවෙළ — මෙය 1891 ඔක්තෝබරයේදී එර්ෆුට් සම්මේලනයේදී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය පිළිගත් එහි වැඩ පිළිවෙළය. ධනපති ක්‍රමය විනාශ වීම හා ඒ වෙනුවට සමාජවාදී ක්‍රමය ස්ථාපිත වීම අනිවාර්යය බව කියන මාක්ස්වාදී උගැන්වීම මත පදනම් වූ එම වැඩ පිළිවෙළ කම්කරු පංතිය දේශපාලන අරගලයක් කිරීමේ අවශ්‍යතාවය ගැන අවධාරණය කරමින් එම අරගලයේදී පක්ෂයට පැවරෙන නායක කාර්ය කොටස යනාදිය පෙන්නුම් කළේය. එසේ වුවද, බරපතල ලෙස අවස්ථාවාදයට ඉඩ දීම එම වැඩ පිළිවෙළෙහි දක්නට තිබුණි. නිර්ධන පංති ආඥාදායකත්වය ගැන එය කිසිවක් නො කීවේය. එංගල්ස්, ඔහුගේ ''1891 කෙටුම්පත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වැඩ පිළිවෙළ ගැන විවේචනය'' මගින් එර්ෆුට් වැඩ පිළිවෙළෙහි මුල් කෙටුම්පත අංග සම්පූර්ණ ලෙස විවේචනය කළේය. එංගල්ස්ගේ විවේචන පක්ෂයෙන් වසං කර තැබූ ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නායකයෝ, අවසාන වැඩ පිළිවෙළ සකස් කිරීමේදී එංගල්ස්ගේ ඉතාමත් වැදගත් නිරීක්ෂණයන් නොතකා හැරියහ.

67 ප්‍රෙඩ්රික් එංගල්ස්. ''1891 අවුරුද්දේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී වැඩ පිළිවෙළ කෙටුම්පත විවේචනය ගැන'' (කාල් මාක්ස්, ප්‍රෙඩ්රික් එංගල්ස්. තෝරාගත් කෘති, දෙවැනි මුද්‍රණය, වෙළුම 22, පිටුව 234)

68 මෙම සඳහන පෙට්‍රොග්‍රෑඩ් පක්ෂ කාරක සභාවේ සාමාජිකයින් අතුරෙන් කුඩා කණ්ඩායමක අතිධාවනකාරී උපක්‍රම ගැනය. 1917 අප්‍රියෙල් පෙළපාලි පැවැත්වෙන අවස්ථාවේදී, ඔවුහු වහාම තාවකාලික ආණ්ඩුව පෙරළා දැමීම සඳහා සටන් පාඨය ඉදිරිපත් කළහ. එය සාමකාමී

ලෙස විප්ලවය සංවර්ධනය කිරීම පිළිබඳ පක්ෂයේ ප්‍රතිපත්තියට පටහැණි වූ හෙයින්, අතිධාවනකාරී සහ වැරදි සටන් පාඨය විය.

[69] මෙම සඳහන 1904-1905 රුසියා ජපන් යුද්ධයෙන් රුසියාව පරාජය වීම ගැනය.

[70] ''බිර්ෂෙවියේ වියදමස්ති'' (''ව්‍යාපාර-වෙළෙඳ පොළ වාර්තා කරු'') — 1880 පටන් 1917 දක්වා සාන්ත-පීටර්ස්බර්ග්හි පළ කෙරුණු ධනපති පත්‍රයකි. එහි කෙටි නම වූ ''බිර්ෂෙව්කා'' යන්න අකාරුණික භාවය, දූෂිත භාවය හා ප්‍රතිපත්ති විරහිත භාවය හඟවන්නක් බවට පත් විය.

[71] පක්ෂ වැඩ පිළිවෙළ නැවත සකස් කිරීම පිළිබඳ මෙම යෝජනාවට ඡන්දය දීමෙන් තිදෙනෙකු වැලකුණු අතර එය වැඩි ඡන්දයෙන් සම්මත විය.

නව පක්ෂ වැඩ පිළිවෙළක් සකස් කිරීමේ වැඩ කටයුතු ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසුව සම්පූර්ණ කරන ලදී. 1918 මාර්තු මස පැවැත්වුනු රු. කො. (බො.) ප. අටවැනි සම්මේලනයේ දී නව වැඩ පිළිවෙළ අනුමත කරන ලදී.

[72] මාක්ස් සහ එංගල්ස්, ''කොමියුනිස්ට් ප්‍රකාශනය'' (මාක්ස් සහ එංගල්ස්, ''තෝරාගත් කෘති'', දෙවැනි මුද්‍රණය, වෙළුම 4, පිටු 444 බලන්න)

[73] ස්ටොක්හෝම් සම්මේලනය — රු. ස. ප්‍ර. ක. ප. හතරවැනි (ඒකාබද්ධ) සම්මේලනය 1906 අප්‍රියෙල් 10-25 (අප්‍රියෙල් 23-මැයි 8) පවත්වන ලදී.

[74] ''104 දෙනාගේ පණත'' — පළමුවැනි දූමා සභාවේ මන්ත්‍රීවරු 104 දෙනෙකුගේ අත්සන් ඇතිව, 1906 මැයි 23 (ජූනි 5) දින තෘදෙවික්වරු දූමා සභාවට ඉදිරිපත් කළ ගොවිජන පණත් කෙටුම්පතකි.

රාජයේ ඉඩම්, රජ පවුලට අයත් ඉඩම්, කැබිනට් ඉඩම්, පල්ලි හා පන්සල්වලට අයිති ඉඩම් ඇතුලත් වන''ජාතික ඉඩම් සංචිතයක්'' බෙදු දීම සඳහා ඇති කරන ලෙස තෘදෙවික්වරු ඉල්ලා සිටියහ. ප්‍රාදේශීය වශයෙන් ගත් කල ඉඩම් ප්‍රමාණයේ සීමාව ඉක්මවා යන නිසා පෞද්ගලික ඉඩම් හිමියන්ට අයිති බන්දගම් ආදියද මෙම සංචිතයට පවරා ගතයුතු බව ඔවුහු කියා සිටියහ.



ඉඩම් හිමියන්ගෙන් පවරා ගන්නා ඉඩම් සඳහා වන්දි ගෙවීමටද එහි කටයුතු සලසා තිබිණ.

සුළු ඉඩම් හිමියන්ට අයිති කුඩා ඉඩම් හා කට්ටි ඉඩම් තාවකාලික වශයෙන් ඉඩම් හිමියන්ටම අයත්ව තිබීමට ඉඩ හැර පසුව කුමක ක්‍රමයෙන් ඒවාද ජාතික සංචිතයට අයිවන ලෙස එහි කටයුතු කර තිබිණි. ගොවි ප්‍රතිසංස්කරණය කළ යුතු තිබුනේ සර්වජන රහස් ඡන්දයකින් තෝරා පත් කරන ලද ප්‍රාදේශීය කාරක සභා මගිනි.

[75] මෙහි සඳහන් කර ඇත්තේ ලෙනින් 1907 දී ලියූ ''1905-1907 ප්‍රථම රුසියානු විප්ලවයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ගොවි ජන වැඩ පිළිවෙළ'' යන පොත ගැනය.

මෙම 1908 දී සාන්ත-පීටර්ස්බර්ග්හි මුද්‍රණය කරන ලද නමුත්, එය මුද්‍රණකරු වෙතම තිබියදී අල්ලාගත් පොලිසිය එය විනාශ කළේය. බේරා ගත හැකි වූයේ එකම පිටපතක් පමණකි, මෙම පොත ප්‍රථමයෙන් පළ කරන ලද්දේ 1917 දීය.

[76] මෙහි සඳහන් වන්නේ ඇමති මණ්ඩලයේ සභාපති තැන්පත් පී. ඒ. ස්තලිපින් ක්‍රියාත්මක කළ ගොවිජන ප්‍රතිසංස්කරණය ගැනය. 1906 නොවැම්බර් 9(22) දින නිකුත් කළ ආඥාවෙන් ගොවිජනතාවට ග්‍රාම කොමියුනයෙන් ඉවත්වීමට ඉඩ දී ඉඩම් කට්ටිවලට ඔවුන්ගේ හිමිකම තහවුරු කරන ලදී.

එම ආඥාවේ වෙනස් කිරීම් කිරීමෙන් පසුව නීතියක් ලෙස 1910 ජූනි 14 වැනි දින රාජ්‍ය දූමා සභාව හා රාජ්‍ය මණ්ඩලය විසින් නීතිගත කරන ලදී. මෙම ස්තලිපින් නීතිය (එකල අගමතිව සිටි පී. ඒ. ස්තලිපින්ගේ නාමය මෙයට ලැබිණ) අනුව ගොවි ජනයාට ග්‍රාම කොමියුනයෙන් ඉවත් වී තම ඉඩම් කට්ටියට ඇති පෞද්ගලික අයිතිය තහවුරු කරගත හැකි විය, එම ඉඩම් විකිණීමේ බලය ලැබිණ. ග්‍රාම කොමියුනයෙන් ඉවත් වන ගොවීන්ට එක ස්ථානයකම ඉඩම් දීම කෘෂික සමාජය අනිවාර්යයෙන් බැඳී සිටියේය.

මෙම ප්‍රතිසංස්කරණය නිසා කෘෂිකර්මාන්තයෙහි ධනපති ක්‍රමය සංවර්ධනය වීමත්, ගොවිජනතාව බෙදී යාමත් වේගවත් වූ අතර, ගම්බද පෙදෙස්වල පංති අරගලය තියුණු විය.

[77] කට්ටි ඉඩම් — 1861 ප්‍රවේණිදාස ක්‍රමය අහෝසි කිරීමෙන් පසු ගොවීන්ගේ ප්‍රයෝජනය සඳහා ඉතිරි කරන ලද ඉඩම් ඒවා කොමියුනයට අයත් වූ අතර, කලින් කල ගොවියන් අතර බෙදු දීම මගින් ගොවීන්ගේ ප්‍රයෝජනය සඳහා දෙන ලදී.

78 රජ පවුලේ ඉඩම් යනුවෙන් මෙහි සඳහන් කර ඇත්තේ සාර්ගේ පවුලේ සාමාජිකයන්ට අයත් ඉඩම් සහ කැබිනට් ඉඩම් යනු පෞද්ගලික සාර්ව අයත් ඉඩම්ය.

79 එංගල්ස්ගේ ''විදේශගත සාහිත්‍යය පෝලන්ත පත්‍රය'' (කාල් මාක්ස්, ෆ්‍රෙඩ්රික් එංගල්ස්, තෝරා ගත් කෘති, දෙවැනි මුද්‍රණය, වෙළුම 18, පිටුව 509)

80 මෙම සඳහන කර ඇත්තේ, රු. ස. ප්‍ර. ක. (බො.) ප. හත්වැනි (අප්‍රියෙල්) සමස්ත රුසියා සාකච්ඡා සභාවේදී අනුමත කරන ලද ''බොර්ග්බයර්ගේ යෝජනාව ගැන'' යන යෝජනාව ගැනය. ජර්මන් සමාජ-ජාතෝන්මාදවාදීන් සමග සම්බන්ධව සිටි ඩෙන්මාර්ක් ජාතික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීයෙකු වූ ඒෆ්. බෝර්ග්බයර්ග්, 1917 අප්‍රියෙල් මාසයේ පෙට්‍රොග්‍රෑඩයට පැමිණ, ඩෙන්මාර්ක්, නෝර්වේ සහ ස්විට්සර්ලන්ත කම්කරු පක්ෂවල ඒකාබද්ධ කාරක සභාව වෙනුවෙන් පෙනී සිටිමින්, 1917 මැයි මස ස්ටොක්හෝම්හි පැවැත්වීමට නියමිතව තිබූ ''සමාජවාදීන්ගේ සාම සාකච්ඡාවට'' සහභාගි වන ලෙස රුසියාවේ සමාජවාදී පක්ෂවලට එම කාරක සභාව වෙනුවෙන් ආරාධනා කළේය. මෙම සාකච්ඡාව සමාජ-ජාතෝන්මාදවාදීන් විසින් කැඳවා තිබුණු හෙයින්, එයට සහභාගි නොවීමට ලෙනින්ගේ යෝජනාව අනුව තීරණය කර ප්‍රකාශයක් කළ අප්‍රියෙල් සාකච්ඡා සභාව, එම සාකච්ඡාවේ අධිරාජ්‍යවාදී ස්වරූපය හෙළිදරව් කළේය.

මෙම ප්‍රශ්නය පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවේ විධායක කාරක සභාවේ රැස්වීමෙහි සාකච්ඡා වූ අවස්ථාවේ බෝර්ග්බයර්ගේ යෝජනාව පිළිගත් මෙන්ෂෙවික්වරු සහ සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදීහු, එම සාකච්ඡාව කැඳවීමේ ක්‍රියාරම්භකත්වයක් ගැනීමටත්, ඒ සඳහා කාරක සභාවක් පිහිටුවීමටත් තීරණය කළහ. එසේ වූ නමුත් එම සාකච්ඡාව නොකැඳවන ලදී.

81 සටහන අංක 60 බලන්න.

82 කම්කරු සහ සොල්දාදු නියෝජිත සෝවියට් සභාවල ප්‍රථම සමස්ත රුසියා සම්මේලනය. — මෙම සම්මේලනය 1917 ජූනි 3 සිට 24 (ජූනි 16 සිට ජූලි 7) දක්වා පෙට්‍රොග්‍රෑඩයේදී පැවැත්විණ. මෙයට සහභාගි වූ නියෝජිතයන්ගෙන් අති බහුතරය වූයේ මෙන්ෂෙවික්වරු සහ සමාජවාදී-විප්ලවවාදීන් ය. ඔවුන්ගේ කථාවලින් හා යෝජනාවලින්, හමුදා විනය ශක්තිමත් කරන ලෙසත්, පෙරමුණෙහි ප්‍රහාරයක් අරඹන ලෙසත්, තාවකාලික ආණ්ඩුවට ආධාර දෙන ලෙසත් කම්කරුවන්ට හා සොල්දාදුවන්ට කියන ලද අතර, ටසෙරතෙලි ඇමති වරයා කී ලෙසට තනිව රුසියාවේ සම්පූර්ණ බලය ගත හැකි දේශපාලන පක්ෂයක් රුසියාවේ නොමැති වූ නිසා, සෝවියට් සභාවලට බලය පැවරීමට බලවත් ලෙස විරෝධය පාන ලදී. මෙයට පිළිතුරු වශයෙන්, බොල්ෂෙවික්වරුන් වෙනුවෙන් වේදිකාවෙන් සභාව ඇමතූ ලෙනින්, ඕනෑම මොහොතක සම්පූර්ණ බලය ගැනීමට බෝල්ෂෙවික් පක්ෂය සූදානම් බව ප්‍රකාශ කළේය.

තාවකාලික ආණ්ඩුවේ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තිය හා මෙන්ෂෙවික්වරුන්ගේ සහ සමාජවාදී-විප්ලවවාදීන්ගේ සම්මුතිවාදී ප්‍රතිපත්තිය හෙළිදරව් කිරීමට සම්මේලනයෙන් ප්‍රයෝජන ගත් බොල්ෂෙවික්වරු සම්පූර්ණ බලය සෝවියට් සභාවලට පවරන ලෙස ඉල්ලූහ.

සම්මේලනය මධ්‍යම කාරක සභාවක් තෝරා පත් කළ අතර, එහි බහුතරය වූයේ සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික්වරු ය. දෙවැනි සෝවියට් සභා සම්මේලනය පැවැත්වෙන තෙක්ම එම මධ්‍යම කාරක සභාව පැවැත්තේය.

83 එංගල්ස්, එෆ. ඒ. සෝර්ගේ වෙත 1886 නොවැම්බර් 29 දින ලියූ ලිපිය බලන්න. (මාක්ස් සහ එංගල්ස්, තෝරාගත් කෘති, 2 වැනි මුද්‍රණය, වෙළුම 36, පිටුව 488)

84 මෙම සඳහන කර ඇත්තේ රු.ස.ප්‍ර.(බො)ප. හත්වැනි (අප්‍රියෙල්) සමස්ත රුසියා සාකච්ඡා සභාවේ තීරණ ගැනය.

85 ලෙනින් සඳහන් කරන්නේ සාර්වාදී ආණ්ඩුව විසින් ජාතික විමුක්ති සහ විප්ලවීය ව්‍යාපාරය මර්දනය කර ලැබීමය. වී. පී. ලයකොව් සාර්වාදී හමුදාවේ කර්නල් වරයෙක් වූ අතර, ඔහු 1908 පර්සියාවේ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය මර්දනය කළ රුසියානු හමුදා මෙහෙයවූයේය.

86 ''පෙට්‍රොග්‍රෑඩ් කම්කරු සහ සොල්දාදු සෝවියට් සභාවේ ඉස්වෙස්තියා'' — 1917 පෙබරවාරියේ පළ කිරීම පටන් ගත් දින පතා පත්‍රයකි. 1917 සැප්තැම්බරයේ පටන් මෙම ප්‍රවෘත්ති පත්‍රය ''කම්කරු සහ සොල්දාදු සෝවියට් සභා මධ්‍යම කාරක සභාවේ ඉස්වෙස්තියා'' යන නමින් පළ විය. එය මෙන්ෂෙවික්වරුන් සහ සමාජවාදී-විප්ලවවාදීන් විසින් පාලනය කරන ලද අතර බෝල්ෂෙවික් පක්ෂයට විරුද්ධව තියුණු අරගලයක් කළේය.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසුව ''ඉස්වෙස්තියා'' සෝවියට් ආණ්ඩුවේ නිල පත්‍රය විය.

87 ගොවිජන නියෝජිතයන්ගේ ප්‍රථම සමස්ත රුසියා සම්මේලනය 1917 මැයි 4 සිට 28 (මැයි 17 සිට ජූනි 10) දක්වා පෙට්‍රොග්‍රෑඩයේදී පැවැත්විනි. සම්මේලනය කැඳවීමේ ක්‍රියාරම්භකත්වය ගත් සමාජවාදී-විප්ලවවාදීහු ගුබර්නියා පෙදෙස්වලින් නියෝජිතයන් තේරීම කෙරෙහි මහත් බලයක් පෑහ. මෙම සම්මේලනයේ සැලකිය යුතු වැඩි පිරිසක් සමාජවාදී-විප්ලවවාදීන්ට සිටි අතර, එම සම්මේලනය පොදු ගොවිජනයා දිනා ගැනීම සඳහා ඔවුන් හා බොල්ෂෙවික්වරුන් අතර කෙරුණු අරගලයක් සඳහා ක්ෂේත්‍රය විය. සම්මේලනයේ න්‍යාය පත්‍රයේ ප්‍රධාන කරුණ වූ ගොවිජන ප්‍රශ්නය ගැන විශේෂයෙන්ම තියුණු අරගලයක් ඇති විය. ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලය රැස්වන තෙක් බලා නොසිට, ඉඩම් මුළු ජනතාවගේම දේපළ ලෙසට ප්‍රකාශයට පත් කරන ලෙසත්, වතුකාර දේපළ ගාස්තුවකින් තොරව වහාම ගොවි ජනතාවට භාර දෙන ලෙසත් වී. අයි. ලෙනින් ඔහු කළ කථාවෙන් හා බොල්ෂෙවික්වරුන් වෙනුවෙන් ඉදිරිපත් කළ යෝජනාව මගින් ප්‍රකාශ කළේය.

කෙසේ හෝ වේවා, සම්මේලනය මගින් තම යෝජනා සම්මත කරවා ගැනීමට සමාජවාදී-විප්ලවවාදී නායකයෝ සමත් වූහ. සම්මේලනය අනුමත කළ යෝජනාවලින් ගම්බද ධනපති පංතිය වන කුලාකයන්ගේ උවමනාවන් ප්‍රකාශ විය.

88 ''නොවායා ෂිස්න්'' (නව ජීවනය) — 1917 අප්‍රියෙල් සිට 1918 ජූලි දක්වා පෙට්‍රොග්‍රෑඩ්හි පළ කරන ලද දින පතා පුවත්පතකි. එය ආරම්භ කරන ලද්දේ, ''ලෙතොපිස්'' සඟරාව වටා එක්සත් වූ මෙන්ෂෙවික් ජාත්‍යන්තරවාදීන් හා ලේඛකයන් කණ්ඩායමක් විසිනි.

ලෙනින් සඳහන් කරන්නේ, 1917 ජූනි 4(17) දින, ''නොවායා ෂිස්න්'' අංක 40 හි ''ඊළඟට කුමක්ද'' යන සිරස් තලය යටතේ පළවුනු, යුද්ධය කෙළවර කරන්නේ කෙසේ ද යන්න සම්බන්ධයෙන් බසාරොව් ලියූ ලිපිය. විප්ලවය බේරා ගැනීම සඳහා යයි කියන වෙනම යුද්ධයක් දිගටම කරගෙන යාමට බසාරොව පක්ෂ විය.

89 ලෙනින් මෙහිදී අදහස් කරන්නේ, පෙට්‍රොග්‍රෑඩ් කම්කරු සහ සොල්දදු නියෝජිත සෝවියට සභාව විසින් රුසියාවට එන ලෙස ආරාධනා කරන ලද බ්‍රිතාන්‍ය ස්වාධීන කම්කරු පක්ෂයේ නායක රැම්සේ මැක්ඩොනල්ඩ්ට බ්‍රිතාන්‍ය ආණ්ඩුවෙන් ගමන් බල පත්‍රයක් දීම ගැනය. මැක්ඩොනල්ඩ් රුසියාවට යාත්‍රා කිරීමට නියමිතව තිබූ නැව පැදවීම බ්‍රිතාන්‍ය නැව් සේවක සංගමය විසින් ප්‍රතික්ෂේප කරන ලද හෙයින් එම ගමන වැළකුනි.

90 ''ලෝකවාසී ජනතාවන් වෙත'' යනුවෙන් වූ පෙට්‍රොග්‍රෑඩ් කම්කරු සහ සොල්දදු නියෝජිත සෝවියට් සභාවේ ප්‍රකාශනය, සෝවියට් සභාවේ 1917 මාර්තු 14(27) දින අනුමත කරන ලද අතර, ඊළඟ දිනයේ ''ප්‍රාව්ද'' සහ පෙට්‍රොග්‍රෑඩ් කම්කරු සහ සොල්දදු නියෝජිත සෝවියට් සභාවේ ''ඉස්වෙස්තියා'' යන පත්‍රවල පළ කෙරිනි. යුද්ධය කෙළවරක් කරන ලෙස ඉල්ලු වැඩ කරන පොදු ජනතාවගේ පුළුල් ව්‍යාපාරයක් බලපෑම නිසා සෝවියට් සභාවේ සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් බහුතරය මෙම ප්‍රකාශනය නිකුත් නොකර බැරි තත්වයකට පත්විය.

සාමය සඳහා දැඩි ලෙස කටයුතු කරන ලෙස යුද්ධකාරී රටවල ජනතාවන් වෙත මෙම ප්‍රකාශනය ආයාචනා කළ නමුත්, එය යුද්ධයේ කොල්ලකාරී භාවය හෙළිදරව් කළේත්, සාමය සඳහා අරගලයේ ප්‍රායෝගික පියවරයන් කිසිවක් යෝජනා කළේත් නැති අතර, අර්ථය වශයෙන් පත් කළ ධනපති තාවකාලික ආණ්ඩුව විසින් අධිරාජ්‍යවාදී යුද්ධය දිගටම ගෙනයාම සාධාරණ කර පෙන්වීය.

91 1917 ජූනි මස ඇල්බේනියාව අල්ලාගත් ඉතාලිය, එය ඉතාලියේ ආරක්ෂිත රාජ්‍යයකට සමාන තත්වයේ තබා ගෙන එය නිදහස් ප්‍රකාශයට පත්කළේය.

බ්‍රිතාන්‍යයේ හා ප්‍රංශයේ බලපෑම යටතේ ග්‍රීසියේ කුමණ්ත්‍රණයක් ක්‍රියාත්මක කෙරිනි. භයානක දුර්භික්ෂයක් ඇති කළ ආර්ථික අවරෝධනයක් ක්‍රියාත්මක කිරීමෙන් හා ග්‍රීක පළාත් කීපයක් අල්ලා ගැනීමෙන් කොන්ස්තාන්තියන් රජු සිංහාසනය හැරයාමට පෙළඹවූ මිත්‍ර හමුද ඔවුන්ගේ ආධාරකරු වූ වෙනිසිලොස් බලයට පත් කළහ. ඒ අනුව ග්‍රීක ජනතාවගේ බහුතරයෙහි කැමැත්තට පටහැනිව ග්‍රීසිය එන්ටෙන්ටේ ගිවිසුමට පක්ෂ රටක් සේ යුද්ධයට ඇද දමන ලදී.

ප්‍රථම ලෝක යුද්ධය අතරතුරදී පර්සියාව (ඉරානය) බ්‍රිතාන්‍ය සහ රුසියානු හමුද විසින් අල්ලා ගන්නා ලදී. 1917 මුල් භාගයේදී පර්සියාවේ නිදහස සම්පූර්ණයෙන්ම නැතිව ගිය අතර උතුරේ රුසියානු හමුද විසින්ද, අතුරෙන් බ්‍රිතාන්‍ය හමුද විසින්ද එරට අල්ලා ගන්නා ලදී.

තාවකාලික ආණ්ඩුවේ රාජ දූතයෝ මෙම තිරිසන් අධිරාජ්‍යවාදී බලහත්කාර ක්‍රියා සියල්ලටම ආධාර දුන්හ.

92 මෙහි සඳහන් කෙරෙන්නේ බොල්ෂෙවික් කණ්ඩායමේ බියුරෝ සභාව සහ එක්සත් ජාත්‍යන්තරවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ බියුරෝ සභාව, ප්‍රථම සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනයේදී නිකුත් කළ ප්‍රකාශය ගැන ය. තාවකාලික ආණ්ඩුව සූදනම් කරමින් සිටි යුද්ධ පෙරමුණේ ප්‍රහාරය ගැන සම්මේලනය ප්‍රථමයෙන්ම සාකච්ඡා කළ යුතු යයි ඔවුහු ඉල්ලා සිටියහ. ප්‍රහාරය සූදනම් කෙරෙන්නේ අධිරාජ්‍යවාදී මිත්‍ර රටවල ලොක්කන්ගේ නියමය අනුව බවද, එමගින් බලය යුද්ධමය-රාජදූත සහ ධනපති කණ්ඩායම් අතට සංකේන්ද්‍රණය කිරීමටත්, සාමය සඳහා කරන විප්ලවවාදී අරගලයට සහ රුසියානු ප්‍රජාතන්ත්‍රවාදීන් දිනා ගෙන තිබෙන තත්වයන්ට පහරක් ගැසීමටත් රුසියානු ප්‍රතිවිප්ලවවාදීන් අපේක්ෂා කරන බවද, එම ප්‍රකාශය පෙන්වා දුන්නේය. රටට එල්ල වී ඇති තර්ජනය ගැන කම්කරු පංතියට, යුද්ධ හමුදවට හා ගොවි ජනතාවට අනතුරු හැඟවූ එම ප්‍රකාශය ප්‍රතිවිප්ලවවාදී කඩා වැදීමට වහාම සැහෙන පිළිතුරක් දෙන ලෙස සම්මේලනයෙන් ඉල්ලා සිටියේය.

රු. ස. ප්‍ර. ක. (බො) ප. කණ්ඩායමේ බියුරෝ සභාවේ යෝජනාව සම්මේලනය විසින් ප්‍රතික්ෂේප කරන ලදී.

ප්‍රහාරය ආරම්භ කරන ලෙසට යුද්ධ ඇමති කෙරෙන්ස්කි 1917 ජූනි 16(29) දින නියෝගය නිකුත් කළේය. ජූනි 18 (ජූලි 1) දින රුසියානු හමුද නිරිත දිග පෙරමුණෙහි ප්‍රහාරය ආරම්භ කළහ. ප්‍රථම දිනවලදී ප්‍රහාරය සාර්ථක වූ අතර රුසියානු හමුද පෙරට යමින් සතුරු භටයන් දහස් ගණනක් සිර භාරයට ගත්හ. එසේ වුවද, පසුව, හමුද වෙහෙසට පත්ව සිටි හෙයින්ද, ප්‍රහාරයේ අරමුණ ඔවුනට නොවැටහුන හෙයින්ද, ස්වකීය අයුධ පාවිච්චි කිරීමට ප්‍රමාණවත් තරම් ඔවුන් පුහුණු කර නොසිටි හෙයින්ද, පෙරමුණ බිඳ ගෙන ඉදිරියට ආ ජර්මන් හමුද විසින් රුසියානු හමුද විසිර යන සේ පලවා හරින ලදී. දින දහයක් ඇතුලත යුද්ධ භටයන් හා නිලධාරීන් 60,000 ක් පමණ අහිමි කරගත් රුසියානු හමුදව බලවත් පරාජයක් ලැබුවේය.

ප්‍රහාරය අසාර්ථක වීම සමගම එයින් අදහස් වූයේ තාවකාලික ආණ්ඩුවේ සහ එයට ආධාර දුන් සමාජවාදී-විප්ලවවාදීන්ගේ සහ මෙන්ෂෙවික්වරුන්ගේ ආරක්ෂාවාදී පෙරමුණේ මුළු ප්‍රතිපත්තියම අසාර්ථක වූ බවයි. පෙරමුණේ පරාජය නිසා බොල්ෂෙවික්වරු නිවැරදි බව වැඩි වැඩියෙන් අවබෝධ කරගත් කම්කරුවන් හා සොල්දදුවන් අතර බොල්ෂෙවික්වරුන්ගේ බලපෑම වැඩි විය. ප්‍රහාරය නිසා හානියට පත් අති විශාල සංඛ්‍යාව ගැන ප්‍රවෘත්තිය පැතිරී යාමෙන් වැඩ කරන ජනතාව අතර කෝපාග්නිය බලවත් ප්‍රවාහයක් සේ නැගී යාමෙන් රටේ අළුත් දේශපාලන අර්බුදයක් ඇති වීම ඉක්මන් විය.



93 මෙම සඳහන කර ඇත්තේ බොල්ෂෙවික් පක්ෂය විසින් සංවිධානය කරන ලද හා 1917 ජූනි 18 (ජූලි 1) දින පවත්වන ලද පෙළපාලිය ගැනය.

ජූනි මස මුලදී පෙට්‍රොග්‍රෑඩය තුළ නොසන්සුන්කම වර්ධනය විය. තාවකාලික ආණ්ඩුව විසින් යුද්ධය දිග්ගස්සනු ලැබීම හා පෙරමුණෙහි ප්‍රහාරයක් දීමට කටයුතු සූදනම් කරනු ලැබීමද, ආහාර හිඟයද යන සියල්ල නිසා කම්කරුවන් හා සොල්දදුවන් අතර බලවත් විරෝධය හා කෝපය දැල්විනි. අනවශ්‍ය ලෙස ජීවිත නැති වීම වළක්වනු පිණිස දිස්ත්‍රික්ක කම්කරු හා හමුද ඒකකවල නියෝජිතයන් සමග පක්ෂයේ මධ්‍යම සහ පෙට්‍රොග්‍රෑඩ් කාරක සභාවේ සහ යුද්ධ සංවිධානයේ සාමාජිකයන්ගේ රැස්වීමක්, ජූනි 8 (21) දින පවත්වන ලදුව, ලෙනින්ගේ යෝජනාව අනුව ජූනි 10(23) දින සාමයෙන් යුතුව ක්‍රමානුකූල ලෙස පෙළපාලියක් පැවැත්වීමට එහිදී තීරණය විය.

බොල්ෂෙවික් පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ තීරණය පොදු ජනතාවගේ පිළිගැනීමට ලක්වූ අතර, ආණ්ඩුවේත්, මෙන්ෂෙවික්වරුන්ගේ සහ සමාජවාදීන්ගේත් නැතිගැන්මට හේතු වූයෙන් ඒ දෙකොටසම පෙළපාලිය ව්‍යර්ථ කිරීමට තීරණය කළහ. මෙන්ෂෙවික් වරුන්ගේ සහ සමාජවාදී-විප්ලවවාදීන්ගේ නායකත්වය අනුගමනය කළ ප්‍රථම සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනය, තුන් දිනක් ගත වන තෙක් සියලු වීදි පෙළපාලි තහනම් කරන තීරණයක් ජූනි 9(22) දින සවස සම්මත කළේය.

සම්මේලනයේ තීරණයට පටහැනිව යාමට නොකැමති වූ මධ්‍යම කාරක සභාව ලෙනින්ගේ යෝජනාව අනුව පෙළපාලිය නො පැවැත්වීමට ජූනි 10(23) දින රාත්‍රියේ තීරණය කළේය. රුසියානු සේනාව ප්‍රහාරය ආරම්භ කිරීමට නියමිතව තිබුණු ජූනි 18 (ජූලි 1) දින පෙළපාලියක් පැවැත්වීමට තීරණයක් සෝවියට් සභා සම්මේලනය මගින් අනුමත කරවා ගැනීමට එම සම්මේලනයේ සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් නායකත්වය දින දෙකකට පසු සමත් විය. තාවකාලික ආණ්ඩුව කෙරෙහි ජනතාව විශ්වාසය තබන බව ප්‍රදර්ශනය කිරීමට සමගිකාරී පක්ෂවල නායකයන්ට උවමනා විය.

ජූනි 18 (ජූලි 1) දින පෙළපාලියට පෙට්‍රොග්‍රෑඩ් කම්කරුවන් 5.00,000 ක් පමණ සහභාගි වූහ. ඉන් වැඩි දෙනෙක් බොල්ෂෙවික් පක්ෂයේ විප්ලවවාදී සටන්පාඨ ඔසවා ගෙන ගියහ. තාවකාලික ආණ්-

ඩුව කෙරෙහි විශ්වාසය පළ කරන සමගිකාරී පක්ෂවල සටන් පාඨ ඔසවා ගෙන ගියේ කුඩා කණ්ඩායම් පමණකි. පොදු ජනතාවගේ වර්ධනය වූ විප්ලවවාදී ජීවගුණයක්, බොල්ෂෙවික් පක්ෂයේ අතිශයින් වැඩි වූ බලපෑම සහ ජනප්‍රසාදයක් පෙළපාලියෙන් පෙනී ගියේය. තාවකාලික ආණ්ඩුවට ආධාර කරන සුළු ධනපති සමගිකාරීන්ගේ සම්පූර්ණ පරාජයක් එයින් හෙළිදරව් විය.

94 කැඩෙට් ඇමතිවරු වූ ෂින්ගර්යොව්, මනුයිලොව් හා ෂහොව්ස්කි තමන් උක්‍රෙනියාව පිළිබඳ ප්‍රශ්නය ගැන ආණ්ඩුවේ ස්ථාවරයට එකඟ නොවන බව කියමින් 1917 ජූලි 2(15) දින තාවකාලික ආණ්ඩුවෙන් ඉල්ලා අස්වූහ.

එසේ වූවත් කැඩෙට්වරුන්ගේ ඉල්ලා අස්වීමට සැබෑ හේතුව වූයේ, කැඩෙට් ප්‍රතිවිප්ලවවාදී වැඩ පිළිවෙළක් වූ, රතු භටයන් නිරායුධ කිරීම, විප්ලවවාදී හමුද පෙට්‍රොග්‍රෑඩයෙන් ඉවත් කිරීම සහ බොල්ෂෙ-වික් පක්ෂය තහනම් කිරීම සඳහා ''සමාජවාදී'' ඇමතිවරු කැමති කරවා ගැනීමට ඔවුන් කෙරෙහි බලපෑමක් ඇති කිරීමය.

95 පළමුවැනි සභාග තාවකාලික ආණ්ඩුව පිහිටුවීම ගැන 1917 මැයි 6(19) දින ප්‍රසිද්ධ කරන ලදී. (අංක 60 සටහන බලන්න.)

96 මෙම සඳහන 1917 ජූලි 3 හා 4 (16 හා 17) දිනවල පෙට්‍රොග්‍රෑඩ් නගරයේ පැවැත්වුනු පොදු ජන පෙළපාලිය ගැනය. එයින් රටේ පැවති ගැඹුරු දේශපාලන අර්බුදය පිළිබිඹු විය.

කල්තබාම අසාර්ථක වීමට ඉරණම්ව තිබුණු ප්‍රහාරයක් සඳහා යුද්ධ සේනා යැවීම කළ තාවකාලික ආණ්ඩුවට විරුද්ධව ආයුධ සන්නද්ධව කැරළි ගසමින් නැගී සිටීමක තර්ජනය ගෙන ආ පෙළපා-ලියක් ජූලි මස 3(16) දින ආරම්භ විය.

රට තුළ තවමත් විප්ලවීය අර්බුදයක් ඇති වී නැතැයි සැලකූ බොල්ෂෙවික් පක්ෂය, ඒ අවස්ථාවේ කිසිම අවිගත් සටනක් කිරීම ගැන විරුද්ධ විය. ජූලි 3(16) දින රැස්වූ මධ්‍යම කාරක සභාව සටනින් වැළකී සිටීමට තීරණය කළේය. ඒ අවස්ථාවේම පැවැත්වුනු බොල්-ෂෙවික්වරුන්ගේ දෙවන පෙට්‍රොග්‍රෑඩ් නාගරික කාරක සභාවද එවැනිම යෝජනාවක් අනුමත කළේය. ජනතාව වලක්වා ගැනීම සඳහා සාකච්-ඡා සභා නියෝජිතයෝ පැක්ටරිවලට හා දිස්ත්‍රික්කවලට ගියහ. නමුත් සටන ඒ වන විට පටන් ගෙන තිබුණ හෙයින් එය නැවැත්වීමට පුළුවන් කමක් නොවීය.



ජනතාවගේ ඉරියාව ගැන සලකා, පෙළපාලියට සමකාමී හා ක්‍රමානුකූල මුහුණුවරක් දෙනු පිණිස, ජූලි 3(16) දින සවස පෙට්‍රො-ග්‍රෑඩ් කාරක සභාව සහ යුද්ධ සංවිධානය සමග ඒකාබද්ධව රැස්වූ මධ්‍යම කාරක සභාව පෙළපාලියට සම්බන්ධ වීමට තීරණය කළේය.

ජූලි 4(17) දින පෙළපාලියට 5,00,000 කට අධික ජනතාවයක් සහභාගි විය. ඔවුහු ''සෝවියට් සභාවලට මුළු බලය පවරනු'' යනාදී වූ බොල්ෂෙවික් සටන්පාඨ ඔසවා ගෙන ගියහ. සෝවියට් මධ්‍ය විධායක කාරක සභාව අතට බලය ගන්නා ලෙස ඔවුන් බලකල නමුත්, සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් නායකයෝ බලය ගැනීම ප්‍රතික්ෂේප කළහ.

මෙන්ෂෙවික් සහ සමාජවාදී-විප්ලවවාදී මධ්‍ය විධායක කාරක සභාවේ දැනුම හා කැමැත්ත ඇතිව, තාවකාලික ආණ්ඩුව සාමකාමී පෙළපාලියට විරුද්ධව ආධුනික යුද්ධභට හමුදව සහ කොසාක් හමුදව යැවූහ. යුද්ධ හමුදව පෙළපාලි කරුවන්ට වෙඩි තැබීය.

ජූලි මස 5 දින රාත්‍රි ලෙනින්ගේ නායකත්වය යටතේ රැස්වුනු මධ්‍යම සහ පෙට්‍රොග්‍රෑඩ් කාරක සභාව, සාමයෙන් යුතුව පෙළපාලිය හමාරකිරීමට තීරණය කළේය. බොල්ෂෙවික් පක්ෂයට පහරදීම සඳහා මෙන්ෂෙවික්වරු හා සමාජවාදී-විප්ලවවාදීහුද ධනපති පංතියට එකතු වූහ. කම්කරුවන් නිරායුධ කරන ලද අතර, අත් අඩංගුවට ගැනීම්, ගෙවල් සෝදිසි කිරීම් හා කෝලාහල ඇති විය.

ජූලි මස සිදුවීම්වලින් පසුව රටේ සම්පූර්ණ බලය ප්‍රතිවිප්ලවවාදී තාවකාලික ආණ්ඩුව විසින් අත්පත් කරගන්නා ලදී. සෝවියට් සභා හුදෙක්ම එහි උපැඳියක් බවට පත් විය. ද්විත්ව බලය අවසන් විය. එසේම විප්ලවයේ සාමාකාමී කාලයද කෙළවර විය.

97 ''ෂිවොයෙ ස්ලෝව'' (ජීවමාන වචනය) — 1916 සිට 1917 ඔක්තෝ-බරය දක්වා පෙට්‍රොග්‍රෑඩයේ පළ කෙරුණු, කළු සියය නැඹුරුවීම් සහිත සුළු ධනපති දින පතා පත්‍රයකි.

98 උක්‍රෙනියාවේ නිදහස සඳහා සංගමය — 1914 දී, ප්‍රථම ලෝක යුද්ධය ආරම්භයේදී, උක්‍රෙනියානු ධනපති ජාතිකවාදී කණ්ඩායමක් පිහිටුවා ගත් ධනපති ජාතිකවාදී සංවිධානයකි. යුද්ධයේදී සාර්වාදී රුසියාවේ පරාජය බලාපොරොත්තු වූ මෙම සංගමය, උක්‍රෙනියාව රුසියාවෙන් වෙන්වී ඉවත්ව, ජර්මන් ආරක්ෂාව යටතේ උක්‍රෙනියානු ධනපති සහ ඉඩම්හිමි රාජාණ්ඩුවක් පිහිටුවීමට කටයුතු කළේය.

99 ලන්ඩන් සම්මේලනය — මෙම සඳහන 1903 ජූලි 17(30) සිට අගෝස්තු 10 (23) දක්වා පැවැත්වුනු රු. ස. ප්‍ර. ක. ප. දෙවැනි සම්මේලනය ගැනය. එහි ප්‍රථම රැස්වීම් වාර 13 බ්‍රසල්ස්හි පැවැත්වුනු අතර, පොලිසියේ හිරි හැර නිසා සම්මේලනය ලන්ඩනයට ගෙන යන ලදී.

ඡන්ද බලය නොමැතිව කථා කිරීමේ අයිතිය ඇතිව මෙම සම්මේලනයට සහභාගී වූ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු, රු. ස. ප්‍ර. ක. ප. වැඩ පිළිවෙළට ඇතුලත් කරන ලද ස්වාධිපත්‍යය සඳහා ජාතීන් සතු අයිතිය පිළිබඳ වගන්තිය පෝලන්ත ජාතිකවාදීන්ට වාසියක් සලසනු ඇතැයි වරදවා සිතා එම වගන්තියට විරුද්ධ වූහ. එම වගන්තිය අත් හළ යුතු යයි ඔවුහු වැඩ පිළිවෙළ කාරක සභාවේ රැස්වීමේදී යෝජනා කළහ. එසේ වුවත්, සම්මේලනයේදී තම යෝජනාවට පක්ෂව කථා නොකළ ඔවුහු, එය ගත් තීරණය සමග එකඟ නොවී එයින් ඉවත්ව ගියහ.

100 ජුන්කර්වරු — යුද්ධ නිලධාරීන් පුහුණු කරන අධ්‍යාපන ආයතනවල ශිෂ්‍යයින්.

101 ''කළු සියය පිරිස්'' යනු විප්ලවවාදී ව්‍යාපාරයට විරුද්ධව සටන් කිරීම සඳහා සාර්වාදී පොලිසිය පිහිටවූ රාජාණ්ඩුවාදී කණ්ඩායමය.

102 ''ලිස්තොක් ප්‍රාව්දි'' (ප්‍රාව්ද ප්‍රවෘත්ති පත්‍රිකාව) — නීත්‍යානුකූල දිනපත ''ප්‍රාව්ද'' පත්‍රයේ එක් නමකි.

103 අංක 64 සටහන බලන්න.

104 අංක 60, 3, 96 සටහන් බලන්න.

105 ජූලි පෙළපාලිය මර්දනය කිරීමෙන් පසුව ලෙනින් සහ වෙනත් බොල්ෂෙවික් නායකයන් අත් අඩංගුවට ගන්නා ලෙස තාවකාලික ආණ්ඩුව නියෝග කළේය. මෙම ලිපිය ලියන ලද්දේ ඒ සම්බන්ධයෙනි. එසේ වුවද, ඔවුන්ට විරුද්ධව නඩු පැවරීමේ අදහසක් තාවකාලික ආණ්ඩුවේ නොවීය. ලෙනින් අත් අඩංගුවට ගැනීමට නියමිතව සිටි ජුන්කර් යුද්ධ භටයන්ට නියම කර තිබුණේ, සිර ගෙයට යන අතර මගදී ඔහු මරා දමන ලෙසට බව, පසුව අනාවරණය විය.

තමන්ට විරුද්ධව එල්ල කරන ලද අපහාසාත්මක චෝදනා ගැන කෝපාවිෂ්ට වූ ලෙනින් ප්‍රථමයෙන් කල්පනා කළේ තාවකාලික



ආණ්ඩුවේ උසාවිය හමුවේ පෙනී සිටීමටය. ජූලි 7(10) දින රාත්‍රියේ තමාගේ නිවෙස සෝදිසි කිරීම ගැන විරෝධය ප්‍රකාශ කරමින් ලෙනින් කම්කරු හා සොල්දාදු නියෝජිත සෝවියට් සභා මධ්‍යම විධායක කාරක සභාවේ බියුරෝව වෙත යැවූ ලිපියෙන් කීවේ තමා අත් අඩංගුවට ගැනීමට තාවකාලික ආණ්ඩුව කර ඇති නියෝගයට මධ්‍යම විධායක කාරක සභාවේ අනුමැතිය දෙන්නේ නම් තමා සිරභාරයට ගැනීමට ඉඩ දෙන බවය. විධායක කාරක සභාවේ මෙන්ෂෙවික් සහ සමාජවාදී-විප්ලවවාදී නායකයෝ එම නියෝගය අනුමත කළහ.

ලෙනින් උසාවියට ඉදිරිපත් වීමේ ප්‍රශ්නය පක්ෂයට පොදු වශයෙන් වැදගත් වූවක් විය. ලෙනින් එම අවස්ථාවේ සැඟවී සිටි එසේම, පළ පුරුදු බොල්ෂෙවික්වරයෙක් සහ කම්කරුවෙක් වූ එස්. වයි. අල්ලිලුයෙව්ගේ නිවසෙහි ජූලි 7(20) දින පැවැත්වුනු මධ්‍යම කාරක සභා සමාජිකයින්ගේ සහ පක්ෂ නිලධාරීන්ගේ රැස්වීමකදී ඒ ගැන සාකච්ඡා කරන ලදී. ලෙනින් ප්‍රතිවිප්ලවවාදී තාවකාලික ආණ්ඩුවේ උසාවියක් හමුවේ පෙනී නොසිටිය යුතු බව එම රැස්වීම තීරණය කළේය. පෙට්‍රොග්‍රෑඩ් සහ මොස්කව් පක්ෂ සංවිධානවල නියෝජිතයන් සමග 1917 ජූලි 13 හා 14 (26 හා 27) දිනවල පැවැත්වුනු රු. ස. ප්‍ර. ක. (බො) ප. මධ්‍යම කාරක සභාවේ පුළුල් කළ රැස්වීමේදීද එම තීරණයම ගන්නා ලදී.

මෙය රු. ස. ප්‍ර. ක. (බො) ප. හයවැනි සම්මේලනයේ ප්‍රථමයෙන්ම සාකච්ඡා කෙරුණු ප්‍රශ්න අතුරෙන් එකක් වූ අතර, ලෙනින් උසාවියෙහි පෙනී සිටීමට විරුද්ධව එම සම්මේලනය ඒකමතික ලෙස යෝජනාවක් සම්මත කළේය.

106 අංක 96 සටහන බලන්න.

107 අංක 95 සටහන බලන්න

108 ''ප්‍රොලිතාර්ස්කොය දියල'' කතුවරුන් වෙත අමතන ලද හා පුවත් පත්වල පළ කරන ලද ලිපියට ජී. සිනොවියෙව්ද අත්සන් කළේය.

''ප්‍රොලිතාර්ස්කොය දියල'' (නිර්ධන පංති ව්‍යාපාරය) ක්‍රොන්ෂ්තාත් කම්කරු සහ සොල්දාදු නියෝජිත සෝවියට් සභාවේ නිල පත්‍රය වූ මෙය 1917 දී ක්‍රොන්ෂ්තාත්හි පළ කෙරිණ.

109 ''නොවයේ වරේම්යා'' (නව යුගය) — 1868—1917 දක්වා සාන්ත

පීටර්ස්බර්ග්හි පළ කෙරුණු දිනපතා පත්‍රයකි. එය විවිධ ප්‍රකාශකයන් විසින් විවිධ අවස්ථාවලදී හිමි කර ගෙන තිබූ අතර එය නැවත නැවතත් ස්වකීය දේශපාලන උපනතිය වෙනස් කළේය. 1905 දී කළු සියය පත්‍රයක් බවට පත්වූ එය දරුණු බොල්ෂෙවික් විරෝධී ව්‍යාපාරයක් ගෙන ගියේය.

110 "ද්රේෆුස් නඩුව" — ප්‍රංශ යුද්ධ හමුදාවල ප්‍රතිගාමී රාජාණ්ඩුවාදීන් විසින් 1894 දී ක්‍රියාත්මක කරන ලද ප්‍රකෝපකාරී නඩු විභාගයකි. චර පුරුෂ කටයුතු සහ තදබල රාජ ද්‍රෝහී භාවය සම්බන්ධයෙන් ගොතන ලද බොරු චෝදනාවක් අනුව, ප්‍රංශ හමුද ප්‍රධාන මණ්ඩලයේ යුදෙව් නිලධාරියෙකුව සිටි ද්රේෆුස් ජීවිතාන්තය දක්වා සිරගෙට නියම කරන ලදී. යුදෙව් විරෝධය අවුළුවා ලීමටත්, සමූහාණ්ඩුවාදී පාලනයට සහ ප්‍රජාතන්ත්‍රවාදී අයිතිවාසිකම්වලට පහරදීමටත් ප්‍රතිගාමී කොටස් මෙම නඩුව උපයෝගී කර ගත්හ. එමිල් සෝලා, ජාන් ජොරේස් සහ ඇනටොල් ප්‍රාන්ස් ඇතුළු සමාජවාදීන් සහ සමාජවාදී ධනපතියන් ද්රේෆුස් නඩුව යළි විමසීම සඳහා ව්‍යාපාරයක් ආරම්භ කළ වහාම එය දේශපාලන ප්‍රශ්නයක් බවට පත්ව රට කඳවුරු දෙකකට බෙදීයාමට හේතු විය. එක කඳවුරකට සමූහාණ්ඩුවාදීන් සහ ප්‍රජාතන්ත්‍රවාදීන්ද, අනිත් කඳවුරට රාජාණ්ඩුවාදීන්ගේ පෙරමුණ, දේවගැතිවාදීන්, යුදෙව් විරෝධීන් සහ ජාතිකවාදීන්ද අයත් විය. මහජන මතයේ බලපෑම යටතේ 1899 දී ද්රේෆුස්ට සමාව දී නිදහස් කරන ලදී. 1906 දී අභියාචනා උසාවිය ද්රේෆුස් නිදහස් කළ අතර ඔහු නැවතත් හමුදාවට පත් කරන ලදී.

111 "බේලිස් නඩුව" — ප්‍රකෝපකාරී උවමනාවන් ඉටු කර ගැනීම සඳහා සාර්වාදී ආණ්ඩුව 1913 දී කීව්හිදී යුදෙව් ජාතික බේලිස්ට විරුද්ධව සංවිධානය කළ නඩු විභාගය. පූජා සිරිත් අනුව ක්‍රිස්තියානි ළමයෙකු මරන ලදයි බේලිස්ට චෝදනා කරන ලදී. (ඇත්ත වශයෙන් ළමයා මරන ලද්දේ කළු සියය පිරිස් විසිනි). මෙම නඩු විභාගය වේදිකා ගත කිරීමෙන් සාර්වාදී ආණ්ඩුව උත්සාහ කළේ, රට පුරා නැගී එමින් තිබුණ විප්ලවවාදී ව්‍යාපාරය කෙරෙන් පොදු ජනතාව වෙනතකට හැරවීම සඳහා යුදෙව් විරෝධය උසිගන්වා, යුදෙව් විරෝධී සංහාර ඇති කරවීමටය. මෙම නඩු විභාගය නිසා ජනතාවගේ කෝපය ඇවිස්සුනු අතර නගර ගණනාවක කම්කරුවෝ විරෝධය පෑමේ පෙළපාලි පැවැත්වූහ. උසාවිය බේලිස් නිදහස් කළේය.



112 ෆ්‍රෙඩරික් එංගල්ස්, "පවුල, පෞද්ගලික දේපොළ සහ රාජ්‍යය ඇති වූ සැටි" බලන්න.

113 අංක 60, 93, 96 සටහන් බලන්න.

114 තාවකාලික ආණ්ඩුව ජූලි 12(25) දින යුද්ධ පෙරමුණෙහි මරණ දඬුවම ක්‍රියාත්මක කිරීම ආරම්භ කළේය. යුද්ධ සේනාවල විශේෂ "යුද්ධ හමුද විප්ලවවාදී විනිශ්චය මණ්ඩල" පිහිටුවන ලද අතර, ඒවායේ තීන්දු, වහාම ක්‍රියාත්මක කරන ලදී.

115 සම්බන්ධතා කොමිසම — පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවේ සම්මුති ගත වන ස්වභාවයේ වූ විධායක කාරක සභාව 1917 මාර්තු 8(21) දින ගත් තීරණයක් අනුව මෙම කොමිසම පිහිටුවන ලද්දේ තාවකාලික ආණ්ඩුවට "බලපෑම" සහ එහි කටයුතු විෂයෙහි "පාලනයක්" ක්‍රියාත්මක කිරීමටය. ඇත්ත වශයෙන්ම සිදුවූයේ, සෝවියට් සභාවේ අධිකාරය දඩමීමා කර ගෙන තාවකාලික ආණ්ඩුවේ ප්‍රතිවිප්ලවවාදී ප්‍රතිපත්තිය වසං කිරීමටත්, සෝවියට් සභාවලට බලය පැවරීම සඳහා වූ ක්‍රියාශීලී විප්ලවීය අරගලයට සහභාගී වීමෙන් පොදු ජනතාව වැළැක්වීමටත් සම්බන්ධතා කොමිසමේ ආධාරය තාවකාලික ආණ්ඩුවට දීමය. 1917 අප්‍රියෙල් මාසයේ මැද භාගය වන විට සම්බන්ධතා කොමිසමේ කටයුතු විධායක කාරක සභාවේ බියුරෝ සභාවට පවරා ගන්නා ලදින් එම කොමිසම කෙළවර විය.

116 1917 මැයි 17(30) දින ක්‍රොන්ෂ්තාත් සෝවියට් සභාව ආණ්ඩුවේ කොමිසාර් තනතුර අහෝසි කර සෝවියට් සභාවට සම්පූර්ණ බලය පවරා ගනිමින් යෝජනාවක් සම්මත කළේය.

රුසියාව කැබලිවලට කැඩී යන්නට පටන් ගෙන ඇතැයිද, එය ආරාජික තත්වයකට පත්ව ඇතැයිද යනාදිය කියමින් ධනපති සමාජවාදී-විප්ලවවාදී සහ මෙන්ෂෙවික් පත්‍ර අපහාසකාරී ව්‍යාපාරයක් පටන් ගත්තේය.

ක්‍රොන්ෂ්තාත් සිද්ධිය කෙළවර කිරීම සඳහා ප්‍රථමයෙන් පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවත්, ඊළඟට තාවකාලික ආණ්ඩුවත් නියෝජිත මණ්ඩල (ප්‍රථම ආයතනය චෙහේයිඩ්සේ ගොට්ස් සහ වෙනත් අයද, පසුකී ආයතනය ස්කොබෙලෙව් සහ ට්සෙරතෙලි යන ඇමති වරුද) යැවූහ. ක්‍රොන්ෂ්තාත් සෝවියට් සභාව ලවා සම්මුති යෝජනාවක් අනුමත කරවා ගෙන, කොමිසාර්වරයා සෝවියට් සභාව විසින් තෝරා පත්

කිරීමටත් තාවකාලික ආණ්ඩුව මගින් එම පත් කිරීම අනුමත කිරීමටත් එය එකඟ කරවා ගැනීමට ඇමතිවරු දෙදෙනා එහිදී සමත් වූහ. ක්‍රොන්ෂ්තාත් සෝවියට් සභාව තාවකාලික ආණ්ඩුවේ අධිකාරය පිළිගන්නා බව කියමින්ද, "මෙම පිළිගැනීම හේතු කොට ගෙන විවේචනය කිරීමටත් විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදීන් නව මධ්‍ය අධිකාරයක් පිහිටුවා කම්කරු සහ සොල්දාදු සෝවියට් සභාවලට මුළු බලය පැවරීමට ඇති කැමැත්තවත් කිසිසේත් නොවන බව "ඊට එකතු කරමින්ද දේශපාලන යෝජනාවක්ද සම්මත කරන ලදී." ක්‍රොන්ෂ්තාත් ප්‍රදේශය රුසියාවේ අනිත් කොටස්වලින් වෙන් කිරීමට" ක්‍රොන්ෂ්තාත් බොල්ෂෙවික්වරුන් "අදහස් කළ" බව කීමට දරන ලද ප්‍රයත්නයන් ගැන බලවත් විරෝධය පෑමකින් එම යෝජනාව කෙළවර කෙරින.

117 අංක 87 සටහන බලන්න.

118 කර්නිලව් කැරැල්ල — මෙය 1917 අගෝස්තුවේදී ධනපතියන් සහ ඉඩම් හිමියන් සංවිධානය කළ ප්‍රතිවිප්ලවවාදී කැරැල්ලකි. එයට නායකත්වය දුන්නේ යුද්ධ හමුදාවේ ප්‍රධාන සේනාධිනායක, සාර්වාදී සේනාපති කර්නිලව්ය. පෙට්‍රොග්‍රෑඩය අල්ලා ගෙන, බොල්ෂෙවික් පක්ෂය විනාශ කර, සෝවියට් සභා විසුරුවා හැර යුද්ධමය ආඥාදායකත්වය පිහිටුවා, රාජාණ්ඩුව යළි ස්ථාපිත කිරීම සඳහා මඟ සකස් කිරීමට කැරළි කරුවන්ට උවමනා විය. අගෝස්තු 25 (සැප්තැම්බර් 7) දින කැරැල්ල ආරම්භ විය.

බොල්ෂෙවික් පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ කැඳවීම අනුව, කැරළි කරුවන්ට විරුද්ධව සටන් කිරීම සඳහා පෙට්‍රොග්‍රෑඩයේ කම්කරුවෝ, විප්ලවවාදී සොල්දාදුවෝ සහ නාවිකයෝ නැඟී සිටියහ. පෙට්‍රොග්‍රෑඩයේ කම්කරුවෝ අප්‍රමාදව රතු ආරක්ෂක භට කණ්ඩායම් පිහිටවූහ. ප්‍රදේශ ගණනාවකම විප්ලවවාදී කාරක සභා පිහිටුවන ලදී. කර්නිලව් හමුදාවල ඉදිරි ගමන නවත්වන ලද අතර, බොල්ෂෙවික්වරුන්ගේ ප්‍රචාරය නිසා ඔවුන්ගේ ධෛර්යය දුර්වලවිය. පොදු ජනතාවගේ බලපෑම යටතේ කර්නිලව් සහ ඔහුගේ සගයන් අත් අඩංගුවට ගෙන ඔවුන්ට විරුද්ධව නඩු පැවරීමට තාවකාලික ආණ්ඩුවට සිදු විය.

119 වාම සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදීන් — වාම සමාජවාදී-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ (ජාත්‍යන්තරවාදීන්ගේ) පක්ෂය 1917 නොවැම්බර් 19 සිට 28 (දෙසැම්බර් 2 සිට 11) දක්වා පැවැත්වුනු එහි ප්‍රථම සම්මේලනයේදී විධිමත් ලෙස පිහිටුවන ලදී. ඒ දක්වා ඔවුහු සමාජවාදී-විප්ලවවාදී පක්ෂය තුළ ප්‍රථම ලෝක යුද්ධය සමයේ උද්ගත වූ වාමාංශය ලෙසට පැවැත්තේය.

දෙවැනි සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනයට සහභාගි වූ සමාජවාදී-විප්ලවවාදී කණ්ඩායම එම සම්මේලනයට සහභාගි වීම පිළිබඳ ප්‍රශ්නය මත භේද වූ අතර, එම කණ්ඩායමේ බහුතරය වූයේ වාම සමාජවාදී-විප්ලවවාදීන්ය. පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ උපදෙස් අනුව කටයුතු කළ දක්ෂිණ සමාජවාදී-විප්ලවවාදීන් සම්මේලනයෙන් පිටව ගිය අතර, වාම සමාජවාදී-විප්ලවවාදීහු එහි රැඳී සිට න්‍යාය පත්‍රයේ ප්‍රධාන ප්‍රශ්නවලදී බොල්ෂෙවික්වරුන් සමග එකට ඡන්දය දුන්හ. එවකට ගොවි ජනයා අතර බොහෝ ආධාර කරුවන් ඇතිව සිටි වාම සමාජවාදී-විප්ලවවාදීන් සමග පෙරමුණක් ඇති කරගැනීම අවශ්‍ය යයි කල්පනා කළ බොල්ෂෙවික්වාදීහු, සෝවියට් ආණ්ඩුවට ඇතුලත් වන ලෙස වාම සමාජවාදී-විප්ලවවාදීන්ට ආරාධනා කළහ. එසේ වුවද සමාජවාදී-විප්ලවවාදීහු, එය ප්‍රතික්ෂේප කළහ. 1917 නොවැම්බර් හා දෙසැම්බර් මාසවල පැවැත්වුනු සාකච්ඡාවල ප්‍රතිඵලයක් වශයෙන් ඔවුන් ආණ්ඩුවට සහභාගි වීම පිළිබඳ එකඟත්වයක් ඇති කරගන්නා ලදී. මහජන කොමිසාර් මණ්ඩලයේ සාමාන්‍ය ප්‍රතිපත්තිය අනුගමනය කිරීමට එකඟ වූ ඔවුහු මහජන කොමසාරිස් අංශ කීපයක මණ්ඩලවලට ඇතුලත් වූහ.

බොල්ෂෙවික්වරුන් සමග එක්ව වැඩ කරන අතරම වාම සමාජවාදී-විප්ලවවාදීහු, සමාජවාදය ගොඩනැගීම පිළිබඳ ප්‍රශ්නය සම්බන්ධයෙන් ඔවුන්ට වඩා වෙනස් මතයක් දැරූහ. 1918 ජනවාරි හා පෙබරවාරි මාසවලදී ඔවුන්ගේ මධ්‍යම කාරක සභාව බ්‍රෙස්ට් ගිවිසුම ඇතිකර ගැනීමට විරුද්ධව ව්‍යාපාරයක් ආරම්භ කළේය. එම ගිවිසුම අත්සන් කර, මාර්තුවේදී සෝවියට් සභාවල හතරවැනි සම්මේලනයෙන් ස්ථිර කරන ලද පසු, ඔවුහු මහජන කොමිසාර් මණ්ඩලයෙන් ඉවත් වූහ. 1918 ග්‍රීෂ්ම ඍතුවේදී ගම්බද පෙදෙස් තුළ සමාජවාදී විප්ලවය සිදුවීම සහ දුප්පත් ගොවි කාරක සභා පිහිටුවීමත් සමග වාම සමාජවාදී-විප්ලවවාදීන්ගේ සෝවියට් විරෝධී ප්‍රවණතාවයන් බලවත් විය. ජූලි මාසයේදී මොස්කව්හි ජර්මන් තානාපති මීර්බාහ් ඝාතනය කිරීමත් සෝවියට් රුසියාව සහ ජර්මනිය අතර යුද්ධය ඇවිලීමේ බලාපොරොත්තුවෙන් සෝවියට් බලයට විරුද්ධව ආයුධ සන්නද්ධ කැරැල්ලකුත් ඔවුන්ගේ මධ්‍යම කාරක සභාව විසින් සංවිධානය කරන ලදී. ජූලි කැරැල්ල මර්දනය කිරීමෙන් පසු පැවැත්වුනු පස්වැනි සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනය, වාම සමාජවාදී-විප්ලවවාදී නායකත්වයේ අදහස් දැරූ ඔවුන්ගේ සාමාජිකයන් සෝවියට් සභාවලින් නෙර-

පීමට තීරණය කළේය. පොදු ජනතාව අතර කිසිම සහයෝගයක් නැති තත්වයට පත්වූ වාම සමාජවාදී-විප්ලවවාදී පක්ෂය සෝවියට් බලයට විරුද්ධව ආයුධ සන්නද්ධ අරගලයක් ආරම්භ කළේය. බොල්ෂෙවික්වරු සමග සහයෝගයෙන් කටයුතු කිරීමට අපේක්ෂා කළ වාම සමාජවාදී-විප්ලවවාදීහු, ''නාරෝද්නික් කොමියුනිස්ට්වරුන්'' සහ ''විප්ලවවාදී කොමියුනිස්ට්වරුන්'' නමින් පක්ෂ පිහිටුවා ගත්හ. මෙම පසු කී අයගෙන් සැලකිය යුතු සංඛ්‍යාවක් පසුව කොමියුනිස්ට් පක්ෂයට බැඳුනහ.

120 ''රබෝචි'' (''කම්කරුවා'') — තාවකාලික ආණ්ඩුව තහනම් කළ බොල්ෂෙවික් පක්ෂයේ ප්‍රධාන පත්‍රය වන ''ප්‍රාව්දා'' වෙනුවට 1917 අගෝස්තු 25 (සැප්තැම්බර් 7) සිට සැප්තැම්බර් 2(15) දක්වා පළ කරන ලද දිනපතා පත්‍රය.

121 අගෝස්තු 24 (සැප්තැම්බර් 6) දින වොලොදර්ස්කි කම්කරු සහ සොල්දදු නියෝජිත සෝවියට් සභාවේ මධ්‍යම විධායක කාරක සභාවේද ගොවි නියොජිත සෝවියට් සභාවල විධායක කාරක සභාවේද රැස්වීමේදී, පෙරමුණෙහි තත්වය ගැන කළ කථා සම්බන්ධයෙන් ''නෝවාය ෂිස්න්'' ඇතුළු ප්‍රවෘත්ති පත්‍ර ගණනාවක් පළ කළ වාර්තාව, 1917 සැප්තැම්බර් 8 (අගෝස්තු 26) දින ''රබෝචි'' අංක 2 කලාපයෙහි පළ වූ ''සියලුම සහෝදරවරුන් වෙත'' යන මැයෙන් වොලොදර්ස්කි විසින් ලියන ලද ලිපියෙන් නිෂ්ප්‍රභා කෙරුණි. ''මෙම අවස්ථාවේදී ආරක්ෂාව මූලික වශයෙන් වැදගත් කරුණකි'' යන්න ඔහු විසින් කියන ලද බව සඳහන් කළ වාර්තා ඔහුගේ කථාව විකෘති කළේය. රිගා පෙරමුණ බිඳගෙන ජර්මන් සේනා ඉදිරියට ඒම ගැන බොල්ෂෙවික් කණ්ඩායමේ ප්‍රකාශනයෙහි ඇතුළත් ප්‍රස්තුතයන් තම කථාවෙන් ඉදිරිපත් කළ බවත්, තමා තාවකාලික ආණ්ඩුවේ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තිය තියුණු දෝෂ දර්ශනයට ලක් කළ බවත්, විප්ලවවාදී ලෙස යුද්ධයෙන් ඉවත් වන ලෙස ඉල්ලූ බවත් වොලොදර්ස්කි ලීවේය.

122 ප්‍රෙඩරික් එංගල්ස්. ''බ්ලැන්කිවාදී කොමියුනිස්ට් විගාමිකයන්ගේ වැඩ පිළිවෙළ'' බලන්න. (මාක්ස් සහ එංගල්ස්).

123 එංගල්ස්. ''අනාගත ඉතලියානු විප්ලවය සහ සමාජවාදී පක්ෂය''.

124 කර්නිලව් ත්‍රස්තවාදී කැරැල්ල මැඩ පැවැත්වීමෙන් පසු, මෙන්ෂෙවික්වරු හා එස්ඒර්වරු හැරුනු විට කැඩෙට්වරුද ඇතුලත් විය යුතු වූ



තාවකාලික රජයේ නව අධිකාරී මණ්ඩලය තෝරා ගැනීම පිළිබඳ ප්‍රශ්නය මතු විය. පොදු ජනතාවගේ විශ්වාසය තව දුරටත් නැති කර ගැනීමට බිය වූ මෙන්ෂෙවිකයෝ හා එස්ඒර්වරු කැඩෙට්වරු සහභාගි වන රජයට ඇතුලත් වීම ප්‍රතික්ෂේප කළහ. 1914 සැප්තැම්බර් 1(14) තාවකාලික රජය, ඒ. එෆ්. කරෙන්ස්කි, ඒ. අයි. වෙර්හොව්ස්කි, එන්. වෙර්දෙරෙව්ස්කි, ඒ. එම්. නිකිතින් හා එම්. අයි තෙරේෂ්චෙන්කො යන පස්දෙනාගෙන් යුත් අධිකාරී මණ්ඩලයක් පත් කිරීමට තීරණය කළේය. මෙම අධිකාරී මණ්ඩලයට නිල වශයෙන් කැඩෙට්වරු ඇතුළත් නොවූ නමුත් එම මණ්ඩලය පත්කරන ලද්දේ ඔවුන් සමග රහසේ ඇති කරගන්නා ලද ගිවිසුමක් අනුවය. සැප්තැම්බර මස 2(15) දින පවත්වන ලද කම්කරු හා සොල්දදු නියෝජිත සෝවියට් සභාවේද ගොවිජන නියෝජිත සෝවියට් සභාවේද විධායක කාරක සභාවල ඒකාබද්ධ රැස්වීමේද මෙන්ෂෙවික්වරු තාවකාලික රජයේ නව අධිකාරී මණ්ඩලයට සහාය දීමේ යෝජනාවක් ඉදිරිපත් කළහ. කැඩෙට්වරුන්ට ආධාර නොකරන බව වචනයෙන් පමණක් පවසන මෙන්ෂෙවික්වරු හා එස්ඒර්වරු මෙහිදීද ඉඩම් හිමියන්ට සහ ධනපති පංතියට බලය ආරක්ෂා කර ගැනීමට උදව් දුන්හ.

125 ''වර්තමාන දේශපාලන තත්වය කෙටුම්පත් යෝජනාව'' ලෙනින් විසින් ලියන ලද්දේ සැප්තැම්බර් 3(16) දිනට නියමිතව තිබුණු පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ පූර්ණ රැස්වීම සඳහාය. නමුත් පූර්ණ රැස්වීම වෙනුවට පැවැත්වුනේ සාමාන්‍ය මධ්‍යම කාරක සභා රැස්වීමක් වූ අතර එහිදී දේශපාලන තත්වය ගැන සාකච්ඡා නොකැරුනි. මෙම කෙටුම්පත මධ්‍යම කාරක සභාව විසින් සාකච්ඡා කරන ලද බවට සටහනක් රු. ස. ප්‍ර. ක. (බො) ප. මධ්‍යම කාරක සභාවේ 1917 ලියවිලිවල නොමැත.

126 රු. ස. ප්‍ර. ක. (බො) ප. හයවැනි සම්මේලනය — මෙය 1917 ජූලි 26 සිට අගෝස්තු 3 (අගෝස්තු 8 සිට 16) දක්වා පෙට්‍රොග්‍රෑඩ්හි පැවැත්විනි.

න්‍යාය පත්‍රයේ ප්‍රධාන අංකය වූයේ මධ්‍යම කාරක සභාවේ දේශපාලන වාර්තාව සහ දේශපාලන තත්වය ගැන වාර්තාවය.

දේශපාලන තත්වය පිළිබඳ සම්මේලන යෝජනාවේ පදනම ලෙස ලෙනින්ගේ මාර්ගෝපදේශක උපදෙස් උපයෝගී කර ගෙන තිබිණි. ජූලි සිද්ධීන්ගෙන් පසුව රටෙහි පැනනැගි දේශපාලන තත්වය පිළිබඳ තක්සේරුවක්ද විප්ලවයේ නව අවධියේදී පක්ෂය අනුගමනය කරන දේශපාලන පිළිවෙතද එහි අඩංගු විය. විප්ලවය සාමකාමී

ලෙස වර්ධනය වීම අවසාන වී ඇති බවත්, රටේ පලන බලය සම්පූර්ණයෙන්ම ප්‍රතිවිප්ලවවාදී ධනපති පංතියට අයත්ව ඇති බවත් සම්මේලනය පිළිගත්තාය. එම අවස්ථාවේදී, මෙන්ෂෙවික්වරුන්ගේ හා එස්ආර්වරුන්ගේ නායකත්වය යටතේ පැවති සෝවියට් සභා ප්‍රතිවිප්ලවවාදී තාවකාලික රජයේ අවයවයක්ව පැවති නිසා ''සියලුම බලය සෝවියට් සභාවලට!'' යන සටන්පාඨය, ලෙනින්ගේ උපදෙස් පරිදි තාවකාලිකව ඉවත් කිරීමටද සම්මේලනය තීරණය කළාය. එහෙත් එම සටන්පාඨය ඉවත් කිරීමෙන්, නිර්ධන පංතියේ අධිපත්‍යයේ රාජ්‍ය ක්‍රමයක් ලෙස සෝවියට් සභා ප්‍රතික්ෂේප කිරීම අදහස් නොවේ. ආයුධ සන්නද්ධ කැරැල්ලක් මගින් ප්‍රතිවිප්ලවවාදී ධනපති පංතිය සම්පූර්ණයෙන්ම විනාශ කොට නිර්ධන පංතිය දුප්පත් ගොවි ජනතාව සමග එකතුව සම්පූර්ණ රාජ්‍ය බලය අල්ලා ගැනීම සඳහා සටන පිළිබඳ සටන්පාඨය සම්මේලනය විසින් ඉදිරිපත් කරන ලදී. සමාජවාදී විප්ලවයේ ජයග්‍රහණය සඳහා නිර්ධන පංතිය සහ දුප්පත් ගොවිජනතාව අතර සන්ධානය ඉතාමත් වැදගත් කොන්දේසියක් බව කියන ලෙනින්ගේ ප්‍රවාදය සම්මේලනය විසින් විශේෂයෙන් අවධාරණය කරන ලදී. සමාජවාදී විප්ලවය සඳහා වූ පක්ෂයේ ක්‍රියාමාර්ගයට විරුද්ධ වූ සහ බටහිර යුරෝපයේ සමාජවාදී විප්ලවය ජයග්‍රහණය කරන තෙක් රුසියාවේ සමාජවාදය ජයග්‍රහණයට පත් විය නොහැකි බව කී ට්‍රොට්ස්කිවාදීන්ගේ මතය මෙම සම්මේලනයෙන් තරයේ නිෂ්ප්‍රභා කෙරිනි. එම සම්මේලනය බොල්ෂෙවික් පක්ෂයේ ආර්ථික වැඩ පිළිවෙළ අනුමත කර නව පක්ෂ ව්‍යවස්ථාව සම්මත කළේය. ප්‍රතිවිප්ලවවාදී තාවකාලික ආණ්ඩුවේ උසාවිය ඉදිරියේ ලෙනින් පැනී සිටීමට විරුද්ධව එම සම්මේලනය යෝජනාවක් සම්මත කළේය.

ධනපති පංතිය සමග තීරණාත්මක සටන සඳහා බොල්ෂෙවික් පක්ෂයේ ධජය යටතේ ශක්තිය එක්රැස් කරමින් සූදානම් වන ලෙස කම්කරුවන්, සොල්දාදුවන් සහ ගොවි ජනතාව වෙත ආයාචනා කරන ප්‍රකාශනයක්, එම සම්මෙලනය විසින් මෙනමින් නිකුත් කරන ලදී.

127 මූලේව්ජ හමුදුව — මෙය පළමු ලෝක යුද්ධය සමයේ උතුරු කොකේසියානු කඳුකර ජනතාවන් අතරින් බඳවා ගත් ස්වේච්ඡා භටයන්ගෙන් සමන්විත විය.

128 කිත්-කීතිච් (වචනාර්ථයෙන් තල්මස් රාළ තල්මසා) තිත් තීතිච් යනු, ඒ. න්. අස්ත්‍රොව්ස්කිගේ ''අනුන්ගේ කරදරවලට කර ගැසීම'' යන කථාවෙහි එන ධනවත් වෙළෙන්දෙකි. ලෙනින් කිත්-කීතිච් යන විකට නාමය යොදන්නේ ලොකු ධනපති ව්‍යාපාරිකයන් හැඳින්වීමටය.



129 සමස්ත රුසියා ප්‍රජාතන්ත්‍රවාදී සාකච්ඡා සභාව — මෙන්ෂෙවික් සහ සමාජවාදී-විප්ලවවාදී සෝවියට් සභා මධ්‍ය විධායක කාරක සභාව, බලය පිළිබඳ ප්‍රශ්නය තීරණය කිරීම සඳහා මෙම සාකච්ඡා සභාව කැඳවීය. එය 1917 සැප්තැම්බර් 12(25) දින පැවැත්වීමට නියමිතව තිබුණ නමුත් එය කල්දමන ලදින් සැප්තැම්බර් 14 සිට 22 (සැප්තැම්බර් 27 සිට ඔක්තෝබර් 5) දක්වා පෙට්‍රොග්‍රෑඩ්හිදී පැවැත්වින. මෙන්ෂෙවික්වරු සහ සමාජවාදී-විප්ලවවාදී නායකයෝ තමන්ට සම්මේලනයේ බහුතරයක් ඇති කර ගැනීම සඳහා කම්කරුවන්ගේ හා ගොවි ජනතාවගේ නියෝජිතත්වය අඩු කිරීමටත්, විවිධ සුළු ධනපති සහ ධනපති සංවිධානවලින් එන නියෝජිතයන් ගණන වැඩි කිරීමටත් හැකි සියල්ලක්ම කළහ. මෙන්ෂෙවික්වරුන් හා සමාජවාදී-විප්ලවවාදීන් ගැන හෙළිදරව් කිරීමේ අරමුණ ඇතිව බොල්ෂෙවික්වරු සාකච්ඡා සභාවට සහභාගි වූහ.

තාවකාලික ආණ්ඩුව අනුමත කරන රෙගුලාසි අනුව ආණ්ඩුවට උපදේශක සභාවක් වන පූර්ව පාර්ලිමේන්තුවක් (සමූහාණ්ඩුවේ තාවකාලික මණ්ඩලය) පිහිටුවීමට ප්‍රජාතන්ත්‍රවාදී සාකච්ඡා සභාව තීරණය කළේය.

ප්‍රජාතන්ත්‍රවාදී සාකච්ඡා සභාව සම්බන්ධයෙන් බොල්ෂෙවික්වරුන් අතින් සිදුවූ වැරදි ලෙනින් විවේචනය කළේය. ඔවුන් පූර්වපාර්ලිමේන්තුවෙන් ඉවත් විය යුතු බවත්, නැගී සිටීම සංවිධානය කිරීම සඳහා සියළු ප්‍රයත්නයන් සංකේන්ද්‍රණය කළ යුතු බවත් ලෙනින් බල කර කිවේය. ලෙනින්ගේ යෝජනාව සාකච්ඡා කළ පක්ෂයේ මධ්‍යම කාරක සභාව කාමෙනෙව්, රිකොව් සහ වෙනත් යටත් වන්නාන්ගේ ප්‍රතිරෝධය නොතකා, බොල්ෂෙවික්වරු පූර්ව පාර්ලිමේන්තුවෙන් ඉවත්විය යුතු බව තීරණය කළේය. එය විවෘත කළ ඔක්තෝබර් 7(20) දින බොල්ෂෙවික්වරු ඔවුන්ගේ ප්‍රකාශය කියවා ඉන් ඉවත් වූහ.

130 ''දේන්'' (දවස) — 1912 සිට 1917 ඔක්තෝබරය දක්වා සාන්ත පීටර්ස්බර්ග්හි පළ කෙරුනු ලිබරල්-ධනපති දින පතා පත්‍රයකි. පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසුව එය මෙන්ෂෙවික් ලික්විඩේටර්වරුන්ගේ පත්‍රයක් විය.

131 ''ස්වබෝද්නයා ෂිස්නි'' (නිදහස් ජීවිතය) — තාවකාලික ආණ්ඩුව විසින් වසා දමන ලද ''නොවයා ෂිස්න්'' වෙනුවට 1917 සැප්තැම්බරයේ පෙට්‍රොග්‍රෑඩයේ පළ කෙරුණු මෙන්ෂෙවික් දිනපතා පත්‍රයකි. (අංක 85 සටහන බලන්න).

132 මෙහි අදහස් කරන්නේ පෙට්‍රොග්‍රෑඩ් හා මොස්කව් නගරය.

133 පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාව, ප්‍රථම වතාවට, එහි 1917 අගෝස්තු 31 (සැප්තැම්බර් 13) පූර්ණ රැස්වීමේදී, ධනපති පංතිය සමග සම්මුති ගත වීමේ ප්‍රතිපත්තිය බලවත් සේ ප්‍රතික්ෂේප කරමින් බොල්ෂෙවික් යෝජනාවක් අනුමත කළේය. යෝජනාවට පක්ෂව ඡන්ද 279 ක්ද, විපක්ෂව ඡන්ද 115 ක්ද, ඡන්දය වැළකුණු 50 ක්ද වූ අතර එය වැඩි ඡන්දයෙන් සම්මත විය. සෝවියට් සභාවලට සියළු බලය පවරන ලෙස කී එය, රටේ විප්ලවවාදී වෙනස්කම් ඇති කිරීම සඳහා වැඩ පිළිවෙළක සටහනක්ද ඉදිරිපත් කළේය. ඊට දින කීපයකට පසුව, බොල්ෂෙවික්වරු තවත් විශාල ජයග්‍රහණයක් ලැබූහ. සැප්තැම්බර් 5 (18) දින මොස්කව් කම්කරු සහ සොල්දදු සෝවියට් සභාවද වැඩි ඡන්ද 355 කින් එවැනිම යෝජනාවක් සම්මත කළේය.

134 මෙහි සඳහන් වන්නේ තාවකාලික ආණ්ඩුව විසින් විප්ලවය විනාශ කිරීම සඳහා ප්‍රතිවිප්ලවවාදී බලවේගයන් ඒකරාශී කිරීමේ අරමුණ ඇතිව රාජ්‍ය සම්මන්ත්‍රණය පිළිබඳවය. පෙට්‍රොග්‍රෑඩ් විප්ලවවාදී කම්කරු පංතියට බිය වූ ධනපති පංතිය සම්මන්ත්‍රණය මොස්කව්වල පැවැත්වීමට තීරණය කළහ.

මොස්කව්වල කැඳවන ලද සම්මන්ත්‍රණය විප්ලවයට විරුද්ධව ප්‍රතිවිප්ලවවාදී ධනපති පංතිය කරන කුමන්ත්‍රණයක් ලෙසද, සම්මන්ත්‍රණයට සහයෝගය දක්වන මෙන්ෂෙවික්වරුන්ගේ එස්ආර්වරුන්ගේ එහි කර්යභාරයද හෙළිදරව් කරන ලෙස බොල්ෂෙවික් පක්ෂයේ මධ්‍යම කාරක සභාව පක්ෂ සංවිධානවලින් ඉල්ලා සිටියේය.

සම්මන්ත්‍රණය 1917 අගෝස්තු 12-15 (25-28) දිනවල මොස්කව්හිදී පැවැත්විණි. ඉඩම් හිමියන්ගේ සහ ධනපති පංතියේ නියෝජිතයෝද හමුද උසස් නිලධාරීහුද,රාජ්‍ය දූමා සභාවේ හිටපු සාමාජිකයෝද, කැඩෙට් පක්ෂයේ නායකයෝද, සෝවියට සභා නියෝජිතයෝද, මෙන්ෂෙවික් හා එස්ආර් පක්ෂවල නායකත්වයෙන් යුත් වෘත්තීය සංගම් නියෝජිතයෝද සහභාගි වූහ. සම්මන්ත්‍රණයේදී කථා කළ ජෙනරල් කර්නිලව් හා ජෙනරල් කලේදින් තම කථාවලින් විප්ලවය පාගා දැමීමේ වැඩ පිළිවෙළ ඉදිරිපත් කළහ. සෝවියට් සභා විසුරුවා හරින ලෙසද යුද හමුදවේ ඇති සමාජ සංවිධාන විසුරුවා හරින ලෙසද යුද පෙරමුණෙහි මරණීය දණ්ඩනය නැවත ඇති කරන ලෙසද, ජයග්‍රහණය දක්වා යුද්ධය කරගෙන යන ලෙසද ඔවුහු බලකර සිටියහ.

සම්මන්ත්‍රණයට විරුද්ධව කම්කරුවන්ගේ, සොල්දදුවන්ගේ හා ගොවීන්ගේ සමස්ත මහා විරෝධය පෑමක් සංවිධානය කරන ලෙස බොල්ෂෙවික් පක්ෂය ඉල්ලා සිටියේය.

පක්ෂයේ මොස්කව් කොමිටියේ තීරණය පරිදි අගෝස්තු 12 (25) දින පවත්වන ලද වැඩ වර්ජනයට ලක්ෂ හතරකට වඩා ජනකායක් සහභාගි වූහ. මොස්කව්කරුවන්ගේ වැඩ වර්ජනය නිසා ප්‍රතිවිප්ලවවාදීන්ගේ වැඩ පිළිවෙළ විනාශ විය. වෙනත් නගරවලද විරෝධය පෑමේ රැස්වීම් හා වැඩ වර්ජන ඇති විය.

135 වන්දේ — දහ අටවැනි ශත වර්ෂයේ ප්‍රංශ ධනපති විප්ලවයේදී ප්‍රතිවිප්ලවයේ මධ්‍යස්ථානය වූ ප්‍රංශ පළාතකි. එය ප්‍රතිවිප්ලවය යන්නට සමාන අර්ථයක් දෙන තත්වයට පත්ව ඇත.

අව්ක්සෙන්තියෙව් නිකොලායි ද්මිත්‍රිවිච් (1878-1943)—එස්ඒර් පක්ෂයේ නායකයෙක් සහ එහි මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසුව ගොවි නියෝජිතයින්ගේ සමස්ත රුසියා සෝවියට් සභාවේ විධායක කොමිටියේ සභාපති තනතුරද, කේරෙන්ස්කිගේ දෙවැනි සභාග ආණ්ඩුවේ විදේශ කටයුතු භාර ඇමති ධුරයද ඉසිලීය. පසුව සමූහාණ්ඩුවේ (පාර්ලිමේන්තු පූර්ව) ප්‍රතිවිප්ලවවාදී තාවකාලික මණ්ඩලයේ සභාපති ධුරය ඉසිලුවේය. — පිටු 238.

අක්සෙල්රොද්, පාවෙල් බරිසවිච් (1850-1928) — මෙන්ෂෙවික්වාදයේ එක් නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී මධ්‍යස්ථවාදී වදන්මාලාවලට මුවා වෙමින් සමාජ-ජාතෝන්මාදවාදී පිළිවෙතක් අනුගමනය කළේය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවේ විධායක කොමිටියේ සාමාජිකයෙකු වූ අතර ධනපති තාවකාලික ආණ්ඩුවට සහයෝගය දැක්වූයේය. — පිටුව 55.

පළමුවැනි අලෙක්සාන්දර් (රොමානොව්) (1777-1825) — රුසියානු අධිරාජයෙකි (1801-1825). — පිටුව 130.

අලෙක්සෙයෙව්, මිහයිල් වසීල්යෙවිච් (1857-1918) — සාර්වාදී යුද හමුදාවේ ජෙනරාල් වරයෙකි, රාජාණ්ඩුවාදියෙක් හා ප්‍රතිවිප්ලවවාදියෙකි. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට අනතුරුව හමුදපති වශයෙන්ද පසුව කේරෙන්ස්කිගේ හමුදාවේ මූලස්ථාන ප්‍රධානියා වශයෙන්ද කටයුතු කළේය. — පිටු 275, 279.

අලෙක්සින්ස්කි, ග්‍රිගෝරි අලෙක්සේයවිච් (උපත 1879) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු ලෙස දේශපාලනය ආරම්භ කළේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාත්‍යාන්මාදවාදියෙකු වූ මොහු ධනපති පුවත් පත් ගණනාවකටම සේවය කළේය. 1917 දී ප්ලෙහානව්වාදී "යෙදින්ස්ත්වො" කණ්ඩායමට එකතු විය. ප්‍රතිවිප්ලවවාදී පිළිවෙතක් අනුගමනය කළේය. 1917 ජූලි මාසයේදී හමුද ඔත්තු සේවයේ ආධාරයද ඇතිව හොර ලියවිලි පිළියෙළ කළ ඔහු වී. අයි. ලෙනින් අපවාදයට භාජනය කළේය. — පිටු 161, 162, 164, 165, 173, 179.

ඇඩ්ලර් (Adler) වික්තර් (1852-1918) — ඔස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ එක් සංවිධායකයෙක් සහ නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථ පිළිවෙතක් අනුගමනය කළේය. "පංති සාමය" දේශනා කරමින් කම්කරු පංතියේ විප්ලවවාදී කටයුතුවලට විරුද්ධව සටන් කළේය. — පිටුව 55.

ආද්ලර් (Adler) ෆ්‍රෙද්රිහ් (1876-1960) — ඔස්ත්‍රියානු සමාජ ප්‍රජාතන්ත්‍රවාදියෙකි. මාක්ස්වාදී වදන්වලට මුවා වෙමින් මාක්ස්වාදී විප්ලවවාදය ප්‍රතික්ෂේප කළ ඊනියා ඔස්ත්‍රෝ-මාක්ස්වාදයේ න්‍යායාචාර්ය වරයෙකි. 1916 ඔක්තෝබර් 21 වැනි දින ත්‍රස්තවාදී ලෙස කටයුතු කරමින් ඔස්ත්‍රියානු අගමැති ෂ්තියුර්ග් වෙඩිතබා මරා දැම්මේය. — පිටුව 58.

උමාන්ස්කි, ඒ. එම් — පත්‍ර කලාවේදියෙකි, 1917 ජූලි මාසයේදී ලෙනින්ට විරුද්ධව අලෙක්සින්ස්කි හා පන්ක්‍රාතව් පළ කළ අපවාදකාරී ලිපිය මුද්‍රණය කළ පෙත්‍රොග්‍රෑඩ් පුවත් පතක් වූ කළු සියය "ශිවොය ස්ලෝව" පත්‍රයේ ප්‍රකාශකවරයා හා කර්තෘ වරයාය. — පිටුව 162.

එංගල්ස් (Engels), ෆ්‍රෙඩ්රික් (1820-1895) — පිටු 27, 45, 63, 64, 66, 73, 88, 211.

ක්ලෙම්බෝව්ස්කි, ව්ලදීමිර් නැපොලියෝනවිච් (1860-1921) — සාර් හමුදවේ ජෙනරල්වරයෙකි. 1917 මැයි මාසයේ සිට උතුරු පෙරමුණේ අනදෙන නිලධාරියාය. ප්‍රතිවිප්ලවයට සහභාගි වූ ප්‍රමුඛයෙකි. — පිටු 220, 275.

කවෙනයාක් (Cavaignac), ලුයි එෂන් (1802-1857) — ප්‍රංශ ජෙනරල් වරයෙකි, ප්‍රතිගාමී දේශපාලනඥයෙකි. ප්‍රංශයේ ආණ්ඩු ක්‍රම සම්පාදක මණ්ඩලයට තෝරා පත්වීමෙන් පසුව 1848 මැයි මාසයේ සිට ප්‍රංශ යුද්ධ කටයුතු භාර ඇමතිවරයා විය. 1848 ජූනි මස ප්‍රංශයේ හමුද ඒකාධිපතිත්වයේ නායකයා බවට පත්වූ මොහු පැරිස් කම්කරුවන්ගේ ජූනි නැගීසිටීම මෘග ලෙස මර්දනය කළේය. 1848 ජූලි සිට දෙසැම්බර් දක්වා විධායක බල මණ්ඩලයේ ප්‍රධානියා ලෙස කටයුතු කළේය. — පිටු 174, 182, 183.

කලේදින්, අලෙක්සෙයි මක්සීමවිච් (1861-1918) — සාර් හමුදවේ ජෙනරල්වරයෙකු වූ මොහු දොන් කොසෙක්සියානු ප්‍රදේශයේ අටමාන් වරයාය. 1917 මොස්කව්හි පැවති රාජ්‍ය සම්මේලනයේදී විප්ලවය මර්දනය කිරීමේ විවෘත වැඩ පිළිවෙළ ඉදිරිපත් කළේය. කර්නිලව් කැරැල්ලට සහභාගි විය. — පිටු 275, 284, 285.

කාමෙනෙව් (රොසෙන්ෆේල්ද්), ලෙව් බරීසවිච් (1883-1936) — 1901 සිට බොල්ෂෙවික් පක්ෂයේ සාමාජිකයෙකි. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසු සමාජවාදී විප්ලවය පිළිබඳ පක්ෂයේ ලෙනින්වාදී පිළිවෙතට විරුද්ධ විය. 1917 ඔක්තෝබර් මාසයේදී සිනොව්යෙව් හා තමන්ගේද නාමයෙන් අවිගත් නැගිටීමක් සංවිධානය කිරීම පිළිබඳ මධ්‍යම කාරක සභාවේ යෝජනාවට විරුද්ධව අර්ධ මෙන්ෂෙවික්වාදී වූ "නෝවය ෂිස්න්" ලිපියක් පළ කළේය. එයින් ඔහු පක්ෂයේ රහස් තීරණ ප්‍රසිද්ධියට පත්කළ අතර විප්ලවයද පාවා දුන්නේය.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු පක්ෂයේ හා සෝවියට් සභාවල නායක ධුර ඉසිලුවේය. පක්ෂ විරෝධී කටයුතු නිසා පසුව පක්ෂයෙන් නෙරපන ලදී. — පිටු 92, 93, 94.

කස්ලොව්ස්කි, එම්. යූ. (1876-1927) — පෝලන්ත හා රුසියානු විප්ලව ව දී ව්‍යාපාරයේ ක්‍රියාකාරකයෙකි. 1900 ගණන්වල සිට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජිකයෙකි. පෝලන්ත හා ලිත්වියානු රාජධානියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයේ ප්‍රධාන බල මණ්ඩලයේ සාමාජිකයෙකුව සිටියේය. 1917 පෙබරවාරි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු පෙත්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවේ හා මධ්‍යම විධායක කාරක සභාවේ පළමු සැසිවාරයේ සමාජිකයෙකි. — පිටු 164, 165.

කර්නිලව්, ලාව්ර් ගියෝර්ගියෙවිච් (1870-1918) — සාර් හමුදවේ ජෙනරාල් කෙනෙකි. 1917 ජූලි මාසයේ සිට තාවකාලික ධනපති ආණ්ඩුවේ

අග්‍ර සෙන්පතියා විය. අගෝස්තු මාසයේදී ප්‍රතිවිප්ලවවාදී කැරැල්ලක් මෙහෙයවිය. කැරැල්ල මර්දනය කිරීමෙන් පසු සිරගත වූ නමුත් ඉන් දෙන් ප්‍රදේශයට පැන ගොස් ''ස්වේච්ඡානුගත'' ප්‍රතිවිප්ලවවාදී සුදු හමුදාවේ අණදෙන ප්‍රධාන සෙනවියා බවට පත් විය. යෙකතෙරිනොදර් අසල සටනකදී මිය ගියේය.— පිටු 204, 206, 207, 208, 214, 219, 220, 235, 251, 262, 274, 275, 277, 279, 280, 282, 284, 285, 289, 290.

කස්ත්‍රෝව් — ජොර්දනියා, එන්. එන්. බලන්න

කාර්ල්සොන් (Carleson), කාර්ල් නතනෙල් (1865-1929) — ස්වීඩනයේ වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී — ජාත්‍යන්තරවාදියෙකි. 1917-1924 අවුරුදුවලදී ස්වීඩන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වාම විරුද්ධ පක්ෂයේ ප්‍රධාන ප්‍රකාශනය වූ "Politiken" (''දේශපාලනය'') පතෙහි සංස්කාරක ධූරය දැරුවේය. එම අවුරුදුවලදී ඔහු ස්වීඩන් කොමියුනිස්ට් පක්ෂයේ සාමාජිකයෙකුද විය. — පිටුව 58.

කෙරෙන්ස්කි, අලෙක්සාන්දර් ෆ්‍යෙයෝදරවිච් (1881-1970) — සමාජවාදී විප්ලවවාදියෙකි. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු අධිකරන ඇමති වශයෙන්ද යුද්ධ හා නාවික ඇමති වශයෙන් ද පසුව ධනපති තාවකාලික රජයේ නායකයා හා හමුදාවේ ප්‍රධාන අණදෙන නිලධාරී වශයෙන්ද කටයුතු කළේය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු සෝවියට් රජයට විරුද්ධව සටන් මෙහෙයෙව්වේය. 1918 දී විදේශයට පැන ගියේය. — පිටු 11, 12, 16, 17, 18, 21, 34, 39, 52, 71, 81, 165, 173, 174, 185, 195, 197, 200, 201, 207, 208, 216, 220, 221, 235, 237, 238, 240, 244, 253, 254, 255, 256, 262, 269.

කෞට්ස්කි (Kautsky), කාල් (1854-1938) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ එක් නායකයෙකි. මොහු ආරම්භයේදී මාක්ස්වාදියෙකු වුවද අනතුරුව මාක්ස්වාදය පාවාදුන් ද්‍රෝහියෙකු බවට පත්විය. අවස්ථාවාදයේ ඉතාම හානිදයක හා භයානක විවිධත්වයක් වන මධ්‍යගතවාදයේ (කෞට්ස්කිවාදයේ) න්‍යායාචාර්ය වරයාය. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ න්‍යායාත්මක සඟරාව වූ "Die Neue Zeit"(''නව අවධිය'')හි සංස්කාරක වරයාය. — පිටු 25, 26, 30, 45, 46, 47, 55, 57, 59, 60, 61, 64.

ග්වොස්දියොව්, කුස්මා අන්තෝනවිච් (උපත 1883) — රුසියානු සමාජ ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවික් වාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ — සමාජ-ජාත්‍යාන්මාදවාදියෙකි, ප්‍රධාන යුද්ධ-කර්මාන්ත කමිටුවේ ක්‍රියාකාරී කණ්ඩායමේ සභාපති වරයා ය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු — පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවේ විධායක කමිටුවේ සාමාජිකයෙකි, උප ඇමතිවරයෙකි. පසුව ධනපති තාවකාලික රජයේ කම්කරු ඇමැති ධූරය ඉසිලීය. — පිටු 11, 12, 14, 19.

ගගාරින්. ඒ. වී. — ආදිපාද වරයෙකි. සාර් හමුදාවේ ජෙනරල් වරයෙකි. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු — කොකේසියානු ඩිවිසන් හමුදාවේ අනදෙන නිලධාරියාය. කර්නිලව් ප්‍රතිවිප්ලවවාදී කැරැල්ලට සහභාගි විය. — පිටුව 275.

ගිල්බෙ, (Guilbeaux), අන්රි (1885-1938) — ප්‍රංශ සමාජවාදියෙක් හා පත්‍රකලාවේදියෙකි පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථවාදියෙකි, "Demain", (''හෙට'') නැමැති සඟරාව පළ කළේය,ජාත්‍යන්තර සම්බන්ධතාවය ඇතිකරගත යුතුයැයි කියා සිටියේය. 1916 දී කින්තාල් සාකච්ඡා සභාවට සහභාගි විය. — පිටුව 57.

ගුච්කොව්, අලෙක්සාන්දර් ඉවානවිච් (1862-1936) — ධන කුවේරයෙකි. ඔක්තෝබර්වාදීන්ගේ පක්ෂයේ සංවිධායකයා හා නායකයා ය. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී ප්‍රධාන යුද්ධ-කර්මාන්ත කමිටුවේ සහ ආරක්ෂක කටයුතු පිළිබඳ බල මණ්ඩලයේ සභාපති තනතුර දැරුවේය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු ඇතිවූ පළමුවැනි ධනපති ආණ්ඩුවේ යුද්ධ හා නාවුක කටයුතු භාර ඇමතිවරයාය.1917 අගෝස්තු මාසයේදී කර්නිලව් කැරැල්ල සංවිධානය කර එයට සහභාගි විය. — පිටු 10, 11, 14, 15, 16, 19, 20, 21, 33, 39, 40, 41, 42, 65, 71, 76, 80, 82, 84, 94, 113, 123, 139, 200, 285, 286.

ගෙද් (Guesde), ජුල් (බසිල්, මතෙය) (1845-1922) — ප්‍රංශ සමාජවාදී ව්‍යාපාරයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ ප්‍රාරම්භක නායකයින්ගෙන් අයෙකි. මාක්ස්වාදී දෘෂ්ටිය පතුරුවාහැරීම සඳහා හා ප්‍රංශයේ සමාජවාදී ව්‍යාපාරයේ වර්ධනය සඳහා ගෙද් අතින් සිදුවූ සේවය අති විශාලය.

එහෙත් දක්ෂිණාංශික සමාජවාදීන්ට විරුද්ධව කටයුතු කිරීමේදී න්‍යායාත්මක මෙන්ම ව්‍යවහාරික ප්‍රශ්න වලදීද නිකායික ස්වරූපයේ වැරැදි බොහොමයක්ම කළේය. පළමුවැනි ලෝක යුද්ධය ආරම්භයේ පටන්ම සමාජ-ජාතොයාන්මාද වාදියෙක් බවට පත්වූ ඔහු පසුව ප්‍රංශයේ ධනපති රජයට ඇතුළු විය. — පිටුව 54.

ගොල්ඩන්බෙර්ග්, යිඔසිෆ් පෙත්‍රොවිච් (1873-1922) — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී ආරක්ෂාවාදියෙක් හා ප්ලෙහානව්ගේ ආධාරකරුවෙක් විය. 1917-1919 අවුරුදුවලදී ''නෝවයා ෂිස්න්'' කණ්ඩායමට එකතු විය. —පිටු 26 , 27.

ගෝර්ටර් (Gorter), හර්මන් (1864-1927) — ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. 1907 "De Tribune" (''වේදිකාව'') නැමැති පත්‍රය පළකිරීම ආරම්භ කළ එක් අයෙකි.එම පත්‍රය 1909 දී ඕලන්දයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය බවට පෙරළුනු ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ ප්‍රධාන ප්‍රකාශනය විය. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී ගොර්ටර් ජාත්‍යන්තරවාදියෙක් විය. — පිටුව 57.

ග්‍රෙයිලිහ් (Greulich), හර්මන් (1842-1925) — ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය ආරම්භ කළ අයගෙන් කෙනෙකි. එහි දක්ෂිණාංශික පිළේ නායකයාය. 1902 සිට ස්විට්සර්ලන්ත පාර්ලිමේන්තු මන්ත්‍රීවරයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාතොයාන්මාද වාදියෙකි, ට්සිමර්වෝල්ඩ් වාමාංශයට විරුද්ධව සටන් මෙහෙයවූයේය. — පිටුව 60.

ග්‍රිම් (Grimm), රොබට් (1881-1958) — ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ එක් නායකයෙකි. 1909-1918 අවුරුදුවලදී පක්ෂයේ ප්‍රධාන ලේකම් තනතුර දැරූ අතර "Berner Tagwacht (''බෙර්න් මුරකරුවා'') පත්‍රයෙහි ප්‍රධාන සංස්කාරක තනතුරද දැරුවේය. 1911 සිට ස්විට්සර්ලන්ත පාර්ලිමේන්තු මන්ත්‍රීවරයෙකි. පළමුවැනි ලොක යුද්ධය කාලයේදී මධ්‍යස්ථවාදය අනුගමනය කළ ඔහු ට්සිමර්වොල්ඩ් හා කින්තාල් සාකච්ඡා සභාවලද ජාත්‍යන්තර සමාජවාදී කොමිසමේද සභාපති ධුර ඉසිලුවේය. — පිටු 55, 60.

චහෙයිද්සෙ, නිකලායි සෙමියෝනවිච් (1864-1926) — මෙන්ෂෙවික්වාදයේ එක් නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී මධ්‍යස්ථවාදියෙක් බවට පත්විය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය කාලයේදී රාජ්‍ය දූමා සභාවේ තාවකාලික කමිටුවට ඇතුලත් විය. ආරක්ෂාවාදියෙකි. චහෙයිද්සෙ පෙට්‍රොග්‍රෑඩ් කම්කරු හා සොල්දදු සෝවියට් සභාවේද මධ්‍ය විධායක කාරක සභාවේ පළමු සැසිවාරයේ සභාපති ධුරයද ඉසුලුවේය. තාවකාලික රජයට දැඩි සහයෝගයක් දැක්වූවේය. — පිටු 11, 12, 19, 24, 26, 31, 32, 39, 41, 53, 55, 57, 78, 82, 94, 101, 110, 165.

චහෙන්කේලි, අකාකි ඉවානවිච් (1874-1957) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවික්වාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාතොයාන්මාදවාදී ස්ථාවරයක් දැරුවේය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයෙන් පසු ධනපති තාවකාලික රජයේ ට්‍රාන්ස් කොකේසියානු නියෝජිතයා විය. — පිටු 11, 18.

චෙර්නොව්, වික්තර් මිහායිලවිච් (1876-1952) — සමාජවාදී-විප්ලවවාදී පක්ෂයේ එක් න්‍යායාචාර්ය වරයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ වාමාංශික වදන් පාඨවලට මුවාවී සත්‍ය වශයෙන්ම සමාජ-ජාතොයාන්මාදවාදී ප්‍රතිපත්තියක් ගෙන ගියේය. 1917 මැයි-අගෝස්තු මාසවලදී ධනපති තාවකාලික ආණ්ඩුවේ ඉඩම් ඇමති ධුරය දැරීය. ඉඩම් හිමියන්ගේ ඉඩම් අල්ලාගත් ගොවීන් දුෂ්ඨ ලෙස පෑගීමේ ප්‍රතිපත්තියක් ඔහු අනුගමනය කළේය. — පටු 71, 159, 160, 174, 184, 185, 191, 198, 199, 200, 222, 228, 253, 262, 274, 275, 276, 293.

ජෙර්ෂින්ස්කි, ෆිලික්ස් එද්මුන්දවිච් (1877-1926) — සෝවියට් ආණ්ඩුවේ සහ කොමියුනිස්ට් පක්ෂයේ සම්භාවනීය නායකයෙකි, කොමියුනිස්ට් පක්ෂයේ සාමාජිකත්වය 1896 සිට දරන්නේය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු මොස්කව්හි පාක්ෂික කටයුතුවලට නායකත්වය දුන්නේය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට සූදානම් වූ කාලයේ සහ එය ක්‍රියාත්මක කළ කාලයේ, කොමියුනිස්ට් පක්ෂයේ මධ්‍යම කාරක සභාව විසින් පිහිටුවනා ලද නැගී සිටීම මෙහෙයවීමේ යුද්ධ-විප්ලවවාදී මධ්‍යස්ථානයේ හා පෙට්‍රොග්‍රෑඩ් යුද්ධ-විප්ලවවාදී කමිටුවේද සාමාජිකයෙකුව සිටියේය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පසු ප්‍රතිවිප්ලවය හා කඩාකප්පල් කිරීමට විරුද්ධව සටන්කළ සමස්ත රුසියානු විශේෂ (චෙකා) කොමිසමේ සභාපති වරයාය — පිටුව 131.

ජෝර්දනියා, නොයි නිකලායෙවිච් (කස්ත්‍රොව්) (1870-1953) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. කොකේසියානු මෙන්ෂෙවික්වාදීන්ගේ නායකයාය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාත්‍යොන්මාදවාදී පිළිවෙතක් අනුගමනය කළේය. 1917 පෙබරවාරි ධනපති විප්ලවයට පසු තිෆ්ලිසි සෝවියට් සභාවේ සභාපති ලෙස කටයුතු කළේය. — පිටුව 117.

ට්‍රියර් (Trier), හෙර්සන් (උපත 1851) — ඩෙන්මාර්ක් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. ඩෙන්මාර්ක් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වාමාංශික පිළේ නායකයාය. පක්ෂයේ ප්‍රතිසංස්කරනවාදී නායකත්වයේ සමාදනකාරී ප්‍රතිපත්තිවලට විරුද්ධව අරගලය මෙහෙයවූයේය. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී ජාත්‍යන්තරවාදී පිළිවෙතක් අනුගමනය කළේය. 1916 සැප්තැම්බර් මාසයේදී, ඩෙන්මාර්ක් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ සම්මේලනය විසින් තම පක්ෂය ධනපති රජයට ඇතුළු විය යුතුයයි ගන්නා ලද තීරනයට විරුද්ධව ඔහු කරුණු දක්වූ අතර එයට විරෝධතත්වය පැමක් වශයෙන් පක්ෂයෙන් ඉල්ලා අස්විය. — පිටුව 58.

ට්‍රොට්ස්කි (බ්‍රොන්ෂ්තෙයින්), ලෙව් දවිදවිච් (1879-1940) — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවිකයෙකි. 1905-1907 විප්ලවයේ පරාජයෙන් පසු ලික්විඩේටර් ස්ථාවරයක් ගත්තේය. යුද්ධය, සාමය හා විප්ලවය පිළිබඳ ප්‍රශ්නවලදී ලෙනින්ට හා බොල්ෂෙවික්වරුන්ට විරුද්ධ සටන මෙහෙයැව්වේය. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. 1917 දී ට්‍රොට්ස්කි බොල්ෂෙවික් පක්ෂයට බැඳුන නමුත් බොල්ෂෙවික්වාදී ප්‍රතිපත්ති අනුගමනය නොකළේය. රහස්‍ය ලෙස හා විවෘත ලෙස ලෙනින්වාදයට සහ බොල්ෂෙවික්වාදයට විරුද්ධව සටන් මෙහෙයවූයේය.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පසු රජයේ වගකිවයුතු තනතුරු කීපයක්ම දැරුවේය. එහෙත් ඔහු පක්ෂ ප්‍රධාන මාවතටද සෝවියට් දේශයේ සමාජවාදය ගොඩනැගීමේ වැඩ පිළිවෙළටද විරුද්ධව කටයුතු කළේය. 1927 දී ට්‍රොට්ස්කි පක්ෂයෙන් නෙරපා දමන ලදී. සෝවියට් විරෝධී කටයුතු නිසා ඔහු 1929 දී රටින් පිටුවහල් කර 1932 දී පුරවැසිභාවයද අහිමි කරන ලදී. — පිටුව 62.

ට්සෙරතේලි, ඉරාක්ලි ගියෝර්ගිවිච් (1882-1959) — මෙන්ෂෙවික්වාදයේ එක් නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ මධ්‍යස්ථවාදියෙක් විය. 1917 පෙබරවාරි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවේ විධායක සභාවේ සාමාජිකයෙකුව සිටියේය. ආරක්ෂවාදියෙකි. 1917 මැයි මාසයේදී ධනපති තාවකාලික රජයට ඇතුළු විය. එහි තැපල් හා විදුලිපණිවුඩ ඇමැති ධුරය දැරුවේය. ජූලි සිද්ධිවලට පසු ස්වදේශ කටයුතු භාර ඇමැති ධුරයට පත්විය. බොල්ෂෙවික්වරුන් භේද කරවීමට සහ ඝාතනය කරවීමට වැර දැරුවේය. — පිටු 22, 24, 31, 32, 39, 41, 53, 55, 57, 63, 71, 78, 82, 101, 110, 165, 174, 184, 185, 198, 199, 228, 252, 253, 262, 274, 293.

තියොදෙරවිච්, ඉවාන් අදෙල්ෆොවිච් (1875-1940) — වෘත්තීයෙන් විප්ලවවාදියෙකු වූ මොහු 1895 දී තම විප්ලවවාදී කටයුතු ආරම්භ කළේය. රු. ස. ප්‍ර. ක. ප. දෙවැනි සම්මේලනයට පසු බොල්ෂෙවික්වාදියෙක්. 1917 දක්වා මොස්කව්, පෙට්‍රොග්‍රෑඩ්, ස්මලියන්ස්ක්, සයිබීරියා නගරවල බොල්ෂෙවික් සංවිධානවල වැඩ කළේය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පසු ආහාර අමාත්‍යාංශයේ ජනතා කොමිසාර් (ඇමැති) තනතුර ඉසිලුවේය. — පිටුව 39.

තුරාති (Turati), ෆිලිප්පො (1857-1932) — ඉතලියානු කම්කරු ව්‍යාපාරයේ නායකයෙකි. ඉතලියානු සමාජවාදී පක්ෂයේ (1892) ප්‍රාරම්භක සංවිධායකයෙක් වූ මොහු එහි ප්‍රතිසංස්කරනවාදී දක්ෂිණාංශික පිළේ නායකයාද විය. 1896 දී පාර්ලිමේන්තුවට තේරී පත්වී එහි සමාජවාදී-ප්‍රතිසංස්කරනවාදී කණ්ඩායමට නායකත්වය දුන්නේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථවාදියෙක් විය. — පිටු 26, 55, 60.

තිෂ්කා (Tyszka), යාන් (යොගිහෙස් ලියෝ) (1867-1919) — පෝලන්ත හා ජර්මන් කම්කරු ව්‍යාපාරයේ ප්‍රමුඛ නායකයෙකි. පෝලන්ත හා ලිත්වියානු රාජධානියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ප්‍රාරම්භකයෙක් වූ මොහු එහි ප්‍රධාන බල මණ්ඩලයේ සාමාජිකයෙකුවද සිටියේය. ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරය තුළ වූ සංශෝධනවාදයට විරුද්ධව සටන්කළ අතර පෝලන්ත හා රුසියානු නිර්ධන පංතිය ඒකාබද්ධව සටන් කළ යුතු යැයි පෙන්වා දෙමින් ජාතිකවාදයට විරුද්ධ විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජර්මනියේ පදිංචිව සිටි තිෂ්කා ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ කටයුතුවල නිරතව සිටියේය. ''ස්පාටකස් සංගමයේ'' එක් සාමාජිකයෙකි. පසුව ජර්මන් කොමියු-

නිස්ට් පක්ෂය ආරම්භ කිරීමට සහභාගි විය. ඔහු ජාත්‍යන්තරවාදී පිළිවෙතක් අනුගමනය කළේය. — පිටුව 58.

තෙරේශෙන්කො, මිහායිල් ඉවානවිච් (උපත 1888) — රුසියාවේ විශාලතම සීනි කම්හල් හිමියෙකි. කෝටි පතියෙකි. 1917 පෙබරවාරි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසුව තාවකාලික ධනපති රජයෙහි මුදල් ඇමති ධුරයත් පසුව විදේශ ඇමති ධුරයත් ඉසිලීය. ''අවසාන ජයග්‍රහණය දක්වා'' නැමැති අධිරාජ්‍යවාදී යුද්ධ ප්‍රතිපත්තිය ගෙන ගියේය. — පිටු 149, 153, 228, 235, 237, 238, 244, 255.

ත්‍රෙවෙස් (Treves), ක්ලාව්දියෝ (1868-1933) — ඉතලියානු සමාජවාදී පක්ෂයේ එක් ප්‍රතිසංස්කරනවාදී නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථවාදී පිළිවෙතක් අනුගමනය කළේය. — පිටුව 55.

ත්‍රොයෙල්ස්ත්‍රා (Troelstra), පීටර් ඉයල්ස් (1860-1930) — ලංදේසි කම්කරු ව්‍යාපාරයේ නායකයෙකි. දක්ෂිණාංශික සමාජවාදියෙකි. ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පකෂයේ එක් ප්‍රාරම්භකයෙක් හා සංවිධායකයෙකි. විසිවැනි ශත වර්ෂයේ ආරම්භයේදී අන්ත අවස්ථාවාදියෙකු බවට පත්විය. ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ, ("De Tribune" පත්‍රය වටා 1907 දී ඒකරාශීවී 1909 දී ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය බවට පත්වූ) වාමාංශික පිළට විරුද්ධ සටන් මෙහෙයවීය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජර්මානු වර්ගයේ සමාජ-ජාත්‍යොන්මාදවාදියෙකු බවට පත්විය. — පිටුව 54.



දවිද් (David), එදුවාර්ද් (1863-1930) — ජර්මානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ දක්ෂිණාංශික පිළේ නායකයෙකි, සංශෝධනවාදියෙකි. ජර්මන් අවස්ථාවාදීන්ගේ සහරාවක් වූ "Socialistische Monatshefte" (''සමාජවාදී මාසිකය'') ආරම්භ කිරීමට සහභාගි විය. 1903 සිට රෙයිහ්ස්ටාග් නියෝජිතයෙකු විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාත්‍යොන්මාදවාදියෙකි. — පිටු 12, 57.

ද්‍රෙෆුස් (Dreyfus), ඇල්ෆ්‍රෙද් (1859-1935) — ප්‍රංශ යුදහමුද මූලස්ථානයේ යුද නිලධාරියෙකි, යුදෙව් ජාතිකයෙකි. රාජ ද්‍රෝහියෙකු ලෙසට නැගූ අසත්‍ය චෝදනාවකට වැරදි කරු වී 1894 දී ජීවිතාන්තය දක්වා හිරගෙට නියම විය. කම්කරු පංතිය හා ප්‍රගතිශීලී බුද්ධිමතුන්ගේ දැඩි



විරෝධයේ ප්‍රතිඵලයක් වශයෙන් 1899 දී ඔහුට සමාව දී 1906 දී නැවතත් යුදහමුද මූලස්ථානයේ සේවයට ගන්නා ලදී.

පළමුවැනි නැපෝලියන් (බොනපාට්) (1769-1821) — 1804-1814 හා 1815 අවුරුදුවල ප්‍රංශ අධිරාජයා. — පිටු 18, 130, 266, 277.

තුන්වැනි නැපෝලියන් (බොනපාට්, ලුයි)(1808-1873) — 1852 සිට 1870 දක්වා ප්‍රංශ අධිරාජයා. පළමුවැනි නැපොලියන් ගේ බෑනා කෙනෙකි. 1848 විප්ලවයේ පරාජයෙන් පසු ප්‍රංශ සමූහාණ්ඩුවේ ජනාධිපති ලෙස තේරී පත් විය. 1851 දෙසැම්බර් 2 දින රාත්‍රියේදී ඔහු රාජ්‍ය පෙරලියක් කළේය . — පිටුව 201.

පළමුවැනි නිකොලායි (රොමානොව්) (1796-1855) — රුසියානු අධිරාජයා (1825-1855). — පිටුව 40.

දෙවැනි නිකොලායි (රොමානොව්) (1868-1918) — අවසාන රුසියානු අධිරාජයා. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය තෙක් රජකළේය. — පිටු 11, 13, 14, 15, 17, 20, 33, 80, 81, 97, 104, 109, 111, 130, 147, 190, 193, 200.

නෙක්රාසව්, නිකොලායි විසරියෝනවිච් (උපත 1879) — කැඩෙට් පාක්ෂිකයෙකි. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසුව ධනපති තාවකාලික රජයට ඇතුලු විය. එම රජයේ ප්‍රවාහන ඇමැති ධුරයද කාර්යභාරයයක් නැති ඇමැති ධුරයද මුදල් ඇමති ධුරයද ඔහු දැරුවේය. 1917 ග්‍රීෂ්ම සෘතුවේදී කැඩෙට් පක්ෂයෙන් ඉවත් විය. — පිටුව 235.

නෙර්මන් (Nerman), ටූර් (උපත 1886) ස්වීඩන් වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, කිවියෙක් හා ලේඛකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජාත්‍යන්තරවාදියෙකි. ට්සිමර්වෝල්ඩ් වාම අංශයට එකතු විය. 1916-1918 ගණන්වලදී ස්වීඩන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වාමාංශික පිළේ ප්‍රධාන පත්‍රය වූ "Politiken" (''දේශපාලනය'') ප්‍රධාන සංස්කාරක ධුරය ඉසිලුවේය. 1917-1929 අවුරුදුවලදී ස්වීඩන් කොමියුනිස්ට් පක්ෂයේ සාමාජිකයෙකුව සිටියේය. 1929 දී දක්ෂිණාංශික අවස්ථාවාදියෙකු ලෙස කොමියුනිස්ට් පක්ෂයෙන් නෙරපන ලදී. පසුව ඔහු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය වෙත ආපසු ගියේය. — පිටුව 58.

ප්ලෙහානව්, ගියෝර්ගි වලෙන්තිනවිච් (1856-1918) — රුසියානු හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායකයෙකි. රුසියාව තුළ මාක්ස්වාදය ප්‍රචාරය කළ පුරෝගාමියා ය. රු.ස.ප්‍ර.ක.ප. දෙවැනි සම්මේලනයෙන් (1903) පසු අවස්ථාවාදී පිළිවෙතක් ගෙනගිය මොහු අනතුරුව මෙන්ෂෙවික්වාදීන්ට එකතු විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාත්‍යොන්මාදවාදී අදහස් දරුවේය.

1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු මෙන්ෂෙවික්වාදී-ආරක්ෂාවාදී අන්ත දක්ෂිණාංශික ''යෙදින්ස්ත්වො'' කණ්ඩායමට නායකත්වය දුන්නේය. සමාජවාදය කරා පරිවර්තනය වීමට රුසියාවේ තත්වයන් තවම මෝරා නැතයි සිතූ ඔහු බොල්ෂෙවික්වරුන්ට සහ සමාජවාදී විප්ලවයට විරුද්ධ විය. ඔක්තෝබර් විප්ලවය කෙරෙහි විරුද්ධ ආකල්පයක් දක්වූ නමුත් සෝවියට් රජ්‍ය බලයට විරුද්ධව සටන්වලට සහභාගි නොවීය. — පිටු 12, 19, 21, 26, 27, 30, 45, 46, 47, 52, 54, 57, 64, 86, 107, 128, 162, 170, 234, 261, 262, 272, 276, 280, 287, 289, 292.

ප්ලූගර් (Pflüger), පාවුල් බෙර්න්ගාර්ද් (උපත 1865) — ස්විට්සර්ලන්ත දක්ශිණාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාත්‍යොන්මාදවාදියෙකි. — පිටුව 61.

ප්‍යතකොව්, ගියෝර්ගි ලියනීදවිච් (1890—1937)—1910 සිට බොල්ෂෙවික් පක්ෂයේ සාමාජිකයෙකි. 1915-1917 අවුරුදුවලදී ස්වාධිපත්‍ය සඳහා ජාතීන් සතු අයිතිය පිළිබඳ ප්‍රශ්නයේදී ලෙනින් විරෝධී පිළිවෙතක් අනුගමනය කළේය. 1917 පෙබරවාරි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු රු. ස. ප්‍ර. ක. ප. (බො.) කියෙව් කොමිටියේ සභාපති ධුරයට පත්විය. සමාජවාදී විප්ලවය කරා පක්ෂයේ ගමන් මගට විරුද්ධ විය.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පසු උක්‍රෙනියාවේ සෝවියට් රජයට ඇතුළු විය. එහි වැදගත් රාජ්‍ය ධුරයන් කීපයක්ම ඉසිලුවේය. පක්ෂ විරෝධී කටයුතු නිසා පසුව පක්ෂයෙන් නෙරපා දමන ලදී. — පිටු 129, 130, 132.

ප්ලටන් (Platten), ෆ්‍රෙඩ්රික් (ෆ්‍රිට්ස්) (1883-1942) — ස්විට්සර්ලන්ත වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. අනතුරුව කොමියුනිස්ට්වාදියෙකි. 1912-1918 අවුරුදුවලදී ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ලේකම් ධුරය ඉසිලුවේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජාත්‍යන්තරවාදියෙක් වූ මොහු ට්සිමර්වෝල්ඩ් හා කින්තාල් සාකච්ඡා සම්මේලනවලට සහභාගි විය. වාම ට්සිමර්වෝල්ඩ්වාදියෙකි. 1917 අප්‍රියෙල් මාසයේදී ස්විට්සර්ලන්තයේ සිට රුසියාවට ලෙනින්ගේ පැමිණීම සංවිධානය කළේය. — පිටුව 62.



පලොව්ත්සොව් පී. ඒ. (උපත 1874) — ජෙනරාල්වරයෙකි. 1917 ග්‍රීෂ්ම කාලයේ පෙත්‍රොග්‍රෑඩ් හමුදා අණදෙන නිලධාරියාය. 1917 ජූලි මාසයේදී පෙත්‍රොග්‍රෑඩ් සාමකාමී පෙළපාළිවලට වෙඩිතැබීම හා ''ප්‍රාව්ද'' කාර්යාලය විනාශ කිරීම මෙහෙයවූයේය. — පිටුව 165.

පල්චින්ස්කි, පියෝතර් ඉයොකිමවිච් (1875-1929) — ඉංජිනේරුවෙකි. ''ප්‍රොද්උගල්'' සම්මේලය සංවිධානය කළේද මොහුය. බැංකුකරුවන් සමග කිට්ටු සබඳකම් පැවැත්වීය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු ධනපති තාවකාලික ආණ්ඩුවේ වෙළඳ හා කර්මාන්ත උප ඇමති ධුරය දැරීය. කර්මාන්ත කරුවන්ගේ කඩාකප්පල්කාරී වැඩවලට අනුබල දුන් අතර ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානවලට විරුද්ධව වැඩ කළේය. — පිටු 252, 253, 275, 276.

පානිනා. සී. බී.— සිටුවරියකි. කැඩෙට් පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ සාමාජිකාවකි. 1917 මැයි 24 (ජූනි 6) සිට ධනපති තාවකාලික රජයේ රාජ්‍ය කටයුතු භාර උප ඇමති ධුරය දැරුවාය. 1917 අගෝස්තු සිට අධ්‍යාපන උප ඇමැති වරිය ය.

පනෙකුක් (Panneckoek), ඇන්ටන් (1873-1960) — ලංදේසි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ වාමාංශික පිළේ ප්‍රධාන පත්‍රය වූ "De Tribune" (''වේදිකාව'') ආරම්භ කළ අයගෙන් කෙනෙකි. එම වාමාංශික පිළ 1909 දී ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය (ත්‍රිබියුන්වරුන්ගේ පක්ෂය) බවට පෙරලින. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී පනෙකුක් ජාත්‍යන්තරවාදී පිළිවෙතක් අනුගමනය කළේය. ට්සිමර්වොල්ඩ් වාම අංශයේ න්‍යායාත්මක ප්‍රකාශනය වූ "Vorbote" (''පූර්ව ප්‍රවෘත්ති'') සඟරාව පළකිරීමට සහභාගි විය. — පිටුව 57.

පාර්වුස් (හෙල්ෆන්ද් අලෙක්සාන්දර් ලාසරෙවිච්) (1869-1924) — 1890 ගණන්වලදී හා 1900 ගණන්වලදී රුසියාවේ සහ ජර්මනියේ සමාජ ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරවලට සහභාගි විය. රු. ස. ප්‍ර. ක. ප. දෙවැනි සම්මේලනයෙන් (1903) පසු මෙන්ෂෙවික්වාදියෙක් බවට පත්විය.

ඔහු මාක්ස්වාදයට විරුද්ධ ''ස්ථාවර විප්ලව න්‍යායය'' ඉදිරිපත් කළේය. ලෙනින්වාදයට විරුද්ධ ආයුධයක් ලෙස ට්‍රොට්ස්කි මෙම න්‍යායය පසුව ප්‍රයෝජනයට ගත්තේය. පසු කාලයේදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයෙන් ඉවත් විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජාත්‍යොන්මාදවාදියෙකු බවට පත්විය. යුද්ධායුධ වෙළඳාම මත විශාල ලෙස සම්ප්‍රෙක්ෂණයෙහි යෙදුනේය. 1915 සිට "Die Glocke" (''ඝන්ටාරය'') සඟරාව පළ කළේය.

පෙරෙවෙර්සෙව්, පාවෙල් නිකලායෙවිච් — අධිනීතිඥයෙකි, තෘදෙවික්වරයෙකි. එස්ඒර් පාක්ෂිකයින්ට කිට්ටුවෙන් සිටියේය. 1917 පෙබරවාරි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු පළමුවැනි සභාග ධනපති තාවකාලික රජයේ අධිකරන ඇමති ධුරය ඉසිලුවේය. 1917 ජූලි මාසයේදී අලෙක්සෙයෙව් සමග රචනා කරන ලද යුද්ධ රහස් පිළිබඳ අපවාදකාරී ලියවිලි ලෙනින්ට සහ බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව ඉදිරිපත් කළේය. — පිටු 173, 178, 179.

පෙෂෙහෝනව්, අලෙක්සේයි වසිලියෙවිච් (1867-1933) — ධනපති සමාජ සේවකයෙක් හා ප්‍රකාශකයෙකි. 1906 සිට සුළු ධනපති පක්ෂයක් වූ ''ජනතා සමාජවාදියෝ'' (එන්එස්) පක්ෂයේ එක් නායකයෙකි. 1917 දී ධනපති තාවකාලික රජයේ ආහාර ඇමති ධුරය දැරුවේය. — පිටු 198, 222, 252, 253, 275, 276, 277, 278, 293.

පොත්රේසව්, අලෙක්සාන්දර් නිකලායෙවිච් (1869-1934) — එක් මෙන්ෂෙවික් නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාත්‍යොන්මාදවාදියෙකි. 1917 දී බොල්ෂෙවික්වරුන්ට විරුද්ධව නපුරු ප්‍රචාරයක් ගෙන ගිය ''ද්යෙන්'' පුවත්පතේ කතුකම් දැරුවේය. — පිටු 11, 12, 14, 18, 19, 21, 52, 57, 63, 234, 272, 276, 280, 287, 289, 292.

ප්‍රෙස්මන් (Pressemanne), අන්ද්‍රියාන් (1879-1929) — ප්‍රංශ සමාජවාදියෙකි. 1912 දී ජාත්‍යන්තර සමාජවාදී බියුරෝව තුළ ප්‍රංශයේ සමාජවාදී පක්ෂයේ ස්ථිර නියෝජිතයා ලෙස වැඩ කළේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තියක් ගෙනගියේය.— පිටුව 55.

ප්‍රිලෙෂායෙව්, අයි. ඒ. — සමාජවාදී විප්ලවවාදියෙකි (එස්ඒර්). ''දියලො නරෝද'' එස්ඒර් පත්‍රයෙහි වැඩ කළේය. 1917 දෙසැම්බර් මාසයේ සිට එස්ඒර් පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ සමාජිකයෙක්. — පිටුව 277.

ප්‍රකපෝවිච්, සෙර්ගේයි නිකලායෙවිච් (1871-1955) — රුසියානු ධනපති ආර්ථික විද්‍යාඥයෙක් හා ගත්කතුවරයෙකි. අර්ධ කැඩෙට්වාදී හා අර්ධ මෙන්ෂෙවික්වාදී ''බිස් සග්ලාවියා'' සඟරාවේ සංස්කාරක හා ප්‍රකාශකයාය. 1917 දී ධනපති තාවකාලික රජයේ ආහාර ඇමති ධුරය දැරුවේය. — පිටුව 235.

ෆියුර්ස්තෙන්බෙර්ග් — හනෙට්ස්කි බලන්න.

බ්ලාන් (Blanc), ලුයි (1811-1882) — ප්‍රංශ සුළු ධනපති සමාජවාදියෙකි, ඉතිහාසඥයෙකි. ධනවාදී සමාජයේ පංති අතර සමගි නොකළ හැකි ප්‍රතිවිරෝධීතාවය ප්‍රතික්ෂේප කළේය. නිර්ධනපංතික ආඥාදායකත්වයට විරුද්ධ විය. ධනපතීන් සමග සමගි සම්මුති ඇතිකර ගැනීමේ ප්‍රතිපත්තිය පිළිගත්තේය. 1948 විප්ලව සමයේදී ආණ්ඩුවට ඇතුළුවූ බ්ලාන් ''කම්කරු ප්‍රශ්න අධ්‍යයන කිරීමේ කමිටුවේ'' නායකයා විය. තම සම්මුති උපක්‍රම මගින් කම්කරුවන් විප්ලවවාදී සටන්වලින් ඈත් කිරීමට ධනපතීන්ට උදව් දුන්නේය. 1871 දී ප්‍රංශ ජාතික සභාවට තෝරා පත් විය. බ්ලාන් පැරිස් කොමියුනයේ විරුද්ධවාදියෙක් විය. — පිටුව 274.

බ්ලන්කි (Blanqui), ලුයි ඔගියුස්ත් (1805-1881) — සම්භාවනීය ප්‍රංශ විප්ලවවාදියෙකි. මනෝරාජික කොමියුනිස්ට්වාදයේ ප්‍රධාන නියෝජිතයෙකි. 1830-1870 අවුරුදුවලදී පැරිස් නැගී සිටීම් වලට හා විප්ලවවලට නොකඩවා සහභාගි විය. රහසිගත විප්ලවවාදී සංවිධාන කීපයකම නායකයා ලෙස කටයුතු කළේය. සුළු ප්‍රමාණයකින් යුත් විප්ලවවාදී-කුමන්ත්‍රණකාරී කණ්ඩායමක් මගින් බලය අල්ලා ගැනීමට උත්සාහ කළ ඔහු විප්ලවවාදී සටන් සඳහා පොදු ජනතා සංවිධානවල ඇති තීරණාත්මක වැදගත්කම තේරුම් නොගත්තේය. — පිටු 32, 44, 103.

බග්රතියෝන්, දමිත්‍රි පෙත්රෝවිච් (උපත 1863) — අදිපාදවරයෙක්, සාර් හමුදාවේ ජෙනරාල්වරයෙකි. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු කොකේසියානු ප්‍රාදේශීය හමුදාවේ ප්‍රධාන යුධ නිලධාරියා ලෙස කටයුතු කළේය. කර්නිලව් කැරැල්ලට දැඩි සහයෝගයක් දුන්නේය. — පිටුව 275.

බසාරව්, වී. (රුද්නෙව්, ව්ලදිමීර් අලෙක්සාන්ද්‍රවිච්) (1874-1939) — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. මාහ්වාදී සංශෝධනවාදයේ ප්‍රධාන පෙළේ නියෝජිතයෙකි. 1917 දී මෙන්ෂෙවික් ජාත්‍යන්තරවාදියෙක් බවට පත්විය. අර්ධ මෙන්ෂෙවික්වාදී ප්‍රකාශනයක් වූ "නෝවය ෂිස්න්" පත්‍රයේ එක් සංස්කාරකවරයෙකි. — පිටුව 151.

බර්ගර් (Berger), වික්ටර් ලුවී (1860-1929) — ඇමෙරිකානු සමාජවාදියෙකි. ඇමෙරිකානු සමාජවාදී පක්ෂය ආරම්භ කළ අයගෙන් කෙනෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාදනකාරී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. කීප වතාවක්ම කොන්ග්‍රෙස් සභාවට තේරී පත්විය. — පිටුව 54.

බබ්රින්ස්කිලා, ඒ. ඒ., ඒ. ඒ., වී. ඒ. — රුසියන් රදළ සිටුවරයෝ, විශාල ඉඩම් හිමියෝ සහ සීනි පිරිපහදු කම්හල් අයිතිකරුවෝ. — පිටුව 2? .

බර්ග්බියර්ග් (Borgbjerg), ෆ්‍රෙද්‍රික් (1866-1936) — ඩෙන්මාර්ක් ප්‍රතිසංස්කරනවාදියෙකි. ඩෙන්මාර්ක් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ එක් නායකයෙකි. 1892 සිට එහි මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. 1911-1924 පක්ෂයේ ප්‍රධාන ප්‍රකාශනය වූ "Social-Demokraten" ("සමාජ-ප්‍රජාතන්ත්‍රිකයා") පත්‍රයේ ප්‍රධාන සංස්කාරක ධුරය දැරුවේය. 1898 සිට ඩෙන්මාර්ක් පාර්ලිමේන්තුවේ නියෝජිතයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ සමාජ-ජාත්‍යොන්මාදවාදියෙකි. යුද්ධකරන රටවල සමාජවාදීන්ගේ සාකච්ඡා සම්මේලනයක් සංවිධානය කිරීමේ යෝජනාවක්ද රැගෙන 1917 වසන්තයේදී පෙට්‍රොග්‍රෑඩ් නගරයට පැමිණියේය. — පිටුව 106.

බිසොලාති (Bissolati), ලියොනීද (1857-1920) — ඉතාලියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ එක් නායකයෙක් හා එහි අන්ත දක්ෂිණාංශික ප්‍රතිසංස්කරනවාදී පිළේ නායකයා. 1912 දී ඉතාලියානු සමාජවාදී පක්ෂයෙන් නෙරපන ලද අතර පසුව සමාජවාදී-ප්‍රතිසංස්කරණවාදී පක්ෂය පිහිටුවේය. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී සමාජ-ජාත්‍යොන්මාදවාදියෙක්. එන්ටේන්ට පාක්ෂිකයෙකු ලෙස ඉතාලිය යුද්ධයට සහභාගිවීම පිළිගත්තේය. 1916-1918 අවුරුදුවලදී කාර්යභාරයක් නැති ඇමතිවරයා ලෙස රජයට ඇතුළු විය. — පිටුව 54.

බුබ්ලිකොව්, අලෙක්සාන්දර් අලෙක්සාන්ද්‍රවිච් (උපත 1875) — වාණිජ හා කර්මාන්ත ධනපති පංතියේ නියෝජිතයෙකි. ධනපති ප්‍රගතිශිලීන්ගේ පක්ෂයේ සාමාජිකයෙකි. 1917 අගෝස්තුවලදී මොස්කව්හි පැවති සාකච්ඡා සභාවට සහභාගි විය.එහිදී ධනපති පංතිය මෙන්ෂෙවික්වරුන් සමග සභාගයකට පැමිණීමට සහයෝගය දක්වමින් කථා කළේය. — පිටු 228, 244.

බුර්දිරොන් (Bourderon) අල්බෙර් (උපත 1858) — ප්‍රංශ සමාජවාදියෙකි. සින්ඩිකල් ව්‍යාපාරය තුළ වාමාංශික පිළේ නායකයෙකි. ට්සිමර්වෝල්ඩ් සාකච්ඡා සභාවට සහභාගිවී එහිදී මධ්‍යස්ථ ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. 1916 දී දෙවැනි ජාත්‍යන්තරය ප්‍රතිසංවිධානය කිරීමේ අදහස ඉදිරිපත් කළේය. 1916 දෙසැම්බර් මස ප්‍රංශ සමාජවාදී පක්ෂයේ, සම්මේලනයේදී අධිරාජ්‍යවාදී යුද්ධය ආරක්ෂා කරමින් ඉදිරිපත් කළ මධ්‍යස්ථවාදී යෝජනාවට පක්ෂව ඡන්දය දුන්නේය. ට්සිමර්වෝල්ඩ් පාක්ෂිකයින්ගෙන් සම්පූර්ණයෙන්ම ඉවත්වූ ඔහු විප්ලවවාදී කම්කරු ව්‍යාපාරයේ විරුද්ධවාදීන්ට එකතු විය. — පිටුව 57.

බුචනන් (Buchanan), ජෝජ් විලියම් (1854-1924) — බ්‍රිතාන්‍ය රාජදූතයෙක්. රුසියාවේ බ්‍රිතාන්‍ය තානාපතිවරයා ලෙස සිටියේය. (1910-1918) විප්ලවයට විරුද්ධව සටනේදී ප්‍රතිගාමී කොටස්වලට ආධාර දුන් අතර 1917 අගෝස්තු මාසයේදී කර්නිලව් කැරැල්ලටද ආධාර දුන්නේය. — පිටු 287, 294.

බෙයිලිස්, මෙන්දෙල් තෙව්යෙවිච් (උපත 1873) — කියෙව් ගඩොල් කම්හලේ සැපයුම් නිලධාරියා. යුදෙව් ජාතිකයෙකි. ආගමික චාරිත්‍රයක් ලෙස ක්‍රිස්තියානිකාර ළමයෙකු මරන ලදැයි ඔහුට 1911 දී අසත්‍ය චෝදනාවක් ඉදිරිපත් කර තිබුනේය. — පිටුව 178.

බ්‍රාන්ටිං (Branting), කාල් යල්මර් (1860-1925) — ස්වීඩන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නායකයා. අවස්ථාවාදී පිළිවෙතක් අනුගමනය කළේය. 1887-1917 අවුරුදුවලදී (කඩින්කඩ) පක්ෂයේ ප්‍රධාන ප්‍රකාශනය වූ "Socialdemokraten" ("සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියා") පත්‍රයේ සංස්කාරක ධුරය දැරුවේය. 1897-1925 අවුරුදුවලදී රික්දග් (පාර්ලිමේන්තු) නියෝජිතයෙකුව සිටියේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාත්‍යොන්මාදවාදියෙකි. 1917 දී එදෙන්ගේ සභාග රජයට ඇතුළු විය. සෝවියට් රජයට විරුද්ධ යුද්ධ ආක්‍රමණයට සහයෝගය දුන්නේය. — පිටුව 54.

බ්‍රෙෂ්කො-බ්‍රෙෂ්කොව්ස්කයා, යෙකතෙරිනා කන්ස්තන්තිනෝව්නා (1844-1934) — එස්ආර් පක්ෂයේ එක් සංවිධායිකාවක් හා නායිකාවකි. එහි අන්ත දක්ශිණාංශික පිළට ඇ අයත් වූවාය. 1917 පෙබරවාරි විප්ලවයට පසු ධනපති තාවකාලික රජයට සහයෝගය දුන්නාය. අධිරාජ්‍යවාදී යුද්ධය "අවසාන ජයග්‍රහණය දක්වා" ගෙනයෑම පිළිගත්තාය. — පිටු 287, 294.

එම්, වී. — මිලියුතින් බලන්න.

මක්ලකොව්, වසිලි අලෙක්සේවිච් (1870-1957) — කැඩෙට් පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ සමාජිකයෙක්, ඉඩම් හිමියෙකි. පෙබරවාරි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු 1917 ජූනි සිට ධනපති තාවකාලික රජයෙන් පත්කළ පැරිස් තානාපති ලෙස වැඩ කළේය. — පිටු 148.

මාක්ස් (Marx), කාල් (1818-1883) — පිටු 19, 27, 32, 46, 63, 64, 66, 73, 87, 94, 106, 115, 286.

මාර්තව්,එල්. (ටසෙදෙර්බාවුම් යූලි ඔසිපවිච්) (1873-1923) — මෙන්ෂෙවික්වාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු මෙන්ෂෙවික්-ජාත්‍යන්තරවාදී කණ්ඩායමට නායකත්වය දුන්නේය. — පිටු 55, 215.

මාස්ලව්, පියෝතර් පාව්ලවිච් (1867-1946) — ආර්ථික විද්‍යාඥයෙකි. මාක්ස්වාදය සංශෝධනය කිරීමට තැත් කරමින් ගොවි ප්‍රශ්න ගැන ලියූ ලිපි ගණනාවකම කර්තෘ වරයා. රු. ස. ප්‍ර. ක. ප. දෙවැනි සම්මේලනයට පසු මෙන්ෂෙවිකයින්ට එකතු විය. ඔහු ඉඩම් නාගරික සභා සතු කිරීමේ මෙන්ෂෙවික්වාදී වැඩ පිළිවෙළ ඉදිරිපත් කළේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමජ-ජාතොයාන්මාදවාදය අනුගමනය කළේය. — පිටුව 117.

මැක්ඩොනල්ඩ් (MacDonald), ජේම්ස් රම්සෙ (1866-1937) — බ්‍රිතාන්‍ය දේශපාලඥයෙකි. නිදහස් කම්කරු පක්ෂයේ සහ ලේබර් පක්ෂයේ ප්‍රාරම්භකයෙක් හා නායකයෙකි. විවිධ පංතිවල සහයෝගීතාවය හා ධනවාදය ක්‍රම ක්‍රමයෙන් සමාජවාදය කරා වර්ධන කිරීම පිළිබඳ



න්‍යායය දේශනා කරමින් අන්ත අවස්ථාවාදී පිළිවෙතක් අනුගමනය කළේය. පළමුවැනි ලෝක යුද්ධය ආරම්භයේදී සමාදනකාරී ප්‍රතිපත්තියක් අනුගමනය කළ නමුත් පසුව විවෘත ලෙසම ධනපති පංතියේ අධිරාජ්‍යවාදී පිළිවෙතට සහයෝගය දුන්නේය. — පිටු 26, 55, 151.

මාක්-මොන් (Mac-Mahon), පත්රිස් (1808-1893) — ප්‍රංශ රාජ්‍ය හා හමුද සේවකයෙකි, රාජාණ්ඩු වාදියෙකි. වර්සෙල ප්‍රතිවිප්ලවවාදී හමුදාවේ ප්‍රධාන අණදෙන නිලධාරීව සිටියදී 1871 දී පැරිස් කොම්යුනයේ විරෝධාර ආරක්ෂකයින් මෘග ලෙස මර්දනය කළේය. 1873 සිට 1879 දක්වා ප්‍රංශ ජනාධිපති තනතුර දැරුවේය. ඔහුගේ සහයෝගය ඇතිව සූදනම් කරන ලද රාජාණ්ඩුවාදී රාජ්‍ය පෙරලිය අසාර්ථක වීමෙන් පසු විශ්‍රාම ගියේය. — පිටුව 214.

මිල්යුකොව්, පාවෙල් නිකලායෙවිච් (1859-1943) — කැඩෙට් පක්ෂයේ නායකයෙක් හා එහි එක් ප්‍රාරම්භකයෙකි. එහි මධ්‍යම කාරක සභාවේ සභාපති හා ප්‍රධාන ප්‍රකාශනයවූ "රේච්" පත්‍රයේ සංස්කාරක වරයා ය. 1917 දී ධනපති තාවකාලික රජයේ පළමුවැනි කැබිනට් මණ්ඩලයේ විදේශ කටයුතු භාර ඇමති ධුරය දැරුවේය. අධිරාජ්‍යවාදී යුද්ධය "අවසාන ජයග්‍රහණය දක්වා ගෙනයා යුතුය" යන ප්‍රතිපත්තිය අනුගමනය කළේය. 1917 අගෝස්තු මාසයේදී කර්නිලව් කැරැල්ලට සහයෝගය දුන්නේය. — පිටු 9, 10, 11, 14, 15, 16, 18, 19, 20, 21, 41, 42, 62, 81, 84, 94, 99, 110, 123, 131, 132, 148, 149, 170, 179, 207, 208, 235, 262, 285, 286, 289, 292,.

මිල්යුතින්, ව්ලදිමිර් පාව්ලවිච් (එම්. වී.) (1884-1938) — 1903 සිට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයෙහි නියළුනේය. ආරම්භයේදී මෙන්ෂෙවිකයෙකි. 1910 සිට බොල්ෂෙවික්වාදියෙකි.

මියුලර් (Müller), ගුස්තව් (1860-1921) — ස්විට්සර්ලන්ත දක්ෂිණාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, යුද්ධ නිලධාරියෙකි. 1911 සිට ජාතික උපදේශක තනතුර දැරුවේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාතොයාන්මාදවාදියෙකි. ටසිමර්වෝල්ඩ් ව්‍යාපාරයට විරුද්ධව සටන් මෙහෙයවූයේය. — පිටුව 60.

මියුන්ට්සෙන්බර්ග් (Münzenberg), විල්හෙල්ම් (1889-1940) ස්විට්සර්ලන්තයේ හා ජර්මනියේ කම්කරු පංති ව්‍යාපාරයේ නායකයෙකි. ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී තරුණ සංවිධානයේ නායකත්වය

දුරුවේය (1914-1917). එම සංවිධානයේ නිල ප්‍රකාශනය වූ “Freie Jugend” (‘‘නිදහස් තරුණයා’’) හි සංස්කාරක ධුරයද දැරුවේය. 1915-1919 දී තරුණ සමාජවාදී ජාත්‍යන්තරයේ ලේකම් ධුරයද එහි ප්‍රකාශනයෙහි “Jugend Internationale” (‘‘තරුණ ජාත්‍යන්තරය’’) සංස්කාරක ධුරයද දැරුවේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජාත්‍යන්තරවාදී ප්‍රතිපත්තියක් ගෙනගියේය. 1916 සිට ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ විධායක මණ්ඩලයේ සාමාජිකයෙකි. ජර්මනියට ආපසු පැමිණීමෙන් පසු ජර්මන් කොමියුනිස්ට් පක්ෂයේ සාමාජිකත්වය ලබාගත්තේය. — පිටුව 61.

මෙර්හෙයිම් (Merrheim), අල්ෆොන්ස් (1881-1925) — ප්‍රංශ වෘත්තීය සමිති නායකයෙකි, සින්ඩිකල්වාදියෙකි. ප්‍රංශයේ සමස්ත මහා කම්කරු සංවිධානයේ එක් නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය ආරම්භයේදී, සමාජ-ජාත්‍යොන්මාදවාදයට හා අධිරාජ්‍යවාදී යුද්ධයට විරුද්ධ ව්‍යාපාරයක් ගෙනගිය ප්‍රංශයේ සින්ඩිකල්වාදී සංවිධානයේ වාම පිළේ නායකත්වය දැරුවේය. ට්සිමර්වෝල්ඩ් සාකච්ඡා සභාවට සහභාගී වූ අතර එහි දක්ෂිණාංශයට බර වූයේය. 1916 අගදී මධ්‍යස්ථවාදී-සමාදානකාරී තත්වයක් ගත්තේය. 1918 මුලදී විවෘත ලෙසම සමාජ-ජාත්‍යොන්මාදවාදියෙකු හා ප්‍රතිසංස්කරනවාදියෙකු බවට පත්විය. — පිටු 57.

මොදිලයානි (Modigliani), විටෝරියෝ එමනුවෙල් (1872-1947) — ඉතාලියානු සමාජවාදී පක්ෂයේ පැරණි සාමාජිකයෙකි, ප්‍රතිසංස්කරනවාදියෙකි. 1913-1926 අවුරුදුවලදී නියෝජිත මන්ත්‍රණ සභාවේ සාමාජිකයෙකුව සිටියේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තියක් ගෙනගියේය. ට්සිමර්වෝල්ඩ් සහ කින්තාල් සාකච්ඡා සභාවලට සහභාගි වූ ඔහු වාම ට්සිමර්වෝල්ඩ්වරුන්ට විරුද්ධ විය. — පිටුව 55.

යෙර්මෝලෙන්කො,ඩී.සී. (උපත 1874) — හමුදා කණිෂ්ඨ නිලධාරියෙකි. යුද රහස්ඔත්තු සේවයෙහි නියලිව සිටියේය. — පිටුව 163.

රදෙක්, කාල් බෙන්ගාර්දවිච් (1885-1939) — 1900 ගණන්වල මුල් කාලයේ සිටම ගලිසියාවේ පෝලන්තයේ හා ජර්මනියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට සහභාගි විය. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී ජාත්‍යන්තරවාදී පිළිවෙතක් අනුගමනය කළ නමුත් මධ්‍යස්ථවාද පැත්තට බරවීමක් පෙන්නුම් කළේය. ස්වාධිපත්‍තිය සඳහා ජාතීන් සතු අයිතිය පිළිබඳ ප්‍රශ්නයේදී වැරදි මගක් ගත්තේය. ඔහු 1917 සිට බොල්ෂෙවික් පක්ෂයේ සාමාජිකයෙකුව සිටි අතර පක්ෂ විරෝධී වැඩ නිසා පසුව එයින් නෙරපන ලදී. — පිටු 58, 61.

රකිත්නිකොව්, එන්. අයි. (උපත 1864) — සමාජවාදී-විප්ලවවාදියෙකි. (එස්එර්). පත්‍ර කලාවේදියෙකි. එස්එර් පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ සාමාජිකත්වය ඉසිලූ අතර එම පක්ෂයේ ප්‍රකාශනවලට ලිපි ලියන ලදී. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු ධනපති රජයේ කෘෂිකර්ම උප ඇමති ධුරය ඉසිලුවේය. — පිටුව 184.

රස්පූටින් (නෝවිහ්) ග්‍රිගෝරි යෙෆිමවිච් (1872-1916) — සූර කපටියෙකි. දෙවැනි නිකොලායි සාර් රජු කිට්ටුවෙන් ඇසුරු කළේය. තබෝල්ස්ක් ගුබේර්නියාවේ ගොවි පවුලක උපත ලැබූ ඔහු ‘‘ශුද්ධෝත්තමයෙකු’’ හා ‘‘ජේනකියන්නෙකු’’ ලෙස රජපවුලේ විශ්වාසය දිනාගත්තේය. රස්පූටින් ඉතිහාසයෙන් සාර් රුසියාවේ පාලන ඉහළ පැලැන්තියට අවේනික වූ ඥනශත්‍රැතාව, ආගම් පිස්සුව හා අධ්‍යාත්මික හිස්බව පැහැදිලි ලෙස පෙන්නුම් කෙරිණ. රාජාණ්ඩුවාදී කණ්ඩායමක් විසින් පෙට්‍රොග්‍රෑඩ්වලදී රස්පූටින් මරාදමන ලදී. එමගින් වැඩී එන විප්ලවය නතර කිරීමටත් රාජ පරම්පරාව ආරක්ෂා කිරීමටත් ඔවුහු උත්සාහ කළහ.

රියාබුෂින්ස්කි, පාවෙල් පාව්ලවිච් (උපත 1871) — මොස්කව්හි මහා බැංකුකරුවෙක් හා කර්මාන්ත හිමියෙකි. ප්‍රතිවිප්ලවයේ වදකයෙකි. 1917 අගෝස්තු මාසයේදී ‘‘දුර්භික්ෂයේ කෙට්ටු අතින්’’ විප්ලවයේ ගෙල මිරිකීමට තරවටු කළ ඔහු කර්නිලව් කැරැල්ල සංවිධානය කර එය දිරිගැන්විය. — පිටු 228, 285, 286, 289.

රිකොව්, අලෙක්සේයි ඉවානවිච් (1881-1938) — 1899 සිට බොල්ෂෙවික් පක්ෂයේ සාමාජිකයෙකි. රු. ස. ප්‍ර. ක. ප. තුන්වැනි හා හතරවැනි (ඒකාබද්ධ) සම්මේලන වලට සහභාගි විය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු සමාජවාදී විප්ලවය පිළිබඳ පක්ෂයේ ලෙනින්වාදී ප්‍රතිපත්තියට විරුද්ධ විය.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පසු රජයේ වගකිවයුතු තනතුරු කීපයක්ම ඉසිලුවේය. බොහෝ අවස්ථාවලදී පක්ෂයේ ලෙනින්වාදී පිළිවෙතට විරුද්ධව නැගී සිටියේය. පක්ෂවිරෝධී වැඩ නිසා පක්ෂයෙන් නෙරපන ලදී. — පිටු 94, 95.

රූල් (Rühle), ඔත්තො (උපත 1874) — ජර්මන් වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්, කතුවරයෙක් හා අධ්‍යාපනඥයෙකි. 1912 සිට රෙයිහ්ස්ටාග් මන්ත්‍රීවරයෙකුව සිටියේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තියක් ගෙන ගියේය. යුද්ධ ණය දීමට විරුද්ධව රෙයිහ්ස්ටාගය තුළ ඡන්දය දුන්නේය. — පිටුව 57.

රෙනොදෙල් (Renaudel), පියර් (1871-1935) — ප්‍රංශ සමාජවාදී පක්ෂයේ ප්‍රතිසංස්කරණවාදී පිළේ නායකයෙකි. "Le Peuple" (''ජනතාව'') (1902-1914) පත්‍රයේද, "L'Humanite" (''මනුෂ්‍යත්වය'') (1914-1920) පත්‍රයේද සංස්කාරක ධුරය දැරුවේය. නියෝජිත මන්ත්‍රී මණ්ඩලයේ (1914-1919, 1924) නියෝජිතයෙකි. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී සමාජ-ජාත්‍යාන්මාදවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. — පිටුව 54.

රොද්ස්යන්කො, මිහයිල් ව්ලදීමිරවිච් (1859-1924) — ධනපති ඉඩම් හිමියෙකි. ඔක්තෝබර්වාදී පක්ෂයේ සමාජිකයෙක් වූ මොහු රාජාණ්ඩුවාදියෙකි. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය කාලයේදී ප්‍රතිවිප්ලවවාදී මධ්‍යස්ථානය වූ රාජ්‍ය දූමා සභාවේ තාවකාලික කමිටුවද පසුව දූමා සභාවේ සාමාජිකයින්ගේ ''පෞද්ගලික සම්මන්ත්‍රණයද'' සංවිධානය කළේය. කර්නිලව් කැරැල්ලට සහභාගී වූ එක් වධකයෙකි. — පිටු 207, 208.

රෝදිචෙව්, fපියෝදර් ඉවානවිච් (1856-1933) — කැඩෙට් පක්ෂයේ නායකයෙක් හා එහි මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙක්. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු ධනපති තාවකාලික රජයේ පිංලන්තය පිළිබඳ කටයුතු භාර කොමිසාර් වරයා විය. — පිටු 129, 131.

රෝලන්ඩ් හොල්ස්ට් (Roland Holst), හෙන්රියත (1869-1952) — ලංදේසි වාම සමාජවාදිනියකි, ලේඛිකාවකි. කාන්තා සංගම් සංවිධානවල වැඩ කළාය. 1907 දී "De Tribune" (''වේදිකාව'') පත්‍රය වටා කණ්ඩායම් ගතවූද 1909 දී ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය නමින් ප්‍රති සංවිධානය වූද ඕලන්ද වාමා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට ඈ එකතු වූවාය. පළමුවැනි ලෝක යුද්ධය ආරම්භයේදී මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළ නමුත් පසුව ජාත්‍යන්තරවාදීන්ට එකතු විය. ටසිමර්වෝල්ඩ් වාමාංශයේ න්‍යායාත්මක ප්‍රකශනය වූ "Vorbote" ('පූර්ව ආරංචි'') සඟරාවෙහි සේවය කළාය. — පිටුව 57.



රොලොවිච් (රොහොවිච්, ජී. වයි.) — රාජ්‍ය ආහාර කමිටුවේ (1917) සාමාජිකයෙක්. — පිටුව 254.

රොමානොව්, මිහයිල් අලෙක්සාන්ද්‍රවිච් (1878-1918) — මහා ආදිපාද වරයෙක්, අවසාන රුසියානු, සාර් රජතුමා වූ දෙවැනි නිකොලායිගේ සහෝදරයා ය. — පිටුව 18.

රොමානොව් නිකොලායි — දෙවැනි නිකොලායි බලන්න.

රොමානොව්වරු — 1613 සිට 1917 දක්වා රුසියාව පාලනය කළ රාජ පරම්පරාව — පිටු 10, 33, 34.

ල්වොව්, ගියොර්ගි යෙව්ගේනියවිච් (1861-1925) — ආදිපාදවරයෙක්, විශාල ඉඩම් හිමියෙක්, කැඩෙට් පාක්ෂිකයෙක්. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු මාර්තු සිට ජූලි දක්වා ධනපති තාවකාලික රජයේ අගමැති ධුරයද ස්වදේශ කටයුතු භාර ඇමති ධුරයද දැරුවේය. 1917 ජූලි මාසයේදී පෙට්‍රොග්‍රෑඩ් කම්කරුවන් හා සොල්දදුවන් නිර්ධය ලෙස මර්ධනය කිරීම සංවිධානය කළේය. — පිටු 11, 16, 20, 22, 36, 37, 47.

ල්යාහව්, ව්ලදීමිර් ප්ලතෝනවිච් (1869-1919) — සාර් හමුදාවේ කර්නල් වරයෙක්. කොකේසියාවේ හා ඉරානයේ ජාතික-විප්ලවවාදී ව්‍යාපාරය මෘග ලෙස මර්දනය කිරීම සංවිධානය කළේය. — පිටුව 148.

ලසාරි (Lazzari), කොන්ස්තන්තිනෝ (1857-1927) — ඉතාලියානු සමාජවාදී ව්‍යාපාරයේ නායකයෙකි. 1912-1919 අවුරුදුවලදී ඉතාලියානු සමාජවාදී පක්ෂයේ ප්‍රධාන ලේකම්වරයා. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. පක්ෂයේ මැක්සිමලිස්ට් (මධ්‍යස්ථවාදී) උපනතියේ එක් නායකයෙකි. — පිටුව 58.

ලිදෙබූර් (Ledebour), ගියොර්ග් (1850-1947) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. 1900 සිට 1918 දක්වා ජර්මන් රෙයිහ්ස්ටාග් හි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මන්ත්‍රීවරයෙකුව සිටියේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජාත්‍යන්තර සම්බන්ධතාවයන් පුනරුත්ථාපන කිරීමට උද්යෝගයක් දැක්වූවේය. ටසිමර්වෝල්ඩ් සාකච්ඡා සභාවට සහභාගි

වූ මොහු එහි දක්ෂිණාංශයට එකතු විය. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය භේදවීමෙන් පසු 1916 දී, රෙයිහ්ස්ටාග්හි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ශ්‍රම කණ්ඩායමට එකතු විය. 1917 දී, විවෘතවම ජාතෝන්මාදවාදීන්ට සහයෝගය දක්වූ මධ්‍යස්ථවාදී ''ජර්මනියේ නිදහස් සමාජවාදී පක්ෂයේ'' ප්‍රධාන බල මණ්ඩලය එම කණ්ඩායමෙන් සමන්විත විය. — පිටු 55, 57.

<u>ලීබ්ක්නෙහ්ත් (Liebknecht), කාර්ල්</u> (1871-1919) — ජර්මන් හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායකයෙකි. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වාමාංශයේ එක් නායකයෙකි. 1912 දී රෙයිහ්ස්ටාග් සභාවට තේරී පත් විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී විප්ලවවාදී-ජාත්‍යන්තර ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. කාර්ල් ලීබ්ක්නෙහ්ත් ''ස්පාටකස් සංගමයේ'' සංවිධායකයින්ගෙන් හා නායකයින්ගෙන් කෙනෙකි. අධිරාජ්‍ය විරෝධී ප්‍රචාරක කටයුතු නිසා සිරගත විය. 1918 ජර්මනියේ නොවැම්බර් විප්ලවය කාලයේදී රෝසා ලුක්සෙම්බුර්ග් සමග ජර්මන් කම්කරුවන්ගේ විප්ලවවාදී පෙරමුණට නායකත්වය දුන්නේය. ජර්මන් කොමියුනිස්ට් පක්ෂයේ එක් මූලාරම්භක නායකයෙකි. 1919 දී බර්ලින් කම්කරු කැරැල්ලට නායකත්වය දුන්නේය. කැරැල්ල පරාජය වීමෙන් පසු ප්‍රතිවිප්ලවවාදීන් විසින් සහාසික ලෙස මරා දමන ලදී. — පිටු 56, 57, 63, 152.

<u>ලින්දෙ, එෆ්. එෆ්.</u> (1881-1917) — පෙට්‍රොග්‍රෑඩ් කම්කරු හා සොල්දදු සෝවියට් සභාවේ පළමුවැනි සැසිවාරයේ විධායක කාරක සභාවේ නියෝජිතයෙකි. 1917 අප්‍රියෙල්වලදී සොල්දදු පෙළපාලි වලට සහභාගි විය. පසුව ධනපති තාවකාලික රජයේ නිරිතදිග යුද පෙරමුණ භාරව සිටි කොමිසාර් වරයා ය. සටන් සඳහා යෑමට සොල්දදුවන් පෙළඹවීමේදී ඔහු එහිදී මැරුම් කෑවේය. — පිටුව 281.

<u>ලින්ඩ්හාගන් (Lindhagen), කාල්</u> (1860-1946) — ස්වීඩන් දේශපාලඥයෙකි. පළමුව ලිබරල්වාදියෙකු වූ මොහු පසුව 1909 සිට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු බවට පත්විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජාත්‍යන්තරවාදියෙකි. 1917 දී ස්වීඩන් වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය සංවිධානය කළේය. 1919 දී එය කොමියුනිසට් පක්ෂයට සම්බන්ධ විය. — පිටුව 58.

<u>ලේගින් (Legien), කාර්ල්</u> (1861-1920) — ජර්මන් දක්ෂිණාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකු, ජර්මන් වෘත්තීය සමිති නායකයෙකි, සංශෝධනවාදියෙකි. 1903 දී ජාත්‍යන්තර වෘත්තීය සමිති බල මණ්ඩලයේ ලේකම් වූ අතර 1913 දී එහි සභාපති තනතුරට පත් විය. 1893 සිට 1920 දක්වා (අතරින් පතර) රෙයිහ්ස්ටාග් හි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නියෝජිතයාව සිටියේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ අන්ත සමාජ-ජාතෝන්මාදවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. — පිටුව 57.

<u>ලුක්සෙම්බුර්ග් (Luxemburg), රෝසා</u> (1871-1919) — පෝලන්ත හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායිකාවකි. දෙවැනි ජාත්‍යන්තරයේ වාමාංශික පිළේ එක් නායකයෙකි.

පළමුවැනි ලෝක යුද්ධය ආරම්භයේදී සිටම ජාත්‍යන්තරවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළාය. ස්පාටකස් සංගමයේ නායිකාවකි. 1918 ජර්මනියේ නොවැම්බර් විප්ලවයට පසු ජර්මන් කොමියුනිස්ට් පක්ෂයේ ව්‍යවස්ථා සම්පාදක සම්මේලනයට එහි නායිකාවක් ලෙස සහභාගි වූවාය. 1919 ජනවාරි මස සිරභාරයට හසුවූ ඇය ප්‍රති විප්ලවවාදීන් විසින් සහාසික ලෙස මරා දමන ලදී. — පිටු 27, 57, 58, 129.

<u>ලෙනින් (උල්‍යානොව්), ව්ලදිමීර් ඉල්යිච්</u> (1870-1924) — පිටු 26, 163, 164, 165, 170.

<u>ලෙන්ච් (Lensch), පාවුල්</u> (1873-1926) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. 1905-1913 අවුරුදු වලදී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වාමාංශයේ ප්‍රධාන ප්‍රකාශනයේ "Leipziger Volkszeitung" (''ලිප්ට්සිග් ජනතා පත්‍රයෙහි'') සංස්කාරක ධුරය දැරුවේය. ලෝක යුද්ධය මුලදී සමාජ-ජාතෝන්මාදවාදය වැළඳ ගත්තේය— පිටුව 261.

<u>ලොංගේ (Longuet), ජාන්</u> (1876-1938) — ප්‍රංශ සමාජවාදී පක්ෂයේ හා දෙවැනි ජාත්‍යන්තරයේ සාමාජිකයෙකි, ප්‍රකාශකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී ප්‍රංශ සමාජවාදී පක්ෂයේ මධ්‍යගතවාදී-සමාදනකාමී අල්පතරයට නායකත්වය දුන්නේය. — පිටු 26, 55.

<u>ලෝරියෝ (Loriot), ෆෙර්දිනාන්ද්</u> (1870-1930) — ප්‍රංශ සමාජවාදියෙක්. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජාත්‍යන්තරවාදියෙකි. කින්තාලියන් සාකච්ඡා සභාවේදී ට්සිමර්වෝල්ඩ් වාමාංශයට එකතු විය. — පිටුව 57.

<u>වන්දෙර්වෙල්දේ (Vandervelde), එමිල්</u> (1866-1938) — බෙල්ජියන් කම්කරු පක්ෂයේ නායකයා ය. දෙවැනි ජාත්‍යන්තරයේ අන්තර්ජාතික සමාජ-

වාදී බියුරෝවේ සභාපති වරයා ය. අන්ත අවස්ථාවාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාත්‍යොන්මාදවාදය වැළඳගෙන ධනපති රජයට ඇතුල් විය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු අධිරාජ්‍යවාදී යුද්ධය නොකඩවා ඉදිරියට ගෙනයෑම සඳහා උද්ඝෝෂණය කිරීමට රුසියාවට පැමිණියේය. — පිටුව 60.

වයින්කුප් (Wijnkoop), දවිද් (1877-1941) — ලංදේසි වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, පසුව කොමියුනිස්ට්වාදියෙකි. ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ ප්‍රධාන ප්‍රකාශනය වූ "De Tribune" (''වේදිකාව'') පත්‍රයේ ප්‍රාරම්භකයෙක් වූ මොහු පසුව එහි ප්‍රධාන සංස්කාරක ධුරයට පත් විය. 1918 දී ඕලන්ද කොමියුනිස්ට් පක්ෂය බවට පත්වූ ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය 1903 දී ආරම්භ කළ මොහු එහි සභාපති ධුරයට පත්විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ට්සිමර්වෝල්ඩ් වාමාංශයේ න්‍යායාත්මක ප්‍රකාශනය වූ "Vorbote" සඟරාවෙහි සේවය කළේය. ඕලන්දයේ කොමියුනිස්ට් පක්ෂයේ නායකයෙකුව සිටියදී අතිවාමාංශික නිකායවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. — පිටුව 57.

විලියම්ස් Williams), ටී. රොසෙල් — බ්‍රිතාන්‍ය සමාජවාදියෙකි. බ්‍රිතාන්‍ය නිදහස් කම්කරු පක්ෂයේ සාමාජිකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී අධිරාජ්‍ය විරෝධී පිළිවෙතක් අනුගමනය කළ අතර දෙවැනි ජාත්‍යන්තරයේ නායකයින්ගේ ප්‍රතිපත්ති විවේචනයට ලක් කළේය. — පිටුව 57.

දෙවැනි විල්හෙල්ම් (ගොගෙන්ත්සොලෙර්න්) (1859-1914) — ජර්මන් අධිරාජයා සහ ප්‍රුසියානු රජ තුමා (1888-1918) — පිටු 62,104,111.

වොලදර්ස්කි, වී. (ගොල්ද්ෂ්ටෙයින්, මයිසෙයි මාර්කවිච්. වොල් — යි) (1891-1918) 1917 සිට බොල්ෂෙවික් පක්ෂයේ සාමාජිකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ ජාත්‍යන්තරවාදියෙකි. ඔහු පෙට්‍රොග්‍රෑඩ් පක්ෂ කමිටුවේ සහ පෙට්‍රොග්‍රෑඩ් කම්කරු හා සොල්දදු නියෝජිත සෝවියට් සභාවේද මධ්‍යම විධායක කාරක සභාවේ පළමුවැනි සැසිවාරයේද සාමාජිකයෙකුව සිටියේය. — පිටුව 209.

වොල් — යි. — වොලදර්ස්කි බලන්න.

වොයිනොව්, ඉවාන් අවික්සෙන්ත්යවිච් (1884-1917) — 1909 සිට රු. ස. ප්‍ර. ක. පක්ෂයේ සාමාජිකයෙකි. බොල්ෂෙවික්වාදියෙකි.



බොල්ෂෙවික්වාදී ''ස්විස්ද'' හා ''ප්‍රාව්ද'' පත්‍රවල වාර්තාකරුවෙකු ලෙස සේවය කළේය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු ''ප්‍රාව්ද'' මුද්‍රණය කළ පෙට්‍රොග්‍රෑඩ් ''තෘද්'' මුද්‍රණාලයෙහි වැඩ කළේය. ජුලි 6(19) ''ලිස්තොක් ප්‍රාව්දි'' බෙදු හැරි අතර කොසාක්වරුන් හා ජුන්කර්වරුන් විසින් මරාදමන ලදී. — පිටුව 185.

ෂෙයිඩමාන්, පිලිප් (1865-1939) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ අති දක්ෂිණාංශික අවස්ථාවාදී පිළේ නායකයෙකි. 1903 සිට ජර්මන් රෙයිහ්ස්ටාග් සභාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායමට ඇතුළු විය. 1911 සිට ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ පාලක මණ්ඩලයේ සාමාජිකයෙකුව සිටියේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ සමාජ-ජාත්‍යොන්මාදවාදියෙකි. — පිටු 12, 54, 57, 61, 261.

ෂින්ගර්යොව්, අන්ද්‍රෙයි ඉවානවිච් (1869-1918) — කැඩෙට්වාදියෙකි. 1907 සිට කැඩෙට් පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙක්ව සිටියේය. 1917 පෙබරවාරි ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු ධනපති තාවකාලික රජයේ පළමුවැනි කැබිනට් මණ්ඩලයේ කෘෂිකර්ම ඇමති ධුරයද දෙවැනි කැබිනට් මණ්ඩලයේ මුදල් ඇමති ධුරයද දැරුවේය. — පිටු 121, 124.

ස්කොබිලෙව්, එම්. අයි. (1885-1939) — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්, මෙන්ෂෙවිකයෙක්. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ සමාජ-ජාත්‍යොන්මාදවාදියෙකි. 1917 පෙබරවාරි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු පෙට්‍රොග්‍රෑඩ් සෝවියට් සභාවේද, මධ්‍යම විධායක කාරක සභාවේ පළමුවැනි සැසිවාරයේද උප සභාපති ධුර ඉසිලුවේය. 1917 මැයි-අගෝස්තු මාසවලදී ධනපති තාවකාලික රජයේ කම්කරු ඇමති ධුරය දැරීය. — පිටු 53, 198, 199, 238, 253.

ස්කොරපිස්-යොල්තුහෝව්ස්කි, ඒ. එෆ්. (උපත 1880) — උක්‍රෙනියානු ධනපති ජාතිකවාදියෙක්. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ''උක්‍රෙනියානු විමුක්ති සංගමය'' නම් ධනපති-ජාතිකවාදී සංවිධානයේ නායකයෙක් හා සංවිධායකයෙක් විය. එම සංගමයේ බලධාරී නියෝජිතයා ලෙස බර්ලින් හි සේවය කළේය. එහිදී ජර්මන් හමුද මූලස්ථානයේ අණ පරිදි ජර්මන් යුද සිර කඳවුරුවල සිටි උක්‍රෙනියානු යුද සිරකරුවන් අතර ජාතිකවාදී ප්‍රචාර ගෙන ගියේය. — පිටුව 163.

ස්මිත්-ෆල්ක්නෙර්, මරියා නතනොව්නා (ස්මිත්, එම්.) (1878-1968) — අර්ථ ශාස්ත්‍රඥවරියක් හා සංඛ්‍යා ලේඛකාවක්. 1897 සිට විප්ලවවාදී

ව්‍යාපාරයේ යෙදී සිටියාය. 1917 පෙබරවාරි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට පසු අර්ධ මෙන්ෂෙවික්වාදී පුවත්පතක් වූ ''නෝවය ෂිස්න්'' හි සුළු කාලයක් සේවය කළාය. 1918 ජූලි මාසයේදී බොල්ෂෙවික් පක්ෂයට බැඳුනාය. — පිටුව 254.

ස්නෝඩන් (Snowden), පිලිප් (1864-1937) — බ්‍රිතාන්‍ය දේශපාලඥයෙකි. 1903-1906 අවුරුදුවලදී හා 1917-1920 අවුරුදුවලදී නිදහස් කම්කරු පක්ෂයේ සභාපතිව සිටියේය. ඔහු එහි දක්ෂිණාංශිකයෙකි. 1906 සිට **පාර්ලිමේන්තුවේ** මන්ත්‍රී ධුරයක් දැරුවේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ මධ්‍යස්ථවාදී ආකල්පයක් දැරූ ඔහු ධනපති පංතිය සමග සභාගයකට සහයෝගය දක්වීය. — පිටුව 55.

ස්පිරිදෝනවා, මරියා අලෙක්සාන්ද්‍රව්නා (1884-1941) — එස්ආර් පක්ෂයේ එක් නයිකාවක්. තම්බොව් ගුබේර්නියාවේ කළු සියය කණ්ඩායමේ අළුගෝසුවකු වූ ලුෂෙනොව්ස්කි 1906 දී මැරීම පිළිබඳ චෝදනාව පිට සිරගත වූවාය. 1917 පෙබරවාරි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු එස්ආර් පක්ෂයේ වාමාංශික පිළ සංවිධානය කළාය. 1917 නොවැම්බර් මස වාමාංශික එස්ආර් වරුන්ගේ පක්ෂය පිහිටුවීමෙන් පසු එහි මධ්‍යම කාරක සභාවට ඇතුළු වූවාය. — පිටු 169, 214.

ස්ටාලින් (ද්ෂුගෂ්වීලි), ජෝසෆ් විසරියෝනවිච් (1879-1953) — 1898 සිට පක්ෂයේ සාමාජිකත්වය දැරුවේය. 1912 සිට රු. ස. ප්‍ර. ක. ප. (බො.) මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට සූදනම් වූ කාලයේදී පක්ෂ මධ්‍යම කාරක සභාව විසින් ආරම්භ කරන ලද නැගීසිටීම සූදනම් කිරීම පිළිබඳ යුද්ධ-විප්ලවවාදී මණ්ඩලයට ඇතුලු විය.

1917 නොවැම්බර් සිට 1923 ජූලි දක්වා ජාතික ප්‍රශ්න පිළිබඳ ජනතා කොමිසාර් වරයා විය. එසේම 1919 මාර්තු සිට රාජ්‍ය පාලන කොමිසාර් ලෙසද පසුව (1922 අප්‍රියෙල් 25 දක්වා) කම්කරු-ගොවි පාලන කොමිසාර් ලෙසද කටයුතු කළේය. රුසියානු කොමියුනිස්ට් පක්ෂයේ (බො) දේශපාලන බල මණ්ඩලයේ සාමාජිකයෙකි. සිවිල් යුද්ධය කාලයේ සමුහාණ්ඩුවේද යුද පෙරමුණු ගණනාවක යුද්ධ-විප්ලවවාදී බල මණ්ඩලවලද සාමාජිකයෙකුව සිටියේය.

1922 දී ඔහු පක්ෂ මධ්‍යම කාරක සභාවේ ප්‍රධාන ලේකම් ධුරයට පත්විය. 1941 සිට මහජන කොමිසාර් මණ්ඩලයේ සභාපති ධුරයටද පසුව ඇමති මණ්ඩලයේ සභාපති ධුරයටද පත්විය.



දීර්ඝ කාලයක් පක්ෂයේ ප්‍රධාන ලේකම් තනතුර දැරූ ස්ටාලින් පක්ෂයේ අනෙකුත් නායකයින් සමග, සමාජවාදය ගොඩනැගීම සඳහා මහා සටනක් ගෙනගිය අතර පක්ෂ විරෝධී ප්‍රවනතාවයන් විනාශ කිරීම සඳහා, විශේෂයෙන්ම ට්‍රොට්ස්කිවාදය හා දක්ෂිණාංශික අවස්ථාවාදය නැතිකර දැමීම සඳහා විශාල මෙහෙයක් කළේය.

එසේ වුවද සෝවියට් සමාජයේ ඔහුගේ කාලය තුළ සිදුවූ වැරැදිද ඔහුගේ නම හා සම්බන්ධය. එය පුද්ගලාභිවාදනය ලෙස කොමියුනිස්ට් පක්ෂය සඳහන් කළේය. — පිටුව 162.

ස්ටෞනිං (Stauning), තොර්වල්ඩ් අව්ගුස්ට් මරිනුස් (1873-1972) — ඩෙන්මාර්ක් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ දක්ෂිණාංශික නායකයෙක්. ඩෙන්මාර්කයේ රාජ්‍ය නායකයෙක්. 1906 සිට ඩෙන්මාර්ක් පර්ලිමේන්තුවේ මන්ත්‍රීවරයෙකි. 1910 සිට ඩෙන්මර්ක් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේද එහි පාර්ලිමේන්තු කණ්ඩායමේද සභාපති තනතුර දැරුවේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාත්‍යාත්මාදවාදී පිළිවෙතක් අනුගමනය කළේය. 1916-1920 අවුරුදුවලදී ඩෙන්මාර්ක් ධනපති රජයේ කාර්යභාරයක් නැති ඇමති ධුරය දැරුවේය. — පිටු 54, 58.

ස්තෙක්ලොව්, යූරි මිහයිලවිච් (1873-1941) — 1893 සිට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට සහභාගි විය. රු. ස. ප්‍ර. ක. ප. දෙවැනි සම්මේලනයට පසු බොල්ෂෙවික්වාදීන්ට එකතු විය. 1917 පෙබරවාරි ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට පසු විප්ලවවාදී ආරක්ෂකවාදීන්ගේ පැත්තට නැඹුරු විය.පසුව බොල්ෂෙක්වරුන්ගේ මාර්ගය ගත්තේය. — පිටු 24, 31, 32, 39, 41, 53, 78.

ස්තලිපින්, පියෝතර් අර්කාදියෙවිච් (1862-1911) — සාර් රජයේ රාජ්‍ය නායකයෙක්. මහා ඉඩම් හිමියෙක්. 1906-1911 අවුරුදු වලදී ඇමති මණ්ඩලයේ සභාපති ධුරය සහ ස්වදේශ කටයුතු භාර ඇමති ධුරයද ඉසිලුවේය. විප්ලවය පාගා දැමීම සඳහා මරණ දණ්ඩනය පුළුල් ලෙස උපයෝගී කරගනිමින් ගෙනගිය භයානක දේශපාලන ප්‍රතිගාමීත්වය (1907-1910 සතලීපින් ප්‍රතිගාමීත්වය) ඔහුගේ නාම හා සම්බන්ධ ය. කුලාක්වරුන් සාර්ගේ ආධිපත්‍යයේ ගම්බද ආධාරකරුවන් කිරීම සඳහා ගොවි ප්‍රතිසංස්කරණ ගණනාවක්ද ඔහු කළේය.එහෙත් ධනපති පංතියේ සහ ඉඩම් හිමියන්ගේ අවශ්‍යතාවයන් සපුරාලමින් ඉහළින් කරන යම් යම් ප්‍රතිසංස්කරණ මගින් සාර් ඒකාධිපතිත්වය ශක්තිමත් කරීමට කළ සෑම උත්සාහයක්ම අසාර්ථක විය. සාර් දේශපාලන

රහස් පොලිසියේ ඒජන්තවරයෙකු වූ එස්ඒර් පාක්ෂිකයෙක් විසින් 1911 දී කියෙව් හි සතලිපින් මරාදමන ලදී. — පිටු 16, 33, 113, 123.

ස්ත්‍රෝම් (Ström), ෆ්‍රෙඩරික් (1880-1948) — ස්වීඩන් වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්, ලේඛකයෙක් හා ප්‍රකාශකයෙක්. 1911-1916 ස්වීඩන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ලේකම් ධුරය දැරුවේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ ජාත්‍යන්තරවාදියෙකි. — පිටුව 58.

ස්ත්‍රුවේ, පියෝතර් බෙර්න්ගාර්දවිච් (1870-1944) — රුසියානු ධනවාදී ආර්ථික විද්‍යාඥයෙකි ගත්කතුවරයෙකි. කැඩෙට් පක්ෂයේ එක් නායකයෙකි. 1890 ගණන්වලදී නීත්‍යානුකූල මාක්ස්වාදයේ ප්‍රධාන පෙළේ නායකයෙකි. කාල් මාක්ස්ගේ ආර්ථික හා දර්ශනික උගැන්වීම්වලට ''එකතුකිරීම්'' හා ''විවේචනයන්'' ඉදිරිපත් කළේය. මාක්ස්වාදය හා කම්කරු පංති ව්‍යාපාරය ධනපති පංතියේ වුවමනාවලට ඇදීමට වැර දැරීය. — පිටුව 000

සිනොවියෙව් (රදෙමිස්ල්ස්කි), ග්‍රිගෝරි යෙව්සේවිච් (1883-1936) — 1901 සිට බොල්ෂෙවික් පක්ෂයේ සාමාජිකයෙකි. 1908 සිට 1917 අප්‍රියෙල් දක්වා විදේශගතව සිටියේය. ''ප්‍රොලිතාරි'' පත්‍රයේ හා පක්ෂයේ ප්‍රධාන ප්‍රකාශනය වූ ''සොටියල්-ඩිමොක්‍රට්'' හි කතු මඬුල්ලේ වැඩ කළේය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට සූදානම් වූ කාලයේ වැනෙන සුලු ආකල්පයක් දැක්වූ අතර ආයුධ සන්නද්ධ නැගී සිටීමකට විරුද්ධ විය. කාමෙනෙව් විසින් තමන්ගේද සිනොවියෙව්ගේද නමින්, අවිගත් නැගිටීමක් සංවිධානය කිරීම පිළිබඳ මධ්‍යම කාරක සභාවේ යෝජනාවට විරුද්ධව, අර්ධ මෙන්ෂෙවික්වාදී ප්‍රකාශනයක් වූ ''නෝවය ෂිස්න්'' පත්‍රයෙහි පළකළ ලිපිය මගින් ඔවුහු පක්ෂයේ රහස් වැඩ පිළිවෙළ ප්‍රසිද්ධියට පත් කළ අතර විප්ලවයද පාවා දුන්නෝය.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු රජයේ වගකිවයුතු තනතුරු කීපයක්ම දැරුවේය. ඔහු පක්ෂයේ ලෙනින්වාදී ප්‍රතිපත්තිවලට නිතරම මෙන් විරුද්ධත්වයක් දැක්විය. 1927 දී කණ්ඩායම්වාදී වැඩ නිසා පක්ෂයෙන් නෙරපන ලදී. පසුව දෙවතාවක්ම පක්ෂයට බඳවාගන්නා ලද නමුත් පක්ෂ විරෝධී වැඩ නිසා නැවතත් පක්ෂයෙන් නෙරපන ලදී. — පිටුව 61.

සම්බා (Sembat), මර්සෙල් (1862-1922) — ප්‍රංශ සමාජවාදී පක්ෂයේ එක් ප්‍රතිසංස්කරණවාදී නායකයෙක්, පත්‍ර කලාවේදියෙක්. 1893 සිට පාර්ලිමේන්තු මන්ත්‍රීවරයෙකුව සිටියේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාත්‍යොන්මාදවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. 1914-1917 අවුරුදු වලදී ප්‍රංශ අධිරාජ්‍යවාදී ''ජාතික ආරක්ෂක රජයේ'' සමාජ සේවා ඇමති ධුරය දැරුවේය. — පිටු 54, 58.

සෙරාති (Serrati), ද්ජාචින්තො මෙනොති (1872-1926) — ඉතලියානු කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායකයෙක් හා ඉතාලියානු සමාජවාදී පක්ෂයේ නායකයෙක්. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජාත්‍යන්තරවාදී ප්‍රතිපත්තියක් ගෙන ගියේය. 1915-1923 අවුරුදු වලදී සමාජවාදී පක්ෂයේ ප්‍රධාන පත්‍රය වූ "Avanti!" (ඉදිරියට!) පත්‍රයෙහි අධ්‍යක්ෂක ධුරය දැරුවේය. ට්සිමර්වෝල්ඩ් හා කින්තාලියන් සාකච්ඡා සභාවලට සහභාගි විය. — පිටුව 58.

හයින්ඩ්මන් (Hyndman), හෙන්රි මායර්ස් (1842-1921) — බ්‍රිතාන්‍ය සමාජවාදියෙකි, ප්‍රතිසංස්කරණවාදියෙකි. බ්‍රිතාන්‍ය සමාජවාදී පක්ෂයේ නායකයෙකුව සිටියේය. පක්ෂයේ සොල්ෆෝර්ඩ් සම්මේලනයේදී අධිරාජ්‍යවාදී යුද්ධය කෙරෙහි ඔහු දක්වන සමාජ-ජාත්‍යොන්මාදවාදී ආකල්පය විවේචනය කිරීමෙන් පසු 1916 පක්ෂයෙන් ඉවත් විය. — පිටුව 54.

හනෙට්ස්කි (ෆ්යුස්තෙන්බෙර්ග්), යාකව් ස්තනිස්ලාවවිච් (1879-1937) — පෝලන්ත හා රුසියානු විප්ලවවාදී ව්‍යාපාරයේ සම්භාවනීය නායකයෙකි. 1896 සිට සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජිකත්වය දැරුවේය. 1912 දී පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය භේදවීමෙන් පසු බොල්ෂෙවික්වාදීන්ට වඩාත්ම කිට්ටුව සිටි ''රොස්ලමොවය'' නැමැති විරුද්ධ පක්ෂයට නායකත්වය දුන්නේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ ට්සිමර්වෝල්ඩ් වාමාංශයට ඇතුළු විය. 1917 දී රු. ස. ප්‍ර. ක. ප. (බො) මධ්‍යම කාරක සභාවේ විදේශගත බියුරෝවේ සාමාජිකයෙකුව සිටියේය. — පිටු 58, 164, 165.

හාසේ (Haase), හුගෝ (1863-1919) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ එක් නායකයෙකි, අවස්ථාවාදියෙකි. 1897-1907 හා 1912-1918 අවුරුදු වලදී රෙයිහ්ස්ටාග් හි මන්ත්‍රීවරයෙකුව සිටියේය. 1912 සිට රෙයිහ්ස්ටාග්හි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායමේ සභාපතිවරයාය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. 1917 දී ජර්මන් නිදහස් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය ආරම්භ කිරීමට සහභාගි විය. — පිටු 55, 57.

හාර්ෂ්ටෙයින් (ලෙවි (Levi), පාවුල්) (1883-1930) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්. ට්සිමර්වෝල්ඩ් සාකච්ඡා සභාවට සහභාගි විය (1915). ට්සිමර්වෝල්ඩ් වාමාංශයේ ස්විට්සර්ලන්ත කණ්ඩායමේ සාමාජිකයෙකි. ''ස්පාටකස් සංගමයේ'' ද සාමාජිකයෙකි — පිටුව 61.

හින්දන්බර්ග් (Hindenburg), පාවුල් (1847-1934) — ජර්මන් හමුද හා රාජ්‍ය නායකයෙකි, ජෙනරාල්-fිල්ඩ්මාර්ෂල්වරයෙක්. ජර්මන් අධිරාජ්‍යවාදයේ ප්‍රතිගාමී හා ජාතොයාන්මාදවාදී නියෝජිතයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ දී නැගෙනහිර ජර්මන් හමුද පෙරමුණ මෙහෙයවූයේය. පසු හමුද මූලස්ථානයේ ප්‍රධාන නිලධාරියා ලෙස කටයුතුකළේය. — පිටුව 251.

හිල්කිට් (Hillquit), මොරිස් (1869-1933) — ඇමෙරිකානු සමාජවාදියෙක්. පළමුව මාක්ස්වාදියෙක් වූ නමුත් පසුව ප්‍රතිසංස්කරණවාදයට හා අවස්ථාවාදයට බර විය. ඇමෙරිකාවේ ප්‍රතිසංස්කරණවාදී සමාජවාදී පක්ෂය ආරම්භ කළ අයගෙන් කෙනෙකි (1901). 1904 සිට අන්තර්ජාතික සමාජවාදී බියුරොවේ සාමාදාජිකත්වය දැරුවේය. දෙවැනි ජාත්‍යන්තරයේ සාකච්ඡා සභාවලටද සහභාගි විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාතොයාන්මාදවාදී පිළිවෙතක් අනුගමනය කළේය. — පිටුව 55.

හුයිස්මාන් (Huysmans), කැමිල් (1871-1968) — බෙල්ජියම් කම්කරු ව්‍යාපාරයේ පැරැණිතම නායකයෙකි. වාග් විද්‍යාව පිළිබඳ මහාචාර්යවරයෙක් හා පත්‍ර කලාවේදියෙකි. 1904-1919 අවුරුදු වලදී දෙවැනි ජාත්‍යන්තරයේ අන්තර්ජාතික සමාජවාදී බියුරෝවේ ලේකම් වරයාව සිටියේය.පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තියක් ගෙනගිය අතර මුළුමනින්ම අන්තර්ජාතික සමාජවාදී බියුරෝවේ නායකත්වය දැරුවේය. කීප වතාවක්ම බෙල්ජියම් රජයට ඇතුළු විය. — පිටුව 60.

හෙයිල්මාන් (Heilmann) එර්නෙස්ත් (1881-1940) — ජර්මන් දක්ෂිණාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක් හා කතුවරයෙකි. 1907-1917 අවුරුදුවලදී, ජර්මන්-සමාජවාදී පක්ෂයේ අන්ත දක්ෂිණාංශික සමාජ-ජාතොයාන්මාදවාදී පිළේ ප්‍රධාන පත්‍රය වූ "Volksstimme" (''ජන හඬ'') හි සංස්කාරක වරයා විය. සමාජ-ජාතොයාන්මාදවාදී සඟරාවක් වූ "Die Glocke" (''ඝන්ටාරය'') හිද වැඩ කළේය. — පිටුව 60.

හෝග්ලන්ඩ් (Höglund), කාර්ල් ට්සෙත් කොන්ස්තන්තීන් (1884-1956) — ස්වීඩන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙක්. ස්වීඩන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ වාමාංශික පිළේද, සමාජවාදී තරුණ ව්‍යාපාරයේද නායකයා ය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී ජාත්‍යන්තරවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. ට්සිමර්වෝල්ඩ් සමාජවාදී සාකාච්ඡා සභාවේදී එහි වාමාංශයට ඇතුළු විය. 1916 දී යුද්ධ විරෝධී ප්‍රචාර කටයුතු නිසා සිරභාරයට ගනු ලැබීය. 1917-1924 අවුරුදු වලදී ස්වීඩන් කොමියුනිස්ට් පක්ෂයේ නායකයෙකු විය. — පිටුව 58.

## පාඨකයින් වෙතටයි

මෙම පොතෙහි අඩංගු කරුණු, අනුවාදය හා මුද්‍රණය පිළිබඳ ඔබගේ අදහස් දන්වා එවීමෙන් ප්‍රගති ප්‍රකාශක මන්දිරයේ කෘතඥතාවය ඔබට හිමිවේ. ඔබගේ වෙනත් යෝජනා ඇතොත් අපි එය කරුණාවෙන් බාර ගනිමු.

අපේ ලිපිනය.:

Progress Publishers,
17, Zubovsky Boulevard,
Moscow, USSR.

# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013

සූචිකරණ දත්ත
කෘතිය: ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 5
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/උ. මු. අබයරත්න
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2014-09-22
ඩිජිටල් සංස්කරණයන්: V1:2014-09-22, V2:2019-05-29
පිටු ගණන: 376
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com